ලෙනින්ගේ තෝරාගත් කෘති වෙළුම් දෙළහේ
දෙවැනි වෙළුමෙහි පහත කෘතිය පළ වේ:
පියවරක් ඉදිරියට පියවර දෙකක් පස්සට

# ලෙනින්

# තෝරාගත් කෘති

## වෙළුම් දොළහ



## වෙළුම

## 1

කාල් මාක්ස්

මාක්ස්වාදයේ මූලාශ්‍රයන් තුන සහ එහි සංයුක්ත කොටස් තුන

මාක්ස්වාදය සහ සංශෝධනවාදය

කළ යුත්තේ කුමක්ද?

ප්‍රගති ප්‍රකාශක මන්දිරය

# LIBERATIONBASE
# ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013



සූචිකරණ දත්ත

කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 1
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2017-03-10
ඩිජිටල් සංස්කරණයන්: V1:2017-03-10, V2:2019-05-29
පිටු ගණන: 408
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com

සූචිකරණ දත්ත
කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 1
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2017-03-10
ඩිජිටල් සංස්කරණයන්: V1:2017-03-10, V2:2019-05-29
පිටු ගණන: 408
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF



# ලෙනින්

## තෝරාගත් කෘති
## වෙළුම් දොළහ



## වෙළුම
## 1



මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1979



https://liberationbase.wordpress.com

අනුවාදය — උ. මු. අබයරත්න

В. И. ЛЕНИН

ИЗБРАННЫЕ ПРОИЗВЕДЕНИЯ В 12 ТОМАХ

Том I

*На языке сингхала*





Л $\frac{10102—303}{014(01)—79}$ 917—79 0101020000

## පටුන

# කාල් මාක්ස්

(මාක්ස්වාදය ගැන විවරණයක් සමග ජීවන චරිතය ලුහුඬින්)[1]

## පෙරවදන

කාල් මාක්ස් ගැන දැන් වෙනම මුද්‍රණය කොට පළවී තිබෙන මෙම ලිපිය (මට මතක ලෙසට) 1913 දී ග්‍රනාත් විශ්ව කෝෂය සඳහා ලියන ලදී. මාක්ස් ගැන ලියවුණු, විශේෂයෙන්ම විදේශීය සාහිත්‍ය කෘති දැක්වෙන, තරමක් විස්තර සහිත ග්‍රන්ථාවලියක්, මෙම ලිපිය අගට යාකර තිබුණි. එය මෙම මුද්‍රණයට ඇතුළත් කර නොමැත. පුවත්පත් පාලනය පිළිබඳ හේතු කරණකොට ගෙන, විශ්ව කෝෂයේ සංස්කාරක වරුද අභිමතය අනුව, මාක්ස් ගැන වූ ලිපියෙහි අග කොටස, එනම්, ඔහුගේ විප්ලවවාදී උපක්‍රම ගැන ලියා තිබුණු කොටස ලිපියෙන් ඉවත් කර ඇත. ලිපියේ කෙටුම්පත ක්‍රාකව්හි හෝ ස්විට්සර්ලන්තයේ යම් තැනක හෝ මගේ ලියකියවිලි සමග ඉතිරිව ඇති හෙයින්, අවාසනාවකට මෙන් මට ලිපියෙහි එම අග කොටස නැවත ලියා ඉදිරිපත් කළ නොහැකිය. මට මතක දෙය, මාක්ස් 1856 අප්‍රියෙල් 16 දින එංගල්ස්ට ලියූ ලිපියෙහි ''ජර්මනියේ මුළු ප්‍රශ්නයම රැඳී පවතිනු ඇත්තේ, ගොවිජන යුද්ධයේ කිසියම් ආකාර දෙවැනි රඟදැක්වීම මගින් නිර්ධන පංති විප්ලවයට සහාය දීමේ හැකියාව මතය. එවිට කටයුත්ත අනර්ඝ වනු ඇත'' යනුවෙන් ඔහු ලියූ කොටස ඇතුළත් ඡේදය එම ලිපියේ අවසාන භාගයෙහි මා උපුටා දැක්වූ බව පමණකි. දැන්, අන්ත ද්‍රෝහී වීම සහ ධනපති පංතිය පැත්තට පැන යාම දක්වා පහත වැටී සිටින, අපගේ මෙන්ෂෙවික් වරුන්ට[2] 1905 පටන්ම වටහා ගත නොහැකිව තිබෙන්නේ එයයි.

එන්. ලෙනින්

මොස්කව්, 1918 මැයි 14

කාල් මාක්ස් 1818 මැයි මස 5 වැනි (නව දින දර්ශනය අනුව) දින (රයින් ප්රුසියාවේ) ත්‍රියර් නගරයෙහි උපත ලැබුවේය. යුදෙව් ජාතික ඔහුගේ පියා නීතිඥයෙක් විය. ඔහු 1824 දී ප්‍රොතෙස්තන්ත දහම වැළඳ ගත්තේය. එය වත් පොහොසත්කම් ඇති උගත් පවුලක් වූ නමුත් විප්ලවවාදී නොවීය. ත්‍රියර්හි උසස් පාසලෙන් සාමාර්ථය ලත් මාක්ස් බොන් හා බර්ලින් විශ්වවිද්‍යාල වල ශාස්ත්‍රෝද්ග්‍රහණය කරමින් නීතිය හැදෑරූ නමුත් වැඩියෙන් අධ්‍යයනය කළේ ඉතිහාසය සහ දර්ශනවාදය පිළිබඳවය. 1841 දී එපිකියුරස්ගේ දර්ශනය ගැන ආචාර්ය නිබන්ධය ඉදිරිපත් කළ ඔහු එයින් තම විශ්වවිද්‍යාල පාඨ මාලාව අවසන් කළේය. එම වකවානුවේදී අදහස් විසින් මාක්ස් හේගල්වාදී විඥනවාදියෙක් විය. බර්ලින්හි සිටිය දී හෙතෙම (බ්රූනෝ බෞවර් සහ අනෙකුත් අය ඇතුලත් වූ) වාම හේගල්වාදී කවයට[3] අයත් විය. එම කවයට අයත් පිරිස හේගල්ගේ දර්ශනයෙන් අදේවවාදී සහ විප්ලවවාදී නිගමනයන් වෙත එළඹීමට යොමුව සිටියහ.

උපාධි ලාභී මාක්ස් මහාචාර්ය වරයෙක් වීමේ අදහසින් බොන් නගරයට පැමිණියේය. එසේ වුවද, 1832 දී ලුඩ්විග් ෆේයර්බාහ්ට මහාචාර්ය තනතුර අහිමි කළා වූද, 1836 දී ඔහුට ආපසු විශ්වවිද්‍යාලයට ඒමට අවසර නොදුන්නාවූද, එමෙන්ම 1841 දී තරුණ මහාචාර්ය බ්රූනෝ බෞවර්ට බොන්හි දේශනා පැවැත්වීම තහනම් කලා වූද, ප්‍රතිගාමී ප්‍රතිපත්තිය නිසා, ශාස්ත්‍රීයමය වෘත්තියක් තෝරා ගැනීමේ අදහස අත්හැර දැමීමට ඔහුට සිදුවිය. එසමයේදී ජර්මනියෙහි වාම හේගල්වාදී අදහස් වේගයෙන් පැතිරෙමින් තිබුණේය. විශේෂයෙන්ම 1836 න් පසුව ලුඩ්විග් ෆේයර්බාහ් දේව ධර්මය විවේචනය කරන්නටත්, ද්‍රව්‍යවාදය දෙසට හැරෙන්නටත් පටන් ගත්තේය. 1841 දී ඔහුගේ දර්ශනය තුළ ද්‍රව්‍යවාදය



(''ක්‍රිස්තු ධර්මයේ හරය'') බලවත් ලෙස මතුවී පෙනුනේය. 1843 දී ''අනාගත දර්ශනවාදයේ ප්‍රධාන මූලධර්ම'' නිකුත් වනු දක්නා ලදී. ෆේයර්බාහ් ගේ මෙම පොත්වල ''විමුක්තිදයක අනුභාසය යමෙකුට දැනී යන්නට ඇතැ''යි පසුව එම කෘති ගැන සඳහන් කරමින් එංගල්ස් ලීවේය. ''අපි (එනම්, මාක්ස් ඇතුළු වාම හේගල්වාදීන්) සියළු දෙනාම එක් වරම ෆේයර්බාහ්වාදීන්[4] වීමු''. එම කාලයේ වාම හේගල්වාදීන් සමග සම්බන්ධකම් ඇතිව සිට රයින්හි ධනපතියන් සමහරෙක් ''රයින් පත්‍රය''[5] නමින් විරුද්ධ පාර්ශ්වීය පත්‍රයක් කොලෝන් නගරයේදී ආරම්භ කළහ. (එහි ප්‍රථම කලාපය 1842 ජනවාරි 1 දින නිකුත් විය.) මෙම පත්‍රයේ ප්‍රධාන ලිපි සපයන්නන් වන ලෙස මාක්ස්ට සහ බ්රූනෝ බෞවර්ට ආරාධනා ලැබින. 1842 ඔක්තෝබර් මස ප්‍රධාන කර්තෘ ධුරයට පත්වූ මාක්ස් ස්වකීය පදිංචිය බොන් නගරයෙන් කොලෝන් නගරයට මාරු කළේය. මාක්ස් ගේ කර්තෘත්වය යටතේ ප්‍රවෘත්ති පත්‍රයේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී නැඹුරුව වඩ වඩාත් බලවත් වූයෙන් ආණ්ඩුව ප්‍රථමයෙන් එයට විරුද්ධ ද්විත්ව හා ත්‍රිත්ව පුවත් පාලනයක් පැන වූයේය, නැවත 1843 ජනවාරි 1 දින එය මර්දනය කිරීමට තීරණය කළේය. එම දිනට පෙර පත්‍රයේ කර්තෘ ධුරයෙන් ඉල්ලා අස්වීමට මාක්ස්ට සිදුවූ නමුත්, එයින් පත්‍රය රැකුනේ නැත. 1843 මාර්තු මාසයේදී එය පළ කිරීම නතර කරන ලදී. මාක්ස් ''රයින් පත්‍රය''ට සැපයූ පහත සඳහන් (ග්‍රන්ථාවලිය බලන්න[6]) වැදගත් ලිපිවලට අමතරව, මොසල්[7] මිටියාවතේ මිදි වවන ගොවි ජනයාගේ තත්වය ගැන ලිපියක්ද වූ බව එංගල්ස් සටහන් කර ඇත. තමන්ට දේශපාලන අර්ථ ශාස්ත්‍රය ගැන සෑහෙන තරම් දැනුමක් නො තිබෙන බව ස්වකීය පුවත්පත් කලාවේදී කටයුතු වලින් වටහාගත් මාක්ස්, උත්සුක්ත ලෙස එම විෂය අධ්‍යයනය කිරීමට පටන් ගත්තේය.

බාල කාලයේ සිටම මාක්ස්ගේ මිතුරියකව සිටි ජේනි ෆේපාන් වෙස්ත්ෆාලෙන් සමග හේ ශිෂ්‍ය වයසේ පටන්ම විවාහ ගිවිසගෙන සිටි අතර, 1843 දී ඇය ක්රේත්ස්නාහ්හිදී විවාහ කර ගත්තේය. ඔහුගේ බිරිඳ ප්රුසියානු වංශවතුන්ගේ ප්‍රතිගාමී පවුලකට අයත් කෙනෙක් විය. ඇගේ වැඩිමහල් සොහොයුරා, ප්රුසියාවේ ඉතාමත් ප්‍රතිගාමී (1850-1858) කාල පරිච්ඡේදයේ, අභ්‍යන්තර කටයුතු භාර ඇමති වරයා වූයේය. 1843 සරත් සමයේ දී මාක්ස් පැරිසියට ගියේ විදේශයෙහි දී අර්නෝල්ද් රූගේ සමග එක්ව උන්නතිකාමී සඟරාවක් පළ කරනු සඳහාය. (අර්නෝල්ද් රූගේ 1802-1880, වාම හේගල්වාදියෙක් වූ අතර 1825-1830 සිරගතවද, 1848 න් පසුව රටින් පිටුවාහල් කරනු ලදුවද, 1866-1870 කාලයේ බිස්මාර්ක්වාදියෙකුවද සිටියෙකි). එම ''ජර්මන්-ප්‍රංශ වාර්ෂිකය''[8] සඟරාවෙන් නිකුත් කරන ලද්දේ එක කලාපයක් පමණකි. රහසිගත ලෙස ජර්මනිය තුළ

බෙදු හැරීමේ දුෂ්කරතාවයන් හා රුගේ සමග ඇති වූ අසමථයන් නිසා එය පළ කිරීම අත් හැර දමන ලදී. ඒ වන විට මාක්ස් ''පවත්නා සියල්ලම සමා විරහිත ලෙස විවේචනය කිරීම'' සහ විශේෂයෙන්ම ''අවියෙන් විවේචනය කිරීම''[9] ගැන පක්ෂවාදීව කථා කළ විප්ලවවාදියෙකු වූ බවත්, පොදු ජනතාව සහ නිර්ධන පංතිය වෙත ආයාචනා කළ බවත් මෙම සඟරාවේ පළ වූ මාක්ස් ගේ ලිපි වලින් පෙනී ගියේය.

1844 දී ප්‍රෙඩ්රික් එංගල්ස් පැරිසියට පැමිණ දින කීපයක් ගත කළේය. එතැන් පටන් ඔහු මාක්ස්ගේ කිට්ටුම මිතුරා විය. ඔවුන් දෙදෙනම එවකට පැරිසියේ පැවති විප්ලවවාදී කණ්ඩායම්වල උතුරා හැලෙන ජීවිතයට ක්‍රියාත්මක ලෙස සහභාගි වූහ. (එම අවධියේදී ප්රුදෙන්[10] ගේ ධර්මය ඉතා වැදගත් තැනක් ගත්තේය. මාක්ස් 1847 දී ලියූ ඔහුගේ ''දර්ශනයේ දිළිඳුකම'' යන කෘතියෙන් එය කැබලි කොට දැම්මේය). සුළු ධනපති සමාජවාදයේ විවිධ ධර්මයන්ට විරුද්ධව බලවත් අරගලයක් කළ ඔවුහු විප්ලවවාදී නිර්ධන පංති සමාජවාදයේ නැතහොත් කොමියුනිස්ට්වාදයේ (මාක්ස්වාදයේ) න්‍යාය සහ උපක්‍රම සකස් කළහ. මෙම 1844-1848 කාලය තුළ මාක්ස් කළ කෘති, ග්‍රන්ථාවලියෙහි දක්වා ඇත. ප්රුසියන් ආණ්ඩුවේ බලවත් ඉල්ලීම අනුව, 1845 දී මාක්ස් භයානක විප්ලවවාදියෙකු ලෙස හඳුන්වා, පැරිසියෙන් නෙරපන ලදී. ඔහු බ්‍රසල්ස් නගරයට පැමිණියේය. මාක්ස් සහ එංගල්ස් 1847 වසන්තයේ ''කොමියුනිස්ට් ලීග්''[11] නම් වූ රහසිගත ප්‍රචාරක සංගමයකට සම්බන්ධ වූහ. එම ලීගයේ (1847 නොවැම්බර්, ලන්ඩන්හි පැවති) දෙවැනි සම්මේලනයේදී ඔවුහු ප්‍රමුඛ කාර්ය කොටසක් ඉටු කළහ. ඔවුන්, 1848 පෙබරවාරි මස පළවූ, චිර ප්‍රසිද්ධ ''කොමියුනිස්ට් ප්‍රකාශනය'' සකස් කළේ, එම සම්මේලනයේ ඉල්ලීම අනුවය. මෙම කෘතිය මහා ප්‍රාඥ ස්වභාවයේ පැහැදිලිතාවයකින් හා කාන්තිමත් භාවයකින් යුතුව, නව ලෝක අවබෝධයක්, එනම්, සමාජ ජීවිතයේ රජ දහන වැළඳ ගන්නා ස්ථිර සාර ද්‍රව්‍යවාදයද, සංවර්ධන පිළිබඳ ඉතාමත් අංග සම්පූර්ණ සහ ගැඹුරු දහම වන දයලෙක්තික ක්‍රමයද, පංති අරගලය පිළිබඳ න්‍යාය සහ නව කොමියුනිස්ට් සමාජයේ නිර්මාණකයා වන නිර්ධන පංතියේ ලෝක ඓතිහාසික කාර්ය කොටස ද ගැන විස්තර කළේය.

1848 පෙබරවාරි විප්ලවය[12] ආරම්භවීමෙන් පසු මාක්ස් බෙල්ජියමෙන් නෙරපන ලදී. ඔහු නැවත පැරිසියට ආපසු පැමිණියේය. එහි මාර්තු විප්ලවයෙන්[13] පසුව ඔහු ජර්මනියේ කොලෝන් නගරයට ගියේය. මාක්ස්ගේ ප්‍රධාන කර්තෘත්වයෙන් යුතුව ''නව රයින් පත්‍රය''[14] පත්‍රය 1848 ජූනි 1 පටන් 1849 මාර්තු 18 දක්වා එහි පළ කරන ලදී. 1848-1849 විප්ලවවාදී සිදුවීම් මගින් නව න්‍යාය ඉතා කදිමට සනාථ විය. එසේම ලෝකයේ සියළුම රටවල පසුව ඇති වූ සියළුම නිර්ධන පංති හා ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරවලින් ද එය සනාථ වී ඇත. ජයග්‍රාහී වූ ප්‍රති විප්ලවවාදීහු ප්‍රථමයෙන්ම මාක්ස්ට විරුද්ධව උසාවි මගින් කටයුතු කිරීමට සැලස්වූහ. (ඔහු 1849 පෙබරවාරි 9 දින නිදහස් කරන ලදී) අනතුරුව (1849 මැයි මස 16 දින) ඔහු ජර්මනියෙන් පිටුවාහල් කරන ලදී. එහිදී මාක්ස් ප්‍රථමයෙන් පැරිසියට ගිය නමුත් 1849 ජූනි මස 13 දින පෙළපාලියෙන්[15] පසුව එයින්ද නෙරපන ලදින් ලන්ඩනයට ගිය අතර ජීවිතක්ෂය දක්වා එහි වාසය කළේය.

මාක්ස් හා එංගල්ස් අතර හුවමාරුවූ (1913 දී පළ කරන ලද)[16] ලිපි වලින් පැහැදිලිවම පෙනෙන පරිදි ඔහුගේ දේශපාලන පිටුවාහල් ජීවිතය ඉතාමත් දුෂ්කර එකක් විය. අඟ හිඟකම් මාක්ස්ගේ පවුලට තදින් බල පෑවේය. එංගල්ස් විසින් නිරතුරුව හා ආත්මාර්ථයෙන් තොරව දෙන ලද මුදල් ආධාර නිසා නොවේ නම්, මාක්ස් ''ප්‍රාග්ධනය'' කෘතිය නිම කිරීමෙහි අසමත් වන්නට පමණක් නොව අඟ හිඟකමින් අනිවාර්ය ලෙස මිරිකී යන්නට ද ඉඩ තිබුණි. එපමණක් නොවේ. ප්‍රබලව පැවති සුළු ධනේශ්වර, සමාජවාදී සහ පොදු වශයෙන් නිර්ධන පංතික නොවන සමාජවාදී ධර්මයන් හා නැඹුරුවීම් වලට විරුද්ධව අවිච්ඡින්න හා අනුකම්පා විරහිත අරගලයක් කිරීමටද, සමහරවිට ඉතාමත් ම්ලේච්ඡ හා දරුණු පෞද්ගලික ප්‍රහාරයක් ("Herr Vogt")[17] පසු බැස්වීමටද මාක්ස්ට සිදු විය. පිටුවාහල් දේශපාලනඥයන්ගේ කණ්ඩායම් වලට සම්බන්ධ නොවී සිටි මාක්ස් ප්‍රධාන වශයෙන්ම දේශපාලන අර්ථ ශාස්ත්‍රය අධ්‍යයනයට කැප වෙමින් ඓතිහාසික කෘති ගණනාවක් මගින් ඔහුගේ ද්‍රව්‍යවාදී න්‍යාය සංවර්ධනය කළේය (ග්‍රන්ථාවලිය බලන්න). මාක්ස් ඔහුගේ ''දේශපාලන අර්ථ ශාස්ත්‍රය ගැන විවේචනයක්'' (1859) හා ''ප්‍රාග්ධනය'' (1 වැනි වෙළුම 1867) මගින් එම විද්‍යාව විප්ලවයකට භාජන කළේය (පහත ''මාක්ස්වාදී ධර්මය'' බලන්න).

එක්දහස් අටසිය පණස් ගණන්වල අවසාන සහ හැට ගණන්වල මුල් භාගයේදී ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට පුණර්ජීවනයක් ලැබීම හේතු කොට ගෙන මාක්ස් නැවතත් ප්‍රායෝගික ක්‍රියාකාරිත්වයට කැඳවිණි. 1864 (සැප්තැම්බර් 28 දින) ලන්ඩනයේදී ''ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමය'', ඒ කීර්තිමත් පළමුවැනි ජාත්‍යන්තරය පිහිටුවන ලදී. මෙම සංවිධානයේ හදවත හා ජීවය වූයේ මාක්ස්ය. එහි ප්‍රථම කථාවෙහිද,[18] යෝජනා, ලියවිලි හා ප්‍රකාශන රාශියකද කතුවරයා ඔහු විය. විවිධ රටවල කම්කරු ව්‍යාපාරය එක්සත් කිරීමේදීද, නිර්ධන පංති නොවන සහ මාක්ස්-පූර්ව සමාජවාදයේ විවිධ (මැසිනි, ප්රුදෙන්, බකුනින්, බ්‍රිතාන්‍ය ලිබරල් වෘත්තීය සමිතිවාදය, ජර්මනියේ ලසාල්වාදීන්ගේ දකුණට වැනීම ආදී) ආකාරයන් ඒකාබද්ධ ක්‍රියාකාරිත්වයට යොමු කිරීමට ප්‍රයත්න දැරීමේදීද,

මෙම නිකායයන් හා ගුරුකුලයන් සියල්ලෙහිම න්‍යායයන්ට විරුද්ධව සටන් කිරීමෙහිදීද, මාක්ස්, විවිධ රටවල කම්කරු පංතියේ නිර්ධන පංති අරගලය සඳහා ඒකාකාර උපක්‍රමයක් නිමවූයේය. මාක්ස් විසින් කරන ලද ඉතාමත් හරබර, පැහැදිලි, කාන්තිමත්, සාර්ථක හා විප්ලවවාදී විග්‍රහයකට ("ප්‍රංශයේ සිවිල් යුද්ධය" 1871) විෂය වූ 1871 පැරිස් කොමියුනය[19] බිඳ වැටීමෙන් හා ජාත්‍යන්තරය තුළ බකුනින්වාදීන්[20] ඇති කළ භේදයෙන් අනතුරුව, මෙහි පසු කී සංවිධානයට තව දුරටත් යුරෝපයේ පැවතීමට නුපුළුවන් විය. ජාත්‍යන්තරයේ (1872) හාග් සම්මේලනයෙන් පසුව මාක්ස් ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලය නිව්යෝක් නුවරට ගෙනයාමට සැලසුවේය. පළමුවැනි ජාත්‍යන්තරය එයට භාර ඓතිහාසික කාර්ය කොටස ඉටු කර තිබුණි. මේ වන විට ලෝකයේ සියළුම රටවල කම්කරු පංතියේ වඩාත් අතිශයින්ම විශාල සංවර්ධන කාල පරිච්ඡේදයකට මඟ සකස් වී තිබුණි. එම කාල පරිච්ඡේදය තුළ ව්‍යාපාරය පරිමාණයෙන් වැඩී ගිය අතර එක් එක් ජාතික රාජ්‍යයෙහි පොදු ජන සමාජවාදී කම්කරු පංති පක්ෂ පිහිටුවන ලදී.

මාක්ස් ජාත්‍යන්තරය තුළ කළ වෙහෙසකාරී වැඩ නිසාද, ඊටත් වඩා වෙහෙසනසුලු න්‍යායික කටයුතු නිසාද, මාක්ස් ගේ සෞඛ්‍ය සම්පූර්ණයෙන්ම පිරිහී ගියේය. දේශපාලන අර්ථශාස්ත්‍රයට නව හැඩයක් දීමටත්, "ප්‍රාග්ධනය" ලියා නිම කිරීමටත්, ඔහු දිගටම වැඩ කළේය. එම ග්‍රන්ථය කිරීම සඳහා ඔහු අළුත් කරුණු රාශියක් එක් රැස් කළේය, භාෂා ගණනක් (නිදර්ශනයක් වශයෙන් රුසියන් බස) උගෙන ගත්තේය. එසේ ද වුවත්, අයහපත් සෞඛ්‍යය නිසා, ඔහුට "ප්‍රාග්ධනය" සම්පූර්ණ කිරීමට ඉඩ නොලැබුණේය.

ඔහුගේ බිරිඳ 1881 දෙසැම්බර් 2 දින මිය ගියාය. 1883 මාර්තු 14 දින මාක්ස් ඔහුගේ හාන්සි පුටුවෙහි සිටියදී ඉතාමත් සන්සුන් ලෙස අභාවප්‍රාප්ත විය. ඔහුගේ මෘත දේහය ලන්ඩන් හයි ගේට් සුසාන භූමියෙහි ඔහුගේ බිරිඳගේ දේහය අසලින් භූමදාන කරන ලදී. මාක්ස්ගේ දරුවන් අතරින් සමහර දෙනෙක්, පවුල ඉතාමත් අනාථ තත්වයේ සිටියදී, ලන්ඩනයේදී, ළමා වියෙහිදී මිය ගියහ. දියණියන් තිදෙනෙක් ඉංග්‍රීසි හා ප්‍රංශ සමාජවාදීන් සමඟ විවාහ වූහ. ඒ තිදෙන එවෙලින්ග් එලෙනෝර්, ලවුරා ලෆාර්ග් හා ජෙනි ලොංගේ වූහ. අවසානයට සඳහන් අයගේ පුත්‍රයා ප්‍රංශ සමාජවාදී පක්ෂයේ සාමාජිකයෙකි.

## මාක්ස්වාදී ධර්මය

"මාක්ස්වාදය" යනු මාක්ස්ගේ අදහස් සහ උගැන්වීම් පද්ධතියයි. මිනිස් වර්ගයාගේ ඉතාමත් දියුණුම රටවල් තුන විසින් නියෝජනය කරන



ලද්දවූ, දහනව වැනි ශත වර්ෂයේ ප්‍රධාන තම දෘෂ්ටි ධාරාවන් තුන ඉදිරියට ගෙන ගිය හා උච්ඡාවස්ථාව දක්වා දියුණු කළ මහා ප්‍රාඥයා මාක්ස් විය. මුල් ජර්මන් දර්ශනයත්, මුල් ඉංග්‍රීසි දේශපාලන අර්ථ ශාස්ත්‍රයත්, පොදු වශයෙන් ප්‍රංශ විප්ලවවාදී ධර්මයන් සමග ඒකාබද්ධ වූ ප්‍රංශ සමාජවාදයත් එම දෘෂ්ටි ධාරාවන් තුන විය. මාක්ස් ගේ විරුද්ධවාදීන් පවා පිළිගන්නා ලෙසට, නවීන ද්‍රව්‍යවාදය සහ නවීන විද්‍යාත්මක සමාජවාදය මාක්ස්ගේ අදහස් සමස්තයෙන් සංයුක්ත වී ඇති අතර, ලෝකයේ සියළුම ශීලාචාර රටවල කම්කරු පංති ව්‍යාපාරයේ න්‍යාය සහ වැඩ පිළිවෙළ වශයෙන් එම අදහස් ඉතා විශිෂ්ඨ සංසන්දනීයතාවයක් සහ ඍජු භාවයක් දක්වන නිසා, මාක්ස්වාදයේ ප්‍රධාන සන්ධාරය, එනම්, මාක්ස්ගේ ආර්ථික ධර්මය ගැන පැහැදිලි කිරීමට කලින් පොදු වශයෙන් ඔහුගේ ලෝකාවබෝධය ගැන ලුහුඬු විස්තරයක් ඉදිරිපත් කිරීම අපගේ බලවත් යුතුකම වන්නේය.

## දර්ශනික ද්‍රව්‍යවාදය

මාක්ස්ගේ අදහස් හැඩ ගැසී සකස් වුණු කාලය වන 1844-1845 වර්ෂවල පටන්ම ඔහු ද්‍රව්‍යවාදියෙක් විය. එවකට ඔහු විශේෂයෙන්ම ලුඩ්විග් ෆ්යොයර්බාහ්ගේ අනුගාමිකයෙක් විය. ඒ අනුව ඔහුගේ දුර්වල තැන් වශයෙන් මාක්ස් විශේෂයෙන්ම දුටුවේ ඔහුගේ ද්‍රව්‍යවාදය ප්‍රමාණවත් තරම් සසංගත සහ අංග සම්පූර්ණ නොවීමය. මාක්ස් දුටු ලෙසට ෆ්යොයර්බාහ්ගේ ඓතිහාසික හා "යුග-නිර්මානක" වැදගත් කම වූයේ ඔහු හේගල් ගේ විඥනවාදයෙන් ඒකාන්ත ලෙස ඉවත් වීම හා ද්‍රව්‍යවාදය ප්‍රකාශයට පත් කිරීමය. ඒ වන විටත්, "දහ අට වැනි ශත වර්ෂයේදීම ද්‍රව්‍යවාදය, විශේෂයෙන්ම ප්‍රංශ ද්‍රව්‍යවාදය, පවත්නා දේශපාලන ආයතනවලට විරුද්ධවද, ආගම හා දේවධර්මයට විරුද්ධවද පමණක් නොව, සියළුම අධ්‍යාත්මවාදවලට ("බුද්ධිමත් දර්ශනයන්" හා සමග සසඳන කල "බීමත් අනුමානයන්" වීමේ අර්ථයෙන්) විරුද්ධවද කරන අරගලයක් විය. ("සාහිත්‍ය උරුමයෙ හි" "ශුද්ධ පවුල")[21] මාක්ස් මෙසේ ලීවේය."හේගල් "අදහස" යන නමින් හඳුන්වන චින්තන ක්‍රියාදමය සැබෑ ලෝකයේ demiurgos (නිර්මාණකයා, සාදන්නා) යයි ඔහු කියයි. ඔහු එය ස්වාධීන වස්තුවක් බවට පවා පරිවර්තනය කර ගත්තේය... ඊට ප්‍රතිකූල වශයෙන් මා කියන්නේ පරමාදර්ශය යනු අන් කිසිවක් නොව, මිනිස් සිතෙහි පරාවර්තනය වූ සහ චින්තා ආකෘති බවට පරිවර්තනය කරගත් ද්‍රව්‍යමය ලෝකයම බවයි" ("ප්‍රාග්ධනය" 1 වැනි වෙළුම, දෙවැනි මුද්‍රණයට පසුවදන).

මාක්ස්ගේ මෙම ද්‍රව්‍යවාදී දර්ශනයට සම්පූර්ණයෙන්ම අනුකූලව හා එය පැහැදිලි කරමින් ෆ්‍රෙඩ්රික් එංගල්ස් ''ඩූරිං විරෝධය'' නැමති කෘතියෙහි මෙසේ ලිවේය (මාක්ස් එහි අත් පිටපත කියවීය): ''...ලෝකයේ ඒකත්වය සංයුක්ත වන්නේ එය සත්තාවක් වීම නිසා නොවේ. ලෝකයේ සැබෑ ඒකත්වය සංයුක්ත වන්නේ එහි ද්‍රව්‍යමය ස්වභාවයෙනි. දර්ශනයේ හා ස්වාභාවික විද්‍යාවේ දීර්ඝ සහ විඩාපත් කරන සංවර්ධනයෙන්... මෙය ඔප්පු වී තිබේ.'' ''ද්‍රව්‍යය පවත්නා විධිය චලනයයි. චලනය නොවන ද්‍රව්‍යය හෝ ද්‍රව්‍ය නොමැතිව චලනය හෝ කිසි කලෙකත්, කිසි තැනෙකත් නොවූයේය, වන්නේද නැත... එහෙත්... මෙම ප්‍රශ්නය ඇසිය හැකිය: චින්තනය හා විඥානය යනු ඇත්ත වශයෙන්ම කුමක්ද? ඒවා පහළ වන්නේ කොහෙන්ද? මේවා මිනිස් මොළයේ නිර්මානයන් බවත්. මිනිසා පරිසරය තුළ හා එය සමග සංවර්ධනය වූ ස්වභාව ධර්මයේම නිමැවුමක් බවත් පැහැදිලි වේ. එනිසා මිනිස් මොළයේ නිර්මානයන්, අවසාන විග්‍රහයේදී, ස්වභාව ධර්මයේද නිර්මානයන් වන නිසා, ඒවා ස්වභාව ධර්මයේ අනෙකුත් අන්තර් සම්බන්ධයන්ට ප්‍රතිවිරෝධී නොවන බව හා ඒවාට ගැලපෙන බවත් නිරායාසයෙන්ම පැහැදිලි වේ'' ''හේගල් විඥානවාදියෙක් විය. එයින් අදහස් කෙරෙන්නේ, ඔහුතම සිත තුළ වූ චින්තාවන් සැබෑ ද්‍රව්‍ය-යන්ගේ සහ ක්‍රියා දමයන්ගේ අඩු වැඩි වශයෙන් වියුක්ත ප්‍රතිමූර්ති (Abbilder, පරාවර්තනයන්; එංගල්ස් සමහර විට ''රූසටහන්'' ගැන කීවේය) වශයෙන් නොව, ඊට ප්‍රතිකූලව ද්‍රව්‍යයන් හා ඒවායේ සංවර්ධනය ලෝකයේ පැවැත්මේ ආරම්භයට පෙර කිසියම් තැනක පැවති, ''අදහසෙහි'' සැබෑ කළ ප්‍රතිමූර්ති පමණක් වශයෙන් ඔහු විසින් සලකන ලද බවයි.''[22] ෆොයර්බාහ්ගේ දර්ශනය ගැන තමන්ගේම සහ මාක්ස් ගේ අදහස් පැහැදිලි කරමින් එංගල්ස් ලියූ ''ලුඩ්විග් ෆොයර්බාහ්'' නැමතිවූද 1844-1845 කාලයේදී තමා හා මාක්ස් විසින්ම හේගල් හා ෆොයර්බාහ් ගැනත් හා ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පය ගැනත් ලියන ලද පරණ අත්පිටපතක් කියවීමෙන් පසුව මුද්‍රණයට යවන ලද්ද වූද කෘතියෙහි, ඔහු මෙසේ ලිවේය: ''දර්ශන සියල්ලෙහිම, විශේෂයෙන් මෑත දර්ශනයෙහි මූලික මහා ප්‍රශ්නය වූයේ සිත සහ සත්තාව අතර සම්බන්ධයයි. ස්වභාව ධර්මය හා ජීවය අතර තිබෙන සම්බන්ධය යි; ... ප්‍රධාන කුමක්ද? ජීවයද? නැතහොත් ස්වභාව ධර්මයද යන්නයි... දර්ශනවාදීහු මෙම ප්‍රශ්නයට දුන් පිළිතුරු අනුව ඔවුන් මහා කඳවුරු දෙකකට බෙදුනහ. ස්වභාව ධර්ම-යට වඩා ජීවය ප්‍රධානය යන අදහසෙහි එල්බගත්, එනිසා අන්තිමේදී, ලෝකය මැවීම පිළිබඳ එක් හෝ තවත් ආකාරයක උපකල්පනයක් පිළිගත් අයගෙන් විඥානවාදී, කඳවුර සැදුනේය. ස්වභාව ධර්මය ප්‍රධානයයි සැලකූ අනිත් අය විවිධ ද්‍රව්‍යවාදී ගුරුකුලයන්ට අයත් විය.'' වෙනත් කුමණ



හෝ ලෙසකින් විඥනවාදී හා ද්‍රව්‍යවාදී (දර්ශනික) සංකල්පයන් උපයෝගී කර ගැනීමෙන් ඇතිවන්නේ අවුලක් පමණකි. මාක්ස් නිශ්චිත වශයෙන්ම බැහැර කළේ ආගම හා සමග එක් හෝ තවත් ආකාරයකින් නිතරම සම්බන්ධවී තිබෙන විඥනවාදය පමණක් නොවේ. අපගේ කාලයේ ඉතාමත් පුළුල් ලෙස පැතිරී තිබෙන හියුම්ගේ හා කාන්ත්ගේ අදහස් අඥෙයවාදය, විවේචනවාදය, ඉන්ද්‍රියානුභූතවාදය[23] යන වෙනත් හැම ආකෘතියක්ම ඔහු බැහැර කළේය. මාක්ස් අදහස් කළේ එම දර්ශනය විඥනවාදයට දෙන ''ප්‍රතිගාමී'' සහනයක් බව හා එය ඉතාම හොඳ තත්වයෙන් ගනිතත් ''ලෝ-කයා හමුවේ ද්‍රව්‍යවාදය ප්‍රතික්ෂේප කරමින් එය (ද්‍රව්‍යවාදය) හොර රහසින් පිළිගැනීමක් වන බවය.''[24] මෙම ප්‍රශ්නය සම්බන්ධයෙන් නම්කර ඇති මාක්ස්ගේ හා එංගල්ස්ගේ කෘති වලට අමතරව, මාක්ස් 1866 දෙසැම්බර් 12දින එංගල්ස්ට යැවූ ලිපියද බලන්න.සුප්‍රසිද්ධ ස්වභාවවාදියෙක් වූ තෝමස් හෙක්ස්ලිගේ සිරිතට ''වැඩියෙන් ද්‍රව්‍යවාදී'' කියමනක් ගැන ''ඇත්ත වශයෙන්ම අපි නිරීක්ෂණය කරමු හා සිතමු. අපට ද්‍රව්‍යවාදයෙන් ගැලවීමට හැකියාවක් නැතැ''ය යන ඔහුගේ පිළිගැනීම ගැනද එහි සඳහන් කරන මාක්ස්, අඥෙයවාදයට හා හියුම්වාදයට ''රිංගීමට'' සිදුරක් තැබීම ගැන හෙක්ස්ලිට දෝෂාරෝපනය කළේය. ස්වතන්ත්‍රතාවය සහ ආවශ්‍යකතා-වය අතර සම්බන්ධය ගැන මාක්ස් ගේ අදහස් සටහන් කර ගැනීම විශේ-ෂයෙන්ම වැදගත්ය: ''ස්වතන්ත්‍රතාවය යනු ආවශ්‍යකතාවය අගය කිරීමය. 'ආවශ්‍යකතාවය අන්ධ ස්වභාවයක් දරන්නේ එය වටහා නොගත් තාක් දුරට පමණකි' '' (එංගල්ස්: ''ඩූරිං විරෝධය'' කෘතියෙහි). මෙහි අර්ථය වන්නේ (නොදනගන්නා ලද එහෙත් දනගත හැකි ''ඇති සැටියෙන්ම වූ දෙය'' ''අප සඳහා වූ දෙය'' බවටද, ''ද්‍රව්‍යයන්ගේ හරය'' ''ප්‍රපංච'' බවටද පරිවර්තනය වන්නාසේම) ස්වභාව ධර්මයේ වාස්තවික නීතිද, අවශ්‍යතාවය දයලෙක්තික වශයෙන් නිදහස බවට පරිවර්තනය වෙතැයිද, පිළිගන්නා බවයි. 1) ෆොයර්බාහ් ගේ (ඊටත් වඩා බියුහ්නර්, ෆොග්ත් සහ මොලෙෂොත් ගේ පහත්) ද්‍රව්‍යවාදය ද ඇතුළු ''පැරණි'' ද්‍රව්‍යවාදය තුළ පහත සඳහන් වැරදි ඇතැයි මාක්ස් සහ එංගල්ස් අදහස් කළහ. රසායන විද්‍යාවේ, ජීව විද්‍යාවේ (අද, ද්‍රව්‍ය පිළිබඳ විද්‍යුත් න්‍යායෙහි යන්නද එකතු කිරීම අවශ්‍ය වනු ඇත.) නවතම සංවර්ධනයන් ගැන සැලකිලිමත් වීමට අසමත් වූ මෙම ද්‍රව්‍යවාදය ''ප්‍රධාන වශයෙන්ම යාන්ත්‍රික'' ස්වභාවයක් ගනී; 2) පැරණි ද්‍රව්‍යවාදය ඓතිහාසික නොවන සහ දයලෙක්තික නොවන (දයලෙක්තික විරෝධී යන අර්ථයෙන් අධ්‍යාත්මවාදී) ස්වභාවයේ වූ අතර සංසන්දනීය තාවයෙන් යුතුව හා අංග සම්පූර්ණ ලෙස සංවර්ධන දෘෂ්ටිකෝණයට අනුකූල නොවේ; 3) එය ''මිනිස් හරය'' (නියත හා ඓතිහාසික වශයෙන් නිර්ණය කෙරුණු) ''සමාජ සම්බන්ධකම් සියල්ලෙ-

හිම සංකීර්ණයක්'' ලෙස නොගෙන වියුක්ත දෙයක් ලෙසට සැලකිල්ලට ගන්නේය. ප්‍රශ්නය ලෝකය වෙනස් කිරීම වී තිබියදී, එය ලෝකය ගැන හුදෙක් ''අර්ථ නිරූපනය'' පමණක් කළේය, නැතහොත් ''විප්ලවවාදී ප්‍රායෝගික ක්‍රියාකාරීත්වයෙහි'' වැදගත් කම වටහා නොගත්තේය.

## දයලෙක්තික ක්‍රමය

සංවර්ධනය පිළිබඳ ඉතාමත් අංග සම්පූර්ණ හා ගැඹුරුවූද, සන්ධාරයෙන් ඉතාමත් සාරවත් වූද, හේගල්වාදී දයලෙක්තික ක්‍රමය, මුල් ජර්මන් දර්ශනයේ ශ්‍රේෂ්ඨතම ජයග්‍රහණය ලෙස මාක්ස් හා එංගල්ස් විසින් සලකන ලදී. සංවර්ධනය හා පරිණාමය පිළිබඳ මූලධර්ම වෙනත් ආකාරයකින් ඉදිරිපත් කිරීම, ඒක පාර්ශ්වීය හා සන්ධාරයෙන් අසාරවත් බවත්, එයින් සිදුවිය හැක්කේ (බොහෝ විට පිම්ම හා මහා විනාශයත් හා විප්ලවයත් මගින් ඉදිරියට යන) සමාජයේ සහ ස්වභාවයේ සංවර්ධන ක්‍රියාදමය විකෘති කිරීමක් පමණක් බවත් සිතූහ. ''විඥාත දයලෙක්තික ක්‍රමය'' (හේගල්වාදය ඇතුළු විඥානවාදයේ විනාශයෙන්) ''මුදා ගෙන ස්වභාව ධර්මය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පය සමග ගැලපීම කළ පුද්ගලයන් වූයේ මාක්ස් සහ මා පමණක්ම ය. දයලෙක්තික ක්‍රමය ඔප්පු කරන සාක්ෂිය ස්වභාව ධර්මයයි. නවීන විද්‍යාව මෙම පරීක්ෂණය සඳහා අවශ්‍ය ඉතාමත් සාරවත් හා දින පතාම වැඩි වන කරුණු සපයමින්,'' (මෙය ලියන ලද්දේ රේඩියම්, ඉලෙක්ට්‍රෝන, මූල ද්‍රව්‍ය තත්වාන්තරණය ආදිය සොයා ගැනීමට පෙරය!) ''අවසාන විග්‍රහයේදී ප්‍රකෘති ක්‍රියාදමය දයලෙක්තික මිස අධ්‍යාත්මවාදී නොවන බවත් ඔප්පු කර තිබෙන බව එම විද්‍යාවේ යහ ගුණයක් වශයෙන් කිව යුතුය''.[25]

''ලෝකය අවබෝධ කර ගත යුත්තේ නිමවා අවසන් කළ ද්‍රව්‍යයන්ගේ සංකීර්ණයක් ලෙසට නොව, අපගේ සිත් තුළ වන ද්‍රව්‍ය ප්‍රතිරූපක, එනම්, සංකල්ප තරම්ම ස්ථායී ද්‍රව්‍ය ඇතුළත් කොටගත් සේ පෙනෙන, ඇති වීමේ හා නැති වීමේ, නොනවතින වෙනස්වීමක් මගින් යන, ක්‍රියාදම සංකීර්ණයක් ලෙසටය යන, ශ්‍රේෂ්ඨ මූලික චින්තනය, — මෙම ශ්‍රේෂ්ඨ මූලික චින්තනය, විශේෂයෙන්ම, හේගල් ගේ කාලයෙන් පසු සමස්ත සාමාන්‍ය විඥානය තුළ සම්පූර්ණයෙන්ම, විහිද ගොස් ඇති හෙයින්, දැන් කිසිවෙක් එය කිසිකලෙකත් ප්‍රතික්ෂේප නො කරන තරම්. එහෙත් වචනයෙන් මෙම මූලික චින්තනය පිළිගැනීම සහ එය සෑම විචාර ක්ෂේත්‍රයකදීම, සෑම විස්තරාත්මක අවස්ථාවකම ක්‍රියාවට නැංවීම, යනු වෙනස් කරුණු දෙකකි. දයලෙක්තික දර්ශනයට කිසිවක් නිත්‍ය, සර්ව සම්පූර්ණ හෝ ශුද්ධ හෝ නොවේ. එය සෑම දෙයක්ම හා සෑම දෙයකම තාවකාලික බව අනාවරණය කරයි. ඇති වීමේ හා නැති වීමේ, පහළ සිට ඉහළට වන අනන්ත උද්ගමනයේ ක්‍රියාදමය හැර වෙනත් කිසිවක් එය හමුවේ ඔරොත්තු දීමට අසමත්ය. එසේම දයලෙක්තිකය යනු චින්තා පරවශ මොළය තුළ හුදෙක් මෙම ක්‍රියාදමයම පරාවර්තනය වීමය'' යි එංගල්ස් ලීවේය. එනිසා, මාක්ස් කියන ලෙසට දයලෙක්තික ක්‍රමය යනු ''බාහිර ලෝකය සහ මිනිස් චින්තනය යන දෙකෙහිම යෙදෙන චලිතය පිළිබඳ පොදු නියාමයන්ට අදල විද්‍යාවය.''[26]

හේගල්ගේ දර්ශනයෙහි මෙම විප්ලවවාදී අංගය පිළිගත් මාක්ස් එය සංවර්ධනය කළේය. දයලෙක්තික ද්‍රව්‍යවාදයට ''වෙනත් විද්‍යාවන්ට ඉහළින් සිටින කිසිම දර්ශනයක් අවශ්‍ය නොවේ''. ඉහත දර්ශනයෙන් ''චින්තන විද්‍යාව හා එහි නියමයන්, එනම් විධිමත් තර්ක ශාස්ත්‍රය හා දයලෙක්තික ක්‍රමය[27] ඉතිරිව ඇත. මාක්ස් අවබෝධ කරගත් ලෙසට හා හේගල්ට අනුකූල ලෙසට දයලෙක්තික ක්‍රමයට, මෙකල දැනුම පිළිබඳ න්‍යාය යනුවෙන් හැඳින් වෙන දෙය, නැතහොත් ඥාන විද්‍යාවද ඇතුලත්ය. එයද, ඥානයෙහි සම්භවය සහ සංවර්ධනය, අඥානයෙන් ඥානයට පරිවර්තනය වීම අධ්‍යයනය කරමින් සහ සාමාන්‍යකරණය කරමින්, එහි විෂය විස්තුව ඓතිහාසිකමය වශයෙන් සැලකිය යුතුය.

අපගේ මෙම කාලයේදී සංවර්ධනය සහ පරිණාමය පිළිබඳ අදහස සම්පූර්ණයෙන්ම මෙන් සමාජ විඥානය විනිවිද ගොස් තිබෙන්නේ හේගල්වාදී දර්ශනය මගින් නොව වෙනත් මාර්ග වලින් පමණකි. එසේ වුවද, හේගල්ගේ දර්ශනය පදනම් කරගෙන මාක්ස් හා එංගල්ස් විසින් සැකසුණු මෙම අදහස, පරිණාමය පිළිබඳ වූ වර්තන අදහසට වඩා ඉතාමත් අංග සම්පූර්ණය, සන්ධාරයෙන් ඉතාමත් සාරවත්ය. එය කලින් පසු කළ අවධිවල පුනරාගමනයක්, එහෙත්, වෙනත් මඟකින් හා වඩාත් උසස් පදනමකින් කෙරෙන, ඒවායේ පුනරාගමනයක් (ප්‍රතිෂේධයේ ප්‍රතිෂේධය) ලෙසට පෙනෙන සංවර්ධනයකි, සරල රේඛා ආකාරයෙන් නොව සර්පිල වැනියයි කිව හැකි ස්වරූපයෙන් ඉදිරියට යන සංවර්ධනයකි. පිම්, මහා විනාශයන් හා විප්ලව මගින් වන සංවර්ධනයකි. ''සන්තතියේ බිඳීම්'' ය. රාශිය ගුණය බවට පරිවර්තනය වීමය — නියමිත දේහයක් විෂයෙහි, නැතහොත්, නියමිත ප්‍රපංචයක් තුළ හෝ නියමිත සමාජයක් තුළ ක්‍රියාත්මක වන විවිධ බලවේගයන් ගේ හා ප්‍රවණතාවයන්ගේ ප්‍රතිවිරෝධතාවය සහ සංඝට්ටනය විසින් මුදහරිනු ලබන සංවර්ධන-අවනත අභ්‍යන්තර ආවේගයන්ය. ඕනෑම ප්‍රපංචයක සියළුම අංගවල අන්‍යෝන්‍ය බැඳීම හා ඒවා අතර (ඉතිහාසය නිරන්තර ලෙස තව තවත් අළුත් අංග අනාවරණය කරයි) ආසන්නතම හා නොනැසිය හැකි සම්බන්ධයක්, එනම්, චලනයේ ඒකාකාර හා විශ්වීයවූද, නිශ්චිත නියාම අනුව යන්නාවූද ක්‍රියාද-

මයත් ගෙන එන සම්බන්ධයක්ය. සංවර්ධනය පිළිබඳ සාරවත් ධර්මයක් වශයෙන් (සම්ප්‍රදයික ධර්මයට වඩා) දයලෙක්තික ක්‍රමයේ සමහර අංග ලක්ෂණ එසේය: (මාක්ස්, ෂ්තයින්ගේ ''ලී ත්‍රිධාකරණය'' සමච්චලයට ලක් කරමින් 1868 ජනවාරි 8 දින එංගල්ස්ට ලියූ ලිපිය බලන්න. එම ත්‍රිධාකරණය දයලෙක්තික ක්‍රමය සමග පටලවා ගැනීම විහිළුවකි).

## ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පය

පැරණි ද්‍රව්‍යවාදයේ විසංසන්දනීයතාවය, අසම්පූර්ණත්වය හා එක පැත්තකට බර වූ ගතිය ගැන වැටහී යාම නිසා ''සමාජය පිළිබඳ විද්‍යාව ද්‍රව්‍යවාදී අඩිතාලම සමග සංගත තත්වයට ගෙන ඒමේ හා එම විද්‍යාව එය මත ගොඩනැගීමේ''[28] අවශ්‍යතාවය මාක්ස්ට ඒත්තු ගියේය. විඥනය සත්තාවෙහි ප්‍රතිඵලයක් වන බවත්, එහි විලෝමය සිදු නොවන බවත් ද්‍රව්‍යවාදයේ පොදු වශයෙන් විස්තර කරනු ලබන නිසා, එසේ විට, ද්‍රව්‍යවාදය මිනිස් වර්ගයාගේ සමාජ ජීවිතයට ගලපන කල සමාජ විඥනය සමාජ සත්තාවේ ප්‍රතිඵලයක් ලෙසට විස්තර කිරීමට සිදුවේ. ''මිනිසා ස්වභාව ධර්මය සම්බන්ධයෙන් කටයුතු කරන ආකාරය, එනම් ඔහුගේ ජීවිතය රැක ගැනීමට උපයෝගී කරගන්නා ඔහුට සමීප තම නිෂ්පාදන ක්‍රමය, කාර්මික ශිල්පයෙන් අනාවරණය කෙරෙන අතර, එයින් ඔහුගේ සමාජ සම්බන්ධකම් සකස් වීමේ ක්‍රමයද, ඒවායින් ගලායන මානසික සංකල්පයන්ද''[29] හෙළිදරව් වන්නේය''යි මාක්ස් ලිවේය (''ප්‍රාග්ධනය'', වෙළුම 1). මිනිස් සමාජයට හා එහි ඉතිහාසයට ගලපන ලද ද්‍රව්‍යවාදයේ මූලික ප්‍රතිපත්ති ක්‍රමානුකූලව ඉදිරිපත් කිරීම, මාක්ස්ගේ ''දේශපාලන අර්ථශාස්ත්‍රය පිළිබඳ විවේචනය ගැන'' යන කෘතියෙහි එන ඔහුගේ පහත සඳහන් වදන්වලින් පරිපූර්ණ ලෙස සපයා ඇත:

''මිනිස්සු ඔවුන්ගේ ජීවනයේ සමාජ නිෂ්පාදන කටයුතු වලදී නිශ්චිත සම්බන්ධකම් වලට එළඹෙති. ඒවා නොමැතිවම බැරි හා ඔවුන්ගේ කැමැත්තෙන් ස්වාධීන වූ සම්බන්ධකම්ය. ඒවා ඔවුන්ගේ ද්‍රව්‍යමය නිෂ්පාදනීය බලවේගයන්ගේ නිශ්චිත සංවර්ධන අවධියකට අනුරූප වන නිෂ්පාදන සම්බන්ධකම්ය.

මෙම නිෂ්පාදන සම්බන්ධකම් වල එකතු සමස්තයෙන් සමාජයේ ආර්ථික ව්‍යුහය සමන්විත වේ. නෛතික හා දේශපාලන උඩු ව්‍යුහය ඉදිවන්නේ එම ආර්ථික ව්‍යුහය නැමති තථ්‍ය අඩිතාලම මතය. සමාජ විඥනයේ නිශ්චිත ආකාරයන්ද එයටම අනුරූප වේ. ද්‍රව්‍යමය ජීවනයේ නිෂ්පාදන ක්‍රමය විසින් සමාජමය දේශපාලනමය හා චෛතසික ජීවනයේ ක්‍රියාදමයන් පොදු වශයෙන් හැඩ ගස්වනු ලැබේ. මිනිසුන්ගේ සත්තාව



නිර්ණය කෙරෙන්නේ ඔවුන්ගේ විඥනය විසින් නොවේ. ඊට ප්‍රතිකූල වශයෙන් ඔවුන්ගේ විඥනය නිර්ණය කෙරෙන්නේ ඔවුන්ගේ සමාජ සත්තාව විසිනි. සමාජයේ නිෂ්පාදනීය බලවේගයන් ගේ කිසියම් සංවර්ධන අවධියකදී, ඒවා, පවතින නිෂ්පාදන සම්බන්ධතාවයන් සමග, නැතහොත්— එයම විස්තර කරන නෛතික කියමනක් සේ පමණක් ගත හැකි — ස්වකීය ක්‍රියාකාරිත්වයෙහිදී, ඒවා තුළ මෙතෙක් පැවැති දේපල සම්බන්ධකම් සමග, සංඝට්ඨනය වෙති. නිෂ්පාදනීය බලවේගයන්ගේ සංවර්ධන ආකෘති සේ පටන් ගැනුනු මෙම සම්බන්ධකම්, ඒවායේ විලංගු බවට පත් වෙති. එවිට සමාජ විප්ලවයේ යුගයක් ඇරඹෙන්නේය. ආර්ථික අඩිතාලම වෙනස්වීමත් සමග, මුළු මහත් දැවැන්ත උඩු ව්‍යුහයම අඩු වැඩි පමණින් සීඝ්‍ර ලෙස පරිවර්තනය වන්නේය. එවැනි පරිවර්තනයක් ගැන සලකා බැලීමේදී, ස්වාභාවික විද්‍යාවේ මෙන් යථා තථ්‍යතාවයෙන් නිර්ණය කළ හැකි නිෂ්පාදනයේ ද්‍රව්‍යමය කොන්දේසිවල පරිවර්තනයන්ද, නීතිමය, දේශපාලන, ආගමික, සෞන්දර්යාත්මක හා දර්ශනික, කොටින් කියතොත්, දෘෂ්ටිමය ආකාරයේ පරිවර්තයන්ද — මිනිස්සු මෙම සංඝට්ඨනය ගැන දැනුම ලබා ඒ සම්බන්ධයෙන් සටන් වදිති — අතර වෙනස නිතරම සැලකිල්ලට ගත යුතුය.

පුද්ගලයෙකු පිළිබඳ අපගේ අදහස ඔහු තමාම ගැන සිතන දේ මත පමණක් පදනම් කර නොගන්නා සේම, එවැනි පරිවර්තනීය අවධියක් ගැන එහිම විඥනයෙන් විනිශ්චයකට එළඹීමට නොපුළුවන. ඊට ප්‍රතිකූල වශයෙන්, මෙම විඥනයට හේතු ''දක්විය යුත්තේ, ද්‍රව්‍යමය ජීවිතයේ සංඝට්ඨන තුළිනි. සමාජයේ නිෂ්පාදනීය බලවේගයන් හා නිෂ්පාදන සම්බන්ධකම් අතර පවතින සංඝට්ඨනයේ ආශ්‍රයෙනි...'' ''පුළුල් දළ සටහන් අනුව ආසියාතික, පෞරාණික, වැඩ වසම් හා නවීන ධනපති නිෂ්පාදන ක්‍රම සමාජයේ ආර්ථික සැකැස්මේ ප්‍රගතිශීලී යුග වශයෙන් හැඳින් විය හැක.'' (මාක්ස් එංගල්ස් වෙත යැවූ 1866 ජූලි 7 දින ලිපියේ අඩංගු ඔහුගේ කෙටි යෙදුම බලන්න: ''ශ්‍රම සංවිධානය නිර්ණය වන්නේ නිෂ්පාදන මාධ්‍යයන් විසිනියි යන අපගේ න්‍යාය'').

ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පය සොයාගැනීම, නැතහොත් වඩාත් නිවැරදි ලෙස කියතොත්, සමාජ ප්‍රපංච ක්ෂේත්‍රයෙහි ද්‍රව්‍යවාදය නොකඩවාම යොදා ගැනීම ව්‍යාප්ත කිරීම හේතු කොට ගෙන පසු ගිය ඓතිහාසික න්‍යායයන් විෂයෙහි වූ ප්‍රධාන දුර්වලකම් දෙකක් ඉවත් විනි. ප්‍රථමයෙන්ම, උඩත් පිරිසෙයින් වුවද, එම පසුගිය න්‍යායයන් විසින් කරන ලද්දේ, මිනිසුන්ගේ ඓතිහාසික ක්‍රියාකාරිත්වයට අදල වූ දෘෂ්ටිමය අභිප්‍රායයන්ගේ සම්භවය ගැන සොයා නොබලාම, නැතහොත් සමාජ සම්බන්ධකම් ක්‍රමය පාලනය කරන වාස්තවික නීති නිශ්චය කිරීමෙන්

හෝ ද්‍රව්‍යමය නිෂ්පාදනය අත්පත් කරගෙන තිබෙන සංවර්ධන මට්ටම කෙරෙහි රඳන මෙම සම්බන්ධකම්වල මූලයන් දැකීමෙන් තොරවම, එම අභිප්‍රායයන් විචාරණය කිරීම පමණකි. දෙවැනිව පසුගිය න්‍යායයන් ජනගහනයේ පොදු ජනතා ක්‍රියාකාරිත්වය ග්‍රහණය කළේ නැත. එනමුත්, ප්‍රථම වතාවට, ජනතාවගේ ජීවනයේ සමාජ තත්වයන් හා එම තත්වයන් කෙරෙහි ඇතිවන වෙනස් වීම්, විද්‍යාත්මක ස්වභාවයේ නිරවද්‍යතාවයකින් අධ්‍යයනය කිරීමේ හැකියාව ඓතිහාසික ද්‍රව්‍යවාදය විසින් ඇති කරන ලදී. මාක්ස්වාදයට පෙර ''සමාජ විද්‍යාවෙන්'' හා ඉතිහාස ග්‍රන්ථනයෙන් උඩත් පිරිසෙයින් ඉටු වූයේ සසම්භාවී ලෙස එකතු කළ අමු අමුවේ ගත් කරුණු එක් රැස් කිරීම හා ඓතිහාසික ක්‍රියාදාමයේ තනි අංගයන් ගැන විස්තරයක් කිරීමය. ප්‍රතිපාක්ෂික වන ප්‍රවණතාවයන් සමස්තයම ගැන විචාරණයෙන්ද, ඒවා සමාජයේ විවිධ පංතිවල ජීවනයේ හා නිෂ්පාදනයේ යථා තථ්‍ය ලෙස නිර්ණය කළ හැකි කොන්දේසි ලෙසට සරල කිරීමෙන්ද, විශේෂ ''ප්‍රබල'' අදහසක් තෝරා ගැනීමේදී හෝ එහි අර්ථනිරූපනය කිරීමේදී හෝ මනෝමූලත්වය හා ස්වාභිමතය බැහැර කර දැමීමෙන්ද, එමෙන්ම, කිසිම ප්‍රභේදයකින් තොරව, සියළුම අදහස් හා සියළුම ප්‍රවණතාවයන් ද්‍රව්‍යමය නිෂ්පාදනීය බලවේගයන්ගේ තත්වය අනුව පැන නගින බව අනාවරණය කිරීමෙන්ද, මාක්ස්වාදය, සමාජ-ආර්ථික ක්‍රමවල උද්ගතියේ, සංවර්ධනයේ සහ අවනතියේ ක්‍රියාදාමය ගැන සර්වග්‍රාහී හා අංග සම්පූර්ණ ආකාරයෙන් අධ්‍යයනය කිරීමේ මාර්ගය පෙන්වා දුන්නේය. ජනතාව ඔවුන්ගේ ඉතිහාසය නිර්මාණය කරති. නමුත්, ජනතාවගේ, ජනතා සමූහයාගේ, අභිප්‍රායයන් නිර්ණය වන්නේ කුමකින්ද? නැතහොත්, සංඝට්ටනය වන අදහස් හා අභිප්‍රායයන් උද්ගත වන්නේ කුමක් නිසාද? මිනිස් සමාජ සමූහයේ මෙම සංඝට්ටනයන්ගේ එකතු සමස්තය කුමක්ද? මිනිසාගේ මුළු ඓතිහාසික ක්‍රියාකාරිත්වයේම පදනම සකසන ද්‍රව්‍යමය ජීවනයේ නිෂ්පාදන කටයුතුවලට අදාල වන වාස්තවික කොන්දේසි මොනවාද? මෙම කොන්දේසි සංවර්ධනය වීමට අදාල නියාමයන් මොනවාද? මේ සියල්ලටම අවධානය යොමු කරවූ මාක්ස්, ඉතිහාසයේ මෙතෙකැයි කිව නොහැකි මුළු විවිධත්වය හා ප්‍රතිවිරෝධතාවය ද සමගම, එය නිශ්චිත නියාමයන් මගින් පාලනය වන ඒකීය ක්‍රියාදාමයක් වශයෙන් ගෙන අධ්‍යයනය කිරීමේ මාර්ගයක් පෙන්නුම් කළේය.

### පංති අරගලය

ඕනෑම සමාජයක, එහි සාමාජිකයන් සමහර දෙනෙකුගේ ආයාසයන් තවත් සමහරෙකුගේ ආයාසයන් සමග ගැටෙන බවද සමාජ ජීවිතය ප්‍රතිවිරෝධයන්ගෙන් පිරී පවතින බවද, ජාතීන් හා සමාජයන් අතර මෙන්ම, ජාතීන් හා සමාජයන් ඇතුළතද වන අරගලයන් ඉතිහාසයෙන් අනාවරණය වන බවද, ඊට අමතරව, විප්ලවයේ සහ ප්‍රතිගාමීත්වයේත්, සාමයේ සහ යුද්ධයේත්, නිශ්චලනයේ හා සීඝ්‍ර ප්‍රගතියේ හෝ අවනතියේත් කාලයන් මාරුවෙන් මාරුවට එන බවද පොදුවේ දත් දෙයකි. අවුල් ජාලයක් හා ව්‍යාකූලත්වයක් සේ පෙනෙන මෙය පාලනය කෙරෙන නියාමයන් සොයා ගැනීමට මාක්ස්වාදයෙන් මාර්ග දේශකත්වය, එනම් පංති අරගලය පිළිබඳ න්‍යාය සපයා ඇත. නියමිත සමාජයක හෝ කණ්ඩායමක සාමාජිකයින්ගේ ආයාසයන්ගේ ප්‍රතිඵලය විද්‍යානුකූල ලෙස නිර්ණය කිරීමක් වෙත එළඹිය හැක්කේ එම සාමාජිකයන් සියළු දෙනාගේම ආයාසයන්ගේ එකතු සමස්තය ගැන කරන අධ්‍යයනයකින් පමණකි. සංඝට්ටනය වන ආයාසයන් පැන නගින්නේ, සමාජයේ බෙදී පවතින පංතිවල තත්වයේ හා ජීවන ක්‍රමයේ වෙනස නිසාය. ''මෙතෙක් පැවති සියළු සමාජයන්ගේම ඉතිහාසය පංති අරගලවල ඉතිහාසයකි''යි මාක්ස් ''කොමියුනිස්ට් ප්‍රකාශනයෙහි'' ලීවේය (ආදි කල්පිත ප්‍රජාවෙහි හැර, යනුවෙන් පසුව එංගල්ස් එකතු කළේය). ''නිදහස් වැසියා හා වහලාද, කුලවතුන් හා සමාන්‍ය ජනයාද, සාමි වරයා සහ ප්‍රවේණිදසයාද, ශ්‍රෙණි අධිපතියා හා පුහුණු ශිල්පියාද, කොටින් කියතොත් පීඩකයා හා පීඩිතයාද, නිරන්තර අන්‍යොන්‍ය ප්‍රතිපාක්ෂිකත්වයකින් සිටිමින්, වරෙක සැඟවුණු, වරෙක විවෘත අඛණ්ඩ අරගලයක් ගෙන ගියහ. වරක් වරක් පාසාම, එම අරගලය කෙළවර වූයේ එක්කෝ සමස්ත සමාජයම නැවත විප්ලවීය ලෙස සැකසීමෙනි, නැතහොත්, පොර වැදුනු පංති පොදුවේ විනාශ මුඛයට යාමෙනි... වැඩ වසම් සමාජයේ නෂ්ඨාව ශේෂයන්ගෙන් පැළපත නැඟුනු නවීන ධනපති සමාජය පංති සතුරුතාවයන් බැහැර කර නොමැත. එය කර තිබෙන්නේ, පැවති පැරණි ඒවා වෙනුවට, අළුත් පංති, අළුත් පීඩන කොන්දේසි, අළුත් අරගල ක්‍රම ආදේශ කිරීම පමණකි. එසේ වුවද, අපගේ යුගයෙහි, ධනපති පංතියේ යුගයෙහි, මෙම ස්වභාව නිරූපී අංග ලක්ෂණය ඇත. එය සමාජයේ පංති සතුරුතාවයන් සරල කොට තිබේ. සමස්තයක් වශයෙන් මුළු සමාජයම්, එකිනෙකට එක එල්ලේ මුහුණ දී සිටින, මහා සතුරු කඳවුරු දෙකකට, මහා පංති දෙකකට, තව තවත් බෙදීයමින් පවතී. ඒ පංති දෙක ධනපති පංතිය හා නිර්ධන පංතියයි.'' සිදුවීම් පතුලෙහි ඇත්තේ කුමක්ද යන්න, ප්‍රංශ මහා විප්ලවය ඇති වූ තැන් පටන් මේදක්වා වූ යුරෝපීය රටවල් ගණනාවකම ඉතිහාසයෙන් ඉතාමත් සිත්කාවදින සේ පැහැදිලි විය. ඒ පංති අතර අරගලයයි. ප්‍රංශයේ ප්‍රතිසංස්කරණ කාලය[30] විසින් දැනටමත් ඉතිහාසඥයන් ගණනාවක් (තියරි, ගිසෝ, මීන්යේ හා තියර්) ඉදිරිපත් කරනු ලැබ සිටිති. ඇති වන සිදුවීම් සම්පිණ්ඩනය කිරීමේදී, මුළු ප්‍රංශ ඉතිහාසයටම යතුර වන්නේ පංති අරගලය බව පිළිගැනීමට ඔවුනට සිදු

විය. නවීන කාල පරිච්ඡේදයේ, එනම්, ධනපති පංතියේ පූර්ණ ජයග්‍රහණයේද, නියෝජිත ආයතනවලද, විස්තෘත (සර්වජන නොවුවත්) ඡන්ද බලයේද, මහජනයා අතර පුළුල් ලෙස බෙද හැරෙන මිළ අඩු දෛනික පුවත් පත් ආදියෙහිද, බලගතු වූ හා වඩාත් විස්තෘත වූ කම්කරු සංගම්වල සහ හාම්පුතුන්ගේ සංගම්වල ආදියේ ද කාල පරිච්ඡේදයේ ඇති වන සිදුවීම් වල මුල් උල්පත (සමහර විට බොහෝ සේ එක් පැත්තකට බරවූ, ''සමකාමී'' හා ''ව්‍යවස්ථානුකුල'' ආකාරයෙන් වුවද) පංති අරගලය වන බව වඩාත් බලවත් ලෙස පෙන්නුම් කර තිබේ. එක් එක් පංතියෙහි සංවර්ධන කොන්දේසි විග්‍රහ කිරීමේදී, එක් එක් පංතියක් නවීන සමාජය තුළ දරන තත්වය වාස්තවික ලෙස විග්‍රහ කිරීම විෂයෙහි මාක්ස් සමාජ විද්‍යාවෙන් අපේක්ෂා කළේ කුමක්ද යන්න මාක්ස්ගේ ''කොමියුනිස්ට් ප්‍රකාශනයෙහි'' එන පහත සඳහන් කොටසින් පෙනේ. ''අද ධනපති පංතිය හමුවේ මුහුණට මුහුණ ලා නැගී සිටින සියළුම පංති අතුරෙන් සැබවින්ම විප්ලවවාදී පංතියක් වන්නේ නිර්ධන පංතිය පමණකි. අනිත් පංති නවීන කර්මාන්තය ඉදිරියේ දිරා පත්ව අවසානයේ අතුරුදහන් වෙති. එම නවීන කර්මාන්තයේ විශේෂ හා මූලිකම නිෂ්පාදිතය නිර්ධන පංතිය යි. පහළ මධ්‍යම පංතිය, කුඩා කර්මාන්ත කරුවා, සාප්පු කරුවා, කර්මාන්ත ශිල්පියා හා ගොවියා යන මේ සියළු දෙනාම මධ්‍යම පංතියේ කොටස් වශයෙන් ඔවුන්ගේ පැවැත්ම නැති නොවී ආරක්ෂා කර ගැනීමට ධනපති පංතියට විරුද්ධව සටන් කරති. එනිසා, ඔවුහු විප්ලවවාදී නොවෙති, ගතානුගතික වෙති. නැත, ඊටත් එහා යමින් ඔවුහු ප්‍රතිගාමී වෙති. එසේ වන්නේ ඔවුන් සියළු දෙනාම ඉතිහාස රෝදය ආපසු කැරකවීමට උත්සාහ කරන හෙයිනි. කිසියම් හෙයකින් ඔවුහු විප්ලවවාදී වෙත් නම්, ඒ ඔවුන් නිර්ධන පංතියට මාරුවීමට නියමිතව සිටින හෙයින් පමණකි. එවිට ඔවුන් ආරක්ෂා කරන්නේ ඔවුන්ගේ වර්තමාන උවමනාවන් නොව අනාගත උවමනාවන්ය. ඔවුහු ඔවුන්ගේම ස්ථාවරය අත් හැර දමා නිර්ධන පංතියේ ස්ථාවරය යටතට යෙති.'' ඉතිහාසීය කෘති ගණනාවක් (ග්‍රන්ථාවලිය බලන්න) මගින්, ද්‍රව්‍යවාදී ඉතිහාස ග්‍රන්ථනය පිළිබඳව, එක් එක් තනි පංතියක සහ සමහර විට පංතියක් තුළ වන විවිධ කණ්ඩායම්වල හා ස්ථරවල තත්වය විග්‍රහ කිරීම පිළිබඳව, දීප්තිමත් හා ගැඹුරු නිදර්ශනයන් දුන් මාක්ස්, ''සෑම පංති අරගලයක්ම දේශපාලන අරගලයක්'' වන්නේ මන්ද හා කෙසේද යන්න පැහැදිලි කළේය. ඇතිවන ඓතිහාසික සංවර්ධනය නිර්ණය කිරීම සඳහා, සමාජ සම්බන්ධකම්ද, එක පංතියකින් තවත් පංතියකට හා අතීතයෙන් අනාගතයට මාරුවීමේ සංක්‍රමණීය අවධිද පිළිබඳ කෙබඳුනම් සංකීර්ණ ජාලකයක් මාක්ස් විසින් විග්‍රහ කරන ලදදැයි පෙන්වන හොඳ නිදර්ශනයකි, ඉහත උපුටා දැක්වූ කොටස.



මාක්ස්ගේ න්‍යාය ඉතාමත් බරපතල ලෙස, අංග සම්පූර්ණ ලෙස හා විස්තරාත්මක ලෙස සනාථ කිරීම හා ව්‍යවහාරයට නැගීම නියෝජනය වන්නේ ඔහුගේ ආර්ථික ධර්මයෙනි.

## මාක්ස්ගේ ආර්ථික ධර්මය

''නූතන සමාජයේ'', එනම්, ධනපති ක්‍රමයේ නැතහොත්, ධනපති පංති සමාජයේ ''චලනයෙහි ආර්ථික නියාමයන් හෙළිදරව් කිරීම මෙම ග්‍රන්ථය කිරීමේ මූලික අරමුණ ය'' යි මාක්ස් ''ප්‍රාග්ධනය'' කෘතියෙහි පෙරවදනෙන් කියයි. නියමිත, ඓතිහාසික වශයෙන් නිශ්චිත සමාජයක නිෂ්පාදනීය බලවේගයන් ගැන, ඒවායේ උද්ගතිය, සංවර්ධනය හා අවනතිය අනුව විමර්ශනයක් කිරීම — මාක්ස්ගේ ආර්ථික ධර්මයේ සන්ධාරය එයයි. ධනපති සමාජයේ වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය මුල් තැන ගනියි. එනිසා මාක්ස්ගේ විග්‍රහය වෙළෙඳ භාණ්ඩ ගැන වූ විග්‍රහයකින් ඇරඹී ඇත.

### වටිනාකම

වෙළෙඳ භාණ්ඩය යනු, ප්‍රථමයෙන්ම, මිනිස් උවමනාවන් තෘප්තියට පත් කරන්නකි. දෙවැනිව, එය වෙනත් යමකට හුවමාරු කළ හැකි දෙයකි. යම් දෙයක උපයෝගිතාවය එය භාවිත-වටිනාකමක් බවට පත් කරයි. හුවමාරු-වටිනාකම (නැතහොත්, හුදෙක්ම වටිනාකම) යනු, ප්‍රථම කොටම, එක් වර්ගයක භාවිත-වටිනාකම් එක්තරා සංඛ්‍යාවක්, තවත් වර්ගයක භාවිත-වටිනාකම් කිසියම් සංඛ්‍යාවක් සමග හුවමාරු කළ හැකි වන අනුපාතයය, නැතහොත්, සමානුපාතය ය. කෝටි ප්‍රකෝටි ගණන් හුවමාරු කිරීම් විසින්, සෑම වර්ගයකම භාවිත-වටිනාකම්, ඉතාමත් විවිධාකාර හා නොසැසඳිය හැකි ඒවා පවා නිරන්තරවම සමාන කරනු ලබන බව දිනපතා අත් දැකීමෙන් පෙනේ. මෙම විවිධ දේවල් අතර, එනම් සමාජ සම්බන්ධකම්වල නිශ්චිත ක්‍රමයක් තුළ එකිනෙක සමග නිරන්තරව සමාන කෙරෙන දේවල් අතර තිබෙන පොදු දෙය කුමක්ද? ඒවායේ පොදු අංග ලක්ෂණය වන්නේ, ඒවා ශ්‍රමයේ නිෂ්පාදනයන් වීමය. නිෂ්පාදිතයන් හුවමාරු කිරීමේදී, ජනයා ඉතාමත් විවිධ වර්ගයේ වූ ශ්‍රමය සමාන කරති. වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය සමාජ සම්බන්ධකම් ක්‍රමයකි. එහිදී එක්

එක් නිෂ්පාදකයෝ නෝකාකාර නිෂ්පාදිතයන් (සමාජමය ශ්‍රම විභජනය) නිපදවති. එසේම මෙම නිෂ්පාදිතයන් සියල්ලම හුවමාරු ක්‍රියාදමයේදී සමාන කරනු ලැබේ. ඒ අනුව වෙළෙඳ භාණ්ඩ සියල්ලෙහිම අන්තර්ගත පොදු දෙය වන්නේ නිශ්චිත නිෂ්පාදන අංශයක වන නියත ශ්‍රමය නොව එක් විශේෂ වර්ගයක ශ්‍රමය නොව, වියුක්ත මිනිස් ශ්‍රමයයි, නැතහොත්, සාමාන්‍ය ස්වභාවයේ මිනිස් ශ්‍රමය යි. නිශ්චිත සමාජයක සියළුම වෙළෙඳ භාණ්ඩවල වටිනාකම් එකතු සමස්තයෙන් නියෝජනය වන මුළු ශ්‍රම ශක්තියම එකම හා අනන්‍ය මිනිස් ශ්‍රම ශක්තියයි: සිය කෝටි ගණන් වූ හුවමාරු ක්‍රියා වලින් මෙය ඔප්පු වේ. ඒ අනුව සෑම විශේෂ වෙළෙඳ භාණ්ඩයකින් නියෝජනය වන්නේ සමාජමය වශයෙන් අවශ්‍ය ශ්‍රම කාලයෙන් කොටසක් පමණකි. වටිනා කමෙහි තරම නිර්ණය කෙරෙන්නේ සමාජමය වශයෙන් අවශ්‍ය ශ්‍රම ප්‍රමාණය අනුවය, නැතහොත්, නිශ්චිත වෙළෙඳ භාණ්ඩයක්, නිශ්චිත භාවිත-වටිනාකමක් නිෂ්පාදනය කිරීම සඳහා සමාජමය වශයෙන් අවශ්‍ය ශ්‍රම කාලය අනුවය. "හුවමාරු කිරීමක් මගින්, අප, අපගේ විවිධ භාණ්ඩ, වටිනාකම් සැටියෙන් සමාන කරන කිසියම් හෝ විටෙක, හුදෙක් එම ක්‍රියාවෙන්ම, අප කරන්නේ, එම භාණ්ඩ විෂයෙහි වැය කරන ලද විවිධ වර්ගයේ ශ්‍රමය ද මිනිස් ශ්‍රමය සැටියෙන් සමානකිරීමකි. අපට මේ ගැන දැනුමක් නොමැත. එහෙත් අපි එය කරන්නෙමු"[31] වටිනාකම යනු පුද්ගලයන් දෙදෙනෙකු අතර සම්බන්ධකමකි යි ඉහත අර්ථ ශාස්ත්‍රඥයෙක් කීවේය. එය ද්‍රව්‍යමය දවටනයක් යට සැඟවුනු සම්බන්ධයකි යි යන්නද, ඔහු එයට එකතු කළේ නම් එය නිවැරදිය. වටිනාකම යනු කුමක්දැයි අපට වටහා ගත හැකි වන්නේ, නියමිත වර්ගයේ ඓතිහාසික සමාජයක වන, එපමණක් නොව, හුවමාරුව පිළිබඳ විශාල ප්‍රමාණ ප්‍රපංචය මගින්, දහස් සංඛ්‍යාත වාරයෙන් පුනරාගමනය වන එම ප්‍රපංචය මගින් දෘශ්‍යමාන වන, සමාජමය නිෂ්පාදන සම්බන්ධකම් ක්‍රමයේ ස්ථාවරයෙන් අප එය සැලකිල්ලට ගත් විට පමණකි. "වටිනාකම් ලෙසට ගත් කල, සියළුම වෙළෙඳ භාණ්ඩ, කැටිවුනු ස්වභාවයෙන් පවතින නිශ්චිත ශ්‍රම කාල ස්කන්ධයක් පමණකි."[32] වෙළෙඳ භාණ්ඩවල අන්තර්ගත ශ්‍රමයේ දෙ ආකාර ස්වභාවය ගැන විස්තරාත්මක විග්‍රහයක් කිරීමෙන් පසුව, මාක්ස් වටිනාකම් ආකෘතිය හා මුදල් විග්‍රහ කිරීමෙහි යෙදෙයි. මෙහිදී මාක්ස්ගේ ප්‍රධාන කර්තව්‍යය වන්නේ මුදල් ආකෘතිමය වටිනාකමෙහි සම්භවය අධ්‍යයනය කිරීමය; තනි හා ආනුෂංගික හුවමාරු ක්‍රියාවන්ගෙන් (එක් වෙළෙඳ භාණ්ඩයකින් නියමිත සංඛ්‍යාවක් තවත් එකක නියමිත සංඛ්‍යාවකට හුවමාරු කෙරෙන "සරල හෝ අහඹු වටිනාකම් ආකෘතියෙන්") ආරම්භ වී, විවිධාකාර වෙළෙඳ භාණ්ඩ රාශියක් එකම හා අනන්‍ය විශේෂ වෙළෙඳ භාණ්ඩයකට හුවමාරු කෙරෙන විශ්වීය වටිනාකම්



ආකෘතිය වෙත එළඹෙමින්, රත්රන් එම විශේෂ වෙළෙඳ භාණ්ඩය, නැතහොත්, එම විශ්වීය සමකය බවට පත්වන මුදල් ආකෘතිමය වටිනාකමෙන් කෙළවර වන, හුවමාරුවේ සංවර්ධනයෙහි ඓතිහාසික ක්‍රියාදමය අධ්‍යයනය කිරීමය. හුවමාරුවේ සහ වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනයෙහි, උසස්තම නිෂ්පාදිතය වන මුදල, සියළුම තනි පුද්ගල ශ්‍රමයේ සමාජමය ස්වභාවයට, නැතහොත්, වෙළෙඳ පොළ විසින් එක්සත් කරනු ලබන තනි පුද්ගල නිෂ්පාදකයන් අතර වන සම්බන්ධයට, වෙස් මුහුණක් පලන්දයි — එය වසංකරයි. මාක්ස් මුදලෙහි විවිධ කාර්යයන් ඉතාමත් විස්තරාත්මක ලෙස විග්‍රහ කරයි. මෙහිදී (පොදු වශයෙන් "ප්‍රාග්ධනය" කෘතියෙහි මුල් පරිච්ඡේද වල මෙන්) වියුක්ත සහ සමහර විට හුදෙක්ම නිගාමී පැහැදිලි කිරීම් ක්‍රමයක් සේ පෙනෙන දෙය, ඇත්ත වශයෙන්ම, හුවමාරුවේ සහ වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනයේ සංවර්ධන ඉතිහාසය සම්බන්ධයෙන් වූ යෝධ කරුණු සමුච්චයක් ගැන කරන විස්තරයක් වන බව සටහන් කර ගැනීම වැදගත් ය. "අපි මුදල ගැන සැලකිල්ලට ගන්නෙමු නම්, එහි පැවැත්මෙන්ම, වෙළෙඳ භාණ්ඩ හුවමාරුව එක්තරා නිශ්චිත අවධියකට පත්ව ඇති බව අදහස් වේ. හුදු වෙළෙඳ භාණ්ඩයක විශයෙන් හෝ, සංසරන මාධ්‍යයක් වශයෙන් හෝ, ගෙවීම් මාධ්‍යයක්ද, රාශිගත වීමක්ද වශයෙන් හෝ, එසේ නැතහොත්, විශ්වීය මුදල වශයෙන් හෝ, විවිධ ආකෘති ගනිමින් මුදල ඉටු කරන, එහි විශේෂ කාර්යයන් විසින්, ඒ එක් හෝ තවත් කාර්යයක ප්‍රමාණය හා සාපේක්ෂ වැඩි භාවිතය අනුව, සමාජමය නිෂ්පාදනයේ ඉතාමත් විවිධ අවධි පෙන්නුම් කෙරේ." ("ප්‍රාග්ධනය" 1 වැනි වෙළුම)[33]

## අතිරික්ත වටිනාකම

වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනයේ සංවර්ධනයෙහි එක්තරා අවධියකදී මුදල ප්‍රාග්ධනය බවට පරිවර්තනය වෙයි. වෙළෙඳ භාණ්ඩ සංසරන සූත්‍රය වූයේ භා — මු — භා (භාණ්ඩය — මුදල — භාණ්ඩය) ය. එහි අර්ථය, එක වෙළඳ භාණ්ඩයක් විකුණන්නේ වෙනත් එකක් මිළට ගැනීම සඳහාය යන්නය. නමුත් ඊට ප්‍රතිකූල වශයෙන් ප්‍රාග්ධන සූත්‍රය වන්නේ මු — භා — මු ය. එහි අර්ථය, (ලාභයක් ඇතිව) විකිණීම සඳහා මිළට ගන්නා බවය. මුදලෙහි වටිනාකම, සංසරනයට යොදන ලද මුල් වටිනාකම ඉක්මවා වැඩි වීම මාක්ස් විසින් හඳුන්වනු ලබන්නේ අතිරික්ත වටිනාකම යනුවෙනි. ධනපති සංසරනයේදී මුදලේ මෙම "වර්ධනය" පිළිබඳ කරුණු කවුරුත් දනිති. මුදල, විශේෂ හා ඓතිහාසික වශයෙන් නිර්ණය වූ සමාජමය නිෂ්පා-

දන සම්බන්ධතාවයක් වන ප්‍රාග්ධනය බවට පත්වන සේ, පරිවර්තනය කරන්නේ, ඇත්ත වශයෙන්ම, මෙම ''වර්ධනය''ය. භාණ්ඩ සංසරනයෙන් අතිරික්ත වටිනාකම උද්ගත විය නොහැකිය. එය දන්නේ සමකයන් හුවමාරු කිරීම පමණකි. මිළ වැඩි වීම මගින්ද අතිරික්ත වටිනාකම උද්ගත විය නොහැක. ඒ, මිළට ගන්නන්ගේ හා අළෙවි කරන්නන්ගේ අන්‍යොන්‍ය ලාභ හා අලාභ, එකකට අනික සමාන වනු ඇති හෙයිනි. ඒ අතර මෙහි අප හමුවේ ඇත්තේ තනි වූ ප්‍රපංචයක් නොව, විශාල ප්‍රමාණ, සාමාන්‍ය හා සමාජමය ප්‍රපංචයකි. අතිරික්ත වටිනාකම ලබා ගැනීම පිණිස, ''මුදල අයිති කරුවා කළ යුත්තකි, ස්වකීය භාවිත වටිනාකම ම, වටිනාකම් උල්පතක් වීමේ අමුතු ගුණය ද සහිත වන වෙළෙඳ භාණ්ඩයක් සොයාගැනීම,''[34] නැතහොත්, තමන් පාරිභෝජනය කරනු ලැබීමේ ක්‍රියාදමයම, ඒ හා එක් වරම, වටිනාකම් උත්පාද වීමේ ක්‍රියාදමයක් ද වන වෙළෙඳ භාණ්ඩයක් වෙළෙඳ පොළෙන් සොයා ගැනීම. එවැනි වෙළෙඳ භාණ්ඩයක් ඇත. ඒ මිනිස් ශ්‍රම ශක්තිය ය.එය පාරිභෝජනය කිරීම ශ්‍රමය යි. එය වටිනාකම් උත්පාද කරයි. මුදල් අයිති කරු ශ්‍රම ශක්තිය එහි වටිනා කමට, මිළට, ගනියි. එහි වටිනා කම නිර්ණය වන්නේ අන් සැම වෙළෙඳ භාණ්ඩයක වටිනා කම මෙන්ම, එය නිෂ්පාදනය කිරීමට (එනම්, කම්කරුවා හා ඔහුගේ පවුල නඩත්තු කිරීමට) උවමනා කරන සමාජමය වශයෙන් අවශ්‍ය ශ්‍රම කාලය අනුවය. මුදල් හිමියා ශ්‍රම ශක්තිය මිළට ගත් නිසා එය උපයෝජනයේ අයිතිවාසිකම ඔහුට ඇත. එහි අර්ථය නම්, එය මුළු දවසෙහිම — නිදර්ශනයක් වශයෙන් පැය දොළහක් කියමු — වැඩට යෙදීමේ අයිතිය ඔහුට තිබෙන බවයි. එහෙත් පැය හයක් (''අවශ්‍ය'' ශ්‍රම කාලය) ඇතුළත කම්කරුවා ඔහුගේ නඩත්තුවෙහි වියදම පියවීමට සෑහෙන තරම් නිෂ්පාදිත නිමවයි.ඊළඟ පැය හය (''අතිරික්ත'' ශ්‍රමකාලය) ඇතුළත ඔහු ''අතිරික්ත'' නිෂ්පාදිත, නැතහොත් අතිරික්ත වටිනාකම නිමවයි. ඒ සඳහා ධනපතියා ගෙවීමක් කරන්නේ නැත. එනිසා, නිෂ්පාදන ක්‍රියාදමයේ ස්ථාවරය අනුව බලන කල ප්‍රාග්ධනයෙහි වන කොටස් දෙකක් හඳුනාගත යුතුය: ස්ථාවර ප්‍රාග්ධනය ඉන් එකකි. එය නිෂ්පාදන මාධ්‍යයන් (යන්ත්‍ර, උපකරණ, අමුද්‍රව්‍ය ආදිය) සඳහා වියදම් කෙරෙන අතර එහි වටිනාකම (එක එල්ලේම හෝ කොටස් වශයෙන්) කිසිම වෙනස් වීමක් නොමැතිවම නිමි නිෂ්පාදිතයට මාරු වන්නේය. දෙවැන්න විචල්‍ය ප්‍රාග්ධනය ය. එය ශ්‍රම ශක්තිය සඳහා වැය කෙරෙන්නේය. මෙම පසු කී ප්‍රාග්ධනයේ වටිනාකම අවිචල්‍ය නොවේ. නමුත් එය ශ්‍රම ක්‍රියාදමයේ දී අතිරික්ත වටිනාකම උත්පාද කරමින් වර්ධනය වන්නේය. එනිසා, ප්‍රාග්ධනය ශ්‍රමය සූරා කන ප්‍රමාණය ප්‍රකාශ කිරීම සඳහා අතිරික්ත වටිනාකම සංසන්දනය කළ යුත්තේ මුළු ප්‍රාග්ධනයම සමග නොව, විචල්‍ය ප්‍රාග්ධනය පමණක් සමගය. ඒ අනුව සඳහන් කරන



ලද නිදර්ශනය අනුව, මෙම අනුපාතය, එනම් මාක්ස් එය හඳුන්වන ලෙසට, අතිරික්ත වටිනාකම් අනුපාතිකය 6:6 කි, නැතහොත් සියයට 100 කි.

ප්‍රාග්ධනය උද්ගත වීම සඳහා ඉටුවිය යුතු ඓතිහාසික පූර්වාවශ්‍යතාවයන් දෙකක් ඇත. ප්‍රථමයෙන්, පොදු වශයෙන් වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනයේ සංසන්දනීය වශයෙන් උසස් සංවර්ධන මට්ටමක් පවතින තත්වයන් යටතේ තනි පුද්ගලයන් අතෙහි කිසියම් මුදල් සමුච්ඡයන් එකතු වීමය. දෙවැන්න, ද්විත්ව අර්ථයකින් ''නිදහස්'' කම්කරුවන් සිටීමය. ඔවුන් ස්වකීය ශ්‍රම ශක්තිය විකිණීමේදී සියළු බාධකයන්ගෙන් හා සීමා කිරීම්වලින් නිදහස්වද, ඉඩම් වලින් සහ පොදු වශයෙන් නිෂ්පාදන මාධ්‍යයන් සියල්ලෙන්ම නිදහස්වද සිටිය යුතු අතර, නිදහස් හා නොබැඳුනු ශ්‍රමිකයන්ව, තමන්ගේ ශ්‍රම ශක්තිය විකිණීමෙන් හැර වෙනත් ආකාරයකින් ජීවත්වීමට නො හැකිව සිටින ''නිර්ධනයන්'' විය යුතුය.

අතිරික්ත වටිනාකම වැඩි කිරීමේ ප්‍රධාන මාර්ග දෙකක් ඇත. ඒවා නම්, වැඩ දිනය දීර්ඝ කිරීම (''නිරපේක්ෂ අතිරික්ත වටිනාකම'') සහ අවශ්‍ය වැඩ දිනය කෙටි කිරීම (''සංසන්දනීය අතිරික්ත වටිනාකම) ය. මින් ප්‍රථම මාර්ගය විස්තර කරන මාක්ස්, කෙටි වැඩ දිනක් සඳහා කම්කරු පංතිය ගෙනගිය අරගලය ගැනද, වැඩ දිනය දීර්ඝ කිරීම සඳහාත් (දහහතරවැනි ශත වර්ෂයේ සිට දහහත්වැනි ශත වර්ෂය දක්වා), එය කෙටි කිරීම සඳහාත් (දහනව වැනි ශත වර්ෂයේ පැක්ටරි නීති) රාජ්‍ය අධිකාරයේ මැදිහත් වීම ගැනද, ඉතාමත් සිත් ගන්නා පින්තූරයක් ඉදිරිපත් කරයි. ''ප්‍රාග්ධනය'' ග්‍රන්ථය පළවීමෙන් පසුව, මෙම පින්තූරය විකාශ කිරීමක් ලෙසින් සියළු ශිලාචාර රටවල කම්කරු පංති ඉතිහාසය නව කරුණු රාශියක් සපයා ඇත.

සාපේක්ෂ අතිරික්ත වටිනාකම නිපදවීම ගැන විග්‍රහයක යෙදෙන මාක්ස්, ශ්‍රම ඵලදායකත්වය වැඩි කරන ධනපති ක්‍රමයේ මූලික අවධි තුන විමර්ශනයට භාජනය කරයි. එම අවධි තුන (1) සරල සහයෝගිතාවය, (2) ශ්‍රම විභජනය සහ භාණ්ඩ තැනීමේ කර්මාන්තය, හා (3) යන්ත්‍ර සහ මහා පරිමාණ කර්මාන්තය ය. මෙහිදී, මාක්ස්, ධනපති ක්‍රමයේ සංවර්ධනයේ මූලික හා නියම අංග ලක්ෂණ කොතරම් සාරගර්භ ලෙස අනාවරණය කළේද යන්න, රුසියාවේ ''හස්ත කාර්මික'' කර්මාන්තය ගැන පරීක්ෂණය මගින් සම්පාදනය කෙරෙන, මෙහි සඳහන් ප්‍රථම දෙ අවධිය ගැන නිදර්ශනාත්මක වූ කරුණු රාශියෙන්ම පෙනේ. මාක්ස් 1867 දී විස්තර කළ ලෙසට වූ, මහා පරිමාණ යාන්ත්‍රික කර්මාන්තයේ විප්ලවකාරී ප්‍රතිඵලය, ඉන්පසුව ගෙවී ගිය අර්ධ ශත වර්ෂයේදී ''අළුත්'' රටවල් ගණනාවකම (රුසියාව, ජපානය, ආදියෙහි) විද්‍යාමානව තිබේ.

එපමණක් නොවේ, ප්‍රාග්ධන සංචයනය ගැන, එනම්, අතිරික්ත වටිනාකමෙන් කොටසක් ප්‍රාග්ධනය බවට පරිවර්තනය කිරීම හා එය ධනපතියාගේ පෞද්ගලික උවමනාවන් හෝ සිතැඟි හෝ තෘප්තිමත් කිරීමට නොව, නව නිෂ්පාදනය සඳහා උපයෝජනය කිරීම ගැන මාක්ස් කළේ නවතම හා අතිශයින්ම වැදගත් විග්‍රහයකි. ප්‍රාග්ධනය බවට පරිවර්තනය කෙරෙන මුළු අතිරික්ත වටිනාකමම විචල්‍ය ප්‍රාග්ධනය සකස් වීමට යෙදෙන්නේය යි විශ්වාස කළ (ඇඩැම් ස්මිත්ගේ පටන්) සියළුම ඉහත පිළිගත් දේශපාලන අර්ථ ශාස්ත්‍රඥයන්ගේ වරද මාක්ස් විසින් හෙළිදරව් කරන ලදී. ඇත්ත වශයෙන්ම එය නිෂ්පාදන මාධ්‍ය හා විචල්‍ය ප්‍රාග්ධනය ලෙසට බෙදී යන්නේය. (මුළු ප්‍රාග්ධනයෙන්) විචල්‍ය ප්‍රාග්ධන කොටසට වඩා සීඝ්‍ර ලෙස ස්ථාවර ප්‍රාග්ධන කොටස වර්ධනය වීම, ධනපති ක්‍රමයේ සංවර්ධන ක්‍රියාදාමයත්, එය සමාජවාදයට පරිවර්තනය වීමත් සඳහා ඉමහත් සේ වැදගත් වේ.

යන්ත්‍ර මගින් කම්කරුවන් යටපත් කිරීම සීඝ්‍ර කිරීමෙන්ද, එක කෙළවරක වන සම්පත් හා අනිත් කෙළවරෙහි දුප්පත් කම ඇති කිරීමෙන්ද, ප්‍රාග්ධන සංචයනය විසින් ''අතිරේක ශ්‍රම හමුදුව'' යන්න, නැතහොත් ''සාපේක්ෂ'' කම්කරු ''අතිරික්තය'', එසේත් නැතහොත් ''ධනපති අධි ජනගහනය'' උද්ගත වීමට සලස්වනු ලැබේ. එය ඉතාමත් විවිධ ආකාරයෙන් ඇතිවන අතර නිෂ්පාදනය ඉතා සීඝ්‍රයෙන් ව්‍යාප්ත කිරීම පිණිස ප්‍රාග්ධනයට හැකියාව ලබා දෙන්නක්ද වේ. ණය පහසුකම් හා නිෂ්පාදන මාධ්‍යයන් ආකාරයෙන් වන ප්‍රාග්ධන සංචයනය සමග ගත් කල මෙය, අධි නිෂ්පාදන අර්බුද ගැන වටහා ගැනීමට යතුරක් හා සමාන වන බව මෙහිලා සඳහන් කළ යුතුය. එම අර්බුද වාරික ලෙස, ප්‍රථමයෙන් සාමාන්‍යයෙන් සෑම දශ වර්ෂයකට වරක්ද, කල්යාමේදී, ඊට වඩා දීර්ඝ හා වඩාත් අවිනිශ්චිත කාලාන්තර අනුවද, ඇති වේ. ධනපති ක්‍රමය යටතේ සිදුවන ප්‍රාග්ධන සංචයනයෙන් වෙන් කොට, අපි ආදි කාලීන සංචයනය යන්න හැඳින ගත යුත්තෙමු. ආදී කාලීන සංචයනය සිදු වූයේ කම්කරුවා බලෙන්ම නිෂ්පාදන මාධ්‍යයන් ගෙන් වෙන් කිරීමෙන්ද, ගොවියා ඉඩමෙන් පලවා හැරීමෙන්ද, ප්‍රජා ඉඩම් කොල්ලකා ගැනීමෙන්ද, යටත් විජිත ක්‍රමය හා ජාතීන් ණය කර ගැනීමේ ක්‍රමයෙන්ද, ආරක්ෂණ බදු පැනවීමෙන්ද ආදියෙන් විය. ''ආදී කාලීන සංචයනය'' නිසා එක කෙළවරක ''නිදහස්'' නිර්ධන පංතිකයාත්, අනිත් කෙළවරෙහි මුදල් අයිතිකරු, නැතහොත්, ධනපතියාත් ඇති වේ.

''ධනපති සංචයනයේ ඓතිහාසික ප්‍රවණතාවය'' ගැන මාක්ස් විස්තර කරන්නේ පහත දැක්වෙන සම්භාවනීය වදන් වලිනි: ''නියම නිෂ්පාදකයන් අසන්තකත්වයට පත් කිරීම ඉටු කෙරෙන්නේ දයානුකම්පා විරහිත විනාශයක් මගින් හා ඉතාමත් අපකීර්තිමත්, ඉතාමත් අධම, ඉතාමත් පහත් හා ඉතාමත් නීච, නින්දිත රුචිකත්වයන්ගේ උත්තේජනය යටතේය. ස්වාධීන ශ්‍රමකාරී තනි පුද්ගලයා සහ ඔහුගේ ශ්‍රම උපකරන කෙරෙහි ශ්‍රම මාධ්‍යයන්ට අදාල කොන්දේසි විලීන වීම පදනම් කොට ගෙන ඇතැයි කිව හැකි (ගොවියාගේ හා හස්ත කාර්මිකයාගේ) ස්වයං කෘත පෞද්ගලික දේපල, නාමික වශයෙන් පමණක් නිදහස්, අන්‍ය ශ්‍රමය සූරාකෑම මත රඳනා ධනපති පෞද්ගලික දේපලට යටත් කෙරේ... දැන් අසන්තක භාවයට පත් කිරීමට ඇත්තේ තමන් සඳහාම වැඩ කරන ශ්‍රමකරුවා නොව, ශ්‍රම කරුවන් රැසක් සූරා කන ධනපතියා ය. ධනපති ක්‍රමයේ නිෂ්පාදනයේම අන්තරස්ත නියාමයන්ගේ ක්‍රියාකාරිත්වය විසින්, ප්‍රාග්ධන සංකේන්ද්‍රණය තුළින්, මෙම අසන්තක කිරීම ඉටු කෙරේ. එක ධනපතියෙක් විසින් නිතරම ඔවුන් බොහෝ දෙනෙක් නසනු ලැබේ. මෙම සංකේන්ද්‍රණය, නැතහොත් ධනපතියන් කීප දෙනෙක් විසින් ඔවුන් බොහෝ දෙනෙක් අසන්තක භාවයට පත් කිරීම සමග අතිනත් ගෙන, සහයෝග්‍යතා ආකාරයේ ශ්‍රම ක්‍රියාදාමයද, විඥාත ලෙසට විද්‍යාවේ තාක්ෂණික උපයෝජනයද, ක්‍රමානුකූල ලෙස බිම වගා කිරීමද, ශ්‍රම මාධ්‍යයන් පොදු භාවිතයට පමණක් සුදුසු වන ශ්‍රම මාධ්‍යයන් බවට පරිවර්තනය කිරීමද, නිෂ්පාදන මාධ්‍යයන් ඒකාබද්ධ සමාජ-ශ්‍රමයේ නිෂ්පාදන මාධ්‍යයන් වශයෙන් උපයෝගි කර ගැනීමෙන් ඒ සියල්ලම පිළිබඳ අර පිරිමැස්මද, සියළුම ජනතාවන් ලෝක වෙළඳ පොළේ දැලට පටලැවීමද, ඒ සමගම, ධනපති රාජ්‍යයේ ජාත්‍යන්තර ස්වභාවයද, සද ව්‍යාපී පරිමාණයෙන් සංවර්ධනය වෙයි. මෙම පරිවර්තනයේ වාසි ප්‍රයෝජන පැහැර ගන්නා හා තනිවම හිමි කර ගන්නා ප්‍රාග්ධන කුවේරයින්ගේ සංඛ්‍යාව නිරන්තරව අඩුවීයාම සමග සමගාමීව, දුක්ඛිත භාවයේ, පීඩනයේ, වහල් භාවයේ, පිරිහීමේ සහ සූරා කෑමේ සමුදය වර්ධනය වෙයි. නමුත් ඒ අතරම ධනපති සංවර්ධනයේ ක්‍රියාදාමයේ ඒ ක්‍රමයම නියාම, නිතරම සංඛ්‍යාවෙන් වැඩි වන හා විනය සම්පන්න වන, එක්සත් හා සංවිධානය වූ පංතියක් වන, කම්කරු පංතියේ කැරැල්ලද වර්ධනය වේ. නිෂ්පාදන ක්‍රමය සමග හා එය යටතේ දියුණුවෙන් දියුණුවට පත් ප්‍රාග්ධනයේ ඒකාධිකාරය එම නිෂ්පාදන ක්‍රමය බැඳලන විලංගුවක් බවට පත් වන්නේය. අවසානයේදී නිෂ්පාදන මාධ්‍යයන්ගේ සංකේන්ද්‍රණයත්, ශ්‍රමය සමාජමය වීමත් ධනපති පිට පොත්ත සමග අසංගත වන ලක්ෂ්‍යයකට එළඹේ. මෙම පොත්ත පුපුරා දෙපළු වන්නේය. ධනපති පෞද්ගලික දේපලට අවමඟුල් බෙර හැඬවේ. අසන්තක කරන්නන්ම අසන්තක කරනු ලැබේ.'' (''ප්‍රාග්ධනය'', 1 වෙළුම)[35]

සමාහාර සමාජමය ප්‍රාග්ධනය ප්‍රතිජනනය ගැන, ''ප්‍රාග්ධනය'' ග්‍රන්ථයේ දෙවැනි වෙළුමෙන් මාක්ස් ඉදිරිපත් කරන විග්‍රහය ද, නවතම

හා වැදගත් වන්නේය. මෙහිද මාක්ස් විමර්ශනයට ලක් කරන්නේ, තනි ප්‍රපංචයක් නොව, විශාල ප්‍රමාණ ප්‍රපංචයකි, සමාජ ආර්ථිකයේ සුළු කොටසක් නොව එම ආර්ථිකය ගැන සමස්තයක් වශයෙනි. කලින් පිළිගත් අර්ථ ශාස්ත්‍රඥයන්ගේ ඉහත සඳහන් වරද නිවරද කරමින්, මාක්ස් සමස්ත සමාජ නිෂ්පාදනයම කොටස් දෙකකට, 1) නිෂ්පාදන මාධ්‍යයන් නිපදවීම සහ 2) පාරිභෝජන භාණ්ඩ නිෂ්පාදනය යන දෙ කොටසට බෙදයි. අනතුරුව ඔහු සමාහාර සමාජ ප්‍රාග්ධනය පැවති ප්‍රමාණයෙන්ම ප්‍රතිජනනය වීමේ ද, එය සංචයනය වීමේද යන දෙ අවස්ථාවම යටතේ, එහි සංසරණය ගැන ඔහු විසින් ගත් සංඛ්‍යා නිදර්ශන ආධාරයෙන් විමර්ශනය කරයි. ‘‘ප්‍රාග්ධනය’’ ග්‍රන්ථයේ තුන් වැනි කොටසෙන්, සාමාන්‍ය ලාභ අනුපාතය සැදෙන්නේ කෙසේද යන ගැටළුව, වටිනාකම පිළිබඳ නියාමය අනුව නිරාකරණය කෙරෙයි. මාක්ස් නැමති පුද්ගලයා මගින් ආර්ථික විද්‍යාව තබා ඇති දැවැන්ත ඉදිරිපියවර සංයුක්ත වන්නේ, තනි පුද්ගල අවස්ථාවන්ගේ හෝ තරඟයේ බාහිර සහ මතුපිට ප්‍රපංචයන්ගේ හෝ ස්ථාවරය බොහෝවිට නො ඉක්මවන පහත් දේශපාලන අර්ථශාස්ත්‍රය හා නවීන ‘‘ආන්තික උපයෝගිතා න්‍යාය’’[36] මෙන් ආර්ථික විග්‍රහය කිරීමේදී, එම ස්ථාවරය අනුව නොගොස් සමස්තයක් වශයෙන් මුළු සමාජ ආර්ථිකයේම විශාල ප්‍රමාණ ආර්ථික ප්‍රපංචයන්ගේ ස්ථාවරය අනුව එම විග්‍රහය කර තිබීමෙනි. මාක්ස් ප්‍රථමයෙන්ම අතිරික්ත වටිනාකමෙහි මූල විග්‍රහ කරයි. අනතුරුව එය ලාභය, පොළිය හා බිම් කුලිය ලෙසට බෙදී යාම ගැන සලකා බලයි. ලාභය යනු අතිරික්ත වටිනාකම සහ ව්‍යවසායයක ආයෝජිත මුළු ප්‍රාග්ධනය යන දෙක අතර අනුපාතයයි. ‘‘උසස් ඓන්ද්‍රිය සංයුතියක්’’ (එනම්, සමාජයේ පවත්නා සාමාන්‍ය තත්වය ඉක්මවා විචල්‍ය ප්‍රාග්ධනයට වඩා ස්ථාවර ප්‍රාග්ධනය වැඩි වීම) ඇති ප්‍රාග්ධනයෙන් ලැබෙන්නේ සාමාන්‍ය ප්‍රමාණයට අඩු ලාභ අනුපාතයකුත්, ධනපතියන් අතර තරඟයත්, ඔවුන්ගේ ප්‍රාග්ධනය එක් අංශයකින් තවත් අංශයට නිදහස් ලෙස මාරු කිරීමත්, වන නිසා, එම අවස්ථා දෙකෙහිදීම ලාභ අනුපාතය සාමාන්‍ය ප්‍රමාණය දක්වා අඩු කෙරේ. නියමිත සමාජයක සියළුම වෙළෙඳ භාණ්ඩවල වටිනාකම් එකතු සමස්තය, වෙළෙඳ භාණ්ඩවල මිළ එකතු සමස්තය සමග සම්පාත වේ. නමුත් තරඟයේ ප්‍රතිඵලයක් වශයෙන් එක් එක් ව්‍යවසායයන්හි හා නිෂ්පාදන අංශවල වෙළෙඳ භාණ්ඩ විකුණනු ලබන්නේ ඒවායේ වටිනාකම අනුව නොව, ඒවා නිෂ්පාදනය කිරීමේ මිළ (නැතහොත්, නිෂ්පාදන මිළ) අනුවය. එම නිෂ්පාදනය කිරීමේ මිළ, වැය කළ ප්‍රාග්ධනය හා සාමාන්‍ය ලාභය යන දෙකෙහි ඓක්‍යයට සමානය.

මේ ආකාරයෙන්, වෙළෙඳ භාණ්ඩ සියල්ලෙහි වටිනාකම් එකතු සමස්තය සහ මිළ ගණන්වල එකතු සමස්තය සම්පාත වන නිසා, වටිනාකම් න්‍යාය පදනම කොට ගන්නා මාක්ස් විසින්, කවුරුත් දන්නා සහ ප්‍රතික්ෂේප කළ නොහැකි කරුණක් වන මිළ ගණන් හා වටිනාකම් අතර අපසාරිතාවයත්, මිළ ගණන්, සමානකරනය ගැනත් අංග සම්පූර්ණ ලෙස පැහැදිලි කරනු ලැබේ. එසේ වුවද (සමාජ) වටිනාකම් හා (තනි පුද්ගල) මිළ ගණන් සමාන කිරීම සරල වශයෙන් හෝ එක එල්ලේ සිදු නොවන්නකි. එය සිදු වන්නේ ඉතාමත් සංකීර්ණ ආකාරයකිනි. වෙළෙඳ පොළ මගින් පමණක් එක්සත් කෙරෙන, වෙන වෙනම කටයුතු කරන වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදකයන්ගේ සමාජයක නියාමානුකූලභාවය, සාමාන්‍ය ලෙස, සමාජමය ලෙස හා පොදු වේ පමණක් පළවීමත්, අන්‍යොන්‍ය වශයෙන් එකිනෙකෙහි හානි පූරණය වන සේ දෙපැත්තටම කෙරෙන අපගමනයන් සිදුවීමත් ඉතාමත් ස්වාභාවිකය.

ශ්‍රම ඵලදායකත්වයේ වැඩි වීමකින් අදහස් වන්නේ, විචල්‍ය ප්‍රාග්ධනය සමග සසඳන කල, ඊට වඩා සීඝ්‍ර ලෙස ස්ථාවර ප්‍රාග්ධනය වර්ධනය වී ඇති බවයි. අතිරික්ත වටිනාකම යනු විචල්‍ය ප්‍රාග්ධනය පමණක්ම ඉටු කරන කාරියකි. එනිසා ලාභ අනුපාතිකය (විචල්‍ය ප්‍රාග්ධනයට පමණක් නොව මුළු ප්‍රාග්ධනයටම අතිරික්ත වටිනාකම සැසඳෙන අනුපාතය) පහත වැටීමේ ප්‍රවණතාවයක් ඇති බව පැහැදිලිය. මාක්ස් මෙම ප්‍රවණතාවය ගැනත්, එය වසං කරන නැතහොත් ඊට බාධා කරන කරුණු ගණනාවක් ගැනත් විස්තරාත්මක විග්‍රහයක් කරයි. ‘‘ප්‍රාග්ධනය’තුන්වැනි වෙළුමේ, සඳහන් පොලීකාර ප්‍රාග්ධනය, වාණිජ ප්‍රාග්ධනය හා මූල්‍ය ප්‍රාග්ධනය ගැන වූ, ඉතාමත් උනන්දුව දනවන කොටස් ගැන කරුණු සැලකීමට ප්‍රමාද නොවී, එහි ඉතාමත් වැදගත් කොටස වන බිම් බදු කුලිය ගැන වූ න්‍යායය අන්තර්ගත කොටස වෙත අපි යා යුත්තෙමු. ඉඩම් වපසරිය සීමා සහිත හෙයින්ද, ධනපති රටවල ඉඩම් තවමත් තනි පුද්ගල පෞදගලික අයිතිකරුවන්ට හිමිව තිබෙන හෙයින්ද, කෘෂිකාර්මික නිෂ්පාදනයේ මිළ ගණන් නිර්ණය කෙරෙන්නේ සාමාන්‍ය සාරවත් කමෙන් යුත් පසෙහි නොව, ඉතාමත් අසාරවත් පසෙහි කෙරෙන නිෂ්පාදනය සඳහා යන වියදම් අනුවය; නිෂ්පාදිත ද්‍රව්‍ය වෙළෙඳ පොළට භාර දීම සඳහා පවතින සාමාන්‍ය තත්වය යටතේ නොව, නරකම තත්වයේ නිෂ්පාදනය සඳහා යන වියදම් අනුවය. මෙම නිෂ්පාදන මිළත්, වඩාත් සරු පසෙහි (නැතහොත් වඩාත් හොඳ තත්වයන් යටතේ) කෙරෙන නිෂ්පාදනයෙහි වියදමත් අතර වෙනසෙන් ආන්තර බදු කුලිය සැදේ. මෙය විස්තර සහිත ලෙස විග්‍රහ කරමින් හා එය විවිධ ඉඩම් කොටස්වල සාරවත් කමේ වෙනසත්, ඉඩමෙහි ආයෝජනය කරන ලද ප්‍රාග්ධනයෙහි වෙනසත් තුළින් උද්ගත වන ආකාරය පෙන්වා දෙමින්, මාක්ස්, වඩා හොඳ ඉඩම් වලින් වඩාත් නරක ඉඩම්වලට අනුගාමී ලෙස මාරු වීමක් පවතින විට පමණක් ආන්තර බදු කුලිය

ව්‍යුත්පන්න වන්නේය යනුවෙන් කී රිකාර්ඩෝ ගේ මතය වැරදි බව (රොද්බෙර්තුස් ගැන ඉතාමත් අගනා විවේචනයක් ඇතුළත්, ''අතිරික්ත වටිනාකම පිළිබඳ න්‍යාය''ද බලන්න) හෙළිදරව් කළේය. ඊට ප්‍රතිකූල වශයෙන් ප්‍රතිලෝම පරිවර්තනයන් සිදු වීමට ඉඩ ඇත. ඉඩම එක ප්‍රවර්ගයකින් තවත් ප්‍රවර්ගයකට (කෘෂිකාර්මික ශිල්ප දියුණුව, නගර වර්ධනය, ආදිය නිසා) මාරු විය හැක. එනිසා, ධනපති ක්‍රමයේ දුර්වලකම්, සීමිත කම් හා ප්‍රතිවිරෝධයන් ගැන වරද ස්වභාව ධර්මය පිට පටවන අපකීර්තිමත් ''එලහීන වීමේ න්‍යාය'' අත්‍යන්තයෙන්ම සාවද්‍යය. එපමණක් නොව, කර්මාන්තයේ සියළුම අංශවල හා ජාතික ආර්ථිකය මුළුල්ලේම ලාභ සමාන කරණය සඳහා තරඟ කිරීමේ සම්පූර්ණ නිදහසත්, එක අංශයකින් තවත් අංශයකට ප්‍රාග්ධනය නිදහස් ලෙස ගලා යාමේ අවකාශයත් තිබීම පූර්වාවශ්‍යතාවයක් වේ. එසේ වුවද, පුද්ගලික ඉඩම් හිමිකම එම නිදහස් ගලා යාමට බාධාකාරී ඒකාධිකාරයක් ඇති කරයි. පහළ මට්ටමේ පෙන්ද්‍රිය ප්‍රාග්ධන සංයුතියක් ඇති, එහි ප්‍රතිඵලයක් වශයෙන් වඩාත් උසස් තනි පුද්ගල ලාභ අනුපාතිතයක් පවතින කෘෂිකර්මාන්තයේ නිෂ්පාදිතයන්, එම ඒකාධිකාරය හේතුකොට ගෙන, ලාභ අනුපාතය සමානකරණයේ සම්පූර්ණ නිදහස් ක්‍රියාදමයට පිවිසෙන්නේ නැත. ඒකාධිකාර හිමියෙක් වශයෙන් මිළ සාමාන්‍ය ප්‍රමාණයට වඩා ඉහළින් තබා ගැනීමට ඉඩම් හිමියාට හැකිවේ. එනිසා මෙම ඒකාධිකාර මිළෙන් නිරපේක්ෂ බදු කුලිය උද්ගත වේ. ධනපති ක්‍රමය යටතේ ආන්තර බදු කුලිය ඉවත ලිය නොහැකිය — එහෙත් නිරපේක්ෂ බදු කුලිය ඉවත් කළ හැකිය. නිදර්ශනයක් වශයෙන් ඉඩම් ජනසතු කිරීමෙන්, එය රාජ්‍ය දේපල බවට පත් කිරීමෙන් එය කළ හැකිය. එයින් පෞද්ගලික ඉඩම් හිමියන්ගේ ඒකාධිකාරයට පහර වැදෙනු ඇත. එහි අර්ථය වන්නේ කෘෂිකර්මාන්තය තුළ තරඟ කිරීමේ නිදහස වඩාත් සසංගත ලෙස සහ පූර්ණ වශයෙන් ක්‍රියාත්මක වීමයි. මාක්ස් පෙන්වා දෙන ලෙසට, ඉතිහාස කාලය අතර තුර දී, ධනපති උන්නතිකාමීන් ඉඩම් ජනසතු කරන ලෙස නැවත නැවතත් ඉල්ලා ඇත්තේ එහෙයිනි. නමුත්, එම ඉල්ලීම, අද විශේෂයෙන්ම වැදගත් හා ''සංවේදී වන'', නිෂ්පාදන මාධ්‍යයන් සමස්තයම පිළිබඳ ඒකාධිකාරයට, ඉතාමත් සමීප ලෙස බලපාන හෙයින්, එය ධනපතියන් වැඩි දෙනෙක් බියට පත් කරන්නකි (ප්‍රාග්ධනය මත සාමාන්‍ය ලාභ හා නිරපේක්ෂ බිම් බදු කුලිය පිළිබඳවූ මාක්ස් ගේ න්‍යාය ගැන ඉතාමත් ජනප්‍රිය, සංක්ෂිප්ත හා පැහැදිලි විස්තරයක් ඔහු 1862 අගෝස්තු 2 දිනැතිව එංගල්ස්ට යැවූ ඔහුගේ ලිපියෙන් දී ඇත. (''ලිපි හුවමාරුව'' වෙළුම 3, පිටු 77-81 බලන්න, එහිම පිටු 87-88 හි 1862 අගෝස්තු 9 දින ලිපියද බලන්න). බදු කුලියෙහි ඉතිහාසය සම්බන්ධයෙන් වූ කල, බදු කුලී ශ්‍රමය (ගොවියා ඉඩම් හිමියාගේ ඉඩමෙහි



වැඩ කිරීමෙන් අතිරික්ත නිෂ්පාදනය නිපදවයි), නිෂ්පාදිතයෙන් නැතහොත් භාණ්ඩවලින් ගෙවන බදු කුලිය (ගොවියා ඔහුගේම ඉඩමෙහි අතිරික්ත නිෂ්පාදනය නිපදවා ''ආර්ථික නොවන බල කිරීම'' නිසා එය ඉඩම් හිමියාට දෙයි) බවටද, ඊළඟට එය මුදල්මය බදු කුලිය (වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය දියුණුවීමේ ප්‍රතිඵලයක් වශයෙන් කලින් භාණ්ඩවලින් ගෙවූ බද්ද මුදලට හැරවීම — පැරණි රුසියාවේ ඔබ්රොක්*) බවටද, අවසානයේදී ගොවියා වෙනුවට කුලී ශ්‍රමයේ ආධාරයෙන් බිම ගොවිතැන් කරන කෘෂිකාර්මික ව්‍යවසායිකයා ආදේශ වූ පසු එය ධනපති බදු කුලිය බවටද, පරිවර්තනය වූ ආකාරය පෙන්වන මාක්ස්ගේ විග්‍රහය සටහන් කර ගැනීම වැදගත්ය. ''ධනපති බිම් බදු කුලියේ මෙම උපත'' ගැන සලකා බලන, කෘෂිකර්මාන්තයේ ධනපති ක්‍රමය පරිණාම වීම ගැන මාක්ස් ප්‍රකාශ කර ඇති (රුසියාව වැනි නොදියුණු රටවලට විශේෂයෙන් වැදගත් වන) විචක්ෂණ අදහස් ගණනාවක්ද සටහන් කර ගත යුතු වේ. ''භාණ්ඩ වලින් ගෙවන බදු කුලිය මුදලින් ගෙවන බදු කුලිය බවට පරිවර්තනය වීම මුදල් කුලියට වැඩ කිරීමට ඉදිරිපත් වන දේපල අහිමි දෛනික කම්කරුවන් පංතියක් ඇතිවීම හා සමග අනිවාර්ණීය ලෙස සමාගම්ව පමණක් නොව, එයින් අපේක්ෂා කරන්නක් ද ලෙස සිදු වන්නකි. එය මෙම පංතියේ උපත සමයේ අතරින් පතර පමණක් දක්නට ලැබේ. එම පුරුද්ද අවශ්‍යයෙන්ම ගොඩ නැගෙන්නේ බදු කුලී ගෙවීමට යටත්, එහෙත්, වැඩවසම් යුගයේ වත් පොහොසත් කම් ඇතිව සිටි ප්‍රවේණි දසයන් තමන්ද දසයන් හිමිකර ගෙන සිටි පරිද්දෙන්, තමන්ම කෘෂිකාර්මික ශ්‍රමය සූරා කන ගොවීන් අතරය. මේ ආකාරයෙන් ඔවුහු එක්තරා ප්‍රමාණයක ධනයක් සංචයනය කරගැනීමේ හා තමන්ට අනාගත ධනපතියන් බවට පරිවර්තනය වීමේ හැකියාව ක්‍රමික වශයෙන් ඇති කරගනිති. මේ ලෙසින් පැරණි ස්වයං නියුක්ත ඉඩම් අයිතිකරුවෝම, ධනපති බදු කුලී කරුවන්ගේ බාලාංශ පාසලක් ඇති කරති. එහි සංවර්ධනය හැඩගසනු ලබන්නේ ගම්බද පෙදෙස්වල සීමාවෙන් ඔබ්බෙහි සිදුවන ධනපති නිෂ්පාදනයේ පොදු සංවර්ධනය විසිනි'' (''ප්‍රාග්ධනය'', වෙළුම 3, පිටු 332)[37]. ''කෘෂිකාර්මික ජනගහනයෙන් කොටසක් අසන්තක භාවයට පත් කර, ඉඩමෙන් එළවා දැමීම නිසා, කාර්මික ප්‍රාග්ධනය සඳහා කම්කරුවන්ද, ඔවුන්ගේ යැපීම් මාධ්‍යයන්ද, ශ්‍රම වස්තුද ''මුදා හැරීම'' පමණක් නොව එය සඳහා දේශීය වෙළඳ පොළක් ඇති වීමද එයින් සිදු විය'' (''ප්‍රාග්ධනය'', වෙළුම 1, පිටු 778).[38] ගැමි ජනතාව දරිද්‍රතාවයට පත් කිරීම හා විනාශ කිරීම යන කරුණුද,

---

* හිලව් බද්ද — සංස්කාරක

ප්‍රාග්ධනයට අවශ්‍ය අතිරේක ශ්‍රම හමුදුව ඇති කිරීම සඳහා කාර්ය කොටසක් ඉටු කරයි. එනිසා සෑම ධනපති රටකම "කෘෂිකාර්මික ජනගහනයෙන් කොටසක්, නිරතුරුවම, නාගරික නැතහොත්, භාණ්ඩ තනත (එනම් කෘෂිකාර්මික නොවන) නිර්ධන පංතියට මාරුවෙන තත්වයේ සිටිති. සාපේක්ෂ අතිරික්ත ජනගහනයේ මෙම ප්‍රභව මූලය නිරතුරුවම සක්‍රියව පවතී... එනිසා, කෘෂිකාර්මික කම්කරුවා නිතරම වේතනයෙන් අවමයට පහළ දමනු ලැබේ. එබැවින් ඔහු සද කල්හිම එක පයක් දුගී භාවය තුළ තැබූ තත්වයෙන් පසුවෙයි" ("ප්‍රාග්ධනය", වෙළුම 1, පිටු 668)[39]. ගොවි-යා ගොවිතැන් කරන භූමිය ඔහුට පෞද්ගලිකව හිමිව තිබීම සුළු පරිමාණ නිෂ්පාදනයේ අඩිතාලමත්, එම නිෂ්පාදනය දියුණු වීමේ සහ එහි මුල් ආකෘතියට පත්වීමේ කොන්දේසියත් වන්නේය. නමුත් එවැනි කුඩා පරිමාණ නිෂ්පාදනය ගැලපෙන්නේ නිෂ්පාදනයේ සහ සමාජයේ පටු සහ ආදිස්වභාවයේ රාමු කට්ටුවකට පමණකි. ධනපති ක්‍රමය යටතේ "ගොවි ජනයා සූරා කෑම කාර්මික නිර්ධන පංතිය සූරා කෑමෙන් වෙනස් වන්නේ, සූරා කෑමේ ආකෘතියෙන් පමණකි. සූරා කන්නා එකම අයෙකි. ඒ ප්‍රාග්ධනයයි. තනි පුද්ගල ධනපතියෝ උගස් ගැනීම හා අධික පොළිය මගින් ගොවීන් වෙන් වෙන්ව සූරා කති. ධනපති පංතිය රාජ්‍ය අය බදු මගින් ගොවි පංතිය සූරා කන්නේය" ("ප්‍රංශයේ පංති අරගලය").[40] "ගොවියා ගේ කුඩා ඉඩම දැන් ධනපතියාට පසෙන් ලාභ, පොලී සහ බදු කුලිය ඇද ගැනීමට ඉඩ සලසන කඩතුරාවක් පමණකි. ඒ අතර එයින් ගොවිතැන් කරන්නාගේ වේතනය ඇද ගන්නේ කෙසේද යන වගකීම ඔහුටම පැවරේ" ("බ්‍රියුමර් 18").[41] සාමාන්‍ය වශයෙන් ගොවියා, ධනපති සමාජයට, එනම්, ධනපති පංතියට, තම වේතනයෙන්ද කොටසක් පුද කරමින් "අයර්ලන්තයේ බදුකාර ගොවියාගේ තත්වයට" වැටේ. මේ සියල්ලම කරන්නේ පෞද්ගලික දේපල හිමියෙකුගේ මුහුණුවර පෙන්-වමිනි ("ප්‍රංශයේ පංති අරගලය").[42] "ධනපති නිෂ්පාදන ක්‍රමය ඇති රටවලට වඩා සුළු ගොවිජන-ඉඩම් හිමිකම ප්‍රබලව පැතිරී තිබෙන රටවල ධාන්‍ය මිළ ගණන් අඩුවීමට එක හේතුවක්"කුමක්ද? ("ප්‍රාග්ධනය" වෙළුම 3, පිටුව 340).[43] එයට හේතුව ගොවියා ඔහුගේ අතිරික්ත නිෂ්පාදනයෙන් කොටසක් සමාජයට (එනම්, ධනපති පංතියට) නොමිළයේ දීමය. "එනිසා, (ධාන්‍යවල හා අනෙකුත් නිෂ්පාදනවල) මෙම අඩු මිළ නිෂ්පාදකයින්ගේ දුප්පත්කමේ ප්‍රතිඵලයක් මිස කිසිසේත් ඔවුන්ගේ ශ්‍රම ඵලදායකත්වයේ ප්‍රතිඵලයක් නොවේ" ("ප්‍රාග්ධනය", වෙළුම 3, පිටු 340).[44] කුඩා පරිමාණ නිෂ්පාදනයේ සාමාන්‍ය රටාව වන කුඩා ඉඩම් කට්ටි ක්‍රමය,ධනපති ක්‍රමය යටතේ පිරිහී, බිඳවැටී, විනාශ වී යන්නේය. "ඉඩම් කැබලි අයිතිය, එහි ස්වභාවයම හේතු කොට ගෙන, එය ශ්‍රම කාරිත්වයේ සමාජමය නිෂ්පා-



දනීය බලවේගයන්ගේත්, ශ්‍රම කටයුතු පිළිබඳ සමාජ ආකෘතිවලත්, ප්‍රාග්-ධනයේ සමාජමය සංචයනයෙහිත්, විශාල පරිමාණයෙන් ගවයන් ඇති කිරීමෙහිත්, වැඩි වැඩියෙන් විද්‍යාව උපයෝගි කරගැනීමෙහිත් සංවර්ධනය වලක්වන්නේය. අධික පොලී හා බදු ක්‍රමයෙන් එය සෑම තැනෙකදීම දුප්පත් බවට පත් වන්නේය. ඉඩමේ මිළ ගෙවීමට ප්‍රාග්ධනය වැය කිරීම නිසා එම ප්‍රාග්ධනය කෘෂිකර්මාන්තයෙන් ඉවත් වේ. සීමාවක් නොමැතිව නිෂ්පාදන මාධ්‍යයන් කැබලි කිරීමක් සහ නිෂ්පාදකයන්ම තනි වීමක්ද සිදුවේ." (සමුපකාර සමිති වලින්, එනම් කුඩා ගොවීන්ගේ සමිති වලින් ඉතාමත් ප්‍රගතිශීලී ධනපති කාර්ය කොටසක් ඉටු කරන අතර, මෙම ප්‍රවණ-තාවය අහෝසි නොකර එය දුර්වල කිරීම පමණක් කරයි. තවද, මෙම සමුපකාර සමිති වලින් පොහොසත් ගොවීන්ට මහත් සේවයක් වන බවද, විශාල දුප්පත් ගොවිජනකායට එයින් සිදුවන්නේ ඉතාමත් අල්ප, නැත-හොත්, ඇති නැති තරමේ සේවයක් පමණක් වන බවද අමතක නොකළ යුතුය. ඒ හැරත්, සමිතිම කුලී ශ්‍රමය සූරා කන්නන් බවට පත්වේ.) එය"අති විශාල අන්දමින් මිනිස් ශක්තිය අපතේ හැරීමකි. එන්න එන්නම නිෂ්පාදන තත්වයන් පිරිහීමත්, නිෂ්පාදන මාධ්‍යයන්ගේ මිළ වැඩි වීමත් සිදු වේ. මෙය ඉඩම් කැබලි හිමි කම් ක්‍රමයට අදල අනිවාරණීය නීතියකි."[45] ධනපති ක්‍රමය, කර්මාන්තයේ මෙන්ම කෘෂිකර්මාන්තයෙහිද නිෂ්පාදන ක්‍රියාදමය පරිවර්තනය කරන්නේ "නිෂ්පාදකයාගේ වීරත්වය" ඊට මිළ වශයෙන් ගනිමින් පමණකි. "ගම්බද ශ්‍රම කරුවන් විශාල ප්‍රදේශ සිසාරා විසිරී යාම නිසා ඔවුන්ගේ ප්‍රතිරෝධන බලය බිඳෙන අතර, නාගරික කාරක වරුන්ගේ සංකේන්ද්‍රණය නිසා ඔවුන්ගේ එම බලය වර්ධනය වේ. නාගරික කර්මාන්තවල මෙන්ම, නවීන කෘෂිකර්මාන්තයේද වැඩි වන ශ්‍රමඵලදාය-කත්වය සහ ක්‍රියාත්මක ශ්‍රම ප්‍රමාණය ලබා ගන්නේ ශ්‍රම ශක්තියම ලෙඩ රෝගවලින් විනාශ කිරීමේ සහ ක්ෂය කර හැරීමේ පාඩුව විඳිමිනි. එපමණක් නොව, ධනපති කෘෂිකර්මාන්තයේ මුළු ප්‍රගතියම, ශ්‍රම කරු කොල්ල කෑමේ පමණක් නොව පසද කොල්ල කෑමේ කලාවෙහි ප්‍රගතියක් වේ... එනිසා, ධනපති නිෂ්පාදනය, කාර්මික ශිල්පය හා විවිධ ක්‍රියාදමයන් සමා-ජමය සමස්තයකට ඒකාබද්ධ කිරීම සංවර්ධනය කරන්නේ, ධනය උපදවන මුල් උල්පත් වන පසෙහි සහ ශ්‍රම කරුවා ගේ සාරය උරා ගැනීමෙනි ("ප්‍රාග්-ධනය, වෙළුම 1, 13 වැනි පරිච්ඡේදයේ අවසානය).

## සමාජවාදය

ධනපති සමාජය සමාජවාදී සමාජයට පරිවර්තනයවීම අනිවරණීයය යන්න, මාක්ස්, සම්පූර්ණ වශයෙන්ම හා තනිකරම, වර්තන සමාජයේ

ආර්ථික සංවර්ධනය පිළිබඳ න්‍යායෙන් නිගමනය කරන බව ඉහත සඳහන් කරුණු අනුව පෙනේ. දහස් ගණන් ආකාරයෙන් සද සීඝ්‍රවත් වෙමින් ඉදිරියට යන හා මාක්ස්ගේ අභාවයෙන් පසු ගතවූ අඩ ශත වර්ෂයේදී මහා පරිමාණ ධනපති නිෂ්පාදනයත්, ධනපති කාටල, සම්මේල හා සංගත ව්‍යාපාරත් කෙරෙන් ඉතාමත් සිත් අලවන ලෙස විද්‍යාමාන වී ඇති ශ්‍රමයේ සමාජමය වීමෙන්ද, එසේම, මූල්‍ය ප්‍රාග්ධනයේ පරිමාණයේ හා බලයේ යෝධ වර්ධනයෙන්ද, සමාජවාදයේ අනිවාරණීය ආගමනය සඳහා අවශ්‍ය ද්‍රව්‍යමය පදනම සැදෙන්නේය. මෙම පරිවර්තනයේ බුද්ධිමය හා සදචාරමය ගාමක බලවේගයත්, එහි භෞතික බලකාරයාත් වන්නේ ධනපති ක්‍රමය විසින්ම පුහුණු කරන ලද නිර්ධන පංතියයි. ධනපති පංතියට විරුද්ධව නිර්ධන පංතිය කරන අරගලය වඩ වඩාත් සාරවත් සන්ධාරයක් සහිත විවිධ ආකාරයන් මගින් ප්‍රකාශයට පත්වන අතර, එය අනිවාරණීය ලෙසටම, නිර්ධන පංතිය විසින් දේශපාලන බලය අල්ලා ගැනීම (''නිර්ධන පංති ආඥාදායකත්වය'') සඳහා කරන අරගලයක් බවට පත්වේ. නිෂ්පාදනය සමාජමය වීම අනුව, නිෂ්පාදන මාධ්‍යයන් සමාජයේ දේපල බවට පත් වීම, ''අසන්තක කරන්නන් අසන්තක කිරීම'' නොකර බැරි කටයුත්තකි. ශ්‍රම ඵලදායකත්වයේ දැවැන්ත නැගීමකි; වඩාත් කෙටි වැඩ දිනයකි; කුඩා පරිමාණ, ආදිකාලීන හා අසමගි නිෂ්පාදනයේ ශේෂයන් හා නෂ්ඨාවශේෂයන් වෙනුවට සාමූහික සහ වැඩි දියුණු ශ්‍රමආදේශනයකි—මෙම පරිවර්තනයේ සෘජු ප්‍රතිඵල එබඳුය. ධනපති ක්‍රමය කෘෂිකර්මාන්තය සහ කර්මාන්තය අතර සම්බන්ධකම් සදහටම බිඳියි. එහෙත් ඒ අතරම, එය, එහි උසස්තම සංවර්ධනය තුළින්, විඥත ලෙස විද්‍යාව උපයෝජනය කරගැනීම හා සාමූහික ශ්‍රම සංකේන්ද්‍රණයත්, මිනිස් ජනගහනය නැවත බෙද හැරීමත්, පදනම් කර ගෙන (එමගින් ග්‍රාමීය නොදියුණු කම, කොන්වීම හා මහා නගරවලට අස්වාභාවික ලෙස විශාල ජනකායයන් සංකේන්ද්‍රණය වීමද කෙළවර කරමින්) කර්මාන්තය හා කෘෂිකර්මාන්තය අතර වන සමගියක එම සම්බන්ධකම් සඳහා නව මූලිකාංගයන් සූදනම් කරයි. වර්තමාන ධනපති ක්‍රමයේ උසස්තම ආකාරයන් විසින්, නව පවුල් ආකෘතියක්ද, කාන්තාවන්ගේ තත්වයට හා බාල පරපුර හද වඩා ගැනීමට අදල නව කොන්දේසිද සූදනම් කරනු ලැබේ. ස්ත්‍රීන් හා ළමයින් ශ්‍රම කටයුතුවල යොද ගැනීම හා ධනපති ක්‍රමය විසින් පීතෘ මූලික පවුල බිඳ දැමීමෙන්, නවීන සමාජය තුළ ඉතාමත් භයානක, විනාශකාරී සහ පිළිකුල් සහගත ආකාරයන් ගන්නේය. එසේ වුවද, ''නවීන කර්මාන්තය, ස්ත්‍රීන්ට, තරුණ ජනයාට හා දෙපාර්ශ්වයේම ළමයින්ට, ගෘහ ක්ෂේත්‍රයෙන් බාහිරව, සමාජමය වශයෙන් සංවිධානය කළ නිෂ්පාදන ක්‍රියාදමයෙහි වැදගත් කාර්ය කොටසක් පැවරීමෙන්, වඩාත් උසස් ආකෘතියක පවුලක් හා



ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වය අතර සම්බන්ධයක් සඳහා නව ආර්ථික පදනමක් නිර්මානය කරයි. එසේ වුවද ක්‍රිස්තියානි-ජර්මන් ආකෘතිය නිරපේක්ෂ හා පරමොත්තම ලෙසට සැලකීම මෙන්ම, ඓතිහාසික සංවර්ධනයේම ආකෘති මාලාවක්වන පැරණි රෝම, පැරණි ග්‍රීක, නැතහොත් පෙරදිග ආකෘතිද එසේම ගැනීමත් අඥාන කමක් වනු ඇත. එපමණක් නොව, සාංසිද්ධික ලෙස සංවර්ධනය වූ ම්ලේච්ඡ ධනපති ආකෘතිය යටතේ, ශ්‍රම කරුවාට නිෂ්පාදන ක්‍රියා දමය උදෙසා පැවතීමට සිදුවන හා නිෂ්පාදන ක්‍රමය පැවතීම, ශ්‍රම කරුවා සඳහා නොවන තත්වයක් ඇතත්, එය ඇත්ත වශයෙන් වසංගත පතුරුවන, දූෂණයේ හා වහල් භාවයේ ආකෘතියක් වන නමුත්, සාමූහික වැඩ කණ්ඩායම ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වයේම සහ සෑම වයසකම වන පුද්ගලයන්ගෙන් සමන්විත කරනු ලැබීමේ හේතුව නිසා, එය, සුදුසු තත්වයන් යටතේ අවශ්‍යයෙන්ම මානුෂික සංවර්ධනයේ ප්‍රභව මූලයක් විය යුත්තේය'' (''ප්‍රාග්ධනය'', වෙළුම 1, 13 වැනි පරිච්ඡේදය කෙළවර). ''සමාජමය නිෂ්පාදනයේ කාර්යක්ෂමතාවය වැඩි කිරීමේ එක ක්‍රමයක් වශයෙන් පමණක් නොව, සම්පූර්ණ විකාශනයට පත් මිනිසුන් ඇති කිරීමේ එකම ක්‍රමය වශයෙන්ද, නියමිත වයසකින් ඉහළ සෑම ළමයෙකුටම දෙනු ලබන, නිෂ්පාදනීය ශ්‍රම කටයුතු හා සමග උගැන්වීමත්, සරඹ ක්‍රීඩාත් ඒකාබද්ධ කරගත් අධ්‍යාපනයක් වන අනාගත අධ්‍යාපනයෙහි බීජය'' පැක්ටරි ක්‍රමය තුළ අන්තර්ගතව ඇත (එහිම). මාක්ස්ගේ සමාජවාදය විසින්, අතීතය විස්තර කිරීමේ අර්ථයෙන් පමණක් නොව, නිර්භය අනාගත දැක්මක හා එම අනාගතය දිනාගැනීම සඳහා කෙරෙන නිර්භීත කටයුතු ගැන වූ පූර්ව නිගමනයක අර්ථයෙන්ද ජාතිකත්වයත්, රාජ්‍යයත් පිළිබඳ ප්‍රශ්න එකම පදනමක් මත පිහිටුවනු ලැබේ. ජාතීන් යනු සමාජ සංවර්ධනයේ ධනපති යුගයේ අනිවාරණීය ප්‍රතිඵලයකි, අනිවාරණීය ආකෘතියකි. තමන් ''ජාතිය තුළ සංස්ථාපනය'' නොවී, (''වචනයේ ධනපති අර්ථයෙන් නොවුවද'') ''ජාතික'' නොවී, ශක්තිමත්ව වැඩීමේ, මේරීමට පත්වීමේ හා හැඩ ගැසී ඒමේ හැකියාව කම්කරු පංතියට නොවීය. එසේ වුවද, ධනපති ක්‍රමයේ සංවර්ධනය ජාතික සීමාවන් වැඩි වැඩියෙන් බිඳ දමයි; ජාතික තනිවීම අහෝසි කර දමයි; ජාතික විරුද්ධතාවයන් වෙනුවට පංති විරුද්ධතාවයන් ආදේශ කරයි. එනිසා, ''වැඩ කරන ජනයාට රටක් නොමැති'' අතර, යටත් පිරිසෙයින් ශීලාචාර රටවල වත් කම්කරුවන්ගේ ''එක්සත් ක්‍රියාකාරිත්වය නිර්ධන පංතියේ විමුක්තිය සඳහා ඉටුවිය යුතු ප්‍රථම කොන්දේසිවලින් එකකි''යි (''කොමියුනිස්ට් ප්‍රකාශනය'') යන්න සංවර්ධිත ධනපති රටවල් හා සම්බන්ධයෙන් ඉතාමත් නිවැරදිය. සමාජය සමගි කළ නොහැකි පංතිවලට බෙදී ගිය හා එයට ඉහළින් සිටින බවක් පෙනෙන්නාවූද, එක්තරා ප්‍රමාණයකට එයින් වෙන්ව

සිටින්නාවූද ''අධිකාරි බලයක්'' නොමැතිව පැවතීමට නොහැකි වූ සමාජයේ සංවර්ධනයේ නිශ්චිත අවධියකදී, සංවිධිත බලහත්කාරය වූ රාජ්‍යය නොවැලැක්විය හැකි ලෙසට බිහි වූයේය. පංති ප්‍රතිවිරෝධයන්ගෙන් උද්ගත වන රාජ්‍යය ''ඉතාමත් බලවත් හා ආර්ථික වශයෙන් අධිපති පංතියේ රජය බවට පත්වෙයි. රජයේ මාධ්‍යය මගින් දේශපාලන වශයෙන්ද අධිපති පංතිය බවට පත්වන එය, එමගින් පීඩිත පංතිය යටපත් කර ගැනීමේ හා සූරා කෑමේ නව මාර්ගයක් අත්පත් කර ගනියි. ඒ අනුව, පෞරාණික රාජ්‍යය අන් කිසිවකටත් වඩා වහලුන් යට කර තබා ගැනීම පිණිස වූ වහල් හිමියන්ගේ රාජ්‍යය විය. එසේම වැඩ වසම් රාජ්‍යය ගොවි ප්‍රවේණිදසයන් යට කර තබා ගැනීම සඳහා වූ වංශවතුන්ගේ රාජ්‍යය විය. වර්තමාන නියෝජිත රාජ්‍යයද ධනපතීන් විසින් වේතන කම්කරුවන් සූරා කෑම සඳහා වූ උපකරණයකි'' (එංගල්ස්, ''පවුල, පුද්ගලික දේපල හා රජය ඇති වූ සැටි''. එම කෘතියෙන් ලේඛකයා තමන්ගේම හා මාක්ස්ගේද අදහස් ගෙන හැර දක්වයි). ධනපති රාජ්‍යයේ ඉතාමත් නිදහස් හා ඉතාමත් ප්‍රගතිශීලී රාජ්‍යය වන ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව වුවද, මෙම යථාර්ථය කිසිසේත් අවලංගු නොකරයි. එය කරන්නේ එහි ආකෘතිය වෙනස් කිරීම (ආණ්ඩු හා ව්‍යාපාර පොළ අතර සම්බන්ධය, සෘජු සහ වක්‍ර දූෂණය, පුවත්පත් හා නිලධාරි බලය ආදිය) පමණකි. පංති අහෝසි කිරීමට මග පෙන්වන සමාජවාදය, එමගින්ම, එසේ කිරීමෙන්ම, රාජ්‍යයද අහෝසි කිරීමට මග පෙන්වන්නේය. ''රාජ්‍ය සමස්ත සමාජයේම නියෝජිතයා වශයෙන් සංස්ථාපනය වීමේ එහි ප්‍රථම කටයුත්ත වන, සමාජයේ නාමයෙන් නිෂ්පාදන මාධ්‍යයන් අත්පත් කර ගැනීම, ඒ අතරම, එය රාජ්‍ය වශයෙන් කරන අවසාන ස්වාධීන කටයුත්තද වන්නේය''යි එංගල්ස් ''ඩූරිං විරෝධය'' කෘතියෙහි ලියයි. ''සමාජ සම්බන්ධකම් වල අංශයක් පාසා රාජ්‍යයේ මැදිහත්වීම අනවශ්‍ය වන්නේය. එවිට එය තමන්ම නිරුද්ධ වන්නේය. පුද්ගලයන් ආණ්ඩු කිරීම වෙනුවට ද්‍රව්‍යයයන් පරිපාලනය කිරීම හා නිෂ්පාදන ක්‍රියාදමයන් මෙහෙයවීම ආදේශ වේ. රාජ්‍ය ''අහෝසි කිරීමක්'' සිදු නොවේ. එය හැකිළී යන්නේය.''[46] ''නිෂ්පාදකයන්ගේ නිදහස් හා සමාන සමාගමයේ පදනම මත නිෂ්පාදනය සංවිධානය කරන සමාජය, එවිට මුළු රාජ්‍යයම, එකල්හි එයට සුදුසු වන තැනට ලනු ඇත. ඒ සුදුසු තැන වන්නේ කෞතුක වස්තු තැන්පත් කරන කෞතුකාගාරයේ, චරකය හා ලෝකඩ පොරොව තිබෙන ආසන්නයේය'' (එංගල්ස්, ''පවුල, පුද්ගලික දේපල හා රජය ඇති වූ සැටි'').

අවසාන වශයෙන්, අසන්තක කරන්නන් අසන්තක කිරීමේ කාල පරිච්ඡේදය තුළ තවදුරටත් පවතිනු ඇති කුඩා ගොවි ජනයා සම්බන්ධයෙන් මාක්ස්ගේ සමාජවාදය දක්වන ආකල්පය ගැන මාක්ස්ගේ අදහස් ප්‍රකාශ කරන, එංගල්ස්ගේ ප්‍රකාශයක් ගැන සඳහන් කළ යුත්තෙමු: ''අපට රාජ්‍ය බලය හිමිව තිබෙන කල අපට මහ ඉඩම් හිමියන් අසන්තක කිරීමට සිදුවන පරිද්දෙන්, (වන්දි ඇතිව හෝ නැතිව යන කුමණ ආකාරයෙන් වුවත්) කුඩා ගොවි ජනයා බලහත්කාරයෙන් අසන්තක කිරීම ගැන අප සිතන්නේ වත් නැත. කුඩා ගොවියා සම්බන්ධයෙන් අප ඉටු කළ යුතු කර්තව්‍ය නම්, ප්‍රථමයෙන්ම, බලහත්කාරයෙන් නොව, නිදර්ශනයේ බලයෙන් හා අදල සමාජය ආධාර දීමෙන්,ඔහුගේ පෞද්ගලික ව්‍යවසාය හා පෞද්ගලික වත්කම්, සමුපකාර ව්‍යවසාය හා වත්කම් බවට පරිවර්තනය කිරීමය. එවිට, කුඩා ගොවියාට අද පවා පෙනී යායුතු, ඔහුට ලැබෙන්නට තිබෙන වාසි පෙන්වා දීමේ මාර්ග අපට උවමනා තරම් සොයා ගත හැකි වන බවට සැකයක් නැත'' (එංගල්ස්,''බටහිර ලෝකයේ ගොවි ප්‍රශ්නය''.[47] පිටුව 17, අලෙක්සේයවා ප්‍රකාශනය. රුසියානු පරිවර්තනය දෙස් සහිතය. මුල් කෘතිය "Neue Zeit"[48]හි).

## නිර්ධන පංතියේ පංති අරගලයෙහි උපක්‍රම

පැරණි ද්‍රව්‍යවාදයේ ප්‍රධාන දුර්වල කමක් වූ, ප්‍රායෝගික විප්ලවකාරී කටයුතුවලට අදල කොන්දේසි හෝ එම වැඩ කටයුතුවල වැදගත්කම අවබෝධ කර ගැනීමට එය අසමර්ථ වීම ගැන 1844-1845 තරම් කල් තබාම විමසා බැලූ මාක්ස් ඔහුගේ න්‍යායික කෘති මගින්, මුළු ජීවිත කාලය මුලුල්ලේම නිර්ධන පංතියේ පංති අරගලයේ උපක්‍රමීය ගැටළු කෙරෙහි නොසැලෙන අවධානයක් යොමු කළේය. මෙයට බලපාන කරුණු මහා රාශියක් මාක්ස්ගේ කෘති සියල්ලම තුළ අන්තර්ගතව ඇත. විශේෂයෙන්ම, 1913 දී පළ කරන ලද, ඔහු එංගල්ස් සමග හුවමාරු කරගත් ලිපි වෙළුම් හතරෙහි ඒ පිළිබඳව කරුණු අන්තර්ගත ය. මෙම කරුණු එක් තැන් කර, එකතු කර, විමර්ශනයට හා අධ්‍යයනයට භාජනය කිරීම තවමත් කිසිසේත් ඉටුවී නොමැත. එනිසා, මෙහිදී ඉතාමත් පොදු හා සංක්ෂිප්ත ලෙස අදහස් දැක්වීමට සීමාවී සිටීමටත්, එසේ කිරීමේදී, මෙම අංශය නොමැති ද්‍රව්‍යවාදය අසම්පූර්ණ, එක පැත්තකට බර වූ හා අජීවී එකක් වන්නේයයි මාක්ස් සහේතුකව කල්පනා කළ බව අවධාරණය කිරීමටත් අපට සිදු වේ. මාක්ස් ඔහුගේ ද්‍රව්‍යවාදී-දයලෙක්තික ලෝකාවබෝධයේ සත්‍යයන් සියල්ලටම සම්පූර්ණයෙන් අනුකූල වන ලෙස නිර්ධන පංති උපක්‍රම වල මූලික කර්තව්‍යය පැහැදිලි, කළේය. දියුණු පංතියක් අනුගමනය කරන නිවැරදි උපක්‍රම සකස් කර ගැනීම සඳහා පදනමක් වශයෙන් ගත හැකි වන්නේ, නියමිත සමාජයක ඇති, පංති නොහැරම, ඒ සියල්ලෙහිම

සම්බන්ධකම් එකතු සමස්තය ගැන වාස්තවික ලෙස සලකා බැලීමක්ද, එසේ කිරීමෙන්, එම සමාජය පත්ව ඇති සංවර්ධනයේ වාස්තවික අවධිය ගැන හා එම සමාජයත්, අනිත් සමාජයනුත් අතර ඇති සම්බන්ධයන් ගැනත් සලකා බැලීමක්ද පමණකි. ඒ අතරම සියළුම පංති හා සියළුම රටවල් සැලකිල්ලට ගනු ලබන්නේ ස්ථිතික වශයෙන් නොව ගතික වශයෙන්, එනම් අජංගම තත්වයකින් නොව චලනය වෙමින් පවතින ලෙසටය (එම චලනයට අදල නියාමයන් නිර්ණය වන්නේ එක් එක් පංතියෙහි පැවැත්මේ ආර්ථික තත්වයන් අනුවය). නැවත, චලනයද, සැලකිල්ලට ගනු ලබන්නේ අතීතයේ පමණක් නොව අනාගතයේද ස්ථාවරය අනුවය. එපමණක් නොව, එය සලකනු ලබන්නේ, සෙමින් සිදුවන වෙනස්වීම් පමණක් දකින, ''පරිණාමවාදීන්'' එය වටහාගන්නා සාමාන්‍ය අර්ථයෙන් නොව, දයලෙක්තික වශයෙනි: ''එවැනි පරිමාණයේ සිදුවීම් වලදී අවුරුදු විස්සක් එක දිනකට සමාන වනු ඇත. එසේ වුවද, විසි අවුරුද්දක් ඇතුලත් වූ දින ද පසු කලෙක ඇති වීමට ඉඩ තිබේ'' යයි මාක්ස් එංගල්ස්ට ලීවේය(''ලිපි හුවමාරුව'',වෙළුම 3,පිටු 127).[49]සංවර්ධනයේ සෑම අවස්ථාවකදීම, සෑම මොහොතකදීම, නිර්ධන පංති උපක්‍රම විසින්, මිනිස් ඉතිහාසයේ මෙම වාස්තවික හා නොවැලැක්විය හැකි දයලෙක්තික ස්වභාවය සැලකිල්ලට ගනු ලැබිය යුතුය. එසේ කිරීමේදී, එක් අතකින්, දේශපාලන නිශ්චලනයේ, නැතහොත් උදසීනත්වයේ කාලසීමා, ඊනියා ''සාමකාමී'' සංවර්ධනයේ කාලසීමා, දියුණු පංතියේ පංති විඥනය, ශක්තිය හා සටන්කාමීත්වය වර්ධනය කිරීම සඳහා උපයෝජනය කර ගැනීමත්, අනිත් අතින් මෙම උපයෝජනයේ වැඩ කටයුතු සියල්ලම, එම පංතියේ ඉදිරි ගමනේ ''අවසාන අරමුණ'' කරා, ''විසි අවුරුද්දක් ඇතුළත් වූ'' ඒ ශ්‍රෙෂ්ඨ දින වලදී මතුවන ශ්‍රෙෂ්ඨ කර්තව්‍යයන්ට විසඳීම් සොයා ගැනීමේ හැකියාව, එම පංතිය තුළ ඇති කිරීම කරා යොමු කිරීමත් කටයුතුය. මේ හා සම්බන්ධයෙන් මාක්ස්ගේ තර්ක අතුරෙන් දෙකක් විශේෂයෙන් වැදගත් වේ. මෙයින් එකක් ''දර්ශනයේ දිළිඳුකම'' යන කෘතියෙහි ඇතුලත්ය. එය නිර්ධන පංතියේ ආර්ථික අරගලය හා ආර්ථික සංවිධානය හා සම්බන්ධ වූවකි. අනික ''කොමියුනිස්ට් ප්‍රකාශනයෙහි'' අන්තර්ගතය. එය නිර්ධන පංතියේ දේශපාලන කර්තව්‍යයන් හා සම්බන්ධ වූවකි. ඉන් ප්‍රථම තර්කයෙන් මෙසේ කියවේ: ''මහා පරිමාණ කර්මාන්තය එකිනෙකා නොහඳුනන ජන සමූහයක් එක තැනකට සංකේන්ද්‍රණය කරයි. තරඟය ඔවුන්ගේ අවශ්‍යතාවන් භේදයට පත් කරයි.එහෙත් වේතන පවත්වා ගැනීම සම්බන්ධයෙන්, ඔවුන්ගේ සේව්‍යයාට විරුද්ධව ඔවුන්ගේ ඇති මෙම පොදු උවමනාව ප්‍රතිරෝධයේ, එනම් සාංගමිකත්වයේ පොදු අදහස, ඔවුන් එක්සත් කරයි... ප්‍රථමයෙන් තනිවූ සංගම්, කණ්ඩායම් වශයෙන් සකස් වෙති. අනතුරුව, නිතරම එක්සත්ව සිටින ප්‍රාග්ධනය හමුවේ, සංගමය පවත්වා ගැනීම ඔවුනට (එනම්, කම්කරුවනට) වේතන පවත්වා ගැනීමටත් වඩා අවශ්‍ය වන්නේය... සිවිල් යුද්ධයක් වැනි අරගලයේදී අනාගතයේ එන සංග්‍රාමයක් සඳහා අවශ්‍ය වන සියළු කොටස් එක්සත් වෙයි, සංවර්ධනය වෙයි. සංගමය මෙම තත්වයට පත්වූ කල, එය දේශපාලන ස්වරූපයක් ගනියි''.[50] අනාගතයේ දශක ගණනාවක් සඳහා, ''අනාගතයේ එන සංග්‍රාමය'' සඳහා නිර්ධන පංතිය එහි බලවේගයන් සූදනම් කරන මුළු දීර්ඝ කාලයම සඳහා, ආර්ථික අරගලයේ සහ වෘත්තීය සමිති ව්‍යාපාරයේ වැඩ පිළිවෙළ හා උපක්‍රම අපට මෙහි දක්නට ලැබේ. කාර්මික ''සෞභාග්‍ය'' ඇති වීමෙන් නිර්ධන පංතිය ''මුදලට ගැනීමේ'' (''ලිපි හුවමාරුව'', වෙළුම 1, පිටු 136)[51], ඔවුන් අරගලයෙන් වෙනතකට යොමු කිරීමේ, ප්‍රයත්නයන්ට මඟ පැදෙන්නේ කෙසේද යන්නද, මෙම පොදු සෞභාග්‍යය ''කම්කරුවන් දුර්මුඛ කරන මෙන්ම ඔවුන් අරගලයෙන් ඉවත් කරන්නේ කෙසේද යන්නද (වෙළුම 2, පිටු 218)[52],බ්‍රිතාන්‍ය නිර්ධන පංතිය ''ධනපති කරණයට පත්වන්නේ'' කෙසේද යන්නද — ''සියළුම ජාතීන් අතුරෙන් වඩාත්ම ධනපති මෙම ජාතිය අවසානයේදී ධනපති පංතිය සමග, ධනපති වංශාධිපතියන් පංතියකුත්, ධනපති නිර්ධන පංතියකුත් හිමිකර ගැනීමේ අරමුණ ඇතිව කටයුතු කරන බව පෙනේ'' (වෙළුම 2, පිටු 290)[53] — එහි විප්ලවකාරී ධෛර්යය කාන්දු වී යන්නේ කෙසේද යන්නද (වෙළුම 3, පිටු 124)[54], ''බ්‍රිතාන්‍ය කම්කරුවන්ට බෝවී තිබෙන ධනපති වසංගතයෙන් ඔවුන් නිදහස් වීමට'' පෙර එක්තරා දීර්ඝ කාල සීමාවක් සිටීම අවශ්‍ය වන බවට කරුණු ද (වෙළුම 3, පිටු 127)[55], බ්‍රිතාන්‍ය කම්කරු ව්‍යාපාරය ''චාර්ටිස්ට් වරුන්ගේ ශක්තිය නොමැතිව''[56] සිටින සැටිද (1866; වෙළුම 3, පිටු 305)[57], බ්‍රිතාන්‍ය කම්කරු නායකයන් ''උන්නතිකාමී ධනපතියාත්, කම්කරුවාත්'' අතර වර්ගයක් බවට පත් වෙමින් සිටින ආකාරයද (හෝලියොක් ගැන සඳහන් කරමින්, වෙළුම 4, පිටු 209), බ්‍රිතාන්‍යයේ ඒකාධිකාරය නිසා, එම ඒකාධිකාරය පවතින තාක් කල් ''බ්‍රිතාන්‍ය වැඩ කරන ජනයා නොසෙල්වෙනු ඇති'' ආකාරයද (වෙළුම 4, පිටු 433)[58] පෙන්වා දෙමින් බ්‍රිතාන්‍ය කම්කරු පංති ව්‍යාපාරයේ නිදර්ශනය ගැන මාක්ස් හා එංගල්ස් සඳහන් කළ කරුණු රාශිය සමග ඉහත සඳහන් සියල්ල සන්සන්දනය කළ යුතුය. කම්කරු පංති ව්‍යාපාරයේ පොදු මාවත (හා ප්‍රතිඵල) සම්බන්ධයෙන් ආර්ථික අරගලයේ උපක්‍රම මෙහි දී සලකා බලා ඇත්තේ ඉතාමත් පුළුල්, අංග සම්පූර්ණ, දයලෙක්තික හා සැබවින්ම විප්ලවවාදී ප්‍රතිෂ්ඨාවක් අනුවය.

''කොමියුනිස්ට් ප්‍රකාශනය'' දේශපාලන අරගලයේ උපක්‍රම ගැන මූලික මාක්ස්වාදී ප්‍රතිපත්තියක් ඉදිරිපත් කළේය: ''කොමියුනිස්ට්වරු

හදිසි අරමුණු ජයගැනීමට හා කම්කරු පංතියේ මූල්‍ය අවශ්‍යතාවයන් ඉටු කිරීමට සටන් කරති. ඒ අතරම ඔවුහු එම ව්‍යාපාරයේ අනාගතයද නියෝජනය කරමින් එය ආරක්ෂා කරති, ඒ ගැන වග බලා ගනිති''. මාක්ස් 1848 දී පෝලන්තයේ ''ගොවිජන විප්ලවයේ'' පක්ෂයට, ''1846 දී ක්‍රාකව් කැරල්ල ඇති කළ එම පක්ෂයට'' ආධාර කළේ එහෙයිනි[59]. ජර්මනියේ සීමාන්තික විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන්ට 1848 දී හා 1849 දී ආධාර කළ මාක්ස්, තමා එකල උපක්‍රම ගැන කී දේ පසුව කිසි කලෙක වෙනස් නොකළේය. ජර්මන් ධනපති පංතිය ගැන මාක්ස් කල්පනා කළේ ඔවුන් ''ආරම්භයේ පටන්ම ජනතාව පාවාදීමටත්'', (ධනපති පංතියට එහි අරමුණු සම්පූර්ණයෙන්ම ඉටු කර ගැනීමට හැකිව තිබුණේ ගොවි ජනතාව සමග සන්ධානයක් මගින් පමණකි) ''පැරණි සමාජයේ ඔටුනු පලන් නියෝජිතයන් සමග බේරුමක් කර ගැනීමටත් නැඹුරු වූ'' කොටසක් ලෙසය. ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සමයේදී, ජර්මන් ධනපති පංතියේ තත්වය ගැන මාක්ස් කළ සම්පිණ්ඩනය මෙසේය — එය, චලනයෙහි යෙදෙමින් පවතින සමාජය ගැන, එපමණක් නොව චලනයේ ආපසුගාමී ස්වරූපයට පමණක් සීමා නොවී, ඒ ගැන විමර්ශනය කරන ද්‍රව්‍යවාදයක ආදර්ශයක් වන බව මෙහිලා සඳහන් කළ යුතුය: ''...තමන් ගැනම විශ්වාසයක් නොමැති; ජනතාව ගැන විශ්වාසයක් නොතබන; ඉහළ සිටින්වුන් ගැන මැසිවිලි කියන; පහළ සිටින වුන් දැක තැනි ගත්; ... ලෝක කුණාටුවෙන් බිය වැදුනු; කිසිම කටයුත්තකදී ධෛර්යයක් නැති; සෑම අවස්ථාවෙහිම අදහස් සොරා ගැනීමෙහි යෙදෙන; ... ක්‍රියාරම්භකත්වයක් නොමැති;... ශාප ලැබීමට සුදුසු මහළු මිනිසෙකි. තමන්ගේම වයෝවෘද්ධ අවශ්‍යතාවයන් උදෙසා, හැඩි දැඩි ජනතාවකගේ ප්‍රථම යෞවන ආවේගයන් මෙහෙයවීමේ හා අපක්‍රමණය කිරීමේ වධයට තමන් කැපව සිටින බව හේ දිටීය...'' (''නව රයින් පත්‍රය'', 1848, ''සාහිත්‍ය උරුමය'', වෙළුම 3, පිටු 212)[60], නිදහස සඳහා කරන සටනක් ගැන වූ හුදු බලාපොරොත්තුවකට වඩා, වහල් ක්‍රමය සමග සාමයකට ධනපති පංතිය වැඩි කැමැත්තක් දැක්වූ නිසා 1848 විප්ලවය අසාර්ථක වීයයි මාක්ස් එංගල්ස් වෙත ලියූ ලියුමකින් (''ලිපි හුවමාරුව'', වෙළුම 3, පිටුව 224) අවුරුදු විස්සකට පමණ පසුව ප්‍රකාශ කළේය. 1848-1849 විප්ලවීය කාලසීමාව අවසාන වූ පසු සෙල්ලම් විප්ලව කිරීමට දරන සෑම ප්‍රයත්නයකටම මාක්ස් විරුද්ධ විය (ෂප්පර් හා විල්ලිහ්ට විරුද්ධව ඔහුගේ අරගලය). නව විප්ලවවලට සූදනම් වීමේ ''සාමකාමී'' පෙනුමක් ඇති ක්‍රමයක් වන නව අදියර යටතේ වැඩ කිරීමට හැකි විය යුතු බව මාක්ස් තරයේ කීවේය. මෙම කටයුතු ගෙනයාමේදී මාක්ස් අපේක්ෂා කළ ජීව ගුණය කෙබඳුද යන්න, ජර්මනියේ අඳුරුතම ප්‍රතිගාමීත්වයේ කාලය වූ 1856 කාලසීමාව ගැන ඔහු අගය



කළ ආකාරයෙන් දැක්ක හැකිය: ''ජර්මනියේ මුළු ප්‍රශ්නයම රැඳී පවතිනු ඇත්තේ ගොවිජන යුද්ධයේ කිසියම් ආකාර දෙවැනි සංස්කරණයකින් නිර්ධන පංති විප්ලවයට ආධාර දීමේ හැකියාව මතය'' (''ලිපි හුවමාරුව'', වෙළුම 2, පිටු 108)[61]. ජර්මනියේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සම්පූර්ණ නොකර තිබියදී, ගොවි ජනතාවගේ ප්‍රජාතන්ත්‍රවාදී ශක්තිය සංවර්ධනය කිරීම සඳහා මාක්ස් සමාජවාදී නිර්ධන පංතියේ උපක්‍රම වල සම්පූර්ණ අවධානයම ඒ වෙත යොමු කළේය. ''ලසාල්ගේ ආකල්පය'' වාස්තවික වශයෙන් මුළු කම්කරු ව්‍යාපාරයම ප්‍රශියාවට පාවාදීමකැ''යි ඔහු අදහස් කළේය. (වෙළුම 3, පිටු 210)[62]. ඔහු එසේ අදහස් කළේ, ලසාල් ජුන්කර් වරුන් හා ප්‍රශියන් ජාතිකවාදය ඉවසූ හෙයින් බව අමතර වශයෙන් සඳහන් කළ යුතුය. කරන්නට බලාපොරොත්තුව සිටි ඒකාබද්ධ පුවත්පත් ප්‍රකාශය ගැන අදහස් හුවමාරු කරගනිමින් එංගල්ස් 1865 දී මාක්ස්ට මෙසේ ලියා යැවීය: ''කෘෂිකර්මාන්තය ඉතා බලවත්ව තිබෙන රටක මහා වැඩවසම් රදළයන්ගේ කසය යටතේ ගම්බද නිර්ධන පංතිය කුලීන සූරා කෑමට යටත් කර තැබීම ගැන වචනයක් හෝ මිඩංගු නොකර කාර්මික කම්කරු පංතියේ නාමයෙන් තනිකර ධනපති පංතියට පමණක් පහර දීම නිවට කමකි (වෙළුම 3, පිටු 217)[63]. ජර්මනියේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ උච්ඡ අවස්ථාවට පත්වෙමින් තිබුණු, එක් හෝ තවත් ආකාරයකින් එම විප්ලවය සම්පූර්ණ කිරීමට ප්‍රශියන් හා ඕස්ත්‍රියන් සූරා කන පංති ඉහළින් අරගල කරමින් සිටි කාල සීමාව වූ, 1864 පටන් 1870 දක්වා කාලය තුළ, බිස්මර්ක් සමග මුකුළු කරමින් සිටි ලසාල්ට දෝෂාරෝපනය කිරීම පමණක් නොව, ''ඕස්ත්‍රෝ ප්‍රේමය'' හා ප්‍රදේශවාදය ආරක්ෂා කිරීම දක්වා පස්සට වැටුනු ලිබ්ක්නෙහ්ත්ගේ වරද නිවරද කිරීමද කළ මාක්ස්, බිස්මර්ක්ට හා ''ඕස්ත්‍රෝ ප්‍රේමීන්ට'' විරුද්ධව එක සේ දයානුකම්පා විරහිතව සටන් කරන, ''ජයග්‍රාහකයා'' වන ප්‍රශියානු ජුන්කර්වරුන්ට[64] නොගැලපෙන, එහෙත්, ප්‍රශියානු යුද්ධ ජයග්‍රහණකයන් විසින් ඇති කරන ලද තත්වයන් එසේ තිබියදීම, විප්ලවවාදී අරගලය වහාම අළුත් කරන, විප්ලවවාදී උපක්‍රම අනුගමනය කරන ලෙස බල කර ඉල්ලීය (''ලිපි හුවමාරුව'', වෙළුම 3, පිටු 134, 136, 147, 179, 204, 210, 215, 418, 437, 440-441)[65]. මාක්ස් 1870 සැප්තැම්බර් 9 වැනි දින ජාත්‍යන්තරයට කළ චිර ප්‍රසිද්ධ කථාවේදී, කලට පෙර කැරල්ලක් නොගසන ලෙස ප්‍රංශ නිර්ධන පංතියට අවවාද කළ නමුත්, කෙසේ හෝ වේවා කැරැල්ලක් ඇති වූ කල්හි (1871) ඔහු ''දෙව්ලොව කළඹන'' (මාක්ස් කුගෙල්මන්ට යැවූ ලිපිය)[66] පොදු ජනතාවගේ විප්ලවවාදී ක්‍රියාරම්භකත්වය උද්යෝගිමත් ලෙස හුවා දැක්වීය. මාක්ස්ගේ දයලෙක්තික ද්‍රව්‍යවාදයේ ප්‍රතිෂ්ඨාව අනුව බලන කල, නිර්ධන පංති අරගලයේ පොදු

මාවත හා ප්‍රතිඵලය උදෙසා, වෙනත් බොහෝ අවස්ථාවලදී මෙන්ම එම තත්වය යටතේද, අත්කරගත් තත්වයන් අත් හැර දමනවාට වඩා, සටන් නො කර යටත් වනවාට වඩා, විප්ලවවාදී සටන පරාජයට පත් වීම අඩුවෙන් හානිදයක විය. එවැනි යටත් වීමක් සිදු විනි නම් එයින් නිර්ධන පංතිය අධෛර්යට පත් වීමටත්, එහි සටන් කාමිත්වය දුර්වල වන්නටත් තිබුණි. දේශපාලන නිශ්චලනය හා ධනවාදයේ නීත්‍යානුකූල භාවයේ ආධිපත්‍ය ඇති කාලසීමාවන් තුළ නීත්‍යානුකූල අරගල මාධ්‍යයන් උපයෝගි කර ගැනීම සම්පූර්ණයෙන්ම අගය කරන මාක්ස්, සමාජවාදයට විරුද්ධ නීතිය [67]සම්මත වීමෙන් පසුව, 1877 දී හා 1878 දී මොස්ත්ගේ ''විප්ලවවාදී වදන්'' ඉතා තියුණු ලෙස හෙළා දුටුවේය. සමාජවාදයට විරුද්ධ නීතියට එක්වරම ප්‍රතිචාරය දක්වීම් වස් ස්ථිරසාර භාවයක්, දැඩි බවක්, විප්ලවවාදී ජීවගුණයක් හා නීති විරෝධී අරගලයේ යෙදීමට සූදනමක් නො පෑ නිල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය වසා ගෙන සිටි අවස්ථාවාදයටද ඔහු දුන් — ප්‍රහාරය තියුණු කමින් ඊට වැඩි නොවුවත්, අඩු නොවීය. (''ලිපි හුවමාරුව'', වෙළුම 4, පිටු 397, 404, 418, 422, 424 . සෝර්ගෙට යැවූ ලිපියද බලන්න)[68].

1914 ජූනි — නොවැම්බර මාසවලදී ලියන ලදී

1915 දී සංක්ෂිප්තකොට ග්‍රනාත් විෂ්ව කෝෂයේ මුද්‍රණය කරන ලදී. 7 වැනි මුද්‍රණය, වෙළුම 28

1918 දී මොස්කව්හි ''ප්‍රිබොයි'' ප්‍රකාශකයින් විසින් පෙරවදන එන්. ලෙනින්. ''කාල් මාක්ස්'' නැමැති පොතෙහි පළ කරන ලදී

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය. වෙළුම 26, පිටු 43—93

# මාක්ස්වාදයේ මූලාශ්‍රයන් තුන සහ එහි සංයුක්ත කොටස් තුන[69]

මාක්ස්ගේ උගැන්වීම් ශිෂ්ඨාචාර ලෝකය මුළුල්ලේම සියළු ධනපති (නිල සහ ලිබරල් යන දෙආකාරයේම) විද්‍යාවකම දැඩි තම විරෝධයට සහ වෛරයට පාත්‍ර වෙයි. එම විද්‍යාව, මාක්ස්වාදය කිසියම් ''අනර්ථකාරී නිකායක්'' ලෙසට සලකයි. පංති අරගලය මත පදනම් වූ සමාජයක් තුළ කිසිම ''අපක්ෂපාත'' සමාජ විද්‍යාවක් තිබිය නොහැකි නිසා, වෙනත් ආකල්පයක් බලාපොරොත්තු වීමටද නොපුළුවන. සියළුම නිල හා ලිබරල් විද්‍යාවන් එක් හෝ තවත් මාර්ගයකින් වේතන වහල් ක්‍රමය රකියි. ඒ අතර, මාක්ස්වාදය වේතන වහල් ක්‍රමයට විරුද්ධව නිර්දය ලෙස යුද්ධ ප්‍රකාශ කරයි. වේතන වහල් ක්‍රමයේ සමාජයක විද්‍යාව අපක්ෂපාත වෙතැයි අපේක්ෂා කිරීම යනු, ප්‍රාග්ධනයේ ලාභ අඩු කිරීම මගින්, කම්කරුවන්ගේ වේතන වැඩි කළ යුතුද, නැද්ද යන ප්‍රශ්නයේදී කර්මාන්ත කරුවාගෙන් අපක්ෂපාතිත්වය අපේක්ෂා කිරීම තරම්ම අඥාන බොළඳ කමකි.

එහෙත්, එපමණක්ද නොවේ. අළුත් කිසිම දෙයක් අගය කිරීමට විරුද්ධ හා ගල් ගැසුන යන අර්ථයෙන්ද, ලෝක ශිෂ්ඨාචාරයේ සංවර්ධන මාර්ගයෙන් බැහැරව උද්ගත වූ යන අර්ථයෙන්ද, මාක්ස්වාදය තුළ ''නිකායවාදයට'' සමාන කිසිම දෙයක් නොමැති බව දර්ශනයේ හා සමාජ විද්‍යාවේ ඉතිහාසය පැහැදිලි ලෙස පෙන්නුම් කරයි.ඊට ප්‍රතිකූල වශයෙන්, මාක්ස්ගේ විචක්ෂණභාවය ඉඳුරාම සමන්විත වන්නේ, මිනිස් වර්ගයාගේ ප්‍රමුඛතම සිත් විසින් දැනටමත් ඉදිරිපත් කර තිබෙන ප්‍රශ්න වලට පිළිතුරු සැපයීමෙන්ය. ඔහුගේ ධර්මය මතු වූයේ දර්ශනයේ, දේශපාලන අර්ථ ශාස්ත්‍රයේ හා සමාජවාදයේ ශ්‍රේෂ්ඨතම නියෝජිතයන්ගේ උගැන්වීම් එක එල්ලේ සහ අනන්තර ලෙස තවදුරටත් ඉදිරියට ගෙන යාමක් ලෙසටය.

මාක්ස්වාදී ධර්මය සත්‍ය නිසා, එය සර්වබලධාරී ය. එය අංග සම්පූර්ණය; සංගත ය; එය, කිසිම ආකාරයක හෝ මිථ්‍යා විශ්වාසයක්, ප්‍රතිගාමිත්-

වයක් හෝ ධනපති පීඩන රැකීම සමග නොගැලපෙන පිරිපුන් ලෝකාවබෝධයක් මිනිසුනට දෙන්නේය. ජර්මන් දර්ශනය, ඉංග්‍රීසි දේශපාලන අර්ථ ශාස්ත්‍රය හා ප්‍රංශ සමාජවාදය විසින් නියෝජනය කෙරෙන්නා වූ, දහනව වැනි ශත වර්ෂයේ මිනිසාගේ විශිෂ්ඨතම නිමැවුමට සාධාරණ අනුප්‍රාප්තිකයා වූයේ එයයි.

අප සැකෙවින් විස්තර කිරීමට බලාපොරොත්තු වන්නේ, මාක්ස්වාදයේ මෙම මූලාශ්‍රයන් තුන ගැනය. මාක්ස්වාදයේ සංයුක්ත කොටස් ද ඒවාය.

## I

මාක්ස්වාදයේ දර්ශනය ද්‍රව්‍යවාදයයි. ස්වාභාවික විද්‍යාවේ සියළුම උගැන්වීම්වලට එකඟ වන, මිථ්‍යා විශ්වාසයන්ට, බොරු දෙසනවලට, යනාදියට රැහැණි වන එකම සසංගත දර්ශනය ද්‍රව්‍යවාදය බව, යුරෝපයේ මුළු නවීන ඉතිහාසයෙන්ම ඔප්පු වී තිබේ. සෑම වර්ගයකම මධ්‍යකාලීන කුණු කන්දල් වලටත්, ආයතන සහ අදහස් තුළ පැවති දාස භාවයටත් විරුද්ධව අධිෂ්ඨාන සහගත අරගලයක් කරන ලද ප්‍රංශයේදී, දහ අටවැනි ශත වර්ෂය අගදී ඒ බව විශේෂයෙන්ම ඔප්පුවී ඇත. එනිසා, ප්‍රජාතන්ත්‍රවාදයේ සතුරන් ද්‍රව්‍යවාදය ''බිඳහෙළීමට'', දුර්වල කිරීමට හා එයට අපහාස කිරීමට, ඔවුනට හැකි සෑම ශක්තියක්ම නිතරම යොදවා ඇත. එමෙන්ම, ඔවුන්, එක් හෝ තවත් ආකාරයකින්, ආගම ආරක්ෂා කිරීම හෝ එයට ආධාර දීමක් හෝ බවට පත්වන, නේකාකාර විඥනවාදී අර්ශනයෙන් ඉදිරිපත් කර ඇත.

මාක්ස් හා එංගල්ස් නිනතුරුවම ඉතාමත් නොපසුබට ලෙස දර්ශනික ද්‍රව්‍යවාදය ආරක්ෂා කළහ. මෙම පදනමෙන් පිට පැනීමේ සෑම අවස්ථාවක්ම කොතරම් බරපතල ලෙස සාවද්‍ය වීද යන්න ඔවුහු නැවත නැවතත් පැහැදිලි කර දුන්හ. පංති විඥනය ඇති සෑම කම්කරුවෙකුටම, ''කොමියුනිස්ට් ප්‍රකාශනය'' මෙන්ම වැදගත් අත්පොත් වන ''ලුද්විග් ෆ්ොයර්බාහ්'' සහ ''ඩූරිං විරෝධය''[70] යන එංගල්ස්ගේ කෘතිවල මෙම අදහස් ඉතාමත් පැහැදිලි ලෙස හා සම්පූර්ණ ලෙස විස්තර කර තිබේ.

එහෙත්, මාක්ස් දහ අටවැනි ශත වර්ෂයේ ද්‍රව්‍යවාදයෙන් නොනැවතුනේය. ඔහු වඩාත් උසස් මට්ටමක දර්ශනයක් ඉදිරිපත් කළේය. ඔහු මුල් ජර්මන් ද්‍රව්‍යවාදයේ, විශේෂයෙන්ම, ෆ්ොයර්බාහ්ගේ ද්‍රව්‍යවාදයට මඟ හෙළි කළ හෙගල්වාදී ක්‍රමයේ ජයග්‍රහණයන් එයට එකතු කර එය වඩාත් සාරවත් කළේය. ප්‍රධාන ජයග්‍රහණය වූයේ දයලෙක්තික ක්‍රමය යි. එය, ඉතාමත් පූර්ණ පරිමාණ, ගැඹුරු තම හා අංග සම්පූර්ණ ආකාරයේ



සංවර්ධනය පිළිබඳ ධර්මයයි; සදකාලික ලෙස සංවර්ධනය වන ද්‍රව්‍යයේ පරාවර්තනයක් අපට සපයන මිනිස් විඥනයේ සාපේක්ෂතාවය පිළිබඳ ධර්මය යි. පැරණි පිරිහෙන විඥනවාදය වෙත යන ''අළුත්'' ප්‍රතිවර්තනයන් ගැන දෙසන ධනපති දර්ශනිකයන්ගේ උගැන්වීම් තිබුණත්, ස්වාභාවික විද්‍යාවේ අළුත්ම සොයා ගැනීම් — රේඩියම්, ඉලෙක්ට්‍රෝන, මූලද්‍රව්‍ය තත්වාන්තරණය — මාක්ස්ගේ දයලෙක්තික ද්‍රව්‍යවාදය පුදුම එලවන ලෙසින් සනාථ කළේය.

මාක්ස් දර්ශනික ද්‍රව්‍යවාදය වඩාත් අරුත් සරු කර සම්පූර්ණයෙන්ම විකාශනය කළේය; ස්වභාව ධර්මය පිළිබඳ ප්‍රජානනයට මිනිස් සමාජය ගැන ප්‍රජානනයද ඇතුළත් වනසේ එය පුළුල් කළේය. ඔහුගේ ඓතිහාසික ද්‍රව්‍යවාදය විද්‍යාත්මක චින්තනයේ ශ්‍රෙෂ්ඨ ජයග්‍රහණයක් විය. ඉතිහාසය සහ දේශපාලනය ගැන අදහස් තුළ කලින් රජ කළ ව්‍යාකූලත්වය හා අත්තනෝමතික භාවය වෙනුවට, නිෂ්පාදනීය බලවේගයන්ගේ ප්‍රතිඵලයක් වශයෙන් එක් සමාජ ජීවන ක්‍රමයකින්, තවත්, වඩාත් උසස් එකක් වැඩී එන සැටිත්, නිදර්ශනයක් වශයෙන්, වැඩවසම් ක්‍රමයෙන් ධනපති ක්‍රමය වැඩී එන සැටිත් පෙන්නුම් කරන, ඉතාමත් පරිපූර්ණ හා සසංගත විද්‍යාත්මක න්‍යායයක් ආදේශ කරන ලදී.

මිනිසාගේ ඥනය, ඔහුගෙන් ස්වාධීනව පවතින ස්වභාව ධර්මයේ (එනම්, සංවර්ධන වෙමින් පවතින ද්‍රව්‍යයේ) පරාවර්තනයක් වන්නා සේම, මිනිසාගේ සමාජ ඥනයද (එනම්, දර්ශනික, දේශපාලන, ආගමික යනාදී වූ, ඔහුගේ විවිධ අදහස් හා ධර්මයන්ද) සමාජයේ ආර්ථික ක්‍රමයේ පරාවර්තනයන් වන්නේය. දේශපාලනය ආයතනය ආර්ථික පදනම මස්තකයෙහි පිහිටා ඇති උඩු ව්‍යුහයකි. නිදර්ශනයක් වශයෙන්, නවීන යුරෝපීය රාජ්‍යයන්ගේ විවිධ දේශපාලන ආකෘති, නිර්ධන පංතිය මස්තකයෙහි ධනපති පංතියේ ආධිපත්‍යය ශක්තිමත් කිරීමට උපස්තම්භක වන බව අපට පෙනේ.

මාක්ස්ගේ දර්ශනය වනාහි, මිනිස් වර්ගයාට, විශේෂයෙන්ම කම්කරු පංතියට, බලවත් ඥන උපකරණ සපයා දුන් පරිසමාප්ත දර්ශනික ද්‍රව්‍යවාදයකි.

## II

දේශපාලන උඩුව්‍යුහය ඉදි කිරීමට අඩිතාලම වශයෙන් ගෙන තිබෙන්නේ ආර්ථික ක්‍රමය බව ඒත්තු ගත් මාක්ස් මෙම ආර්ථික ක්‍රමය අධ්‍යයනය කිරීමට ඔහුගේ වැඩිම අවධානය කැප කළේය. මාක්ස්ගේ ප්‍රධාන කෘතිය වන ''ප්‍රාග්ධනය''නවීන,එනම්,ධනපති, සමාජයේ ආර්ථික ක්‍රමය අධ්‍යයනය සඳහා කැප කර ඇත.

මාක්ස්ට පෙර, මුල් දේශපාලන අර්ථ ශාස්ත්‍රය, ධනපති රටවල් අතුරෙන් ඉතාමත් දියුණු රට වූ එංගලන්තයෙහි පරිණාම වී මතුවිය. ඇඩම් ස්මිත් හා ඩේවිඩ් රිකාර්ඩො, ඔවුන් ආර්ථික ක්‍රමය ගැන කළ විමර්ශන මගින් වටිනාකම පිළිබඳ ශ්‍රම න්‍යායට අත්තිවාරම් දැමූහ. මාක්ස් ඔවුන්ගේ එම මෙහෙය ඉදිරියට ගෙන ගියේය. එම න්‍යාය ඔප්පු කිරීමට සාධක සැපයූ ඔහු, එය තවදුරටත් සසංගත ලෙස විකාශනය කළේය. සෑම වෙළෙඳ භාණ්ඩයකම වටිනාකම නිර්ණය වන්නේ, එය නිෂ්පාදනය සඳහා වැය කෙරෙන, සමාජමය වශයෙන් අවශ්‍ය ශ්‍රම කාලය අනුවය යි ඔහු පෙන්නුම් කළේය.

ධනපති අර්ථ ශාස්ත්‍රඥයන් ද්‍රව්‍යයන් අතර (එක වෙළෙඳ භාණ්ඩයක් තවත් එකක් සඳහා හුවමාරු කිරීම) සම්බන්ධයක් දුටු තැන, මාක්ස් මිනිසුන් අතර සම්බන්ධකමක් පවතින බව හෙළිදරව් කළේය. වෙළෙඳ භාණ්ඩ හුවමාරුවෙන් ප්‍රකාශ වන්නේ, තනි පුද්ගල නිෂ්පාදකයන් වෙළෙඳ පොළ මගින් පවත්වන සම්බන්ධයයි. මුදලෙන් සලකුණු වන්නේ එම සම්බන්ධය වඩ වඩාත් සමීප වන බව හා තනි පුද්ගල නිෂ්පාදකයන්ගේ සමස්ත ආර්ථික ජීවනයම, නො වෙන් කළ හැකි සේ එක සමස්තයකට එක්සත් කෙරෙන බවයි. ප්‍රාග්ධනය මේ හා සම්බන්ධයෙන් තවදුර සංවර්ධනයක් සලකුණු කරන්නේය: මිනිසාගේ ශ්‍රම ශක්තිය වෙළෙඳ භාණ්ඩයක් බවට පත් වෙයි. වේතන කම්කරුවා සිය ශ්‍රම ශක්තිය ඉඩම්, පැක්ටරි හා ශ්‍රම උපකරණ හිමියාට විකුණයි. කම්කරුවා තමන්ගේ හා තම පවුලේ නඩත්තු මිළ (වේතන) උපයමින් දවසෙන් කොටසක් ගෙවයි. ඔහු දවසේ ඉතිරි කොටසට ගෙවීමක් නො ලබා වැඩ කරයි. එම කොටසේ කරන වැඩ තුළින් ධනපතියා සඳහා අතිරික්ත වටිනාකම උපදවයි. ලාභයේ උල්පත වන්නේත්, ධනපති පංතියේ වස්තුවෙහි උල්පත වන්නේත් එම අතිරික්ත වටිනාකමය.

මාක්ස්ගේ ආර්ථික න්‍යායෙහි මුල් ගල, අතිරික්ත වටිනාකම පිළිබඳ න්‍යාය ය.

කම්කරුවාගේ ශ්‍රමයෙන් උපදවන ලද ප්‍රාග්ධනය, කුඩා දේපල හිමියන් විනාශ කරමින්ද, විරැකියා ගත වුවන් හමුදවක් ඇති කරමින්ද, කම්කරුවා මිරිකා දමයි. කර්මාන්තයෙහිදී මහා පරිමාණ නිෂ්පාදනයේ ජයග්‍රහණය කල් නොයවාම පෙනී යන්නේය. නමුත් එම ප්‍රපංචයම කෘෂිකර්මාන්තයෙහිද දක්නට ලැබේ. එහි මහා පරිමාණ ධනපති ගොවිතැනෙහි උසස් කම ශක්තිමත්වෙයි, යන්ත්‍ර භාවිතය වැඩි වෙයි; මූල්‍ය ප්‍රාග්ධනයේ උගුලට අසුවූ ගොවි ජන ආර්ථිකය, නොදියුණු ශිල්ප ක්‍රම වල බර යටතේ පිරිහී ඇද වැටෙයි. කෘෂිකර්මාන්තයේ කුඩා පරිමාණ නිෂ්පාදනයේ පිරිහීම



විවිධාකාර ලෙස සිදු වේ. නමුත් එම පිරිහීම ප්‍රතික්ෂේප කළ නොහැකි සත්‍යයකි.

කුඩා පරිමාණ නිෂ්පාදනය විනාශ කිරීම මගින්, ප්‍රාග්ධනය, ශ්‍රම ඵලදායකත්වය වැඩි කිරීමටත්, ලොකු ධනපතියන්ගේ සමාගම් සඳහා ඒකාධිකාරී තත්වයක් ඇති කිරීමටත් මාර්ගය පෙන්වයි. නිෂ්පාදනයද තව තවත් සමාජමය බවට පත් වේ, — ලක්ෂ ගණන් හා කෝටි ගණන් කම්කරුවෝ ක්‍රමානුකූල ආර්ථික ජීවේන්ද්‍රියක් ලෙසට එකට බැඳෙති, — එහෙත් මෙම සාමූහික ශ්‍රමයේ නිෂ්පාදිතය ධනපතියන් අතළොස්සක් විසින් අත්පත් කරගනු ලැබේ. නිෂ්පාදනයේ අරාජිකත්වයත්, අර්බුදත්, වෙළෙඳ පොළවල් සොයා වියරු ලුහු බැඳීමත්, පොදු ජනතා සමූහයාගේ පැවැත්මේ අවදනම් සහිත භාවයත් උග්‍ර වන්නේය.

ප්‍රාග්ධනය කෙරෙහි කම්කරුවන්ගේ ගැති කම වැඩි කිරීමෙන් ධනපති ක්‍රමය එක්සත් ශ්‍රමකරු මහා බලවේගය ඇති කරයි.

මාක්ස්, කලල ස්වභාවයේ වෙළෙඳ භාණ්ඩ ආර්ථිකයේ පටන්, සරල හුවමාරුවේ පටන්, එහි උසස්තම ආකෘති දක්වාද, මහා පරිමාණ නිෂ්පාදනය දක්වාද, ධනපති ක්‍රමයේ සංවර්ධන මාර්ගය සටහන් කර දැක්වීය.

පැරණි හා අළුත් යන සියළුම ධනපති රටවල අත් දැකීමෙන්, මෙම මාක්ස්වාදී ධර්මයේ සත්‍යතාවය වසරක් වසරක් පාසා වැඩි වැඩියෙන් කම්කරු පිරිස්වලට, පැහැදිලි ලෙස ප්‍රදර්ශනය කෙරෙන්නේය.

ධනපති ක්‍රමය ලෝකය මුළුල්ලේම ජයග්‍රහණය ලබා ඇත. එහෙත් මෙම ජයග්‍රහණය, ප්‍රාග්ධනය පරදවා ශ්‍රමය ලබන විජයග්‍රහණයට ප්‍රස්ථාවනාව පමණකි.

## III

වැඩවසම් ක්‍රමය පෙරළා දමා, ''නිදහස්'' ධනපති සමාජය ඇති වූ කල, මෙම නිදහසෙන් අදහස් කෙරුනේ, වැඩ කරන ජනතාව පීඩනයට පත්කිරීමේ හා සූරා කෑමේ නව ක්‍රමයක් බව එක්වරම පෙනී ගියේය. මෙම පීඩනයේ පරාවර්තනයක් හා එයට විරුද්ධත්වය පෑමක් වශයෙන්, අප්‍රමාදව විවිධ සමාජවාදී ධර්ම උද්ගත විය. එසේ වුවද, ප්‍රථමයෙන් ඇති වූ සමාජවාදය මනෝරාජික සමාජවාදය විය. එය ධනපති සමාජය විවේචනය කළේය; එය හෙළා දුටුවේය; එයට පරිහාස කළේය; එහි විනාශය ගැන සිහින මැව්වේය; වඩාත් හොඳ ක්‍රමයක් ගැන සිතුවිල්ලේ යෙදෙන අතර, සූරා කෑමේ දුෂ්චරිතවත් බව ගැන පොහොසතුන්ට ඒත්තු ගැන්වීමට ප්‍රයත්න දැරුවේය.

එහෙත්, නියම විසඳීමක් පෙන්නුම් කිරීමට මනෝරාජික සමාජවාදය

සමත් නොවීය. ධනපති ක්‍රමය යටතේ වේතන වහල් ක්‍රමයේ නියම ස්වභාවය පැහැදිලි කිරීම එයට කළ නොහැකි විය. ධනපති සංවර්ධනයේ නියාමයන් අනාවරණය කිරීම එයට කළ නොහැකි විය. එමෙන්ම, නව සමාජයක නිර්මාණකයා වීමෙහි සමත් <u>සමාජ බලවේගය</u> කුමක්දැයි යන්න පෙන්නුම් කිරීම ද එයට නුපුළුවන් විය.

ඒ අතර තුර, යුරෝපයේ සෑම තන්හිම, විශේෂයෙන්ම ප්‍රංශයේ, වැඩවසම් ක්‍රමයේ බිඳවැටීම හා සමාගම්ව ඇති වූ වේගවත් විප්ලව විසින් වඩ වඩාත් පැහැදිලි ලෙස අනාවරණය වූයේ, සියළු සංවර්ධනයේ පදනම සහ ගාමක බලවේගය වශයෙන් විද්‍යාමාන වූ <u>පංති අතර අරගලය යි.</u>

රදළ පංතිය පරදවා දේශපාලන නිදහස ලබා ගැනීමේ ජයග්‍රහණ අතුරෙන් එකක් හෝ දරුණු ප්‍රතිරෝධයට මුහුණ නො දී අත්කර ගත හැකි නොවීය. ධනපති රටවල් අතුරෙන් එකක් හෝ, ධනපති සමාජයේ විවිධ පංති අතර ජීවිතයත් මරණයත් අතර කෙරෙන අරගලයකින් තොරව, එක්තරා දුරකට හෝ නිදහස් හා ප්‍රජාතන්ත්‍රවාදී වූ පදනමක් ඇතිව පරිණාම වූයේ නොවේ.

මාක්ස්ගේ ප්‍රාඥභාවය පිළිබිඹුවන්නේ, ලෝක ඉතිහාසය උගන්වන මෙම පාඩම නිගමනය කළ හා එය සසංගත ලෙස ව්‍යවහාරයට නැංවූ ප්‍රථමයා ඔහු වීමෙනි.ඔහු එයින් එළඹගත් නිගමනය <u>පංති අරගලය</u> පිළිබඳ ධර්මයයි.

දේශපාලනයේදී ජනතාව, සැමදමත් රැවටිල්ලට හා ආත්ම රැවටිල්ලට අඥාන ලෙස ගොදුරු වී ඇත. එමෙන්ම, සියළුම සදචාර, ආගමික, දේශපාලන හා සමාජ වදන්, ප්‍රකාශයන් හා පොරොන්දු පිටුපස තිබෙන කිසියම් එක් හෝ අනිත් පංතියක <u>උවමනාවන්</u> සොයා, තෝරා ගැනීමට ඔවුන් උගෙන ගන්නා තෙක්ම ඔවුන් එසේ තවදුරටත් රැවටෙනු ඇත. සෑම පැරණි ආයතනයක්ම, එය කොතරම් ම්ලේච්ඡ සහ කුණුවී තිබෙන සෙයක් පෙනුනත්, එය කිසියම් පාලක පංතිවල බලවේගයන් විසින් පවත්වා ගනු ලබන බව වටහාගන්නා තෙක් ප්‍රතිසංස්කරණ සහ වැඩි දියුණු කිරීම් සඳහා සටන් කරන සටන් කරුවන් සියළු දෙනාම පැරණි ක්‍රමයේ ආරක්ෂකයන් විසින් රවටනු ලැබෙනු ඇත. එම පංති වල ප්‍රතිරෝධය සුනු විසුනු කිරීමේ මාර්ග ඇත්තේ <u>එකක් පමණකි:</u> එයනම්, පැරණි ක්‍රමය අතුගා දමා, නව ක්‍රමය නිර්මාණය කිරීමේ බලවේගය වීමේ හැකියාව ඇති හා ස්වකීය සමාජ තත්වය නිසාම එසේ කළ යුතු, බලවතා වීමෙහි සමත් බලවේගයන්, අප වටා තිබෙන ඒ සමාජයෙන්ම සොයා ගැනීමත්, එම බලවේගයන්ට කරුණු පහද දෙමින්, ඒවා අරගලය සඳහා සූදනම් කිරීමත් ය.

සියළුම පීඩිත පංති මේ දක්වා ලැග සිටි අධ්‍යාත්මික වහල් භාවයෙන් ගැලවී ඉන් ඉවතට යාමේ මාර්ගය නිර්ධන පංතියට පෙන්වා දුන්නේ මාක්ස්ගේ දර්ශනික ද්‍රව්‍යවාදය පමණකි. ධනපතිවාදයේ පොදු ක්‍රමය තුළ නිර්ධන පංතියට හිමිව තිබෙන සැබෑ තත්වය පැහැදිලි කළේ මාක්ස්ගේ ආර්ථික න්‍යාය පමණකි.

ඇමෙරිකාවේ පටන් ජපානය දක්වාද, ස්වීඩනයේ පටන් දකුණු අප්‍රිකාව දක්වාද, නිර්ධන පංතියේ ස්වාධීන සංවිධාන වැඩි වර්ධනය වෙමින් පවතී. නිර්ධන පංතිය එහි පංති අරගලයේ යෙදීමෙන් අවබෝධය ලබමින් සහ අධ්‍යාපනය ලබමින්ද, ධනපති සමාජයේ දූර්මතයන් ඉවත දමා ඒවායින් නිදහස් වෙමින්ද, තව තවත් සමීප ලෙස එහි පිරිස් ඒකරාශී කර ගනිමින්ද, තම සාර්ථකත්වයන්ගේ තරම මැනීමට උගෙන ගනිමින්ද සිටියි. එය එහි බලවේගයන් දැඩි කරගනිමින්,නොවැලැක්විය හැකි ලෙසටම වැඩෙන්නේය.

''ප්‍රොස්විශේනිය'', අංක 3,
1913 මාර්තු

වී. අයි. ලෙනින්, සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය,
වෙළුම 23, පිටු 40—48

# මාක්ස්වාදය සහ සංශෝධනවාදය

ජ්‍යාමිති ශාස්ත්‍රීය ප්‍රත්‍යක්ෂයයන් මිනිස් අවශ්‍යතාවයන් කෙරෙහි බලපාන්නේ නම් ඒවාද බිඳහෙළීමට ප්‍රයත්න දරනු ඇතැයි යන සුප්‍රසිද්ධ කියමනක් තිබේ. දේවධර්මයේ පැරණි දුර්මතයන් හා සංසට්ඨනය වන ස්වාභාවික විද්‍යාවේ න්‍යායයන්, ඉතාමත් උමතු ප්‍රතිරෝධනයක් අවුස්සා ලූයේය, තවමත් අවුස්සා ලන්නේය. එනිසා, නවීන සමාජයේ දියුණු පංතිය අවබෝධයෙන් පෝෂණය කිරීමට සහ සංවිධානය කිරීමට කෙළින්ම උපකාරී වන, මෙම පංතිය හමුවේ ඇති කර්තව්‍යයන් සනිටුහන් කරන සහ වර්තමාන ක්‍රමය වෙනුවට, — ආර්ථික සංවර්ධනය හේතුකොට ගෙන — නව ක්‍රමයක් ආදේශ කිරීම නොවැලැක්විය හැකි බව පෙන්නුම් කරන මාක්ස්වාදී ධර්මයට ස්වකීය ජීවිතයේ සෑම ඉදිරි පියවරක් සඳහාම සටන් කිරීමට සිදුවී තිබීම පුදුමයක් නොවේ.

දේපල හිමි පංතිවල නැඟීඑන පරම්පරාවේ ඔළු අවුල් කිරීම සහ එය අභ්‍යන්තර සහ බාහිර සතුරන්ට විරුද්ධ හුරු පුරුදු කිරීම සඳහා නිල මහාචාර්ය වරු විසින් නිල වශයෙන් උගන්වනු ලබන ධනපති විද්‍යාවට සහ දර්ශනයට මෙය අදාළ වන බව කිව මනා නොවේ. මෙම විද්‍යාව මාක්ස්වාදයේ නම පවා ඇසීමට අකැමතිය. එය කියන්නේ මාක්ස්වාදය බිඳ හෙළා සහ සුනුවිසුනු කොට දමා ඇති බවය. සමාජවාදය බිඳ හෙළීම වෘත්තියක් කොටගත් තරුණ උගතුන්ද, යල්පැනගිය ''ක්‍රම'' වල නෝකාකාර සම්ප්‍රදයයන් රකින්නා වූ ජරාජීර්ණ වෘද්ධයන්ද,යන දෙකොටසම එකාකාර අභිරුචියකින් මාක්ස්ට පහර දෙති. මාක්ස්වාදයේ ප්‍රගතියත්, එහි අදහස් කම්කරු පංතිය අතර පැතිර යමින් එය තුළ තදින් මුල් බැස ගැනීමත් සැබවින්ම සිදුවන නිසා එයට විරුද්ධව ධනපති පංතිය දෙන මෙම ප්‍රහාරයන්ගේ නිරන්තර භාවය හා උත්සන්නකම අනිවාරණීය ලෙසටම වැඩි වේ. නිල විද්‍යාව විසින් මාක්ස්වාදය ''සුනු විසුනු'' කරනු ලැබූ සෑම අවස්ථාවකම, එය වඩාත් ශක්තිමත් වේ, වඩාත් දෘඩ වේ, හා වඩාත් බලවත් වේ.

එසේ වුවද, කම්කරු පංතියේ අරගලය හා සමග සම්බන්ධ වූ හා ප්‍රධාන වශයෙන් නිර්ධන පංතිය තුළ පැතිර පැවති ධර්මයන් අතර පවා, මාක්ස්වාදය එක් වරම තහවුරු වූයේ නොවේ. මාක්ස්වාදයේ පැවැත්මේ ප්‍රථම අර්ධ ශත වර්ෂය තුළ (1840 පටන් ඉදිරියට) ,එය එයට සතුරු වූ න්‍යායයන්ට විරුද්ධව අරගල කිරීම සඳහා ව්‍යාවෘත විය. හතළිස් ගණන්වල ප්‍රථම වර්ෂවලදී මාක්ස් හා එංගල්ස්, දර්ශනික විඥානවාදය පිළිගත් රැඩිකල්වාදී තරුණ හේගල්වාදීන්[71] සමග අරගලය හමාර කළහ. හතළිස් ගණන් අගදී ආර්ථික ධර්මයේ ක්ෂේත්‍රයෙහි ප්රුදෙන් වාදයට[72] විරුද්ධව අරගලය ආරම්භ විය. කුණාටු වලින් ගහණ 1848 වර්ෂයේ විද්‍යාමානවූ පක්ෂ හා ධර්ම විවේචනය කිරීම මගින් මෙම අරගලය පණස් ගණන් වලදී සම්පූර්ණ වනු දක්නා ලදී. හැට ගණන්වලදී, අරගලය පොදු න්‍යාය ක්ෂේත්‍රයෙන්, ඍජු ශ්‍රමකරු ව්‍යාපාරයට වඩාත් සමීප වූ ක්ෂේත්‍රයකට යොමු විය. එය ජාත්‍යන්තරයෙන් බකුනින්වාදය[73] නෙරපීමේ අරගලය විය.හැත්තෑ ගණන්වල මුල් අවුරුදුවලදී ජර්මනිය තුළ වේදිකාව මඳ කලකට ප්රුදෙන්වාදී මියුල්බෙර්ගෙර් විසින්ද, හැත්තෑ ගණන්වල අවසාන අවුරුදු වලදී අනුභූතිවාදී ඩූරිං විසින්ද අල්ලා ගෙන තිබුණි. නමුත් මෙම දෙදෙනාම නිර්ධන පංතිය කෙරෙහි පෑ බලය ඉතාමත් අල්ප විය. මේ වන විටම මාක්ස්වාදය, අන්‍ය දෘෂ්ටිවාද සියල්ලම පරදවා, ශ්‍රමකරු ව්‍යාපාරය තුළ නිසැක ජයග්‍රහණයක් ලබා ගනිමින් තිබුණි.

අනූ ගණන් වන විට මෙම ජයග්‍රහණය ප්‍රධාන වශයෙන් සම්පූර්ණ කර තිබුණි. ප්රුදෙන්වාදී සම්ප්‍රදයයන් වැඩිම කාලයක් නොනැසී පැවතුනු ලතින් රටවල පවා, කම්කරු පක්ෂ, ඒවායේ වැඩ පිළිවෙළවල් සහ උපක්‍රම අර්ථයෙන් මාක්ස්වාදී වූ අඩිතාලම් මත ගොඩ නැගූහ. කලින් කලට පවත්වන ජාත්‍යන්තර සම්මේලන ස්වරූපයෙන් යළිත් පණ ගන්වන ලද ශ්‍රමකරු ව්‍යාපාරයේ ජාත්‍යන්තර සංවිධානය, සියළුම වැදගත් කරුණු වලදී, අරගලයක් නො මැතිවම පාහේ මාක්ස්වාදී ස්ථාවරය පිළිගත්තේය. නමුත්, මාක්ස්වාදයට සතුරු වූ සියළු අනූ පූර්ණ ධර්මයන්ම එය විසින් පෙරළා දමනු ලැබීමෙන් පසුව එම ධර්මයන් මගින් ප්‍රකාශිත ප්‍රවනතාවයන් වෙනත් මාධ්‍යයන් සෙවීමට පටන් ගත්තේය. ඒ අනුව අරගලයේ ආකෘති සහ ඊට හේතු වෙනස් විය. නමුත් අරගලය දිගටම පැවතියේය. ඒ අනුව මාක්ස්වාදයේ පැවැත්මෙහි දෙවැනි අඩ ශත වසර (අනූගණන්වලදී) අරඹුනේ මාක්ස්වාදය තුළම වූ එයට සතුරු උපනතියක අරගලය ද සමගය.

එක් කලෙක පිළිගත් මාක්ස්වාදියෙකුව සිටි බර්න්ෂ්ටයින්, වඩාත් ආන්දෝලන සහිතව වඩාත් අධිෂ්ඨාන සහගත ලෙස මාක්ස්ගේ ධර්මයට සංශෝධන ගෙන ඒම මගින් එම උපනතියට[74] ඔහුගේ නම දුන්නේය.

එම උපනතිය නම්, මාක්ස් ධර්මය සංශෝධනය කිරීමය, සංශෝධනවාදය ය. ස්වාභාවික වශයෙන්ම — රටේ ආර්ථික නොදියුණු කමත්, ප්‍රවේණිදාස ක්‍රමයේ ඇටකටු වල බරෙන් මිරිකුණු ඉතා විශාල ගොවි ජනතාවක් පැතිරී සිටින නිසාත් — මාක්ස්වාදී නොවන සමාජවාදය ඉතාමත් වැඩි කාලයක් තිස්සේ නොනැසී පැවතුනු රුසියාවේ පවා, අපගේ ඇස් ඉදිරියේම, එය පැහැදිලිවම සංශෝධනවාදය බවට පරිවර්තනය වෙමින් තිබේ. ගොවිජන ප්‍රශ්නයේදී (සියළුම ඉඩම් නාගරික සභා සන්තක කිරීමේ වැඩ පිළිවෙළ) හා වැඩ පිළිවෙළ හා උපක්‍රම ආශ්‍රිත පොදු ප්‍රශ්න වලදී,යන දෙකෙහිදීම, අපගේ සමාජ-නරෝද්නික් වරු, ඔවුන්ගේ පැරණි ක්‍රමයේ, එනම්, ස්වභාවය අනුව අංගපූර්ණ දහමක් හා මූලික වශයෙන් මාක්ස්වාදයට සතුරු වූ එම ක්‍රමයේ මරණාසන්න හා කල් ඉක්ම වූ නෂ්ඨාවශේෂයන් වෙනුවට, වැඩි වැඩියෙන් මාක්ස් ධර්මයට ''සංශෝධන'' ආදේශ කරති.

මාක්ස්-පූර්ව සමාජවාදය පරාජය කරනු ලැබ ඇත. එය දිගටම එහි අරගලය ගෙනයයි. එහෙත් දැන් එය එම අරගලය කෙරෙන්නේ එහිම භූමියෙහි නොව, සංශෝධනවාදය ලෙසට, මාක්ස්වාදයේම භූමියෙහිය. එබැවින්, සංශෝධනවාදයේ දෘෂ්ටිමය සන්ධාරය විමර්ෂණය කරමු.

දර්ශනයේ ක්ෂේත්‍රයෙහිදී, සංශෝධනවාදය ධනපති මහාචාර්ය ''විද්‍යාව'' පසු පස ගියේය. මහාචාර්යවරු ''කාන්ත් වෙත ආපසු'' ගියහ. ඒ අනුව සංශෝධනවාදය නව කාන්ත්වාදීන්[75] පසු පස ඇදී ගියේය. පූජකවරු දහස් ගණන් වරක් නැවත නැවතත් දර්ශනවාදී ද්‍රව්‍යවාදයට විරුද්ධව කී, නිසරු වදන්ම ප්‍රතිරාවය කළ මහාචාර්ය වරු අනුව යමින් සංශෝධනවාදීහුද එකඟත්වය පා සිනාසී (අළුත්ම හන්ද්බුහ් අනුව වචනයක් වචනයක් පාසා) බොහෝ කලකට පෙරම ද්‍රව්‍යවාදය ''බිඳහෙළන'' ලදැයි යනුවෙන් කෙඳුරූහ.හේගල් ''මිය ගිය සුනඛයෙකු''[76] ලෙසට ගත් මහාචාර්යවරු, තමන්ම විඥානවාදය, එනම්, හේගල්ගේ විඥානවාදයට වඩා දහස් වරක් පහත් හා නොවැදගත් විඥානවාදයක් දේශනාකරමින්, දයලෙක්තික ක්‍රමය කෙරේ පිළිකුල හඟවමින් උරහිස් නැටවූහ. එවිට සංශෝධනවාදීහු, ඔවුන් පසුපස යමින් ''උපාය දක්ෂ'' (හා විප්ලවවාදී) දයලෙක්තිකය වෙනුවට, ''සරල'' (සහ නිශ්චල) ''පරිණාමය'' ආදේශකරමින්, දර්ශනික ලෙස විද්‍යාව කෙළෙසීමේ මඩ ගොහොරුවෙහි පෙරළුනහ. තමන්ගේ විඥානවාදී හා ''විවේචනාත්මක'' යන ක්‍රම දෙකම ප්‍රබල මධ්‍යකාලීන ''දර්ශනය'' ට (එනම් දේවධර්මයට) ගැලපීමෙන් මහාචාර්යවරු ඔවුන්ගේ නිල වේතන උපයාගත් අතර, නවීන රාජ්‍යය සම්බන්ධයෙන් නොව, දියුණු පංතියේ පක්ෂය හා සම්බන්ධයෙන්, ආගම ''පෞද්ගලික කටයුත්තක්'' කිරීමට උත්සාහ ගැනීමෙන් සංශෝධනවාදීහු ඔවුන් සමීපයට ඇදුනහ.



මාක්ස් දහමට ඉදිරිපත් කරන ''සංශෝධනයන්'' ගෙන් පංති අර්ථය අනුව අදහස් වන්නේ කුමක්ද යන්න කීම අවශ්‍ය නොවේ. එය අධ්‍යාහාරයෙන්ම පැහැදිලිය. ජාත්‍යන්තර සමාජ-විප්ලවවාදී ව්‍යාපාරයේ සිටියවුන් අතුරෙන්, සංශෝධනවාදීන්ගේ ඇදහිය නොහැකි තරම් නිසරු වූ කථා, සසංගත දයලෙක්තික ද්‍රව්‍යවාදී ස්ථාවරයකින් විවේචනය කළ එකම තැනැත්තා ප්ලෙහානව් බව පමණක් මෙහි ලා සඳහන් කරමු. ප්ලෙහානව්ගේ උපක්‍රමීය අවස්ථාවාදය විවේචනය කිරීම නැමති වෙස් මුහුණ පළඳවා පැරණි හා ප්‍රතිගාමී දර්ශනික කුණු කන්දල් හොරෙන් ඉදිරියට ගෙන ඒමට, මහත් මුළාවකින් ප්‍රයත්න දරනු ලබන හෙයින් මෙකල මෙය වඩාත් අවධාරණය කරමින් විශේෂයෙන් සඳහන් කළයුතු වන්නේය.*

දේශපාලන අර්ථශාස්ත්‍රය ගැන සඳහන් කරන්නේනම්, සංශෝධනවාදීන්ගේ මෙම ක්ෂේත්‍රයේ ''සංශෝධන'' බෙහෙවින් විස්තරාත්මක හා පරිවේෂණාත්මක වූ බව සඳහන් කළ යුතුය. ''ආර්ථික සංවර්ධනය පිළිබඳ නව දත්තයන්'' ඉදිරිපත් කිරීම මගින් මහජනයා කෙරෙහි බල පෑමට ප්‍රයත්න දරන ලදී. මහා පරිමාණ නිෂ්පාදනය විසින් කුඩා පරිමාණ නිෂ්පාදනය සංකේන්ද්‍රණය කිරීම හා නෙරපා දැමීම කෘෂිකර්මාන්තය තුළ සිදු වන්නේම නැති බවත්, වාණිජයෙහි හා කර්මාන්තයෙහි එය සිදුවන්නේ ඉතා සෙමින් බවත්, කියන ලදී. දැන් අර්බුද දුර්ලභ හා දුර්වල වී ඇති බවත්, කාටල සහ සංගත ව්‍යාපාර නිසා ඒවා සම්පූර්ණයෙන්ම අහෝසි කර දැමීමට ප්‍රාග්ධනයට හැකි වනු ඇතැයි යනුත් කියන ලදී. පංති විරෝධතාවයන්ගේ සැර බාල වීමේ සහ තියුණු කම අඩුවීමේ ප්‍රවණතාවය නිසා, ධනපති ක්‍රමය යොමුවී ඇතැයි කියන ''බිඳවැටීම පිළිබඳ න්‍යාය'' දුර්වල න්‍යායක් ලෙස හඳුන්වන ලදී. බෙම්-බවෙර්ක් ගේ මතය අනුව වටිනා කම පිළිබඳ මාක්ස්ගේ න්‍යාය වුවද නිවරද කිරීමේ වරදක් නැතැයි අවසාන වශයෙන් කියන ලදී.

මෙම ප්‍රශ්න පදනම් කර ගෙන සංශෝධනවාදීන්ට විරුද්ධව කළ සටනේ ප්‍රතිඵලයක් වශයෙන්, විසි අවුරුද්දකට පෙර එංගල්ස් ඩූරිං සමග කළ විවාදයෙන් සිදු වූ සේම, ජාත්‍යන්තර සමාජවාදයේ න්‍යායාත්මක චින්තනයේ ඵලදයක පුණර්ජීවනයක් ඇති විය. සත්‍ය කරුණු හා සංඛ්‍යා

---

* බග්දනව්, බසාරව් සහ අනිකුත් අයගේ ''මාක්ස්වාදයේ දර්ශනය ගැන සමීක්ෂා'' බලන්න. එම පොත ගැන සාකච්ඡා කිරීමට මෙය තැන නොවේ. නව කාන්ත්වාදී සංශෝධනවාදීන් ගැන මා මෙම ලියවිල්ලෙහි කියා ඇති හැම දෙයක්ම, මෙම නව හියුම්වාදී සහ නව බර්ක්ලිවාදී සංශෝධනවාදීන්ට ද මූලික වශයෙන් ගැලපෙන බව නුදුරු අනාගතයේදීම ලිපි මාලාවක් හෝ කුඩා පොතක් හෝ මගින් ඔප්පු කිරීමට මා බලාපොරොත්තු වන බව පමණක් මෙහිදී සඳහන් කරන්නෙමි. [77]

ලේඛන පිටිවහල්කොට ගෙන සංශෝධනවාදීන්ගේ තර්ක විග්‍රහ කරන ලදී. ඔවුන් නවීන කුඩා පරිමාණ නිෂ්පාදනය ක්‍රමානුකූල ලෙස රෝස පාටින් පින්තාරු කරමින් සිටින බව ඔප්පුවිය. කර්මාන්තයෙහිදී පමණක් නොව කෘෂිකර්මාන්තයෙහිදී ද කුඩා පරිමාණ නිෂ්පාදනයට වඩා මහා පරිමාණ නිෂ්පාදනයේ ඇති තාක්ෂණික හා වාණිජ උසස් බව බිඳලිය නොහැකි සත්‍ය කරුණු අනුව ඔප්පු වී ඇත. නමුත් වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය කෘෂිකර්මාන්තය තුළ සංවර්ධනය වී තිබෙන්නේ ඉතාමත් අඩුවෙනි. කෘෂිකර්මාන්තය ක්‍රම ක්‍රමයෙන් ලෝක ආර්ථිකයේ හුවමාරු ක්‍රියා දමය තුළට ඇදී යන බව සලකුණු කරන කෘෂිකර්මාන්තයේ විශේෂ අංශ (සමහර විට ව්‍යාපාර පවා) තෝරා බේරා ගැනීමෙහිදී, නවීන සංඛ්‍යා විද්‍යාඥයෝ හා ආර්ථික විද්‍යාඥයෝ, සාමාන්‍ය වශයෙන්ම වැඩි දක්ෂ කමක් නොදක්වති. කුඩා පරිමාණ නිෂ්පාදනය නඩත්තුවන්නේ, නිරන්තරව ආහාරය බාලකිරීමෙන්ද, සැමදා සාගින්නෙන්ද, වැඩ දිනය දීර්ඝ කිරීමෙන්ද, ගවයන්ගේ සගුණත්ව තත්වය හා ඔවුනට සාත්තුව දුර්වල කිරීමෙන්ද, කොටින් කියතොත්, ධනපති කර්මාන්තයට විරුද්ධව හස්ත කර්මාන්තය රැකුණු ආකාරයෙන්ම, ස්වාභාවික ආර්ථිකයේ නෂ්ඨාවශේෂ පිහිට කොට ගෙනවේ. විද්‍යාවේ හා කාර්මික ශිල්පයේ සෑම දියුණුවක්ම, ධනපති සමාජයේ කුඩා පරිමාණ නිෂ්පාදනයේ අඩිතාලම් අනිවාරණීය ලෙස හා නිර්දය ලෙස දුර්වල කරයි. බොහෝ විට සංකීර්ණ සහ පැටලිලි සහිත වන මෙම ක්‍රියා දමය, එහි ආකෘති සියල්ලම අනුව විමර්ශනය කිරීමත්, ධනපති ක්‍රමය යටතේ කුඩා නිෂ්පාදකයාට ඔහුගේ තත්වය රැක ගැනීමට කිසිම ඉඩක් නොලැබෙන බව ද, ධනපති ක්‍රමය යටතේ ගොවිතැන් කරන ගොවියාට සහනයක් නොදෙන අති දුෂ්කර තත්වයද, ගොවියා නිර්ධන පංතියේ ස්ථාවරය පිළිගැනීමේ අවශ්‍යතාවයද, පෙන්වා දීමත්, සමාජවාදී දේශපාලන අර්ථ ශාස්ත්‍රයට භාර කර්තව්‍යය යි. මෙම ප්‍රශ්නයේදී ඒකාර්ථයෙන් තෝරාගත් කරුණු පදනම වශයෙන් ගනිමින් ද, සමස්තයක් වශයෙන් ධනපති ක්‍රමය ගැන ක්‍රමයක් වශයෙන් සඳහන් නොකරම ද, මතුපිටින් සාමාන්‍යකරණයන් කිරීමෙන්, සංශෝධනවාදීහු විද්‍යාත්මක අර්ථයෙන් බරපතල වරදක් කළහ. නිර්ධන පංතියේ දෘෂ්ටිකෝණය පිළිගන්නා ලෙසට සුළු ගොවියා උනන්දු කරනවා වෙනුවට, අපේක්ෂිතව හෝ අනපේක්ෂිතව, සුළු දේපල හිමියාගේ ආකල්පය (එනම් ධනපති ආකල්පය) පිළිගන්නා සේ, ඔහුට අනිවාරණීය ලෙස ආරාධනා කිරීමෙන් හෝ උනන්දු කිරීමෙන්, සංශෝධනවාදීහු දේශපාලන දෘෂ්ටි කෝණය අනුවද බරපතල වරදක් කළහ.

අර්බුද පිළිබඳ න්‍යායත්, බිඳ වැටීම පිළිබඳ න්‍යායත් සම්බන්ධයෙන් සංශෝධනවාදයේ තත්වය ඊටත් වඩා නරක විය. අවුරුදු කීපයක කාර්මික උත්පාතනය සහ සමෘද්ධිය පදනම් කරගෙන මාක්ස්ගේ න්‍යායට අමුතු හැඩයක් දීම ගැන මිනිසුන්ට කල්පනා කළ හැක්කේ ඉතා කෙටිකාලයක් ගතවන තෙක් පමණකි. එසේ කළ හැක්කේද ඉතාමත් කෙටි දෘෂ්ටියක් ඇති අයට පමණකි. අර්බුද යනු යටගියාවට හිමි දෙයක් නොවන බව යථාර්ථය සංශෝධනවාදීන්ට කල් නොයවාම පැහැදිලි කර දුන්නේය: සමෘධිය පසු පස අර්බුද ආවේය. ඒ ඒ අර්බුදයේ ආකෘති, අනු පිළිවෙළ හා පින්තූරය වෙනස් විය. එහෙත් අර්බුද ධනපති ක්‍රමයේ අනිවාරණීය සංයුක්ත කොටසක් විය. කාටල සහ සංගත ව්‍යාපාර, නිෂ්පාදනය එක්සත් කරන අතරම, ඒ හා සමගම, කාටත් පැහැදිලිවන ආකාරයට, නිෂ්පාදනයේ අරාජිකත්වයත්, නිර්ධන පංතියේ පැවැත්මේ අවදනම් සහගත තත්වය සහ ප්‍රාග්ධනයේ පීඩනයත් උග්‍ර කිරීමෙන්, පංති සතුරුතාවයන් පෙර නොවූ විරූ මට්ටමකට නගින සේ උත්සන්න කළේය. ධනපති ක්‍රමය — තනි දේශපාලන සහ ආර්ථික අර්බුදවල ද, එමෙන්ම මුළු ධනපති ක්‍රමයම සම්පූර්ණයෙන්ම බිඳ වැටීමේද, යන දෙ අර්ථයෙන්ම — බිඳ වැටීමක් කරා ඇදෙන බව, ඉඳුරාම නව යෝධ සංගත ව්‍යාපාර විසින්ම, විශේෂයෙන්ම පැහැදිලි ලෙස හා විශේෂයෙන්ම මහා පරිමාණ වශයෙන් පෙන්නුම් කර තිබේ. පෙනෙන්නට තිබෙන ලක්ෂණ ගණනාවකින් පෙරනිමිති කියන, ළඟ එන කාර්මික අර්බුදය ගැන කිසිවක් නො කීවත්, ඇමෙරිකාවේ මෑත ඇති වූ මූල්‍ය අර්බුදයෙහිත්, යුරෝපය මුළුල්ලේම භයානක ලෙස විරැකියාව වැඩි වී යාමෙහිත්, ප්‍රතිඵලයක් වශයෙන්, සංශෝධනවාදීන්ම බොහෝ දෙනෙකු ඇතුළු, බොහෝ අයට, සංශෝධනවාදීන්ගේ ''න්‍යායයන්'' අමතක වීමට හේතු විය. නමුත් මෙම බුද්ධිමතුන්ගේ අස්ථාවරභාවයකම්කරු පංතියට උගැන්නු පාඩම අමතක නොකළ යුතු වේ.

වටිනාකම පිළිබඳ න්‍යාය සම්බන්ධයෙන් කිව යුත්තේ, බෙම්බවෙර්ක් ගේ අදහස් අනුව, ඉතාමත් නො පැහැදිලි ඉඟි පෑම් හා සුසුම් ලෑම් හැර සංශෝධනවාදීන් එයට අදාලව කිසිම දෙයක් ඉදිරිපත් කර නොමැති බව හා ඒ ගැන වූ විද්‍යාත්මක චින්තනයේ වර්ධනය පිළිබඳ කිසිම සටහනක් වත් ඉතිරි කර නොමැති බවයි.

දේශපාලන ක්ෂේත්‍රයෙහි දී සංශෝධනවාදීහු ඇත්ත වශයෙන්ම මාක්ස්වාදයේ අඩිතාලම, එනම්, පංති අරගලය ගැන උගැන්වීම සංශෝධනය කිරීමට ප්‍රයත්න දැරූහ. දේශපාලන, ප්‍රජාතන්ත්‍රවාදය හා සර්වජන ඡන්දය යන මේවා නිසා, පංති අරගලය කිරීමේ පසු බිම නැතිව යන බව අපට කියන ලදී. වැඩ කරන මිනිසුන්ට රටක් නැත යනුවෙන් ''කොමියුනිස්ට් ප්‍රකාශනය'' කියන අදහස ඉන් බොරු වන බව කියන ලදී. ප්‍රජාතන්ත්‍රයෙහි ''වැඩි දෙනාගේ කැමැත්ත'' බල පවත්වන නිසා, රාජ්‍යය පංතියක

පාලනයක් ලෙස සැලකීම හෝ ප්‍රතිගාමීන්ට විරුද්ධව ප්‍රගතිශීලී, සමාජ-ප්‍රතිසංස්කරණ ධනපතියන් සමග සන්ධානයන් ඇති කර ගැනීම ප්‍රතික්ෂේප කිරීම හෝ නොකළ යුතුයයි ඔවුහු කීහ.

සංශෝධනවාදීන්ගේ මෙම තර්ක වලින් ඉදිරිපත් වූයේ එක්තරා දුරකට මනාව තුලනය වූ අදහස් පද්ධතියක්, එනම්, පැරණි සහ සුප්‍රසිද්ධ ලිබරල්-ධනපති අදහස් බව විවාද රහිතව පිළිගැනීමට සිදු වේ. ඡන්දය දීමේ අයිතිය හා ආණ්ඩු කිරීමට සම්බන්ධ වීමේ අයිතිය, විශේෂයක් නොමැතිව, පුරවැසියන් සෑම දෙනාටම තිබෙන නිසා, ධනපති පාර්ලිමේන්තුවාදය නිසා, පංති හා පංති භේදය නැතිව යන්නේයයි ලිබරල්වාදීහු නිතරම කීහ. එවැනි අදහස් කොතරම් අඥනද යනු, දහ නමවැනි ශත වර්ෂයේ යුරෝපයේ මුළු ඉතිහාසයෙන් ම හා විසිවැනි ශත වර්ෂයේ මුල් අවධියේ රුසියානු විප්ලවයේ මුළු ඉතිහාසයෙන්ම පැහැදිලිව පෙනේ. ධනපති ක්‍රමයේ "ප්‍රජාතන්ත්‍රවාදී" තරහය යටතේ ආර්ථික වෙනස් කම් උග්‍ර වෙනවා මිස ලිහිල් වන්නේ නැත. පාර්ලිමේන්තුවාදයෙන් සිදු වන්නේ, ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩු තුළ පවා ආවේනිකව පවතින පංති පීඩනයේ අවයව ස්වභාවය නැති වී යාම නොව, එය පැහැදිලිව අනාවරණය වීමය. ඉහත දේශපාලන සිදුවීම් වලට සහභාගි වූ පොදු ජනතා කොටස් වලට වඩා අපමණ පුළුල් ජන සමූහයකට දැනුම ලබා ගැනීමට හා සංවිධානය වීමට ආධාර කිරීම නිසා පාර්ලිමේන්තුවාදයෙන් අර්බුද හා දේශපාලන විප්ලව අහෝසි වන්නේ නැත. එයින් සිදු වන්නේ, එවැනි විප්ලවවලදී සිවිල් යුද්ධය උපරිම මට්ටමින් උත්සන්න වීමය. මෙම උත්සන්න වීම කෙසේ නම් අනිවාරණීය ලෙස සිදුවන්නේද යන්න පැරිසියේ 1871 වසන්තයේ සිද්ධි වලින් හා රුසියාවේ 1905 ශීත ඍතුවේ සිද්ධි වලින් ඉතාමත් පැහැදිලි ලෙස පෙනී ගොස් තිබේ. නිර්ධන පංතිය පොඩිපට්ටම් කර දැමීම සඳහා, ප්‍රංශ ධනපති පංතිය මොහොතක හෝ පැකිළීමක් නොමැතිව, මුළු ජාතියේම සතුරා සමග, එනම් රට විනාශ කළ විදේශීය හමුදාව සමග, එකඟත්වයක් ඇති කර ගත්තේය. බහු ජන හිංසනයේ තර්කය මගින් පෙරටත් වඩා තියුණු තීරණයක් ගැනීමට මඟ හෙළි කරන පාර්ලිමේන්තුවාදයට සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදයට ආවේනික අනිවාර්ය දයලෙක්තිකය වටහා නොගන්නා කොයි කවුරු වුවත්, මෙම පාර්ලිමේන්තුවාදය පදනම් කරගෙන, එවැනි "තර්ක" වලට ජයග්‍රාහී ලෙස සහභාගි වීම සඳහා කම්කරු පංති ජනතා සමූහයා ඇත්ත වශයෙන්ම සූදනම් කරන්නා වූ,ප්‍රතිපත්තියෙන් සසංගත වූ ප්‍රචාරය සහ උද්ඝෝෂණය ගෙනයාමට කිසි කලෙකත් සමත් වන්නේ නැත. බටහිර සමාජ-ප්‍රතිසංස්කරණ ලිබරල්වාදීන් සමග සහ රුසියානු විප්ලවයේ ලිබරල් ප්‍රතිසංස්කරණවාදීන් (කැඩෙට්වරු[78]) සමග ඇති කරගත් සන්ධානයන්, එකඟතාවයන් හා





පෙරමුණු අත්දැකීම් වලින් මනාව ඒත්තුයන සේ පෙනී ගොස් ඇති දෙයකි, සටන් කිරීමේ හැකියාව අතින් දුර්වලතම, ඉතාමත් වැනෙන සුළු සහ ද්‍රෝහී කොටස් සමග සටන් කරුවන් එකට සම්බන්ධ කිරීමෙන්, මෙම ගිවිසුම් වලින් සිදු වන්නේ, ජනතාවගේ විඥනය මොට කිරීමත්, එයින් ඔවුන්ගේ අරගලයේ වැදගත් කම වැඩි නොකර එය අඩු කිරීමත්, පමණක් බව. ලෝකය මුළුල්ලේම නිර්ධන පංතියට කිසි කලෙකත් අමතක නොවන පරිද්දෙන් සංශෝධනවාදී දේශපාලන උපක්‍රම පුළුල් හා සැබැවින්ම ජාතික පරිමාණයෙන් යොදා ගැනීමේ විශාලම අත්හදා බැලීම වූ, ප්‍රංශයේ මිලියරාන්වාදය[79], විසින් සංශෝධනවාදය ගැන අගය කිරීමක් සපයා තිබේ.

ඔවුන් සමාජවාදයේ පරමාර්ථ අරමුණ කෙරෙහි දැක්වූ ආකල්පය වූයේ, එම අරමුණ සංශෝධනවාදයේ ආර්ථික හා දේශපාලන ප්‍රවණතාවයන්ගේ ස්වාභාවික ඌණ පූරකයක් කොට සැල කීමය. "සියල්ලටම වඩා ව්‍යාපාරය වැදගත්ය. පරමාර්ථ අරමුණ වැදගත් නොවේ. "දීර්ඝ දේශනා ගණනාවකට වඩා හොඳින් සංශෝධනවාදයේ හරය විස්තර කිරීමට බර්න්ෂ්ටයින් යොදගන්නේ එම සිත්ගන්නා පාඨය යි. අවස්ථාවෙන් අවස්ථාවට හැසිරෙන ආකාරය වෙනම තීරණය කිරීම, කාලීන සිදුවීම් අනුව සහ සාමාන්‍ය දේශපාලනයේ කැපුම්, කෙටුම් හා වෙනස්වීම් අනුව තමන් හැඩ ගැසීම, නිර්ධන පංතියේ ප්‍රධාන අවශ්‍යතාවයන් සහ මුළු ධනපති ක්‍රමයේත්, මුළු ධනපති පරිණාමයේත් මූලික අංග ලක්ෂණ අමතක කිරීම, අවස්ථාවේ සැබෑ හෝ කල්පිත වාසි තකා මෙම මූලික අවශ්‍යතාවයන් කැප කිරීම — සංශෝධනවාදයේ ප්‍රතිපත්තිය එසේය. තවද, ඒ අනුව, මෙම ප්‍රතිපත්තියේ ස්වභාවය නිසාම එය නියමයක් නොමැති ආකෘති ගණනාවකින් ඉදිරිපත් වන බවත්, යම් දුරකට හෝ "නව" තාවයක් ඇති සෑම ප්‍රශ්නයකදීමද, යම් දුරකට හෝ බලාපොරොත්තු නොවූ හා නොසිතූ විරූ සිදුවීමක් ඇති වන, සංවර්ධනයේ මූලික ක්‍රියාමාර්ගය ඉතා සුළු වශයෙන් හා ඉතා සුළු කලකට පමණක් වෙනස් කරනසුලු එවැනි සිදුවීමක් වුවද ඇතිවන, සෑම අවස්ථාවකදීම ද, එක් හෝ තවත් ආකාරයක සංශෝධනවාදයක් උද්ගත වන බව ඉතා ප්‍රකටව පෙනෙන කරුණකි.

සංශෝධනවාදයේ නොවැලැක්විය හැකි බව නිර්ණය වන්නේ නවීන සමාජය තුළ විහිදී ඇති එහි මුල් අනුවය. සංශෝධනවාදය ජාත්‍යන්තර ප්‍රපංචයකි. ජර්මනියේ සාධර්මික වාදීන් සහ බර්න්ෂ්ටයින්වාදීන් අතරද, ප්‍රංශයේ ගෙද්වාදීන් සහ ජොරේස්වාදීන් (දූන්,විශේෂයෙන්ම බ්රූස්වාදීන්)[80] අතරද, "එංගලන්තයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනය[81] සහ ස්වාධීන කම්කරු පක්ෂය[82] අතරද, බෙල්ජියමේ බ්රූකර් සහ වන්දේර්වෙල්ද්[83] අතරද, ඉතාලියේ අංශ පූර්ණවාදීන්[84] සහ ප්‍රතිසංස්කරණවාදීන් අතරද,

රුසියාවේ බොල්ෂෙවික්වරු හා මෙන්ෂෙවික්වරු අතරද පවතින සම්බන්ධය, එරටවල් සියල්ලෙහි වර්තමාන තත්වයට ආවේනික වන ජාතික කොන්දේසිවල සහ ඓතිහාසික සාධකයන්ගේ අතිශය විවිධත්වය එසේ තිබියදීම, සෑම තැනෙකම, එම සම්බන්ධය මූලික වශයෙන් එක සමාන වන බව ගැන, කල්පනාකාරී සහ ඉතා අඩු මට්ටමේ හෝ දැනුම ඇති සමාජවාදියෙකුට සැකයක් ඇති කර ගැනීමට ඉඩක් නැත. යථාර්ථ ලෙසට, වර්තමාන ජාත්‍යන්තර සමාජවාදී ව්‍යාපාරයේ ''බෙදීම'', දැන් ලෝකයේ සියළුම විවිධ රටවල එකම මාර්ගයක් ඔස්සේ ක්‍රියාත්මක වෙමින් පවතී. අවුරුදු තිහකට, හතළිහකට පෙර, විවිධ රටවල වූ එකම ජාත්‍යන්තර සමාජවාදී ව්‍යාපාරයේ විෂමජාතීය උපනති ඒවා අතර අරගල කරගනිමින් පැවති තත්වය සමග සසඳා බලන කල මෙය දැවැන්ත ඉදිරි ගමනක් නියෝජනය කරන්නකි. එසේම, ලතින් රටවල ''විප්ලවවාදී සම්මේලවාදය[85] ලෙසට ''වමෙන් එන සංශෝධනවාදය'' ද මාක්ස්වාදය ''සංශෝධනය'', කරමින් එයට ගැලපෙන සේ සකස් වෙයි: වැරදි ලෙසට වටහා ගනු ලැබූ මාක්ස්ට විරුද්ධව නිවැරදි ලෙස වටහා ගනු ලැබූ මාක්ස් වෙත ඉතාලියේ ලැබ්‍රියෝලාද, ප්‍රංශයේ ලගර්දේල් ද නිතර නිතර ආයාචනා කරනු ඇසේ.

අවස්ථාවාදී සංශෝධනවාදය තරම් දුරට තවමත් කිසිසේත් සංවර්ධනය වී නොමැති, මෙම සංශෝධනවාදයේ දෘෂ්ටිමය සන්ධාරය විග්‍රහ කිරීමට අපට මෙහිදී ප්‍රමාද විය නොහැකිය. එය තවමත් ජාත්‍යන්තර තත්වයට පැමිණ නැත; එකම රටක වත් සමාජවාදී පක්ෂයක් සමග කරන ලද එකම් ලොකු ප්‍රායෝගික සටනක හෝ පරීක්ෂාවට එය තවමත් භාජනය වී නොමැත. එනිසා අපි ඉහත විස්තර කරන ලද ''දකුණෙන් එන සංශෝධනවාදයට'' පමණක් සීමා වන්නෙමු.

ධනපති සමාජය තුළ එය ඇතිවීම අනිවාරණීය වන්නේ කුමක් නිසාද? ජාතික විශේෂතාවයන්ටත්, ධනපති සංවර්ධනයේ මට්ටමෙහි වෙනස්කම් වලටත් වඩා එය ගැඹුරු වන්නේ මන්ද? එසේ වන්නේ, සෑම ධනපති රටකම, නිර්ධන පංතිය හා සමග එහි එක පැත්තකින් නිතරම ඉතා පුළුල් සුළුධනපති, සුළු දේපල හිමියන් ස්ථරයක් සිටින හෙයිනි. ධනපති ක්‍රමය පැන නැගුනේ හා නිරන්තරව පැන නගින්නේ සුළු නිෂ්පාදනයෙනි. ධනපති ක්‍රමය විසින් අළුත් ''මධ්‍යම ස්ථර'' ඇඳුතු (පැක්ටරියට සම්බන්ධ උපාංග, ගෙදරවල වැඩ කිරීම, බයිසිකල් හා මෝටර්වාහන කර්මාන්ත ආදී විශාල කර්මාන්තවල අවශ්‍යතාවයන් සපුරා ලීමට රට සෑම තැනම විසිරී ගිය කුඩා කර්මාන්ත ශාලා) නැවත නැවතත් අනිවාරණීය ලෙසම ජනිත කරනු ලැබේ. එසේම අනිවාරණීය ලෙසට, මෙම අළුත් සුළු නිෂ්පාදකයන්, නැවතත් නිර්ධන පංති සමූහයා අතරම වීසි කරනු ලැබේ. පුළුල් කම්කරු පක්ෂ තුළ, සුළු ධනේශ්වර ලෝකාවබෝධය නැවත නැවතත් පැන නැගීම ඉතාමත් ස්වාභාවිකය. එය එසේ වීම ඉතාමත් ස්වාභාවිකය; නිර්ධන පංති විප්ලවයේදී වාසනාවේ වෙනස්කම් ඇතිවන තාක් දක්වාම, එය කවදත් එසේම වනු ඇත. එවැනි විප්ලවයක් ඇති කිරීම සඳහා ජනගහණයෙන් බහුතරයක් ''සම්පූර්ණ'' නිර්ධන පංති කරණයට භාජන කිරීම අවශ්‍යයයි කල්පනා කිරීම බරපතල වරදක් වනු ඇත. නිර්ධන පංති විප්ලවය මගින්, විවාද විෂය කරුණු සියල්ලම තියුණු කෙරෙන විටත්, පොදු ජනතා සමූහයාගේ හැසිරීම නිර්ණය කිරීමේදී ඉතාමත් හදිසි වැදගත් කමක් ඇති කරුණු සම්බන්ධයෙන් වන වෙනස් කම් සියල්ලම අවධානයේ එල්ලයට ගෙන එන විටත්, සටනේ තාපය අසු අස්සේම සතුරන් හා මිතුරන් වෙන් කොට හඳුනා ගැනීම අවශ්‍ය කෙරෙන විටත්, සතුරාට තීරණාත්මක ප්‍රහාරයක් දීම පිණිස නරක මිතුරන් ඉවත ලීමට සිදු වන විටත්, අපට දැන් දෘෂ්ටිමය ක්ෂේත්‍රයෙහි නිතර දක්නට ලැබෙන දෙය වන මාක්ස්ගේ දහමට න්‍යායික සංශෝධන ගෙන ඒම ගැන ආරාවුල්ද, දැන් කම්කරු ව්‍යාපාරය ආශ්රිත තනි හා අංශ බද කරුණු සම්බන්ධයෙන් ව්‍යවහාරයේදී මතුවන උපක්‍රමීය ප්‍රශ්න ගැන පමණක් සංශෝධනවාදීන් සමග ඇති වන වෙනස්කම් හා ඉන් පැන නගින භේද භින්න වීම් ලෙසට පැන නගින දෙයද, අසමසම ආකාර විශාල පරිමාණයකින් අත් දැකීමට කම්කරු පංතියට සිදුවනු ඇත.

සුළු ධනපති පංතියේ චපල කම් හා දුර්වල කම් එසේ තිබිය දීම, නිර්ධන පංතිය ස්වකීය සත් — ව්‍යාපාරයේ ජයග්‍රහණය කරා ඉදිරියට ගමන් කරන බව කියන පෙර නිමිත්තකි, විප්ලවවාදී මාක්ස්වාදය විසින් සංශෝධනවාදීන්ට විරුද්ධව දහනවවැනි ශතවර්ෂය අවසානයේ දී ගෙනගිය දෘෂ්ටිමය අරගලය.

1908 අප්‍රියෙල් 3(16) හෝ ඊට පෙර ලියන ලදී
''කාල් මාක්ස් (1818-1833)''සංග්‍රහයෙහි 1908 සැප්තැම්බර් 25 හා ඔක්තෝබර් 2 (ඔක්තෝබර් 8-15) අතර කාලයේ පළ කරන ලදී

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 17, පිටු 15-26

# අප අත්හරින උරුමය

"ද්‍යලෙක්තික ද්‍රව්‍යවාදීන්" ගැන මින්ස්කි මහතා ප්‍රකාශ කළ අදහසක් ගැන "රුස්කොය බගාස්ත්වො"[86] අංක 10, 1897 සහරාවෙහි සඳහන් කරන මිහයිලෝව්ස්කි මහතා මෙසේ කියයි: "මේ මිනිසුන් අතීතය සමග ඇති අඛණ්ඩ සම්බන්ධය පිළිගන්නේ නැති බව හා උරුමය අවධාරණයෙන්ම අත්හරින බව ඔහු (මින්ස්කි මහතා) දැන ගත යුතුය (පිටු 179). ඉන් අදහස් කරන්නේ 1891 දී "මොස්කෝව්ස්කිය වියදමොස්ති"[87] (පිටු 178) පත්‍රය මගින් රොසනව් මහතා ගාම්භිරතා පූර්වකව අත්හළ "1860 හා 1870 ගණන් වල උරුමය" ගැනය.

මිහයිලෝව්ස්කි මහතා "රුසියානු ගෝලයින්" ගැන කරන ප්‍රකාශය බොරුවකි. "රුසියානු ගෝලයෝ උරුමය අත්හරිති" යි යන මේ බොරුවෙහි එකම කර්තෘ වරයා හෝ ස්වාධීන කර්තෘ වරයා හෝ ඔහු නොවන බව ඇත්තකි. ලිබරල් නරෝද්නික්වාදී පුවත් පත්වල[88] නියෝජිතයන් සියළු දෙනම පාහේ, "ගෝලයින්ට"[89] විරුද්ධව සටන් කිරීමේදී, බොහෝ කලක් තිස්සේම එය ප්‍රතිරාවය කර ඇත. අපට මතක තිබෙන ලෙස මිහයිලෝව්ස්කි මහතා "ගෝලයින්ට" විරුද්ධව ඔහුගේ බිහිසුණු යුද්ධය ආරම්භ කළ අවස්ථාව වන විට ඔහු මෙම මුසාව නිර්මාණය කර ගෙන තිබුණේ නැත. නමුත්, අන් අය, ඔහුට පෙර මෙය නිර්මාණය කර තිබුණි. පසුව, ඔහුද, එය අල්ලා ගැනීමට තීරණය කළේය. "ගෝලයින්" රුසියානු සාහිත්‍යය මගින් ඔවුන්ගේ අදහස් දිගින් දිගට විස්තර කළ තරමට, න්‍යායික සහ ප්‍රායෝගික යන දෙ ආකාරයේම ප්‍රශ්න ගණනාවක් සම්බන්ධයෙන් ඔවුන් ස්වකීය අදහස් වඩාත් විස්තර සහිත ලෙස හා අංග සම්පූර්ණ ලෙස ඉදිරිපත් කළ තරමට, නව උපනතියේ මූලික අදහස් වලට, එනම් රුසියානු ධනපති ක්‍රමය ප්‍රගතිශීලීය, නරෝද්නික්වාදීන් සුළු නිෂ්පාදකයා පරමාදර්ශ කොට දැක්වීම අඥනය, සමාජ චින්තනයට සහ නීතිමය සහ දේශපාලන



ආයතනවලට හේතු සාධක සෙවිය යුත්තේ රුසියානු සමාජයේ විවිධ පංති වල ද්‍රව්‍යමය අවශ්‍යතාවයන් තුළය, යන අදහස් වලට විරුද්ධවාදී පුවත් පත් වල විරුද්ධත්වය දක්වීම අයෙකුට දක්නට ලැබුණේ වඩ වඩාත් දුර්ලභ වශයෙනි. මෙම මූලික අදහස් සහවා තබන ලදී. ඒවා ගැන කිසිවක්ම නොකියා සිටීම වඩාත්ම සුදුසු ක්‍රියා මාර්ගය වශයෙන් සලකන ලදී — තවමත් සලකනු ලැබේ. එහෙත්, ඒ අතර, නව උපනතිය අපහාසයට ලක් කිරීමට වඩ වඩාත් සරුවට වැඩෙන බොරු නිපදවන ලදී. "රුසියානු ගෝලයෝ උරුමය අත්හරිති" යි යන නව හැඩ ඇති වදන, නැතහොත් රුසියානු සමාජයේ හොඳම ඉතාමත් ප්‍රගතිශීලී කොටසෙහි, හොඳම සම්ප්‍රදයයන් කෙරෙන් ඔවුන් ඉවත්වී ඇතැයි ද, ඔවුන් ප්‍රජාතන්ත්‍රවාදී අත් වැල කඩා දමා ඇතැයිද, යනාදිය සහ මෙය ප්‍රකාශ කරන තවත් රාශියක් වූ මාර්ග සියල්ලද, මෙසේ ගොතන ලද බොරු, "කැත බොරු" වලින් එකකි. මෙම වදන් මෙතරම් පුළුල් ලෙස භාවිතා කෙරෙන හෙයින්, ඒවා විස්තර සහිත ලෙස විභාග කිරීමේ හා බිඳ දැමීමේ කර්තව්‍ය භාර ගැනීමට අප යොමුවන්නේය. අපගේ විස්තරයට ආධාර කරුවන් නැතැයි යන අදහස ඇති නොවනු පිණිස, "උරුමය" විස්තර කිරීම සඳහා තෝරාගන්නා ලද "ගම්බද රචනා කරුවන්" දෙදෙනා අතර ඉතිහාස-සාහිත්‍යික සමාන කිරීමකින් පටන් ගන්නෙමු. අපි එම "උරුමයේ" තනිකරම ආර්ථික හා සමාජමය ප්‍රශ්න වලට පමණක් සීමා වන බවත්, ඒවා ගැන පමණක් විභාග කරන බවත්, දර්ශනික, සාහිත්‍යික, සෞන්දර්යාත්මක හා වෙනත් ප්‍රශ්න පසෙක තබන බවත් කල් තබාම ප්‍රකාශ කරමු.

## I

### "උරුමයේ" එක් නියෝජිතයෙක්

"ඈත පිටිසර සහ අගනුවර" යන මාතෘකාව යටතේ ස්කාල්දින් ලියූ රචනා මාලාවක් පළකිරීම "ඔතේචෙස්ත්වෙන්නිය සපිස්කි"[90] සහරාව විසින් අවුරුදු තිහකට පෙර, 1867 දී ආරම්භ කරන ලදී. මෙම රචනා අවුරුදු තුනක කාලයක් තිස්සේ 1867-1869 පළ විය. 1870 දී කතු වරයා ඒවා එම නම යටතේම එක වෙළුමකට එකතු කළේය*. සාකච්ඡාවට

---

* ස්කාල්දින්, "ඈත පිටිසර සහ අගනුවර" සාන්ත පීටර්ස්බර්ග්, 1870 (පිටු 451). මෙම කාලයට අදාල "ඔතේචෙස්ත්වෙන්නිය සපිස්කි" පිටපත් සොයා ගත නොහැකි වූ හෙයින් පොත උපයෝගි කර ගන්නා ලදී.

විෂය කරුණ, එනම්, නරෝද්නික්වරුන් සහ ''රුසියානු ගෝලයින්'' සම්බන්ධයෙන් ''උරුමයේ'' නියෝජිතයින් දරා සිටින ස්ථාවරය අනුව බලන කල, මෙම, දැනට බොහෝ දුරට අමතක වී තිබෙන පොත කියවීම ඉතාමත් උපදේශාත්මකය. පොතේ නාමය සාවද්‍යය. කර්තෘම එය වටහා ගෙන සිටියේය. එනිසා, තම තේමාව වූයේ ''අගනුවර'' ''ගම්බද පෙදෙස්'' කෙරෙහි දක්වන ආකල්පය බවත්, වෙනත් වචන වලින් කියතොත්, මෙම පොත ගම්බද පෙදෙස්වල තත්වයන් ගැන රචනා මාලාවක් වන බවත්, විශේෂ වශයෙන් අගනුවර ගැන කථා කිරීමට ඔහු අපේක්ෂා නොකරන බවත් හේ පෙරවදනකින් විස්තර කරයි. එසේ නැත හොත්, ඔහු එසේ කිරීමට අදහස් කළත් එය නුවණට හුරු නොවන්නේයයි: ὡς δύναμαι—οὐ βούλομαι, ὡς δὲ βούλομαι—οὐ δύναμαι (මට හැකි ලෙසට මා නො ලියන හා මා කැමති ලෙසට මට ලිවිය නොහැකි හෙයිනියි යනුවෙන්) ග්‍රීක ලේඛකයෙකුගෙන් උපුටාගත් වචන වලින්, එම අනුචිත භාවය පෙන්වන ස්කාල්දින් කියයි.

ස්කාල්දින්ගේ අදහස් සැකෙවින් විස්තර කරමු.

අපි ගොවි ජන ප්‍රතිසංස්කරණයෙන් පටන් ගන්නෙමු[91]. ආර්ථික හා සමාජ ගැටළු සම්බන්ධයෙන් තමන්ගේ පොදු අදහස් විස්තර කිරීමට කැමති සැම කෙනෙක්ම, අද වුවත්, අනිවාර්යණය වශයෙන්ම කරුණු ඉදිරිපත් කිරීමේ ආරම්භක ලක්ෂය වශයෙන් ගත යුත්තේ එයයි. ස්කාල්දින්ගේ පොතෙන් විශාල කොටසක් ගොවිජන ප්‍රතිසංස්කරණය වෙනුවෙන් මිඩංගු කර ඇත. ප්‍රතිසංස්කරණයෙන් පසුව ගොවීන් පත්ව සිටින දුගී දුප්පත් තත්වය ද, ආර්ථික, නීතිමය සහ දෛනික ජීවිතයේදී ඔවුන් යටත් කිරීමේ නව ආකෘති ද, කොටින් කියතොත්, ඉන් පසුව, විමර්ශන සහ සමීක්ෂණ ගණනාවක් මගින් ඉතාමත් විස්තර සහිතව හා අංග සම්පූර්ණ ලෙස පැහැදිලි කර හා ගෙනහැර පා ඇති සියල්ල, සත්‍ය කරුණු හා ගම්බද පෙදෙස්වල ජීවනයේ සියළුම අංශ ගැන වූ විස්තරාත්මක විමර්ශනයක් පුළුල් වශයෙන් පදනම් කර ගනිමින් පෙන්නුම් කර දුන් ප්‍රථම ලේඛකයා සමහර විට ඔහු විය හැකිය. අද මෙම සත්‍යයන් සියල්ල අළුත් දෙයක් නොවේ. නමුත් එකල ඒවා අළුත් විය. එපමණක් නොව, මෙම ඊනියා ''ප්‍රතිසංස්කරණයේ දුර්වල කම්'' ගැන කියන සඳහන් කිරීම් අසු අස්සේ එය හෙළා දැකීමක හා ප්‍රවේණිදස ක්‍රමයට ආධාර කිරීමක සේයාවක් ඇතැයි සැක කළ ලිබරල් සමාජය තුළ අවිශ්වාසයක්ද හේ අවුස්සා ලූයේය. ස්කාල්දින් ප්‍රතිසංස්කරණය සමයේ (සමහරවිට ඊට සම්බන්ධ වූ) අයෙක් වන නිසා ඔහුගේ අදහස් වඩාත් වැදගත්ය (ඔහු ගැන, අපට ලබා ගත හැකි, ඓතිහාසික හෝ සාහිත්‍යික තොරතුරු, නැතහොත්, ජීවන චරිත විස්තර නොමැත). මේ අනුව බලන කල, ඔහුගේ අදහස් පදනම් වී තිබෙන්නේ ''අගනුවර'' හා



''ගම්බද'' යන දෙපැත්තම ගැන වූ සෘජු නිරීක්ෂණයක් මත මිස හාන්සි පුටු මතට වී මුද්‍රිත ලියවිලි කියවීම මත නොවේ.

ගොවි ජන ප්‍රතිසංස්කරණය ගැන නරෝද්නික්වරු දෙසා බාන පිළිකුළ උපදවන සැඩ කියුම් වලට හුරු පුරුදු වී සිටින වර්තමාන කියවන්නාට ප්‍රථමයෙන්ම සිතට වැදෙන්නේ මෙම විෂය ගැන ස්කාල්දින් පළ කරන අදහස් වල පරිණත භාවයයි. ඔහු මායා මතවලින් හා පරමාදර්ශ ගොඩනැගීමෙන් තොරව, ප්‍රතිසංස්කරණය දෙස බලයි. ඔහු එය දකින්නේ පාර්ශව දෙකක් අතර, එනම්, ඉඩම් හිමියන් හා ගොවියන් අතර ගනු දෙනුවක් ලෙසටය; එතෙක් කිසියම් කොන්දේසි මත ඉඩම් පොදුවේ උපයෝජනය කොටගත් එම දෙපාර්ශවය අතර දැන් එය බෙදා ගැනීමක් ලෙසට හා එසේ බෙදා ගැනීමේදී දෙපාර්ශවයේම නෛතික තත්වයෙහි ඇති වූ වෙනසක් ලෙසට ය. බෙදා ගැනීමේ ක්‍රමය හා පාර්ශවයකට ලැබෙන කොටස නිර්ණය කළ සාධකය වූයේ එම පාර්ශවවල අවශ්‍යතාවයන්ය. මෙම අවශ්‍යතාවයන් දෙපාර්ශවයෙහිම අභිලාෂයන් නිර්ණය කළේය. ඒ අතර, ඉන් එක පාර්ශවයකට ප්‍රතිසංස්කරණයටම කෙළින්මත්, එය ක්‍රියාත්මක කිරීම හා සම්බන්ධ ප්‍රශ්න නිරාකරණය කිරීමේ ප්‍රායෝගික කටයුතු වලටත්, අතපෙවීමට හැකිවීම නිසා වෙනත් කාරණා ද අතරම එහි ප්‍රබල තත්වයද එයින් නිර්ණය විය. ස්කාල්දින් ප්‍රතිසංස්කරණය වටහා ගන්නේ එසේය. ඔහු ඉඩම් ප්‍රතිසංස්කරණයේ ප්‍රධාන ප්‍රශ්නය ගැන, ඉඩම් කට්ටි හා ඉඩම් නිදහස් කර ගැනීමේ ගාස්තු ගැන විශේෂයෙන් විස්තර සහිතව සඳහන් කරයි — ඔහුගේ රචනාවලදී නැවත නැවතත් ඒ ගැන සඳහන් කරයි (ස්කාල්දින්ගේ පොත රචනා එකොළහකට බෙදා ඇත. ඒ එක එකක් ස්වයං පූර්ණය. ඒවායේ ආකෘති, ගම්බද සිට එවන ලිපි සිහියට නංවයි. ප්‍රථම රචනයට 1866 දතමද, අවසාන රචනයට 1869 දතමද යොදා ඇත). ඊනියා ''ඉඩම් හීන'' ගොවි ජනයා යන විෂය ගැන වූ ස්කාල්දින්ගේ පොතෙහි වර්තමාන කියවන්නාට අළුත් කිසිවක් නොමැති බව ඇත්තය. නමුත් හැට ගණන් වල අගදී ඔහු සහතික කර කී කරුණු එකලට අළුත් මෙන්ම ඉතා අගනා ඒවා විය. අපි ඒවා නැවත විස්තර නො කරමු. එහෙත්, ඔහුගේ වාසියට හේතුවන පරිදි, ඔහු නරෝද්නික් වරුන්ගෙන් වෙන් කර දක්වනසුලු ඔහුගේ විස්තරයේ එම අංග ලක්ෂණය ගැන පමණක් සඳහන් කරන්නෙමු. ස්කාල්දින් ''ඉඩම් හීනකම'' ගැන කථා නොකර, ''ගොවි ජන ඉඩම් කට්ටිවලින් කපාහරින ලද අධික ඉඩම් ප්‍රමාණයන්'' ගැන කියයි (පිටු 213, පිටු 214 හා තවත් කීප තැනක තුන් වැනි රචනයෙහි මාතෘකාව බලන්න). තවද, රෙගුලාසි මගින් ඇති කරන ලද විශාලම ඉඩම් කට්ටි, කලින් ඔවුනට තිබුණ කට්ටිවලට වඩා කුඩා බවද ඔහු කියයි (පිටු 257). ඊට අමතර වශයෙන් ප්‍රතිසංස්කරණයේ මෙම අංගය ගොවීන්

සමහර දෙනෙකුගේ ඉතාමත් ස්වභාව නිරූපී සහ ස්වකීයම අදහස් කීපයක්ද ඔහු උපුටා දක්වයි*. සාමාන්‍ය වශයෙන් ඉතාමත් වැදගත් හා සන්සුන් වූද, නිසැක ලෙසටම පොදු වශයෙන් ධනපති අදහස් දරන්නාවූ ද ලේඛකයෙක් වන ස්කාල්දින් මෙම කරුණ ගැන ඉදිරිපත් කරන විස්තර හා සාක්ෂි ඉතාමත් විස්තර සහිතය, වේගවත්ය, තද පරුෂ යයි පවා කිව හැකිය. ස්කාල්දින් වැනි ලේඛකයෙක් එම කරුණ ගැන එතරම් අවධාරණ සහිතව කථා කරයි නම්, එය අමු අමුවේම විද්‍යාමාන වන්නට ඇත. ගෙවිය යුතු ගාස්තුවල දරුණු බර ගැන ද ස්කාල්දින් බලවත් අවධාරණයෙන් යුතුව හා පරිවේෂණාත්මක ලෙස කියමින් ඔහුගේ ප්‍රකාශයන් ඔප්පු කිරීමට බොහෝ කරුණු ඉදිරිපත් කරයි.තුන්වැනි රචනයේ(1867) උප මාතෘකාවක් ''අධිකතර අයබදු'' යනුවෙනි. ''එය ඔවුන්ගේ (ගොවි ජනතාවගේ) දුප්පත් කමට ප්‍රධාන හේතුවයි'' කියන ස්කාල්දින් ඉඩම් වලින් ලැබෙන ආදයමට වඩා අයබදු වැඩි බව පෙන්වා දෙයි. එසේම, ඔහු රුසියාවේ ඉහළ හා පහළ පංති කෙරෙහි බලපාන අයබදු අනුපාතයට අදල දත්තයන්''අයබදු කොමිසම් වාර්තාවෙන්'' උපුටා දක්වන අතර අය බදුවලින් 76% ක් පහළ පංතිය මතද 17% ක් ඉහළ පංති මතද වැටෙන බවත්, බටහිර යුරෝපයේ සෑම තන්හිම මෙම සහසම්බන්ධය මීට වඩා අපරිමිත පමණින් පහළ පංති වලට වාසි දයක බවත් කියයි. හත් වැනි රචනයේ (1868) එන එක් උපමාතෘකාවක් ''ගොවිජනතාවගේ දුප්පත් කමට එක ප්‍රධාන හේතුවක්, අධික මුදල් ගාස්තුය'' යනුවෙනි. නව ජීවන තත්වයන් ඇති වූ වහාම එය ගොවියාගෙන් මුදල්, මුදල් හා තවත් මුදල් ඉල්ලූ බවත්, ප්‍රවේණි දස ක්‍රමය අවලංගු කිරීම වෙනුවෙනුත් ඉඩම් හිමියන්ට වන්දි ගෙවීම (252) රෙගුලාසි විසින් ප්‍රතිපත්තියක් කරන ලද බවත්, බුක්ති-බදු නියම කරන ලද්දේ, ''ඉඩම් හිමියන්, ඔවුන්ගේ භාර කරුවන් නැතහොත් ග්‍රාමීය ජ්‍යෙෂ්ඨයන් දිවුරා දුන්, කිසිම විශ්වාසයක් තැබිය නොහැකි වූ අත්තනෝමතික තොරතුරු අනුව'' (255) බවත්, ඒ හේතු කොට ගෙන කොමිසම විසින් ගණන් බලා නියම කරන ලද බුත්ති-බදු සාමාන්‍ය බුත්ති-බදු වලට වඩා අධික

* ''... ඔහු (අවධාරණය කර්තෘගේය) අපගේ ඉඩම් කොතරම් අඩු කර තිබේද යත්, අපට අත්හළ ඉඩම් නොමැතිව ජීවත් විය නො හැක. ඔහු ඔහුගේ කෙත්වලින් අප හතර වටින්ම කොටුකර තිබේ. එනිසා අපගේ හරකුන්ට තණකොළ කැවීමට අපට තැනක් නැත. එනිසා, ඔබගේ ඉඩම් කට්ටිය සඳහා ගෙවීමටත්, ඒ මදිවාට අත් හළ ඉඩම් සඳහා ඔහු ඉල්ලන පමණක් ගෙවීමටත් ඔබට සිදු වේ ''. '' එයින් අපට ලැබෙන දියුණුව කුමක්ද?' යනුවෙන් පළපුරුදු දුප්පත් ගොවියෙක්, කලින් බුක්ති-බදු ගෙවූ අයෙක් කීවේය. ''අපගේ ඉඩම් කුඩා කර තිබුණත් අපි කලින් ගෙවූ බුක්ති බද්ද තවමත් ගෙවන් නෙමු ''.



වූ බවත්,කර්තෘ ඒ වරයා උප ශීර්ෂය යටතේ පෙන්වා දෙයි.''ගොවි ජනයාට දරන්නට සිදුවූ බදු බරට අමතරව ඔවුන් ශත වර්ෂ ගණනක් ප්‍රයෝජන ගත් ඉඩම් අහිමි වීමද දරාගැනීමට ඔවුනට සිදු විය'' (258), ''ඉඩම් සඳහා නිදහස් කර ගැනීමේ මිළ ප්‍රාග්ධානයිත බුත්ති-බදු ගණන් අනුව තක්සේරු නොකර, නිදහස දෙන අවස්ථාවේ එහි නියම වටිනාකම අනුව එය ගණන් බලන ලද්දේ නම්, නිදහස් කර ගැනීමේ ගාස්තුව පහසුවෙන් ගෙවීමටත්, ඒ සඳහා ආණ්ඩුවේ ආධාර හෝ ණය සහතික පත් නිකුත් කිරීම හෝ අවශ්‍ය නොවන්නටත් වුවද ඉඩ තිබුණි'' (264).''පෙබරවාරි 19 දින රෙගුලාසියෙන් අරමුණු කරන ලද්දේ, ගොවීන්ගේ ජීවනය පහසු කිරීම හා ඔවුන්ගේ තත්වය වැඩි දියුණු කිරීමේ කටයුතු සම්පූර්ණ කිරීම වුවද, බොහෝ විට එහි යථාර්ථ ප්‍රතිඵලය වන්නේ, ඔවුන් වඩාත් දුර්ෂකර තත්වයට දැමීමය'' (269). තනිව ගත් කල, අල්ප උනන්දුවක් දනවන හා අර්ධ වශයෙන් කල් ගිය,මෙම උපුටාගත් කොටස් ගැන අප සඳහන් කරන්නේ, ග්‍රාමීය කොමියුනයට විරුද්ධ වූ සහ ප්‍රශ්න ගණනාවක්ම සම්බන්ධයෙන් මැන්චෙස්ටර් ගුරු කුලයේ[92] සාමාජිකයෙකුට ඔබින අදහස් දැරූ ලේඛකයෙකු විසින් කොතරම් ශක්ති සම්පන්න ලෙස ගොවි ජනයාගේ අවශ්‍යතාවයන් ආරක්ෂා කරන ලද්දැයි යන්න පෙන්වීම පිණිසය. නරෝද්නික්වාදයේ ප්‍රයෝජනවත් හා ප්‍රතිගාමී නොවන පිළිවෙත් සියල්ලම පාහේ මෙම මැන්චෙස්ටරයාගේ පිළිවෙත් සමග සම්පාත වන බව සටහන් කර ගැනීම උපදේශාත්මක වේ. ප්‍රතිසංස්කරණය පිළිබඳව ස්කාල්දින්ගේ අදහස එසේ වූ කල, නරෝද්නික්වරු කළ ආකාරයට හෝ, එසේ නැතහොත්, එම ප්‍රතිසංස්කරණයෙන් ජනතා නිෂ්පාදනයට අනුමැති ලැබුණේයයි ද, එය බටහිර යුරෝපීය ගොවි ජන ප්‍රතිසංස්කරණවලට වඩා උසස් යයිද, එයින් අවශ්‍ය පරිදි රුසියාවේ tabula rasa* යයිද යනාදිය කියමින් ඔවුන් දැනුදු කරන ආකාරයට, චින්තාස්වාදයෙන් යුතුව එය පරමාදර්ශයක් කොට ගැනීම ඔහු නොකළේය. ඔහුට එසේ කළ නොහැකි විය. ස්කාල්දින් එවැනි කිසිවක් නොකීවේය. ඔහුට එසේ කිව නොහැකි විය. එපමණක් නොව, අප රටේ ගොවිජන ප්‍රතිසංස්කරණය බටහිර ප්‍රතිසංස්කරණයට වඩා ගොවිජනයාට අඩුවෙන් වාසිදයක හා අඩුවෙන් යහ සාධක වූ බව ඔහු පැහැදිලිවම කීවේය. ''අප රටේ කෙරුණු නිදහස දීමෙහි යහ සාධක ප්‍රතිඵල, මෙම ශත වර්ෂයේ ප්‍රථම කාර්තුව තුළ ප්‍රුසියාවේ හෝ සක්සොනියාවේ සිදු වූ තරම් ස්ථිර සීඝ්‍රතාවයකින් වර්ධනය නොවන්නේ මන්ද යන ප්‍රශ්නය අප අපගෙන්ම අසා ගත හොත් මෙම කරුණ පැහැදිලි වන්නේය''යි (221) ඔහු ලිවේය. ''ප්‍රුසියාවේ සහ මුළු ජර්මනියේම,

* ''බිම සකස් වූයේ'' — සංස්කාරක

ගොවීන් මුදල් ගෙව්වේ, තමන්ගේ ඉඩම් කට්ටි නිදහස් කර ගැනීම සඳහා නොව, ඉඩම් හිමියන්ට ඔවුන් කළයුතු වූ අනිවාර්ය සේවාවලින් නිදහස්වීම සඳහාය. ඉඩම් කට්ටි ගොවීන් ගේ දේපල වශයෙන් බොහෝ කලක් තිස්සේ නීතියෙන් පිළිගෙන තිබුණි'' (272).

දැන් අපි ප්‍රතිසංස්කරණයේ ආර්ථික අංශයේ සිට ස්කාල්දින් දුටු එහි නීතිමය අංශය වෙත යමු. ස්කාල්දින්, සාමූහික වගකීමටත්[93], ගමන් බල පත්‍ර ක්‍රමයටත්, ගොවිජන ''කොමියුනයේ'' (සහ නාගරික කොමියුනයේ) සාමාජිකයන් කෙරෙහි ක්‍රියාත්මක වූ පීතෘ මූලික ක්‍රමයේ බලපෑමටත් තදින් විරුද්ධ වූවෙකි. සාමූහික වගකීමත්, ඇඟ බද්දත්, ගමන් බල පත් ක්‍රමයත් අහෝසි කරන ලෙසද, සාධාරණ දේපල බද්දක අවශ්‍යතාවයත්, ගමන් බලපත් වෙනුවට නොමිලේ දෙන ස්ථිර සහතික ආදේශ කිරීමත් ගැන ද, ඔහු තුන්වැනි (1867) රචනයෙන් අවධාරණය කරයි. ''වෙනත් කිසිම ශිෂ්ඨාචාර රටක අභ්‍යන්තර ගමන් බලපත් සඳහා බද්දක් අය නොකෙරේ'' (109). මෙම බද්ද 1897 දී අවලංගු කරන ලද බව අපි දනිමු. හතරවැනි රචනාවට දී ඇති මාතෘකාවෙන් මෙසේ කියවේ. ''ගමන් බලපත් නිකුත් කිරීමේදී සහ නොපැමිණි බදු ගෙවන්නන්ට බදු නියම කිරීමේදී ග්‍රාම කොමියුන වල හා නාගරික දුමා ආයතනවල අත්තනෝමතික ක්‍රියා...'' ''සාමූහික වගකීම යනු කම්මැළියන් සහ අවලමුත් වෙනුවෙන් කාර්යක්ෂම සහ ක්‍රියාශීලී ගොවීනට දැරීමට සිදුවන විශාල බරකි'' (126). ඒ කාලයේම නිරීක්ෂණයට ලක්වුනු ගොවි ජන විභජනය සිදුවන්නේ නැගී සිටින හෝ ඇද වැටෙන අයගේ පෞද්ගලික ගතිගුණ අනුවය යි සිතීමට ස්කාල්දින් යොමු විය. සාන්ත පීටර්ස්බර්ග් හි වෙසෙන ගොවීන්ට ගමන් බල පත් ලබා ගැනීමේ දී හෝ ඒවා දීර්ඝ කර ගැනීමේදී විඳින්නට සිදුවන දුෂ්කරතාවයන් ගැන ඔහු විස්තර සහිතව සඳහන් කළේය. ''මෙම ඉඩම් නොමැති ගොවිජන සමූහයා නගරවල ලියා පදිංචි නොකිරීම ගැන හා ඔවුන් නගරවලට වැදී දේපල අහිමි නාගරික නේවාසිකයන්ගේ සංඛ්‍යාව වැඩි නො කිරීම ගැන දෙවියන්ට ස්තුති...'' (130) කරන අය හා සමග හේ එකඟ නොවිය. ''මෙම වනචාරී සාමූහික වගකීම...'' (131) ''එවැනි තත්වයන් යටතට පත් කරන ලද මිනිසුන් නිදහස් පුරවැසියන් යයි කිව හැකිද? ඔවුන් glebae abscripti* හා ඉඳුරාම එක සමාන නොවේද? (132). ගොවිජන ප්‍රතිසංස්කරණයට දෝෂාරෝපනය කරනු ලැබේ. ''නමුත්, ඉඩම් හිමියාගේ බැම්මෙන් ගොවියා මුදහළ නීතිය, ගොවියා ඔහුගේ කොමියුනයේ සහ ලියා පදිංචි වූ ස්ථානයේ බැම්මෙන් නිදහස් කිරීමට කිසිම පිළියෙළක් යොද නොතිබීම ගැන වරද ගොවිජන ප්‍රතිසංස්කරණයට පැවරිය හැකිද? තමා වාසය කරන ස්ථානය හෝ කරන රැකියාව හෝ තීරණය කිරීමේ නිදහස ගොවියාට නොමැති නම් සිවිල් නිදහසේ උප ලක්ෂණ ඇත්තේ කොහේද?'' (132). ස්කාල්දින් ඉතාමත් නිවැරදි හා උචිත ලෙසට, අපගේ ගොවියා ''පදිංචි නිර්ධනයෙක්'' ලෙස විස්තර කරයි (231)*. අටවැනි රචනයෙහි (1868) ශීර්ෂ පාඨයෙහි මෙසේ දැක්වේ. ''ගොවිජනයා ඔවුන්ගේ කොමියුන හා ඉඩම් කට්ටිවලට බැඳ තිබීම ඔවුන්ගේ තත්වයන්ගේ දියුණුවක් ඇති කිරීම වළක්වයි...එය බාහිර කර්මාන්ත සංවර්ධනයට බාධාවකි.'' ''ගොවිජනතාවගේ නුගත්කමට හා අනුක්‍රම ලෙසට වැඩිවන බදු බරට අමතරව, ගොවිජන ශ්‍රමයේ සංවර්ධනයට බාධා කරන හා ඒ අනුව ගොවිජන සමෘද්ධියට බාධක වන හේතුවලින් එකක් නම් ඔවුන් කොමියුනවලට හා ඉඩම් කට්ටිවලට බැඳ තබනු ලැබීමයි. ශ්‍රම කරුවන් එක තැනකට බැඳ තැබීම හා ශ්‍රම කොමියුනය බිඳිය නොහැකි විලංගුවලට හසු කිරීම සිදුවේ. මෙයම ශ්‍රමයත්, පෞද්ගලික ව්‍යවසාය හා කුඩා ඉඩම් හිමි දේපලත්, සංවර්ධනය වීමට ඉතාමත් අවාසිදයක කොන්දේසියකි'' (284). ''ස්වකීය ඉඩම් කට්ටිවලට හා ප්‍රජාවන්ට බැඳී, තමන්ගේ ශ්‍රමය වඩාත් ඵලදයක හා තමන්ට වඩාත් වාසිදයක වන තැනෙක යෙදීමට නො හැකිව සිටින ගොවි ජනයා, ප්‍රවේණිදය ක්‍රමයෙන් මතුවී එන කල පත්ව සිටියේ කුඩු ගැසුණු, රංචු ආකාරයේ වන නිෂ්ඵල ජීවන රටාව තුළ කැටි ගැසුණු ස්වභාවයකට විය'' (285). මේ අනුව බලන කල, ස්කාල්දින් ගොවි ජීවිතයේ මෙම අංශ ගැන සැලකිල්ලට ගන්නේ, ඉඳුරාම ධනපති ස්ථාවරයෙනි. නමුත්, එය එසේ වුවත්, (සමහර විට ඒ හේතු කොට ගෙන) ගොවි ජනයා බැඳ දමා තිබීම නිසා, සියළු සමාජ සංවර්ධනයන්ටත්, ගොවි ජනතාවටමත්, සිදුවී තිබෙන හානිය ගැන ඔහු කරන තක්සේරුව

---

* රෝම අධිරාජ්‍යයේ ගොවීන් ඔවුන් නියමිත ඉඩම් කට්ටි වලට බැඳ තබා සිටි අතර, එම ඉඩම් වගා කිරීම කොතරම් අලාභ සහිත වුවත් ඒවා අත් හැරීමට හැකියාවක් ඔවුනට නොතිබිණ. — සංස්කාරක

* ස්කාල්දින් ඔහුගේ නිර්වචනයේ ප්‍රථම කොටස පමණක් නොව දෙවැනි (නිර්ධනයෙක්) කොටසද නිවැරදි බව ඉතාමත් සවිස්තර කරුණු සහිතව පෙන්නුම් කරයි. ගොවි ජනයාගේ යටත් තත්වය හා දුප්පත් කම ගැන විස්තරයක් කිරීමටද, කෘෂිකාර්මික ශ්‍රම කරුවාගේ දුෂ්කර ජීවිතය ගැන විස්තරයක් කිරීමට ද, ගොවිජනයාට දරාගන්නට සිදුවී තිබෙන නොයෙක් ආකාර බැඳීම් සහ අවමානයන් හා ''1868 සාගතය ගැන විස්තරයක්'' (පස්වැනි රචනයේ මාතෘකාව) කිරීමටද ඔහු බොහෝ ඉඩ මිඩංගු කරයි. සාගතය පවතින බව සඟවා තැබීමට හෝ ප්‍රතික්ෂේප කිරීමට උත්සාහ කළ අය අනූ ගණන්වල මෙන්ම හැට ගණන් වලද සිටියහ. ස්කාල්දින් චිත්තාවේගයෙන් යුතුව ඔවුනට විරුද්ධ වෙයි. මෙම කරුණ ගැන දීර්ඝ උපුටා දැක්වීම් අනවශ්‍ය වනු ඇත.

ඉතාමත් නිවැරදිය. තවද, එයින් ගොවි ජනතාවගේ පහළම කොටස් වලට, ගම්බද නිර්ධන පංතියට විශේෂයෙන්ම හානි සිදුවන්නේය (යනු අපි එයට එකතු කරමු). ස්කාල්දින් ඉතා උචිත ලෙස මෙසේ කියයි: ''ගොවීන් ඉඩම් නොමැතිව නොසිටිය යුතුය යන්න ගැන නීතිය සැලකිලිමත් වීම අගනේය. නමුත් මේ සම්බන්ධයෙන්, ගොවීන්ම, නීති සම්පාදකයාට වඩා අපරිමිත සැලකිල්ලක් දක්වන බව අමතක නොකළ යුතුය'' (286). ''ගොවියා ඔහුගේ කට්ටි ඉඩමට හා ඔහුගේ කොමියුනයට බැඳ තබා සිටීමට අමතරව," සාමූහික වගකීම සහ ගමන් බලපත් ක්‍රමය නිසා බාහිර යම් පෙදෙසකින් යමක් උපයාගැනීමට තාවකාලික වශයෙන් හෝ යාම පවා, බොහෝ දුෂ්කර හා වියදම් සහිත වන්නේය'' (298). ''ගොවීනට ඔවුන්ගේ ඉඩම් අත්හැරීම පහසු කිරීමට... පියවර ගන්නේ නම්, ගොවීන් බොහෝ දෙනෙකුට ඔවුන්ගේ දුෂ්කර තත්වයෙන් මිදීමේ මාර්ගයක් විවෘත වනු ඇතැයි යනු මගේ අදහස යි'' (294). මෙහි දී ස්කාල්දින් ප්‍රකාශ කරන්නේ නරෝද්නික් යෝජනා ක්‍රම වලට එක එල්ලේම රැහැණි වන ප්‍රාර්ථනාවකි. නරෝද්නික් යෝජනා ක්‍රම දිවෙන්නේ ඊට හාත්පසින්ම විරුද්ධ පැත්තටය, නැතහොත්, ග්‍රාමීය කොමියුනය[94] විරාගත කිරීම, කට්ටි ඉඩම් අහිමි කිරීමට අවකාශ නොදීම, යනාදිය දෙසටය. ස්කාල්දින් සම්පූර්ණයෙන්ම නිවැරදි වූ බව පෙන්වීමට ප්‍රමාණවත් තරම් සාක්ෂි පසුව ඉදිරිපත් වී තිබේ. ගොවියා ඉඩමට බැඳී සිටීමත්, ග්‍රාමීය කොමියුනය විශේෂ සමාජ ප්‍රජාවක් වීමත් නිසා සිදුවන්නේ, ග්‍රාමීය නිර්ධන පංතියේ තත්වය තවත් නරක් වීම හා රටේ ආර්ථික සංවර්ධනය ප්‍රමාද වීම පමණකි. ඒ අතර, දරුණු තම බන්ධන හා යටත් කිරීම් ආකෘති වලින් හෝ වේතන හා ජීවන තත්වයන් ඉතාමත් පහළ මට්ටමට ඇද වැටීමෙන් හෝ ''පදිංචි වූ නිර්ධනයා'' කිසියම් ප්‍රමාණයකින් හෝ ආරක්ෂා කිරීමක්ද සිදු නො කෙරේ.

ස්කාල්දින් ග්‍රාමීය කොමියුනයේ සතුරෙක් බව ඉහත දක්වූ උපුටාගත් කොටස්වලින් පාඨකයා දැනටමත් වටහා ගන්නට ඇත. ඔහු කොමියුනයටත්,ඉඩම් නැවත බෙදා දීමටත් විරුද්ධ වන්නේ ඔහු පෞද්ගලික දේපලට, ව්‍යවසායයට, යනාදියට පක්ෂ බැවිනි (පිටු 142 පටන්). ඒ ''පෞරාණික පොදු සම්මත නීතිය'' යල් පැන ගොස් ඇතැයි කියමින් ඔහු ග්‍රාමීය කොමියුනයේ ආරක්ෂකයන්ට පිළිවදන් දෙයි.ඔහු මෙසේ ලියයි.''සෑම රටවලම,ගම්බද වැසියන් ශීලාචාර වට පිටාව කෙරෙහි සම්බන්ධ වීමත් හා සමග, ඔවුන්ගේ පොදු සම්මත නීතියේ අති පුරාණ සුපිරිසුදු කම නැතිව ගොස්,එය දූෂණ වීමටත්, විකෘති වීමටත් හසු වේ. අප රටේද එයම දක්ක හැකිය: කොමියුනයේ බලය ක්‍රම ක්‍රමයෙන් ගම්බද සූරා කන්නන්ගේ සහ ග්‍රාමීය ලිපි කරුවන්ගේ බලය බවට පත් වන්නේය. එය ගොවි තෙමේ ආරක්ෂා කරනු වෙනුවට, ඔහු මත වැටුනු මහත් බරක් බවට පත්වී තිබේ'' (143). මෙම තිස් අවුරුද්ද තුළ, කෙළවරක් නැති තරම් කරුණු වලින් සනාථ වුනු මෙය, ඉතාමත් නිවැරදි නිරීක්ෂණයකි. ස්කාල්දින් ගේ අදහස අනුව, ''පීතෘ මූලික පවුලත්, පොදු ඉඩම් අයිතියත්, පොදු සම්මත නීතියත්'', නැවත ආපසු කැඳවිය නොහැකි සේ ඉතිහාසය විසින් ඉවත් කර දමනු ලැබ තිබේ. ''පසුගිය ශතවර්ෂවල, මෙම ගරු කටයුතු ස්මාරකයන් අප වෙනුවෙන් රැක ගන්නා අය, එයින් පෙන්නුම් කරන්නේ, ඔවුන් යථාර්ථය විනිවිද දැකීමට හා ඉතිහාසයේ නොවැලැක්විය හැකි ඉදිරි ගමන ග්‍රහණය කිරීමට වඩා, අදහසකින් මුළා වීමෙහි සමත් වන බවයි'' (162). මෙම නිවැරදි නිරීක්ෂණය කිරීමේදී, ස්කාල්දින්,එයට සැර මැන්චෙස්ටර් ගුරුකුල ශෛලියේ තියුනු වාග්ප්‍රහාරය මුසු කොට ඇත. ''ප්‍රජා ඉඩම් බුක්තිය විසින් සෑම ගොවියෙක්ම මුළු ප්‍රජාවටම යටත් වහලෙක් තත්වයට පත් කරන්නේය'' යි (222), ඔහු තවත් තැනෙක කියයි. එනිසා, හුදෙක්ම ධනපති ස්ථාවරය අනුව ස්කාල්දින් ග්‍රාමීය කොමියුනයට නොවළහා දක්වන විරෝධතාවය, සසංගත ලෙස ගොවියාගේ උවමනාවන් ආරක්ෂා කිරීමක්ද සමග ඒකාබද්ධ කර ඇත. ස්කාල්දින් ග්‍රාමීය කොමියුනයට විරුද්ධ වුවත්, වර්තමානයේ එයට විරුද්ධවන, ගොවිජන ජීවිතයට බරපතල ලෙස ඇඟිලි ගැසීමට පක්ෂ වන හා ගොවියන්ගේ අවශ්‍යතාවයන් පිළිබඳ ස්ථාවරයෙන් හැර, අන් හැම ආකාරයෙන්ම ග්‍රාමීය කොමියුනයට පහර දෙන, අය යෝජනා කරන පරිදි, කොමියුනය බලහත්කාරයෙන් අවලංගු කර, ඒ වෙනුවට, වෙනත් එවැනිම ඉඩම් හිමිකම් ක්‍රමයක් ක්‍රියාත්මක කරනසේ ඔහු යෝජනා නොකරයි. ඊට ප්‍රතිකූල වශයෙන් ''පොදු ඉඩම් බුක්ති ක්‍රමය බලෙන් අවලංගු කිරීමට'' පක්ෂ වන අයගේ ගොඩට තමන් ඇතුලත් කිරීම ගැන, ඔහු තදින් විරුද්ධ වෙයි (144). ''පොදු ඉඩම් බුක්තියේ සිට පවුල් ඉඩම් බුක්තිය දක්වා... පරිවර්තනය වීමට... ගොවීන්ටම ඉඩ තැබීමෙන් පෙබරවාරි 19 රෙගුලාසිය ඥනාන්විත වීය'' යි ඔහු කියයි. ''එවැනි මාරුවීමක් සඳහා හොඳම අවස්ථාව තීරණය කිරීමෙහි සමත් වන්නේ ඇත්ත වශයෙන්ම ගොවීන්ම ය''. මේ අනුව බලන කල, ස්කාල්දින් ග්‍රාමීය කොමියුනයට විරුද්ධ වන්නේ, එයින් ආර්ථික සංවර්ධනයට බාධා ඇති වන නිසා හා කොමියුනයෙන් ඉවත් වීමෙන් හා ස්වකීය ඉඩම අත්හැර දැමීමෙන් ගොවියා වැලැක්වෙන නිසා පමණකි. අද ''රුසියානු ගෝලයින්'' එයට විරුද්ධ වන්නේත්, ඉඳුරාම එම හේතුවම නිසා ය. මෙම විරෝධතාවය හා ඉඩම් හිමියන්ගේ ආත්මාර්ථකාමී උවමනාවන් ආරක්ෂා කිරීම ද, ප්‍රවේණි දාස ක්‍රමයේ නෂ්ඨාවශේෂයන් හා එහි ජීව ගුණය ආරක්ෂා කිරීමද, ගොවි ජනතාවගේ ජීවිතයට ඇඟිලි ගැසීමට පක්ෂව කටයුතු කිරීම ද, අතර කිසිම පොදු දෙයක් නැත. මෙම වෙනස සටහන් කර ගැනීම ඉතා

වැදගත්ය. එසේ කියන්නේ, ''මොස්කෝව්ස්කිය වියදමස්ති'' පත්‍රයේ හා එවැනි වෙනත් කොටස් වල කඳවුර තුළ පමණක් ග්‍රාම කොමියුනයේ සතුරන් දකින අතර, එම කොමියුනයට දක්වන වෙනත් ඕනෑම සතුරු තාවයක් නොදන්නා' බව පෙන්වීමට බලවත් කැමැත්තක් දැක්වීමට නරෝද්නික්වරු පුරුදුව සිටින හෙයිනි.

ගොවියා අනදරයට පත්වීමට හේතුවූ සාධක සම්බන්ධයෙන් ස්කාල්දින්ගේ පොදු අදහස වී තිබෙන්නේ ඒවා සියල්ලම ප්‍රවේණිදස ක්‍රමයේ නෂ්ඨාවශේෂයන් බවයි. 1868 දුර්භික්ෂය ගැන විස්තර කරන ඔහු, ප්‍රවේණි හිමියන් කුහක ප්‍රීතියකින් යුතුව එය වෙත පෙන්වමින්, එයට හේතුව ගොවිජනයාගේ අනාචාරය හා ඉඩම් හිමියන්ගේ ආරක්ෂාව අවලංගු කිරීම යනාදිය වෙතියි ඔවුන් කීබව සඳහන් කරයි. ස්කාල්දින් ආවේගයෙන් යුතුව මෙම අදහස් බිඳ දමයි. ''ගොවිජනයා ගේ දරිද්‍රතාවයට හේතු සාධක ප්‍රවේණිදස ක්‍රමයෙන් උරුම කොට ලැබුණු (212) බවත්, ඒවා ප්‍රවේණිදස ක්‍රමය අවලංගු කිරීමේ ප්‍රතිඵල නොවන බවත් ගොවිජන බහුතරය නිර්ධන පංතියට සමාන මට්ටමකට ආසන්න තත්වයක තබන පොදු හේතු සාධක ඒවා'' බවත්, කියන ඔහු, ප්‍රතිසංස්කරණය ගැන වූ ඉහත සඳහන් අදහස්, නැවතත් ගෙන හැර දක්වයි. ඉඩම් පවුල් අතර බෙදා ගැනීමට විරුද්ධව පහර දීම මුග්ධ කමකි: ''බෙදා ගැනීම් නිසා, ගොවීන්ගේ ද්‍රව්‍යමය අවශ්‍යතාවයන්ට. මඳ කලකට හානි සිදු වුවත්, ඔවුහු තමන්ගේ පෞද්ගලික නිදහසත්, ගොවි පවුලේ සදචාරමය ගෞරවයත්, ආරක්ෂා කර ගනිති, ඒ උසස් මිනිස් ආශීර්වාදයන් නොමැතිව, ප්‍රජා ප්‍රගතියක් ඇතිවිය නොහැකිය'' (217). එපමණක් නොව, ඉඩම් බෙදීමට විරුද්ධව ගෙන යන ව්‍යාපාරයට හේතුවන සැබෑ කාරණාද, ස්කාල්දින් විසින් පෙන්වා දෙනු ලැබේ. ''ඉඩම් හිමියෝ බොහෝ දෙනෙක්, බෙදීමෙන් සිදු වූ හානිය අතිශයෝක්තියෙන් දක්වමින්, ගොවිජන දරිද්‍රතාවයට හේතු සාධක වූ, තමන් පිළිගැනීමට ඉතාමත් අකැමති, සාධකවල ප්‍රතිඵල සම්බන්ධයෙන් ගොවීන්ටම හා බීමත්කමට දෙස් පවරති'' (218). ගොවිජන දරිද්‍රතාවය ගැන, අද බොහෝ සේ ලියනු ලැබෙන බවත්, ඉහතදී එසේ නො වුනු බවත්, ඊට හේතුව ගොවීන්ගේ තත්වය දැන් පිරිහී තිබීම විය යුතු බවත්, කියන අයට ස්කාල්දින් මෙසේ පිළිතුරු දෙයි:''ඉඩම් හිමි බලයෙන් ගොවි ජනයා නිදහස් වීමේ ප්‍රතිඵල විනිශ්චය කිරීම, ගොවීන්ගේ වර්තමාන තත්වය ඔවුන්ගේ ඉහත තත්වය සමග කරන සංසන්දනයකින් විනිශ්චය කිරීමට නම්, දැනට කර තිබෙන ලෙසට ගොවි ඉඩම් කට්ටි සිහින් කිරීම සහ නිදහස් කිරීමෙන් පසුව පනවා තිබෙන ගාස්තු අය කිරීමද, ප්‍රවේණිදස ක්‍රමය යටතේම කර, ඉන්පසු, ගොවීහු එවැනි තත්වයක් කෙසේ දරා ගනිතිදැයි බැලිය යුතුව තිබුණි'' (219). ස්කාල්දින්ගේ අදහස් වල



උසස්තම ස්වභාව නිරූපී හා වැදගත් අංග ලක්ෂණයක් වන්නේ, ගොවීන්ගේ තත්වය පිරිහීමට හේතුවූ සියළු සාධක, ප්‍රවේණිදස ක්‍රමයේ නෂ්ඨාවශේෂ දක්වා, එම ක්‍රමයේ දයාද වන, ශ්‍රම සේවය, බුක්ති බද්ද, අත්හළ ඉඩම් හා ගොවීන්ට අයිති වාසිකම් නොමැති කම සහ ඔවුන්ගේ අජංගම භාවය දක්වා එයින් සරල කර පෙන්වා තිබීමය. ගොවීන්ගේ දරිද්‍රතාවයට හේතු සාධක නව සමාජ-ආර්ථික සම්බන්ධකම් තුළම, පශ්චාත්-ප්‍රතිසංස්කරණ ආර්ථිකයේ ව්‍යුහය තුළම, ගැබ්වී ඇතැයි යනු ස්කාල්දින් අදහස් නොකරයි. එපමණක් නොව, ප්‍රවේණිදස ක්‍රමයේ මෙම නෂ්ඨාවශේෂ සියල්ල සම්පූර්ණයෙන්ම අවලංගු කර දැමීමෙන්, විශ්වීය යහ ජීවනයක යුගයක් උදා වෙතැයි යන්න තරයේ වටහා ගත් ඔහු, ඉහත අදහස කොහෙත්ම සලකා බැලීම පවා ප්‍රතික්ෂේප කරයි. ඇත්ත වශයෙන්ම, ඔහුගේ අදහස් ප්‍රතිෂේධාත්මකය: ගොවි ජනතාවගේ නිදහස් සංවර්ධනයට ඇති බාධක ඉවත් කරන්න; ප්‍රවේණිදස ක්‍රමයෙන් උරුම කොට දෙන ලද විලංගු ඉවත් කරන්න; එවිට ඇතිවිය හැකි, හොඳම මේ ලෝකයේ, සියල්ල හොඳ අතට හැරෙනු ඇත. ස්කාල්දින් මෙසේ ලියයි. ''මෙහිදී (එනම් ගොවි ජනතාව සම්බන්ධයෙන්) ආණ්ඩුවට ගත හැකි මාර්ග ඇත්තේ එකකි. එය නම් අපගේ ගොවිජනයා ඔවුන්ගේ වර්තමාන උද්යෝග රහිත තත්වයට හා දරිද්‍රතාවයට ඇද දැමූ සහ ඔවුනට ස්වකීය දෙපයින් නැගී සිටීමට ඉඩ නොදෙන හේතු සාධක, ස්ථිර ලෙස හා අචල ලෙස ඉවත් කිරීම ය'' (224, අවධාරණය මගේය). ''කොමියුනය'' නොමැති (නැතහොත් ගොවි ජනයා ග්‍රාම කොමියුනවලට හා කට්ටි ඉඩම් වලට බැඳ තැබීම නොමැති) වුවහොත් ''ගම්බද නිර්ධන පංතියක්'' මතු වෙතැයි යන කරුණ පදනම් කරගෙන එය ආරක්ෂා කළ අයට ස්කාල්දින් දුන් පිළිතුරු මේ හා සම්බන්ධයෙන් ඉතාමත් ස්වභාව නිරූපීය ''ගොවිතැන් කිරීමට අත් නොමැති කම නිසා අප රටේ වගා නොකර තිබෙන අති විශාල බිම් ප්‍රමාණයන් ගැන සලකා බලන කල මෙම විරෝධතාවය බිඳ වැටෙන්නේය''යි ස්කාල්දින් කියයි. ''මිනිස් බලයේ ස්වාභාවික ව්‍යාප්තියට නීතිය හරස් නොවූයේනම්, රුසියාවේ සැබෑ නිර්ධන පංතිකයන් වනු ඇත්තේ,වෘත්තියක් සේ සිගමනෙහි යෙදෙන, හික්මවිය නොහැකි තරම් විෂම හා බේබදු පුද්ගලයන් පමණකි'' (144). ප්‍රවේණිදස ක්‍රමය හා එහි නෂ්ඨාවශේෂයන් සියල්ලම අහෝසි කළ විට මිහිපිට විශ්වීය යහ ජීවනයේ රජදහනක් පහළ වෙතැයි විශ්වාස කළ දහඅටවැනි ශත වර්ෂයේ අර්ථ ශාස්ත්‍රඥයන්ගේ සහ ''මාර්ග දේශකයන්ගේ'' නියම අදහස එය විය. නරෝද්නික්වරු ස්කාල්දින් වෙත පිළිකුල් සහගත ලෙස බලා ඔහු හුදෙක්ම ධනපතියෙක් වීය යි කියනු නිසැකය. එසේය. ස්කාල්දින් ධනපතියෙක් විය. එහෙත් ඔහු ප්‍රගතිශීලී ධනපති දෘෂ්ටියේ නියෝජිතයෙක් විය. දැන්, නරෝද්නික්වාදීන්, එම දෘෂ්ටිය

වෙනුවට සුළු ධනේශ්වර හා, කරුණු ගණනාවක්ම සම්බන්ධයෙන් ප්‍රතිගාමී වන, දෘෂ්ටියක් ආදේශ කර ඇත. තවද, පොදු වශයෙන් සමාජ සංවර්ධනයේ අවශ්‍යතාවයන් සමග සම්පාත වූ හා දැනුදු සම්පාත වන, ඒ ප්‍රායෝගික හා සැබෑ ගොවිජන උවමනාවන් ආරක්ෂා කරන්නේ කෙසේද යන්න ගැන,නරෝද්නික්වාදීන්ට වඩා හොඳ දැනුමක් මෙම ''ධනපතියාට'' තිබුණේය!*

ස්කාල්දින් ගේ අදහස් ගැන විස්තරය සම්පූර්ණ කිරීමට, ඔහු සමාජ ප්‍රජා ක්‍රමයට විරුද්ධ වූ බවත්, එම සියළුම ප්‍රජා සඳහා එකම අධිකරණයක් තැබීම යෝජනා කරන බවත්, වොලොස්ත්**අධිකාරීන් සමාජ ප්‍රජා පදනම් කරගෙන පත් නොකළ යුතුය යන අදහසට ''න්‍යායික වශයෙන්'' අනුකූල වන බවත්, පොදු ජන අධ්‍යාපනයට, විශේෂයෙන්ම සාමාන්‍ය අධ්‍යාපනයට තදින්ම පක්ෂවන, ප්‍රාදේශීය ස්වයං පාලනයට සහ සෙම්ස්ත්වෝ[95] ආයතන වලට පක්ෂවන හා ඉඩම් මිළට ගැනීමට ගොවීන් අතර බලවත් කැමැත්තක් ඇති නිසා ඉඩම් සඳහා ණය, විශේෂයෙන් කුඩා ණය පහසුකම් පුළුල් ලෙස තිබිය යුතුයයි අදහස් කරන බවත්, එකතු කරන්නෙමු. මෙහිදී ද ස්කාල්දින් නියම ''මැන්චෙස්ටරයෙකු'' සේ කථා කරයි. නිදර්ශනයක් ලෙසට සෙම්ස්ත්වො සහ නගර සභා බැංකු ''පීතෘ මූලික ස්වභාවයේ නැතහොත් ආදි කාලීන බැංකුවක් වන නිසා, ඊට වඩා බොහෝ උසස් පෞද්ගලික බැංකුවලට තැනදී ඒවා ඉවත්විය යුතුය''යි (80) ඔහු කියයි. ''අපගේ පළාත්වල කාර්මික සහ වාණිජ ක්‍රියාකාරිත්වය ප්‍රාණවත් කිරීම මගින්'' ඉඩම්වල වටිනාකමක් ඇති වන්නේය'' (71) යනාදියද ඔහු කියයි.

මෙසේ සම්පිණ්ඩනය කරමු. අදහස් අනුව ස්කාල්දින් ධනපති ''මාර්ග දේශකයෙක්'' සේ හැඳින්විය හැක. ඔහුගේ අදහස් දහඅටවැනි ශතවර්ෂයේ අර්ථ ශාස්ත්‍රඥයන්ගේ අදහස්වලට බොහෝ දුරට සමානය (නමුත් ඒවා රුසියානු තත්වයන් නැමති ප්‍රිස්මය තුළ අනුරූපසේ වර්තනය වී ඇත). එසේම ඔහු තුළ හැට ගණන්වල ''උරුමයේ'' පොදු ''මාර්ග දේශක'' ස්වභාවයද ඉතාමත් විචිත්‍ර ලෙස පරාවර්තනය විය. බටහිර යුරෝපීය මාර්ග දේශකයන් හා හැට ගණන්වල සාහිත්‍යික නියෝජිතයන් බහුතරය මෙන්, ස්කාල්දින්ද ප්‍රවේණිදාස ක්‍රමය හා එහි සියළුම ආර්ථික, සමාජ සහ නීතිමය නිෂ්පාදිතයන් කෙරෙහි වූ තදබල විරුද්ධතාවයකින් මඩනා ලද්දේය. එය ''මාර්ග දේශකයා'' ගේ ප්‍රථම ස්වභාව නිරූපී අංග ලක්ෂණය විය. දෙවැනිව, රුසියානු මාර්ග දේශකයන් සියළු දෙනාටම පොදු, ස්වභාව නිරූපී අංග ලක්ෂණය වූයේ, අධ්‍යාපනය, ස්වයං පාලනය, නිදහස, යුරෝපීය ජීවන ආකෘති හා පොදු වශයෙන් සෑම අංගයකින්ම රුසියාවේ යුරෝපීකරණයද සඳහා, දැඩි පක්ෂපාතිත්වයක් දැක්වීමය. ''මාර්ග දේශකයා'' ගේ තුන්වැනි ස්වභාව නිරූපී අංග ලක්ෂණය වූයේ, පොදු ජනතාවගේ, විශේෂයෙන්ම (මාර්ග දේශකයන්ගේ කාලයේ වන විට සම්පූර්ණයෙන් නිදහස ලබා නො සිටි හෝ නිදහස ලැබීමේ ක්‍රියාදාමය ගෙවමින් සිටි) ගොවි ජනතාව ගේ අවශ්‍යතාවයන් ආරක්ෂා කිරීම, ප්‍රවේණිදාසක්‍රමය හා එහි නෂ්ඨාවශේෂයන් අහෝසි කළ විට විශ්වීය යහ ජීවනයක් ඇති වේය යන අවංක විශ්වාසය දැරීම සහ මෙය ඇති කිරීමට අවංක අපේක්ෂාවක් ඇතිව සිටීම ය. ''හැට ගණන්වල උරුමය'' යනුවෙන් අප රට තුළ හැඳින්වෙන දෙය සංයුක්ත වන්නේ මෙම අංගලක්ෂණ තුනෙනි. ඒ අතර මෙම උරුමය තුළ නරෝද්නික්වාදයේ කිසිවක් ඇත්තේම නැත. මෙම අංග ලක්ෂණ වලින් ස්වකීය ස්වභාවය පෙන්නුම් කළ රුසියානු ලේඛකයන් බොහෝ ගණනක් ඇති නමුත්, ඔවුන් තුළ නරෝද්නික්වාදය සමග පොදු කිසිම දෙයක් නොවීය. ලේඛයෙකු මෙම අංගලක්ෂණ දරන කල, ඔහු නරෝද්නික්වාදය කෙරෙහි දක්වන ආකල්පය කුමක් වුවත්, ඒ ගැන කිසිසේත් නොතකා, හේ ''හැට ගණන් වල සම්ප්‍රදායයන් රැකගත්'' අයෙක් ලෙසට කවුරුත් නිතරම පිළි ගනිති. නිදර්ශනයක් වශයෙන්, මෑතදී ජුබිලි උත්සවයකින් ගරු කරනු ලැබූ, එම්. ස්තස්යුලේවිච් මහතා, හුදෙක් ඔහු නරෝද්නික්වාදයේ ප්‍රතිපාක්ෂිකයෙක් වූ නිසාම, නැතහොත් නරෝද්නික්වාදය ඉදිරිපත් කළ ප්‍රශ්නය ගැන සැලකිල්ලක් නොදැක්වූ නිසාම, ''එම උරුමය අත්හළේය'' යි කීමට කිසිවෙක් නොසිතනු ඇත. අප නිදර්ශනයක් ලෙසට ස්කාල්දින් ගත්තේ*, ඔහු නිසැක වශයෙන්ම ''උරුමයේ''

* හා එහි ප්‍රතිවර්තනිය ද වේ. නරෝද්නික් වරු යෝජනා කරන සියළුම ප්‍රගතිශීලී පියවරයන් හරය වශයෙන් සම්පූර්ණයෙන්ම ධනපතිවන බව, නැතහොත්, වෙනත් කිසිම සංවර්ධනයක නොව ධනපති සංවර්ධනයේම ක්‍රියාමාර්ගයට තුඩු දෙන බව අපට පෙනේ. ගොවිජන ඉඩම් බුක්තිය, බදු අඩු කිරීම, නැවත පදිංචි කරවීම, ණය, තාක්ෂණික පහසුකම්, අලෙවි ක්‍රියා පිළිවෙළවල් හා එවැනි පියවරයන් ඊනියා ''ජනතා නිෂ්පාදනයේ'' අවශ්‍යතාවයන් ඉටු කිරීමට ප්‍රයෝජනවත් වන්නේය යන න්‍යාය ගොතා ගත හැක්කේ සුළු ධනපති පුද්ගලයන්ට පමණකි.

** වසම — පරිවර්තක

* ස්කාල්දින් ග්‍රාමීය කොමියූනයට විරුද්ධ නිසා හා ඔහුගේ ස්වරය නිසා ඔහු හැට ගණන්වල නියම නියෝජිතයෙක් නොවේය යන විරුද්ධත්වය පෑමට ඉඩ තිබේ. නමුත් එය ග්‍රාමීය කොමියූනය පමණක් පිළිබඳ ප්‍රශ්නයක් නොවේ. එය ස්කාල්දින්ද පිළිගත් හා සියළුම මාර්ග දේශකයන්ට පොදු වූ අදහස් පිළිබඳ ප්‍රශ්නයකි. ස්වරයේ ස්වභාවය අනුව බලන කල සන්සුන් සාධාරනත්වය, මැදහත් බව, ක්‍රමික භාවය ගැන අවධාරණය යනාදිය අතින් එය ඇත්ත වශයෙන්ම වෙනස්ය. ස්කාල්දින් liberalkonservativ[96] අයෙකියි එංගල්ස් කීවේ හේතු රහිතව නොවේ. නමුත් වඩාත් ගැලපෙන ස්වරයක් ඇති උරුමයේ නියෝජිතයෙක් තෝරා

නියෝජිතයෙක් වූ අතරම, නරෝද්නික් වරුන් ස්වකීය ආරක්ෂාව යටතට ගත් ඒ ආදී කාලීන ආයතනවල ඒකාන්ත සතුරෙක්ද වූ හෙයින්ම ය.

ස්කාල්දින් ධනපතියෙකියි අපි කීවෙමු. මෙය ඔප්පු කිරීමට ප්‍රමාණවත් තරම් කරුණු ඉහත සඳහන් කර ඇත. නමුත් මෙම වචනය බොහෝ විට ඉතා වැරදි ලෙස, පටු ලෙස හා ඓතිහාසික සම්බන්ධයෙන් තොරව වටහා ගනු ලබන බවත්, (ඓතිහාසික කාල පරිච්ඡේදයේ වෙනස් කම් නොතකා) එය අල්පතරයක අවශ්‍යතාවයන් ආත්මාර්ථකාමී ලෙස ආරක්ෂා කිරීම සමග සම්බන්ධ කරනු ලබන බවත් මෙහි ලා සඳහන් කළ යුතුය. දහ අටවැනි ශත වර්ෂයේ මාර්ග දේශකයන් (පොදු සම්මතයෙන් ධනපති නායකයන් අතරට ඇතුලත් කර ඇති) ඔවුන්ගේ ලියවිලි කරන විට, හතළිස් ගණන්වල හා හැට ගණන්වල අපගේ මාර්ග දේශකයන් ඔවුන්ගේ කෘති කරන විට, සියළුම සමාජ ප්‍රශ්නවල අර්ථය වූයේ, ප්‍රවේණිදාස ක්‍රමයට හා එහි නෂ්ඨාවශේෂයන්ට විරුද්ධ අරගලය වූ බව අමතක නොකළ යුතුය. එම කාලයේදී ද සමාජ-ආර්ථික සම්බන්ධකම් හා ඒවායේ ප්‍රති විරෝධයන් පැවතියේ කලල ස්වරූපයෙනි. එනිසා එකල ධනපති විඥනවාදීන් විසින් ආත්මාර්ථකාමී භාවයක් නොපෙන්වන ලදී. ඊට ප්‍රතිකූල වශයෙන් බටහිර හා රුසියාවේ යන දෙ පැත්තෙහිම, ඔවුහු විශ්වීය යහ ජීවනය ගැන ඉතාමත් අවංක ලෙසම විශ්වාස කළහ, එය අවංකවම අපේක්ෂා කළහ. ප්‍රවේණිදාස ක්‍රමයෙන් වැඩී එන ක්‍රමයෙහි වන ප්‍රති විරෝධයන් ඔවුන් අවංකවම දුටුවේ නැත (තරමක් දුරට දැකීමේ ඉඩක් තිබුණේද නැත). ස්කාල්දින් ඔහුගේ පොතෙහි එක් කොටසක ඇඩම් ස්මිත්ගේ අදහස් උපුටා දක්වන්නේ නිකම්ම නොවේ. කරුණු රැසක් විසින්ම, ඔහුගේ අදහස් හා ඔහුගේ තර්කවල ස්වභාවය මගින් ප්‍රගතිශීලී ධනපති පංතියේ ඒ ශ්‍රෙෂ්ඨ දෘෂ්ටිවාදියාගේ තිසිසයන් ප්‍රතිරාවය කෙරෙන බව අපි දැක ඇත්තෙමු.

එනිසා, අප ස්කාල්දින්ගේ ප්‍රායෝගික යෝජනා, එක් අතකින් වර්තමාන නරෝද්නික්වාදීන්ගේ අදහස් සමගද, අනිත් අතින්, ඒවා

---

ගැනීම ප්‍රථමයෙන් නොයෙක් හේතු නිසා අපහසු වන අතර දෙවැනිව, එවැන්නෙක් වර්තමාන කාලයේ නරෝද්නික් වරු සමග සැසඳීමේදී වැරදි අවබෝධයන්ට තුඩු දීමට ඉඩ තිබේ[97]. (කියමනක ඇති දෙයට ප්‍රතිකූල ලෙස) ස්වරයෙන් සංගීතය නොසෑදේ. එසේම ස්කාල්දින්ගේ අමුතු ස්වරය, ඔහුගේ අදහස්වල හරය පිළිබඳ ඒ ''සංගීතය'' වඩාත් පැහැදිලි ලෙස ගෙන ඒමට ප්‍රයෝජනවත් වේ. තවද, අප උනන්දුවක් දක්වන්නේද හරය ගැන පමණකි. උරුමයේ නියෝජිතයින් හා වර්තමාන නරෝද්නික්වාදීන් සම කර බැලීමට අප බලාපොරොත්තු වන්නේ ලේඛකයින්ගේ අදහස්වල (ස්වරය අනුව නොව) හරය අනුවම පමණකි.



කෙරෙහි ''රුසියානු ගෝලයින්'' දක්වන ආකල්පය සමගද, සංසන්දනය කළහොත්, ''ගෝලයන්'' නිතරම ස්කාල්දින්ගේ යෝජනාවලට ආධාර කරන බව අපට පෙනෙනු ඇත. එසේ වන්නේ ඔහුගේ එම යෝජනා තුලින් ප්‍රගතිශීලී සමාජ පංතිවල අවශ්‍යතාවයන් හා වර්තමාන මාර්ගය, නැතහොත්, ධනපති මාර්ගය ඔස්සේ පොදු වශයෙන් සමාජය සංවර්ධනය වීමේ ඉතා වැදගත් අවශ්‍යතාවයන්ද, පරාවර්තනය වන හෙයිනි. ස්කාල්දින්ගේ එම ප්‍රායෝගික අපේක්ෂාවන් හෝ ඔහු ප්‍රශ්න ඉදිරිපත් කරන ආකාරය හෝ සම්බන්ධයෙන් නරෝද්නික්වාදීන් කර තිබෙන වෙනස්කම්, නරක පැත්තට කර ඇති ඒවාය. ''ගෝලයෝ'' මෙම වෙනස්කම් ප්‍රතික්ෂේප කරති. ගෝලයින් ''හැපෙන්නේ'' ''උරුමයට'' විරුද්ධව (එය ගොතන ලද අන්ත බොරුවකි) නොව නරෝද්නික් වරු උරුමයට එකතු කර තිබෙන මනස්කාර හා සුළු ධනේශ්වර කොටස්වලට විරුද්ධවය. දැන් අපි මෙම එකතු කිරීම් ගැන විමසා බලමු.

## II

## නරෝද්නික්වාදයෙන් ''උරුමයට'' එකතු කළ කොටස්

ස්කාල්දින් වෙත සිට අපි එංගල්ගාර්ද්ත් දක්වා යමු. ඔහුගේ ''ගම්බදින් එවන ලියුම්''[98] ද, ගම්බද ජීවිතයේ සමාජ අංශ ගැන ලියවුනු රචනා විය. ඔහුගේ පොතෙහි එන කරුණුවල හරය මෙන්ම එහි ආකෘතිය පවා, බෙහෙවින් ස්කාල්දින්ගේ පොතට සමානය. එංගල්ගාර්ද්ත් ස්කාල්දින්ට වඩා බොහෝ සේ කුසලතා පූර්ණය. ඔහුගේ ගම්බදින් එවන ලිපි උද්යෝගයෙන් හා පරිකල්පනයන් ගෙන් පිරි ස්වභාවයෙන් අතිශයින්ම උසස්ය. භාර දූර ශෛලියෙන් ලියන, ''ඈත පිටිසර සහ අගනුවර'' පොතේ කර්තෘගේ වැනි දීර්ඝ විස්තර එංගල්ගාර්ද්ත්ගේ පොතෙහි නැත. අනිත් අතට එය කැපී පෙනෙන විස්තරයන්ගෙන් හා නිරූපනයන් ගෙන් ගහණය. ''ඔතේචෙස්ත්වෙන්නිය සපිස්කි'' සඟරාව එංගල්ගාර්ද්ත්ගේ ලිපි පළ කළේ ස්කාල්දින්ගේ පොත පළ කිරීමෙන් අවුරුදු දෙකකට පසුව වූ නමුත්, ස්කාල්දින්ගේ පොත සම්පූර්ණයෙන්ම පාහේ අමතක වී ඇති අතර, එංගල්ගාර්ද්ත්ගේ පොතට පාඨක මහජනයාගේ අනුකූලතාවය නොකඩවාම ලැබීම හා මෑතදී එහි දෙවැනි මුද්‍රණයත් පළවීම, පුදුමයට කරුණක් නොවේ. එනිසා එංගල්ගාර්ද්ත්ගේ පොතෙහි ඇතුලත් කරුණු

ගැන අප පාඨකයාට හඳුන්වා දීමේ අවශ්‍යතාවයක් නැත. එබැවින් අපි ඔහුගේ අදහස්වල අංශ දෙක ගැන කෙටි විස්තරයක් කිරීමට පමණක් සීමා වෙමු. ප්‍රථමයෙන්, ''උරුමයේ'' ස්වභාවය නිරූපනය කරන එංගල්-ගාර්ද්ත්ට සහ විශේෂයෙන්ම, ස්කාල්දින්ට පොදු අදහස්ය. දෙවැනිව, නිශ්චිත ලෙසටම නරෝද්නික්වාදී අදහස්ය. එංගල්ගාර්ද්ත් දැනටමත් නරෝද්නික්වාදියෙකු වී ඇත. එහෙත් සියළුම මාර්ග දේශකයන්ට පොදු බොහෝ දේ, සමකාලීන නරෝද්නික්වාදය විසින් ඉවත ලන ලද හා වෙනස් කරන ලද බොහෝ දේ, ඔහුගේ අදහස්වල අන්තර්ගතව තිබිණි. එනිසා ඔහු, නරෝද්නික් පාට නොමැති, පොදු වශයෙන් ''උරුමය'' නියෝජනය කරන අයෙකු වශයෙන් එම පිරිසට එකතු කළ යුතුද, නැතහොත්, නරෝද්නික් වරුන්ගේ ගොඩට එකතු කළ යුතුද යන්න, කෙනෙකුට වටහා ගැනීම අපහසුය.

එංගල්ගාර්ද්ත්ගේ අදහස් වල ඥනාන්විත භාවයද, යථාර්ථයන් පිළිබඳ පැහැදිලි හා ඍජු විස්තරයන්ද, ''අඩිතාලම්වල'' පොදු වශයෙන් හා විශේෂයෙන්, ගොවි ජනතාව තුළ ඇති නරක පැති සියල්ල ගැන වූ නිර්දය හෙළිදරව් කිරීම්ද, නරෝද්නික්වාදය විසින්, තමන්ගේ වැදගත් සංයුක්ත කොටසක් වශයෙන්, ව්‍යාජ ලෙස පරමාදර්ශ කොට දක්වනු හා හුවා දක්වනු ලැබීමට විෂය වූ ඒ ''අඩිතාලම්'' ම කෙරෙහි ඇති දුර්වල කම් ගැන වූ හෙළිදරව් කිරීම්ද, අනුව ඔහු මූලික වශයෙන් ස්කාල්දින් හා සමාන වේ. එනිසා, එංගල්ගාර්ද්ත් ඉතා දුර්වල ලෙස හා බිය ගුළු ලෙස ප්‍රකාශ කරන නරෝද්නික්වාදය, ඔහු එතරම් දක්ෂ ලෙස පින්තාරු කරන, ගම්බද යථාර්ථයන් පිළිබඳ පින්තූරයට, සම්පූර්ණයෙන්ම ප්‍රති විරෝධී වන්නේය. එබැවින් කිසියම් අර්ථශාස්ත්‍රඥයෙක් හෝ සමාජ විද්‍යාඥයෙක් ගම් ප්‍රදේශ සම්බන්ධයෙන් තමන්ගේ අදහස එංගල්ගාර්ද්ත් ඉදිරිපත් කර තිබෙන කරුණු හා නිරීක්ෂණයන්* මත පදනම් කරන්නේ නම්, එවැනි

* මෙසේ කිරීම ආර්ථික විමර්ශකයෙකුට ඉතාමත් සිත්ගන්නා හා උපදේශාත්මක පමණක් නොව සම්පූර්ණයෙන්ම සුදුසු දෙයක්ද වනු ඇත. ප්‍රශ්න මාලා මගින් එකතු කරන දත්තයන් කෙරෙහි විද්‍යාඥයෝ විශ්වාසය තබත් නම්, බොහෝ විටම ඒකාර්ථයට බර හා තොරතුරු නොදත්, සසංගත අවබෝධයක් සංවර්ධනය කරගෙන නැති, නැතහොත්, තමන්ගේ අදහස් ගැන බුද්ධි ගෝචර ලෙස සිතා බලා නොමැති, දේපල හිමියන් රැසකගේ පිළිතුරු හා අදහස් කෙරෙහි විශ්වාසය තබත් නම්, — ඉතා විශිෂ්ඨ නිරීක්ෂණ ශක්තියක් ඇති, නිසැකවම අවංක හා තමා කථා කරන දෙය ගැන අගනා අධ්‍යයනයක් කර සිටින පුරුෂයෙක් විසින් පුරා එකොළොස් වසරක් තිස්සේ එකතු කරන ලද නිරීක්ෂණයන් කෙරෙහි විශ්වාසය නොතැබිය යුත්තේ මන්ද?



කරුණු ආධාරක කොටගෙන නරෝද්නික්වාදී නිගමනයකට එළඹීමට කොහෙත්ම නොහැකි බව ඔහුට පෙනී යනු ඇත. ගොවියා සහ ඔහුගේ ග්‍රාමීය කොමියුනය පරමාදර්ශ කොට දැක්වීම නරෝද්නික්වාදයේ සංයුක්ත වැදගත් කොටස් වලින් එකකි. වී. වී. මහතාගේ පටන් මිහයිලෝව්ස්කි මහතා දක්වා වූ සෑම වර්ණයකම නරෝද්නික්වාදීහු ''කොමියුනය'' පරමාදර්ශයක් කිරීමේ හා එය හුවා දැක්වීමේ මෙම ප්‍රයත්නයට සම්පූර්ණ ශක්තිය යෙදූහ. එවැනි හුවාදැක්වීමක අල්ප මාත්‍ර ඡායාවක් හෝ එංගල්-ගාර්ද්ත් කෙරෙහි දක්නට නො ලැබේ. අපගේ ගොවිජනතාවගේ ප්‍රජා ජීවගුණය ගැන මෝස්තර ආකාරයෙන් කරන කථාවලටද, නාගරික පුද්-ගලවාදය, ධනපති ආර්ථිකයේ තරඟය, යනාදිය සමග කෙරෙන වර්තන විසංසන්දනයන්ටද, එරෙහි වන ලෙසින්, කුඩා ගොවියාගේ පුදුම සහගත පුද්ගලවාදය ගැන හෙළිදරව් කිරීමෙදී, එංගල්ගාර්ද්ත් ඉතාමත් නිර්දය ස්වරූපයක් දක්වයි. ''හිමිකම පිළිබඳ කාරණයෙහිදී'', අපගේ ''ගොවීන්ට දේපළ සම්බන්ධයෙන් තිබිය හැකි තියුණු තම හැඟීම ඇති'' බව (පිටු 62, 1885 සංසකරණය) දිගින් දිගට පෙන්වා දෙමින් ඔහු මෙම කරුණු ගැන සඳහන් කරයි. ගොවීහු ''කණ්ඩායම් වැඩ'' නො ඉවසති. පටු ආත්-මාර්ථකාමී හා ආත්ම ලෝභී චේතනා අනුව එයට වෛර කරති. කණ්ඩායම් වැඩ කිරීමේදී, ඔවුන් හැම අයෙක්ම, ''අනිකාට වඩා වැඩ කිරීම ගැන බියක් දක්වයි'' (පිටු 206). අනිකාට වඩා වැඩ කිරීම ගැන දක්වන මෙම බිය, විකට (නැතහොත් ශෝක ජනත තරම් විකට) සීමාන්තයන් දක්වා යන්නේය. නිදර්ශනයක් වශයෙන් එකම වහළ යට වෙසෙන හා පොදු නිවස්නෙහි හා ඥාති සම්බන්ධකමින් බැඳී සිටින නමුත්, තමන් කෑම කන මේසයේ තම තමන්ගේ විශේෂ කොටස පමණක් සෝදන, නැත-හොත්, එක්, එක් අය, තමන්ගේම දරුවා සඳහා පමණක් (අනිත් අය කිරි ටිකක් සඟවතැයි යන බිය නිසා) වරින් වර වෙන වෙනම එළදෙන ගෙන් කිරි දෙවා ගන්නා, එසේම, තමන්ගේම දරුවා සඳහා පමණක්, වෙනම තලප සාදන, ගැහැණුන් ගැන (පිටු 323) කතුවරයා විස්තර කරයි. ඔහු මෙම අංග ලක්ෂණ ඉතාමත් සවිස්තර ලෙස ගෙන හැර දක්වයි, නිදර්ශන රාශියකින් ඒවා සනාථ කරයි. එනිසා, ඒවා දුර්ලභ අවස්ථා ලෙසට කිසිසේත් ගිණිය නොහැක. එකක් හෝ අනික. එක්කෝ එංගල්ගා-ර්ද්ත් කිසිම වැඩකට නැති, විශ්වාස කිරීම කිසිසේත් නොසුදුසු වන අයෙකි එසේ නැතහොත්, ගොවියාගේ ප්‍රජා ජීවගුණය හා ප්‍රජා යහ ගුණයන් ගැන කියන කථාව ඉඩම් බුක්ති ආකෘතිවලින් උපුටාගත් අංග ලක්ෂණ ආර්ථික ව්‍යවහාරයට මාරු කරන එමෙන්ම මෙම ඉඩම් හිමිකම් ක්‍රම ආකෘතියෙන් සියලුම රාජ්‍ය මූල්‍ය-පරිපාලන ප්‍රතිපත්ති පිළිබඳ අංගද තවදුරටත් උපුටා ගන්නා හුදු පරිකල්පනයකි. ගොවියා ඔහුගේ ආර්ථික ක්‍රියාකාරිත්වයේදී

කුලාකයෙක් වීමට අරමුණු කරන බව එංගල්ගාර්ද්ත් පෙන්වා දෙයි. ''සැම ගොවියෙක් තුළම කුලාක කම ටිකක් ඇතැ''යි (පිටු 491) ඔහු කියයි. ''ගොවීන් තුළ කුලාක පරමාර්ථ බල පවත්වයි''... ''ගොවීන් අතර පුද්ගලවාදය, ආත්ම ලෝභය හා සූරාකෑමේ ආශාව බලවත් ලෙස සංවර්ධනය වී ඇතැයි මා නැවත නැවතත් කියා ඇත''... ''සැම අයෙක්ම තමා ලොකු පයික් මත්ස්‍යයෙකු වීම ගැන ආඩම්බර වෙමින් කුඩා ටිඩ්ලර් මත්ස්‍යයා ගිල දැමීමට උත්සාහ දරති.'' ගොවි ජනතාව අතර පවතින්නේ ''ප්‍රජා'' ක්‍රමය වෙත, ''ජනතා නිෂ්පාදනය'' වෙත යොමු වූ උපනතියක් නොව, සියලු ධනපති සමාජයන් තුළම ආවේණිකව පවත්නා, ඉතාමත් සාමාන්‍ය, සුළු ධනේශ්වර ක්‍රමය වෙතට නැඹුරු වූ උපනතියක් බව එංගල්ගාර්ද්ත් ඉතා අනගි ලෙස පෙන්නුම් කරයි. වත් පොහොසත් කම් ඇති ගොවියා වෙළඳාමෙහි යෙදීමටත් (363), වැඩ කරවා ගැනීම සඳහා ධාන්‍ය ණයට දීමටත්, දුප්පත් ගොවියාගේ ශ්‍රමය මිළට ගැනීමටත් (පිටු 457, 492 ආදිය), එසේ නැතහොත්, ආර්ථික භාෂාවෙන් කියතහොත්, ව්‍යවසායශීලී ගොවීන් ගම්බද ධනපති පංතියක් බවට පත් වීමටත්, යොමු වූ ප්‍රවණතාවය, ඔහු විසින් අවිවාද ලෙස විස්තර කරනු හා ඔප්පු කරනු ලැබේ. ''ගොවීන් ආටල ක්‍රමයේ ආර්ථිකයක් පිළිගෙන යොදා නොගනිත් නම්, එක් එක් අය, තනි තනිව, තමන්ගේ ගොවිපළ දිගටම පවත්වාගෙන යයි නම්, එවිට ඉඩම් අතිවිශාල ප්‍රමාණයක් තිබුණත්, ගොවි කෘෂකයන් අතර ඉඩම් නොමැති ගොවීන් හා ගොවිපළ සේවකයන් යන දෙකොටසම සිටිනු ඇතැ''යි, එංගල්ගාර්ද්ත් කියයි. ''තවද, ගොවීන් අතර පවතින ඔවුන්ගේ තත්වයේ පරතරය දැනට තිබෙනවාටත් වඩා විශාල වනු ඇතැයි මම විශ්වාස කරමි. ''පොහොසතුන්'' සමග උරෙනුර ගැටී සිටින ප්‍රජා ඉඩම් අයිතිය තිබුණත්, ඉඩම් කොහෙත්ම අයිතියක් නොමැති ස්වභාවයේ ගොවිපළ සේවකයන් රැසක් සිටිනු ඇත. මට ඉඩම් අයිතිය තිබුණත්, එය ගොවිතැන් කිරීමට අවශ්‍ය ප්‍රාග්ධනය හෝ උපකරණ මට නොමැති නම්, එම ඉඩම් හිමිකමින් මට හෝ මගේ දරුවන්ට ඇති සෙත කුමක්ද? එය හරියටම මෙබඳුය. කාපන්, කියා අන්ධයෙකුට ඉඩමක් දීම වැනිය!'' (370). සංවේගී අද්භූතතාවයක් මෙන්, අහිංසක හා අසරණ අභිප්‍රායයක් මෙන්, මෙහි එන ''ආටල ක්‍රමයේ ආර්ථිකය'' ගැන වූ හුදකලා සටහන, ගොවි ජනයා සම්බන්ධයෙන් ඉදිරිපත් කළ කරුණුවලින් කිසිසේත්ම නිගමනය වන්නක් නොව, ඒවායින් එක එල්ලේම ප්‍රතික්ෂේප කෙරෙන්නකි, අවලංගු කෙරෙන්නකි.

එංගල්ගාර්ද්ත් කිසිම නරෝද්නික් වර්ණයකින් තොර, උරුමයේ නියෝජිතයන්ට සමාන කරන තවත් අංග ලක්ෂණයකි, ගොවි ජනතාවගේ ආපද ගත තත්වයට ප්‍රධාන හා මූලික හේතුව, ප්‍රවේණිදාස ක්‍රමයේ නෂ්ඨාවශේෂයන් හා එහි ස්වභාවය පෙන්නුම් කරන ආඥා ක්‍රමය වන්නේය



යනුවෙන් ඔහු දරන විශ්වාසය. මෙම නෂ්ඨාවශේෂයන් සහ මෙම ආඥා ක්‍රමය ඉවත් කළ විධ සියල්ල යහපත් සේ සිදුවනු ඇත. ආඥා ක්‍රමයට එංගල්ගාර්ද්ත් දක්වන පරම විරෝධය හා ඉහළින් එන ආඥා ක්‍රමය මගින් ගොවියාට වාසනාව ප්‍රදානය කිරීමට දරන සියලු ප්‍රයත්නයන් වෙත ඔහු එල්ල කරන දහක සමච්චලය, ''පාලක පංතිවල සාධාරණය සහ හැඟීමත්, දැනුම සහ දේශප්‍රේමයත්'' (''රුස්කොය බගාස්ත්වො'' 1896, අංක 12, පිටු 106 හි යුෂකොව් මහතාගේ වචන) කෙරෙහි නරෝද්නික්වරු තබන විශ්වාසයද, ''නිෂ්පාදනය සංවිධානය කිරීම'' සඳහා වූ ඔවුන්ගේ පුදුම යෝජනා ක්‍රමද, යනාදිය සමග ඉතාමත් තියුණු ලෙස විසංසන්දනය වන්නේය. පිටි කර්මාන්ත ශාලාවල වොඩ්කා නොවිකිණිය යුතුය යන, ගොවියාගේ ''යහපත'' පිණිස අරමුණු කරන ලද, ඒ රෙගුලාසිය ගැන එංගල්ගාර්ද්ත්ගේ උපහාසාත්මක හෙළා දැකීම හෝ, අගෝස්තු 15 දිනට පෙර රයි නොවපුරන ලෙස නියම කරමින්, සෙම්ස්ත්වො ආයතන ගණනාවක් විසින් 1880 දී නිකුත් කරන ලද බලකාරී නියෝගය නැතහොත්, ''කෝටි ගණන් ගොවිජන දේපළ හිමියන්ගේ'' (424) ගොවිතැනට හාන්සි පුටු ''විද්‍යාඥයන්'' කළ ඒ දරුණු ඇඟිලි ගැසීම — මෙයද ගොවියාගේ යහපත පිණිස දක්වන ලද සැලකිල්ල නිසා සිදු කෙරුණකි — ගැන ඔහු පිළිකුළෙන් කථා කරන ආකාරය හෝ සිහියට නංවමු (424). පයින් කැලෑවල දුම්බීමත්, වසන්තයේදී පයික් මසුන් ඇල්ලීමත්, ''මැයි'' උත්සව සඳහා බර්ච් ගස් කැපීමත්, කුරුළු කූඩු කැඩීමත්, යනාදිය තහනම් කරන වැනි රෙගුලාසි හා නියෝග ගැන සඳහන් කරමින්, එංගල්ගාර්ද්ත් උපහාසාත්මක ලෙස මෙසේ කියයි... ''බුද්ධිමතුන්ගේ සිත්වල අනුවේදනීය සැලකිල්ලට නිතරම යොමු වූ ප්‍රධාන කරුණ වූයේ හා වන්නේ, ගොවියාට දක්වන කරුණාවය. තමන් වෙනුවෙන්ම ජීවත් වෙනත් යමෙක් සිටිත්ද? හැම දෙනම ජීවත් වන්නේ ගොවියා උදෙසාය... ගොවියා මෝඩය. ඔහුට ඔහුගේ කටයුතු කරගත නොහැකිය. කවුරු හෝ ඔහු බලා නොගන්නේ නම් ඔහු කැලෑ සියල්ලම ගිනි තබා දමනු ඇත; කුරුල්ලන් සියල්ලම මරනු ඇත; ගංගාවල මාළු වඳ කරනු ඇත; ඉඩම්ද විනාශ කර ඔහුද මැරී යනු ඇත'' (398). නරෝද්නික්වරුන්ගේ හදවතට එතරම් සමීප වූ, නිදර්ශනයක් වශයෙන්, කට්ටි ඉඩම් අන්සතු කිරීම තහනම් කරන වැනි නීතිවලට මෙම ලේඛකයා තුළ කිසියම් හෝ අනුකූලතාවයක් ඇති වීමට ඉඩ තිබිණැයි ඔබ සිතන්නෙහිද, පාඨකයාණනි? ''රුස්කොය බගාස්ත්වො'' සභරාවේ බල කණුවක් වන අයෙකුගේ, ඉහත උපුටා දක්වා ඇති වාක්‍ය ඛණ්ඩයට, කිසි ලෙසකින් හෝ සමාන යමක් මොහුගේ පෑනෙන් ලියවෙන්නට ඉඩ තිබුණේද? ''කෘෂිකාර්මික ශ්‍රමය සංවිධානය කිරීම

සඳහා, නීති පතා විශාල හා සෑහෙන තරම් වියදමක්''* කිරීමට ''ඉඩක් සොයා ගත නොහැකි විය'' යන දෝෂාරෝපනය, අපගේ ගුබේර්නියා සෙම්ස්ත්වො සභා වෙත (අනූ ගණන්වලදී!) දමා ගැසුවා වූද, එම සහරාවේම තවත් බල කණුවක් වූද, එන්. කාරශෙව් මහතාගේ අදහස දූරිමට ඔහුට පුළුවන් කමක් තිබුණේද?

එංගල්ගාර්ද්ත් ස්කාල්දින්ට සමාන කරන තවත් අංග ලක්ෂණයක් සඳහන් කරමු. එය නම්, පිරිසිදු ධනපති අභිලාෂයන් සහ පියවරයන් සම්බන්ධයෙන් ඔහු දක්වන අවිඥත ආකල්පයයි. සුළු ධනපති පංතියට ඔප දැමීමට හෝ, කිසියම් ව්‍යවසායිකයෙකුට මෙම පදවි නාමය නොයෙදීම සම්බන්ධයෙන් (වී. වී මහතා à la)** සමාවට කරුණු ගෙනීමකට හෝ, එංගල්ගාර්ද්ත් උත්සාහයක් කරනවා නොවේ. ඔහු එවැනි කිසිවක් නොකරයි. ප්‍රායෝගික ගොවියෙක් ලෙසට එංගල්ගාර්ද්ත් සෑම ප්‍රගතිශීලී නවීකරණයකින්ම, ගොවිතැන් ක්‍රම විෂයෙහි වන සෑම වැඩි දියුණු කිරීමකින්ම, අමන්දනන්දයට පත් වන්නේය. ඒ අනුව, අපගේ රටේ ධනපති ක්‍රමය ඇති විය නොහැකිය යන ඔහුගේම න්‍යාය, මෙම වැඩි දියුණු කිරීම්වල සමාජ ආකෘති විසින්, ඉතාමත් සාර්ථක ලෙස බිඳ හෙලනු ලබන බව වටහා ගැනීමට, ඔහු සම්පූර්ණයෙන්ම අසමත් වෙයි. නිදර්ශනයක් වශයෙන් ඔහුගේ කම්කරුවන්ට (හණ ඔප දැමීම, පිරිසිදු කිරීම ආදිය සඳහා) කැලි ගණනට ගෙවීමේ ක්‍රමය ආරම්භ කිරීම නිසා, ඔහුගේ ගොවිපළේ කටයුතුවලින් ඔහු ලත් සාර්ථකත්වයෙන් ඔහු උදම් වූ ආකාරය මතකයට නංවමු. ශ්‍රම සුක්ෂමතාවය උසස් කිරීම සඳහාත්, අතිරික්ත වටිනාකම් ප්‍රමාණය වැඩි කිරීම සඳහාත්, සංවර්ධනය වන ධනපති ක්‍රමය අනුගමනය කරන ඉතාමත් ප්‍රචලිත ක්‍රමවලින් එකක් වන්නේ, කාල අනුපාත ක්‍රමය වෙනුවට කැලි ගණනට ගෙවීම ආදේශ කිරීම බව, එංගල්ගාර්ද්ත් ශාංකා වශයෙන් හෝ නොසිතයි. තවත් නිදර්ශනයක්. එංගල්ගාර්ද්ත් ''සෙම්ලෙදේල්චස්කායා ගසේතා''[99] පත්‍රයේ වැඩ පිළිවෙළට, එනම්, ''ශස්‍යමාරු පිළිවෙළට ගොවිතැන් කිරීම සඳහා ඉඩම් බදු දීම නැවැත්වීමද, කම්කරුවන් යෙදවීම පදනම් කරගෙන ගොවිතැන් කිරීමද, වැඩි දියුණු යන්ත්‍ර, උපකරණ හා ගව වර්ගත්, බහු-වගා ක්‍රමයත් යෙදීමද, පිට්ටනි හා තණ බිම් වැඩි දියුණු කිරීමද යනාදී'' පියවරයන් ඇතුළු එම වැඩ පිළිවෙළට සමච්චල් කරයි. ''කෙසේ වුවද, ඒ සියල්ලම හුදෙක් කට කථා පමණකි!'' යි (128)

---

* ''රුස්කොය බගාත්ස්ත්වො'', 1896, අංක 5, මැයි. ආර්ථික පියවරයන් සඳහා ගුබේර්නියා සෙම්ස්ත්වො වියදම් ගැන කාරශෙව් මහතාගේ ලිපිය, පිටු 20

** ලෙසට



ඔහු වේගයෙන් කියයි. නමුත් එංගල්ගාර්ද්ත් ඔහුගේ ප්‍රායෝගික ගොවිතැන් කටයුතුවලදී අනුගමනය කළේ මෙම වැඩ පිළිවෙළය. ඔහු ඔහුගේම ගොවිපළෙහි තාක්ෂණික ප්‍රගතිය ඇති කර ගත්තේ එය ගොවිපළ සේවකයන් යොදගැනීමේ පදනම මත පිහිටුවීමෙනි. තවත් නිදසුනක් එංගල්ගාර්ද්ත් ව්‍යවසායශීලී ගොවියාගේ සැබෑ ප්‍රවණතාවයන් කොතරම් අවංක ලෙස සහ තත්වාකාරයෙන් හෙළිදරව් කළේද යන්න අපි දනිමු. නමුත්, ''අවශ්‍යව ඇත්තේ පැක්ටරි හා කම්හල් නොව, කුඩා'' (එංගල්ගාර්ද්ගේ අවධාරණය)''ගම්බද ස්කාගාර හා තෙල් මෝල්ය''යනාදී (පිටු 336)වශයෙන් සහතික කර කීමෙන් ඔහු එයින් වැළකුණේ නැත. එයින් කියන්නේ, නිතරම හා සෑම තන්හිදීම කෘෂිකාර්මික ධනපති ක්‍රමයේ එක් ප්‍රධාන සළකුණක් වූ, කෘෂිකාර්මික කර්මාන්ත ආරම්භ කිරීමට, ගම්බද ධනපති පංතිය යොමු වීම ''අවශ්‍ය'' බවය. එංගල්ගාර්ද්ත් න්‍යායවාදියෙක් නොව, ප්‍රායෝගික ගොවියෙක් වීමේ බලපෑම, මෙහිදී අපට දක්නට ලැබේ. ධනපති ක්‍රමය නොමැතිව ප්‍රගතිය ලබා ගත හැකි යයි තර්ක කිරීම එක් දෙයකි. තමන්ම ගොවිතැන් කිරීම තවත් දෙයකි. තමන්ගේ ගොවිපළ බුද්ධිමත් ක්‍රියාමාර්ගයක් අනුව පවත්වාගෙන යාමේ අරමුණ ඇති කරගත් එංගල්ගාර්ද්ත්ට, ''ගොවිපළ් සේවකයන් යොද ගැනීම'' සම්බන්ධයෙන් ඔහු තුළ තිබූ සියලුම න්‍යායික හා ගතානුගතික සැක ඉවත ලා, මෙම අරමුණ ඉටු කර ගැනීමට, පිරිසිදුම ධනපති ක්‍රම මගින් ප්‍රයත්න දරන සේ, වටපිටාවේ තත්වයන් විසින් බල කෙරුනි. න්‍යාය පිළිබඳ ක්ෂේත්‍රයේදී ස්කාල්දින් මැන්චෙස්ටර් ගුරුකුලයේ නියම සාමාජිකයෙකු ලෙස තර්ක කළේය. ඔහු එසේ කළේ ඔහුගේ තර්ක මෙම ස්වභාවයේම බවත්, ඒවා රුසියාවේ ධනපති සංවර්ධනයේ අවශ්‍යතාවයන්ට අනුරූපී වූ බවත්, වටහා ගන්නේ නැතිවය. ව්‍යවහාරයේ ක්ෂේත්‍රයෙහිදී නියම මැන්චෙස්ටරයෙකු ලෙස කටයතු කිරීමට එංගල්ගාර්ද්ත්ට සිදුවිය. ධනපති ක්‍රමයට විරුද්ධ තමන්ගේ විරෝධය පෑම හා තමන්ගේ පීතෘ භූමිය, එයටම විශේෂ වූ මාවතක් අනුගමනය කරන්නේය යන්න විශ්වාස කිරීමට ඇති ආශාව නොතකාම, එසේ කිරීමට ඔහුට සිදුවිය.

එංගල්ගාර්ද්ත් එය විශ්වාස කළේය. ඔහු නරෝද්නික්වාදියෙකු ලෙසට හැඳින්වීමට අප යොමු කරන්නේ එයයි. රුසියාවේ ආර්ථික සංවර්ධනයේ සැබෑ උපනතිය ඔහු ඒ වන විටත් පැහැදිලිව අවබෝධ කරගෙන සිටියේය. එනිසා මෙම සංවර්ධනයේ ප්‍රතිවිරෝධයන්ට හේතු සාධක පෙන්වීමට උත්සාහ කළේය. රුසියාවේ කෘෂිකාර්මික ධනපති ක්‍රමය ක්‍රියාත්මක කළ නොහැකියයිද, ''අපේ රටෙහි කෘෂිකාර්මික කම්කරුවන් නැතැ'' යිද ඔප්පු කිරීමට ඔහු උත්සාහ ගත්තේය. නමුත්, අපගේ කම්කරුවන් සඳහා ඉහළ ගාස්තු ගෙවිය යුතුය යන කථාව, ඔහුම, ඉතා විස්තර

සහිතව ව්‍යර්ථ කර දැම්මේය. එසේ කිරීමේදී ඔහු, තමාගේම ගව පාලක පියොතර්ට ගෙව්වේ, මොන තරම් අඩු වැටුපක්ද යනුත්, එයින් පියොතර් සහ ඔහුගේ පවුල නඩත්තු වූ පසු, ඔවුනට "ලුණු, ශාක තෙල් හා රෙදිපිළි මිළට ගැනීමට" වසරකට ඉතිරි වූයේ රූබල් 6 ක් (පිටු 10) පමණක් බවත් පෙන්වා දුන්නේය. "නමුත් ඔහුද අන්‍යයන්ගේ ඊර්ෂ්‍යාවට භාජනය වන්නෙක් විය. මා ඔහු අස් කළේ නම්, ඔහුගේ තැන ගැනීමට සූදනම් පණස් දෙනෙක් එකෙනෙහිම සොයා ගත හැකි විය" (පිටු 11). තමන්ගේ ගොවිපළෙහි සාර්ථකත්වය ගැනත්, ඔහුගේ කම්කරුවන් නඟුල හසුරුවන දක්ෂ ආකාරය ගැනත්, කියමින් ඔහු මෙසේ අවධාරණය කරයි: "ඉතින්, කවුද මේ සීසාන්නෝ? නූගත්, හැඟීමක් නැති, රුසියානු ගොවීහු වෙති" (පිටු 225).

තමාට ගොවිතැනෙන් ලැබූ අත් දැකීම් මගින්, ගොවියාගේ පෞද්ගලිකත්වය ගැන තමා කළ හෙළිදරව්ව මගින් "ප්‍රජා ජීව ගුණය" පිළිබඳ සියලු මායාවන් දුරලන ලද නමුත්, එංගල්ගාර්ද්ත් "විශ්වාස" කළේ, ගොවීනට ආටල ක්‍රමයේ ගොවිතැන ක්‍රියාත්මක කළ හැකිය යන්නය. එපමණක් නොව, ඇත්ත වශයෙන්ම සිදුවනු ඇත්තේ එය බවත්, නව ගොවිතැන් ක්‍රමයක් ඇති කිරීමේ මෙම මහා කාර්යය, රුසියානුන් වන අප විසින් ඉටු කෙරෙන බවත්, ඔහුගේ "අවබෝධය" විය. "අපගේ කෘෂිකර්මාන්තයේ අමුතු ස්වභාව ලක්ෂණය, විශේෂ ස්වභාවය, සංයුක්ත වන්නේ මෙයිනි" (පිටු 349). යථාර්ථවාදී එංගල්ගාර්ද්ත්, මනස්කාරවාදී එංගල්ගාර්ද්ත් බවට පරිවර්තනය වෙමින් ඔහුගේම ගොවිතැන් ක්‍රමයෙහි ඇති කිසිම "අමුතු ස්වභාව ලක්ෂණයක්" නොදැක, ඒ වෙනුවට අනාගත "අමුතු ස්වභාව ලක්ෂණයක්" කෙරෙහි තබන විශ්වාසය ආදේශ කරයි! මෙම විශ්වාසයේ සිට, එංගල්ගාර්ද්ත් තුළ තිබෙන බව අයෙකුට පෙනෙන, — ඉතා ස්වල්පයක් හෝ වුව — සීමාන්තික නරෝද්නික්වාදී අංග ලක්ෂණවලට, එනම් ජාත්‍යෝන්මාදයට යාබද වන තරම් සමීප වන පටු ජාතිවාදයට (එංගල්ගාර්ද්ත්, යුද්ධයක් ඇතිවීමේ බලාපොරොත්තු ගැන ඉඩම්හිමියෙකු සමග සාකච්ඡා කරමින් "අපි යුරෝපයට හොඳටම බැට දෙන්නෙමු." එවිට "යුරෝපයේද ගොවියා අපේ පැත්ත ගනු ඇතැ"යි (පිටු 317) එම ඉඩම්හිමියාට කීවේය) සහ ශ්‍රම සේවය පරමාදර්ශයක් කොට ගැනීමට පවා ඇත්තේ, ගලක් ගසන දුරක් පමණකි! වැඩ කර දීමේ මාර්ගයෙන් ගෙවීම සඳහා මුදල් හෝ ධාන්‍ය ණයක් ලබා ගත් හා ඉතාමත් දරුණු පෞද්ගලික ගැති භාවය යටතේ පසුවන, නොමිළේම මෙන් වැඩ කිරීම හැර වෙනත් කිසිවක් කර කියා ගත නොහැකිව සිටින, ගොවියාගේ



පීඩිත හා පිරිහුණු තත්වය ගැන විස්තර කිරීමට*, තම පොතෙන් අනගි පිටු ගණනාවක්ම මිඩංගු කළේත්, සැබැවින්ම, මෙම එංගල්ගාර්ද්ත්මය. "වෛද්‍යවරයාගෙන් ගොවියා ලබා ගන්නා ප්‍රතිකාර සඳහා ගාස්තුව තම ශ්‍රමයෙන් ගෙවීමට ගොවියාට හැකි වන සේ, වෛද්‍යවරයාට" (ඔහු කථා කරමින් සිටියේ ගම්බද පෙදෙස්වල වෛද්‍යවරු සිටීමේ යහපත හා අවශ්‍යතාවය ගැනය, වී. අයි.) "ඔහුගේම ගොවිපළක් තිබුණේ නම් යහපතැ" යි (පිටු 41) කියන තරම් දුරට යන්නේත්, මෙම එංගල්ගාර්ද්ත්මය. මේ ගැන අදහස් දැක්වීම අනවශ්‍යය.

සියල්ල සැලකිල්ලට ගත් කල, එංගල්ගාර්ද්ත්ගේ අදහස්වල ඉහත විස්තර කෙරුණු හොඳ අංග ලක්ෂණ (එනම්, කිසිම නරෝද්නික් වර්ණයක් නොමැති, "උරුමයේ" නියෝජිතයන්ට පොදු අංග ලක්ෂණ), නරක ඒවා (එනම් නරෝද්නික් අංග ලක්ෂණ) සමග සංසන්දනය කළ විට, "ගම්බදින් එවන ලියුම්" වල කතුවරයා තුළ ප්‍රථමයෙන් සඳහන් අංග ලක්ෂණ ප්‍රබලව පවතින බවත්, පසු කී ඒවා අදාල නොවන හා අහම්බෙන් මිශ්‍ර වුණු, බැහැරින් ඇතුළට ගසා ගෙන ආ සහ, පොතේ සාමාන්‍ය ස්වරයට හරස් වන ඒවා බවත් පිළිගැනීමට අපට සිදුවේ.

## III

## නරෝද්නික්වාදය සමග සමාගමයෙන් "උරුමයට" යහපතක් සිදුවීද?

නරෝද්නික්වාදය යනුවෙන් ඔබ අදහස් කරන්නේ කුමක්ද? සමහර විට පාඨකයා මෙම ප්‍රශ්නය අසනු ඇත. "උරුමය" යන සංකල්පයට දෙන අර්ථය ඉහත පැහැදිලි කරන ලද නමුත්, "නරෝද්නික්වාදය" යන සංකල්පය පැහැදිලි කර නොමැත.

නරෝද්නික්වාදය යනුවෙන් අප අදහස් කරන්නේ පහත සඳහන් අංග ලක්ෂණ තුනෙන් සංයුක්ත වන අදහස් පද්ධතියකි: (1) රුසියාවේ ධනපති ක්‍රමය පිරිහීමක් හා ආපසු යාමක් නියෝජනය කරන්නේය යන

* ගොවියෙකුගේ ධාන්‍ය කෙත පැසී වැඩිවී, නරක් වී යන තත්වයට පැමිණ තිබියදී, ගම් දෙටුවාගේ (එනම් ඉඩම්හිමියාගේ භාරකාරුගේ) කැඳවීමක් ලැබ යන, එසේ නොගියහොත්, වොලොස්ත් බලධාරීන් "ඔහුගේ කලිසම ගලවන"බයටමපමණක් එසේ යන ගොවියාගේ පින්තූරය සිහියට නගන්න.

විශ්වාසය. එහෙයින් යුග-පැරණි අඩිතාලම් ධනපති ක්‍රමය මගින් ''බිඳ දැමීම'', ''ප්‍රමාද කිරීම'', ''නැවැත්වීම''හා ''අත්හිටුවීම'' හා එවැනි ප්‍රතිගාමී මොරදීම් සඳහා උද්වේගයක් හා ආශාවකි. (2) පොදු වශයෙන් රුසියානු ආර්ථික ක්‍රමයෙහි හා විශේෂයෙන්ම, ග්‍රාමීය කොමියුනය, ආටලය ආදිය සහිත ගොවිජනතාව කෙරෙහි අමුතු විශේෂ ස්වභාවයක් ඇතැයි යන විශ්වාසය. විවිධ පංති හා ඒවා අතර සංඝට්ටන පිළිබඳව නවීන විද්‍යාව විසින් පැහැදිලි කරන ලද සංකල්පයන් රුසියානු ආර්ථික සම්බන්ධකම්වලට ගලපා ගැනීම අවශ්‍ය යයි කල්පනා කරනු ලැබේ. ග්‍රාමීය කොමියුන ගොවි ජන ක්‍රමය' ධනපති ක්‍රමයට වඩා උසස් හා හොඳ දෙයක් ලෙසට සලකනු ලැබේ. මෙය ''අඩිතාලම්'' පරමාදර්ශ වශයෙන් ගැනීමේ නැඹුරුවකි. සෑම වෙළෙඳ භාණ්ඩ හා ධනපති ආර්ථිකයකම ස්වභාව ලක්ෂණයක් වන ප්‍රතිවිරෝධතා ගොවි ජනතාව අතර පවතින බව ප්‍රතික්ෂේප කෙරේ, නැතහොත් නොසලකා හරිනු ලැබේ. මෙම ප්‍රතිවිරෝධයන් සහ ධනපති කර්මාන්තයේ හා ධනපති කෘෂිකර්මාන්තයේ පවතින, ඒවායේ වඩාත් සංවර්ධනය වූ ආකෘතිය අතර, කිසිම සම්බන්ධයක් නැති බව කියනු ලැබේ. (3) එක් අතකින් ''බුද්ධිමතුන්'' හා රටේ දේශපාලන-නෛතික ආයතනද, අනිත් අතින් නිශ්චිත සමාජ පංතිවල ද්‍රව්‍යමය උවමනාවන්ද, අතර වන සම්බන්ධය නොතකා හැරීම. මෙම සම්බන්ධය ප්‍රතික්ෂේප කිරීමත්, මෙම සමාජ සාධකයන් ගැන ද්‍රව්‍යවාදී පැහැදිලි කිරීමක් නොමැති කමත්, නිසා, ඔවුහු ''ඉතිහාසය වෙනත් මගක ඇදගෙන යාමට'' සමත් (වී. වී. මහතා), ''මාර්ගයෙන් වෙනතකට යොමු කිරීමේ'' (එන්. මහතා, යුෂකොව් මහතා ආදීන් ගැන) හා ඒ ආදී වන බල වේගයක් නියෝජනය කර තිය, යන විශ්වාසය ඇති වීමට සලස් වනු ලැබේ.

''නරෝද්නික්වාදය'' යනුවෙන් අප අදහස් කරන්නේ එයයි. මෙම අදහස් පද්ධතියේ තනි නියෝජිතයින්ට නොව, සමස්ත අදහස් පද්ධතියටම විරුද්ධ වන විට, සියලුම ''රුසියානු ගෝලයින්'' එම පදය යොදන ලෙසටම, අපද, එය යොදන්නේ එහි පුළුල් අර්ථයෙන් බව, මේ අනුව පාඨකයාට පෙනී යනු ඇත. මේ එක් එක් නියෝජිතයන් අතර වෙනස් කම් ඇති බවත්, සමහර විට වැදගත් වෙනස් කම් ඇති බවත් ඇත්තය. කිසිවෙක් මෙම වෙනස්කම් නොසලකා හරින්නේ නැත. නමුත්, ඉහත සඳහන් කර තිබෙන අදහස් නරොද්නික්වාදයේ ඉතාමත් විවිධාකාර නියෝජිතයන් සියලු දෙනාටම — මෙහිලා, යූසව් මහතාගේම පටන් මිහයිලෝව්ස්කි මහතා දක්වාම කියමු — පොදුය. ඔවුන්ගේ අදහස්වල මෙම පිළිගත නොහැකි අංග ලක්ෂණවලට, යූසව්ලා, සසෝනව්ලා, වී. වී. ආදීහු, තවත් වෙනත් අදහස්, නිදර්ශනයක් වශයෙන්, මිහයිලොව්ස්කි මහතා හෝ ''රුස්කොය බගාස්ත්වො'' සඟරාවට අද ලිපි ලියන වෙනත් අය හෝ



එකඟ නොවන අදහස්, එකතු කරති. පටු අර්ථයේ නරෝද්නික්වාදීන්ද පොදු වශයෙන් ගත් නරෝද්නික්වාදීන්ද අතර වන, මෙම වෙනස්කම් ප්‍රතික්ෂේප කිරීම, ඇත්තෙන්ම වරදක් වේ. නමුත් ඉහත සඳහන් ප්‍රධාන කරුණු සම්බන්ධයෙන්, සියලුම නරෝදනික්වාදීන්ගේ මූලික සමාජ-ආර්ථික අදහස් සම්පාත වන්නේය යන කරුණ අමතක කිරීම ඊට වඩා බරපතල වරදක් වන්නේය. ''රුසියානු ගෝලයින්'' ප්‍රතික්ෂේප කරන්නේ මෙම මූලික අදහස් වන හෙයින්ද, ඔවුන් ප්‍රතික්ෂේප කරන්නේ එයින් නරක අතට කරන ''ඛෙදජනක අප ගමනයන්'' පමණක් නොවන හෙයින්ද, ''නරෝද්නික්වාදය'' යන පදය එහි වඩාත් පුළුල් අර්ථයෙන් යෙදීමේ සම්පූර්ණ අයිතිය ඔවුනට තිබෙන බව පැහැදිලිය. ඔවුනට එසේ කිරීමට අයිතිය තිබෙනවා පමණක් නොව, එය එම ආකාරයෙන් නොයොද ද බැරිය.

ඉහත සැකෙවින් දක්වන ලද නරෝද්නික්වාදයේ මූලික අදහස් සැලකිල්ලට ගන්නා කල අප සටහන් කරගත යුතු ප්‍රථම කාරණය, ''උරුමය'' ඒවාට කිසි ලෙසකින් හෝ සම්බන්ධ නැති බවය. නරෝද්නික්වාදය හා සමග පොදු වූ කිසිවක් නොමැති, ධනපති ක්‍රමය ගැන ප්‍රශ්නය කොහෙත්ම ඉදිරිපත් නොකරන, රුසියාවේ, ගොවි කොමියුනයේ, යනාදියෙහි අමුතු විශේෂ ලක්ෂණය නො අදහන, බුද්ධිමතුන් හා අපගේ නෛතික-දේශපාලන ආයතනයන් ''මාර්ගයෙන් වෙනතකට යොමු කිරීමට'' සමත් සාධකයන් වශයෙන් නොගන්නා, අවිවාද ලෙසම ''උරුමයේ'' නියෝජිතයන් හා ආරක්ෂකයන් වන, විශාල සංඛ්‍යාවක් දෙනා ඇත. ඉහත විස්තරයෙහි අප නම් කළ ''වෙස්ත්නික් යෙව්රෝපි''[100] සඟරාවේ කර්තෘ හා ප්‍රකාශකට වෙන කුමණ චෝදනාවක් ඉදිරිපත් කළත්, ඔහුට උරුමයේ සම්ප්‍රදයයන් බිඳීම ගැන නම් දෝෂාරෝපනයක් නොකෙරෙනු ඇත. අනිත් අතට, ඉහත සඳහන් නරෝද්නික්වාදයේ මූලික ප්‍රතිපත්තිවලට අනුරූප අදහස් ඇති, එහෙත්, ඉඳුරාම හා අවංකවම ''උරුමය ප්‍රතික්ෂේප කරන'' අයද සිටිති. නිදර්ශන ලෙසට මිහයිලෝව්ස්කි මහතා සඳහන් කරන එම වයි. අබ්රාමව් මහතාම, නැතහොත් යූසව් මහතාද, ගැන කිව හැක. ''රුසියානු ගෝලයන්'' සටන් කරන්නේ නරෝද්නික්වාදයට විරුද්ධවය. උරුමය (නීතිමය වචනයක් යොදතොත්) ''පවරා දෙන'' විට, එනම් හැට ගණන්වල, එය පැවතුනේද නැත. නමුත් නරෝද්නික්වාදයේ බීජාංකුර නම් පැවතුනේය. හැට ගණන්වල පමණක් නොව හතළිස් ගණන්වල පවා, ඊටත් පෙර* පවා ඒවා තිබුණි. නමුත්, මෙහිදී අප සැලකිලිමත් වන්-

* තුගාන්-බරනොව්ස්කිගේ ''රුසියානු පැක්ටරිය'' (සාන්ත පීටර්ස්-බර්ග්, 1898) බලන්න.

නේ නරෝද්නික්වාදයේ ඉතිහාසය ගැන නොවේ. අපට මෙහිදී වැදගත් වන්නේ, ඉහත සැකෙවින් විස්තර කර ඇති අර්ථයෙන් වූ, හැට ගණන්වල "උරුමය" තුළ, නරෝද්නික්වාදයේ ඇති කිසිවක් නොමැති බව, නැතහොත්, ඒ දෙකෙහි අදහස්වල හරයෙහි පොදු කිසිවක් නොමැති බවත්, ඒවා ඉදිරිපත් කරන්නේ, එකිනෙකට වෙනස් ප්‍රශ්න බවත්, තහවුරු කිරීමයයි, අපි නැවතත් කියන්නෙමු. නරෝද්නික්වරු නොවන, උරුමයේ ආරක්ෂකයන් ඇත. එසේම "උරුමය" අත්හැර දැමූ නරෝද්නික්වරුන්ද ඇත. නමුත් "උරුමය" ආරක්ෂා කරන, නැතහොත්, එය ආරක්ෂා කරන බව පෙන්වන, නරෝද්නික්වරුද සිටිති. උරුමයත්, නරෝද්නික්වාදයත්, අතර සම්බන්ධයක් ගැන අප කථා කරන්නේ එනිසාය. මෙම සම්බන්ධයේ ප්‍රතිඵලය කුමක් වී දැයි බලමු.

ප්‍රථමයෙන්ම, උරුමය හා සමග සසඳන කල, උරුමයේ ආරක්ෂකයන් ඔවුන්ගේ කාලයේදී (ඒ වන විට) ඉදිරිපත් කිරීමට අර්ධ වශයෙන් අසමත්ව සිටි, නැතහොත්, අර්ධ වශයෙන් ඔවුන්ගේ අවබෝධයේ ආවේණික පටු ස්වභාවය නිසා ඉදිරිපත් නොකළ හා නොකරන ප්‍රශ්න සමාජයේ අවධානය සඳහා ඉදිරිපත් කිරීමෙන්, නරෝද්නික්වාදය විශාල ඉදිරි පියවරක් තැබීය. මෙම ප්‍රශ්න ඉදිරියට දැමීමෙන්, නරෝද්නික්වරු ශ්‍රේෂ්ඨ ඓතිහාසික සේවාවක් ඉටු කළහ. එසේම එම ප්‍රශ්නවලට විසඳීමක්ද (හරි හෝ වැරදි ලෙස) ඉදිරිපත් කිරීමෙන්, නරෝද්නික්වාදය, එමගින්, රුසියානු සමාජ චින්තනයේ ප්‍රගතිශීලී උපනති අතර ප්‍රථම තම තැනක් දිනා ගත්තේය. එය ස්වාභාවිකය, වටහා ගත හැකිය.

නමුත්, නරෝද්නික්වාදය මෙම ප්‍රශ්නවලට ඉදිරිපත් කළ විසඳුම්, වැඩ කට නැති, දීර්ඝ කලකට පෙර බටහිර යුරෝපය විසින් ඉවත දමන ලද නොදියුණු න්‍යාය මතද, ධනපති ක්‍රමය පිළිබඳ වූ මනස්කාරවාදී හා සුළු ධනේශ්වර විවේචනයන් මතද, රුසියානු ඉතිහාසයේ සහ යථාර්ථයේ ප්‍රධාන කරුණු නොසලකා හැරීම මතද, පදනම් වූ ඒවා විය. රුසියාවේ ධනපති ක්‍රමයේ සංවර්ධනය හා එයට ආවේණික ප්‍රතිවිරෝධතාවයන් දුර්වලව පවතින තාක් කල්, ධනපති ක්‍රමය පිළිබඳ ආදි කාලීන විවේචනයන්ට ස්වකීය තැන රැක ගත හැකි විය. නමුත් රුසියානු ධනපති ක්‍රමයේ සමකාලීන සංවර්ධනයේත්, රුසියානු ආර්ථික ඉතිහාසය හා යථාර්ථය ගැන අපගේ දැනුමේ සමකාලීන තත්වයේත්, සමාජ විද්‍යා න්‍යායෙහි සමකාලීන අවශ්‍යතාවයන්හිත්, මට්ටමට නැගීමට, නරෝද්නික්වාදයට කොහෙත්ම බැරිය. ධනපති ක්‍රමයේ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමේ ප්‍රථමයා වශයෙන්, වරක් ප්‍රගතිශීලී වූ නරෝද්නික්වාදය, දැන් සමාජ චින්තනය නො මඟ යවන හා එක තැන පල් වීමට හා ආසියාතික නොදියුණු කමට උපකාරී වන, ප්‍රතිගාමී සහ හානිකර න්‍යායකි. අද ධනපති ක්‍රමය පිළිබඳ



නරෝද්නික්වාදී මෙම විවේචනයේ ප්‍රතිගාමී ගති ලක්ෂණය නිසා, භක්තිමත් ලෙස උරුමය රැකීමට සීමා වන අදහසටත් වඩා දුර්වල අංග ලක්ෂණ එම නරෝද්නික්වාදයට ආරෝපනය වී තිබේ*. මෙය මෙසේ වන බව ඔප්පු කිරීමට, නරෝද්නික් දෘෂ්ටියේ ඉහත සඳහන් මූලික අංග ලක්ෂණ තුන එකින් එක විග්‍රහ කිරීමේ මාර්ගයෙන් උත්සාහ දරන්නෙමු.

ප්‍රථම අංග ලක්ෂණය — රුසියාවේ ධනපති ක්‍රමය පිරිහීමක් සහ ආපසු යාමක් නියෝජනය කරන්නේය යන විශ්වාසය වේ. රුසියා වේ ධනපති ක්‍රමය හා සම්බන්ධ ප්‍රශ්නය මතු කළ අනතුරුව, ඒ වහාම, අපගේ සංවර්ධනය ධනපති ක්‍රමයේ එකක් බව පැහැදිලි විය. එවිට, මෙම සංවර්ධනය ආපසු යාමකැයිද, වරදකැයිද, ජාතික ජීවිතයේ මුළු මහත් ඉතිහාසයෙන්ම නියම කර ඇතැයි කියන ලද, යුග-පැරණි අඩිතාලම්වලින් අලංකෘත වී ඇතැයි කියන ලද, ඒ ආදී වශයෙන් විස්තර කරන ලද, මාර්ගයෙන් ඉවත යාමකැයි ද නරෝද්නික්වරු ප්‍රකාශ කළහ. සමාජ සංවර්ධනයේ මෙම මාවත කෙරෙහි මාර්ග දේශකයෝ තැබූ බලවත් විශ්වාසය වෙනුවට ඒ ගැන අවිශ්වාසය ආදේශ විය. ඓතිහාසික සර්වශුභවාදය හා ධෛර්ය සම්පන්න භාවය වෙනුවට, කරුණු සිදුවෙමින් යන ආකාරයට තව තවත් දුර ගිය විට, නව සංවර්ධනයෙන් මතුවන ප්‍රශ්න විසඳීම තව තවත් දුෂ්කර වනු ඇතැයි යන සර්ව අශුභවාදය හා අධෛර්යය ආදේශ විය. එබැවින් මෙම සංවර්ධනය "ප්‍රමාද කිරීම", හා "නැවැත්වීම" සඳහා ආයාචනා කරන ලදී. එසේම රුසියාවේ නොදියුණුකම ඇගේ වාසනාවක්ය, යනාදී ලෙසට කියන න්‍යාය ඉදිරිපත් කරන ලදී. නරෝද්නික් දෘෂ්ටියේ මෙම අංග ලක්ෂණ සියල්ලෙහිම "උරුමය" හා සමග පොදු කිසිම දෙයක් නොමැත. ඒවා එක එල්ලේම එම උරුමය ප්‍රතිෂේධ කරයි. රුසියානු ධනපති ක්‍රමයෙන් "මාර්ගයෙන් ඉවත යාමක්", පිරිහීමක්, ආදිය නියෝජනය වෙතැයි යන විශ්වාසය, රුසියාවේ සමස්ත ආර්ථික පරිණාමයම වැරදි ලෙස නිරූපනය කිරීමකට, අපගේ ඇස් ඉදිරිපිට සිදුවෙමින් පවතින "වෙනස් වීම" වැරදි ලෙස නිරූපනය කිරීමකට තුඩු දෙන්නේය. ධනපති ක්‍රමය විසින් යුග-පැරණි අඩිතාලම් බිඳලනු ලැබීම ප්‍රමාද කිරීමට හෝ අත්හිටුවීමට ඇති, ඔවුන්ගේ ආශාවෙන් මුළා වුනු නරෝද්නික්වරු, ඓතිහාසික අවස්ථාවෝචිත භාවය ගැන දක්වන්නේ, පුදුම සහගත නොසැලකිල්ලකි. මෙම ධනපති ක්‍රමයට පූර්වයෙන් තිබුණේ ශ්‍රම කරුවාගේ

* ප්‍රතිගාමී සහ සුළු ධනේශ්වර යන පදවල නිශ්චිත ඓතිහාසමය-දර්ශනික අර්ථයක් තිබියදී, ඒවා විවාදයේදී යොද ගන්නා බැණුම් වශයෙන් සැලකීමෙන් අපගේ ප්‍රතිපාක්ෂිකයන් පුදුම සහගත කෙටි කල්පනා සහිත ස්වභාවයක් පෙන්නුම් කරන බව ඉහත ආර්ථික මනස්කාරවාදය ගැන වූ ලිපියෙන් මා කලින් සඳහන් කර ඇත.

තත්වය බරක් කළ,නිමක් නැති,බන්ධන හා පෞද්ගලික ගැති කම් ආකෘති හා සමග ඒකාබද්ධ වුණු, සූරාකෑම ම මිස, අනෙකක් නොවන බවද, සමාජ නිෂ්පාදනයේ හා ඒ අනුව, සමාජ ජීවිතයේද, සෑම අංශයකම පැවතුනේ, ඒකාකාරීත්වය හා නිශ්චලනය මිස අනෙකක් නොවන බවද, ඔවුහු අමතක කරති. ස්වකීය මනස්කාරවාදී හා සුළු ධනේශ්වර ප්‍රතිෂ්ඨාවෙන්, ධනපති ක්‍රමයට විරුද්ධව පොර වදින නරෝද්නික්වාදීහු, ඓතිහාසික යථාර්ථවාදය සම්පූර්ණයෙන්ම ඉවත ලමින්, ධනපති ක්‍රමයේ යථාර්ථය පූර්ව ධනපති සමාජ ක්‍රමයේ ප්‍රබන්ධය සමග නිතරම සංසන්දනය කරති. හැට ගණන්වල ‘‘උරුමයත්’’, පවත්නා සමාජ සංවර්ධන ක්‍රියා මාර්ගයේ ප්‍රගතිශීලී ස්වභාවය ගැන එම කාල පරිච්ඡේදය තැබූ දැඩි විශ්වාසයත්, සම්පූර්ණයෙන්ම හා තනිකරම අතීතයේ නෂ්ඨාවශේෂයන්ට විරුද්ධව එල්ල කරන ලද එහි නිර්දය සතුරුතාවයත්, මෙම නෂ්ඨාවශේෂයන් සම්පූර්ණයෙන් අතුගා ඉවත් කළ පමණින් සියල්ලම මහත් අලංකාරයෙන් සිදු වෙතැයි යන විශ්වාසයත්, යන මෙම ‘‘උරුමය’’, ඉහත සඳහන් නරෝද්නික්වාදයේ අදහස්වලට දයක වීම තබා, ඒ අසලකටවත් නොඑන අතර, එම අදහස්වලට එක එල්ලේම විරුද්ධ මගක් ගනියි.

නරෝද්නික්වාදයේ දෙවැනි අංග ලක්ෂණය නම්, රුසියාවේ අමුතු විශේෂත්වතාවාදය, ගොවි ජනතාව පරමාදර්ශ කර ගැනීම, ග්‍රාමීය කොමියුනය, යනාදිය කෙරෙහි තබන විශ්වාසයයි. රුසියාවේ අමුතු විශේෂත්වතාවාදයේ දහම අනුව ගිය නරෝද්නික්වාදීහු, යල්පැනගිය බටහිර යුරෝපීය න්‍යායන් වෙත තරයේ එල්බ ගැනීමට යොමු වූහ, බටහිර යුරෝපීය ශිෂ්ඨාචාරයේ ජයග්‍රහණයන් රැසක් ගැන, පුදුම සහගත ලෙස, ලිහිලෙන් තැකීමට නැඹුරු වූහ: ශිෂ්ඨාචාර සමාජයේ සමහර අංග ලක්ෂණ අප වෙත නොමැති නම්, අනිත් අතට, ‘‘අපි’’ ලෝකයට නව ආර්ථික ක්‍රම ආදිය පෙන්වීමට ‘‘ඉරණම්ව සිටිමු’’යි යන සිතුවිල්ලෙන්, නරෝද්නික්වාදීහු තමන්ම සනසා ගත්හ. ධනපති ක්‍රමය හා එය විද්‍යාමාන වන සෑම ආකාරයන්ම ගැන ප්‍රගතිශීලී බටහිර යුරෝපීය චින්තනය කළ විග්‍රහයන්, ශුද්ධ රුසියාවට අදල බව පිළිනොගන්නා ලදී. එපමණක් නොව, යුරෝපීය ධනපති ක්‍රමයට අදලව බැස ගන්නා ලද ඒ නිගමනයන්ම, රුසියාව සම්බන්ධයන්ද පිළිනොගැනීමට හේතු දැක්වීම සඳහා සමාවට කරුණු නිර්මාණය කිරීමට සෑම ප්‍රයත්නයක්ම දරන ලදී. නරෝද්නික්වරු මෙම විග්‍රහයේ කර්තෘ වරුන්ට බොහෝ යටහත් පහත් කම් පෑහ... නමුත් ඒ අතරම, සන්සුන් ලෙස දිගටම මනස්කාරවාදීන් ලෙස පැවතුනහ — ඉහත සඳහන් විග්‍රහයේ කර්තෘ වරුන් ඔවුන්ගේ ජීවිත කාලය මුළුල්ලේම විරුද්ධව සටන් කළ වැනිම මනස්කාරවාදීන් ලෙසට පැවතුනහ: නැවතත්, සියලුම නරෝද්නික්වරුන් පිළිගන්නා, රුසියාවේ අමුතු විශේෂත්වතාවය



පිළිබඳ මෙම දහම, ‘‘උරුමය’’ සමග පොදු වූ කිසිම දෙයක් අසලටවත් නොඑන අතර, එයට එක එල්ලේම විරුද්ධ වෙයි. ඊට ප්‍රතිකූල වශයෙන්, ‘‘හැට ගණන්’’, රුසියාවේ යුරෝපීකරණය ගැන අභිලාෂයක් දැක්විය; ඇය පොදු යුරෝපීය සංස්කෘතිය වැළඳ ගත යුතු යයි විශ්වාස කළේය; අමුතු විශේෂත්වයක් ලෙසට හැර, වෙනත් ඕනෑම ලෙසකට විස්තර කළ හැකි, අපගේ භූමියට මෙම සංස්කෘතියේ ආයතන උපුටා ගැනීම ගැන සැලකිල්ල දැක්වීය. රුසියාවේ අමුතු විශේෂයන් පිළිබඳ උගන්වන ඕනෑම දහමක්, හැට ගණන්වල ජීවගුණයට සහ සම්ප්‍රදයන්ට සම්පූර්ණයෙන්ම පටහැණිය. නරෝද්නික්වාදය විසින් ගම්බද පෙදෙස් පරමාදර්ශ කොට දැක්වීම හා ඉහළින් හුවා දැක්වීම, ඊටත් වඩා, එම සම්ප්‍රදයට පටහැණිය. කුමන හෝ විධියකින්, අපගේ ගම්බද ක්‍රමය තුළ කිසියම් විශේෂත්වයක්, අන් සෑම රටකම පූර්ව ධනපති සම්බන්ධකම් පැවති කාලයේ පැවැති ග්‍රාමීය ක්‍රමයට වඩා සම්පූර්ණයෙන්ම වෙනස් යමක් දැකීමට ඇති ආශාව නිසා මෙසේ ව්‍යාජ පරමාදර්ශකරණයෙහි යෙදීම උරුමයේ ඥණාන්විත හා යථාර්ථවාදී සම්ප්‍රදයට නිරුවත් ප්‍රතිවිරෝධී තත්වයක් ගනියි. ධනපති ක්‍රමය වඩාත් පුළුල් හා ගැඹුරු ලෙස සංවර්ධනය වූ තරමට, සෑම වෙළඳ භාණ්ඩ -ධනපති සමාජයකටම පොදු ප්‍රතිවිරෝධය, ගම්බද පෙදෙස් කෙරෙහි වඩ වඩාත් පැහැදිලි ලෙස විද්‍යාමාන වන්නට විය; එක් අතකින් ගොවියාගේ ‘‘කොමියුන ජීවගුණය’’, ‘‘ආටල ජීවගුණය’’, යනාදිය ගැන නරෝද්නික්වාදීන්ගේ රස ගැල්වූ කළ කථාද,අනිත් අතින්,ගොවි ජනතාව ගම්බද ධනපතියන් හා ගම්බද නිර්ධනයන් ලෙසට ඇත්ත වශයෙන් බෙදී යාමද, අතර ප්‍රතිප්‍රත්‍යය වඩ වඩාත් කැපී පෙනෙන සේ මතුවිය; නවීන සමාජයේ, කුඩා නිෂ්පාදකයා වෙනස් වී වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදකයෙක් බවට පරිවර්තනය වන නිසා, දිගටම ගොවිජන ඇසින් කරුණු දෙස බැලූ නරෝද්නික්වාදීන්, හැඟීම් බර මනස්කාරවාදීන්ගේ තත්වයෙන් වෙනස් වී, සුළු ධනපති පංතියේ දෘෂ්ටිවාදීන් බවට සීඝ්‍රයෙන් පරිවර්තනය විය. නරෝද්නික්වරු ගම්බද පෙදෙස් ගැන ව්‍යාජ පරමාදර්ශකරණයෙහිත්, ‘‘කොමියුන ජීවගුණය’’ ගැන සිහින මැවීමෙහිත්, යෙදීම නිසා, ඔවුහු, පවත්නා ආර්ථික සංවර්ධන මාවතෙන් පැන නගින සැබෑ ගොවිජන අවශ්‍යතාවයන් සම්බන්ධයෙන්, ඉතාමත් නිස්සාර ආකල්පයක් අනුගමනය කිරීමට නැඹුරු වූහ. අයෙක් තමන්ගේ සිත සැනසෙන තෙක් අඩිතාලම්වල ශක්තිය ගැන කථා කළත්, අතීතයේ පුරාවස්තු, නැතහොත්, මේ දක්වාම අපගේ ගොවීන් බැඳ තබන ප්‍රතිසංස්කරණ-පූර්ව ක්‍රමයේ නෂ්ඨාවශේෂයන්, ඉවත් කළ විට, මාර්ගය විවෘත වන්නේ ධනපති සංවර්ධනයටම මිස වෙනත් කිසිවකට නොවන බව, නරෝද්නික්වරු ව්‍යවහාරයෙන් මනාව දැන ගත්හ. ධනපති ප්‍රගතියට වඩා, එක තැන පල්වීම යහපති. ගම්බද පෙදෙස් සම්බන්ධයෙන්

සෑම නරෝද්නික්වරයෙක්ම ප්‍රධාන වශයෙන් දරන ආකල්පය එයයි. එහෙත්, එය වී. වී. මහතා තරම් නිවට ආකාරයෙන්, අවංකව හා රළු ලෙස කීමට ඉදිරිපත් වන්නේ, සෑම නරෝද්නික්වරයෙක්ම නොවේ. ''ස්වකීය ඉඩම් කට්ටිවලට හා ප්‍රජාවන්ට බැඳී, තමන්ගේ ශ්‍රමය වඩාත් ඵලදායක හා තමන්ට වඩාත් වාසිදායක වන තැනෙක යෙදීමට නොහැකිව සිටින ගොවි ජනයා, ඔවුන් ප්‍රවේණිදස ක්‍රමයෙන් මතුවී එන කල පත්ව සිටියේ කුඩු ගැසුනු, රංචු ආකාරයේ වන නිෂ්ඵල ජීවන රටාව තුළ කැටි ගැසුණු ස්වභාවයකට විය.'' ''උරුමයේ'' එක් නියෝජිතයෙන් ස්වකීය ස්වභාව නිරූපී ''මාර්ග දේශක'' ස්ථාවරයෙන් එය දුටුවේ එසේය[101]. ''ගම්බද පෙදෙස්වල ධනපති ක්‍රමය ඇති වීමට මහ හෙළි කරනවාට වඩා, ගොවි ජනයා ඔවුන්ගේ ඒකාකාර පීතෘ මූලික ස්වභාවයේ ජීවන රටාව තුළ හිරවී සිටීම යහපති''. සෑම නරෝද්නික්වරයෙක්ම එය දකින්නේ එලෙසටය. ගොවි ජන කොමියුනයේ සමාජ-ප්‍රජා ස්වරූපී තනි වීම හා ඊට සම්බන්ධ, සාමූහික වගකීමත්, ''එහි ඉඩම් විකුණුම හා කට්ටි ඉඩම් ප්‍රතික්ෂේප කිරීම තහනම්ව තිබීමත්, සමකාලීන ආර්ථික යථාර්ථයන්ට, එනම්, සමකාලීන ධනපති සම්බන්ධකම්වලට හා ඒවායේ සංවර්ධනයට ඉතාමත් තියුණු ලෙස ප්‍රතිවිරෝධී වන බව නැතැයි කීමට සමහර විට කිසිම නරෝද්නික්වාදියෙක් ඇත්තෙන්ම ඉදිරිපත් නොවනු ඇත. මෙම ප්‍රතිවිරෝධය ප්‍රතික්ෂේප කිරීමට පුළුවන් කමක් නැත. නමුත් මෙහිදී මතු වන වැදගත් කාරණය නම්, ප්‍රශ්නය මෙසේ ඉදිරිපත් කිරීම, නැතහොත්, ගොවි ජනතාවගේ නෛතික තත්වය, ආර්ථික යථාර්ථයන් සමග, වර්තමාන ආර්ථික සංවර්ධනයේ ක්‍රියා මාර්ගය සමග මෙසේ විසංසන්දනය කිරීම ගැන නරෝද්නික්වරු මරණීය බියක් දක්වීමය. නරෝද්නික්වරයා, නොපවතින ධනපති නොවන සංවර්ධනයක් ගැන විශ්වාස කිරීමේ මුරණ්ඩු අධිෂ්ඨානයක් දක්වයි. එය ඔහුගේ මනෝරාජ්‍යයෙහි පවතින මනස්කරවාදී කල්පනා මාත්‍රයක් පමණකි. ඔහු එසේ විශ්වාස කරන නිසා, හුදෙක් එනිසාම, ධනපති ක්‍රියාමාර්ගයක් ඔස්සේ ගමන් කරන වර්තමාන සංවර්ධනය ප්‍රමාද කිරීමට ඔහු සූදනම් ය. ගොවිජන කොමියුනයේ සමාජ-ප්‍රජා ස්වරූපී තනිවීම, සාමූහික වගකීම සහ තම කට්ටි ඉඩම් විකිණීමට හා අත්හැර දැමීමට ගොවියාගේ අයිතිය යන වැනි ප්‍රශ්න විෂයෙහි, නරෝද්නික්වාදියා දක්වන්නේ ඉතාමත් ප්‍රවේසම් සහිත සහ ''අඩිතාලම්'' වල (ඒකාකාරිත්වයේ සහ එකසේ පැවතීමේ අඩිතාලම්වල) ඉරණම ගැන දක්වන බියෙන් පිරි ආකල්පයකි. එපමණක්ද නොවේ: ඊටත් එහා යන නරෝද්නික්වාදියා, ගොවීන්ගේ ඉඩම් විකිණීම ඔවුනට තහනම් කරන පොලිස් නීතිය සාදරයෙන් පිළිගැනීම දක්වා පහත් තත්වයකට වැටෙන්නේය.



එවැනි නරෝද්නික්වාදියෙකුට එංගල්ගාර්ද්ත්ගේ මෙම වචනවලින් පිළිවදන් දිය හැකිය: ''ගොවියා මෝඩය. ඔහුට ඔහුගේ කටයුතු කර ගත නොහැකිය. කවුරු හෝ ඔහු බලා නොගන්නේ නම්, ඔහු කැලෑ සියල්ලම ගිනි තබා දමනු ඇත; කුරුල්ලන් සියල්ලම මරනු ඇත; ගංහාවල මාළු වඳ කරනු ඇත; ඉඩම්ද විනාශ කර ඔහුද මැරී යනු ඇත.'' මෙහිදී නරෝද්නික්වාදියා සම්පූර්ණයෙන්ම ''උරුමය අත්හරියි,'' ප්‍රතිගාමියෙක් වෙයි. තවද, ආර්ථික සංවර්ධනය හා සමග ගොවිජන කොමියුනයේ සමාජ-ප්‍රජා ස්වරූපයේ තනි වීම මෙසේ විනාශ කර දැමීම වැඩි වැඩියෙන් ගම්බද නිර්ධන පංතියේ අනිවාර්ය අවශ්‍යතාවයක් වේ. ඒ අතර ගොවි ධනපතියනට එයින් ඇති වන අපහසුකම් කිසිසේත් විශාල නොවේ. ''ව්‍යවසායශීලී ගොවියාට'' පහසුවෙන්ම අතිරේක ඉඩම් බදු ගත හැකිය; එමෙන්ම ව්‍යාපාර කටයුතු සඳහා ඔහු කැමති තැනකට, ඔහු කැමති විටෙක, යා හැකිය. නමුත් ප්‍රධාන වශයෙන් ස්වකීය ශ්‍රමය විකිණීමෙන් ජීවත් වන ගොවියාට එසේ නොවේ. ඔහු ඔහුගේ ඉඩම් කට්ටියට හා කොමියුනයට බැඳී සිටීම ඔහුගේ ආර්ථික ක්‍රියාකාරිත්වය දරුණු ලෙස සීමා කරන්නක් වේ. එනිසා වඩා හොඳ සේවා යෝජකයෙක් සොයා ගැනීමට ඔහුට ඉඩක් නැති වේ. ඔහුගේ ශ්‍රම ශක්තිය සඳහා නිතරම අඩු මිළක් ගෙවන, ඔහු බැම්මට හසු කර ගැනීමට සියලු ආකාරයේම මාර්ග හා මාධ්‍යයන් යොදා ගන්නා, ප්‍රදේශයේ ගැනුම් කරුවන්ට පමණක් එය විකිණීමට ඔහුට සිදුවේ. මනස්කාරවාදී සිහින මැවීමේ උද්වේගයට යටත්ව, ආර්ථික සංවර්ධනයේ මාවත ගැන නොතකා, අඩිතාලම් පවත්වා ගැනීමේ හා ආරක්ෂා කිරීමේ අරමුණ තමන් සඳහා නියම කරගත් නරෝද්නික්වාදියා, ''ඉඩම කෙරෙහි ගොවියාගේ බැඳීම'' රැක ගැනීමට හා තහවුරු කිරීමට ඉත සිතින් පතන ගොවිරාළගේ පසෙකින්, ඔහු සමග එක පෙළට සිටින සේ, තමන් නොදැනම, මෙම පල්ලම පහළට ලිස්සා වැටුනේය. ගොවිජන කොමියුනයේ, මෙම සමාජ-ප්‍රජා ස්වරූපයේ තනි වීම නිසා කම්කරුවන් කුලියට බඳවා ගැනීමේ විශේෂ ක්‍රම ඇති වී තිබෙන බව මතකයට නැඟීම වටනේය. පැක්ටරි සහ ගොවිපළ හිමියෝ, ගම්වලට විශේෂයෙන් ගෙවීම් බොහෝ හිඟ සිටුවා ඇති ගම්වලට, ඒජන්තවරු යවා ඉතාමත් වාසිදායක කොන්දේසි මත ශ්‍රම කරුවන් බඳවා ගනිති. වාසනාවකට මෙන්, නිර්ධන පංතිකයාගේ ''පදිංචි තත්වය'' බිඳ දමන (ඊනියා බාහිර කෘෂිකාර්මික රැකියාවල ප්‍රතිඵලය එබඳුය) කෘෂිකාර්මික ධනපති ක්‍රමයේ සංවර්ධනය, මෙම බැඳ තැබීමේ ක්‍රමය වෙනුවට නිදහස් ලෙස කුලියට බඳවා ගැනීම ක්‍රමානුකූලව ආදේශ කරන්නේය.

වර්තමාන නරෝද්නික්වාදී න්‍යායයන් අනර්ථකාරීය යන අපගේ තර්කය සනාථ කරන, තවත් සහ නො අඩුව සිත් කාවදින සාධකයකි,

නරෝද්නික්වාදීන් අතර පොදුවේ පැතිර පවතින ශ්‍රම සේවය පරමාදර්ශකරණයේ ප්‍රවණතාවය. නරෝද්නික් ගරුත්ව භංගත්වයේ උච්ඡස්ථානයට පා තබමින් එංගල්ගාර්ද්ත්, ගම්බද පෙදෙස්වල ශ්‍රම සේවය සංවර්ධනය කිරීම "යහපත් දෙයක් විය හැකිය!"යි කී ආකාරය ගැන නිදර්ශනයක් අපි දැනටමත් ඉදිරිපත් කර ඇත්තෙමු. යුෂකොව් මහතාගේ කෘෂිකාර්මික උසස් විද්‍යායතන සඳහා වූ සුප්‍රසිද්ධ යෝජනා ක්‍රමය (රුස්කොය බගාස්ත්වො අංක 5) තුළින්ද, අපට දක්නට ලැබෙන්නේ එයයි. එම සඟරාවටම ලිපි සපයන එංගල්ගාර්ද්ත්ගේ සහායකු වූ, වී. වී. මහතා එහි පළකළ, හරබර ආර්ථික ලිපි මගින් එවැනිම පරමාදර්ශකරණයක යෙදෙමින්, ධනපති ක්‍රමය ආරම්භ කිරීමට අපේක්ෂා කළේයයි කියන ඉඩම් හිමියා පරදවා, ගොවියා ජයග්‍රහණයක් අත්පත් කරගත් බවත් කියයි. නමුත් මෙහි තිබුණු එකම පටලැවිල්ල වූයේ ගොවියා ඉඩම් හිමියාගෙන් "බද්දට" ගත් ඉඩම වෙනුවට, ඔහු එම ඉඩම් හිමියාගේ ඉඩම ගොවිතැන් කර දීමට භාර ගැනීමයි. වෙනත් වචනවලින් කියතොත් ප්‍රවේණිදස ක්‍රමය යටතේ තිබුණු ඒ ක්‍රමයම අනුගමනය කිරීමයි. මේ අපගේ කෘෂිකර්මාන්තය හා සම්බන්ධ ප්‍රශ්න කෙරෙහි නරෝද්නික්වාදියා දක්වන ප්‍රතිගාමී ආකල්පය පිළිබඳ නිරාවරණ නිදර්ශන සමහරකි. මෙතරම් පැහැදිලි නොවන ආකාරයකින්, මෙම අදහස සෑම නරෝද්නික්වාදියෙකු විසින්ම ප්‍රකාශ කරනු ලබන බව, ඔබට පෙනෙනු ඇත. නිදහස් ගොවියා වෙනුවට ගොවිපළ සේවකයා ආදේශ කිරීම ධනපති ක්‍රමයෙන් සිදුවන නිසා, අපගේ කෘෂිකර්මාන්තයට ධනපති ක්‍රමය අනර්ථකාරී හා භයානක වන බව සෑම නරෝද්නික්වාදියෙක්ම කියන්නේය. ධනපති ක්‍රමයේ යථාර්ථය, ("ගොවිපළ සේවකයා") "නිදහස්" ගොවියා පිළිබඳ ප්‍රබන්ධය සමග විසංසන්දනය කරනු ලැබේ. මෙම ප්‍රබන්ධයට පදනම වී තිබෙන්නේ පූර්ව ධනපති යුගයේ නිෂ්පාදන මාධ්‍යයන් ගොවියා සතුව තිබීමය. එහෙත්, සත්‍යයනම්, මෙම නිෂ්පාදන මාධ්‍යයන් සඳහා, ඒවායේ වටිනාකම මෙන් දෙගුණයක් ගෙවීමට ගොවියාට සිදුවන බව නිහතමානී ලෙස අමතක කරනු ලැබීමය; මෙම නිෂ්පාදන මාධ්‍යයන් ශ්‍රම සේවය ඉටු කිරීම සඳහා ප්‍රයෝජනයට ගැනෙනු ලැබීමය; "නිදහස්" ගොවියාගේ ජීවන තත්වය ඉතාමත් පහත්ව, ඕනෑම ධනපති රටකදී ඔහු දිළින්දෙකු වශයෙන් වර්ග කෙරෙන තත්වයට පත්ව තිබීමය; මෙම "නිදහස්" ගොවියාගේ භයානක දරිද්‍රතාවය හා බුද්ධිමය අකර්මණ්‍යතාවයට අමතරව, අනිවාර්ය වශයෙන්ම පූර්ව ධනපති ආර්ථික ආකෘති හා සමාගම් වන පෞද්ගලික බැඳීමට ඔහු හසුව සිටීමය.

නරෝද්නික්වාදයේ තුන්වැනි ස්වභාව නිරූපී අංග ලක්ෂණය, එක් අතකින් "බුද්ධිමතුන්" හා රටේ නෛතික-දේශපාලන ආයතනද,



අනික් අතින් නිශ්චිත සමාජ පංතිවල ද්‍රව්‍යමය අවශ්‍යතාවයන්ද, අතර සම්බන්ධය නොතකා හැරීමය. මෙය මුලින් කී අංග ලක්ෂණ සමග අවිච්ඡේද ලෙස බැඳී පවතී. රුසියානු ධනපති ක්‍රමය "වරදෙකැ"යිද, "මාර්ගයෙන් වෙනතකට යොමු කළ හැකිය"යිද කියන ධර්මය ජනිත කළ හැකි වූයේ සමාජ විද්‍යාත්මක ප්‍රශ්න කෙරෙහි දක්වන මෙම යථාර්ථවාදී නොවන ආකල්පය මගින් පමණකි. මෙම නරෝද්නික් අදහසටද "උරුමය" හා හැට ගණන්වල සම්ප්‍රදායයන් සමග සම්බන්ධතාවයක් නැත්තේය. ඊට ප්‍රතිකූල වශයෙන් එය මෙම සම්ප්‍රදායයන්ට එක එල්ලේම ප්‍රතිවිරෝධී වන්නේය. රුසියානු ජීවිතය තුළ පවතින ප්‍රතිසංස්කරණ පූර්ව ආඥා ක්‍රමයේ නෂ්ඨාවශේෂ රැසක් කෙරෙහි නරෝද්නික්වාදීන් දක්වන ආකල්පය, මෙම අදහසට ස්වාභාවික උප ප්‍රමේයයක් වන්නේය. "උරුමයේ" නියෝජිතයන්ට එම ආකල්පයට කොටස් කරුවන් වීමට හැකියාවක් නොතිබුණි. මෙම ආකල්පය නිරූපනය කර දැක්වීමට, වී. ඉවනොව් මහතා ඔහුගේ "කැත බොරුවක්" ("නොවය ස්ලෝව"[102], 1897 සැප්තැම්බර්) යන ලිපියෙහි දක්වූ අනර්ඝ යෙදුමක් උගන්නෙමු. එම කතු වරයා "වෙනත් මගක්" යනුවෙන් බබරීකින් මහතා ලියූ ප්‍රසිද්ධ නව කථාව ගැන සඳහන් කර, ඔහු නරෝද්නික්වරු හා "ගෝලයින්" අතර ආරවුල ගැන වරදවා වටහා ගෙන තිබෙන බව හෙළිදරව් කරයි. බබරීකින් මහතා, නරෝද්නික්වාදියෙක් වන ඔහුගේ වීරයා ලවා, "ආඥා ක්‍රමයේ නොඉවසිය හැකි සර්වාධිකාරය සහිත බැරැක්ක රාජ්‍යයක්" ගැන සිහින මැවීම සම්බන්ධයෙන්, "ගෝලයින්ට" දෝෂාරෝපනය කරවයි. ඒ හා සම්බන්ධයෙන් වී. ඉවනොව් මහතා මෙසේ කියයි:

"තම ප්‍රතිපාක්ෂිකයන්ගේ "සිහිනය" "ආඥා ක්‍රමයේ" නොඉවසිය හැකි සර්වාධිකාරය යයි ඔවුන් (නරෝද්නික්වරු) කිසිසේත් නොකියනු ඇත. ඔවුන් නරෝද්නික්වරු වශයෙන් සිටින තාක් කල්, ඔවුනට එසේ කිව නොහැක, ඔවුන් එසේ නොකියනු ඇත. මේ සම්බන්ධයෙන් ආර්ථික ද්‍රව්‍යවාදීන් සමග ඇති ඔවුන්ගේ ආරාවුලෙහි හරය මෙයයි — නරෝද්නික්වාදීන්ගේ අදහසේ හැටියට, පැරණි ආඥා ක්‍රමයෙන් ඉතිරිව තිබෙන නෂ්ඨාවශේෂයන් තවදුර සංවර්ධනයට පදනමක් වශයෙන් ප්‍රයෝජනවත් විය හැකිය යන්නයි. පැරණි ආඥා ක්‍රමයේ නොඉවසිය හැකි ස්වභාවය, එක් අතකින් "ගොවි ආත්මයම (සම්පූර්ණයෙන්ම හා එ හැම පිටින්ම)" ආඥා ක්‍රමය දෙසට "පරිණාම වෙමින් පවතින්නේය" යන ඔවුන්ගේ විශ්වාසයද, අනික් අතින්, "බුද්ධිමතුන්ගේ", "සමාජයේ", නැතහොත්, "නායක පංතිවල" පවතින හෝ, එසේ නැතහොත්, ඉදිරියේ ඇති වන සදචාරාත්මක අලංකාරය පිළිබඳ ඔවුන්ගේ ඇදහිල්ලද, විසින් ඔවුන්ගේ ඇසින් වසං කරනු ලැබේ. ඔවුන් ආර්ථික ද්‍රව්‍යවාදීන්ට චෝදනා කරන්නේ

‘‘ආඥ ක්‍රමයෙන්’’ මෝහනය වී සිටීම ගැන නොව, ආඥ ක්‍රමයෙන් නිදහස් වීම පදනම් කර ගත්, බටහිර යුරෝපීය ක්‍රමයෙන් මෝහනය වී සිටීම ගැනය. ඒ අතර, ආර්ථික ද්‍රව්‍යවාදීහු ඇත්ත වශයෙන්ම අවධාරණය කරමින් කියන්නේ, විවිධ ජනතා කොටස්වල යථා තත්වයෙහිත්, මානසික හා සදචාරමය ප්‍රභේදයෙහිත්, අපරිමාණ වෙනස් කම් ඇති කරන මුදල් ආර්ථිකයට සංක්‍රමණය වී තිබෙන රටක, ස්වාභාවික ආර්ථික ආකෘතියෙන් පැන නැගුණු ආඥ ක්‍රමයේ නෂ්ඨාවශේෂ, දිනෙන් දිනම, ඉවසිය නොහැකි බවට පත්වන බවයි. එනිසා, රටේ ආර්ථික ජීවනයේ නව හා යහ සාධක ‘‘ආඥ ක්‍රමයක්’’ උදවීම සඳහා, අවශ්‍ය කොන්දේසි නිර්මානය විය හැක්කේ, ස්වාභාවික ආර්ථිකය හා ප්‍රවේණිදස ක්‍රමය අනුව සකස් වුනු ආඥ ක්‍රමයක නෂ්ඨාවශේෂයන් කෙරෙන් නොව, බටහිර යුරෝපයේ දියුණු රටවල හා ඇමෙරිකාවේ පවතින වැනි, පුළුල් හා අංග සම්පූර්ණ ලෙස පැරණි ආඥ ක්‍රමයෙන් නිදහස් වූ වාතාවරණයක් යටතේ පමණක් ය යන්න, ඔවුහු තරයේ විශ්වාස කරති. නරෝද්නික්වරුන් හා ඔවුන්ගේ ප්‍රතිපාක්ෂිකයන් අතර වන ‘‘ආඥ ක්‍රමය’’ හා සම්බන්ධ ප්‍රශ්න ගැන ආරාවුලෙහි තත්වය එසේය’’ (l.c.* පිටු 11-12). ‘‘පැරණි ආඥ ක්‍රමයේ නෂ්ඨාවශේෂයන් කෙරෙහි නරෝද්නික්වාදීන් දක්වන මෙම ආකල්පය, සමහර විට ‘‘උරුමය’’ කෙරෙන් වන ඔවුන්ගේ බරපතලම ඈත් වීම විය හැක. අප දැක ඇති පරිදි මෙම උරුමයේ නියෝජිතයෝ, ඔවුන් පැරණි ආඥ ක්‍රමයේ සෑම නෂ්ඨාවශේෂයකටම දැක්වූ, ඔවුන්ගේ මකාලිය නොහැකි හා දරුණු විරුද්ධත්වය අතින් විශේෂත්වයක් දැරූහ. ඒ අනුව බලන කල, මේ විෂයෙහිදී නරෝද්නික්වරුන්ට වඩා ‘‘ගෝලයින්’’ හැට ගණන්වල ‘‘සම්ප්‍රදයයන්ට’’ හා ‘‘උරුමයට’’ අනුපමේය ලෙසින් ආසන්නයහ.

නරෝද්නික්වරුන්ගේ ඉහත වැදගත්, වරදට අමතරව, ඔවුන් සමාජ විද්‍යාත්මක යථාර්ථවාදයෙන්ද තොරව සිටීම නිසා, ඔවුහු සමාජ කටයුතු හා ප්‍රශ්න සම්බන්ධයෙන් එක්තරා නිශ්චිත ආකාරයක චින්තනයක් හා තර්කනයක්, වෙත තල්ලු වෙති. එය, සමහර විට පටු බුද්ධිමත් ආත්මමාන්නය හෝ, එසේ නැතහොත් නිලධාරිවාදී මානසිකත්වය ලෙසට විස්තර’’ කළ හැකි වේ. අප රට සඳහා ‘‘අප’’ තෝරා ගත යුතු මග කුමක් ද, ‘‘අප’’ මේ, මේ මාවතෙහි රට මෙහෙයවුවහොත් ඇති විය හැකි අවාසනාවන්ත තත්වයන් මොනවා ද, පැරණි යුරෝපය ගත් මගෙහි අන්තරායයන් මඟ හැරිය හොත්, යුරෝපයෙන් හා පැරණි ග්‍රාමීය කොමියුන ක්‍රමයෙන් යන දෙකෙන්ම ‘‘හොඳ දේ’’ රැගතහොත් ‘‘අපට’’ අප සඳහා ඇති කරගත හැකි නියත බලාපොරොත්තු මොනවා ද යනාදී කරුණු

* — loco citato — ඉහත උපුටාගත් කොටසෙහි. - සංස්කාරක



ගැන සිත සිතා නරෝද්නික්වාදියා නිකර තාන්තුවාවෙන් කල් ගෙවන්නේය. එනිසා, ස්වකීයම අවශ්‍යතාවයන් අනුව ඉතිහාසය හැඩ ගස්වමින් සිටින විවිධ සමාජ පංතිවල ස්වාධීන උපනති දෙස නරෝද්නික්වාදියා බලන්නේ සැකයෙන් හා පිළිකුලෙන් පිරුණු ස්වභාවයෙනි. නරෝද්නික්වාදියා (තමන් අවට පවතින තත්වයන් අමතක කර දමමින්) ‘‘කෘෂිකාර්මික ශ්‍රමය සංවිධානය කිරීමේ පටන්, අපගේ ‘‘සමාජය’’ පිහිට කොට ගෙන ‘‘නිෂ්පාදනය කොමියුන් ක්‍රමයට සංවිධානය කිරීම’’ දක්වා වූ නොයෙක් වර්ගයේ සමාජ යෝජනා ක්‍රම ඉතාමත් සැහැල්ලු ලෙස ඉදිරිපත් කරන්නේ එහෙයිනි. Mit der Gründlichkeit der geschichtlichen Action wird der Umfang der Masse zunenmen, deren Action sie isi”* නරෝද්නික්වාදීන් වටහා නොගන්නා හා ඔවුනට වටහා ගත නොහැකි ඒ ඓතිහාස-දර්ශනික න්‍යායෙහි ඉතාමත් ගැඹුරු හා ඉතාමත් වැදගත් දහමක්, මෙම වචනවලින්** ප්‍රකාශිත වන්නේය. මිනිසාගේ ඉතිහාස නිර්මානක ක්‍රියාකාරිත්වය වඩාත් පුළුල්ව හා ගැඹුරුව වැඩෙත්ම, විඥත ඉතිහාස නිර්මාණකයා වන ජනකායෙහි විශාලත්වය ද, නිසැකවම වර්ධනය වන්නේය. එසේ වුවද නරෝද්නික්වාදියා නිතරම, පොදු වශයෙන් ජනතාව ගැනත්, විශේෂයෙන්ම වැඩ කරන ජනතාව ගැනත් සැලකුවේ, ඔවුන් මෙම හෝ අර අඩු හෝ වැඩි බුද්ධිමත් පියවරට ලක්ෂ්‍යය වන අරමුණ ලෙසට, නැතහොත්, මෙම හෝ අර මාවත ඔස්සේ මෙහෙයවිය යුතු යමක් ලෙසට ය; ජනගහණයේ විවිධ පංති යනු පවත්නා මාවතේ සිටින ස්වාධීන ඉතිහාස නිර්මාණකයන් ලෙසට සැලකුවේ නැත; පවත්නා මාර්ගයේ කවර නම් කොන්දේසි, මෙම ඉතිහාස නිර්මාණකයින්ගේ ස්වාධීන සහ විඥත ක්‍රියාකාරිත්වය උත්තේජනය කරනු (නැතහොත්, අඩාල කරනු) ඇද්ද යන ප්‍රශ්නය, කිසි කලෙකත් ඇසුවේ නැත.

එනිසා ‘‘උරුමයේ’’ මාර්ග දේශකයන් සමග සංසන්දනය කරන කල, නරෝද්නික්වාදය, රුසියාවේ ධනපති ක්‍රමය පිළිබඳ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමෙන්, විශාල ඉදිරි පියවරක් තැබූ නමුත්, එහි සුළු ධනපති දෘෂ්ටියත්, ධනපති ක්‍රමය පිළිබඳ භාවාත්මක විවේචනත් හේතු කොට ගෙන, එය එම ප්‍රශ්නයට ඉදිරිපත් කළ විසඳුම කොතරම් නම් අසාර්ථක වී ද යත්, සමාජ ජීවිතයේ ප්‍රධාන ප්‍රශ්න ගණනාවකදීම එය ‘‘මාර්ග දේශකයන්ට’’

* Marx. “Die heilige Familie” (මාක්ස්. ‘‘ශුද්ධ පවුල’’, සංස්කාරක) පිටු 120[103]. බෙල්තව්ගේ පොතේ[104] — පිටු 235.

**ඓතිහාසික ක්‍රියාවේ අංග සම්පූර්ණත්වය වැඩිවීම සමග ක්‍රියාත්මක කරන පොදු ජනකායයන් එනිසා වැඩි වනු ඇත.’’— සංස්කාරක

වඩා පස්සට වැටී ඇත. අන්තිමේදී, උරුමය හා අපගේ මාර්ග දේශකයන්ගේ සම්ප්‍රදය සමග නරෝද්නික්වාදයේ සම්බන්ධය අවහිරයක් බවට පත්විය: පශ්චාත්-ප්‍රතිසංස්කරණ ආර්ථික සංවර්ධනය විසින්, රුසියාවේ සමාජ චින්තනය හමුවේ මතු කරන ලද නව ප්‍රශ්න ගැන, භාවාත්මක හා ප්‍රතිගාමී අඳෝනා නැංවීමට සීමා වුණු නරෝද්නික්වාදය, එම ප්‍රශ්න විසඳුවේ නැත. ඒ අතර, මාර්ග දේශකයන් ඊට කලින් මතු කර තිබූ ප්‍රශ්නද නරෝද්නික්වාදයේ මනස්කාරවාදයෙන් ව්‍යාකූල කරන ලද හෙයින්, ඒවායේ පූර්ණ විසඳුමද ප්‍රමාද කරන ලදී.

## IV

## ''මාර්ග දේශකයෝ'', නරෝද්නික්වරු සහ ''ගෝලයෝ''

අප කළ සංසන්දනයන් පිළිබඳව දුන් සම්පිණ්ඩනයක් කිරීම සුදුසු ය. මෙම අනු සිරස්තලයෙහි සඳහන් එක් එක් සමාජ චින්තා උපනතිය, අනික් ඒවා කෙරෙහි කුමණ සම්බන්ධයක් ඇතිව පවතින්නේද යන්න ගැන, ලුහුඬු විස්තරයක් කිරීමට උත්සාහ ගනිමු.

මාර්ග දේශකයාට වර්තමාන සමාජ සංවර්ධන මාවතේ ප්‍රතිවිරෝධතාවයන් නො පෙනේ. එනිසා ඔහු එම මාවත කෙරෙහි විශ්වාසය තබයි. නමුත් නරෝද්නික්වරයා වර්තමාන සමාජ සංවර්ධන මාවතේ ප්‍රතිවිරෝධතාවයන් ගැන දැනටමත් දන්නේය. එනිසා ඔහු එයට බිය වන්නේය. ''ගෝලයනට''වඩාත් හොඳ අනාගතයක පෙර නිමිති පෙනෙන්නේ,මෙම ප්‍රතිවිරෝධතාවයන්ගේ පූර්ණ වර්ධනය තුළ පමණක්ම වන හෙයින්, ඔවුහු වර්තමාන සමාජ සංවර්ධන මාවත කෙරෙහි විශ්වාසය තබති.එනිසා, ප්‍රථම හා අවසාන උපනති, වර්තමාන මාවත ඔස්සේ වන සංවර්ධනයට ආධාර කිරීමට, එය වේගවත් කිරීමට හා පහසු කිරීමටත්, මෙම සංවර්ධනයට හරස් වන හා එය ප්‍රමාද කරන සියලු බාධකයන් ඉවත් කිරීමටත්, ප්‍රයත්න දරති. අනිත් අතට නරෝද්නික්වාදය, මෙම සංවර්ධනය ප්‍රමාද කිරීමට හා නැවැත්වීමට උත්සාහ දරන්නේය. ධනපති ක්‍රමයේ සංවර්ධනයට හරස්වන සමහර බාධක අහෝසි කිරීමට බිය වන්නේය. ප්‍රථම හා අවසාන උපනති ඓතිහාසික සර්වශුභවාදය යනුවෙන් හැඳින් වෙන දෙය තමන්ගේ ලක්ෂණය කොට ගෙන ඇත: ඒවා සිදුවන ලෙසටම සිදුවීම් වඩාත් දුරගාමී හා සීඝ්‍ර වූ තරමට, එය වඩාත් හොඳය. අනිත් අතට නරෝද්නික්වාදය ඊට විලෝම වශයෙන් ඓතිහාසික සර්වඅශුභවාදය වෙතට නැඹුරු වෙයි: සිදුවීම් දුර ගිය තරමට එයින් නරකක්ම සිදුවනු ඇත. ''මාර්ග



දේශකයෝ'' කිසිකලෙකත් පශ්චාත් ප්‍රතිසංස්කරණ සංවර්ධනයේ ස්වභාවය ගැන ප්‍රශ්න මතු නොකළහ.ඔවුහු තනිකරම පූර්ව ප්‍රතිසංස්කරණ ක්‍රමයේ නෂ්ඨාවශේෂයන්ට විරුද්ධව සටන් කිරීමේ,යුරෝපීය වර්ගයේ සංවර්ධනයක් රුසියාවේ ඇති වීමට මඟ හෙළි කිරීමේ,ප්‍රතිෂේධාත්මක කර්තව්‍යයට පමණක් සීමා වූහ. නරෝද්නික්වාදය රුසියාවේ ධනපති ක්‍රමය පිළිබඳ ප්‍රශ්නය මතු කළේය. නමුත් එය එම ප්‍රශ්නයට පිළිතුරු සැපයුවේ ධනපති ක්‍රමය ප්‍රතිගාමීය, එනිසා මාර්ග දේශකයන්ගේ උරුමය භාර ගැනීමට එයට කොහෙත්ම නොහැකිය, යන අරුතෙනි. නරෝද්නික්වරු ''එක ශිෂ්ඨාචාරයක්'' පිළිබඳ ස්ථාවරයේ සිට, රුසියාව යුරෝපීකරණය සඳහා පොදු වශයෙන් ප්‍රයත්න දරූ අයට විරුද්ධව, නිතරම සටන් කළහ. නරෝද්නික්වරු ඔවුන්ට විරුද්ධව සටන් කළේ, තමන්ට ඔවුන්ගේ අදහස්වලට පමණක් සීමා වී සිටිය නොහැකි නිසා (එවැනි සටනක් සාධාරණ වන්නට තිබුණි) පමණක්ම නොව, තමන් මෙම, එනම්, ධනපති ශිෂ්ඨාචාරයේ, ඒ තාක් දක්වා වූ සංවර්ධනයක් ඇති වනු දැකීමට නොකැමති නිසාද වේ. රුසියාවේ ධනපති ක්‍රමය පිළිබඳ ප්‍රශ්නයට ''ගෝලයින්'' පිළිතුරු දෙන්නේ, එය ප්‍රගතිශීලී යයිද, එනිසා ඔවුන් මාර්ග දේශකයන්ගේ උරුමය සම්පූර්ණයෙන්ම භාර ගැනීමෙහි සමත් වන මෙන්ම භාර ගත යුතු වන්නේ යයිද, දේපල අහිමි නිෂ්පාදකයන්ගේ ස්ථාවරයෙන් ධනපති ක්‍රමයේ ප්‍රතිවිරෝධතා ගැන කරන විග්‍රහයකින්, එය ඌණ පූරණය කළ යුතු යයිද, කියන අර්ථයෙනි. මාර්ග දේශකයෝ කිසිම විශේෂ සැලකිල්ලක් දැක්වීම සඳහා කිසිම තනි පංතියක් තෝරා නොගත්හ. ඔවුහු ජනතාව ගැන පොදු වශයෙන් කථා කළහ. එපමණක් නොව ජාතිය ගැනද පොදු වශයෙන් කථා කළහ. නරෝද්නික්වාදීහු ශ්‍රමයේ අවශ්‍යතාවයන් නියෝජනය කිරීමේ කැමැත්තක් දැක්වූහ. එසේ වුවද, ඔවුහු සමකාලීන ආර්ථික ක්‍රමයේ නිශ්චිත කණ්ඩායම් පෙන්නුම් නොකළහ. ඇත්ත වශයෙන්ම ඔවුන් නිතරම ගත්තේ, ධනපති ක්‍රමය විසින් වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදකයෙකු බවට පරිවර්තනය කරනු ලබන කුඩා නිෂ්පාදකයාගේ ස්ථාවරය ය. ''ගෝලයෝ'' ශ්‍රමයේ අවශ්‍යතාවයන් තමන්ගේ මිණුම් දණ්ඩ ලෙසට ගන්නවා පමණක් නොව, එසේ කිරීමේදී ධනපති ආර්ථිකයේ වන නිශ්චිත ආර්ථික කණ්ඩායම්ද, එනම්, දේපල නොමැති නිෂ්පාදකයින්ද පෙන්වා දෙති. ප්‍රථම හා අවසාන උපනතීන්ගේ අරමුණුවල ස්වභාවය අනුව, එම උපනති ධනපති ක්‍රමය නිර්මාණය කරන හා සංවර්ධනය කරන පංතිවල අවශ්‍යතාවයන්ට ගැලපෙන්නේ ය. නරෝද්නික්වාදය එහි ස්වභාවය අනුව ගැලපෙන්නේ සමකාලීන සමාජයේ පංති අතර අතරමැදි තත්වයක් දරන, කුඩා නිෂ්පාදකයන් වන සුළු ධනේශ්වර පංතියේ අවශ්‍යතාවයන්ට ය. එනිසා, නරෝද්නික්වාදය ''උරුමය'' කෙරෙහි දක්වන ප්‍රතිවිරෝධී ආකල්-

පය අහඹුවක් නොවේ. එය නරෝද්නික් අදහස්වල ස්වභාවයේම අවශ්‍ය ප්‍රතිඵලයකි. මාර්ග දේශකයන්ගේ අදහස්වල එක් මූලික අංග ලක්ෂණයක් නම්, රුසියාව යුරෝපී කරණයට ඇති අභිලාෂය බව අපි දුටුවෙමු. නමුත්, නරෝද්නික්වාදීන්ගේ නරෝද්නික්වාදීත්වය අත් නොහැර ඔවුනට මෙම අභිලාෂයේ පූර්ණ කොටස් කරුවන් විය නොහැක.

ඉහත එක් එක් විශේෂ අවස්ථාවේදී අප නැවත නැවතත් පෙන්වා දුන් පරිදි, නරෝද්නික්වරුන්ට වඩා ගෝලයෝ උරුමයේ සසංගත හා භක්තිමත් ආරක්ෂකයන් වෙතිය යන නිගමනයට අපි අවසානයේ එළඹ සිටින්නෙමු. ගෝලයින් කිසිසේත් උරුමය අත් නොහරිනවා පමණක් නොව, බොහෝ කරුණුවලදී හා ඉතා වැදගත් කරුණුවලදී, යුරෝපීය මාර්ග දේශකයින්ගේ පරමාදර්ශයන් ප්‍රතික්ෂේප කිරීමට නරෝද්නික්වරුන් යොමු කරන මනස්කාරවාදී සුළු ධනපති බිය බිඳ හෙළා දුරු කිරීම, තමන්ගේ ප්‍රධාන යුතුකම ලෙස ඔවුහු සළකති. නමුත් ''ගෝලයින්'' උරුමය ආරක්ෂා කරන්නේ, ලේඛණ ආරක්ෂකයෙක් පැරණි ලියවිල්ලක් රකින ලෙසට නොවන බව, නොකීව ද පැහැදිලිය. උරුමය ආරක්ෂා කිරීම යනුවෙන් අදහස් කෙරෙන්නේ, යමෙක් උරුමයට පමණක් සීමා වී සිටීම නොවේ. ගෝලයෝ යුරෝපීයවාදයේ පොදු පරමාදර්ශයන් ආරක්ෂා කරන විට, එයට අපගේ ධනපති සංවර්ධනයේ අන්තර්භූත ප්‍රතිවිරෝධයන් ගැන කරන විග්‍රහයක් හා මෙම සංවර්ධනය පිළිබඳව ඉහත සඳහන් ස්ථාවරයෙන් කරන තක්සේරුවක්ද, එකතු කරති.

## V

## ''ගෝලයින්'' උරුමය අත්හැරීම ගැන මිහයිලෝව්ස්කි මහතා කියන කථා

අවසානයේ දැන් මිහයිලෝව්ස්කි මහතා වෙත ආපසු යමු. සැලකිල්ලට භාජනය වී ඇති විෂය ගැන ඔහු කර තිබෙන ප්‍රකාශයන් විමසා බලමු. ''මේ මිනිස්සු (ගෝලයෝ) අතීතය සමග ඇති අඛණ්ඩ සම්බන්ධය පිළිගන්නේ නැතිව, උරුමය අවධාරණයෙන්ම අත් හරිති''යි (l.c., 179) මිහයිලෝව්ස්කි මහතා ප්‍රකාශ කරයි. ඔහු එයින් නොනැවතී. ''ඔවුහු'' (විවිධ උපනතිවලට අයත් වන, අබ්රාමව් මහතා, වලීන්ස්කි මහතා සහ රොසනව් මහතා ඇතුළුව, ඒ අය දක්වා වූ අනිකුත් අයද සමග) උරුමයට විරුද්ධව ඉමහත් වේගයෙන් හැපෙති''යි ද කියයි. මිහයිලෝව්ස්කි මහතා සඳහන් කරන්නේ කුමණ උරුමය ගැන ද? ඔහු සඳහන් කරන්නේ හැට ගණන්වල



හා හැත්තෑ ගණන්වල උරුමය ගැනය; ''මොස්කෝව්ස්කිය වියදමස්ති'' පත්‍රය ගම්භීරතා පූර්වකව ප්‍රතික්ෂේප කළ හා ප්‍රතික්ෂේප කරන උරුමය ගැනය (178).

එය වර්තමාන ජනතාවට හිමි වී ඇති ''උරුමය'' ගැන ප්‍රශ්නයක් නම්, අයෙක් උරුම දෙකක් අතර වෙනස වටහා ගත යුතු බව අපි ඉහතදී සඳහන් කර ඇත්තෙමු: එයින් එකක්, පොදු වශයෙන් මාර්ග දේශකයන්ගේ, එනම්, මුළු මහත් ප්‍රතිසංස්කරණ පූර්ව ක්‍රමයටම එක හෙළාම විරුද්ධ වූ, යුරෝපීය පරමාදර්ශයන් හා ජනගහනයේ පුළුල් කොටස්වල අවශ්‍යතාවයන් වෙනුවෙන් පෙනී සිටි, අයගේ උරුමය ය. අනික් උරුමය නරෝද්නික්වාදය ය. හැට ගණන්වල සම්ප්‍රදායයන් ආරක්ෂා කරන මිනිසුන් සිටි බවද සිටින බවද හා නරෝද්නික්වාදය සමග කිසිම සම්බන්ධ කමක් නොමැති මිනිසුන් සිටි බව හා සිටින බව සියලු දෙනාම දනිති. එම නිසා මෙම වෙනස් උපනති ද්වය පටලවා ගැනීම බරපතල වරදක් බව අපි දැනටමත් පෙන්වා දී ඇත්තෙමු. මිහයිලෝව්ස්කි මහතාගේ නිරීක්ෂණයන් සියල්ලම පිහිටුවා තිබෙන්නේ, එකිනෙකට සම්පූර්ණයෙන්ම වෙනස් වූ, මෙම උරුමයන් දෙක පටලවා ගත් අවුලක් මතය. තවද, මෙම වෙනස ගැන මිහයිලෝව්ස්කි මහතා දැන සිටිය යුතු නිසා, ඔහුගේ ප්‍රහාරය අර්ථ විරහිත පමණක් නොව, ඒකාන්ත වශයෙන්ම අපවාදාත්මක ද වේ. ''මොස්කෝව්ස්කිය වියදමස්ති'' පත්‍රය විශේෂයෙන් නරෝද්නික්වාදයට පමණක් විරුද්ධව හැපුනේද? කිසිසේත්ම නැත. එය ඊට වඩා නොවේ නම්, ඒතරම්ම වේගයකින්, පොදු වශයෙන් මාර්ග දේශකයින්ට විරුද්ධව ද, නරෝද්නික්වාදය සම්පූර්ණයෙන්ම තිත්ත කොට පිළිකුල් කරන, ''වෙස්ත්නික් යෙව්රෝපි'' සඟරාවට විරුද්ධවද හැපුනේය. එය නරෝද්නික්වාදී ''රුස්කය බගාස්ත්වො'' සඟරාවට වඩා සතුරු කමින් අඩු නොවී ය. ''මොස්කෝව්ස්කිය වියදමස්ති'' පත්‍රය උරුමය අවධාරණයෙන් යුතුව අත්හැර දමන නරෝද්නික්වාදීන් සමග, කරුණු ගණනාවක් සම්බන්ධයෙන්, නො එකඟ වනු ඇති බව සැබවි. නිදර්ශනයක් වශයෙන් යූසව් ගැන සඳහන් කළ හැක. නමුත්, එම පත්‍රය ඔහුට විරුද්ධව හැපෙන්නේ නැත. කෙසේ හෝ වේවා, උරුමය ආරක්ෂා කිරීමට අපේක්ෂා කරන නරෝද්නික්වරුන්ගෙන් ඔහු වෙනස් වීමට හේතු වන කරුණු නිසා එය ඔහුට ප්‍රශංසා කරනු ඇත. අබ්රාමව් මහතා හෝ වොලීන්ස්කි මහතා නරෝද්නික්වාදයට විරුද්ධව හැපුනේද? කිසිසේත්ම නැත. ඉන් ප්‍රථමයා තමා ම නරෝද්නික්වරයෙකි. ඒ දෙදෙනාම පොදු වශයෙන් මාර්ග දේශකයන්ට විරුද්ධව හැපුනහ. ''රුසියානු ගෝලයෝ'' රුසියානු මාර්ග දේශකයන්ට විරුද්ධව හැපුනෝද? ප්‍රතිසංස්කරණ පූර්ව ජීවන ක්‍රමයට හා එහි නෂ්ඨාවශේෂයන්ට එක හෙළා විරුද්ධ වීමට අපට නියම කරන උරු-

මය ඔවුන් විසින් කිසි කලෙකත් ප්‍රතික්ෂේප කරන ලදද? කිසිසේත් නැත. ඊට හාත්පසින්ම වෙනස් ලෙසට, ඔවුන් කළේ, ධනපති ක්‍රමය ගැන දක්වුණු සුළු ධනපති බියකින් මේ නෂ්ඨාවශේෂ සමහරක් පවත්වා ගැනීමට නරෝද්නික්වරු අභිලාෂයක් දක්වූ නිසා ඔවුන් හෙළා දැකීම ය. ඔවුහු යුරෝපීය පරමාදර්ශයන් පොදු වශයෙන් අපට නියම කරන උරුමයට විරුද්ධව කිසි කලෙකත් හැපුණේ ද? කිසිසේත් නැත. ඊට හාත්පසින්ම වෙනස් ලෙසට, ඔවුන් කළේ, යුරෝපීය පරමාදර්ශයන්ට, රුකුල් දෙනවා වෙනුවට, රුසියාවේ අමුතු විශේෂතාවය ගැන අන්ත බහුබූත ගොතන නරෝද්නික්වරුන් හෙළා දැකීමය. ජනගහනයේ ශ්‍රමකරු පොදු ජනතාවගේ අවශ්‍යතාවයන් ගැන සැලකිල්ල දක්වීමට නියම කරන උරුමයට විරුද්ධව ඔවුහු කිසි කලෙකත් හැපුණෝ ද? කිසිසේත් නැත. ඊට හාත්පසින් වෙනස් ලෙසට ඔවුන් කළේ මෙම අවශ්‍යතාවයන් සඳහා දක්වන සැලකිල්ලෙහිදී නරෝද්නික්වරුන් (ගොවි ධනපතියන් හා ගම්බද නිර්ධනයන් එකට ගුලි කර දක්වන ඔවුන්ගේ ස්ථිර ප්‍රවණතාවය නිසා) දක්වූ අස්ථිර භාවය ගැනද, පවතින දේ ගැන අවධානය යොමු කිරීම වෙනුවට, විය හැකි දේ ගැන සිහින මවමින් සිටීම මගින්, ඔවුන්ගේ එම සැලකිල්ලෙහි අගය අඩු කිරීම ගැන ද, ජනතාවට ස්වකීය අවශ්‍යතාවයන් රැක බලා ගැනීමට පහසු කරන, නැතහොත්, අපහසු කරන (ආර්ථික හෝ වෙනත්) කොන්දේසි අගය කිරීමට, ඔවුන් කිසි කලෙකත්, සමත් නොවූ නිසා, ඔවුන්ගේ මෙම සැලකිල්ල ඉතාමත් වක්‍ර ආකාර කිරීම ගැනද, ඔවුන් හෙළා දැකීමය.

මිහයිලොව්ස්කි මහතා මෙම හෙළා දැකීම් අනුමත නොකරනු ඇත. ඔහු නරෝද්නික්වාදියෙක් වන හෙයින් ඇත්තෙන්ම ඊට එකඟ නොවනු ඇත. නමුත්, යම් පිරිසක් ඇත්ත වශයෙන්ම නරෝද්නික්වාදයට පමණක් වියරු ලෙස පහර දෙන විට, උරුමයේ ජීව ගුණය අනුව හා එය නිෂ්ප්‍රභා නොකරම, පශ්චාත් ප්‍රතිසංස්කරණ ඉතිහාසය ඉදිරිපත් කළ නව ප්‍රශ්න විසඳීමට අසමත් වීම නිසා නරෝද්නික්වාදයට පහර දෙන විට, ඔවුහු "වේගවත් ලෙස" "උරුමයට" පහර දෙතියි සහතික කිරීම — එවැනි සහතිකයක් දීම, සත්‍ය එක එල්ලේම කණ පිට පෙරළීමකි.

ගෝලයෝ නොපැකිළම "නරෝද්නික්වරු" හා "රුස්කොය බගාස්ත්වො" සහරාවට සම්බන්ධ නැති අන් අයද සමග "අප" (එනම් "රුස්කොය බගාස්ත්වො" ලේඛකයන්) පටලවා ගනිතියි මිහයිලොව්ස්කි මහතා ඉතාමත් හාස්‍ය ජනක ලෙස පැමිණිලි කරයි (180). නරෝද්නික්වාදයේ මූලික අදහස් සියල්ලම සුරැකිව තබා ගනිමින්ම, "නරෝද්නික්වරුන්ගෙන්" මෙසේ ඈත් වීමට දරන ප්‍රයත්නය, සිනහව හැර අන් කිසිවක් පහළ කිරීමට සමත් නොවෙයි. "රුසියානු ගෝලයින්" සියලු දෙනාම "නරෝද්නික්වරු" හා "නරෝද්නික්වාදය" යන වචන යොදන්නේ පුළුල් අර්ථයෙන් වන බව සැම දෙනාම දනිති. නරෝද්නික්වරුන් අතර විවිධ ප්‍රභේද බොහෝ ගණනක් තිබෙන බව කිසිවෙකුට අමතක වී හෝ කිසිවෙකු ප්‍රතික්ෂේප කර හෝ නොමැත. නිදර්ශනයක් වශයෙන් පී. ස්ත්‍රුවේ හෝ එන්. බෙල්තව් හෝ ඔවුන්ගේ පොත් ලිවීමේදී එන්.මිහයිලොව්ස්කි මහතා සමග වී. වී. මහතා පටලවා ගත්තේ නැත; ඒ තබා ඔහු සමග යුෂකොව් මහතාවත් පටලවා ගත්තේ නැත. එයින් අදහස් වන්නේ, ඔවුහු ඔවුන් අතර වෙනස්කම් ගැන නොසැලකිලිමත් නොවූ බවයි; නැතහොත්, එක් අයෙකුගේ අදහස් අන් අයෙකුගේ අදහස් ලෙස නොගත් බවයි. එපමණක් නොව, පී. බී. ස්ත්‍රුවේ, යුෂකොව් මහතාගේ අදහස් සහ මිහයිලොව්ස්කි මහතාගේ අදහස් අතර වෙනස්කම්වලට පවා විශේෂ අවධානයද යොමු කළේය. වෙනස් අදහස් පටලවා ගැනීම එක් දෙයකි. ප්‍රශ්න රැසකදීම වෙනස් මත දරුවද, මූලික හා ප්‍රධාන ප්‍රශ්නවලදී, "ගෝලයන්" විරුද්ධ වන ප්‍රශ්නවලදී, ඒකමතික වන ලේඛකයන් පොදු වශයෙන් එක ප්‍රවර්ගයකට ඇතුලත් කිරීම තවත් එකකි. "ගෝලයා" වැදගත් කොට සලකන්නේ, නිදර්ශනයක් ලෙසට, යූසව් මහතෙකු හා අන්‍ය නරෝද්නික්වරු අතර වෙනස පෙන්නුම් කරන අදහස් වටිනා කමෙන් තොර බව ගෙන හැර දක්වීම නොව, යූසව් මහතාගේ මිහයිලොව්ස්කි මහතාගේ හා සාමාන්‍ය වශයෙන් සියලුම නරෝද්නික්වරුන්ගේ පොදු අදහස්, එනම්, ඔවුන් රුසියාවේ ධනපති පරිණාමය ගැන දක්වන ආකල්පයද, ආර්ථික හා සමාජ ප්‍රශ්න සම්බන්ධයෙන් ඔවුන් කුඩා නිෂ්පාදකයාගේ ස්ථාවරයෙන් කරන සාකච්ඡාවන්ද, සමාජ (නැතහොත් ඓතිහාසිය) ද්‍රව්‍යවාදය වටහා ගැනීමට ඔවුන්ගේ ඇති නොකැමැත්තද, බිඳහෙළීමය. මෙම අංග ලක්ෂණ, විශාල ඓතිහාසික කාර්ය කොටසක් ඉටු කළ මුළු සමාජ චින්තන ප්‍රවණතාවයකම පොදු ගුණාංගයක් වී තිබේ. මෙම පුළුල් උපනතිය තුළ ඉතාමත් විවිධ ප්‍රභේදයන් ඇත. දක්ෂිණ හා වාම අංශද, ජාතිකවාදය, යුදෙව් විරෝධය, ආදිය තුළ ගැලුනු අයද මෙම වැරදි නොමැති අයද, "උරුමයේ" නියමයන් බොහොමයක්ම පිළිකුළෙන් තැකුවන්ද, එම නියමයන් ආරක්ෂා කිරීමට හැකි උපරිම ශක්තිය (නරෝද්නික්වරයෙකුට යෙදිය හැකි වූ උපරිම ශක්තිය) යෙදූවන්ද, එය තුළ සිටිති. "රුසියානු ගෝලයින්" එක් අයෙක් හෝ, මෙම ප්‍රභේද අතර වෙනස්කම් ප්‍රතික්ෂේප කර නොමැත. එක ප්‍රභේදයක නරෝද්නික්වරයෙකුගේ අදහස්, තවත් ප්‍රභේදයක නරෝද්නික්වරයෙකුගේ අදහස් ලෙස ගැනීමේ වරදට, ඔවුන්ගෙන් එක් අයෙක්වත් හසු කර ගැනීමට මිහයිලොව්ස්කි මහතාට හැකි වී නොමැත. නමුත්, මෙම විවිධ ප්‍රභේදයන්ට පොදු මූලික අදහස්වලට අප විරුද්ධ වන නිසා, පොදු උපනතිය තුළ දක්නට ලැබෙන

ද්විතීය වෙනස්කම් ගැන අප කථා කළ යුතු යයි අපේක්ෂා කරන්නේ මන්ද? එය ඇත්ත වශයෙන්ම කිසිම අර්ථයක් නැති ඉල්ලීමකි! සියලුම කරුණු ගැන සම්පථයක් අසලකටවත් නොවන් ලේඛකයන්, රුසියානු ධනපති ක්‍රමය, ගොවිජන ''කොමියුනය'', ඊනියා ''සමාජයේ'' සර්ව බලධාරී ශක්තිය ගැන පොදු අදහස් දුරු බව, ගෝලයන් ඉදිරිපත් වීමට බොහෝ ඉහතදීම, අපගේ සාහිත්‍යය බොහෝ වරක් සටහන් කර ඇත — සටහන් කර පමණක් නොව, එය වාසනාවන්ත රුසියානු විශේෂත්වයක් ලෙසට සලකා එයට ප්‍රසංශාවට ද ලක් කළේය. තවද, ''නරෝද්නික්වාදය'' යන වචනය, එහි පුළුල් අර්ථයෙන් අපගේ සාහිත්‍යයෙහි යෙදීම ''ගෝලයින්'' ඉදිරිපත් වීමට බොහෝ කලකට ඉහතදීම සිදුවූවක්ද විය. අවුරුදු ගණනාවක්ම තිස්සේ මිහයිලෝව්ස්කි මහතා ''නරෝද්නික්වාදියෙක්'' වන (පටු අර්ථයෙන්) වී. වී. මහතා සමග සහරාවකට ලිපි සැපයුවේය. එපමණක් නොව ඒ දෙදෙනාගේම දෘෂ්ටියෙහි, ඉහත සඳහන් මූලික අංග ලක්ෂණද දක්නා ලදී. අසූ ගණන්වලදී හා අනූ ගණන්වලදී වී. වී. මහතාගේ සමහර නිගමනයන්ට විරුද්ධත්වය පෑවා වූද, ඔහු වියුක්ත සමාජ විද්‍යා ක්ෂේත්‍රයට වැදී පළ කළ අදහස් නිවැරදි නොවන බව කීවා වූද, මිහයිලෝව්ස්කි මහතා, තමන් අසූ ගණන් හා අනූ ගණන් යන කාල සීමා ද්වයෙහි ම කළ තමන්ගේ විවේචන, වී. වී. මහතාගේ ආර්ථික කෘති වෙත එල්ල නොකරන ලද බවත්, රුසියානු ධනපති ක්‍රමය ගැන ඔහුගේ අදහස්වලට තමා සම්පූර්ණයෙන්ම එකඟ බවත්, කියමින් විශේෂත්වයක්ද කළේය. එනිසා, නරෝද්නික්වාදයේ (පුළුල් අර්ථයෙන්) අදහස් වර්ධනය කිරීමට, ශක්තිමත් කිරීමට හා පතුරුවා හැරීමට ඒතරම් මෙහෙයක් කළ, ''රුස්කොය බගාස්ත්වො'' සහරාවේ බලකණු, හුදෙක් තමන් ''නරෝද්නික්වාදීන්'' (පටු අර්ථයෙන්) නොවන බවත්, තමන් ඉතා විශේෂ ''අචාර ධර්ම-සමාජ ගුරුකුලයක්'' වන බවත් ප්‍රකාශ කිරීමෙන් පමණක්, තමන්ට ''රුසියානු ගෝලයින්ගේ'' විවේචනයන්ගෙන් නිදහස් වීමට හැකි වෙතැයි කල්පනා කරත් නම්, එවැනි කපටි කම් නිසා සිදු වන්නේ, එතරම් නිර්භිත හා ඒ අතරම එතරම් උපක්‍රමශීලී අය සාධාරණ සමච්චලයට ලක් වීම පමණකි.

මිහයිලෝව්ස්කි මහතා ඔහුගේ ලිපියෙහි 182 පිටුවෙහි පහත සඳහන් ආශ්චර්යමත් තර්කයද ''ගෝලයින්ට'' විරුද්ධව ඉදිරිපත් කරයි. කාමෙන්ස්කි මහතා කුඩුකේඩු ලෙස නරෝද්නික්වරුන්ට පහර ගසයි[105]. එය ''ඔහුට කේන්ති ගිය බව පෙන්නුම් කරන්නකි. ඔහුට කේන්ති වීමට අයිතියක් නැත (sic!!*) 'මනෝමූල ගැටවරයින් මෙන්ම ''මනෝමූල පැරණ්නන්'' වන අපි ද ආත්ම-නිෂ්ප්‍රභාකරණයේ වරදට හසු නොවී අපම මෙම දුර්වල කමට වැටීමට ඉඩ දෙමු. නමුත් ''ස්වකීය ලිහිලක් නොදෙන වාස්තවිකත්වය'' (''ගෝලයන්'' ගෙන් කෙනෙකුගේ යෙදුමක්) ගැන සාඩම්බර වන'' ධර්මයක නියෝජිතයන් ''දරන්නේ වෙනත් තත්වයකි.''

මේ මන්ද? සමාජ ප්‍රපංචයන් ගැන අදහස් පදනම් කරගත යුත්තේ යථාර්ථයන් හා සංවර්ධනයේ සැබෑ හේතු සාධක ගැන කරන ලිහිලක් නොදෙන වාස්තවික විග්‍රහයක් මතයයි දැඩි ලෙස කියන අය වෙතොත්, එසේනම්, ඔවුනට කේන්ති වීමේ අයිතියක් නැත?! මෙම අන්ත ප්‍රලාප, හුදෙක් ම පල් හැලි කුමට දොඩන්නේද? ''ප්‍රාග්ධනය'' ගැන ලියා ඇති කීර්තිමත් කෘතිය, සමාජ ප්‍රපංච විමර්ශනයෙහි ලිහිලක් නොදෙන වාස්තවිකත්වය පිළිබඳ විශිෂ්ටතම ආදර්ශයන්ගෙන් එකක් සේ සැලකෙන බව, ඔබ අසා නොමැති ද මිහයිලෝව්ස්කි මහතාණනි? බොහෝ විද්‍යාඥයන් හා අර්ථශාස්ත්‍රඥයන් මෙම කෘතියේ ප්‍රධාන හා මූලික දුර්වල කම ලෙසට දකින්නේද, ඉඳුරාම, මෙම ලිහිලක් නොදෙන වාස්තවිකත්වයමය. එහෙත්, විද්‍යාත්මක කෘතියක් විෂයෙහි, එතරම් ''හැඟීම් භාරිත'' ස්වභාවයක්ද, නොදියුණු අදහස්වල නියෝජිතයින් වෙත හා කතු වරයාගේ පැහැදිලි අවබෝධයට හසු වන්නා වූ පරිදි සමාජ සංවර්ධනයට බාධා කරන සමාජ පංතිවල නියෝජිතයින් වෙත එල්ල කළ වේගවත් හා උද්යෝගීමත් විවාදත්මක ප්‍රහාරයන් රැසක් ද ඔබට දකින්නට ලැබෙනු ඇත්තේ කලාතුරකිනි. ජ්‍රැදෙන්ගේ මතයන් ප්‍රංශ petit bourgeois* අදහස්වල හා මනෝභාවයේ, ස්වාභාවික, වටහා ගත හැකි හා අනිවාරණීය පරිවර්තනයක් යයි ලිහිලක් නොදෙන වාස්තවිකත්වයෙන් පෙන්වා දෙන ලේඛකයෙක්, ඒ අතරම, අතිමහත් උද්වේගයකින් හා ගිනිගත් කෝපයකින් යුතුව, සුළු ධනපති පංතියේ එම දෘෂ්ටිවාදීයාට විරුද්ධව ''සටන් වදියි''. මාක්ස් ආත්ම-නිෂ්ප්‍රභාකරණයට හසු වන්නේ යයි මිහයිලෝව්ස්කි මහතා කල්පනා කරන්නේද? මහජන ජීවිතයට සම්බන්ධ වන සෑම දෙනෙකුගෙන් විවිධ පංති අතර පැන නගින සම්බන්ධතාවයන් ගැන, ලිහිලක් නොදෙන ආකාරයේ වාස්තවික විග්‍රහයක් යම් දහමක් විසින් අපේක්ෂා කෙරේ නම්, ඔවුන් එක් හෝ වෙනත් පංතියකට අනුකූලත්වය නොදැක්විය යුතුය, ඔවුනට එසේ අනුකූලත්වයක් දැක්වීමේ ''අයිතියක් නැත'', යන නිගමනයට එළඹ ගත හැක්කේ කුමණ නම් ප්‍රාතිහාර්යය අනුවද? මේ හා සම්බන්ධයෙන් යුතු කම ගැන කථා කිරීම පවා විහිළුවකි. මක්නිසාද යත්, ජීවමාන කිසිම කෙනෙකුට, එක් හෝ තවත් පංතියක (ඒවායේ

* ඒක එහෙමයි. සංස්කාරක

* සුළු ධනපති පංතිය. — සංස්කාරක

අන්තර් සම්බන්ධයෙන් වටහා ගත් පසු) පැත්ත ගැනීම නොකර බැරි හෙයිනි; එක පංතියක ජයග්‍රහණ ගැන ප්‍රීතියට පත්වීම හා එහි අසාර්ථකත්වයන් ගැන කණස්සළු වීමත්, නොදියුණු අදහස් පතුරුවා හැරීමෙන් එහි සංවර්ධනයට බාධා කරන එම පංතියේ සතුරන් කෙරෙහි කේන්ති වීමත්, යනාදිය නොකර බැරි හෙයිනි. මිහයිලෝව්ස්කිගේ අර්ථ විරහිත ප්‍රහාරයෙන් පෙනෙන්නේ ඔහු නියතිවාදයත්, දෛවවාදයත් අතර ඇති ඉතාමත් මූලික වෙනස තවමත් තේරුම් ගෙන නොමැති බවයි.

''ප්‍රාග්ධනය එන්නේය. ඒ බව ස්ථිරය''යි මිහයිලෝව්ස්කි මහතා ලියයි. ''නමුත්'' (sic!!) ''ප්‍රශ්නය නම්, අප එය පිළිගත යුත්තේ කෙසේද යන්න ය'' (189).

මිහයිලෝව්ස්කි මහතා මහා සොයා ගැනීමක් කරමින් ''රුසියානු ගෝලයින්'' කිසිසේත් කල්පනා කර නොබැලූ ප්‍රශ්නයක් වෙත පෙන්නුම් කරයි! ''රුසියානු ගෝලයින්'' හා නරෝද්නික්වරු වෙනස් මාර්ග ගෙන ඇත් වූයේ මෙම ප්‍රශ්නය මුල් කරගෙන නොවන සේ ය! අයෙකුට රුසියාවේ ධනපති ක්‍රමය සංවර්ධනය වීම ''පිළිගත''හැකි ක්‍රම දෙකකි:අයෙකුට එය ප්‍රගතිශීලී ලෙසට සැලකිය හැක, නැතහොත් ප්‍රතික්‍රමණ ලෙසට සැලකිය හැක; එක්කෝ නිවැරදි මාර්ගයේ ඉදිරි පියවරක් තැබිය හැක, නැතහොත්, නියම මාවතෙන් අප ගමනය කළ හැක; කෙනෙකුට එය, ධනපති ක්‍රමය විසින් විනාශ කරනු ලැබූ කුඩා නිෂ්පාදකයන්ගේ පංතියේ ස්ථාවරයෙන් අගය කළ හැක, නැතහොත්, ධනපති ක්‍රමය විසින් නිර්මාණය කරනු ලබන නිර්ධන නිෂ්පාදකයන්ගේ පංතියේ ස්ථාවරයෙන් එය අගය කළ හැක. මැද මාවතක් නොමැත*. ඒ අනුව බලන කල, ධනපති ක්‍රමය කෙරෙහි ''ගෝලයින්'' දැඩි ලෙස දක්වන ආකල්පයේ නිවැරදිතාවය මිහයිලෝව්ස්කි මහතා විසින් ප්‍රතික්ෂේප කරනු ලැබේ නම්, එයින් අදහස් වන්නේ, ඔහු, තමා කලින් ලියූ ලිපි මගින් කීප වරක්ම බොහෝ පැහැදිලි ලෙස ප්‍රකාශ කළ නරෝද්නික් ආකල්පය පිළිගන්නා බව ය. ඔහු, මෙම විෂය ගැන වූ තමන්ගේ පැරණි අදහස්වලට එකතු කිරීම් හෝ සංශෝධන කිසිවක් ඉදිරිපත් කර නොමැත. එනිසා ඔහු තව දුරටත් නරෝද්නික්වාදියෙකුව සිටී. නමුත් ඒ එකකුදු හරි නොයයි! දෙවියෝ රකිත්වා, ඔහු නරෝද්නික්වරයෙක් නොවේ! ඔහු ''ආචාරධර්ම-සමාජ විද්‍යා ගුරුකුලයක...'' නියෝජිතයෙකි.

''ධනපති ක්‍රමයේ වැඩි දුර සංවර්ධන ගෙන එන්නා වූ (?) ඒ අනාගත (??) වාසි ගැන කිසිවෙක් කථා නොකළ යුතුය''යි මිහයිලෝව්ස්කි මහතා තවදුරටත් කියයි.

මිහයිලෝව්ස්කි මහතා නරෝද්නික්වරයෙක් නොවේ. ඔහු කරන්නේ, නරෝද්නික්වරුන්ගේ වැරදි සහ බොරු තර්ක ක්‍රම ප්‍රතිරාවය කිරීම පමණකි. මෙම ''අනාගතය පිළිබඳ'' කථාව වැරදි බවත්, එය ''අනාගතය'' පිළිබඳ ප්‍රශ්නයක් නොව, වර්තමාන ධනපති සම්බන්ධකම් තුළ දැනටමත් ඇතිවෙමින් පවතින සැබෑ ප්‍රගතිශීලී වෙනස්කම්, රුසියාවේ ධනපති ක්‍රමයේ සංවර්ධනය (ඒ ගෙන එනු ඇති, නොව) ගෙන එන වෙනස්කම් පිළිබඳ ප්‍රශ්නයක් බවත්, කී වරක් නම් නරෝද්නික්වරුනට කියා තිබේද? ප්‍රශ්නය ''අනාගතය'' පිළිබඳ ක්ෂේත්‍රයට ගෙන රෝපනය කිරීමෙන්, මිහයිලෝව්ස්කි මහතා ඇත්ත වශයෙන්ම කරන්නේ, ''ගෝලයින්'' විවාදයට ලක් කළ ඒ ප්‍රකාශයන්ම නිවැරදි ලෙසට පිළිගැනීම ය. යථාර්ථ වශයෙන්, අපගේ නෙත් හමුවේ සිදු වන ධනපති ක්‍රමයේ සංවර්ධනය, පැරණි සමාජ-ආර්ථික සම්බන්ධකම් ඇති කරන ප්‍රගතිශීලී වෙනස්කම් කිසිවක් ගෙන එන්නේ නැතැයි යන්න නිවැරදි යයි හේ සිතයි. නරෝද්නික් අදහස සංයුක්ත වන්නේද එයිනි. ''රුසියානු ගෝලයෝ'' එයට විරුද්ධව, එහි අනෙක් පැත්ත ඔප්පු කරමින් තර්ක ඉදිරිපත් කරති. ''රුසියානු ගෝලයින්'' නිකුත් කළ පොත් එකක් නැර සෑම එකකම, කෘෂිකර්මාන්තයේ ශ්‍රම සේවය වෙනුවට චේතන-ශ්‍රමය ආදේශ වීමත්, ''හස්ත කාර්මික'' කර්මාන්තය වෙනුවට පැක්ටරි කර්මාන්තය ආදේශ වීමත්, හුදෙක් ''අනාගතයේ'' පමණක් නොව, දැන් අපගේ නෙත් හමුවේ (එපමණක් නොව ඉතාමත් සීඝ්‍ර වේගයකින්) සිදුවන සැබෑ ප්‍රපංචයක් වන බවද, මෙම වෙනස සෑම අතින්ම ප්‍රගතිශීලී බව සහ එය විසින් යුග ගණන් නිස්සේ අජංගමව හා එක සේ පැවති ඒකාකාර, එක්සත් නොවූ කුඩා පරිමාණ, අතින් කරන නිෂ්පාදනය බිඳ දමනු ලබන බව ද, එය ශ්‍රම ඵලදායකත්වය වැඩි කරමින් එමගින් වැඩ කරන මිනිසාට වඩාත් උසස් ජීවන තත්වයක් ලබා දීමේ හැකියාව නිර්මාණය කරන බව ද, එය මෙම හැකියාව අවශ්‍යතාවයකට පරිවර්තනය කරන බව, නැතහොත්, ''ඈත පිටිසර'' සැඟවුණු ''පදිංචි නිර්ධනයා'', ශාරීරික වශයෙන් හා සදචාරමය වශයෙන් තැන්පත් ඔහු, ජංගමශීලී නිර්ධනයෙක් වන සේ පරිවර්තනය කිරීමෙන් හා අනන්ත ලෙස සංවර්ධනය වූ බන්ධයන් හා අනේක විධ පුද්ගලික ගැති කම් ආකෘති සහිත ආසියාතික ශ්‍රම ක්‍රමයන් යුරෝපීය ශ්‍රම ක්‍රම බවට පරිවර්තනය කිරීමෙන්, එසේ කරන බව ද, සඵල ලෙස යන්ත්‍ර උපයෝජනය සඳහා

* ශ්‍රමයේ අවශ්‍යතාවයන් අනුව කටයුතු කිරීම අවශ්‍ය යයි නොසලකන, නැතහොත් ''ධනපති ක්‍රමය'' යන පදයෙන් අදහස් කරනු ලබන ඒ සමාන්‍යකරණයම වටහා ගත නොහැකි හා නොකෙරෙන, පිළිගැනීම ගැන අපි කිසිවක් නොකියමු. රුසියානු ජීවිතයේදී එවැනි සමාජ චින්තනවල උපනති කොතරම් වැදගත් වුවත්, නරෝද්නික්වරුන් හා ඔවුන්ගේ ප්‍රතිපාක්ෂිකයින් අතර ආරවුලට ඒවා කිසිසේත් සම්බන්ධ නැත. ඒවා එය තුළට ගෙන ඒමෙන් වැඩක් සිදු නොවේ.

වාෂ්ප, ගල් අඟුරු තාක්ෂණික ශිල්ප ක්‍රම මෙන්ම නොඅඩුව යුරෝපීය කාලයට සිතීම හා හැඟීමත් අවශ්‍ය (අවශ්‍ය, යන්න සටහන් කරගන්න, වී. අයි.) බවද''*, යනාදිය සනාථ කර පෙන්නුම් කර ඇත. සැම ''ගෝල-යෙක්ම'' මේ සියල්ල සහතික කර කියමින් පෙන්වා දෙන බව අපි නැවතත් කියමු. නමුත් මිහයිලෝව්ස්කි මහතා ''සහ සමාගමට'' එය අදාල නොවන බව සිතා ගත හැකිය. මේ සියල්ලම ලියා ඇත්තේ ''රුස්කොය බගාස්ත්-වො'' සඟරාව සමග ''සම්බන්ධයක් නැති'' ''නරෝද්නික්වරුන්ට'' විරුද්ධව ය. ''රුස්කොය බගාස්ත්වෝ'' සඟරාව ''ආචාර ධර්ම-සමාජ විද්‍යා ගුරුකුලයක්'' බව ඔබ දන්නවා ඇත. එහි හරය වන්නේ පැරණි කුණු කසල නව මුහුණු වරකින් ඉදිරිපත් කිරීම ය.

අප ඉහත සඳහන් කළ පරිදි, මෙම ලිපියෙහි අරමුණ වූයේ, ''රුසියානු ගෝලයින්'' ''උරුමය'' දිවුරා අත් හරිති යයිද, රුසියානු සමාජයේ හොඳම කොටසෙහි හොඳම සම්ප්‍රදායයන් කෙරෙන් බිඳෙතියිද යනුවෙන් ලිබරල්-නරෝද්නික් පුවත්පත්වල එ තරම් ප්‍රචලිත ලෙස කරනු ලබන චෝදනාව බිඳ හෙළීම ය. මෙම හංකඩ ගැසුනු වාක්‍ය කොටස් ප්‍රතිරාවය දෙවීමෙන් මිහයිලෝව්ස්කි මහතා ඇත්ත වශයෙන්ම කරන්නේ ''රුස්කොය බගාස්ත්-වො'' සඟරාව හා සම්බන්ධ නැති ''නරෝද්නික්වරයෙක්'' විසින්, එනම්, වී. වී. මහතා විසින්, බොහෝ ඉහතදී, වඩාත් අවධාරණ සහිතව, කියන ලද දෙයම නැවත කීම බව සටහන් කර ගැනීම, වැදගත් නොවන්නේ නොවේ. මෙම ලේඛකයා, පී. බී. ස්ත්‍රුවේගේ පොතට පිළිතුරු වශයෙන්, තුන් වසරකට පෙර, 1894 අවසානයේදී ''නෙදේලියා''[107] පත්‍රයට ලියූ ලිපි ඔබට මතකද, පාඨකයාණනි? ඔබට ඒවා ගැන මතක නොමැති නම්, මගේ අදහසේ හැටියට, ඔබට කිසිම පාඩුවක් සිදු වී නොමැති බව කිව යුත්තෙමි. මෙම ලිපිවල මූලික අදහස වන්නේ, ''රුසියානු ගෝලයින්'', රුසියානු සමාජ චින්තනයේ සියලුම ප්‍රගතිශීලී උපනති තුළින් දිවෙන ප්‍රජාතන්ත්‍රවාදී හුය බිඳින බවයි. ''මොස්කෝව්ස්කිය වියදමස්ති'' පත්‍රය වේගයෙන් හැපෙමින් දෙස් දක්නා, එම ''උරුමය'' අත්හැරීම ගැන, මිහයිලෝව්ස්කි මහතා ගෝලයන්ට චෝදනා කරන විට, වෙනත් වචන-වලින් වුවද, ඔවුන් කියන්නේ හරියටම එය ම නොවේද? වෙනස් නොකළ හැකි ලෙසට ''ගෝලයින්'' නරෝද්නික්වාදයෙන් බිඳීමෙන්, රුසියානු සමාජයේ හොඳම කොටස්වල, හොඳම සම්ප්‍රදායයන් කෙරෙන් බිඳීමක් සලකුණු වන්නේ යයි, මෙම චෝදනාව නිර්මාණය කරගත් අය කියන විට, ඔවුන් කරන්නේ, තමන්ගේම වැරදිවලට අනුන්හට දෙස් නැඟීම බව අපි දැක ඇත්තෙමු. සත්‍ය එහි අනික් පැත්ත නොවේද මහත්වරුනි? එවැනි බිඳීමකින් සලකුණු වන්නේ, මෙම හොඳම සම්ප්‍රදායයන්, නරෝද්-නික්වාදයෙන් ඉවත් කෙරෙන බව නොවේද?

* මොස්කව්-ව්ලදීමීර් කපු කර්මාන්තය ගැන "Schmollers Jahrbuch[106], 1896 හි ෂුල්ත්සේ-ගෙවෙර්නිත්ස්ගේ ලිපියක වචන.

පිටුවහල්ව සිටියදී 1897 අගදී ලියන ලදී

ප්‍රථමයෙන්, ව්ලදීමීර් ඉලින්. ''ආර්ථික අධ්‍යයන හා රචනා'', එස්. පී. බී. ලිපි සංග්‍රහයෙහි 1898 දී පළ කරන ලදී

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 2, පිටු 505—550

# කළ යුත්තේ කුමක්ද?

අප ව්‍යාපාරයේ දැවෙන ප්‍රශ්න[108]

> "...පක්ෂ අරගලවලින් පක්ෂයට ශක්තිය සහ ජීව බලය ලැබේ. පක්ෂයක දුර්වලකම දක්වන බලවත්ම සාක්ෂිය, එහි ලිහිල් විසුරුණු ස්වභාවය සහ පැහැදිලි සීමා සටහන් දුර්වර්ණ වීමයි. පක්ෂය ශුද්ධ කරගැනීමෙන් එය වඩාත් ශක්තිමත් වේ..."
>
> (ලසාල් මාක්ස් වෙත යැවූ 1852 ජූනි 24 දින ලිපියෙන්)

## පෙරවදන

කර්තෘගේ මුල් අරමුණ වූයේ (1901 "ඉස්ක්‍රා"[109] අංක 4 හි පළ කරන ලද) "පටන් ගත යුත්තේ කොතැනින්ද?"[110] යන ලිපියෙන් ප්‍රකාශිත අදහස් සවිස්තර ලෙස ගෙන හැර දැක්වීම සඳහා මෙම කෘතිය කිරීම ය. එම ලිපියෙන් (සහ යළිත් බොහෝ පෞද්ගලික විමසීම් හා ලිපිවලට පිළිතුරු වශයෙන්) දෙන ලද පොරොන්දුව ඉටු කිරීමෙහිලා සිදු වූ ප්‍රමාදය ගැන, පාඨකයා වෙත අපගේ කණගාටුව ප්‍රකාශ කළ යුතු වෙමු. මෙම ප්‍රමාදයට එක් හේතුවක් වූයේ, විදේශ ගත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන සියල්ලම එක්සත් කිරීම සඳහා පසුගිය (1901) ජූනි මාසයේදී දරන ලද ප්‍රයත්නය[111] යි. එම ප්‍රයත්නය සාර්ථක විනි නම්, සංවිධානය පිළිබඳ වූ "ඉස්ක්‍රා" පත්‍රයේ අදහස් එක්තරා දුරකට වෙනත් ආකල්පයකින් ඉදිරිපත් කිරීමට සිදුවන්නට ඉඩ තිබුණ හෙයින්, එහි ප්‍රතිඵල බලාපොරොත්තුවෙන් ප්‍රමාදව සිටීම ස්වාභාවික දෙයක් විය. එබඳු සාර්ථකත්වයක් අත් වී නම්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ උපනති දෙකක් පැවතීමේ තත්වය, කෙසේ හෝ, ඉතා ඉක්මණින්ම, කෙළවර වෙතැයි අපේක්ෂා කළ හැකිව තිබුණි. පාඨකයා දන්නා ලෙසට, එම ප්‍රයත්නය අසාර්ථක විය. "රබෝචියෙ දියල"[112] එහි අංක 10 කලාපයෙන් "ආර්ථිකවාදයට"[113] නැඹුරු වෙමින්



# Что дѣлать?

Наболѣвшіе вопросы нашего движенія

Н. ЛЕНИНА.

> ... „Партійная борьба придаетъ партіи силу и жизненность, величайшимъ доказательствомъ слабости партіи является ея расплывчатость и притупленіе рѣзко обозначенныхъ границъ, партія укрѣпляется тѣмъ, что очищаетъ себя" ... (Изъ письма Лассаля къ Марксу отъ 24 іюня 1852 г.).

Цѣна 1 руб.
Preis 2 Mark = 2.50 Francs.

STUTTGART
Verlag von J. H. W. Dietz Nachf. (G. m. b. H.)
1902

ගත් නව නැම්මෙන් පසුව, එම ව්‍යායාමය අසාර්ථක වීම නොවැලැක්විය හැකි වූ බව පෙන්වා දීමට අපි අදහස් කරමු. මෙම උපනතියට විරුද්ධව අධිෂ්ඨාන සහගත අරගලයක් කිරීමේ ඒකාන්ත අවශ්‍යතාවය පෙනී ගියේය. එය විසරණය වූ සහ නොපැහැදිලි උපනතියකි. නමුත් එනිසාම, එය දුරලීම වඩාත් අපහසු වන අතර එය අනේක විධ ආකාරයෙන් තහවුරු වීමේහිද සමත් ය. ඒ අනුව පොතෙහි මුල් සැලැස්ම වෙනස් කර, එය සැලකිය යුතු පමණින් විශාල කරන ලදී.

එහි ප්‍රධාන තේමාව කර ගැනීමට අදහස් කරන ලද්දේ ''පටන් ගත යුත්තේ කොතැනින්ද?'' යන ලිපියෙන් මතු කළ ප්‍රශ්න තුන ය. ඒවා නම්, අපගේ දේශපාලන උද්ඝෝෂණයේ ස්වභාවය හා එහි ප්‍රධාන සන්ධාරය, අපගේ සංවිධානමය කර්තව්‍යයන් සහ එක් වර හා නොයෙක් පැතිවලින් සටන්කාමී සමස්ත රුසියා සංවිධානයක් ගොඩනැගීම සඳහා සැලැස්ම, යන මේ කරුණු වෙති. ''රබෝචියා ගසේතා''[114] පත්‍රය යළි පණ ගැන්වීමට දරන ලද අසාර්ථක ප්‍රයත්නවලින්, එකක් අතර තුරදී (පස්වන පරිච්ඡේදය බලන්න) මෙම ප්‍රශ්න ඉස්මතු කිරීමට තැත් කළ කතුවරයාගේ සිත බොහෝ කාලයක් තිස්සේ ඒවා කෙරේ යොමු වී තිබුණි. කෘතිය මෙම ප්‍රශ්න තුන පිළිබඳ විශ්ලේෂණයකට සීමා කොට, වාද විවාදවලට නො එළඹ, නැතහොත්, ඉන් සම්පූර්ණයෙන්ම පාහේ වැලකී, හැකි තාක් දුරට අනුරෝධී ලෙස, අපගේ අදහස් ඉදිරිපත් කිරීමට මුලින් අරමුණු කරන ලද නමුත්, එසේ කිරීම කිසිසේත් ප්‍රායෝගික නොවන බව, කරුණු දෙකක් හේතු කොට ගෙන ස්ඵුට විය. එක් අතකින්, ''ආර්ථිකවාදය'' අප සිතුවාට වඩා දුර්වාරණීය බව ඔප්පු වී ඇත (අප ''ආර්ථිකවාදය'' යන පදය යොදන්නේ ''ඉස්ක්‍රා'' පත්‍රයේ අංක 12 කලාපයේ (1901 දෙසැම්බර්) පළ කරන ලද හා, එමෙන්ම, මෙම කෘතියේ සම්පිණ්ඩනයක් යයි කිව හැකි වන, ''ආර්ථිකවාදයේ ආරක්ෂකයන් සමග සාකච්ඡාවක්'' යන මැයෙන් යුත් ලිපියෙහි පැහැදිලි කර ඇති පරිදි, පුළුල් අරුතක් දීමට ය). ඉහත සඳහන් ප්‍රශ්න තුන විසඳීම හා සම්බන්ධයෙන් වූ මත භේද ගැන පැහැදිලි කිරීම, විස්තරාත්මක කරුණු පිළිබඳ වෙනස්කම් අනුව නොව, ඊට වඩා හොඳින්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ උපනති දෙකෙහි මූලික ප්‍රතිප්‍රත්‍යය අනුව කළ හැකි බව ඉඳුරාම පැහැදිලි විය. අනික් අතට, ''ඉස්ක්‍රා'' පත්‍රය මගින් අපගේ අදහස් ක්‍රියාත්මක කිරීම ආර්ථිකවාදීන්ගේ විමතියට හේතු වීමෙන්, ඔවුන් හා අප, බොහෝ විට කථා කරන්නේ, ඇත්ත වශයෙන්ම, භාෂා දෙකකින් බව පැහැදිලි විය. එනිසා, ab ovo* පටන් නොගෙන, එකඟත්වයක් ඇති කර ගත නොහැකි

* මුල සිටම

බව හා සියලුම "ආර්ථිකවාදීන් සමග" මත භේදයට තුඩු දුන් අපගේ මූලික අදහස් සියල්ලම ක්‍රමානුකූල ලෙස "පැහැදිලි කිරීම" පිණිස, ප්‍රත්‍යක්ෂ උදාහරණ රැසක් ඉදිරිපත් කරමින් හැකි තාක් සරලතම ශෛලියෙන් උත්සාහයක් දැරිය යුතු බවත් පෙනී ගියේය. "පැහැදිලි කිරීම" පිණිස එවැනි ප්‍රයත්නයක් දැරීමට මම තීරණය කෙළෙමි. එසේ කළේ, එයින් කෘතියෙහි විශාලත්වය බෙහෙවින් වැඩි වන බවත්, එය මුද්‍රණය කිරීම ප්‍රමාද වන බවත් හොඳින් වටහා ගෙන ය. "පටන් ගත යුත්තේ කොතැනින්ද?" යන ලිපියෙන් දුන් පොරොන්දුව ඉටු කිරීමේ වෙනත් මගක් නොදුටිමි. මෙසේ ප්‍රමාදය ගැන කණගාටුව පළ කිරීමට අමතරව, කෘතියෙහි ඇති බරපතල සාහිත්‍යමය දුර්වලකම් ගැන ද කණගාටු වෙමි. අනේක විධ වෙනත් කර්තව්‍යයන් විසින් කෙරෙන නිරන්තර බාධාවන් මධ්‍යයේ, මට ඉතාමත් ඉක්මන්කාරී ලෙස වැඩ කිරීමට සිදු විය.

දැනුදු, මෙම කෘතියෙහි ප්‍රධාන තේමාව වන්නේ ඉහත සඳහන් කරුණු තුන පිරික්සීම ය. එහෙත්, මෙම කටයුත්ත පටන් ගත යුත්තේ වඩාත් සාමාන්‍ය ස්වභාවයේ ප්‍රශ්න දෙකකින් බව මට අවබෝධ විය. ඒවා නම්, "විවේචනය කිරීමේ නිදහස" වැනි "අහිංසක" සහ "ස්වාභාවික" උද්යෝග පාඨයක් අපට හරියටම යුද්ධාභියෝගයක් සේ වන්නේ මන්ද යන්න හා සාංසිද්ධික බහුජන ව්‍යාපාරය සම්බන්ධයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට පැවරෙන කාර්ය කොටස ගැන වූ මූලික පැනය පිළිබඳව වත්, අපට සමථයක් ඇති කර ගත නොහැක්කේ මන්ද යන්නත්ය. එපමණක් නොවේ. දේශපාලන උද්ඝෝෂණයේ ස්වභාවය හා හරය ගැන අපගේ අදහස් විස්තර කර ගෙන යන විට, එය, වෘත්තීය සමිතිවාදී දේශපාලනය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය අතර වෙනස ගැන කරන විස්තරයක ස්වරූපය ගත්තේ ය. එසේම, සංවිධානමය කර්තව්‍ය පිළිබඳ අපගේ අදහස් විස්තර කිරීමේදී, එය, "ආර්ථිකවාදීන්" සතුටු කරන සුළු ආධුනික ක්‍රම සහ අප අනිවාර්ය අවශ්‍යතාවයක් ලෙසට දක්වන විප්ලවවාදීන් සංවිධානය කිරීම අතර වෙනස ගැන කරන විස්තරයක් බවට පත් විය. තවද, සමස්ත රුසියා දේශපාලන ප්‍රවෘත්ති පත්‍රයක් ඇරඹීමට විරුද්ධව ඉදිරිපත් කරන ලද කරුණු පිළිගත නොහැකි හෙයින්ද, අපට අවශ්‍ය සංවිධානය ඇති කිරීම සඳහා අප සෑම පැත්තෙන්ම සහ එක වරම වැඩ කළ යුත්තේ කෙසේද යනුවෙන් "පටන් ගත යුත්තේ කොතැනින්ද?" යන ලිපියෙන් මා මතු කළ ප්‍රශ්නයට නියම පිළිතුරක් සපයා නොමැති හෙයින්ද, එවැනි පත්‍රයක් සඳහා වූ "සැලැස්ම" වඩ වඩාත් බලවත් ලෙස ඉදිරිපත් කරන්නෙමි. අවසාන වශයෙන් අප හා ආර්ථිකවාදීන් තීරණාත්මක ලෙස භේද භින්න වීම වැලැක්වීමට අපට හැකි සියල්ලක්ම කළ නමුත්, එය නොවැලැක්විය හැකි වූ බවද, "රබෝචිය දියල", ආර්ථිකවාදය සසංගත



ලෙස ඉදිරිපත් කළ නිසා නොව, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතිහාසයේ මුළු කාල පරිච්ඡේදයකම විශේෂ අංග ලක්ෂ..ය වූ ව්‍යාකූලත්වය හා වැනෙන සුලු භාවය එයින් අංග සම්පූර්ණ ලෙස හා සිත් කාවදින ලෙස ඉදිරිපත් කරනු ලැබීම නිසා එය විශේෂ තත්වයක්, ඔබ කැමති නම්, "ඓතිහාසික" යයි කිව හැකි වැදගත් තත්වයක් ගත් බවද, එය සමග කෙරෙන විවාදය බැලූ බැල්මට වැඩි විස්තර සහිත යයි පෙනෙනු ඇති වුවත්, මෙම කාල පරිච්ඡේදයේ කෙළවරක් නො දැක අපට ප්‍රගතියක් නො ලද හැකි හෙයින්, ඒ අනුව, එම විවාදය වැදගත් තත්වයක් දරන බවද, කෘතියෙහි අවසාන කොටසින් පෙන්වා දීමට බලාපොරොත්තු වෙමි.

1902 පෙබරවාරි — එන්. ලෙනින්

# I

## පොතේ ගුරුවාදය සහ ''විවේචනය කිරීමේ නිදහස''

### අ. ''විවේචනය කිරීමේ නිදහස'' යන්නෙහි අර්ථය කුමක්ද?

වත්මන් කල සියලුම රටවල සමාජවාදීන් සහ ප්‍රජාතන්ත්‍රවාදීන් අතර කෙරෙන තර්ක විතර්කවලදී ඉතාමත් බහුල ලෙස භාවිතා වන ඉතාමත් හැඩකාර සටන් පාඨය වන්නේත්, ''විවේචනය කිරීමේ නිදහස'' යන උද්යෝග පාඨය වන බවට සැකයක් නැත. ආරාවුල්කාරී එක් පාර්ශ්වයක් විවේචනය කිරීමේ නිදහස වෙත ගාම්භීර ලීලාවෙන් කරන එම ආයාචනයන්ට වඩා තවත් අරුමයක් නැතැයි බැලූ බැල්මට පෙනී යා හැක. විද්‍යාව සහ විද්‍යාත්මක විමර්ශන සඳහා නිදහස සහතික කරන යුරෝපීය රටවල් බහුතරයෙහි ව්‍යවස්ථාගත නීතියට විරුද්ධව පූරෝගාමී පක්ෂ තුළ හඬ නැගීමක් සිදුවී තිබේද? හැරුනු හැරුනු අතට මෙම පාඨය උච්ඡාරණය වීම ඇසූ, එහෙත්, ආරාවුල් කරුවන් අතර පවත්නා අසමථයේ හරය විනිවිද නොදුටු ප්‍රේක්ෂකයාගේ අදහස වනු ඇත්තේ ''මෙහි නම් කිසියම් දෝෂයක් තිබිය යුතුය'' යන්නයි. ''මෙම උද්යෝග පාඨය, විකට නාමයක් සේ භාවිතයෙන් සුජාතකරණයට පත්වන සහ බොහෝ දුරට වර්ගනාම තත්වයක් ගන්නා, සම්මත පාඨ අතුරෙන් එකක් වන බව පැහැදිලි ය.''

වර්තමාන ජාත්‍යන්තර* සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය තුළ උපනති දෙකක් උද්ගතව ඇති බව ඇත්ත වශයෙන්ම කිසිවෙකුටත් රහසක් නොවේ. මෙම උපනති අතර සිදුවන සට්ටනය වරක් දීප්තිමත් ගිනි දළු විහිදුවමින් දල්වෙයි, තවත් වරෙක, එය තුනී වී ගොස් මහ ලොකු ''සමාදන යෝජනා'' නැමති අළු යට සැඟ වී පවතියි. ''යල් පැනගිය පොතේ ගුරුවාදී'' මාක්ස්වාදය කෙරෙහි ''විවේචනාත්මක'' ආකල්පයක් දක්වන ''නව'' උපනතියෙහි හරය, මනා ලෙස පැහැදිලි වන සේ, බර්න්ෂ්ටයින් එය ඉදිරිපත් කර ඇත; මිලියරාන් එය ක්‍රියාත්මක කරන හැටි පෙන්වාදී ඇත.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, සමාජ විප්ලවයේ පක්ෂයක තත්වයෙන් වෙනස් වී, සමාජ ප්‍රතිසංස්කරණයේ පක්ෂයක් විය යුතුය. බර්න්ෂ්ටයින්, මෙම දේශපාලන ඉල්ලීම වට කර, හොඳින් ගලපා ගත් ''නව'' කරුණු සහ තර්ක රැසක්ම සිටුවා එය සුරක්ෂිත කර ඇත. සමාජවාදය විද්‍යාත්මක පදනමක් මත පිහිටුවීමේ හැකියාව සහ ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පයේ දෘෂ්ටි කෝනයෙන් එහි අවශ්‍යතාවය හා අනිවාරණීයත්ව ස්ඵුට කිරීම ප්‍රතික්ෂේප කරන ලදී. දුප්පත් කම වැඩි වී යාම, නිර්ධන පංති කරණයේ ක්‍රියාදාමය හා ධනේශ්වර ප්‍රතිවිරෝධතාවයන් උත්සන්න වීම යන සත්‍යයන් ප්‍රතික්ෂේප කරන ලදී. ''අවසාන අරමුණ'' ගැන වූ ඒ අදහසම පවා බුද්ධි ගෝචර නොවන බව ප්‍රකාශ කරන ලදී. එසේම, නිර්ධන පංති ආඥාදායකත්වය පිළිබඳ අදහස සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂෙප කරන ලදී. ලිබරල්වාදය හා සමාජවාදය අතර ප්‍රතිපත්තිමය ප්‍රතිප්‍රත්‍යය ප්‍රතික්ෂේප කරන ලදී. පංති අරගලය පිළිබඳ න්‍යාය, වැඩි දෙනාගේ කැමැත්ත අනුව ආණ්ඩු පාලනය කෙරෙන, සම්පූර්ණයෙන්ම ප්‍රජාතන්ත්‍රවාදී වන, යනාදී වූ, සමාජයකට ගැලපිය නොහැකි යයි කියා එය ප්‍රතික්ෂේප කරන ලදී.

විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සිට තීරණාත්මක ලෙස ධනපති සමාජ-ප්‍රතිසංස්කරණය වෙත හැරෙන්නැයි එලෙසින් කරන ඉල්ලීමත්

---

* ආනුෂංගික වශයෙන් ගත් කළ, සමාජවාදයේ නූතන ඉතිහාසය කෙරෙහි දක්නට ලැබෙන මෙම ප්‍රපංචය නිසා, සමාජවාදය තුළ වන විවිධ උපනති අතර සිදුවන සට්ටනය ජාතික තත්වයේ සිට ජාත්‍යන්තර තත්වයට පත්ව ඇති හෙයින්, එය සමහර විට අපූර්ව සහ ඊටම ආවේණික ආකාරයකින් අස්වැසුම්ශීලී වන බව කිව හැක. ඉහතදී, ලසාල්වාදීන් සහ එයිසෙනාහ්ත්වරුන්[115] අතරද, ගෙඩ්වාදීන් සහ පොසිබිලිස්ට්වරුන් අතරද, ෆේබියන්වරුන්[116] සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්[117] අතරද, නරෝද්නය වෝලිය[118] අනුගාමිකයන් සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතරද, වූ ආරාවුල්, හුදු ජාතික ලක්ෂණ පමණක් පිළිබිඹු කරමින්, එකිනෙකට වෙනස් මට්ටමින් ක්‍රියාත්මක වන ආකාරයකින් හුදෙක් ජාතිකමය රාමුවට සීමා වී තිබුණි. වර්තමාන කාලයේදී (දැන් පැහැදිලි වී ඇති පරිදි) ඉංග්‍රීසි ෆේබියන්වරු ද, ප්‍රංශ ආණ්ඩු පාක්ෂිකයෝද[119], ජර්මන් බර්න්ෂ්ටයින්වාදීහු ද, රුසියානු විවේචකයෝ ද[120], යන මේ සියලු දෙනාම එකම පවුලකට අයත් වෙති; ඔවුනොවුන් මහ ඉහළින් අගය කර ගනිති; එකිනෙකාගෙන් උගෙන ගනිති; එමෙන්ම, එකාවන්ව ''පොතේ ගුරුවාදී'' මාක්ස්වාදීන්ට විරුද්ධව අවි ගනිති. සමාජවාදී අවස්ථාවාදයට විරුද්ධව කරන මෙම ප්‍රථම සැබෑ ජාත්‍යන්තර සටනේදී, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රමාණවත් තරම් ශක්තිමත් වී, මේ දක්වා යුරෝපය තුළ රජ කර තිබෙන දේශපාලන ප්‍රතිගාමිත්වය සමහර විට කෙළවර කිරීමට හැකි වන තරම් තත්වයට පත් වනු ඇත.

සමග සමාගම්ව, ඊට කිසිසේත් නොදෙවැනි තීරණාත්මක ස්වභාවයකින් සියලුම මූලික මාක්ස්වාදී අදහස්වලට එරෙහි, ධනේශ්වර විවේචනයන් වෙත හැරීමද සිදුවිය. මාක්ස්වාදයට විරුද්ධ මෙම විවේචනයන්, දේශපාලන වේදිකාවෙන්ද, විශ්වවිද්‍යාල මහාචාර්ය අසුන්වලින්ද, පොත් පොඩි මහා රාශියකින්ද, වියත් සංග්‍රහිත කෘති මාලාවක් මගින්ද දීර්ඝ කාලයක් තිස්සේ මෙහෙයවන ලද හෙයිනුත්, උගත් පංතිවල තරුණ පරපුර, දශක ගණනක්ම, මෙම විවේචනයන්ගෙන් පෝෂණය කර, ක්‍රමාණුකූල ලෙස ඇති දැඩි කර සිටින හෙයිනුත්, ජුපිටර් දෙවියාගේ හිසෙන් පැන නගින මිනර්ව දෙවි දුව[121] මෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ''නව විවේචනාත්මක'' උපනතිය අංග සම්පූර්ණ ස්වභාවයෙන් යුතුව පැන නැගීම විමතියට කරුණක් නොවේ. මෙම නව උපනතියෙහි සන්ධාරයට වර්ධනය වී සකස් වීමක් අවශ්‍ය වූයේ නැත. එය ගෙඩි පිටින්ම ධනේශ්වර සාහිත්‍යයෙන් ගෙන සමාජවාදී සාහිත්‍යයට මාරු කරන ලදී.

එමතු ද නොවේ. බර්න්ෂ්ටයින්ගේ න්‍යායික විවේචන හා දේශපාලන අභිප්‍රායයන් යමෙකුට තවමත් පැහැදිලි වී නොමැති නම්, ''නව ක්‍රමය'' සිත් කාවදින ලෙස ක්‍රියාත්මක කර දැක්වීමට ප්‍රංශ ජාතිකයෝ උනන්දු වූහ. ''පංති අරගලවලදී, අන් සෑම දේශයකටම වඩා, සෑම අවස්ථාවකදීම තීරණයක් දක්වා සටන් වදින රට'' (මාක්ස්ගේ "Der 18 Brumaire" පොතට එංගල්ස් ලියූ පෙරවදන) වශයෙන් ප්‍රංශය ලබා තිබුණු පැරණි කීර්තිය සාධාරණ වූ බව, එය මේ අවස්ථාවේදීද ඔප්පු කළේය. ප්‍රංශ සමාජවාදීන්, න්‍යාය ගැන කථා කිරීමට නොව, ක්‍රියාත්මක වීමට පටන් ගෙන ඇත. ප්‍රංශයේ ප්‍රජාතන්ත්‍රික වශයෙන් වඩාත් උසස් දියුණුවක් ලබා ඇති දේශපාලන තත්වයන් නිසා, නොපමාවම ''ප්‍රායෝගික බර්න්ෂ්ටයින්වාදය'' ක්‍රියාත්මක කිරීමටත්, එහි සියලු ප්‍රතිඵල නෙලා ගැනීමටත්, ඔවුනට ඉඩ ලැබී තිබේ. ප්‍රායෝගික බර්න්ෂ්ටයින්වාදයේ විශිෂ්ඨ ආදර්ශයක් මිලියරාන්ගෙන් ලැබී තිබේ. බර්න්ෂ්ටයින් හා ෆේපාල්මාර් ඔහුගේ ආරක්ෂාවට හා ගුණ ගායනයට එතරම් උත්සුක ලෙස දිව ගියේ හේතු විරහිතව නොවේ. සාරානුකූල වශයෙන් ගත් කල, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය හුදෙක්ම ප්‍රතිසංස්කරණ පක්ෂයක් වේ නම්, ඒ බව විවෘත ලෙස පිළිගැනීමට තරම් ධෛර්යයක් තිබේ නම්, එවිට, ඇත්තෙන්ම, සමාජවාදියාට ධනපති ඇමති මඩුල්ලකට ඇතුලත් වීමේ අයිතිය තිබෙනවා පමණක් නොව, ඒ සඳහා නිතරම ප්‍රයත්න දැරීමද කළ යුතු වේ. ප්‍රජාතන්ත්‍රය යන්නෙහි සාරානුකූල අර්ථය පංති ආධිපත්‍යය නැති කිරීම නම්, සමාජවාදී ඇමති වරයෙක් පංති සහයෝගිතාවය ගැන චතුර කථා පවත්වමින් සමස්ත ධනේශ්වර ලෝකයම වශී නොකළ යුත්තේ මන්ද? ප්‍රජාතන්ත්‍රික පංති සහයෝගිතාවයේ නියත ස්වභාවය කෙබඳුද යනු, පොලිස් හේවායන් විසින් කම්කරුවන් වෙඩි



තබා දැමීමෙන් පසු, සිය දහස් වන වරටත් හෙළිදරව් වී තිබියදී වුවද, ඔහු ඇමති මඩුල්ල තුළ නොසිටිය යුත්තේ මන්ද? නොන්ඩුංවේ, කයයේ සහ පිටු වාහල් කිරීමේ වීරයා (knouteur, pendeur, et déportateur) යන අපර නාමයෙන් හැර වෙනත් නමකින් දැන් ප්‍රංශ සමාජවාදීන් විසින් නොහඳුන්වනු ලබන, සාර් අධිරාජයාට ශුභ පැතීමට ඔහු පෞද්ගලිකවම සහභාගි නොවිය යුත්තේ මන්ද? සමස්ත ලෝකයාම හමුවේ, මෙසේ සමාජවාදය අන්ත නින්දවට සහ ආත්ම අවමානයට භාජනය කිරීමෙනුත්, අපගේ ජයග්‍රහණය සහතික කරන එකම පදනම වන, වැඩ කරන පොදු ජනතාවගේ සමාජවාදී විඥනය දූෂණය කිරීමෙනුත්, ලබන තෑග්ග කුමක්ද? එම තෑග්ග නම්, පම්පෝරි සහිතව ඉදිරිපත් කෙරෙන කුම්මැහි ප්‍රතිසංස්කරණ පිළිබඳ වූ යෝජනා ක්‍රම පමණකි. මේවා ඉතාමත් අල්ප ස්වල්පය. මීට වඩා බොහෝ ප්‍රතිසංස්කරණ, ඇත්ත වශයෙන්ම, ධනපති ආණ්ඩුවලින් ලබා ගෙන ඇත!

සමාජවාදයේ නව ''විවේචනාත්මක'' උපනතිය අන් කිසිවක් නොව, එය සැබැවින්ම නව වර්ගයක අවස්ථාවාදයක් බව, උවමනාවෙන් ඇස් පියා නොගන්නා කෙනෙකුට නොපෙනී යා නොහැක. අප මිනිසුන් ගැන නිගමනවලට එළඹෙන්නේ, ඔවුන්ගේ දිස්න විහිදුවන නිල ඇඳුම් අනුව හෝ ඔවුන් තමන්ටම පටබැඳ ගන්නා උදර විරුදවලී අනුව හෝ නොවේ නම්, ඔවුන් කරන දෙයින් හා ඉදුරාම ප්‍රචාරය කරන දෙයින් නම්, විවේචනය කිරීමේ නිදහස යනුවෙන් අදහස් කරන්නේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ අවස්ථාවාදී උපනතියක් සඳහා නිදහස බවත්, සමාජ-ප්‍රජාතන්ත්‍රය ප්‍රතිසංස්කරණවලට කැපවූනු ප්‍රජාතාන්ත්‍රික පක්ෂයක් බවට පරිවර්තනය කිරීමේ නිදහස බවත්, සමාජවාදය තුළට ධනේශ්වර අදහස් සහ ධනේශ්වර අංගෝපාංගයන් රිංගවීමේ නිදහස බවත් පැහැදිලි වනු ඇත.

''නිදහස යනු උත්තරීතර වචනයකි.එහෙත් කර්මාන්ත සඳහා නිදහස යන සටන් පාඨය යටතේ ඉතාමත් කොල්ලකාරී යුද්ධ කරන ලදී. ශ්‍රමකරු නිදහස යන සටන් පාඨය යටතේ වැඩ කරන ජනයා මංකොල්ල කන ලදී. ඒ සහජ කුහකත්වයම ''විවේචනය කිරීමේ නිදහස'' යන පාඨයේ වර්තමාන භාවිතය විෂයෙහි අන්තර්ගතය. තමන් විද්‍යාව අතින් දියුණුවට පත්ව ඇතැයි සැබවින්ම අවබෝධ කරගත් අය, අලුත් අදහස් හා සමග පරණ අදහසද තවදුරටත් එකට තැබීමට නිදහස නො ඉල්ලනු ඇත. ඔවුන් ඉල්ලනු ඇත්තේ පරණ අදහස් වෙනුවට අලුත් අදහස් ආදේශ කරන ලෙස ය. ''විවේචනය කිරීමේ නිදහස දිනේවා'' යනුවෙන් අද ඇසෙන ඝෝෂණය හිස් පීප්පය පිළිබඳ උපමා කථාව ඉතා බලවත් ලෙස සිහියට නංවන්නකි.

තදින් එකට බැඳුනු කණ්ඩායමක් වශයෙන්, එකිනෙකාගේ අත්

දැඩිව අල්ලාගෙන, ප්‍රපාත සහිත හා දුෂ්කර මාර්ගයක ගමන් කරමින් සිටින අපි, සෑම පැත්තකින්ම සතුරාගෙන් වටවී සිටින්නෙමු. අපට ඉදිරියට යාමට සිදු වී තිබෙන්නේ නිතරම පෙන් ඔවුන්ගෙන් එල්ල වන තුවක්කු ප්‍රහාරය අසු අස්සේය. අපි සතුරාට විරුද්ධව සටන් කිරීමේ කටයුත්ත ඉටු කිරීම සඳහා නිදහසේ අනුමත කරගත් තීරණයකින් එකට බැඳී සිටින්නෙමු. අපගේ තීරණය අසල තිබෙන මඩ වගුරට පසු බැසීම නොවේ. අප විශේෂ කණ්ඩායමක් ලෙසට වෙන්ව සිටීම සම්බන්ධයෙන් හා සමගිකාරී මාර්ගය වෙනුවට අරගලයේ මාර්ගය තෝරා ගැනීම සම්බන්ධයෙන්, එහි පදිංචි කරුවෝ ආරම්භයේ පටන්ම අපට දෝෂාරෝපනය කළහ. අපගේ තීරණය මඩ වගුරට පසු බැසීම නොවන නමුත්, මඩ වගුරට යමුයි අප අතර සිටින සමහර දෙනෙක් හඬ නගන්නට පටන් ගනිති! එවිට අප ඔවුන් ලජ්ජාවට පත් කිරීමට පටන් ගත් කල, ඔවුහු මෙසේ පිළිවදන් දෙති: ''අහෝ නුඹලාගේ නොදියුණු කමක මහත! වඩා හොඳ පාරෙන් ගමන් කරන ලෙස නුඹලාට ආරාධනා කිරීමට අපට ඇති අයිතිය ප්‍රතික්ෂේප කිරීමට තරම් නුඹලාට ලජ්ජා නොමැතිද?'' අපි ඔවුනට මෙසේ කියමු: ඇත්ත තමයි, මහත්වරුනි! අපට ආරාධනා කිරීමට පමණක් නොව ඔබට උවමනා අතක යාමටත්, මඩ වගුරට වුවද යාමටත්, ඔබට නිදහස තිබේ.ඇත්ත වශයෙන්ම ඔබට සුදුසු තැන මඩ වගුර බව අපි අදහස් කරමු. ඔබ එහි යනු සඳහා ඔබට සියලු ආධාර දීමට අප සූදනම්ය. එහෙත්, අපගේ අත් පමණක් අත හරින්න. අප වෙතින් අල්ලා ගන්න එපා. නිදහස යන උත්තරීතර වචනය කැත කරන්න එපා. අප කැමති අතක යාමට අපටද ''නිදහස'' ඇත. මඩ වගුරට විරුද්ධව පමණක් නොව, මඩ වගුර වෙත හැරෙන්නවුනටද විරුද්ධව සටන් කිරීමේ නිදහස අපට ඇත.

### ආ) ''විවේචනය කිරීමේ නිදහස'' වෙනුවෙන් කථා කරන අලුත් පක්ෂවාදීහු

''විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ''[122] නිල ප්‍රකාශනය වන ''රබෝචිය දියල'' සඟරාව (අංක 10 කලාපය) මෑත කාලයේ මෙම (''විවේචනය කිරීමේ නිදහස'') උද්යෝග පාඨය ගාම්භීර ලෙස ඉදිරිපත් කර තිබෙන්නේ, න්‍යායික සිද්ධාන්තයක් වශයෙන් නොවේ. එය ඉදිරිපත් කර තිබෙන්නේ, ''විදේශ තුළ ක්‍රියා කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන එක්සත් කළ හැකිද?'' යන ප්‍රශ්නයට පිළිතුරක් වශයෙනි — ''කල් පවත්නා එක්සත් වීමකට නම්, විවේචනය කිරීමේ නිදහස තිබිය යුතුය (පිටු 36).



මෙම ප්‍රකාශනය අනුව යන නිශ්චිත නිගමනයන් දෙකකි: (1) ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ සාමාන්‍ය වශයෙන් පවත්නා අවස්ථාවාදී උපනතියට ආරක්ෂාව සැලසීමට, ''රබෝචිය දියල'' ඉදිරිපත් වී සිටී; (2) ''රබෝචිය දියල'', රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ අවස්ථාවාදය රැකීම සඳහා නිදහස ඉල්ලයි. මෙම නිගමනයන් පරීක්ෂා කර බලමු.

''ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කන්ද සහ ජිරොන්ඩ[123] අතර පිපිරීමක් ඇති විය හැකිය කියමින් අනාවැකි පළ කිරීමට ''ඉස්ක්‍රා'' පත්‍රය සහ ''සර්යා''[124]සඟරාව දක්වන රුචිය'' ගැන ''රබෝචිය දියල''''විශේෂයෙන්ම'' අමනාප වී තිබේ*.

''රබෝචිය දියල'' කර්තෘ තැන්පත් බී. ක්‍රිචේව්ස්කි මෙසේ ලියයි. ''සාමාන්‍ය වශයෙන් කියතොත්, ''කන්ද'' සහ ''ජිරොන්ඩ'' ගැන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සාමාජිකත්වය තුළින් ඇසෙන කථාවලින් නියෝජනය වන්නේ, ඓතිහාසික කරුණු ගැන වූ නොගැඹුරු සම කිරීමකි. එය මාක්ස්වාදියෙකුගේ පෑනෙන් නිර්මාණය වීම පුදුමයකි. සමාජ චින්තන ඉතිහාසඥයන් සිතනු ඇති පරිදි, කන්ද සහ ජිරොන්ඩ නියෝජනය කළේ ප්‍රකෘති ස්වභාවයන්, නැතහොත්, බුද්ධිමය උපනති අතර වෙනසක් නොව, පංති, නැතහොත්, ස්ථර අතර වෙනසකි; එක් අතකින් මධ්‍යම ධනේශ්වර පංතියත්, අනිත් අතින්, සුළු ධනේශ්වර පංතිය හා නිර්ධන පංතියත් අතර වෙනසය. එසේ වුවද, නූතන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ පංති අවශ්‍යතාවයන් ගැටෙන තත්වයක් නොමැත. ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන් ඇතුළු කොට ගත් මුළු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයම, එහි විවිධ ප්‍රභේද සියල්ලම (ක්‍රිචේව්ස්කිගේ අවධාරණය) පිහිටා ඇත්තේ නිර්ධන පංතියේ අවශ්‍යතාවයන් සහ එහි දේශපාලන සහ ආර්ථික විමුක්තිය සඳහා වූ පංති අරගලයේ පදනම මත ය'' (පිටු 32 —33).

---

* ''ඉස්ක්‍රා'' අංක 2 (1901 පෙබරවාරි) පත්‍රයේ ප්‍රධාන ලිපියෙන් විප්ලවවාදී නිර්ධන පංතිය තුළ දක්නට ලැබෙන (විප්ලවවාදී සහ අවස්ථාවාදී) උපනති දෙකත්, දහඅට වැනි ශත වර්ශයේ ධනපති පංතිය තුළ වූ (''කන්ද'' යනුවෙන් හඳුන්වන ලද ජැකොබින්වරු සහ ජිරෝන්ඩවරු) උපනති දෙකත් සංසන්දනය කෙරිණ. ලිපිය ලියන ලද්දේ ප්ලෙහානව් විසිනි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ''ජැකොබින්වාදය'' ගැන කැඩෙට්වරු, ''බීස්සග්ලාවිවරු''[125] හා මෙන්ෂෙවික්වරු මේ දක්වාම ප්‍රීතියෙන් සඳහන් කරති. එහෙත් මෙම සංකල්පය ප්‍රථම වතාවට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දක්ෂිණාංශයට විරුද්ධව යොදා ගැනීමට ප්ලෙහානව් යොමු වූයේ කෙසේද? ඒ ගැන නිහඬ වීමට හෝ අමතක කිරීමට ඔවුහු වැඩි කැමැත්තක් දක්වති. (1907 සංස්කරණයෙහි කර්තෘගේ සටහන — සංස්කාරක)

එඩිතර සහතික වීමකි! බර්න්ෂ්ටයින්වාදය එතරම් සීඝ්‍ර ලෙස පැතිරී යාමට උපස්ථම්භක වූයේ, මෑත අවුරුදුවල දී, උගත් ස්ථරය සමාජවාදී ව්‍යාපාරයට සම්බන්ධ වීම නිසාමය යන, මීට බොහෝ කලකට පෙර සටහන් කරන ලද කරුණු ගැන, බී. ක්‍රිචේව්ස්කි අසා නොමැතිද? ඒ අතරම ඉතාමත් වැදගත් කාරණය මෙයයි. ''ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන්'' පවා පිහිටා සිටින්නේ නිර්ධන පංතියේ දේශපාලන හා ආර්ථික විමුක්තිය සඳහා වූ පංති අරගලයේ පදනම මතය යන ඔහුගේ මතය, අප කර්තෘ තැන ගොඩ නගා ගෙන ඇත්තේ කුමණ කරුණු මතද? යි, කිසිවෙකු නොදනී. මෙසේ අධිෂ්ඨාන සහගත ලෙස, ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන් ආරක්ෂා කිරීම තර්ක හෝ කරුණු දැක්වීමක් මගින් කිසිසේත් සනාථ කර නැත. ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන් ඔවුන් ගැනම කියා ගන්නා දෙය, තමන්ද, ප්‍රතිරාවය කළ කල්හි, තමා සහතික වී කරන එම ප්‍රකාශයන් ඒත්තු ගැන්වීමට කරුණු ඉදිරිපත් කිරීම අනවශ්‍යයයි ඔහු සිතනවා විය හැක. එහෙත්, කිසියම් ප්‍රවණතාවයක නියෝජිතයන්, ඔවුන් ගැනම කියා ගන්නා දෙය හැර, වෙනත් කිසිවක් පදනම වශයෙන් නොගෙන, මුළු මහත් උපනතියක්ම ගැන නිගමනයන්ට එළඹීමට වඩා තවත් ''නොගැඹුරු'' දෙයක් ගැන සිතනු හැකිද? එකිනෙකට වෙනස්කම් ඇති හා එකිනෙකට ඒකාන්ත ප්‍රතිවිරුද්ධ කම් පවා ඇති, පක්ෂ සංවර්ධන ක්‍රම නැතහොත්, මාර්ග දෙකක් ගැන, අනතුරුව කරන ලද ''දේශනාවට'' වඩා නොගැඹුරු තවත් දෙයක් ගැන සිතනු හැකිද? (''රබෝචිය දියල'' පිටු 34—35). වෙනත් වචනවලින් කියතොත්, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු විවේචනය කිරීමේ පූර්ණ නිදහස පිළිගනිති. එහෙත් ප්‍රංශ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු එය නොපිළිගනිති. එමෙන්ම ''නොරිස්සුම නැමති වස'' ප්‍රදර්ශනය වන්නේද ඔවුන්ගේම ඒ ආදර්ශයෙන්මය.

මේ ගැන අපට කිව හැක්කේ, ''ඉලවායිස්කි ක්‍රමයට'' පද ගත අර්ථයෙන් පමණක් ඉතිහාසය වටහා ගන්නා අයද, සමහර විට මාක්ස්වාදී නාමය ආරෝපනය කර ගන්නා බව ඔප්පු කිරීමට, බී. ක්‍රිචේව්ස්කි සැපයූ උදාහරණයම සාක්ෂියක් කොට ගත හැකි බව පමණකි. ජර්මන් සමාජවාදී පක්ෂයේ සමගිය හා ප්‍රංශ සමාජවාදී පක්ෂයේ අසමගිය පැහැදිලි කිරීම සඳහා, මේ දෙරටෙහි ඉතිහාසයේ විශේෂ අංග ලක්ෂණ ගැන සෙවීමවත්, එක රටක වූ යුද්ධමය අර්ධ ඒකාධිපති තත්වය හා අනිත් රටෙහි වූ සමූහාණ්ඩු පාර්ලිමේන්තුවාදය අතර ඇති අසමානත්වය සැලකිල්ලට ගැනීමවත්, කොමියුනයේ ප්‍රතිඵල හා සමාජවාදීන්ට විරුද්ධ විශේෂ නීතියෙහි ප්‍රතිඵල විශ්ලේෂණය කර බැලීමවත්, දෙරටෙහි ආර්ථික ජීවිතය හා ආර්ථික සංවර්ධනය සංසන්දනය කිරීමවත්, එසේත් නැතහොත්, ''ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අනුපමේය දියුණුව'' ඇති වූයේ වැරදි



න්‍යායයන්ට (මියුල්බෙර්ගර්, ඩූරිං*, ''කතීඩර් — සමාජවාදී''[128]) පමණක් නොව, වැරදි උපක්‍රම, (ලසාල්) යනාදියටද විරුද්ධව කළ පෙර ඉතිහාසයේ නොදක්නා ලද විරු දෘඪතර අරගලයක් හා සමග බව සිහිපත් කිරීමවත් කිසිසේත් අවශ්‍ය නැත. ඒ සියල්ලම අනවශ්‍යය! ප්‍රංශයන් ඔවුනොවුන් අතර රණ්ඩු කර ගන්නේ, ඔවුනොවුන්ගේ නොරිස්සුම නිසාය. ජර්මන්වරු හොඳ ළමයින් වන හෙයින්, ඔවුහු එක්සත්ව සිටිති.

තවද, මෙම අසමසම පණ්ඩිත වාක්‍ය ප්‍රකාශ කර ඇත්තේ බර්න්ෂ්ටයින්වාදීන්ගේ රැකවරණ සුනු විසුණු කෙරෙන සත්‍ය කරුණ ''බිඳ හෙළීමේ'' අරමුණ ඇතිව බව සටහන් කර ගන්න. බර්න්ෂ්ටයින්වාදීන් පිහිටා සිටින්නේ නිර්ධන පංතියේ පංති අරගලය මතද, නැද්ද යන ප්‍රශ්නය ඓතිහාසික අත්දැකීම අනුව පමණක් පූර්ණ හා තිරසර වශයෙන් පිළිතුරු දිය හැකි වන එකකි. එහෙයින්, මෙම කාරණය හා සම්බන්ධයෙන් ප්‍රංශයේ ආදර්ශය අතිශයින් වැදගත් ය. එසේ වන්නේ බර්න්ෂ්ටයින්වාදීන්, ස්වාධීනව, තමන්ගේම පාද මත නැගී සිටීමට ප්‍රයත්න දැරූ එකම රට එය බැවිනි. එම ප්‍රයත්නයේදී, ජර්මන් හවුල් කරුවන්ගේ උණුසුම් අනුමැතිය (හා එක්තරා දුරකට රුසියානු අවස්ථාවාදීන්ගේ අනුමැතියත් — ''රබෝචිය දියල'' අංක 2—3 පිටු 83—84) ඔවුනට ලැබිණ. ප්‍රංශයන්ගේ නොරිස්සුම ගැන කරන ලද සඳහනෙහි ඇති ඓතිහාසික (නස්ද්‍රියෝව් අරුතෙන්[129]) වැදගත් කම හැරුණු විට එය ඉතාමත් අප්‍රසන්න

* එංගල්ස්, ඔහුගේ ප්‍රහාරයන් ඩූරිං වෙත එල්ල කළ කල්හි ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ නියෝජිතයෝ බොහෝ දෙනෙක් ඩූරිංගේ අදහස් වෙතට නැඹුරු වූහ. ඒ අනුව, රළු පරළු බව, නොරිස්සුම, සහෝදරත්වයට නොගැලපෙන චාරය ආදිය පිළිබඳ චෝදනා පක්ෂ සම්මේලනයේදී ප්‍රසිද්ධියේම පවා එංගල්ස් වෙත දමා ගසන ලදී. ''පාඨකයන් අති බහුතරය'' එංගල්ස්ගේ ලිපි ගැන ''සතුටක් නොදක්වන හෙයින්'' ඒවා "Vorwärts"[126] හි පළ කිරීම තහනම් කිරීමේ යෝජනාවක් මෝස්ත්, ඔහුගේ සගයින්ද සමග 1877 සම්මේලනයට[127] ඉදිරිපත් කළේය. ඒවා පළ කිරීමෙන් පක්ෂයට බලවත් හානියක් සිදු වී ඇති බවත්, ඩූරිංද පක්ෂයට සේවාවක් කර ඇති බවත් වාල්තෙයිහ් (Vahlteich) ප්‍රකාශ කළේය. පක්ෂයේ යපහත සඳහා සෑම දෙනාම උපයෝගී කරගත යුත්තෙමු. පණ්ඩිතයිනට උවමනා නම් ඔවුන් විවාදයෙහි යෙදුණා වේ. එහෙත් ඒවා පැවැත්වීමට නිසි තැන "Vorwärts" පත්‍රය නොවේ. ("Vorwärts" අංක 65, 1877 ජූනි 6.) ''විවේචනය කිරීමේ නිදහස ආරක්ෂා කිරීම පිළිබඳ තවත් නිදර්ශනයක් අපට මෙයින් දැක්ක හැකිය. ජර්මන් වරුන්ගෙන් උපුටාගෙන නිදර්ශන ඉදිරිපත් කිරීමට එතරම් කැමැත්තක් දක්වන නීත්‍යානුකූල විවේචනයන් හා නීති විරෝධී අවස්ථාවාදීන්ද ඒ ගැන උවමනාවෙන් සිතා බැලීම මනාය!

සත්‍ය කරුණු වසං කිරීමට යොදා ගත් සෝපප්ලවය බැණ වැදීමක් බවට පත් වන්නේය.

එපමණක් නොව, බී. ක්‍රිචෙව්ස්කි හා "විවේචනය කිරීමේ නිදහසේ" අනෙකුත් වීරයින්ට තෑග්ගක් ලෙසට ජර්මන්වරුන් භාර දීමටද අපගේ අදහසක් නොමැත. "ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන්ට" තවමත් ජර්මන් පක්ෂ සාමාජිකත්වය තුළ ඉඩදී තිබෙනම්, එයේ කර ඇත්තේ බර්න්ෂ්ටයින්ගේ "සංශෝධන" දැඩි ලෙස ප්‍රතික්ෂේප කළ හැනෝවර් යෝජනාවටත්,[130] (උපායශීලී භාෂා ශෛලියෙන් සකස් කර ඇති නමුදු) බර්න්ෂ්ටයින්ට කළ ඍජු අවවාදයක් ඇතුලත් ලූබෙක් යෝජනාවටත්[131], ඔවුන් යටත් වන තාක් දුරට පමණකි. ජර්මන් පක්ෂයේ යහපත පිළිබඳ ස්ථාවරයෙන් බලන කල, උපක්‍රමශීලී භාවය සුදුසු වී ද, නැතහොත්, මෙම අවස්ථාවේදී, හොඳ රණ්ඩුවකට වඩා, නරක සාමයක් යහපත් වී ද යන්න, විවාදයට තුඩු දෙන කරුණක් විය හැක. කොටින් කියතොත් බර්න්ෂ්ටයින්වාදය ප්‍රතික්ෂේප කිරීමට යොදා ගන්නා ලද ක්‍රම අතුරෙන් කුමණ හෝ එකක යෝග්‍යතාවය ගැන වූ අදහස්වල විවිධත්වයක් තිබීමට ඉඩ තිබේ. නමුත්, ජර්මන් පක්ෂය, දෙවරක්ම, බර්න්ෂ්ටයින්වාදය ප්‍රතික්ෂේප කළ බව කිසිවෙකුටත් නොපෙනී යා නොහැක. එසේ හෙයින්, "ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන් පිහිටා සිටින්නේ, නිර්ධන පංතිය, එහි දේශපාලන හා ආර්ථික විමුක්තිය සඳහා කරන අරගලයේ පදනම මතය" යන අදහස ජර්මන් ආදර්ශයෙන් තහවුරු වන්නේ යයි කල්පනා කරතොත්, එයින් අදහස් වන්නේ, අපගේම ඇස් ඉදිරිපිටම සිදුවන දෙය වටහා ගැනීමට සම්පූර්ණයෙන්ම අසමත් වූ බවකි*.

---

* ජර්මන් පක්ෂය තුළ වූ බර්න්ෂ්ටයින්වාදය ගැන හුදු කරුණු පමණක් සඳහන් කිරීමට සීමා වූ "රබෝචිය දියල" ස්වකීය අදහස් ප්‍රකාශ කිරීමෙන් සම්පූර්ණයෙන්ම "වැලකී සිටියේය". නිදර්ශනයක් වශයෙන්, ෂ්ටුට්ගාර්ට් සම්මේලනයේ[132] (අංක 2—3, පිටු 66) වාර්තා බලන්න. එකඟත්වයක් නොමැති කරුණු සියල්ලම "උපක්‍රම" සේ සරල කොට එහි දක්වා ඇති අතර සම්මේලනයේ අති බහුතරය පැරණි විප්ලවවාදී උපක්‍රමවලට පක්ෂ බව පමණක් සඳහන් කර ඇත. නැතහොත්, අංක 4—5, (පිටු 25 සිට) බලන්න. එහි ඇතුලත් කර තිබෙන්නේ හැනෝවර් සම්මේලනයේ කථාවල පුනරුච්ඡාරණයක් හා සමග බෙබෙල්ගේ යෝජනාවේ නැවත මුද්‍රණයක් පමණකි. ඒ හැර, වෙනත් කිසිම දෙයක් ඇති බවක් අපට නොපෙනේ. බර්න්ෂ්ටයින්ගේ අදහස් "විශේෂ ලිපියක්" මගින් විවරණය කිරීම සඳහා, එම අදහස් ගැන විවේචනයක් කිරීම නැවතත් (අංක 2—3 පරිදි) කල් දමා ඇත. (අංක 4—5, පිටු 33 හි) එන පහත සඳහන් කොටස කියවීමෙන් අපගේ කුතුහලය තවත් ඇවිස්සෙයි. "බෙබෙල් විස්තර කළ අදහස්වලට සම්මේලනයේ අති විශාල පිරිසකගේ සහයෝගය ඇත". ඊළඟට පේළි



මෙ පමණක්ද නොවේ. "රබෝචිය දියල" රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් "විවේචනය කිරීමේ" නිදහස ඉල්ලන බවත්, බර්න්ෂ්ටයින්වාදය ආරක්ෂා කරන බවත් අප දැක ඇත. අපගේ "විවේචකයින්ට" හා බර්න්ෂ්ටයින්වාදීන්ට අපෙන් අසාධාරණයක් වී ඇතැයි, එය ප්‍රත්‍යක්ෂ කරගෙන තිබෙන බව පෙනේ. එහෙත්, ඒ කුමණ අයටද? කවුද? කොහේදීද? කවදද? අසාධාරණය වූයේ කුමකින්ද? මේ ගැන වචනයක්වත් නැත. "රබෝචිය දියල" එකම රුසියානු විවේචකයෙක් හෝ එකම බර්න්ෂ්ටයින්වාදියෙක් හෝ නම් නොකරයි! අපට පිළිගැනීමට ඉතිරි වන්නේ විය හැකි ප්‍රස්තුතයන් දෙකකින් එකක් පමණකි. එක්කෝ අසාධාරණ සැලකිල්ල සිදුවූයේ අන් කාහට වත් නොව "රබෝචිය දියල" ටමය (එහි අංක 10 ලිපි දෙකෙහි සඳහන් වන්නේ "සර්යා" සහ "ඉස්ක්‍රා" අතින් "රබෝචිය දියල"ට විඳින්නට සිදු වූ අතවර ගැන පමණක් වන හෙයින්, මෙය සනාථ වේ). එය එසේනම්, තමන් බර්න්ෂ්ටයින්වාදයට කිසිම සහයෝගිතාවයක් නොදක්වන බව පුන පුනා තරයේ ප්‍රකාශ කරන, "රබෝචිය දියල"ට "ඉතාමත් අන්ත බර්න්ෂ්ටයින්වාදීන්" හා "විවේචනය කිරීමේ නිදහස" ආරක්ෂා කිරීමට යමක් නොකියා, තමන්ගේ ආරක්ෂාවට කරුණු කිව නොහැක්කේ මන්ද යන රහස පැහැදිලි කරන්නේ කෙසේද? එසේ නැතහොත්, අසාධාරණ ලෙස සලකා ඇත්තේ තුන්වැනි කෙනෙකුට ය. එසේ නම්, ඒ අය නම් නොකිරීමට ඇති හේතුව කුමක්ද?

මේ අනුව බලන කල "රබෝචිය දියල", (අප පහත පෙන්නුම් කර ඇති පරිදි) ආරම්භයේ පටන්ම ගෙනගිය හැංගිමුත්තන් ක්‍රීඩාව තවදුරටත් ගෙන යන බව, අපට පෙනේ. එපමණක් නොව, මෙතරම් පාරට්ටු කරන "විවේචනය කිරීමේ නිදහස" මෙසේ ප්‍රථම වරට ප්‍රායෝගික වශයෙන් ක්‍රියාත්මක කිරීම ගැන ද තවදුරටත් සටහන් කර ගනිමු. එයින් ඇත්ත වශයෙන්ම සිදුවූයේ, සියලු විවේචනවලින්ම වැලකී සිටීමේ තත්වයට එක් වරම පහත වැටීම පමණක් නොව, ස්වාධීනව අදහස් ප්‍රකාශ කිරීමෙන් මුළුමනින්ම වැලකී සිටීමේ තත්වයටද, ඇද වැටීම ය. අවනම්බුකාරී රෝගයක් මඟ හරින පරිද්දෙන් (ස්තරවේර්ගේ[133] උචිත පාඨයකි), රුසියානු බර්න්ෂ්ටයින්වාදය ගැන සඳහන් කිරීම මඟ හරින, "රබෝචිය දියල",

---

කීපයකට පසුව, "බර්න්ෂ්ටයින්ගේ අදහස්වලට පක්ෂව දවීද් කථා කළේය... කළ කී දේ සියල්ල අවසානයේ බලන විට බර්න්ෂ්ටයින් හා ඔහුගේ මිතුරන් (Sic!) පිහිටා සිටින්නේ පංති අරගලයේ පදනම මත යයි පෙන්වා දීමට ඔහු ප්‍රථමයෙන්ම උත්සාහ ගත්තේය..." මෙය 1899 දී ලියන ලද අතර, 1901 සැප්තැම්බරයේදී බෙබෙල් නිවැරදි යයි තමන් තවදුරටත් විශ්වාස නොකරන බව පෙන්වන "රබෝචිය දියල", දවීද්ගේ අදහස් තමන්ගේම අදහස් ලෙසට පුනාරුච්ඡාරණය කරයි!

මෙම රෝගයට ප්‍රතිකාර වශයෙන්, රෝගයේ ජර්මන් ප්‍රභේදයට නියමිත බෙහෙත් සීට්ටුව වචනයක් පාසා පිට පත් කර ගැනීමට යෝජනා කරයි! විවේචනය කිරීමේ නිදහස වෙනුවට, නින්දිත (ඊටත් එහා — මුග්ධ) අනුකරණය! නූතන ජාත්‍යන්තර අවස්ථාවාදයෙහි අන්තර්ගත, ඒකීයම වූ සමාජ-දේශපාලන සන්ධාරය, ජාතික විශේෂත්වයන් අනුව විවිධාකාරයෙන් අනාවරණය වේ. එක් රටක අවස්ථාවාදීහු, බොහෝ කලකම සිට වෙනම ධජයක් යටතේ පෙරට ආහ. වෙනත් රටක, ඔවුහු න්‍යාය නොතකා හැර, උන්නතිකාමී-සමාජවාදීන්ගේ ප්‍රතිපත්තිය අනුගමනය කළහ. තුන්වැනි රටක, විප්ලවවාදී පක්ෂයේ සාමාජිකයන් සමහර දෙනෙක්, අවස්ථාවාදීන්ගේ කඳවුරට පැන ගොස් සිටින අතර, ඔවුන් ස්වකීය අරමුණු ඉටු කර ගැනීමට උත්සාහ කරන්නේ, ප්‍රතිපත්ති හා නව උපක්‍රම සම්බන්ධයෙන් කරන විවෘත අරගලයක් මගින් නොව, ක්‍රමානුකූල, අදෘශ්‍යමාන සහ දඬුවම් ලැබීමට වරදක් යයි කිව නොහැකි ආකාරයට, පක්ෂය දූෂණය කිරීමෙනි. තවත් හතරවැනි රටක, එ ලෙසම පැන ගියවුන්, දේශපාලන වහල්භාවයේ අඳුරෙහි ලගිමින්, එම ක්‍රම ම අනුගමනය කරන්නේ, ඉතාමත් අමුතුම තාලයකට, ''නීත්‍යානුකූල'' සහ ''නීති විරෝධී'' වැඩ ඒකාබද්ධ කරමිනි. මේ ආදී වශයෙනි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එක්සත් කිරීමට කොන්දේසියක් වශයෙන් ඉදිරිපත් කෙරෙන විවේචනය කිරීමේ හා බර්න්ෂ්ටයින්වාදයේ නිදහස ගැන කථා කරන කල්හි, ඒ හා සමගම, රුසියානු බර්න්ෂ්ටයින්වාදය ප්‍රකට වන්නේ කුමණ නියායෙන්ද යන්නත්, එයින් ලැබී ඇති විශේෂ ඵල ප්‍රයෝජන මොනවාද යන්නත්, ගැන කථා නොකර සිටීම යනු කිසිවක් නොකීමේ අරමුණ ඇතිව කථා කිරීම හා සමානය.

''රබෝචිය දියල'' කීමට අකැමති වූ, (නැතහොත්, සමහර විට, එයට වටහා ගත නොහැකි වූ), දෙය වචන කීපයකින් හෝ කීමට උත්සාහ කරන්නෙමු.

### ඇ) රුසියාවෙහි විවේචනය

අපගේ පරීක්ෂණයට භාජනය වන කාරණය හා සම්බන්ධයෙන්, රුසියාවේ දක්නට ලැබෙන ප්‍රධාන විශේෂ අංග ලක්ෂණය නම්, එක් අතකින් සාංසිද්ධික කම්කරු ව්‍යාපාරයේ ආරම්භයත් හා අනිත් අතින්, ප්‍රගතිශීලී මහජන මතය මාක්ස්වාදය වෙතට නැඹුරුවීමත් හා සමගම, එකිනෙකට නොගැලපෙන බව මැනවින් පෙනෙන කොටස්, පොදු සතුරාට (යල් පිනූ සමාජ හා දේශපාලන ලෝකාවබෝධයට) විරුද්ධව සටන් කිරීම



පිණිස, එකම ධජයක් යටතේ ඒකාබද්ධ වීම සලකුණු වීම ය. අප සඳහන් කරන්නේ, ''නීත්‍යානුකූල මාක්ස්වාදය බලවත්ව තිබූ කාලය ගැන ය. සාමාන්‍ය වශයෙන් කියතොත්, මෙය අසූ ගණන්වල, නැතහොත්, අනූ ගණන්වල ආරම්භයේදී සිදුවිය හැකි දෙයක් ලෙස කිසිවෙක් විශ්වාස නොගන්නා තරම්, හැම අතින්ම කුතුහලය දනවන, ආශ්චර්යමත් දෙයක් විය. ඒකාධිපති පාලනයක් පවතින්නා වූද, පුවත්පත් සම්පූර්ණයෙන්ම වහල් තත්වයේ තිබුණා වූද, පැන නගින ඉතාමත් සිහිනි දේශපාලන අප්‍රසන්නතාවය වුවද වධ බන්ධනයෙන් මැඩුනා වූද, දරුණු දේශපාලන ප්‍රතික්‍රියා බල පැවැත්වූ, රටක, ඊසොප්ගේ මෙන් වූ භාෂා විලාසයකින් හෝ විප්ලවවාදී මාක්ස්වාදයේ න්‍යාය, පාලනයට යටත් සාහිත්‍ය තුළට බලෙන් කඩා වැදී, ''උනන්දුවක් ඇති'' සියල්ලන්ම එය වටහා ගන්නා තත්වයක් මතුවිය. (විප්ලවවාදී) ''නරෝද්නය වෝලියා'' සංවිධානයේ න්‍යාය පමණක් භයානක යයි සැලකීමටත්, එහි අභ්‍යන්තර පරිණාමය නොදුටු නිසා, ඊට විරුද්ධව කෙරෙන ඕනෑම විවේචනයක් ගැන උදව් වීමටත්, ආණ්ඩුව පුරුදුව සිටියේය. සිදු වී තිබෙන දෙය ආණ්ඩුවට අවබෝධ වීමට පෙර, මෙහෙයා ගැනීමට අපහසු පුවත් පාලන හා පොලිස් හේවා හමුදාව පිටට අලුත් සතුරෙක් පැන ඇති බව ඔවුන් දැන ගැනීමට පෙර (අපගේ රුසියානු සම්මතය අනුව), බොහෝ කලක් ගත විය. ඒ අතර වාරයේ මාක්ස්වාදී පොත්, වැල නොකැඩී පළ කෙරුනි. මාක්ස්වාදී සඟරා සහ පුවත්පත් ආරම්භ විය. සැම කෙනෙක්ම පාහේ මාක්ස්වාදියෙක් වූයේය. මාක්ස්වාදීන්හට අධික ලෙස ප්‍රශංසා පිරිනැමිනි. මාක්ස්වාදී පොත අසාමාන්‍ය තරම් පහසුවෙන් අලෙවි කළ හැකි වීම ගැන ප්‍රකාශකයෝ උද්දාම වූහ. එනිසා මෙම වාතාවරණයට හසුවුනු මාක්ස්වාදී කෝඩු කාරයන් අතර, ''හිස උදුම්මාගත් ලේඛකයන්''[134] එක් කෙනෙකුට වඩා සිටීම ඉතාමත් ස්වභාවික දෙයකි...

මෙම කාල පරිච්ඡේදය ගත වී අතීතයට එක්වුනු දෙයක් ලෙසට සලකා, දැන් අපට ඒ ගැන සන්සුන් ලෙස කථා කළ හැක. අපගේ සාහිත්‍යය මතුයෙහි මාක්ස්වාදය පුබුදුවී ආ ඒ කෙටි කාල පරිච්ඡේදය උදා වූයේ, සීමාන්තික හා ඉතාමත් මැදහත් අදහස් දරන අය අතර ඇති වූ සන්ධානයක් හේතු කොට ගෙන බව නො රහසකි. මෙයින් පසු කී අය, ඇත්ත වශයෙන්ම ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදීහු වූහ. (ඔවුන්ගේ පසු කාලීන ''විවේචනාත්මක'' සංවර්ධනයෙන් ඉතා පැහැදිලිව ඔප්පු වූ) මෙම කාරණය, එම ''සන්ධානය'' පවතින සමයේ වුවද, සමහරකුගේ කල්පනාවට නැගුනි*.

* මෙම සඳහන කර ඇත්තේ, ස්ත්‍රුවේට විරුද්ධව එල්ල කර, කේ. තුලින් විසින් ලියන ලද, ලිපියක් ගැනය. එම ලිපිය පදනම් වූයේ

එසේ වූ කල්හි, පසුව ඇති වූ ''අවුල'' සම්බන්ධයෙන් වගකිව යුත්තෝ, අනාගත ''විවේචකයන්'' හා සමග සන්ධානයට එළඹුනු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු නොවෙතිද? මෙම ප්‍රශ්නය ඉදිරිපත් කර, ඊට ඔව් යනුවෙන් පිළිතුරුද දෙන හඬක්, ඉතා අකම්පාශීලී අදහස් දරන අය වෙතින් සමහර විට ඇසේ. එහෙත් ඔවුන් සම්පූර්ණයෙන්ම වැරදිය. විශ්වාස නොකට යුතු අය සමග වුවද, තාවකාලික සන්ධානයකට එළඹීමට බිය වන්නේ, තමන් ගැනම විශ්වාසයක් නැත්තවුන් පමණකි. එවැනි සන්ධානයකට නොඑළඹ පැවතෙනු හැකි එකම දේශපාලන පක්ෂයක්වත්, නොමැත. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, නීත්‍යානුකූල මාක්ස්වාදීන් හා සමග ඇති කරගත් සම්බන්ධය, ඊට ආවේණික ස්වභාවය අනුව, ඔවුන්ගේ ප්‍රථම තථ්‍ය දේශපාලන සන්ධානය වේ. මෙම සන්ධානයට ස්තුති වන්නට, නරෝද්නික්වාදය විශ්මයාකාර සීඝ්‍රතාවයකින් පරාජයට පත් කළ හැකි විය. එමෙන්ම මාක්ස්වාදී අදහසද, (දියාරු කළ ආකාරයෙන් හෝ) පුළුල් ලෙස පැතිරී ගියේය. එපමණක් නොව, එම සන්ධානය ඇති කර ගන්නා ලද්දේ, කිසිම කොන්දේසියකින් තොරව නොවේ. ''රුසියාවේ ආර්ථික සංවර්ධනය පිළිබඳ ප්‍රශ්නය ගැන තොරතුරු'' නැමති පොත බලධරයින් විසින් ගිනි බත් කරනු ලැබීමෙන් ඒ බව ඔප්පු වේ. නීත්‍යානුකූල මාක්ස්වාදීන් සමග පැවති සාහිත්‍ය පිළිබඳ එකඟත්වය, දේශපාලන සන්ධානයකට සැසඳිය හැකි නම්, එම පොත දේශපාලන ගිවිසුමක් හා සමාන විය.

භේදය ඇති වූයේ ''මිත්‍රයන්'' ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදීන් වීමේ හේතුවෙන් නොවේ. ඊට ප්‍රතිකූලව, රුසියාවේ පවතින තත්වය අනුව, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් ඉදිරියට මතු වී එන නිසා, ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදී උපනතියෙහි නියෝජිතයෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට සුදුසු, එහි ස්වාභාවික මිත්‍රයෝ වෙති. එසේ වුවද, එවැනි සන්ධානයක් ඇති වීමට නම්, කම්කරු පංතියේ යහපත කෙළින්ම ධනපති පංතියේ යහපතට ප්‍රතිවිරුද්ධ වන බව, කම්කරු පංතියට හෙළිදරව් කිරීමේ සම්පූර්ණ අවකාශය සමාජවාදීන්හට තිබීම, ඉටු විය යුතු අවශ්‍යම කොන්දේසියකි. එහෙත්, නීත්‍යානුකූල මාක්ස්වාදීන් වැඩි දෙනෙකුගේ පක්ෂපාතිත්වය ලත්, බර්න්ෂ්ටයින්වාදීහු සහ ''විවේචනාත්මක'' උපනතිය, සමාජවාදීන්ට මෙම අයිතිය දීම ප්‍රතික්ෂේප කළ අතරම, සමාජවාදය දියාරු කිරීමෙන්ද, සමාජ විප්ලවය සහ නිර්ධන පංති

---

''ධනේශ්වර සාහිත්‍ය තුළ පෙනෙන මාක්ස්වාදයේ පිළිබිඹුව'' යන රචනය මතය. පෙරවදන බලන්න[135] (1907 සංස්කරණයට කර්තෘගේ සටහන — සංස්කාරක)



ආඥාදායකත්වය පිළිබඳ අදහස අඥාන එකක් බව ප්‍රකාශ කිරීමෙන්ද, කම්කරු පංති ව්‍යාපාරය සහ පංති අරගලය පටු වෘත්තීය සමිතිවාදය බවටත්, සුළු සහ ක්‍රමික ප්‍රතිසංස්කරණ සඳහා වූ ''යථාර්ථවාදී'' අරගලයක් බවටත්, පත්වන සේ එය බාල කිරීමෙන්ද, සමාජ විඥානය දුර්වල කිරීමෙහි යෙදුනෝය. මෙයින් වූයේ, නිදහස සඳහා සමාජවාදයට ඇති අයිතිය ධනේශ්වර පංතිය විසින් ප්‍රතික්ෂේප කරනු ලැබීමකි. එනිසා, එය සමාජවාදයේ පැවැත්මට ඇති අයිතිය ප්‍රතික්ෂේප කිරීමක් විය. ප්‍රායෝගික වශයෙන් ගත් කල, මෙහි අර්ථය වූයේ, නැගී එන කම්කරු පංති ව්‍යාපාරය ලිබරල්වාදීන්ගේ වලිගයක් බවට හරවා ගැනීමට යත්න දැරූ බවයි.

එවැනි තත්වයක් යටතේ, භේදය ස්වාභාවික වශයෙන්ම අවශ්‍ය දෙයක් විය. එහෙත් මෙම භේදයේ නිරායාස ප්‍රතිඵලයක් ලෙසට, ඉතා පහසුවෙන් ලබා ගත හැකි හා ඉතා පුළුල් ලෙස පැතිරී ගිය, නීත්‍යානුකූල පොත පත කෙරෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඈත් වීමට හේතුවීම තුළින් රුසියාවේ ''අමුතු'' අංග ලක්ෂණය ප්‍රකාශිත විය. ''විවේචනයේ'' ධජය ඔසවා ගත් ''හිටපු මාක්ස්වාදීහු'', මාක්ස්වාදය ''බිඳහෙළීමේ'' ඒකාධිකාරය කර ගහගෙන, මෙම සාහිත්‍යය තුළ කඳවුරු බැඳ ගත්හ. එතැන් පටන්, ''සාධර්මිකතා විරෝධය'' හා ''විවේචනය කිරීමේ නිදහස දිනේවා'' යන වැනි චිත්තාකර්ෂණීය (දැනට ''රබෝචිය දියල'' ප්‍රතිරාවය කරන) වදන්, මෝස්තරයක් බඳුව ව්‍යවහාර වන්නට පටන් ගති. කීර්තිමත් (හෙරෝස්ට්‍රාටීස් අර්ථයෙන් කීර්තිමත්) බර්න්ෂ්ටයින්ගේ කෘතියේ[136] රුසියානු සංස්කරණ තුනක්ම පළ කිරීමෙන්ද, බර්න්ෂ්ටයින්ගේ, ප්‍රකපෝවිච් මහතාගේ හා වෙනත් අයගේ කෘති සුබාතව් විසින් (''ඉස්ක්‍රා'' අංක 10) නිර්දේශ කරනු ලැබීමෙන්ද පෙනෙන්නේ, පුවත් පාලකයාත්, පොලිස්කාරයාත්, මෙම මොස්තරයට විරුද්ධ වීමෙහි සමත් නොවූ බවයි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පිට ඉතාමත් භාරදූර කර්තව්‍යයක්, එනම්, නව උපනතියට විරුද්ධව සටන් කිරීමේ කර්තව්‍යය පැවරුනි. සම්පූර්ණයෙන්ම බාහිර වූ බාධක නිසා, මෙම කර්තව්‍යය, නො ඇදහිය හැකි තරම් තව තවත් දුෂ්කර එකක් බවට පත් විය. මෙම උපනතිය පොත පතට පමණක් සීමා වූයේද නැත. ''විවේචනය'' වෙතට හැරීමත් හා සමගම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ක්‍රියාකාරක වරුන් අතර ''ආර්ථිකවාදයේ'' මෝහනයක්ද පැතිර ගියේය.

නීත්‍යානුකූල විවේචනය සහ නීති විරෝධී ආර්ථිකවාදය අතර සම්බන්ධය හා අන්‍යෝන්‍ය ආධාරය පැන නැංග හා වර්ධනය වූ ආකාරයම පවා, කුතුහලය දනවන මාතෘකාවකි. එය විශේෂ ලිපියක මාතෘකාවකට සැහෙන්නකි. මෙම සම්බන්ධය නිසැක වශයෙන්ම පැවති බව පමණක් සඳහන් කිරීම මෙහිදී ප්‍රමාණවත් ය. "Credo"* ලියවිල්ල විය යුතු පරිද්දෙන්ම,

9—336

ඉමහත් අප කීර්තියට පාත්‍ර වූයේ, එය සම්බන්ධය නොවලහා ගෙන හැර දක්වූ නිසා හා ඉන් ''ආර්ථිකවාදයේ'' මූලික දේශපාලන ප්‍රවණතාවය එළියට දැමූ නිසා මිස, අන් කිසි හේතුවක් නිසා නොවේ. කම්කරුවන් ආර්ථික අරගලය ගෙන යා යුතු බවත්, (වෘත්තීය සමිති අරගලයට කම්කරු පංති දේශපාලනයත් නියත වශයෙන්ම අයත් වන බැවින්, මෙහිදී වෘත්තීය සමිති අරගලය යයි කියන ලද නම් වඩාත් නිවැරදි වන්නට තිබුණි) දේශපාලන ''අරගලය'' සඳහා මාක්ස්වාදී බුද්ධිමතුන් ලිබරල් වාදීන් සමග ඒකාබද්ධ විය යුතු බවත්, එම ලියවිල්ලෙහි සඳහන් ය. ඒ අනුව බලන කල ''ජනතාව අතර'' වෘත්තීය සමිති වැඩ කිරීම යන්නෙන්, මෙම කර්තව්‍යයෙහි ප්‍රථම කොටස ඉටු කිරීමත්, නීත්‍යානුකූල විවේචනය යන්නෙන් එහි දෙවන කොටස ඉටු කිරීමත්, අදහස් කෙරිනි. ආර්ථිකවාදයට විරුද්ධව කරන සටනේදී මෙම ලියවිල්ල කොතරම් අගනේදැයි කිවහොත් "Credo" ලියවිල්ල නොතිබිණි නම් එකක් ගොතා ගැනීම වුවද වටිනා කටයුත්තක් වන්නට තිබුණි.

"Credo" ලියවිල්ල ගොතන ලද්දක් නොවේ. එහෙත්, එය පළ කරන ලද්දේ, එහි කර්තෘ වරුන්ගේ කැමැත්ත නොමැතිවය. සමහර විට ඔවුන්ගේ අකැමැත්ත පිට විය හැකිය. කෙසේ හෝ වේවා, කථිකයාගේ අදහස්වල සම්පිණ්ඩණයක් පමණක් බෙදා හැර, එයට "Credo" යන නම තබා, ඊට විරෝධය ප්‍රකාශයක් සමග පුවත්පත්වල පළ කිරීම පවා කරන ලදැයි කියන පැමිණිලි, මෙම නව ''වැඩ පිළිවෙළ''** එළියට ඇද දැමීමට සහභාගි වුනු මෙම කෘතියේ කර්තෘ අසා ඇත! අප මේ සිද්ධිය ගැන සඳහන් කරන්නේ, අපගේ ''ආර්ථිකවාදය'' කෙරෙහි දක්නට ලැබෙන ඉතාමත් අපූරු අංග ලක්ෂණය වන, ප්‍රසිද්ධියට ඇති බිය එයින් හෙළිදරව් වන නිසාය. මෙම අංග ලක්ෂණය "Credo" ලියවිල්ලෙහි කර්තෘ වරුන් කෙරෙහි පමණක් නොව, ආර්ථිකවාදීන් කෙරෙහි පොදුවේ දක්නට

---

* විශ්වාසය දක්වන සංකේතයකි. වැඩ පිළිවෙළ හා දෘෂ්ටිය ප්‍රකාශ කළ ලියවිල්ලකි — සංස්කාරක.

** මෙම සඳහන කර තිබෙන "Credo" ලියවිල්ල සම්බන්ධයෙන් දහහත් දෙනා පළකළ විරෝධය ගැනය. ප්‍රකාශය කෙටුම්පත් කිරීමට මෙම කෘතියේ කර්තෘ (1899 අවසානයේදී) සහභාගි විය. විරෝධය ප්‍රකාශය සහ "Credo" ලියවිල්ල 1900 වසන්තයේදී විදේශයෙහි පළ කරන ලදී[137]. "Credo" ලියවිල්ලේ කර්තෘ වූයේ මැඩම් කුස්කෝවා බවත්, එවකට විදේශ ගත ආර්ථිකවාදීන් අතුරෙන්, ප්‍රකපෝවිච් මහතා, ඉතාමත් ප්‍රමුඛයෙකු වූ බවත්, ඈ ලියූ (මාසිතන හැටියට ''බිලෝය''[138] පත්‍රයේ) ලිපියකින් අනාවරණය වී ඇත. (1907 සංස්කරණයට කර්තෘගේ සටහන — සංස්කාරක)



ලැබෙන්නකි. ඉතාමත් සෘජු ලෙස හා අවංක ලෙස කථා කරන ආර්ථිකවාදයේ පක්ෂවාදියා වන ''රබෝචය මිස්ල්''[139] පත්‍රයද ("Vademecum"[140] ලිපි සංග්‍රහයෙහි ''ආර්ථිකවාදී'' ලියවිලි පළ කිරීම ගැන කෝපාවිෂ්ට වුණු) ''රබෝචිය දියල'' ද, කීව් කාරක සභාවේ "Profession de foi"[141] නැමති පත්‍රිකාව හා එයට විරුද්ධව ලියන ලද එහි ප්‍රතික්ෂේපය* පළ කිරීමට අවුරුදු දෙකකට පෙර ඉඩ නොදුන් එම කාරක සභාවද, ''ආර්ථිකවාදයේ'' වෙනත් නියෝජිතයන් රාශියක්ද කෙරෙන් එම ලක්ෂණය අනාවරණය විය.

මෙසේ විවේචනයට බිය වීමට හේතුව හුදු කපටි කමම නොවේ. (සමහර විට කපටි කමද යොදා ගනු ලබන බවට සැකයක් නැත. නව උපනතියේ ලාබාල හා තවමත් දුර්වල ළපැටියන් ප්‍රතිපාක්ෂිකයින්ගේ ප්‍රහාරයට ලක් කිරීම දුර දර්ශී නොවේ!). ''ආර්ථිකවාදීන්'' වැඩි දෙනා සැබැවින්ම, න්‍යායික තර්ක විතර්ක, කණ්ඩායම්වාදී මත භේද, පුළුල් දේශපාලන ප්‍රශ්න, විප්ලවවාදීන් සංවිධානය කිරීම සඳහා සැලසුම්, යනාදිය, දෙස බලන්නේ (''ආර්ථිකවාදයට'' ආවේනික ස්වභාවය අනුව, විය යුතු පරිද්දෙන්ම) සරොසිනි. ''ඒ සියල්ලම විදේශවල සිටින අයට භාර දෙන්න!''යි තරමක සසංගත ස්වභාවයක් දක්වන ''ආර්ථිකවාදියෙක්'' දිනක් මට කීය. එයින් ප්‍රකාශ වූයේ ඉතාමත් පුළුල් ලෙස පැතිර තිබෙන (නැවතත් වෘත්තීය සමිතිවාදීම) අදහසකි: අපගේ සැලකිල්ල යොමු වන්නේ මෙහි තිබෙන කම්කරු පංති ව්‍යාපාරය ගැනය; මෙහි වන අපගේ ප්‍රදේශවල කම්කරු සංවිධාන ගැන ය. අන් සියල්ලම න්‍යායාචාරීන්ගේ නිර්මාන මාත්‍රයන් ය. ''රබෝචිය දියල'' අංක 10 සමග එක්ව ''ඉස්ක්‍රා''අංක 12 ලිපියෙහි කර්තෘවරු ප්‍රකාශ කළ පරිදි''න්‍යාය අභිවාදනය කිරීමක්'' ය.

රුසියානු ''විවේචනයේ'' සහ රුසියානු බර්න්ෂ්ටයින්වාදයේ විශේෂ අංග ලක්ෂණ එසේ වූ කල්හි, වචන මාත්‍රයෙන් පමණක් නොව, ක්‍රියාවෙන් අවස්ථාවාදයට විරුද්ධත්වය දක්වීමට උත්සාහ කරන අපගේ කර්තව්‍යය විය යුත්තේ කුමක්ද? යන ප්‍රශ්නය දැන් මතු වේ. ප්‍රථමයෙන්ම, නීත්‍යානුකූල මාක්ස්වාදය කාලයේ හරිහැටි ආරම්භ වී නොතිබුණු, රහසිගත ලෙස වැඩ කරමින් සිටි සහෝදරවරුන්ගේ කර පිට අළුතෙන් පැවරී තිබුණු, න්‍යායික කටයුතු යළිත් ආරම්භ කළ යුතුව තිබුණි. එවැනි කාර්යයක් ඉටු නොකරන ලද විට, කිසිසේත් ව්‍යාපාරයේ සංවර්ධනයක් ඇති විය හැකිව නොතිබුණි. දෙවැනිව, සැලකිය යුතු පරිමාණයකින් ජනතාව-

---

* අපට ලැබී තිබෙන තොරතුරු අනුව, කීව් කාරක සභාවේ සාමාජිකත්වය ඉන් පසුව වෙනස් වී ඇත.

ගේ සිත් විකෘති කිරීමෙහි යෙදුනු නීත්‍යානුකූල "විවේචනයට" විරුද්ධව ක්‍රියාශීලී ලෙස සටන් කළ යුතුව තිබුණි. තුන්වැනිව, දැන හෝ නොදැන, අපගේ වැඩ පිළිවෙළ හා උපක්‍රම කෙළෙසීමට දරන ප්‍රයත්න හෙළිදරව් කරමින්ද, අවුල් කරමින්ද ක්‍රියාත්මක ව්‍යාපාරය තුළ වූ අවුල් සහගත භාවයට හා අනිස්ථිර භාවයට විරුද්ධව ක්‍රියාශීලී ලෙස සටන් කළ යුතුව තිබුණි.

"රබෝචිය දියල" සඟරාව මෙයින් එකකුදු නොකළ බව කවුරුත් දනිති. මෙම සුප්‍රසිද්ධ කාරණය ගැන විවිධ අංශවලින් සලකා බලා කරුණු දක්වීමේ අවස්ථාවක් අපට මතුයෙහි ලැබෙනු ඇත. එසේ වුවද, "විවේචනය කිරීමේ නිදහස" ඉල්ලීමත්, අපගේ දේශීය විවේචනය හා රුසියානු "ආර්ථිකවාදයේ" විශේෂත්වයනුත්, අතර පවතින බරපතල ප්‍රතිවිරෝධය පමණක් මෙහිදී, පෙන්වා දෙනු කැමැත්තෙමු. ඒ සඳහා "රබෝචිය දියල" පත්‍රයේ අදහස අනුමත කරමින් "විදේශ ගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය" සම්මත කළ යෝජනාවෙහි වැකිය යම්තමින් කියවීම පමණක් ප්‍රමාණවත් වේ.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වැඩිදුර දෘෂ්ටිමය සංවර්ධනය උදෙසා, මෙම න්‍යායෙහි පංති සහ විප්ලවීය ස්වභාවයට පටහැනි නොවන තාක් දුරට, පක්ෂ පත පොත මගින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී න්‍යාය විවේචනය කිරීමේ නිදහස පරම අවශ්‍යතාවයක් ලෙසට අපි පිළිගන්නෙමු ("සම්මේලන දෙකක්" පිටු 10).

මෙම පෙළඹීමට හේතුව? මෙම යෝජනාවේ "මුල් කොටස ලූබෙක් සම්මේලනයේදී බර්න්ෂ්ටයින් ගැන අනුමත කළ යෝජනාවට අනුරූපී ය" ... මෙම පිටපත් කිරීම හේතු කොට ගෙන ඔවුන්ගේ testimonium paupertatis (අසරණභාවය කොතරම් හොඳින් ස්ඵුට වන්නේද යනු) "සංගම්වාදීන්"ගේ නිවට ආත්මය නිසා ඔවුනට නොපෙනුනි!.. "එහෙත්, ... ලූබෙක් සම්මේලනයටත් වඩා බොහෝ දුරට මෙහි දෙවන කොටසින් විවේචනය කිරීමේ නිදහස සීමා කෙරේ."

එසේ නම්, "විදේශ ගත සංගමයේ" යෝජනාව එල්ල කර තිබෙන්නේ රුසියානු බර්න්ෂ්ටයින්වාදීන්ට විරුද්ධවද? නො එසේ නම්, ලූබෙක් යෝජනාව ගැන සඳහන් කිරීම අන්ත මෝඩ කමකි! ඒ අතරම, එම යෝජනාවෙන් "විවේචනය කිරීමේ නිදහස සීමා කෙරුණු" බව කීම ඇත්තක් නොවේ. ජර්මානුන්, ඔවුන්ගේ හැනෝවර් යෝජනාව සම්මත කර ගැනීමේදී, කරුණු එකින් එක ගෙන, හරියටම බර්න්ෂ්ටයින් යෝජනා කළ සංශෝධන ඉවත් කළ අතර, ඔවුන්ගේ ලූබෙක් යෝජනාවෙන්, බර්න්ෂ්ටයින් පෞද්ගලික නමින් සඳහන් කර ඔහුට අවවාදයක් කළහ. කෙසේ



හෝ වේවා, අපගේ නිදහස් අනුකරණ කාරයන්, රුසියානු "විවේචනය" හෝ රුසියානු "ආර්ථිකවාදය" විද්‍යාමාන වීමේ එකද අවස්ථාවක් හෝ ගැන එකම සඳහනක් වත් කරන්නේ නැත. එවැනි සඳහනක් නොකර තිබීම නිසා, න්‍යායෙහි පංති හා විප්ලවවාදී ස්වභාවය ගැන යම්තමින් පමණක් සඳහන් කිරීමෙන් සිදු වන්නේ වැරදි අර්ථ නිරූපනයන් දීමට පුළුල් ඉඩක් සැපයීම ය. "ඊනියා ආර්ථිකවාදය" හා අවස්ථාවාදය යන දෙකම එකක් වශයෙන් හඳුනා ගැනීමට "සංගමය" විශේෂයෙන්ම නොකැමති වීම නිසා එසේ වන්නේ ය ("සම්මේලන දෙකක්" පිටු 8, ඡේදය 1). එහෙත්, මේ සියල්ල ගැන සඳහන් කළේ අමතර වශයෙනි. ප්‍රධාන කාරණය වන්නේ, රුසියාවේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ ජර්මනියේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගැන අවස්ථාවාදීන් ගන්නා වූ ස්ථාවරයන් එකිනෙකට හාත්පසින්ම වෙනස් වීමය. අප දන්නා ලෙසට, ජර්මනියේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු තිබෙන දෙය රැක ගැනීමට, එනම්, කවුරුත් දන්නා සහ දශක ගණනාවක අත්දැකීමෙන් සියලු විස්තර පැහැදිලි වී තිබෙන වැඩ පිළිවෙළ හා උපක්‍රම රැක ගැනීමට කැමති වෙති. "විවේචකයන්" වෙනස් කිරීම් අපේක්ෂා කරන්නේ වී නමුත්, මෙම විවේචකයන් නියෝජනය කරන්නේ ක්ෂුද්‍ර ප්‍රමාණ අඩුතරයක් වන නිසාත්, ඔවුන් ස්වකීය සංශෝධනවාදී ප්‍රයත්න දරන්නේ ඉතාමත් බියගුළු ස්වභාවයෙන් වන නිසාත්, ඔවුන්ගේ "නව නිපැයුම්" උද්යෝග රහිතව ප්‍රතික්ෂේප කිරීමෙන් බහුතරය අරමුණු කරන්නේ කුමක්ද යන්න අයෙකුට වටහා ගත හැකි ය. එසේ වුවද, රුසියාවෙහි තිබෙන දෙය රැක ගැනීමට කැමති වන්නේ විවේචකයින් හා "ආර්ථිකවාදීන්"ම ය. "විවේචකයින්" මාක්ස්වාදීන් ලෙස පිළිගැනීමත්, මෙතෙක් ඔවුන් පූර්ණ ලෙස භුක්ති විඳි "විවේචනය කිරීමේ නිදහස" සහතික කිරීමත්, ඉටු විය යුතු යයි ඔවුහු බලාපොරොත්තු වෙති. (ඔවුන් එම නිදහස භුක්ති වින්දේ, ඔවුන් කිසි කලෙකත්, කිසිම වර්ගයක හෝ පක්ෂ බැඳුම් නොපිළිගත් හෙයිනි*.

---

* රුසියාව සහ ජර්මනිය අතර මූලික වෙනස පෙන්නුම් කරන කරුණ වූ ප්‍රසිද්ධ පක්ෂ බැඳීම් හා පක්ෂ සම්ප්‍රදයයන් නොතිබීම, අන්ධානුකරණය නිසා ඇති විය හැකි අන්තරාය දනවන අවවාදයක් ලෙසින් සියලුම මාක්ස්වාදී බුද්ධිමතුන්ට වැටහී යා යුතුව තිබුණි. එහෙත්, රුසියාවේ "විවේචනය කිරීමේ නිදහස" කොතෙක් දුර යන්නේදැයි පැහැදිලි කිරීමට නිදර්ශනයක් මෙන්න. රුසියානු විවේචක බුල්ගාකොව් මහතා ඕස්ත්‍රියානු විවේචක හෙර්ත්ස් වෙත පහත සඳහන් දෝෂාරෝපනය කරයි. "හෙර්ත්ස්ගේ නිගමනයන් ස්වාධීන වුවද, මෙම කාරණය ගැන (සමූපකාර සමිති ගැන) ඔහු පමණට වඩා දැඩි ලෙස පක්ෂයේ අදහස් කෙරෙහි එල්බ සිටින බව පෙනේ. ඔහු විස්තර කරුණු සම්බන්ධයෙන් එය සමග එකඟ නොවුවත්, පොදු ප්‍රතිපත්තිය ඉවත ලීමට තරම් ශක්තියක් ඔහුට නැත" ("ධනේ-

එපමණක් නොව, අනුශාසනා මගින් හෝ විවේචනය කිරීමේ නිදහස "සීමා කිරීමට" පොදුවේ පිළිගත් පක්ෂ මණ්ඩලයක් අපට තිබුණේ නැත). "වර්තමාන ව්‍යාපාරයේ ස්වෛරී භාවය" පිළිගන්නා ලෙස "ආර්ථිකවාදීහු" විප්ලවවාදීන්ට කියති ("රබෝචිය දියල" අංක 10, පිටු 25). එයින් කියන්නේ පවත්නා දෙයෙහි "සුජාත භාවය" පිළිගන්නා ලෙස ය. "ද්‍රව්‍යමය මූලිකාංගයන්ගේ හා ද්‍රව්‍යමය වටපිටාවෙහි අන්තර් ක්‍රියාකාරිත්වය විසින් නිර්ණය කෙරෙන" මාර්ගයෙන් ව්‍යාපාරය "ඉවතට හැරවීමට" උත්සාහ නොදරන ලෙස ඔවුහු දෘෂ්ටිවාදීන්ට කියති ("ඉස්ක්‍රා" අංක 12, "ලිපිය"). "වර්තමාන තත්වය යටතේ කම්කරුවන්ට යෙදෙනු හැකි අරගලය" බලාපොරොත්තු වන අරගලය වශයෙන්ද, "වර්තමාන කාලය තුළ ඔවුන් ඇත්ත වශයෙන්ම යෙදී සිටින අරගලය" කළ හැකි එකම අරගලය වශයෙන්ද, පිළිගැන්වීමට ඔවුනට උවමනා වී තිබේ ("රබෝචය මිස්ල්" පත්‍රයේ විශේෂ අතිරේකය, පිටුව 14). ඊට ප්‍රතිකූල වශයෙන්, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි, සාංසිද්ධිකතාවය, එනම්, "වර්තමාන අවස්ථාවේ" පවත්නා දෙය හමුවේ වැඳ වැටීම ගැන නොසතුටු වෙමු. මෑත අවුරුදුවල බල පැවති උපක්‍රම වෙනස් කරන ලෙස අපි ඉල්ලමු. "අප එක්සත් වීමට පෙර, අප එක්සත් වනු පිණිස, ප්‍රථමයෙන්ම ස්ථිර හා නිශ්චිත සීමා රේඛාවන් සලකුණු කළ යුතු" ("ඉස්ක්‍රා" පළ කිරීම ගැන නිවේදනයෙන්) වන බව අපි ප්‍රකාශ කරමු. කොටින් කියතොත් ජර්මානුන් පවත්නා දෙය සඳහා පෙනී සිටිමින් වෙනස් වීම් ප්‍රතික්ෂේප කරති. පවත්නා දෙය වෙනස් කරන ලෙස ඉල්ලන අපි, එයට සේවය කිරීම හා එය සමග එකඟත්වයක් ඇති කර ගැනීම ප්‍රතික්ෂේප කරමු.

ජර්මන් යෝජනා "නිදහස්" ලෙස පිටපත් කර ගන්නා අපගේ අය මෙම "සුළු" වෙනස දැකීමෙහි අසමත් වූහ.

ඇ) න්‍යායික අරගලයේ වැදගත් කම ගැන එංගල්ස්ගෙන්

"රබෝචිය දියල" සඟරාවෙහි "විවේචනය කිරීමේ" නිදහසේ අසිරිමත් වීරයන් ආයුධ සන්නද්ධව නැගී සිටින්නේ, "පොතේ ගුරුවාදය",

ශ්වරවාදය හා කෘෂිකර්මය" වෙළුම 11, පිටු 287). සම්පූර්ණයෙන් දේශපාලන වහල් භාවයේ ගිලී තිබෙන රටක, එහි වැසියන් දහසකින් නවසිය අනූ නව දෙනෙක්ම, දේශපාලන දසත්වයෙන් ඇට මිදුළු දක්වා දූෂණය වී, පක්ෂ ගෞරවයක් හෝ බෙදුම් කොහෙත්ම නොමැතිව සිටිය දී, ව්‍යවස්ථානුකූල රාජ්‍යයක පුරවැසියෙකු, පමණට වඩා දැඩි ලෙස "ඔහුගේ පක්ෂයේ අදහසෙහි එල්බ සිටීම" ගැන ඔහුට උද්ධච්ඡ ලෙස චෝදනා කරයි! විවේචනය කිරීමේ නිදසහ ගැන යෝජනා සකස් කරනු විනා, වෙනත් වැඩක් අපගේ නීති විරෝධී සංවිධානවලට නැත්තේමය.



"න්‍යායවාදය","චින්තනය බලෙන් අවහිර කිරීමේ ප්‍රතිවිපාකය වන පක්ෂය දරදඬු වීම" යන මේ සතුරන්ට විරුද්ධව ය. මෙම ප්‍රශ්නය දෛනික කාර්ය මාලාවට ඇතුලත් කර තිබීම ගැන අපි සතුටු වෙමු. අපි තවත් ප්‍රශ්නයක් ඊට එකතු කරන්නෙමු.

විනිශ්චය කාරයෝ කවරහුද?

ප්‍රකාශකයින්ගේ නිවේදන දෙකක් අප හමුවේ ඇත. ඉන් එකක්, "විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ වාර ප්‍රකාශනය වන "රබෝචිය දියල" වැඩ පිළිවෙළ" ය — ("රබෝචිය දියල" අංක 1 සඟරාව නැවත මුද්‍රණයකි). අනික, "ශ්‍රම විමුක්ති"[142] කණ්ඩායමේ ප්‍රකාශනයන් නැවත ආරම්භ කරන බවට නිවේදනය"යි. මේ දෙකෙහිම දිනම 1899 ය. මේ වන විට "මාක්ස්වාදයේ අර්බුදය" ගැන බොහෝ කලක් තිස්සේ සාකච්ඡා වී තිබුණි. එහෙත් අපට දකින්නට ලැබෙන්නේ කුමක්ද? එම කාරණය ගැන කිසිම සඳහනක් හෝ, එම ප්‍රශ්නය සම්බන්ධයෙන් නව නිල පත්‍රය ගන්නට බලාපොරොත්තු වන ප්‍රතිෂ්ඨාව ගැන නිශ්චිත ප්‍රකාශයක් හෝ ඉන් පළමු වැනි නිවේදනයෙහි දක්නට නැත. 1901 "විදේශගත සංගමයේ" තුන්වැනි සම්මේලනයෙන්[143] අනුමත කරන ලද මෙම වැඩ පිළිවෙළෙහි හෝ එහි අතිරේකවල හෝ, එයට මුහුණ පාන්නට සිදු වී ඇති න්‍යායික කාර්යයන් හා හදිසි කර්තව්‍යයන් ගැන වචනයක්වත් සඳහන්ව නැත ("සම්මේලන දෙකක්", පිටු 15—18). මෙම ප්‍රශ්න නිසා සමස්ත ලෝකයේම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සිත් කැළඹුනු නමුත්, මෙම මුළු කාලය තුළ ම "රබෝචිය දියල" සඟරාවේ කර්තෘ මණ්ඩලය, එම ප්‍රශ්න ගැන සැලකිල්ලක් නොදැක්වීය.

අනිත් අතට මෑත අවුරුදුවල දී න්‍යාය ගැන උනන්දුව හීන වී ගොස් ඇති බව පෙන්නුම් කරන අනික් නිවේදනය, "නිර්ධන පංතියේ විප්ලවීය ව්‍යාපාරයේ න්‍යායික පැත්ත ගැන සූපරීක්ෂාකාරී අවධානය" යොමු කරන ලෙස බලවත් ලෙස ඉල්ලමින් "බර්න්ෂ්ටයින්වාදයත්, අපගේ ව්‍යාපාරය තුළ ඇති, අනිකුත් විප්ලව විරෝධී ප්‍රවණතාවයනුත් නිර්දය ලෙස විවේචනය" කළ යුතු බවද කියයි. මෙම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කර තිබෙන ආකාරය, අද දක්වා වූ "සර්යා" කලාපවලින් පෙණේ.

මේ අනුව, චින්තනය දරදඬු කිරීම ආදියට එරෙහිව ඉදිරිපත් කරන මහා ශාබ්දික වදන්වලින්, චින්තනය වර්ධනය කිරීම සම්බන්ධයෙන් දක්වන නොසැලකිල්ල හා ඒ සම්බන්ධයෙන් කිසිවක් කර කියා ගත නොහැකි තත්වය ආවරණය කරනු ලබන බව අපට පෙණේ. මහත් සේ පාරට්ටු කරන විවේචනය කිරීමේ නිදහසෙන් අදහස් කෙරෙන්නේ, එක් න්‍යායක් වෙනුවට තවත් න්‍යායක් ආදේශ කිරීම නොව, මනාව මෙනෙහි කළ, අංග සම්පූර්ණ න්‍යාය සියල්ලෙන්ම නිදහස ඉල්ලීම ය. (බොහෝ

කලකට පෙර ජර්මන් මාක්ස්වාදීන් ද දැක තිබෙන පරිදි) මෙය පොදු යුරෝපීය ප්‍රපංචයක් වන අතර, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ආදර්ශයෙන් මේ බව මනාව පැහැදිලිව පෙණේ. එයින් අදහස් වන්නේ, සාරසංග්‍රහවාදය හා ප්‍රතිපත්ති විරහිත භාවය ය. අප ව්‍යාපාරයේ තත්වය ගැන යන්තමින් හෝ දන්නා අයට ප්‍රත්‍යක්ෂ වනු ඇති පරිදි, මාක්ස්වාදය පුළුල් ලෙස පැතිරී යාම හා සමග, න්‍යායික මට්ටම යම් පමණකින් පහත වැටුණි. ව්‍යාපාරයේ ඇති ප්‍රායෝගික වැදගත් කම හා එහි ප්‍රායෝගික සාර්ථකත්වය නිසා, ඉතා අල්ප න්‍යායික අභ්‍යාසයක් ලැබූ, නැතහොත්, එය කොහෙත්ම නොලැබූ අය බොහෝ දෙනෙක් ඊට සම්බන්ධ වූහ. ''වැඩ පිළිවෙළවල් දුසිමකට වඩා තථ්‍ය ව්‍යාපාරයේ සෑම පියවරක්ම වැදගත් වන්නේය''[144] යන මාක්ස්ගේ ප්‍රකාශය, ''රබෝචිය දියල'' විසින් විජයග්‍රාහී ලෙස උපුටා දක්වනු ලැබීම කොතරම් ඔලමොට්ටල කමක්ද යනු අපට සිතා ගත හැකි ය. න්‍යායික අවුල් වියවුල් සහිත කාලයක, මෙම වචන පුනරුච්ඡාරණය කිරීම, අවමංගල්‍යයක දී දුක්වන අයට ''ශුභ උපන් දින උත්සවයක් වේවා!'' යයි ප්‍රාර්ථනා කිරීම වැන්නකි. එපමණක්ද නොවේ. මෙම වචන උපුටා ගෙන තිබෙන්නේද, මාක්ස්ගේ ''ගෝත් වැඩ පිළිවෙළ'' නම් ලිපියෙනි[145] ප්‍රතිපත්ති සකස් කිරීමේදී සාරසංග්‍රහවාදය අනුගමනය කිරීම, මාක්ස් විසින්, එයින් ඉතා තියුණු ලෙස හෙළා දකිනු ලැබ තිබේ. ඔබට එක්සත් වීමට උවමනා නම් ව්‍යාපාරයේ ප්‍රායෝගික අරමුණු ඉටුවන ආකාරයට එකඟත්වයක් ඇති කර ගන්න. එහෙත් ප්‍රතිපත්ති ගැන කේවෙල් කිරීමට ඉඩ නොදෙන්න, න්‍යායික ''සහනයන්'' නොදෙන්න, යනුවෙන් මාක්ස් පක්ෂ නායකයින් වෙත ලියා යැවීය. මාක්ස්ගේ අදහස එය වූ නමුත්, ඔහුගේ නම පාවිච්චි කරමින් න්‍යායෙහි වැදගත් කම ලඝු කොට දැක්වීමට උත්සාහ කරන අය අප අතර සිටිති!

විප්ලවීය න්‍යාය නොමැතිව විප්ලවීය ව්‍යාපාරයක් තිබිය නොහැකිය. ඉතාමත් පටු ප්‍රායෝගික ක්‍රියා කාරිත්වයේ මෝහනයක් සමග අතිනත් ගෙන, අවස්ථාවාදයේ හැඩකාර දේශනා පැවැත්වීම කෙරෙන මෙවැනි කාලයක, මෙම අදහස කොතරම් අවධාරණය කළත් වැඩි නැත. තවත් කරුණු තුනක් හේතු කොට ගෙන, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට න්‍යායෙහි අගය තව තවත් වැඩි වේ. නමුත් බොහෝ විට එම කරුණු අමතක කරනු ලැබේ. ඉන් ප්‍රථම කරුණ නම්, අපගේ පක්ෂය ඉදිවෙමින් පවතින තත්වයේ තිබීමත්, මෙය එහි අංගෝපාංගයන් පැහැදිලි වී මතුවන අවස්ථාව වීමත්, ව්‍යාපාරය නිවැරදි මාවතෙන් ඉවතට හැරවීමේ අන්තරාය මතු කරන අනෙකුත් විප්ලවවාදී චින්තන උපනති සමග ඇති අරගල තවමත් කිසිසේත් සංසිඳී නොතිබීමත් ය. ඒ හැරත්, මෑත අතීතයද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන විප්ලවවාදී උපනති (බොහෝ කලකට පෙර



''ආර්ථිකවාදීන්ට'' අනතුරු හඟවමින් අක්සෙල්රොද් කියා තිබූ පරිදි[146]) නව ජීවනයක් ලැබූ කාලයක්ද විය. එනිසා, බැලූ බැල්මට, ''නො වැදගත්'' වරදක් ලෙසට පෙනී යා හැකි දෙයකින්, මෙම තත්වයන් යටතේ ඉතාමත් ඛේද ජනක ප්‍රතිඵල ඇති වීමට ඉඩ තිබෙන හෙයින්, කණ්ඩායම්වාදී ආරාවුල් හා මති මාත්‍ර අතර ඇති වෙනස් කම් පැහැදිලි කර ගැනීම අවස්ථාවෝචිත නොවේ යයි සිතනු හැක්කේ, අදූරදර්ශී පුද්ගලයන්ට පමණකි. අවුරුදු ගණනාවක් යන තෙක් ඉදිරියට, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉරණම කෙබඳු දැයි තීරණය වනු ඇත්තේ, කුමණ නම් මති මාත්‍රය ශක්තිමත් කෙරෙනවාද යන්න මත විය හැකි ය.

දෙවැනුව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සාරාර්ථය අනුව ම, එය ජාත්‍යන්තර ව්‍යාපාරයකි. මෙයින් අදහස් කෙරෙන්නේ අප ඒ ඒ ජාතීන්ගේ ජාතෝන්මාදයට විරුද්ධව සටන් කළ යුතු බව පමණක් නොව, තරුණ රටක ජනිතව මතු වන ව්‍යාපාරයක් සාර්ථක වන්නේ අනෙකුත් රටවල අත්දැකීම් උපයෝගී කර ගතහොත් පමණක් ය, යන්න ද වේ. මෙම අත්දැකීම් උපයෝගී කර ගැනීම පිණිස, ඒවා ගැන දැන ගැනීම පමණක් හෝ අලුත් ම යෝජනා නිකම් ම පිටපත් කර ගැනීම හෝ, ප්‍රමාණවත් නොවේ. මෙම අත්දැකීම් විවේචනාත්මක ලෙස අගය කර, ඒවා ස්වාධීන වශයෙන් අත් හද බැලීමේ හැකියාව ඒ සඳහා අවශ්‍ය වන්නේ ය. මෙම කර්තව්‍යය ඉටු කිරීම සඳහා, කෙබඳු නම් න්‍යායික බලවේග හා දේශපාලන (හා එමෙන්ම විප්ලවවාදී) අත්දැකීම් සම්භාරයක් අවශ්‍ය වන්නේ ද යන්න, නූතන පංති ව්‍යාපාරයේ දැවැන්ත වර්ධනය හා එහි අතු පතර විහිදී තිබෙන ආකාරය ගැන අවබෝධයක් ඇති කෙනෙකුට වැටහෙනු ඇත.

තුන්වැනිව, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජාතික කර්තව්‍යයන්, ලෝකයේ අන් කිසිම සමාජවාදී පක්ෂයකට, කිසි දක මුහුණ පෑමට සිදු වූ ආකාරයක ඒවා නොවේ. ඒකාධිපත්‍යයේ විය ගසින් මුළු ජනතාවම මුදා ගැනීමේ කර්තව්‍යය විසින්, අපට පවරනු ලබන දේශපාලන සහ සංවිධාන යුතු කම් ගැන කරුණු සඳහන් කිරීමේ අවස්ථාවක් තව ඉදිරියට සැලසෙනු ඇත. අපට මෙහිදී සඳහන් කිරීමට අවශ්‍ය වන්නේ, පෙරමුණු සටන් කරු කාර්ය භාරය ඉටු කිරීමට හැක්කේ ඉතාමත් දියුණු න්‍යායෙන් මඟ පෙන්වීම ලබන පක්ෂයට පමණක්ය යන්න පමණකි. මෙහි අර්ථය පිළිබඳව යථාවබෝධයක් ලබනු පිණිස, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ පුරෝගාමීන් වූ, හෙර්ත්සන්, බෙලින්ස්කි, චෙර්නිෂේව්ස්කි සහ හැත්තෑ ගණන්වලදී තරු මණ්ඩලයක් සේ දීප්තිය විහිද වූ විප්ලවවාදීන් සිහියට නගන ලෙස පාඨකයාගෙන් ඉල්ලමු. ඒ ප්‍රමාණවත්ය!

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී න්‍යායෙහි ඇති වැදගත් කම ගැන 1874 දී

එංගල්ස් කී දෙය උපුටා දක්වමු. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මහා අරගලයේ ඇත්තේ, අප නිතර විස්තර කිරීමට පුරුද්දක් කොට ගෙන තිබෙන පරිදි වූ අංශ දෙකක් (දේශපාලන හා ආර්ථික) නොවේ. එහි අංශ තුනක් තිබෙන බව පිළිගත් එංගල්ස්, මුල් අංශ දෙක හා සමග න්‍යායික අරගලයද සම මට්ටමක තැබී ය. ප්‍රායෝගික හා දේශපාලන වශයෙන් ශක්තිමත් වී තිබුණු ජර්මන් කම්කරු පංති ව්‍යාපාරයට ඔහු කළ නිර්දේශ ගැන සලකා බලන කල, ඒවා අද පවතින ප්‍රශ්න හා වාද විවාද සම්බන්ධයෙන් ඉතාමත් උපදේශාත්මක වන හෙයින්, පොත් ඉතිහාසයේ ඉතාමත් දුර්ලභ ගණයේ කෘතියක් වන, ඔහුගේ "Der deutsche Bauernkrieg"* නැමති පොතෙන් දීර්ඝ කොටසක් උපුටා දැක්වීම ගැන පාඨකයා අප සමග උරණ නොවෙතියි සිතමු:

''සෙසු යුරෝපයට වඩා ජර්මන් කම්කරුවනට වාසිදයක වන වැදගත් කරුණු දෙකක් ඇත. ප්‍රථමයෙන්ම, ඔවුහු යුරෝපයේ ඉතාමත් න්‍යායික ජනතාවට අයත් වෙති. එමෙන්ම එම න්‍යාය පිළිබඳ හැඟීම, ඊනියා ''උගත් පංති'' කෙරෙන් මුළුමනින්ම පාහේ ගිලිහී ගිය නමුත්, කම්කරුවෝ එය රැක ගත්හ. පැවති එකම විද්‍යාත්මක සමාජවාදය වන ජර්මන් විද්‍යාත්මක සමාජවාදය, ඊට පූර්ව ගාමී වූ ජර්මන් දර්ශනය, විශේෂයෙන්ම හේගල්ගේ දර්ශනය නොමැතිව, කිසි කලෙකත් ජනිත නොවන්නට තිබිණි. කම්කරුවන් අතර න්‍යායික හැඟීමක් නොතිබිණි නම්, සිදුවී තිබෙන ලෙසින් විද්‍යාත්මක සමාජවාදය ඔවුන්ගේ ලේ මස් තුළට කිසි කලෙකත් ඇතුළු නොවනු ඇත. එක් අතකින් සියලු න්‍යාය කෙරෙහි දක්වනු ලබන උදාසීනත්වය අනුව බලන කල මෙය අපරිමිත වාසියකි. ඉංග්‍රීසි කම්කරු පංති ව්‍යාපාරයේ එක් එක් කර්මාන්තවල වෘත්තීය සමිති ඉතාමත් විශිෂ්ඨ ලෙස සංවිධානය වී ඇතත්, එය න්‍යාය සම්බන්ධයෙන් දක්වන උදාසීනත්වය නිසා, එම ව්‍යාපාරය ඉතා හෙමින් ගාටන තත්වයක පැවතීමෙන් මේ බව පෙනේ. අනිත් අතින්, ප්රුදොන්වාදය, එහි මුල් ස්වභාවය මගින් ප්‍රංශ හා බැල්ජියන්වරු අතර ද, බකුනින් එයට දුන් විකට ස්වරූපය මගින් ස්පාඤ්ඤ හා ඉතාලි වරු අතර ද ඇති කළ අනාදරය හා අවුල් ගැන සලකා බලන කල ද, එම වාසිය පෙනී යයි.

''දෙවැනි වාසිය නම්, කාල පිළිවෙළ අනුව කියතොත්, ජර්මානුන් අන්තිමට කම්කරු ව්‍යාපාරයට පිවිසීම ය. ජර්මන් න්‍යායික සමාජවාදය

---

* Dritter Abdruck. Leipzig, 1875, Verlag der Genossenschaftsbuchdruckerei (''ජර්මනියේ ගොවිජන යුද්ධය'', තුන්වැනි මුද්‍රණය, ලියප්සිග්, 1875, සමූපකාර ප්‍රකාශකයෝ — සංස්කාරක).



රැඳී පවතින්නේ මහා චින්තනයන් අතර සදකාලිකවම වැජඹෙනු නිසැක වන,එමෙන්ම,අප දැන් විද්‍යාත්මක ලෙස ඔප්පු කරන රාශියක් දැ එදා කල් තබා ස්වකීය බුද්ධි මහිමයෙන් දුටු, එහෙත්, ඒ විකාර සංකල්පනා අදහස් දැරූවා වූ මහා පුරුෂයන් තිදෙනා වන සෙන්-සිමොන්ගේ, ෆූරියේගේ හා ඕවන්ගේ උර මත බව, එය කෙදිනක හෝ අමතක නොකරනු ඇත. එසේම, ඉංග්‍රීසි හා ප්‍රංශ ව්‍යාපාර, ඉතා ඉහළ මිළක් ගෙවා ලබා ගත් අත් දැකීම්වලින්, ජර්මනියේ ප්‍රායෝගික කම්කරු ව්‍යාපාරයට පහසුවෙන් ප්‍රයෝජන ලබා ගත හැකි වූ බවත්, එදා එම ව්‍යාපාරවලට බොහෝ දුරට නොවැලැක්විය හැකි වූ වැරදි, දැන් මඟ හැරිය හැකි බවත්, තමන් ඉංග්‍රීසි හා ප්‍රංශ ව්‍යාපාරවල උර මත වර්ධනය වූ බවත්, එය කිසි කලෙකත් අමතක නොකළ යුතුය. ඉංග්‍රීසි වෘත්තීය සමිතිවල හා ප්‍රංශ කම්කරුවන්ගේ දේශපාලන අරගලවල පූර්වාදර්ශ නොමැති වන්නට, පැරිස් කොමියුනයෙන් ලද අත්දැකීම් නොමැති වන්නට අප දැන් කොතැනක සිටිනු ඇද්ද?

''දුර්ලභ විචාර බුද්ධියක් ප්‍රදර්ශනය කරමින්, ජර්මන් කම්කරුවන් තමන් ලත් වාසිදායක තත්වයෙන් ප්‍රයෝජන ගෙන තිබෙන බව ප්‍රශංසාත්මකව ප්‍රකාශ කළ යුතු ය. කම්කරු පංති ව්‍යාපාරයක් ඇති වීමෙන් පසු, ප්‍රථම වතාවට, අරගලයේ අංශත්‍රයම — න්‍යායික, දේශපාලන හා ප්‍රායෝගික-ආර්ථික (ධනපතියනට ප්‍රතිරෝධනය) — සංගත ලෙස හා ඒවායේ අන්තර් සම්බන්ධය සහිතව, ක්‍රමානුකූල ලෙස ක්‍රියාත්මක කර ගෙන යනු ලැබේ. ජර්මන් ව්‍යාපාරයේ ශක්තිය හා අපරාජිත භාවය රඳා පවත්නේ මෙම සම කේන්ද්‍රික යයි කිව හැකි ප්‍රහාරය තුළ ය.

''එක් අතකින් මෙම වාසිදායක තත්වය නිසා ද, අනිත් අතින් ඉංග්‍රීසින්ගේ දිවයිනට සීමා වූ විශේෂතාවයන් සහ ප්‍රංශ ව්‍යාපාරය බලෙන් මර්දනය කර තිබීම නිසා ද, ජර්මන් කම්කරුවන් දැනට කම්කරු පංති ව්‍යාපාරයේ පෙරමුණ දරන තත්වයට පත්ව ඇත. සිදුවීම් අනුව, ඔවුනට කොතරම් කල් මෙම තත්වය දැරීමට ඉඩ ලැබේද යන්න ගැන අනාවැකි පළ කළ නොහැකිය. එහෙත්, ඔවුන් මෙම තත්වය දරන තාක් කල්, ඊට ගැලපෙන ලෙස කටයුතු කරනු ඇතැයි අපි බලාපොරොත්තු වෙමු. මේ සඳහා අරගලයේ හා උද්ඝෝෂණයේ සෑම ක්ෂේත්‍රයකම දරනු ලබන ප්‍රයත්නයන් දෙගුණ තෙගුණ කිරීම අවශ්‍ය වේ. සියලුම න්‍යායික ප්‍රශ්න සම්බන්ධයෙන් වඩ වඩාත් පැහැදිලි විනිවිද දක්නා අවබෝධයක් ලබා ගැනීමත්, පැරණි ලෝකාවබෝධයෙන් උරුම කොට ලද්ද වූ සම්ප්‍රදායික වදන් මාලාවල බලපෑමෙන් තමන් වඩ වඩාත් නිදහස් වීමත්, සමාජවාදය විද්‍යාවක් බවට පත්ව තිබීම සලකා එය විද්‍යාවක් ලෙසට ක්‍රියාවට නැගීම, එනම්,එය අධ්‍යයනය කළ යුතු බව නිතර සිත්හි දරාගෙන සිටීමත්,නායක-

යන්ගේ විශේෂ යුතු කම වන්නේ ය. ඉටු කළ යුතු කර්තව්‍යය නම්, එසේ ලබා ගත් වඩාත් පැහැදිලි අවබෝධය ජනතාව හා කම්කරුවන් අතර වඩාත් දැඩි උනන්දුවකින් ප්‍රචලිත කිරීම ය; පක්ෂයේ සහ වෘත්තීය සමිතිවල යන දෙකෙහිම සංවිධාන කටයුතු වඩාත් දැඩි ලෙස එකට වෙළීම ය...

"... ජර්මන් කම්කරුවන් මේ ආකාරයෙන් පෙරට යතහොත් ඔවුන් සටන් පෙරමුණේ මුලින් නොව, ගෞරවණීය තත්වයක් දරා ඉදිරියට ගමන් කරනු ඇත — කිසියම් රටක කම්කරුවන්, මෙම ව්‍යාපාරයේ මුලින් ගමන් කිරීම, කිසිසේත් ව්‍යාපාරයේ යහපතට අදල නොවන නිසා, ඔවුන් මුලින් ගමන් කරනු ඇතැයි කිව නොහේ. එමෙන්ම, බලාපොරොත්තු රහිත උග්‍ර දුෂ්කරතාවයන්, නැතහොත්, භාරදූර සිදුවීම් හමුවේ වැඩි අධිෂ්ඨානයකින් හා ශක්තියකින් කටයුතු කිරීමේ අවශ්‍යතාවය පැන නැගුනහොත්, එයට මුහුණ දීමට තරම් වන සන්නද්ධ තත්වයක සිටීමට ද, ඔවුනට හැකි වනු ඇත".

එංගල්ස්ගේ කියමන අනාවැකියක් බඳු විය. අවුරුදු කීපයක් ඇතුලත පනවන ලද සමාජවාදීන්ට විරුද්ධ අති විශේෂ නීතිය මගින් ජර්මන් කම්කරුවන් බලාපොරොත්තු නොවූ දුෂ්කර තත්වයකට පත් කරන ලදී. සන්නද්ධ ලෙස සටනට ඉදිරිපත් වීමෙන්, ඔවුහු එම දුෂ්කරතාවයන්ට මුහුණ දී ජය ලැබීමෙහි සමත් වූහ.

ඊටත් වඩා උග්‍ර අපරිමේය දුෂ්කරතාවයන්ට මුහුණ දීමට රුසියානු නිර්ධන පංතියට සිදුවනු ඇත. ව්‍යවස්ථාවක් ඇති රටක සමාජවාදීන්ට විරුද්ධ නීතිය අඟුටු මිට්ටෙකු නම්, රුසියානු නිර්ධන පංතියට සටන් කිරීමට සිදු වන්නේ යෝධ මුර්ගයෙකුට විරුද්ධව ය. ඉතිහාසය අප හමුවේ හදිසි කර්තව්‍යයක් තබා ඇත. ඕනෑම රටක නිර්ධන පංතියට මුහුණ දෙන්නට සිදු වී තිබෙන සියලුම හදිසි කර්තව්‍යයන් අතුරෙන්, ඉතාමත් විප්ලවවාදී වූ හදිසි කර්තව්‍ය එයයි. යුරෝපීය ප්‍රතිගාමීත්වයේ පමණක් නොව (දැන් සඳහන් කිරීම සුදුසු වන පරිදි) ආසියාතික ප්‍රතිගාමීත්වයේ ද ඉතාමත් ශක්ති සම්පන්න බල කඳවුර විනාශ කිරීමේ මෙම කර්තව්‍යය ඉටු කිරීම තුළින්, රුසියානු නිර්ධන පංතිය ජාත්‍යන්තර විප්ලවවාදී නිර්ධන පංති ව්‍යාපාරයේ පෙරමුණු බල ඇණිය බවට පත් වනු ඇත. අපගේ පූර්වගාමීන් වූ හැත්තෑ ගණන්වල විප්ලවවාදීන්ගේ ව්‍යාපාරයට වඩා, දහස් ගුණයෙන් වඩාත් සුවිසල් හා ගැඹුරු වූ අපගේ ව්‍යාපාරය, කැප වූ අධිෂ්ඨානය හා ප්‍රාණවත් භාවය අතින් ඒ ලෙසටම පුබුදුවා ගත හැකි වුවහොත්, එම විප්ලවවාදීන් කලින් දිනාගත් ගෞරවණීය පදවිනාමය අපට ලබා ගත හැකිය යන විශ්වාසය ඇති කර ගැනීමට අයිතියක් අපට තිබේ.



## II

## පොදු ජනතාවගේ සාංසිද්ධිකතාවය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විඥනය

අපගේ ව්‍යාපාරය හැත්තෑ ගණන්වල ව්‍යාපාරයට වඩා බෙහෙවින් සුවිසල් බවත්, එම ව්‍යාපාරයේ දී දක්නා ලද කැප වූ අධිෂ්ඨානයට හා ප්‍රාණවත් භාවයට සමාන ජීව ගුණයකින් අපගේ ව්‍යාපාරය ප්‍රබෝධමත් කර ගත යුතු බවත් අපි කීවෙමු. වර්තමාන ව්‍යාපාරයේ ශක්තිය රැඳී පවතින්නේ ජනතාවගේ, (විශේෂයෙන්ම කාර්මික නිර්ධන පංතියේ) පිබිදීම මත ය. එහි දුර්වලතාවය රැඳී පවතින්නේ විප්ලවවාදී නායකයන් තුළ විඥනය හා ක්‍රියාරම්භක ශක්තිය නොමැති වීම තුළ ය. මේ කාරණය ගැන මෙතෙක් කිසිවෙක් තුළ සැකයක් නොවී යයි සිතමු.

එසේ වුවද, මෙම ප්‍රශ්නය ගැන මෙතෙක් පිළිගත් සියලුම මත බිඳ හෙළීමේ තර්ජනය රැගත්, මවිත කර සොයා ගැනීමක් මෑත දී සිදුවිය. එම සොයා ගැනීම කළේ "රබෝචිය දියල" ය. "ඉස්ක්‍රා" සහ "සර්යා" සමග ගෙන ගිය විවාදයේදී, කරුණු එකින් එක ගෙන ස්වකීය විරුද්ධත්වය දක්වීමට සීමා නොවූ එය, "පොදු අසම්මතයන්" පැන නගින්නේ වඩාත් ගැඹුරු හේතුවක් නිසා යයි ද, නැතහොත්, ව්‍යාපාරයේ "සාංසිද්ධික ස්වභාවය හා විඥනීය ක්‍රමානුකූල භාවය" යන දෙකෙහි සාපේක්ෂ වැදගත් කම අගය කිරීමේදී දක්වන වෙනස" නිසා යයි ද පෙන්නුම් කිරීමට උත්සාහ කළේය. "රබෝචිය දියල" එහි දෝෂාරෝපනය ඉදිරිපත් කළේ "සංවර්ධනයේ වාස්තවික නැතහොත් සාංසිද්ධික ස්වභාවයේ වැදගත් කම සුළු කොට තැකීමක්"* කෙරෙන බව කියමිනි. ඒ ගැන අපි මෙසේ කියමු. "ඉස්ක්‍රා" සහ "සර්යා" සමග "රබෝචිය දියල" ගෙන ගිය විවාදයෙන්, එය පොදු අසම්මතය" පිළිබඳ සොයා ගැනීම වෙත යොමු වීම හැර වෙනත් ප්‍රතිඵලයක් නොවුවත්, එම සොයා ගැනීම පමණක් වුවද, අපට සැලකිය යුතු සතුටක් ගෙන දෙන්නේය. මෙම ප්‍රවාදය එතරම්ම වැදගත් ය. අද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර පවතින, න්‍යායික හා දේශපාලන අසමගිකම්වල හරවත්ම කොටස, එයින් එතරම්ම හොඳින් හෙළිදරව් වන්නේ ය.

මේ හේතුකොට ගෙන, විඥනය හා සාංසිද්ධිකතාවය අතර සම්බන්-

* "රබෝචිය දියල" අංක 10, 1901 සැප්තැම්බර්, පිටු 17—18, අවධාරණය "රබෝචිය දියල" හි විය.

ධය පිළිබඳ ප්‍රශ්නය ගැන, අති විශාල පොදු උනන්දුවක් දක්නට ලැබේ. එනිසා එම ප්‍රශ්නය ගැන වඩාත් විස්තර සහිත ලෙසට කරුණු සඳහන් කළ යුතු ය.

### අ) සාංසිද්ධික උත්පත්තියේ ආරම්භය

අනූ ගණන්වල මැද භාගයේදී, රුසියාවේ උගත් තරුණ ජන සමස්තයම මාක්ස්වාදී න්‍යායෙහි නිමග්නව සිටි ආකාරය ඉහත පරිච්ඡේදයෙන් පෙන්වා දුනිමු. 1896 සුප්‍රසිද්ධ සාන්ත පීටර්ස්බර්ග් කාර්මික සංග්‍රාමයෙන්[147] අනතුරුව සිදු වූ වැඩ වර්ජනද එවැනිම පොදු ස්වභාවයක් ගත්තේය. එම වැඩ වර්ජන රුසියාවේ සියලුම ප්‍රදේශවලට පැතිරී යාමෙන්, නැඟී එන බහුජන ව්‍යාපාරයේ ගැඹුර මැනවින් විද්‍යාමාන විය. ''සාංසිද්ධික ස්වභාවය'' ගැන කථා කරතොත්, අන් සියල්ලටම වඩා සැබැවින්ම සාංසිද්ධික ලෙසට ගිණිය යුත්තේ, මෙම වැඩ වර්ජන ව්‍යාපාරයයි. නමුත් සාංසිද්ධිකතාවයෙහිද ප්‍රභේද තිබේ. හැත්තෑ ගණන්වල හා හැට ගණන්වලත්, (දහනව වැනි ශත වර්ෂයේ මුල් අර්ධයේ පවා) රුසියාවේ වැඩ වර්ජන ඇති විය. එම වැඩ වර්ජන හා සමාගමව, සාංසිද්ධික ලෙස යන්ත්‍ර ආදිය විනාශ කිරීමත් සිදු විය. මෙම ''කැරළි'' හා සමග සසඳා බලන කල, අනූ ගණන්වල වැඩ වර්ජන, ''විඥත'' ස්වභාවයක් දැක්වූ බව කීම වුවද නිවැරදි විය හැක. මෙම කාලය තුළ කම්කරු පංති ව්‍යාපාරය ලැබූ ප්‍රගතිය එතරම් හොඳින් එම වැඩ වර්ජනවලින් සලකුණු කෙරිනි. ''සාංසිද්ධික ස්වභාවයෙන්'' සාරානුකූලව නියෝජනයවන්නේ, බීජාංකුර ආකාරයේ විඥනය මිස, අන් කිසිවක් නොවන බව, මෙයින් පෙනේ, පෞරාණික කැරළිවලින් පවා ප්‍රකාශිත වූයේ විඥනයේ යම් ප්‍රමාණ පිබිදීමකි තමන්ට පීඩා කරන ක්‍රමයේ සදාකාලික බව කියන, ඔවුන්ගේ කාලාන්තර විශ්වාසය කම්කරුවන් කෙරෙන් තුරන් වන්නට විය. එමෙන්ම දස ආකාරයෙන් බලධාරීන්ට යටත් වීමේ ක්‍රියා මාර්ගය නිශ්චිත වශයෙන්ම අත්හැර දමමින්, සාමූහිකව විරෝධය දැක්වීමේ අවශ්‍යතාවය අවබෝධ කර ගැනීමට පටන් ගෙන සිටියහ යි මා නොකියතත්, ඔවුහු ඉවෙන් මෙන් ඒ ගැන දැන ගන්නට පටන් ගත්හ. එහෙත්, මෙය සිදුවූයේ අරගලයකට වඩා අවදානම යටතේ, නැතහොත්, පළිගැනීම් ස්වභාවයෙන් කරන කඩා පැනීම්වල ස්වරූපයෙනි. අනූ ගණන්වල වැඩ වර්ජන විෂයෙහි ඊට වඩා දීප්තිමත් විඥන ආලෝක ධාරාවක් දකින්නට ලැබුණි. නිශ්චිත ඉල්ලීම් ඉදිරිපත් කිරීමත්, වැඩ වර්ජනය සඳහා සුපරීක්ෂාකාරී ලෙස කල් යල් නියම කර ගැනීමත්, දන්නා වෙනත් ස්ථානවල ඇති වූ මෙවැනි සිදුවීම් හා අවස්ථා ගැන සාකච්ඡා



කිරීමත්, ආදිය සිදුවිය. කැරළි වූ කලී, පීඩාවට පත්වුවන්ගේ සරල විරෝධය පැමක් විය. ඒ අතර, ක්‍රමානුකූල වැඩ වර්ජනවලින් පිළිබිඹු වූයේ, බීජාංකුර අවධියේ පංති අරගලය යි. එහෙත් එය බීජාංකුර අවධිය පමණකි. තනිකර, මෙම වැඩ වර්ජන පමණක් ගත් කල, ඒවා හුදෙක්ම වෘත්තීය සමිති අරගල විය. ඒවා තවමත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අරගල බවට පත්ව නොතිබුණි. කම්කරුවන් හා ස්වාමිවරුන් අතර සතුරුතාවයන් පිබිදීම එයින් සලකුණු විය. එසේ වුවද, ස්වකීය උවමනාවන්, මුළු මහත් නූතන දේශපාලන හා සමාජ ක්‍රමයම සමග නොපෑහෙන ලෙසින් පවතින සතුරුතාවය පිළිබඳ විඥනය කම්කරුවන්ට ලැබී තිබුණේ නැත. තිබීමටද නොහැකි විය. ඒ දක්වාම ඔවුන්ගේ විඥනය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විඥනය නොවිය. ''කැරළි'' හා සමග සසඳා බලන කල අනූ ගණන්වල වැඩ වර්ජන දැවැන්ත ප්‍රගතියක් පෙන්නුම් කළ නමුත්, මෙම අර්ථයෙන් බලන කල ඒ හුදෙක්ම සාංසිද්ධික ව්‍යාපාරයක් වූයේ ය.

කම්කරුවන් අතර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විඥනය තිබිය නොහැකි වූ බව අපි ඉහත කියා ඇත්තෙමු. එය පිටතින් ඔවුන් වෙත ගෙන ඒමට හැකිව තිබුණි. කම්කරු පංතියට, ස්වකීය අධ්‍යාසයෙන්ම පමණක් ඇති කර ගත හැකි වන්නේ, වෘත්තීය සමිති විඥනය, එනම්, ස්වාමිවරුන්ට විරුද්ධව සටන් කිරීම සහ ඊට අවශ්‍ය නීති සම්පාදනය කරවනු පිණිස ආණ්ඩුවලට බල කිරීම ආදිය සඳහා, සංගම් තුළ එක්සත් විය යුතුය යන අවබෝධය පමණකිය යනු, සියලුම රටවල ඉතිහාසයෙන් පෙනේ*. එසේ වුවද, දේපල හිමි පංතිවලට අයත් උගතුන් විසින් හා බුද්ධිමතුන් විසින් පැහැදිලි කරන ලද, දර්ශනවාදී, ඓතිහාසික හා ආර්ථික න්‍යායයන් තුළින් සමාජවාදී න්‍යාය ජනිත විය. නවීන විද්‍යාත්මක සමාජවාදයේ නිර්මාතෘවරයන් වූ මාක්ස් හා එංගල්ස් ද, සමාජ තත්වය අනුව, ධනේශ්වර බුද්ධිමත් ගණයට අයත් වූහ. ඒ ලෙසටම, රුසියාවේද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී න්‍යායික ධර්මය, කම්කරු පංතියේ සාංසිද්ධික වර්ධනයෙන් සම්පූර්ණයෙන්ම නිදහස්ව පැන නැංගේ ය. එය පැන නැංගේ, විප්ලවවාදී-සමාජවාදී බුද්ධිමතුන් අතර චින්තනය දියුණු වීමේ ස්වාභාවික හා අනිවාර්ය ප්‍රතිඵලයක් වශයෙනි. සාකච්ඡාවට බඳුන්ව ඇති කාලය වන, මධ්‍යම අනූ ගණන්වලදී, මෙම ධර්මයෙන් ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ පරිපූර්ණ වැඩ පිළිවෙළ නියෝ-

* සමහරු සිතන ලෙසට වෘත්තීය සමිතිවාදය මුළුමනින්ම ''දේශපාලනයෙන්'' තොර නොවේ. වෘත්තීය සමිති නිතරම යම් යම් දේශපාලන (එහෙත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන) උද්ඝෝෂණ හා අරගල ගෙන ගියහ. වෘත්තීය සමිති දේශපාලනය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය අතර වෙනස ගැන මීළඟ පරිච්ඡේදයෙහි සඳහන් කරමු.

ජනය විය. එපමණක් නොව, ඒ වන විට, එය රුසියාවේ විප්ලවවාදී තරුණ බහුතරය ද දිනාගෙන තිබුණේය.

එනිසා, වැඩ කරන ජනතාවගේ සාංසිද්ධික පිබිදීමක් හා විඥත ජීවිතය හා විඥත අරගලයක අවශ්‍යතාවය පිළිබඳව ඔවුන්ගේ අවබෝධයක් ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී න්‍යායෙන් සන්නද්ධ වූ හා කම්කරු පංතිය දෙසට නැඹුරු වූ තරුණ පරපුරක් ද යන කරුණු දෙකම ඉටු වූ තත්වයක් අපට තිබුණි. ඒ කාලයේ වූ ප්‍රථම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, (එවකට තවමත් කෙටුම්පත් තත්වයේ තිබුණු ''උද්ඝෝෂණය ගැන''[148] යන කුඩා පොතෙහි අන්තර්ගත හා නියත ලෙසම ප්‍රයෝජනවත් වූ හෝඩුවාවන් ඔස්සේ යමින්) ඉතාමත් උත්සුක්ත ලෙස ආර්ථික උද්ඝෝෂණය ගෙන ගිය නමුත්, ඔවුන් එය තමන්ගේ එකම කාර්යය ලෙස නොසැලකූ බව නිතර අමතක කෙරුණු (හා සංසන්දනීය වශයෙන් අප්‍රසිද්ධ), එහෙත්, මෙහි ලා සඳහන් කළ යුතු විශේෂයෙන්ම වැදගත් කාරණයකි. ඊට ප්‍රතිකූල වශයෙන්, මූලාරම්භයේ පටන්ම, ඔවුහු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සඳහා, ඉතාමත් දූරගාමී පොදු ඓතිහාසික කර්තව්‍යයන් ද, විශේෂයෙන්ම ඒකාධිපත්‍යය පෙරළා දැමීමේ කර්තව්‍යය ද, නියම කර ගත්හ. උදාහරණයක් ලෙසට ''කම්කරු පංති විමුක්ති අරගල සංගමය''[149] ආරම්භ කළ, සාන්ත පීටර්ස්බර්ග් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කණ්ඩායම, 1895 අවසානයේදී පවා, ''රබෝචිය දියල'' නම් සඟරාවක ප්‍රථම කලාපය සකස් කළහ. මෙම කලාපය මුද්‍රණයට යැවීම සඳහා සූදානම්ව තිබියදී, 1895 දෙසැම්බර් 8 දින රාත්‍රියේ කණ්ඩායමේ සාමාජිකයෙකු වූ ඒ. ඒ. වනේයව්ගේ* නිවස වැටලූ පොලිස් හේවායන්, එය අල්ලා ගත් හෙයින් ''රබෝචිය දියල'' සඟරාවේ ප්‍රථම සංස්කරණය දහවල් එළිය දුටුවේ නැත (සමහර විට මින් අවුරුදු තිහකට පමණ පසුව කිසියම් ''රුස්කයා ස්තරීනා'' සඟරාවක් එය පොලිස් දෙපාර්තුමේන්තුවේ පැරණි ලේඛණ අතරින් සොයා ගනු ඇති). මෙම කලාපයේ ප්‍රධාන ලිපියෙන් රුසියාවේ කම්කරු පංතියේ ඓතිහාසික කර්තව්‍යයන් සැකෙවින් විස්තර කර, දේශපාලන නිදහස දිනා ගැනීමට මුල් තැන දෙන ලදී[150]. ''අප ඇමතිවරුන් කල්පනා කරන්නේ කුමක් ගැන ද? යන ලිපියක් ද මෙම කලාපයට ඇතුලත් විය. එය ලියා තිබුණේ පොලිසිය මගින් මූලික අධ්‍යාපන කාරක සභා මර්දනය කිරීම ගැන ය. ඊට අමතරව, සාන්ත පීටර්ස්බර්ග් නගරයෙන් හා වෙනත් පෙදෙස්වලින්

* ඒ. ඒ. වනේයව් පිටුවාහල් කිරීමට පෙර, හුදකලාව සිරගත කර සිටියදී වැළඳුනු ක්ෂය රෝගයෙන්, ඔහු 1899 නැගෙනහිර සයිබීරියාවේදී මිය ගියේය. මෙම තොරතුර ඒ. ඒ. වනේයව් කිට්ටුවෙන්ම හා කෙළින්ම ආශ්‍රය කළ අයගෙන් ලබා ගත් නිසා එහි නිවැරදි බව සහතික කළ හැකිය.



ලැබුණු (නිදර්ශනයක් වශයෙන් යරස්ලාවල් පළාතේ කම්කරුවන් ඝාතනය කිරීම ගැන වැනි[151]), ලිපි සමහරක් ද විය. අනූ ගණන්වල රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මෙම ''ප්‍රථම ප්‍රයත්නය'', හුදෙක් ප්‍රාදේශීය ප්‍රයත්නයක් නොවූ බවත්, එය කොහෙත්ම ආර්ථිකවාදී නොවූ බවත්, එය ඒකාධිපත්‍යයට විරුද්ධ විප්ලවවාදී ව්‍යාපාරය හා වැඩ වර්ජන ව්‍යාපාරය එක්සත් කිරීමත්, ප්‍රතිගාමී අන්ධ භක්තික ප්‍රතිපත්තියෙන් පීඩිත වූවන් සමාජ-ප්‍රජාතන්ත්‍රයේ පැත්තට දිනා ගැනීමත්, අරමුණු කළ එකක් බවත්, පෙනෙනු ඇත. එවැනි සඟරාවක්, ප්‍රධාන නගරයේ කම්කරුවන්ගේ සහ විප්ලවවාදී බුද්ධිමතුන්ගේ උණුසුම් පිළිගැනීමටත්, පුළුල් ලෙස ප්‍රචාරය වීමටත් ඉඩ තිබුණු බව අවිශ්වාස කිරීමට, එකල ව්‍යාපාරයේ තත්වය ගැන මඳ වශයෙන් හෝ දන්නා කිසිවෙකුට හෝ ඉඩක් තිබුණේ නැත. මෙම ව්‍යායාමය අසාර්ථක වීමෙන් පෙනී ගියේ, එකල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විප්ලවවාදී පළපුරුද්ද හා ප්‍රායෝගික පුහුණුව නොතිබුණු හෙයින්, ඔවුන් එකල ඒ හදිසි අවශ්‍යතාවය ඉටු කිරීමට නොහැකිව සිටි බව පමණකි. සාන්ත පීටර්ස්බර්ග් ''රබෝචි ලිස්තොක්''[152] පත්‍රය ද, විශේෂයෙන්ම ''රබෝචය ගසියත'' සහ 1898 වසන්තයේදී පිහිටුවන ලද, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ''මැනිෆෙස්ටෝ'' යන පත්‍ර ද, ගැන කිව යුත්තේ එයම ය. එවකට සිටි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, මෙසේ සූදානමින් තොරව සිටීම ගැන ඔවුනට සිහිනෙන් හෝ දෝෂාරෝපනය කිරීමට අපි කිසිසේත් අදහස් නොකරමු. එහෙත්, එම ව්‍යාපාරයේ අත් දැකීම්වලින් ප්‍රයෝජන ගැනීම සහ එයින් ප්‍රායෝගික පාඩම් උගෙන ගැනීම පිණිස, එහි එක් හෝ අනික් දුර්වල කමට හේතුව හා එහි බරපතල කම ගැන, අපි මැනවින් වටහා ගත යුතු වෙමු. එසේ හෙයින්, 1895—1898 කාලය තුළ ක්‍රියාශීලීව සිටි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් කොටසක් (සමහර විට බහුතරය වුවද),එකලදී පවා,''සාංසිද්ධික'' ව්‍යාපාරයේ මූලාරම්භයේදීම පවා, ඉතාමත් පුළුල් වැඩ පිළිවෙළක් හා සටන්කාමී උපායික ක්‍රියා මාර්ගයක් ඉදිරිපත් කිරීමේ හැකියාව ඇතැයි, යුක්ති සහගත ලෙස කල්පනා කළ බව තහවුරු කිරීම වැදගත් ය*. විප්ලවවාදීන්ගෙන් වැඩි

* ''අනූ ගණන්වල අවසාන භාගයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කටයුතු කෙරෙහි සතුරු ආකල්පයක් අනුගමනය කිරීමෙන්, ''ඉස්ක්‍රා'' පත්‍රය කරන්නේ සුළු ඉල්ලීම් සඳහා අරගල කරනු හැර එවකට වෙනත් දෙයක් කිරීමට තත්වයන් නොතිබුණු බව අමතක කිරීමය''යි ''ආර්ථිකවාදීන්'' ගේ ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍රවලට ලිපිය'' මගින් ඔවුහු ප්‍රකාශ කරති (''ඉස්ක්‍රා'' අංක 12). ''තත්වයන් නොතිබුණු'' බවට දෙන සහතිකය, සත්‍යයට කෙළින්ම ප්‍රතිවිරුද්ධ බව ඉහත සඳහන් කරුණුවලින් පෙනේ.

දෙනෙකුට පුහුණුවක් නොතිබීම, සාකල්‍යයෙන්ම ස්වාභාවික දෙයක් වූ හෙයින්, එයින් කිසියම් භීතියක් ඇති වීමට ඉඩක් නොතිබුණි. කර්තව්‍යයන් නිවැරදි ලෙස නියම කර ගත් පසු, එම කර්තව්‍යයන් සපුරාලීම සඳහා යළි යළිත් ප්‍රයත්න දැරීමට අවශ්‍ය ශක්තිය ඇති කල්හි, තාවකාලික අසාර්ථක වීම්වලින් නියෝජනය වන්නේ අර්ධ දුර්භාග්‍යයක් පමණකි. උවමනාව ඇතොත් හා දුර්වලකම් පිළිගන්නේ නම්, විප්ලවවාදී අත්දැකීම් හා සංවිධානමය කුසලතාවයන් අත් කර ගත හැකි වේ. විප්ලවවාදී කාර්යයෙහිදී දුර්වලකම් පිළිගැනීම, ඒවා ඉවත් කිරීමට යා යුතු දුරෙන් අඩකටත් වඩා ගෙවීමට සමාන ය.

එහෙත්, මෙම විඥනය අඳුරු වන්නට පටන් ගත් කල, (සඳහන් කරන ලද කණ්ඩායම්වල සාමාජිකයන් අතර, එය ඉතා ප්‍රාණවත්ව පැවතුනි) දුර්වලකම් යහ ගුණයක් සේ සැලකීමට සූදානම් වන, සාංසිද්ධිකතාවය ඉදිරියේ දසත්වයෙන් යටහත් පහත් වීමේ සිය ක්‍රියා කලාපයට න්‍යායික පදනමක් පවා නිර්මාණය කිරීමට තැත් කරන අය — හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍ර පවා — ඉදිරිපත් වූ කල, අර්ධ දුර්භාග්‍යය සම්පූර්ණ දුර්භාග්‍යයක් බවට පරිවර්තනය විය. මෙම උපනතියෙන් නිසි නිගමනවලට එළඹීමට සුදුසු කාලය පැමිණ ඇති බවත්, එහි ඇතුලත් දේ ''ආර්ථිකවාදය'' යනුවෙන් වැරදි ලෙසට හා පමණට වඩා පටු ලෙසට නම් කර ඇති බවත්, සඳහන් කරමු.

### ආ) සාංසිද්ධිකතාවයට නමස්කාර කිරීම. ''රබෝචිය මිස්ල්''

සාංසිද්ධිකතාවයට වහල් වීම සාහිත්‍යය තුළින් විද්‍යාමාන වීම ගැන සඳහන් කිරීමට පෙර, පසු කාලයේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ ගැටුන උපනති දෙක, සාන්ත පීටර්ස්බර්ග් නගරයේ වැඩ කරන සහෝදරවරු අතර පැන නැගී, සංවර්ධනය වූයේ කෙසේ ද යන්න පැහැදිලි වීමට උපස්තම්භක වන, (ඉහත සඳහන් මාර්ගයෙන් අපට දැනගන්නට ලැබුණු), පහත සඳහන් ස්වභාව නිරූපී කාරණය, සටහන් කරනු කැමැත්තෙමු. 1897 ආරම්භයේ, ඒ. ඒ. වනේයව් සහ ඔහු සමග වැඩ කළ සහෝදරවරු පිරිසක් ඔවුන් පිටුවාහල් කරනු ලැබීමට පෙර, ඔවුහු පෞද්ගලික රැස්වීමකට[153] සහභාගි වූහ. ''කම්කරු පංතියේ විමුක්ති අරගල සංගමයේ'' ''වයස්ගත'' හා ''තරුණ'' සාමාජිකයන් එහි රැස්ව සිටියහ. එහිදී ප්‍රධාන වශයෙන් සාකච්ඡා කෙරුනේ සංවිධානය පිළිබඳ ප්‍රශ්න ගැන ය. විශේෂයෙන්ම ''කම්කරුවන්ගේ අන්‍යෝන්‍ය යහසාධක අරමුදලේ රෙගුලාසි'' ගැන ය. එම රෙගුලාසිවල අවසාන කෙටුම්පත, ''ලිස්තොක් රබෝත්නිකා'' පත්‍රයෙහි[154] (අංක 9-10, පිටු 46) හි පළ කරන ලදී (සාන්ත පීටර්ස්බර්ග් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විහිළුවට ''ඩිසෙම්බරිස්ට්'' වරුන් යන නමින් හැඳින් වූ) ''වයස්ගත'' සාමාජිකයන් හා (පසු කාලයේදී ''රබෝචය මිස්ල්'' පත්‍රයේ වැඩ කටයුතුවලට ක්‍රියාත්මක ලෙස සහභාගි වුනු) තරුණ සාමාජිකයන් කිප දෙනෙක් අතර තියුණු මත වෙනස්කම් පවතින බව ක්ෂණිකව පෙනී යන ලෙසට වේගවත් සාකච්ඡාවක් ඇති විය. ප්‍රසිද්ධියට පත් කරන ලද ආකාරයෙන් වූ රෙගුලාසිවල ප්‍රධාන ප්‍රතිපත්තිවලට පක්ෂව ''තරුණ'' සාමාජිකයෝ කථා කළහ. අවශ්‍යව තිබෙන්නේ මෙය නොව, කම්කරුවන්ගේ යහ සාධක අරමුදල්, ශිෂ්‍යයන්ගේ ප්‍රචාරක කව ආදී වූ සියල්ලටම ඉහළින් සිටින විප්ලවවාදීන්ගේ සංවිධානයක් වන ආකාරයෙන් ''අරගල සංගමය'' තහවුරු කිරීම බව කියමින් ''වයස්ගත'' සාමාජිකයෝ තර්ක කළහ. මෙම අසමඨයන්, භේදයක ආරම්භයක් වූ බව ආරාවුල්කාරී දෙපාර්ශවයම දැන නොසිටි බව කීම අවශ්‍ය නොවේ. එපමණක් ද නොව, ඔවුහු මෙම අසමඨයන්, තනි වූ හා අනියම් ඒවා වශයෙන් සැලකූහ. එසේ වුවද, මෙයින් පැහැදිලි වන්නේ රුසියාවේ වුවද ආර්ථිකවාදය පැතිරී ගියේ ''වයස්ගත'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විරුද්ධව කරන ලද අරගලයකින් තොරව බව, මෙම කරුණෙන් පැහැදිලි වේ. (අද ආර්ථිකවාදීහු මෙම කරුණ අමතක කිරීමට පුරුදුව සිටිති.) මෙම අරගලයේ සටහන් වශයෙන් ගත හැකි ''ලියවිලි'' යමක් ඉතිරි වී නොමැති නම්, ඊට එකම හේතුව වූයේ, එවකට පැවති කවවල සාමාජිකත්වය නිරතුරුවම වෙනස් වූ හෙයින්, ඒවා අවිච්ඡේද ස්වභාවයකින් පවත්වා ගත නොහැකි වීමේ ප්‍රතිඵලයක් වශයෙන්, අදහස් වෙනස් කම් ලියවිලි කිසිවක සටහන් නොකිරීම ය.

''රබෝචය මිස්ල්'' පත්‍රය ආරම්භ කිරීමත් සමග ''ආර්ථිකවාදය'' දහවල් එළියට පමුණුවන ලදී. එහෙත්, එය එක පැහැර සිදුවූවක් නොවීය.

අනු ගණන්වල අවසානයේ පමණක් නොව, මධ්‍යම අනු ගණන්වල පවා, සුළු ඉල්ලීම් සඳහා කරන අරගලවලට අමතරව, අනිකුත් වැඩ කිරීම සඳහා සියලු තත්වයන් පැවතුනි; නායකයන්ට අවශ්‍ය පුහුණුව හැර අනිකුත් සියලුම තත්වයන් තිබුණේ ය. දෘෂ්ටිවාදීන්, නායකයන් වන අපට, ප්‍රමාණවත් පුහුණුවක් නොතිබුණු බව පිළිගන්නවා වෙනුවට, ''තත්වයන් නොතිබීම'' වෙත, එනම්, කිසිම දෘෂ්ටිවාදියෙකුට වෙනස් කළ නොහැකි, ව්‍යාපාරයේ මාර්ගය නිගමනය කරන්නා වූ වටපිටාවෙන් පැනනගින ප්‍රතිඵලය වෙත වරද පැවරීමට ''ආර්ථිකවාදීහු'' උත්සාහ දරති. මෙය කුමක්ද? සාංසිද්ධිකතාවය හමුවේ දසත්වයෙන් යටත් පහත් කම් දැක්වීමක් මිස, වෙන කුමක් ද? දෘෂ්ටිවාදීන් ඔවුන්ගේම දුර්වලකම් වලින් මෝහනය වීම හැර වෙන කුමක් ද?

නොයෙක් නගරවල දක්නට ලැබුණු නව උපනතියෙහි සාර්ථකත්වයට හා අසාර්ථකත්වයට, අහම්බෙන් සිදුවූ දේ කොතරම් දුරට හේතු විනි ද යන්නත්, එයින් ප්‍රකාශිත වූයේ පැහැදිලි උපනතියක් ද, නැතහොත්, යම් යම් පුද්ගලයන්ගේ නුපුරුදු කම් ද යන්නත් ගැන තීරණයකට බැස ගැනීමට, ''නව උපනතියේ පක්ෂවාදීන්ට හෝ විපක්ෂවාදීන්ට අවස්ථාවක් නොමැති තත්වයක් පැවති හෙයින්, එසේ තීරණයක් නොමැතිව කොතෙක් කල් ගත වූයේද යන්නත් වටහා ගැනීම පිණිස, රුසියානු අධ්‍යයන කවවල ක්‍රියාකාරිත්වයට පසු බිම් වූ තත්වයන් හා ඒවායේ මන්දයුෂ්ක ස්වභාවය ගැන අපි පැහැදිලිව සිතා බැලිය යුතු වෙමු (මෙය කළ හැක්කේ ඒ ගැන තමන්ම අත් දැකීමක් ලත් අයට පමණකි). නිදර්ශනයක් වශයෙන්, ගල් අච්චුවෙන් ගත්, ''රබෝචය මිස්ල්'' පත්‍රයේ ප්‍රථම කලාපයේ පිටපත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අති බහුතරයට කිසිදක ලැබුණේ නැත. එම ප්‍රථම පත්‍රයේ ප්‍රධාන ලිපිය ගැන අපට සඳහන් කළ හැකි වී තිබෙන්නේ, එය වී. අයි. විසින් ලියන ලද ලිපියක ('' 'ලිස්තොක්' රබෝත්නිකා'', අංක 9-10, පිටු 47 සිට ඉදිරියට) ඇතුලත් කර තිබූ හෙයිනි. ඉහත සඳහන් කරන ලද පත්‍රවලට හා පත්‍ර සඳහා වූ යෝජනා ක්‍රමවලට වඩා බෙහෙවින් වෙනස් වූ අලුත් පත්‍රය ගැන, පමණට වඩා උත්සුක්ත ලෙස එයින් වර්ණනා කිරීමට ඔහු අමතක කළේ නැත.* මෙම ප්‍රධාන ලිපියෙන්, ''රබෝචයා මිස්ල්'' පත්‍රයේ සහ පොදු වශයෙන් ''ආර්ථිකවාදයේ'' ජීවගුණය ගැන පැහැදිලි ලෙස කරුණු දක්වීම වටනේය.

''නිල් කෝට් කාරයින්'' ගේ[155] ආයුධවලින් කම්කරු පංතියේ ඉදිරි ගමන නැවැත්විය නොහැකි බව කියන ප්‍රධාන ලිපියෙහි ඉන් අනතුරුව, මෙසේ සඳහන් වෙයි. ''... කම්කරු පංති ව්‍යාපාරයේ පෞරුෂත්වයට හේතු වී තිබෙන්නේ, අන්තිමේදී කම්කරුවන් ඔවුන්ගේ ඉරණම ඔවුන් අතටම ගැනීමය. එය නායකයින්ගේ අතින් ඉවතට ගැනීම ය. '' ඊට පසුව මෙම අදහස, එහි ඉතාමත් විස්තර සහිතව ඉදිරිපත් කර ඇත. ඇත්ත වශයෙන් ඇති වූයේ නායකයන් (එනම්,''අරගල සංගමයේ''සංවිධායකයන් වන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්) පොලිසිය විසින් කම්කරුවන්ගේ අතින්

* විශේෂයෙන්ම විදේශයන්හි ''ආර්ථිකවාදය'' ගැන පූර්ණ වශයෙන් අර්ථ නිරූපනය කර තිබූ කලෙක, 1898 දී ''රබෝචය මිස්ල්'' පත්‍රයේ ගුණ වර්ණනා කළේ, නොබෝ කලකින් ''රබෝචිය දියල'' කර්තෘ වරයෙක් වශයෙන් පත් වූ වී. අයි. ම බව මෙහි ලා සඳහන් කළ යුතුය. එහෙත්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපනති දෙකක් ඇතැයි යන්න පිළිගැනීම ''රබෝචිය දියල'' ප්‍රතික්ෂේප කළේය. මේ දක්වාම ප්‍රතික්ෂේප කරන්නේ ය.



උදුරා ගත්තේයයි කිව හැකි තත්වයකි*. එහෙත්, පෙන්නුම් කර ඇත්තේ, කම්කරුවන් ඔවුන්ගේ නායකත්වයට විරුද්ධව සටන් කරමින් සිටි බවක් හා නායකයන්ගේ විය ගසින් ඔවුන් නිදහස ලත් බවකි! විප්ලවවාදී සංවිධාන තහවුරු කර ගැනීම සහ දේශපාලන කටයුතු ව්‍යාප්ත කිරීම පිණිස හඬ නගනු වෙනුවට පිරිසිදු වෘත්තීය සමිති අරගලය දක්වා පසු බැසීමට කැඳවීම් කරන ලදී. ''දේශපාලන අරමුණ කිසි විටෙකත් අමතක නොකිරීමට දරන උත්සාහයෙන්, ව්‍යාපාරයේ ආර්ථික පදනම වැසී යන'' බවත්, කම්කරු පංතියේ ආදර්ශ පාඨය විය යුත්තේ ''ආර්ථික තත්වයන් සඳහා අරගල'' (!) යන්න බවත්, ඊටත් වඩා අගේට ''කම්කරුවන්ට කම්කරුවන්'' යන්නත් ප්‍රකාශයට පත් කරන ලදී. ''වෙනත් සංවිධාන සියයකට වඩා ව්‍යාපාරයට අගනේ'' වැඩ වර්ජන අරමුදල් ය, යන ප්‍රකාශය ද (1897 ඔක්තෝබරයේදී කරන ලද මෙම ප්‍රකාශය, 1897 ආරම්භයේදී ''ඩිසෙම්බරිස්ට්'' වරුන් හා ''තරුණ'' සාමාජිකයන් අතර ඇති වූ විවාදය හා සමග සසඳා බලන්න) එවැනි වෙනත් ප්‍රකාශයන් ද, කරන ලදී. අප ඉලක්ක කර ගත යුත්තේ ''ඉස්තරම්'' කම්කරුවන් නොව, ''සාමාන්‍ය'' පොදු කම්කරුවන් ය. දේශපාලනය කීකරු ලෙස නිතරම ආර්ථිකය පසු පස ගමන් කරන්නේය'' ය** ආදී වූ චිත්තාකර්ෂණීය වදන් ප්‍රකාශ කිරීම ජනප්‍රිය මෝස්තරයක් බවට පත් වූ අතර, ව්‍යාපාරය වෙත ඇදී ආ විශාල තරුණ පිරිස් අතුරෙන් බහුතරය දැන සිටියේ, නීත්‍යානුකූල ප්‍රකාශනවලින් විග්‍රහ කර දක්වන ලද්ද වූ පරිද්දෙන්, මාක්ස්වාදයෙන් ශේෂ මංත්‍රයක් පමණක් වූ හෙයින්, මෙම වදන්, එම තරුණ කොටස් කෙරෙහි, නොවැලැක්විය හැකි ලෙසට තදින් බලපෑවේ ය.

* මෙම උපමාව නිවැරදි බව පහත සඳහන් ස්වභාව නිරූපී කාරණයෙන් පෙනේ. ''ඩිසෙමබරිස්ට්'' වරුන් සොයා ගැනීමට හා සිරභාරයට ගැනීමට උපකාර වූයේ, ඔවුන් බැඳී සිටි කණ්ඩායම හා සමග සම්බන්ධකම් ඇතිව සිටි දන්ත වෛද්‍යවරයෙකු වූ එන්. එන්. මිහායිලව් නම් ප්‍රයෝගකාරී ඔත්තුකරුවෙකු බව ෂ්ලිස්සෙල්බර්ග් මහා මාර්ගයේ කම්කරුවන් අතර පැතිර යාම නිසා, කම්කරුවන් කොතරම් කෝපාවිෂ්ට වූයේ ද යත්, ඔවුහු මිහායිලව් මරා දැමීමට තීරණය කළහ.

** මෙම උධෘතයන් ගෙන ඇත්තේ, ''රබෝචය මිස්ල්'' පත්‍රයේ එම, කලාපයේම ප්‍රධාන ලිපියෙනි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මෙම වී. වී. ලා කොතරම් නම් න්‍යායික පුහුණුවක් ලබා සිටියේ ද යන්න, කෙනෙකුට වටහා ගත හැකිය. සැබැ වී. වී. මහතා, දේශපාලනය හා ආර්ථිකය අතර සම්බන්ධය ගැන මීට සමාන අදහස් දරන නිසා, ඔහු ''ප්‍රතිගාමී කටයුතුවලට අති දක්ෂයෙක්'' ලෙසට හඳුන්වා මාක්ස්වාදීන් ඔහුට විරුද්ධව ලේඛක යුද්ධයක් කර ගෙන යන අවස්ථාවක, මොවුහු ''ආර්ථික ද්‍රව්‍යවාදයේ'' අශෝභන දියාරු ප්‍රකාශයන් රැව් පිළිරැව් දෙවන්නට වූහ.

දේශපාලන විඥානය සම්පූර්ණයෙන්ම සාංසිද්ධිකතාවයෙන් යටපත් කර දමන ලදී. එසේ කරන ලද්දේ, වී. වී. මහතාගේ අදහස් පුනරුච්ඡාරණය කළ ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සාංසිද්ධිකතාවයෙනි. රූබලයකට තවත් කොපෙක් එකක් එකතු කිරීම,ඕනෑම සමාජවාදයකට හෝ දේශපාලනයකට වඩා වටිනා බවත්, ''තමන් සටන් කරන්නේ, කිසියම් අනාගත පරම්පරාවක යහපත පිණිස නොව, තමන්ගේ හා තම දරුවන්ගේ යහපත පිණිස බව දැනගෙන සටන් කළ යුතු'' (''රැබෝචය මිස්ල්'', අංක 1 පත්‍රයේ ප්‍රධාන ලිපිය) බවත්, කියන තර්කවලින් ඇදී ගිය කම්කරුවන්ගේ සාංසිද්ධිකතාවයෙනි. මෙවැනි වදන්, කවදත් බටහිර යුරෝපීය ධනේශ්වර පංතියේ ප්‍රිය තම ආයුධය විය. (ජර්මන් ''සමාජ-දේශපාලනඥ'' හිර්ෂ්මෙන්) සමාජවාදය කෙරෙහි වූ වෛරයෙන් මඩනා ලද ඔවුහු, ඉංග්‍රීසි වෘත්තීය සමිතිවාදය ස්වකීය දේශභූමිවල රෝපනය කිරීමට හා කම්කරුවන් පිරිසිදු වෘත්තීය සමිති අරගලයේ* යෙදෙන විට, ඔවුන් සටන් කරන්නේ, ඔවුන් හා ඔවුන්ගේ දරුවන් වෙනුවෙන් මිස, කිසියම් අනාගත පරම්පරාවක් වෙනුවෙන් වූ කිසියම් සමාජවාදයක් සඳහා නොවන බව කම්කරුවන්ට දේශනා කිරීමට, බලවත් පරිශ්‍රමයක් දැරූහ. රුසියානු ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වී. වී. වරු''[156] දැන් මෙම ධනේශ්වර වාග් මාලාවන් පුනරුච්ඡාරණය කිරීම ආරම්භ කර ඇත. මෙහිදී, අපට කාලීන මත වෙනස්කම් ගැන තවදුරටත් විශ්ලේෂණය කිරීමට ප්‍රයෝජනවත් විය හැකි කරුණු තුනක් සඳහන් කිරීම වැදගත් වන්නේ ය**.

ප්‍රථමයෙන්ම, අප සඳහන් කළ පරිදි, සාංසිද්ධිකතාවය විසින් දේශපාලන විඥානය සම්පූර්ණයෙන්ම යටපත් කිරීම වුවද, සිදු වූයේ සාංසිද්ධික ලෙස ය. මෙය තුන් තේරවිල්ලක් මෙන් පෙනී යා හැකි නමුත්, අවාසනාවන්ත සත්‍යය ද එයම ය. එය සිදු වූයේ, එකිනෙකට ප්‍රතිවිරුද්ධ අදහස් දෙකක් අතර කෙරුන, විවෘත අරගලයක ප්‍රතිඵලයක් වශයෙන්, එක්

* ජර්මන්වරුන්ට "Nur-Gewerkschaftler" යන විශේෂ පාඨයක් පවා ඇත. එහි අදහස ''පිරිසිදු වෘත්තීය සමිති'' අරගලයේ පක්ෂවාදියා යනුයි.

** අප කාලීන යන වචනය අවධාරණය කරන්නේ බොරු පක්ෂපාත කමක් දක්වමින්, උරහිස් නටවා මෙසේ කියන අයගේ ප්‍රයෝජනය පිණිස ය. ''රබෝචය මිස්ල්'' පත්‍රයට දැන් පහර ගැසීම පහසු ය. එහෙත්, දැන් එය යට ගියාවට එකතු වූ දෙයක් නොවේ ද? Mutato nomine de te fabula narratur (නම වෙනස් කර ගතහොත් කථාව ඔබ ගැනය. සංස්කාරක) යයි කියා අපි එම හොර උපාසකයන්ට පිළිතුරු දෙමු. ඔවුන් ''රබෝචිය මිස්ල්'' පත්‍රයේ අදහස්වලට සම්පූර්ණයෙන්ම යටත් වී සිටින බැව් ඉදිරියේ දී ඔප්පු කරනු ලැබේ.





අදහසක් පරාජය කර අනික ජය ගැනීමෙන් නොවේ. එය සිදු වූයේ පොලිස් හේවායන් විසින් ''උදුරා ගෙන යන ලද'' ''වයස්ගත'' විප්ලවවාදීන්ගේ සංඛ්‍යාව වැඩි වීමත්, වෛදිකාරූඪ වන, ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ'' තරුණ වී. වී. ලාගේ සංඛ්‍යාව වැඩි වීමත් යන කරුණු හේතු කොට ගෙන ය. මේ කාලයේ රුසියානු ව්‍යාපාරයට සහභාගි නොවූවත්, එහි සුළඟ හෝ ආඝ්‍රාණය කළ කෙනෙකු වුවද, සිදුවී ඇති දෙය මෙය බව ඉඳුරාම දන්නවා ඇත. එසේ ද වුවත්, කවුරුත් පාහේ දන්නා මෙම කාරණය ගැන පාඨකයා හොඳින් පැහැදිලි කර ගත යුතු යයි අප බලවත් ලෙස කියන්නේ, ''රබෝචිය දියල'' ප්‍රථම සංස්කරණයේ සඳහන් කරුණු හා ''වයස්ගත'' හා ''තරුණ'' අය අතර 1897 ඇති වූ විවාදයේ කරුණු ද තතු පැහැදිලි වන ආකාරයට ගෙන හැර දක්වන්නේ, මෙම කරුණ ගැන පුළුල් ජනතාව (නැතහොත්, වඩාත් තරුණ පරම්පරාව) නොදනිතියි සිතා ගෙන, ස්වකීය ''ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන කියා පාන අය කටයුතු කරන හෙයිනි. මෙම කාරණය ගැන නැවතත් ඉදිරියේදී සඳහන් කරන්නෙමු.

දෙවැනිව, ''ආර්ථිකවාදයේ'' ප්‍රථම ශාස්ත්‍රීය ප්‍රකාශනයේම ඉතාමත් අරුම සහගත ලක්ෂණයක් දක්නට ලැබේ. වර්තමාන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර පවතින අසමගියන්ගේ ස්වභාවය, එයින් නිරූපනය වන නිසා, එම අසමගියන් සියල්ලම ගැන වටහා ගැනීමට එය ඉවහල් වේ. එම ලක්ෂණය නම්, ''පිරිසිදු හා පැහැදිලි කම්කරු ව්‍යාපාරයට'' පක්ෂපාත වූ ද, නිර්ධන පංති අරගලය හා සමග සමීප ''ඓන්ද්‍රීය'' (''රබෝචිය දියල'' වචන) සම්බන්ධකම පැවැත්වීම වන්දනීයත්වයට නංවන්නා වූ ද, කම්කරු නොවන බුද්ධිමතුන්ට (සමාජවාදී බුද්ධිමතුන්ට පවා) විරුද්ධ වන්නා වූ ද අය ස්වකීය මත සනාථ කිරීම හා නිවැරදි බව පෙන්වීම සඳහා, ධනේශ්වර ''පිරිසිදු වෘත්තීය සමිතිවාදීන්'' ගේ තර්ක යොදා ගැනීම ය. මෙයින් පෙනෙන්නේ ආරම්භයේ පටන්ම ''රබෝචය මිස්ල්'' පත්‍රය අවිඥාත ලෙස "Credo" වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීමට පටන් ගත් වග ය. මෙයින් පෙනෙන්නේ, කැමති වුනත් නැතත්, සාංසිද්ධිකතාවයට කෙරෙන සෑම වන්දනාමානයකින්ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ''විඥාත ස්වභාවයෙන්'' ඉටු වන කාර්ය කොටස ලඝු කොට දක්වීමට කරන සෑම කටයුත්තකින්ම, සිදු වන්නේ කම්කරුවන් කෙරෙහි පානු ලබන ධනේශ්වර දෘෂ්ටියේ බලය ශක්තිමත් වීම බවයි (මෙය ''රබෝචිය දියල''ට තේරුම් ගත නොහැක). ''දෘෂ්ටියෙහි වැදගත් කම අභිවාදනය කිරීම* හා විඥාත ස්වභාවයෙන් ඉටු කෙරෙන කාර්ය කොටස අතිශයෝක්තියෙන්

* ''ඉස්ක්‍රා'' අංක 12 හි ''ආර්ථිකවාදීන්ගේ'' ලිපිය.

කීම,* යනාදිය ගැන දොඩවන අය, සියලු දෙනාම කල්පනා කරන්නේ, කම්කරුවන් ඔවුන්ගේ ඉරණම නායකයින් අතින් උදුරා ගනිත් නම්, එපමණින්ම, පිරිසිදු හා පැහැදිලි කම්කරු පංති ව්‍යාපාරය, තමන්ගේම දෘෂ්ටියක් නිර්මානය කර ගැනීමේ හැකියාව ලබන වබයි. තමන්ගේම දෘෂ්ටියක් නිර්මාණය කර ගනු ඇතැයි යනුයි. නමුත්, මෙය බරපතල වැරදීමකි. ඉහත සඳහන් කරුණුවලට අමතරව, ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කෙටුම්පත් වැඩ පිළිවෙළ ගැන වූ කාල් කෞට්ස්කිගේ පහත සඳහන් කියමන ද, මෙහි ලා උපුටා දක්වන්නෙමු**.

''ආර්ථික සංවර්ධනය, සමාජවාදී නිෂ්පාදනය සඳහා අවශ්‍ය තත්වයන් පමණක් නොව, සමාජවාදය අවශ්‍ය දෙයකැයි යන විඥනය ද (අවධාරණය කේ. කේ.ගේ ය) සෘජු ලෙසම නිර්මාණය කරනු ලබන බව, මාක්ස් අවධාරණයෙන් ප්‍රකාශ කළේ යයි, අපගේ සංශෝධනවාදීහු බොහෝ දෙනෙක් විශ්වාස කරති. එමෙන්ම, ධනේශ්වර ක්‍රමයේ ඉතාමත් සංවර්ධිත රට වූ එංගලන්තය, අනිත් සෑම රටකට වඩා විඥත භාවය අතින් පසුබා සිටින බව ද, මෙම විවේචකයෝ සත්ත කර කියති. කෙටුම් පත අනුව බලන කල, මෙසේ කියා ප්‍රතික්ෂේප කරන, නැතහොත්, සාධර්මික-මාක්ස්වාදී අදහසක් වශයෙන් හැඳින් වෙන දෙය, ඕස්ත්‍රියානු වැඩ පිළිවෙළ කෙටුම් පත් කළ කාරක සභාව විසින් ද, පිළිගන්නා ලදැයි කෙනෙකුට සිතා ගැනීමට ඉඩ තිබේ. ''ධනේශ්වර සංවර්ධනය නිසා නිර්ධන පංතිකයන් වැඩි වන තරමට, අනිවාර්ය ලෙසම ධනපති පංතියට විරුද්ධව සටන් කිරීමට නිර්ධන පංතියට සිදුවේ. නිර්ධන පංතිය ඒ සඳහා සුදුසු තත්වයට පැමිණේ''. සමාජවාදය පිහිටුවීමේ හැකියාව සහ එහි අවශ්‍යතාවය ගැන, ''එම පංතියට විංඥනය උදවේ''. මේ අනුව බලන කල, සමාජවාදී විඥනය යනු, නිර්ධන පංතියේ පංති අරගලයේ අවශ්‍ය සහ සෘජු ප්‍රතිඵලයක් වන බව පෙනේ. එහෙත්, මෙය සාකල්‍යයෙන්ම අසත්‍ය ය. නිර්ධන පංතියේ පංති අරගලයේ මෙන්ම, න්‍යාය ධර්මයක් වශයෙන් සමාජවාදයේ ද, මුල් විහිදී තිබෙන්නේ නූතන ආර්ථික සම්බන්ධකම් අතර වන බවත්, එමෙන්ම, නිර්ධන පංති අරගලය හා සමානවම, සමාජවාදයද පැන නගින්නේ, ධනේශ්වරය විසින් ජනතාව අතර උද කරන දරිද්‍රතාවයට හා දුක්ඛිත තත්වයට විරුද්ධව කරන අරගලයෙන් වන බවත්, සැබෑ ය. එහෙත් සමාජවාදය හා පංති අරගලය මතු වන්නේ එක පෙළට මෙනි. එකකින් අනික මතු වන ආකාරයට නොවේ. එකක් පැන නගින්නේ අනිකට වෙනස් තත්වයන් යටතේ ය. නවීන සමාජවාදී විඥනය ඇති විය හැක්කේ, ගැඹුරු විද්‍යාත්මක දැනුම පදනම් කරගෙන පමණකි.

* ''රබොචිය දියල'', අංක 10

** ''Neue Zeit'' 1901-1902, XX, 1 අංක 3, පිටු 79. කෞට්ස්කි සඳහන් කරන කාරක සභා වාර්තා (පසුගිය වසර අගදී) වියානා සම්මේලනය විසින් සුළු සංශෝධන සහිතව සම්මත කරන ලදී[157].



නවීන ආර්ථික විද්‍යාව ද, නවීන තාක්ෂණික ශිල්පය තරමටම, සමාජවාදී නිෂ්පාදනය සඳහා ඇත්තෙන්ම අවශ්‍ය වන කොන්දේසියකි. නිර්ධන පංතිය කොතරම් ආශා කළත්, එයට ඒ දෙකෙන් එකක්වත්, නිර්මාණය කර ගත නොහැක. ඒ දෙකම පැන නගින්නේ, නවීන සමාජ ක්‍රියාදාමයෙනි. විද්‍යාවේ ප්‍රගමනය සිදු වන්නේ නිර්ධන පංතිය නැමති වාහනයෙන් නොවේ; ධනේශ්වර බුද්ධිමතුන් මගිනි (අවධාරණය කේ. කේ. ගේ ය). සමාජවාදයේ සමාරම්භය වූයේ, මෙම ස්ථරයේ එක්, එක් සාමාජිකයන්ගේ සිත් තුළ ය. ඔවුන් ඒ ගැන බුද්ධි වර්ධනය ලත් නිර්ධන පංතියට දැන්වූ පසු, තත්වය අනුව හා ඉඩකඩ ඇති ලෙසට ඒ අය විසින් එය පංති අරගලය සඳහා යොද ගන්නා ලදී. එනිසා, සමාජවාදී විඥනය යනු, නිර්ධන පංති අරගලයට පිටතින් ඇතුල් කරන ලද්දක් (von auß en Huneingetragenes) මිස, එය අභ්‍යන්තරයෙන් සාංසිද්ධික වශයෙන් (urwüchsig) පැන නැඟුනු දෙයක් නොවේ. ඒ අනුව නිර්ධන පංතියේ තත්වය ගැන විඥනය හා එහි කර්තව්‍ය ගැන විඥනය එය තුළට කැවීම (වචනාර්ථයෙන් කියතොත් උරා ගන්නට සැලැස්වීම) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍යය වන බව, පැරණි හයින්ෆිල්ඩ් වැඩ පිළිවෙළෙහි සඳහන් කර තිබීම, ඉතාමත් නිවැරදි ය. විඥනය පංති අරගලයෙන් ස්වයං-ජාත වීනම්, මෙය අවශ්‍ය නොවේ. පැරණි වැඩ පිළිවෙළේ මෙම අදහස පිටපත් කරගෙන, එය අලුත් කෙටුම්පතෙහි ඉහත සඳහන් අදහසට ඈඳන ලදී. එහෙත්, ඒ හේතු කොට ගෙන චින්තාවලිය සම්පූර්ණයෙන්ම බිඳී ගියේ ය...''

වැඩ කරන ජනතාවගේ අරගලයේ අතර තුරදී, ඔවුන් විසින්ම සකස් කර ගත හැකි දෘෂ්ටියක් ගැන කීමට නොහැකි හෙයින්*, තෝරා ගැනී-

* දෘෂ්ටියක් නිර්මාණය කර ගැනීමේදී කම්කරුවන් විසින් ඉටු කරනු ලබන කාර්ය කොටසක් නොමැතිය යන්න, මෙයින් කිසිසේත් අදහස් නොවේ. එහෙත් ඔවුන් ඊට සහභාගී වන්නේ කම්කරුවන් වශයෙන් නොව, ප්‍රුදොන්ලා, වෙයිත්ලින්ග්ලා ලෙසට, සමාජවාදී න්‍යායවාදීන් වශයෙනි. වෙනත් වචනවලින් කියතොත්, ස්වකීය යුගයේ දැනුම අඩු වැඩි පමණින් ලබා ගැනීමට හා එම දැනුම සංවර්ධනය කර ගැනීමට හැකි කල්හි, ඔවුහු ඊට සහභාගී වෙති. එහෙත්, වැඩ කරන ජනයාට, මෙය වැඩි වැඩියෙන් කළ හැකි වනු පිණිස, පොදුවේ කම්කරුවන්ගේ විඥන මට්ටම උසස් කිරීමට සෑම ප්‍රයත්නයක්ම දැරිය යුතුය. ''කම්කරුවන් සඳහා සාහිත්‍යය'' යන කෘත්‍රිම සීමාවන්ට කොටු නොවී, කම්කරුවන් වැඩි වැඩියෙන් පොදු පොතපත හා දැරීමට යොමු කිරීමට කටයුතු යෙදීම අවශ්‍ය ය. මෙහිදී, ''කොටු නොවී'' යන්නට වඩා ''කොටු කර නොතබා'' යන්න යෙදීම වඩාත් නිවැරදි ය. බුද්ධිමතුන් සඳහා ලියන ලද සියලුම පත පොත කියවීමට කම්කරුවන් කැමති වන අතර, ඔවුනට ෆැක්ටරිවල තත්වයන් ගැන කරුණු ටිකක් කීමත්, බොහෝ කාලයක් තිස්සේ ඔවුන් දන සිටි දෙය නැවත නැවතත් කීමත්, ප්‍රමාණවත් යයි අදහස් කරන්නේ (නරක) බුද්ධිමතුන් කීප දෙනෙක් පමණකි.

මට තිබෙන්නේ, එක්කෝ ධනපති දෘෂ්ටිය, නැතහොත්, සමාජවාදී දෘෂ්ටිය යන දෙකෙන් එකක් පමණකි. මැද මාර්ගයක් නොමැත (මිනිසා ''තුන්වැනි'' දෘෂ්ටියක් නිර්මාණය කර නොමැත. එපමණක් නොව, පංති ප්‍රතිරෝධතාවයන්ගෙන් බෙදී ගිය සමාජයක, පංතියකට නැති, නැතහොත්, පංති අභිබවා සිටින දෘෂ්ටියක් තිබෙනු ද නොහැකි ය). එහෙයින්, කුමණ හෝ ආකාරයකින් වුවද සමාජවාදී දෘෂ්ටිය ලඝු කොට දක්වීමත් ලේශ මාත්‍ර වශයෙන් හෝ ඉන් ඉවතට හැරීමත්, යනුවෙන් අදහස් වන්නේ, ධනේශ්වර දෘෂ්ටිය ශක්තිමත් කිරීම ය. සාංසිද්ධිකතාවය ගැන බොහෝ සෙයින් කථා කරනු ලැබේ. එ නමුත්, කම්කරු ව්‍යාපාරයේ ''සාංසිද්ධික'' සංවර්ධනයෙන් එය යොමු වන්නේ එය ධනේශ්වර දෘෂ්ටියට යටත් වන තැනට ය — "Credo" වැඩ පිළිවෙළෙහි ක්‍රියා මාර්ගය අනුව සංවර්ධනය වීමට ය. එසේ වන්නේ, කම්කරු පංතියේ සාංසිද්ධික ව්‍යාපාරය යනු, වෘත්තීය සමිතිවාදය Nur Gewerkschaftlerei වන හෙයිනි. එමෙන්ම වෘත්තීය සමිතිවාදය යනුවෙන් අදහස් වන්නේ, කම්කරුවන් ධනේශ්වර පංතියේ දෘෂ්ටියට වහල් වීමේ තත්වයට පත් වීම වන හෙයිනි. සාංසිද්ධිකතාවයට විරුද්ධව සටන් කිරීමත්, ධනේශ්වර පංතියේ බලපෑමට හසු වීමට කම්කරු පංති ව්‍යාපාරය දරන මෙම සාංසිද්ධික සහ වෘත්තීය සමිතිවාදී උත්සාහයෙන් එය ඉවතට යොමු කිරීමත්, එය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ආරක්ෂාව යටතට ගෙන ඒමත්, අපගේ කර්තව්‍ය, එනම්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍ය වන්නේ, එහෙයිනි. එනිසා, ද්‍රව්‍යමය මූල ධර්ම සහ ද්‍රව්‍යමය වටපිටාව අතර සිදුවන්නා වූ, අන්තර් ක්‍රියාකාරිත්වයෙන් නිශ්චය කෙරෙන මාර්ගයෙන් ඉවතට කම්කරු පංතිය යොමු කිරීමට, ඉතාමත් ප්‍රබුද්ධ දෘෂ්ටිවාදීන් වුවද සමත් නොවෙතියි යනුවෙන්, ''ඉස්ක්‍රා'' අංක 12 හි පළ කරන ලද ''ආර්ථිකවාදී'' ලිපියෙහි කර්තෘවරු යොද ගත් වාක්‍යය සමාජවාදය ප්‍රතික්ෂේප කිරීමක් හා සමාන වේ. ලේඛක හා මහජන කටයුතු පිළිබඳ සටන් භූමියට අවතීර්ණ වන, සෑම කෙනෙක්ම, කළ යුතු වන සේ, මෙම කර්තෘවරුන් ද තමන් කියන දේ ගැන නිර්භය ස්ථිර හා දැඩි ලෙස සලකා බැලීමට සමත් වී නම්, ඔවුන්ගේ ''හිස් ලය මත ඔවුන්ගේ වැඩකට නැති දෑත් බැඳ ගෙන සිටීමක්'' ... කම්කරු ව්‍යාපාරය ''ඉතාමත් අබාධිත ක්‍රියාමාර්ගය ඔස්සේ'', එනම්, ධනේශ්වර වෘත්තීය සමිති මාර්ගය ඔස්සේ, ඇද ගෙන යන ස්ත්‍රුවේලාට හා ප්‍රකපෝවිච්ලාට සටන් භූමිය භාර දීම හෝ, එසේ නැතහොත්, එම ව්‍යාපාරය දෙවගැති හෝ පොලිස් හේවා ''දෘෂ්ටිය''[158] ඔස්සේ ඇද ගෙන යන සුබාතව්ලාට භාර දීම හැර, තමන්ට කිරීමට ඉතිරි වෙනත් දෙයක් නොමැති බව ඔවුනට පෙනෙනු ඇත.

අපි ජර්මන් නිදර්ශනය ගැන සිහිපත් කරමු. ලසාල් ජර්මන් කම්කරු



ව්‍යාපාරයට කළ සේවය කුමක් ද? එය නම්, (ෂුල්ත්සේ-දෙලිච් හා එවැනි අයගේ කාරුණික ආධාර ඇතිව) ක්‍රමිකවාදී වෘත්තීය සමිතිවාදය සහ සමුපකාරවාදය කරා ගමන් කරමින් තිබූ එම ව්‍යාපාරය, එම මාර්ගයෙන් ඉවතට යොමු කිරීම ය. එවැනි කර්තව්‍යයක් සාර්ථක කිරීම සඳහා, කළ යුතු වූයේ, සාංසිද්ධිකතාවයේ වැදගත් කම සුළු කොට තැකීම ගැන, ක්‍රියාදාමයක් වන උපක්‍රම ගැන හා මූලධර්ම සහ වටපිටාව අතර සිදු වන අන්තර් ක්‍රියාකාරිත්වය යනාදිය ගැන කථා කිරීමට වඩා හාත්පසින්ම වෙනස් දෙයකි. ඒ සඳහා, සාංසිද්ධිකතාවයට විරුද්ධව දරුණු අරගලයක් කිරීමට සිදු විය. නිදර්ශනයක් වශයෙන්, ක්‍රමිකවාදී පක්ෂයේ බල පවුරක් බවට පත් වී සිටි බර්ලින් වැඩ කරන ජනතාව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කදිමතම බල කඳවුරක් බවට පරිවර්තනය කළ හැකි වූයේ, අවුරුදු ගණනක් තිස්සේ කළ, එවැනි අරගලයකින් පසුව පමණකි. (ප්‍රකපෝවිච්ගෙන් ජර්මන් ව්‍යාපාරයේ ඉතිහාසයත්, ස්ත්‍රුවේගෙන් එහි දර්ශනයත් ඉගෙන ගන්නා අය, එම අරගලය අවසන් යයි සිතනු හැකි වුවද) තවමත් එම අරගලය කිසි ලෙසකින්වත් අවසන් වී නොමැත. ජර්මන් කම්කරු පංතිය, දනුදු දෘෂ්ටිවාද කීපයක් අතර බෙදී සිටින බව කිව හැක. එක් කොටසක් කතෝලික රාජාණ්ඩුවාදී සංගම් තුළ සංවිධානය වී සිටිති. තවත් කොටසක්, ඉංග්‍රීසි වෘත්තීය සමිතිවාදයට නමස්කාර කරන ධනේශ්වරයන් විසින් ආරම්භ කරන ලද හීර්ෂ්-දුන්කෙර් සමිති[159] තුළ සංවිධානය වී සිටිති. තුන්වැනි කොටස, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංගම් තුළ සංවිධානය වී සිටිති. මෙහි අන්තිමට සඳහන් කොටස, සංඛ්‍යාවෙන් අනිත් කණ්ඩායම් අභිභවන නමුත්, එය එම තත්වය දිනා ගැනීමෙහි සමත් වූයේ හා රැක ගැනීමෙහි සමත් වන්නේ, අනිකුත් දෘෂ්ටිවාද සියල්ලටම විරුද්ධව ස්ථිරසාර අරගලයක් කිරීමෙන් පමණකි.

එහෙත් සාංසිද්ධික ව්‍යාපාරය මගින්, නැතහොත්, ඉතාමත් අබාධිත ව්‍යාපාරය මගින්, ධනේශ්වර දෘෂ්ටියේ ආධිපත්‍යයට මග පැදෙන්නේ කෙසේ ද? යනු පාඨකයා විමසනු ඇත. ධනේශ්වර දෘෂ්ටිය, සමාජවාදී දෘෂ්ටියට වඩා බොහෝ කලින් ආරම්භ වීමත්, වඩා හොඳින් සංවර්ධනය වී තිබීමත්, එය පැතිර වීම සඳහා මෙතෙකැයි කිව නොහැකි තරම් අධික තර මාධ්‍යයන් සමූහයක් එය සතුව තිබීමත් නිසා එසේ වන්නේය*. කිසි-

* කම්කරු පංතිය සාංසිද්ධික වශයෙන් සමාජවාදය වෙත ඇදී යන බව නිතර කියනු ලැබේ. සමාජවාදය, අන් කිසිම න්‍යායකට වඩා ගැඹුරු ලෙස හා නිවැරදි ලෙස, කම්කරු පංතියේ දරිද්‍රතාවයට හේතුව හෙළිදරව් කරන අතර, එම හේතුව නිසා, එය කම්කරුවන්ට වඩාත් පහසුවෙන් වටහා ගැනීමට හැකි වීමේ අර්ථයෙන් එය, සම්පූර්ණයෙන්ම සත්‍ය වේ.

යම් නිශ්චිත රටක, සමාජවාදී ව්‍යාපාරය ලා බාල වූ තරමට, එය, සමාජවාදී නොවන දෘෂ්ටි ශක්තිමත් වීමට දරන සියලු ප්‍රයත්නයන්ට විරුද්ධව වඩ වඩාත් බලවත් ලෙස අරගල කළ යුතු වන්නේ ය; ''විඥාත ස්වභාවය අභිවාදනය කිරීම'' ආදිය ගැන ඝෝෂා කරන උපදේශකයන්ගෙන් ප්‍රවේසම් වන ලෙසට වඩාත් අධිෂ්ඨාන සහගත ලෙස කම්කරුවන්ට අනතුරු හඟවා තැබිය යුතුය. ව්‍යාපාරයේ ළදරු අවධියේ නො රුස්නා ගතිය ගැන, ''ආර්ථිකවාදී'' ලිපියේ කර්තෘවරු, ''රබෝචිය දියල'' සහරාව හා සමග එක හඬින් දෝෂාරෝපනය කරති. අපි ඊට මෙසේ පිළිතුරු දෙන්නෙමු: ඔව්, අපගේ ව්‍යාපාරය ළදරු අවධියේ පවතින බව ඇත්ත ය. එය වේගයෙන් වැඩී යනු පිණිස, සාංසිද්ධිකතාවයට වහල් වීම තුළින් එහි වර්ධනයට බාධා කරනවුන් නොරිස්සීමේ ගතිය එය තුළට කාවැද්දිය යුතු ය. තමන්, අරගලයේ තීරණාත්මක අවධි සම්බන්ධයෙන් බොහෝ කලක් තිස්සේ අත්දැකීම් ලත් ''පරණ අය'' වෙතියි බොරුවට හැඟවීම තරම් හාස්‍ය ජනක වෙනත් දෙයක් නැත.

තුන්වැනිව, ''ආර්ථිකවාදය'' යන පාඨයෙන්, නව උපනතියේ නියම ස්වභාවය පැහැදිලි වන්නේ නැතැයි යන්න, ''රබෝචය මිස්ල්'' පත්‍රයේ පළමු වැනි කලාපයෙන් පෙන්වාදී ඇත (එහෙත් එක් හෝ අනික් ආකාරයෙන් මෙම නිල නාමය තහවුරු වී තිබෙන නිසා එය අත්හැරීමට අපි අදහස් නොකරමු). ''රබෝචය මිස්ල්'' පත්‍රය දේශපාලන අරගලය සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප නොකරයි. එහි ප්‍රථම කලාපයේ පළ කෙරුනු, කම්කරුවන්ගේ යහ සාධක අරමුදලක් සඳහා වූ රෙගුලාසිවල, ආණ්ඩුවට විරුද්ධව සටන් කිරීම ගැන සඳහන් කර ඇත. එසේ වුවද, ''දේශපාලනය කීකරු ලෙස නිතරම ආර්ථිකය පසු පස ගමන් කරන්නේය''යි ''රබෝචය මිස්ල්'' පත්‍රය විශ්වාස කරයි. (''අන් කුමණ රටකටත් වඩා, රුසියාවේ ආර්ථික අරගලය දේශපාලන අරගලයෙන් අභේද්‍යය''යි ස්වකීය වැඩ පිළිවෙළෙන් කීමෙන් ''රබෝචිය දියල'' මෙම ප්‍රවාදයෙහි වෙනසක් කරයි). දේශපාලනය යනුවෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය අදහස් කරන්නේ නම්, ''රබෝචය මිස්ල්'' හා ''රබෝචිය දියල'' යන ප්‍රකාශන කියන දේ අත්‍යන්තයෙන්ම වැරදි ය. අප දැක ඇති ආකාරයට, බොහෝ විට කම්කරුවන්ගේ ආර්ථික අරගලය (අභේද්‍ය ලෙය නොවුවද) ධනේශ්වර දේශපාලනය, දෙවගැති දේශපාලනය, ආදිය සමග සම්බන්ධව පවතී, දේශපාලනය යනුවෙන් අදහස් කරන්නේ, වෘත්තීය සමිති දේශපාලනය නම්, එනම්, කම්කරුවන්ගේ තත්වයෙන් පැන නගින පීඩාව අඩු කර ගැනීම සඳහා, එහෙත් මෙම තත්වය අහෝසි නොකරන, නැතහොත් කම්කරුවා ප්‍රාග්ධනයට යටත් කිරීම අහෝසි නොකරන පියවරයන් ආණ්ඩුවෙන් දිනා ගැනීම සඳහා, සියලුම කම්කරුවන් පොදු ලෙස පරිශ්‍රම දැරීම නම්, ''රබෝචිය දියල'' ප්‍රවාදයන් නිවැරදි ය. එසේ පරිශ්‍රම දැරීම, ඇත්තෙන්ම සමාජවාදයට සතුරු වන ඉංග්‍රීසි වෘත්තීය සමිතිවාදීන්ට ද, කතෝලික කම්කරුවන්ට ද, ''සුබාතව්'' කම්කරුවන්ට ද, යනාදීන්ට පොදු දෙයකි. නොයෙක්, නොයෙක් ආකාරයේ දේශපාලනය ඇත. එ බැවින්, ''රබෝචය මිස්ල්'' පත්‍රය සාංසිද්ධිකතාවයට හා එහි අවිඥාත ස්වභාවයට නමස්කාර කරන විට, එය ඒතාක් දුරටම දේශපාලනය ප්‍රතික්ෂේප නොකරන බව අපට පෙනේ. එය, කම්කරු පංති ව්‍යාපාරයෙන්ම සාංසිද්ධික ලෙස පැන නගින දේශපාලන අරගලය (කම්කරුවන්ගේ දේශපාලන අභිප්‍රායයන් හා ඉල්ලීම් යන්න වඩා උචිත ය) මුළු මනින්ම පිළිගන්නා අතරම, සමාජවාදයේ පොදු කර්තව්‍යයනට හා රුසියාවේ වර්තමාන තත්වයට ගැලපෙන, විශේෂ වූ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනයක්, ස්වාධීනව සකස් කර ගැනීමේ කටයුත්ත, ඒකාන්ත ලෙස ප්‍රතික්ෂේප කරයි. ''රබෝචිය දියල'' ද එම වරදම කරන බව ඉදිරියේදී පෙන්වා දෙන්නෙමු.

### ඇ) ''ස්වයං විමුක්ති කණ්ඩායම''[60] සහ ''රබෝචිය දියල''

''රබෝචය මිස්ල්'' පත්‍රයෙහි ප්‍රථම කලාපයෙහි ඇතුලත් වූ, අප්‍රසිද්ධ සහ දැනට බොහෝ දුරට අමතක වී ඇති ප්‍රධාන ලිපිය ගැන මෙතරම් දීර්ඝ ලෙස කරුණු දැක්වූයේ, පසුව, නිමක් නැති කුඩා කඳුරු මෙන්, එළිමහණට ඇදුනු පොදු චින්තා ඕඝය ඉතාමත් සිත් කාවදින සේ ප්‍රථමවරට එම ලිපියෙන් ප්‍රකාශ වූ බැවිනි. ''රබෝචය මිස්ල්'' පත්‍රයේ ප්‍රථම සංස්කරණය හා එහි ප්‍රධාන ලිපිය ගැන ප්‍රශංසා කිරීමේදී, එම ලිපිය ''තියුණු හා උද්වේග කාරී''ලෙස ලියා ඇතැයි, වී. අයි. කියා තිබීම ඉතාමත් නිවැරදි ය. (''ලිස්තොක් රබෝත්නිකා'' අංක 9-10, පිටු 49) තමන්ට කීමට අලුත් දෙයක් ඇතැයි යන අවබෝධයෙන් යුත් සෑම මිනිසෙක්ම,

---

එහෙත්, එය එසේ වන්නේ, එම න්‍යාය ස්වයං උවමනාවෙන්ම සාංසිද්ධිකතාවයට ඉඩ දීම නොකළහොත් හා තමන්ට සාංසිද්ධිකතාවය යටත් කර ගතහොත් පමණකි. සාමාන්‍ය වශයෙන් මෙය සිදු වෙතැයි යනු අපේක්ෂා කෙරෙන නමුත්, ''රබෝචිය දියල'' අමතක කරන්නේ ද, විකෘති කරන්නේ ද, මෙයම ය. කම්කරු පංතිය සාසිද්ධික වශයෙන් සමාජවාදය වෙත ඇදී යයි. එසේ වුවද, ඉතාමත් පුළුල් ලෙස පැතිරී තිබෙන (හා නිරතුරුව හා නේකාකාර ලෙස නව ජීවයක් දෙනු ලබන) ධනේශ්වර දෘෂ්ටිය ඊටත් වැඩී තරමින් එහි ආධිපත්‍යය කම්කරු පංතිය කෙරෙහි විහිදුවයි.

ඔහුගේ අදහස් ඉතා පැහැදිලිව කැපී පෙනෙන සේ, ''උද්වේග කාරී'' ලෙස ලියයි. ''උද්වේගකාරිත්වය'' නොමැත්තේ දෙගිඩියාවෙන් කල් ගෙවීමට පුරුදු වී සිටින අයට පමණකි. දිනක ''රබෝචය මිස්ල්'' පත්‍රයේ උද්වේගකාරිත්වයට ප්‍රශංසා කර, තවත් දිනෙක, එහි ප්‍රතිපාක්ෂිකයන්ගේ ''උද්වේගකාරී විතර්කයට'' පහර දිය හැක්කේ එවැනි අයට පමණකි.

''රබෝචය මිස්ල්'' පත්‍රයේ ''විශේෂ අතිරේකය'' ගැන මෙහිදී යමක් කීමට අදහස් නොකරමු (වෙනත් කිසිම කෘතියකට වඩා ස්ථිරසාර ලෙස ''ආර්ථිකවාදී'' අදහස් ප්‍රකාශ කරන එය ගැන, මෙම කෘතියෙහි, පහත නොයෙක් අවස්ථාවලදී සඳහන් කිරීමට අපට සිදු වනු ඇත). එහෙත්, (ලන්ඩනයේ 1899 ජූලි ''නකනුනි''[161] අංක 7 හි යළි පළ කරන ලද) ''කම්කරු ස්වයං විමුක්ති කණ්ඩායමේ ආයාචනය'' (1899 මාර්තු) ගැන එහුඩින් සඳහන් කරන්නෝමු. ''රුසියාවේ කම්කරුවන්ගේ පිබිදීම ආරම්භ වුණා පමණක් බවත්, ඔවුන් තම වටපිටාව නිරීක්ෂණය කිරීම ආරම්භ කළා පමණක් බවත්, අරගලයෙහි යෙදීමට ලැබෙන ප්‍රථම මාධ්‍යයම කෙරෙහි ඔවුන් ඉවෙන් මෙන් එල්බ ගන්නා'' බවත්, ''ආයාචනයේ කර්තෘවරු නිවැරදි ලෙසට කියති. එසේ වුවද, ඔවුන් මෙයින් බැස ගන්නේ ''රබෝචය මිස්ල්'' පත්‍රය බැස ගන්නා වැරදි නිගමනයටම ය. ඉවෙන් මෙන් යනු අවිඥාත (සාංසිද්ධික) භාවය වන අතර එයට විරුද්ධ අරගලයට සහාය වීම පිණිස සමාජවාදීන් ඉදිරිපත් විය යුතු නමුත් ඔවුන් එම නිගමනයට එළඹෙන්නේ ඒ බව අමතක කරමිනි; එසේම, නවීන සමාජයේ අරගලයෙහි යෙදීමට ''ලැබෙන ප්‍රථම'' මාධ්‍යය, වෘත්තීය සමිති අරගලය වන බවත්, ''ලැබෙන ප්‍රථම'' දෘෂ්ටිය ධනේශ්වර (වෘත්තීය සමිති) දෘෂ්ටිය වන බවත්, අමතක කිරීමෙනි. එමෙන්ම මෙම කර්තෘවරු දේශපාලනය ද අමතක නොකරති. ඔවුන් කරන්නේ, වී. වී. කියන දෙය, එනම්, දේශපාලනය යනු උඩු ව්‍යුහය වන නිසා, ''දේශපාලන උද්ඝෝෂණය ද, ආර්ථික අරගලයට පක්ෂව ගෙන යන උද්ඝෝෂණයේ උඩු ව්‍යුහය විය යුතු ය'' යන්න ද, ''එය එම ආර්ථික අරගලයේ පදනමෙන් පැන නැගී, එහි අඩි පාරේ ගමන් කළ යුතු ය'' යන්න ද හුදෙක්ම (හුදෙක්ම!) දෝංකාර දෙවීම පමණකි.

''රබෝචිය දියල'' එහි කටයුතු ඇරඹුයේ ආර්ථිකවාදීන් ආරක්ෂා කිරීමට ඉදිරිපත් වීමෙනි. අක්සෙල්රෝද්ගේ සුප්‍රසිද්ධ පත්‍රිකාවෙන්* ඔහු ''ආර්ථිකවාදීන්ට අනතුරු හැඟවීමක් කළ විට, ඔහු සඳහන් කළේ කුමණ

* රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වර්තමාන කර්තව්‍යයන් හා උපක්‍රම පිළිබඳ ප්‍රශ්නය ගැන'' ජිනීවා 1898. 1897 දී ''රබෝචය ගසේතා'' පත්‍රයට ලියූ ලිපි දෙක.



තරුණ සහෝදරවරු ගැනද යන්න තමන් නොදන්නා බව කීමෙන් ''රබෝචිය දියල'' (අංක 1, පිටු 141-142) ඇද බෑවේ අන්ත මුසාවකි. මෙම මුසාවාදය සම්බන්ධයෙන් අක්සෙල්රොද් හා ප්ලෙහානව් සමග ඇවිළී ගිය විවාදයේ දී, (''ආර්ථිකවාදීන්'' වෙත අක්සෙල්රොද් එල්ල කළ පටු ස්වභාවය පිළිබඳ වූ චෝදනාවෙන්),[162] ''මෙම අයුක්ති සහගත දෝෂාරෝපනයෙන්, විදේශ ගත තරුණ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සියලු දෙනාම ආරක්ෂා කිරීම පිණිස, විමති ආකාරයෙන්, තමන් ප්‍රයත්න දරු බව'' ''රබෝචිය දියල'' ට පිළිගැනීමට සිදුවිය. යථාර්ථ වශයෙන් මෙම දෝෂාරෝපනය සම්පූර්ණයෙන්ම යුක්ති සහගත විය. එය වෙනත් අයට මෙන්ම, ''රබෝචිය දියල'' කර්තෘ මණ්ඩලයේ සිටි වී. අයි. ට ද, අදාල වන බව එම පත්‍රය දැන සිටියේය. එම විවාදය අතරතුර දී, මගේ ''රුසියානු සමාජවාදීන්ගේ කර්තව්‍යයන්,'' යන කුඩා පොත පිළිබඳව අර්ථ නිරූපනය කිරීමේදී, අක්සෙල්රොද් සම්පූර්ණයෙන්ම නිවැරදි වූ බවත්, ''රබෝචිය දියල'' සම්පූර්ණයෙන්ම වැරදි වූ බවත්, මෙහි ලා සඳහන් කරනු කැමැත්තෙමි. මෙම පොත් පිංච ලියන ලද්දේ 1897 දී, ''රබෝචය මිස්ල්'' පත්‍රය පළ වීමට පෙර, සාන්ත පීටර්ස්බර්ග් ''අරගල සංගමය'' තුළ, ඉහත මා ස්වභාව විස්තර දක්වා ඇති, මුල් ප්‍රවණතාවය ප්‍රබල වී ඇතැයි මා නිවැරදිව කල්පනා කළ අවස්ථාවේදී ය. තවද, මෙම ප්‍රවණතාවය, 1898 වර්ෂයෙන් අඩක්ම පාහේ ගෙවෙන තෙක්ම පැවතුනි. එනිසා ''ආර්ථිකවාදයේ'' අන්තරායක් පවතින බව ප්‍රතික්ෂේප කිරීමට ''රබෝචිය දියල'' දරන ප්‍රයත්නයේදී, 1897—1898 කාලය තුළ සාන්ත පීටර්ස්බර්ග්හි බලපෑ ''ආර්ථිකවාදී'' අදහස්වල බල කිරීම නිසා එළිදුටු අදහස් ඇතුලත් පොත් පිංචක් ගැන සඳහන් කිරීමට, එම පත්‍රයට කිසිම අයිතියක් නොමැත*.

* (අක්සෙල්රොද් සඳහන් කළේ කුමණ සහෝදරවරු ගැනද අපි නොදනිමු යන) ප්‍රථම මුසාව සනාථ කිරීමට ''රබෝචිය දියල'' දුන් එහි පිළිතුරෙන්, '' 'කර්තව්‍යයන්'' ගැන සමාලෝචනය පළ කිරීමෙන් පසුව, 'කර්තව්‍ය' වල (පිටු 9) විස්තර කෙරෙන අප ව්‍යාපාරයේ පවත්නා තත්වයේ සිට ආපස්සට පියවරක් තැබීම නියෝජනය කරන, එක් පැත්තකට බර වූ ආර්ථිකවාදය කරා යාමේ ප්‍රවණතාවයක් සමහර රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් තුළ මතු වී ඇත. එසේ නැතහොත් එක්තරා දුරකට පැහැදිලි ලෙස සලකුණු වී ඇත'' යන්න ලිවීමෙන් තවත් මුසාවක් එකතු කළේය. මෙය කියන ලද්දේ 1900 පළ කළ පිළිතුරෙහි ය. එහෙත් (සමාලෝචනය ඇතුලත්) ප්‍රථම ''රබෝචිය දියල'' 1899 අප්‍රියෙල් මාසයේදී නිකුත් විය. ඇත්ත වශයෙන්ම ආර්ථිකවාදය පැන නැගුනේ 1899 දී ද? නැත. ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් ප්‍රථමයෙන්ම ආර්ථිකවාදයට'' විරෝධය (''Credo'' ලියවිල්ලට විරෝධය) පළ කරන ලද්දේ 1899 දී ය. ''රබෝචිය දියල'' ඉතා හොඳින් දන්නා ලෙසට ''ආර්ථිකවාදය'' පැන නැඟුනේ

නමුත්, ''රබෝචිය දියල'' කළේ ''ආර්ථිකවාදීන්'' ආරක්ෂා කිරීම පමණක් නොවේ. එයත්, ''ආර්ථිකවාදීන්'' කළ මූලික වැරැද්දම කළේය. මෙම වියවුලට ප්‍රභව වූයේ, ''රබෝචිය දියල'' වැඩ පිළිවෙළෙහි එන පහත දැක්වෙන ප්‍රවාදයට දෙන ලද අර්ථ නිරූපනයෙහි ව්‍යාකූල භාවයෙනි. ''අපගේ අදහස අනුව ප්‍රධාන වශයෙන් කර්තව්‍යයන් නිර්ණය කරන්නා වූ (අවධාරණය, අපගේය) හා සංගමයේ කටයුතුවල ස්වභාවය නිර්ණය කරන්නා වූ රුසියානු සමාජ ජීවිතයේ ඉතාමත් වැදගත් ප්‍රපංචය වන්නේ, මෑත අවුරුදුවලදී පැන නැග තිබෙන පොදුජන කම්කරු පංති ව්‍යාපාරය යි'' (අවධාරණය ''රබෝචිය දයල'' විසිනි). පොදුජන ව්‍යාපාරය ඉතාමත් වැදගත් ප්‍රපංචයක් බව කීමට තර්ක අවශ්‍ය නොවේ. එසේ වුවද, මෙහි ප්‍රධාන ප්‍රශ්නය වන්නේ, පොදුජන කම්කරු ව්‍යාපාරය විසින් ''කර්තව්‍යයන් නිර්ණය කෙරෙන්නේ ය'' යන ප්‍රකාශය අයෙක් කෙසේ වටහා ගන්නේ ද යන්න ය. එය තේරුම් කිරීම දෙ ආකාරයකින් කළ හැක. එක්කෝ එයින් අදහස් කෙරෙන්නේ සාංසිද්ධිකතාවයට නමස්කාර කිරීම ය. එනම්, (''රබෝචයා මිස්ල්'', ''ස්වයං විමුක්ති කණ්ඩායම'' හා අනිකුත් 'ආර්ථිකවාදීන්' අර්ථ නිරූපනය කරන ලෙසට) කම්කරු පංති ව්‍යාපාරය පවත්නා පරිද්දෙන්ම ගෙන, ඊට උපකාරක වන සේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කාර්ය භාරය පහත හෙළීම ය. එසේ නැතහොත්, ඉන් අදහස් කරන්නේ, පොදුජන ව්‍යාපාරය විසින් අප හමුවේ තබනු ලබන, නව න්‍යායික, දේශපාලන හා සංවිධාන කර්තව්‍යයන්, එම ව්‍යාපාරය පැන නැගීමට පෙර, අපට තෘප්තිදයක ලෙස ඉටු කළ හැකි වූ කර්තව්‍යයන්ට වඩා බෙහෙවින් සංකීර්ණ වන බව ය. ''රබෝචිය දියල'' මෙයින් ප්‍රථම අර්ථ නිරූපනය දෙසට බර වී ඇති අතර, තව දුරටත්, ඒ දෙසටම නැඹුරු වෙයි. එය, නව කර්තව්‍යයන් සම්බන්ධයෙන්, නිශ්චිත කිසිවක් කියා නැතත්, ''පොදු ජන ව්‍යාපාරය'' අප හමුවේ තබන කර්තව්‍යයන් පැහැදිලි ලෙස අවබෝධ කර ගැනීමේ හා ඒවා සපුරාලීමේ අවශ්‍යතාවයෙන් අප නිදහස් කිරීම, එම ව්‍යාපාරය විසින් කෙරෙන බව ඇඟවීමට දිගින් දිගටම තර්ක කර තිබෙන නිසා මේ බව පැහැදිලි වේ. මෙහිදී අප පෙන්වා දිය යුතුව ඇත්තේ, පොදුජන ව්‍යාපාරයේ ප්‍රථම කර්තව්‍යය ලෙසට, ඒකාධිපත්‍යය පෙරළා දැමීම කිසිසේත් නියම කළ නොහැකි යයි ''රබෝචිය දියල'' කල්පනා කළ බවත්, එය, එම කර්තව්‍යය (පොදුජන ව්‍යාපාරයේ නාමයෙන් හදිසි දේශපාලන ඉල්ලීම් සඳහා කරන අරගලයක (''පිළිතුර'' පිටු 25) තත්වයට පහත හෙලූ බවත් පමණකි.

---

1897 දී ය. 1898 නොවැම්බර් වන විටත් වී. අයි. ''රබෝචය මිස්ල්'' පත්‍රයට ප්‍රශංසා කරමින් සිටියේය ('' 'ලිස්තොක්' රබොත්නිකා'' අංක 9-10 බලන්න).



මෙම වැරදීම* යළිත් කරමින් ''රබෝචිය දියල'' අංක 7 හි, එම සඟරාවේ කර්තෘ, බී. ක්‍රිචේව්ස්කි, ''රුසියානු ව්‍යාපාරයේ ආර්ථික හා දේශපාලන අරගලය'' යන මැයෙන් පළ කළ ලිපිය අත් හැර, කෙළින්ම ''රබෝචිය දියල'' අංක 10 වෙත යන්නෙමු. ''සර්යා'' සහ ''ඉස්ක්‍රා'' විරුද්ධව, ක්‍රිචේව්ස්කි හා මර්තිනව් ඉදිරිපත් කළ විවිධ විරෝධතාවයන් පිළිබඳ විස්තර විභාග කිරීමටද අපි අදහස් නොකරමු. මෙහිදී අප උනන්දුවක් දක්වන්නේ ''රබෝචිය දියල'' එහි දහවැනි කලාපයෙන් ගත් ස්ථාවරයට මුල් වූ ප්‍රතිපත්තිවල පදනම ගැන පමණකි.

---

* නිදර්ශනයක් වශයෙන් දේශපාලන අරගලයේ ''අවධි න්‍යාය'' නැතහොත් ''බිය ගුළු වට වංගු'' න්‍යාය පහත සඳහන් ලෙසට මෙම ලිපියෙන් ප්‍රකාශ කර තිබේ. ''සමස්ත රුසියාවටම පොදු ස්වභාවයක් ඇති දේශපාලන ඉල්ලීම්, ප්‍රථමයෙන්ම'' (මෙය ලියන ලද්දේ 1900 අගෝස්තු මාසයේදීය!) ''ආර්ථික අරගලයේ යෙදී සිටින නියමිත කම්කරු ස්ථරය (sic) ලබා ගත් අත්දැකීම්වලට කෙසේ හෝ සමාන විය යුතුය. දේශපාලන උද්ඝෝෂණයෙහි යෙදෙනු යුත්තේ, මෙම අත්දැකීම් පදනම් කර ගෙන පමණකි'' (!) මේ ආදී වශයෙනි (පිටු 11). ආර්ථිකවාදී මිථ්‍යා දෘෂ්ටියේ අමූලික බොරු චෝදනාවක් ලෙසට ඔහු සලකන දෙයක් ගැන විරෝධය ප්‍රකාශ කරන කර්තෘ වරයා, පිටු 4 හි ශෝකාකූල හා විශ්මිත ස්වරයකින් මෙසේ ප්‍රකාශ කරයි. ''මාක්ස්ගේ හා එංගල්ස්ගේ න්‍යාය අනුව, යම් යම් පංතිවල ආර්ථික උවමනාවන් විසින් ඉතිහාසයේ තීරණාත්මක කාර්ය කොටසක් ඉටු කෙරෙන බවත්, ඒ අනුව විශේෂයෙන්ම නිර්ධන පංතිය, එහි ආර්ථික උවමනාවන් සඳහා කරන අරගලය, අන් සියල්ලටම වඩා, එහි පංතිමය වර්ධනයට හා විමුක්ති අරගලයට ඉතාමත් වැදගත් විය යුතු බවත් නො දන්නා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා කවුද?'' (අවධාරණය අපගේ ය). ''ඒ අනුව'' යන වචන මෙතැනට කොහෙත්ම නොගැලපේ. ආර්ථික උවමනාවන් තීරණාත්මක කාර්ය කොටසක් ඉටු කළ පමණින්ම, ආර්ථික (එනම්, වෘත්තීය සමිති) අරගලය අන් සියල්ලටම වඩා වැදගත් ය යන්න, යම්තමින් හෝ අදහස් නොවේ. එයට හේතුව, පංතිවල ඉතාමත් වැදගත් හා ''තීරණාත්මක'' අවශ්‍යතාවයන් ඉටු කළ හැක්කේ, පොදු දේශපාලන වෙනස් කිරීම් මගින් පමණක් වීමයි. විශේෂයෙන්ම, නිර්ධන පංතියේ මූලික ආර්ථික උවමනාවන් ඉටු කළ හැක්කේ ධනේශ්වර පංතියේ ආඥාදායකත්වය වෙනුවට, නිර්ධන පංති ආඥාදායකත්වයක් පිහිටුවන දේශපාලන විප්ලවයක් මගින් පමණකි. ක්‍රිචේව්ස්කි, ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වී. වී. ලාගේ (ආර්ථිකය පසු පස දේශපාලනය ගමන් කරන්නේය ආදී වූ) තර්ක ද, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ බර්න්ෂ්ටයින්වාදීන්ගේ තර්කද (නිදර්ශනය — කම්කරුවන් දේශපාලන විප්ලවය ගැන කල්පනා කිරීමට පෙර, ප්‍රථමයෙන්ම ''ආර්ථික බලය'' ලබා ගත යුතු බව ඔප්පු කිරීමට වොල්ත්මාන් එවැනි තර්ක ඉදිරිපත් කළේය) අනුප්‍රාසය කළේය.

''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ස්වකීය අත්බැඳ ගන්නේ නැත. එය කලින් අදහස් කරගත් කිසියම් එක දේශපාලන අරගල සැලැස්මකට හෝ විධියකට ස්වකීය කටයුතු සීමා නොකරයි. පක්ෂයට යොදා ගත හැකි බලවේගයන්ට ගැලපෙන සියළුම අරගල මාධ්‍යයන් එය පිළිගන්නේ ය'' ආදී වශයෙනි (''ඉස්ක්‍රා'' අංක 1)* යන ප්‍රකාශයත්,

''සියළුම තත්වයන් යටතේ සහ සෑම කල්හිම දේශපාලන අරගල කිරීමේ හොඳ පුහුණුවක් ලැබූ ශක්තිමත් සංවිධානයක් නොමැතිව, දෘඩ ප්‍රතිපත්තිවලින් ආලෝකය ලබන හා ස්ථිර සාර ලෙස ක්‍රියාත්මක කරනු ලබන ක්‍රමානුකූල වැඩ සැලැස්මක් කිසිසේත් තිබිය නොහැක. උපක්‍රම යන නාමයට තරම් වන්නේ එවැනි සැලැස්මක් පමණකි'' (''ඉස්ක්‍රා'' අංක 4)** යන ප්‍රකාශයන් අතර ''අත්‍යන්ත ප්‍රතිවිරෝධයක්'' තිබෙන බව ''රබෝචිය දියල'' ට පෙනී යාමේ අද්භූත කාරණය ගැන පරීක්ෂා නොකරමු.

උපක්‍රම ගැන කියතොත්, යථායෝග්‍ය වන්නා වූ සියළුම සැලසුම් සහ විධි ප්‍රතිපත්තියක් වශයෙන් පිළිගැනීමත්, නියමිත දේශපාලන අවස්ථාවකදී, දෘඩ ලෙස අනුගමනය කරනු ලබන සැලැස්මකින් මග පෙන්වීම් ලබාගැනීම සඳහා වූ ඉල්ලීමත්, යන දෙක එකට පටලවා ගැනීම යනු, ව්‍යාධි සුව කිරීම සඳහා වෛද්‍ය විද්‍යාව විසින් විවිධ ප්‍රතිකාර ක්‍රම පිළිගනු ලැබ තිබීමත්, නියමිත ව්‍යාධියක් සුව කිරීම සඳහා කිසියම් නියමිත ප්‍රතිකාර ක්‍රමයක් අනුගමනය කිරීමේ අවශ්‍යතාවයත් යන දෙක එකට පටලවා ගැනීම හා සමාන දෙයකි. කෙසේ හෝ වේවා, මෙහි වැදගත් කාරණය වන්නේ, සාංසිද්ධිකතාවය යනුවෙන් අප හඳුන්වා ඇති රෝගයට ගොදුරු වූ ''රබෝචිය දියල'' එම රෝගයට ''ප්‍රතිකාර කිරීමේ ක්‍රම'' කිසිවක් හෝ පිළි නොගෙන ප්‍රතික්ෂේප කිරීමය.සැලැස්මක් ලෙස ගත් උපක්‍රම මාක්ස්වාදයේ ජීව ගුණයට පටහැණි වේ'' (අංක 10, පිටු 18) යනුවෙන් ද, උපක්‍රම නම්, ''පක්ෂය හා සමග එකට වැඩෙන පක්ෂ කර්තව්‍යයන් වර්ධනය වීමේ ක්‍රියාදමයකි'' (පිටු 11, අවධාරණය ''රබෝචිය දියල'' හි ය) යනුවෙන්ද වූ, පුදුම සහගත සොයා ගැනීම් වෙතට එය යොමු වූයේ ඒ හෙයිනි. මෙම කියමන විශාරද උපදේශ වාක්‍යයක් බවට පත් වීමටත්, ''රබෝචිය දියල'' සහරාවේ ''උපනතියේ'' නිත්‍ය සිහිවටනයක් බවට පත් වීමටත් සෑම ඉඩක්ම ඇත. ''යන්නේ කොහේද?'' යන ප්‍රශ්නයට ප්‍රධාන පත්‍රය පිළිතුරු දෙන්නේ, ව්‍යාපාරය යනු, එම ව්‍යාපාරයේ ආරම්භක ස්ථානයේ පටන්, එය අනතුරුව ගිය තැන් දක්වා වූ දුර වෙනස් කිරීමේ ක්‍රියාදමයකි යි කියමිනි. මෙම අසම සම වියත් භාෂිතය කුතුහළ දනවන්නක් පමණක්ම නොවේ. (ඒ පමණක් වී නම්, ඒ ගැන දිග දුරට සඳහන් කිරීම අනවශ්‍ය ය). එය මුළු උපනතියක ම වැඩ පිළිවෙළ වන්නේ ය. ඒ අතරම (''රබෝචය මිස්ල්'' පත්‍රයේ ''විශේෂ අතිරේකයෙන්'') පහත සඳහන් වචනවලින් ආර්. ඇම්. විසින් ප්‍රකාශිත වැඩ පිළිවෙළද, එයම වේ: ගෙන යා හැකි අරගලය ගෙන ගිය මනා ය. ගෙන යා හැකි අරගලය යනු නියමිත අවස්ථාවක සිදු වෙමින් පවතින අරගලය යි. මෙය නම්, අකැමැත්තක් නොදක්වාම සාංසිද්ධිකතාවයට ගැලපෙන සේ තමන් සකස් වන සීමා රහිත අවස්ථාවාදයේ ප්‍රවණතාවය ය.

''සැලැස්මක් ලෙසට ගත් උපක්‍රම මාක්ස්වාදයේ ජීව ගුණයට පටහැණි ය!'' මෙය මාක්ස්වාදයට අපවාදයකි. එයින් අදහස් කෙරෙන්නේ, අපට විරුද්ධව නරෝද්නික්වාදීන් කළ අරගලයේදී ඔවුන් ඔසවා ගත් විකට රූපයේ හැඩය, මාක්ස්වාදයට ආරෝපනය කිරීම ය. එයින් අදහස් වන්නේ, පංති විඥනය ඇති සටන් කරුවන්ගේ පුරෝගාමීත්වය හා ශක්තිය ලඝු කොට දැක්වීමකි. එහෙත්, ඊට හාත්පසින්ම වෙනස් ආකාරයෙන්, මාක්ස්වාදය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ පුරෝගාමීත්වයට යෝධ අනුබලයක් දෙයි; ඔහුට පුළුල් තම සිතුවිලි විවෘත කර දෙයි; අරගලය සඳහා සාංසිද්ධික ලෙස නැගී එන්නා වූ දශ ලක්ෂ සංඛ්‍යාත කම්කරුවන්ගේ දැවැන්ත බලවේගය සුදුසු ලෙස කටයුතු කිරීම සඳහා (යයි යමෙකුට කිව හැකි ලෙසට) ඔහු හමුවේ තබයි. දේශපාලන නායකයන් වරින් වර ඉදිරිපත් කළ සැලසුම්වලින් ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මුළු ඉතිහාසයම පිරී ඇත. ඉන් සමහරකින්, ඒවායේ කර්තෘවරුන්ගේ දුර දර්ශී භාවයත්, දේශපාලන සහ සංවිධානමය අදහස්වල නිවැරදි භාවයත් තහවුරු වේ; අනිත් ඒවායින්, ඔවුන්ගේ අදූර දර්ශී භාවයත්, දේශපාලන වැරදිත් හෙළිදරව් වේ. ජර්මනිය, එහි ඉතිහාසයේ තීරණාත්මක සන්ධිස්ථානයකට එළඹෙමින් අධිරාජ්‍යය පිහිටුවීම, රීක්ස්ටාග් මන්ත්‍රණ සභාව විවෘත කිරීම සහ සර්ව ජන ඡන්ද බලය දීම, සිදු වූ අවස්ථාවේදී, ලිබ්ක්නෙහ්ත් වෙත එක සැලැස්මකුත්, ෂ්වයිත්සර් වෙත තවත් සැලැස්මකුත්, තිබුණේ ය. ජර්මන් සමාජවාදීන්ගේ හිස මත සමාජවාදය විරෝධී නීතිය කඩා වැටුනු විට මොස්ත් හා හස්සෙල්මන්ට එක සැලැස්මකුත් තිබිණ. ප්‍රචණ්ඩ ක්‍රියාවල යෙදෙන ලෙස හිටි අඩියේම ආයාචනා කිරීමට ඔවුහු සූදනම්ව සිටියහ. හියෝහ්බර්ග්,ෂ්රාම් හා (එක්තරා ප්‍රමාණයකට) බර්න්ෂ්ටයින් වෙත වෙනත් සැලැස්මක් තිබිණි. එයින් දේශනා කිරීමට පටන් ගන්නා ලද්දේ, සමාජ-

* වී. අයි. ලෙනින්. ''අපගේ ව්‍යාපාරයේ හදිසි කර්තව්‍යයන්'' (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 4, පිටුව 376), සංසකාරක.

** වී. අයි. ලෙනින්. ''පටන්ගත යුත්තේ කොතැනින්ද?'' (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 5 පිටු 6-7), සංස්කාරක.

ප්‍රජාතන්ත්‍රවාදීන් අසාධාරණ ලෙස තද පරුෂ බවක් හා විප්ලවවාදී බවක් පෙන්වීමට යාමෙන්, ඔවුන්ම කළ ප්‍රකෝප කාරී ක්‍රියා හේතු කොට ගෙන එම නීතිය පනවන ලද හෙයින්, දැන් හොඳට හැසිරීමෙන්, ඔවුන් සමාව දිනා ගත යුතු බවය. නීති විරෝධී පත්‍රයක්[163] සූදනම් කර පළ කිරීමේ කටයුත්ත ඉටු කළ අය විසින්, ඉදිරිපත් කරන ලද, තවත්, තුන්වැනි සැලැස්-මක්ද විය. අනුගමනය කළ යුතු මාර්ගය තෝරා ගැනීම පිළිබඳව, කෙරුණු අරගලයෙන් පසුව, වර්ෂ ගණනක් ඉකුත් වූ තැන, තෝරා ගත් මාර්ගයෙහි යථායෝග්‍යතාවය ගැන ඉතිහාසය විසින් තීරණය කරනු ලැබීමෙන් පසු, ආපසු හැරී බලා, පක්ෂය හා සමග එකට වැඩෙන පක්ෂ කර්තව්‍යයන් ගේ වර්ධනය පිළිබඳව උපදේශ වාක්‍ය ප්‍රකාශ කිරීම පහසුය. එසේ වුවද, අවුල් වියවුල් පවත්නා අවස්ථාවක*, රුසියානු "විවේචකයින්" හා "ආර්ථිකවාදීන්" විසින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය වෘත්තීය සමිතිවාදයේ මට්ටමට පිරිහෙළනු ලබද්දී, පැරණි වැරදි ම ප්‍රතිරාවය දෙවන "සැලැස්මක් වන උපක්‍රම" පිළිගන්නා ලෙස ත්‍රස්තවාදීන් බල කර සිටිද්දී, යමෙක් මෙබඳු පණ්ඩිත වාක්‍ය බිණීමට සීමා වී සිටින්නේ නම්, එය ඔහු තමන්ටම දී ගන්නා "දුගී භාවය පිළිබඳ සහතිකයක්" වන්නේ ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතුරෙන් බොහෝ දෙනෙක්, මන්දෝත්සාහී සහ උදාසීන භාවයෙන් ද, "දේශපාලන ප්‍රචාර, උද්ඝෝෂණ සහ සංවිධාන කටයුතු සඳහා",** ප්‍රමාණවත් තරම් අවකාශ නොමැති කමින්ද, විප්ලවීය කටයුතු පුළුල් ලෙස සංවිධානය කිරීමට සැලසුම් නොමැති කමින්ද, පෙළෙමින් සිටින අවස්ථාවක, "සැලැස්මක් ලෙස ගත් උපක්‍රම මාක්ස්වාදයේ ජීව ගුණයට පටහැණි" බව ප්‍රකාශ කිරීම යනු, න්‍යායික වශයෙන් මාක්ස්වාදය පිරිහෙළීමක් පමණක් නොව, ව්‍යවහාරය අතින් පක්ෂය ආපස්සට ඇදගෙන යාමක්ද වන්නේ ය.

"රබෝචිය දියල" මෙසේද දේශනා කරයි: "විප්ලවවාදී-සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ කර්තව්‍යය වන්නේ, ඔහුගේ විඥාන කටයුතු මගින් වාස්තවික සංවර්ධය වේගවත් කිරීම පමණකි; එය වැළැක්වීම හෝ එම සංවර්ධනය වෙනුවට, ඔහුගේම මනෝමූල සැලසුම් ආදේශ කිරීම හෝ නොවේ. "ඉස්ක්‍රා" පත්‍රය මේ සියල්ලම න්‍යායික වශයෙන් දනී. එහෙත්, උපක්‍රම සම්බන්ධයෙන් මාක්ස්වාදය දරන්නා වූ න්‍යායධර්මවාදී අදහස හේතු කොට ගෙන, එය විප්ලවවාදී කටයුතු විෂයෙහිදී, විඥාන කටයුතු කෙරෙහි දක්වන අතිශය වැදගත් සැලකිල්ල, ව්‍යවහාරයේදී සංවර්ධනයේ වාස්තවික නැතහොත් සාංසිද්ධික ස්වභාවයේ වැදගත් කම ලඝු කොට තැකීමක් බවට පත් වේ" (පිටු 18).

මෙය වී. වී. මහතාට සහ ඔහුගේ සහෝදරවරුන්ටම ගැලපෙන **න්‍යායික** අවුලක් පිළිබඳ නිදර්ශනයකි. අපේ දර්ශනිකයාගෙන් අපි මෙසේ **අසන්**නෙමු. මනෝමූල සැලැස්ම නිර්මාණකයෙකු විසින්, වාස්තවික සංවර්ධනය "ලඝු කොට තකනු" ලැබිය හැක්කේ කෙසේද? එය සිදු විය හැක්කේ, වාස්තවික සංවර්ධනය මගින් සමහර පංති හෝ ස්ථරයන්, සමහර ජාතීන් හෝ ජාතීන්ගේ කණ්ඩායම්, ආදිය නිර්මාණය වන බව හා ශක්තිමත් වන බවද, එසේ නැතහොත්, විනාශ වන හෝ දුර්වල වන බවද අමතක කිරීමෙන් හා එසේ අමතක කිරීම අනුව, ජාත්‍යන්තර දේශපාලන බලවේග පෙළ ගැසීමක්, නැතහොත්, විප්ලවවාදී පක්ෂ සම්මත කර ගන්නා කිසියම් ස්ථාවරයක්, ආදිය පිළිබඳව නිගමනයකට බැසීමට යොමු වීම තුළින් බව පැහැදිලිය. සැලසුම් නිර්මාණය කරන තැනැත්තේ කළේ එය නම්, ඔහු වැරදි කරු වන්නේ සාංසිද්ධිකතාවය ලඝු කොට තැකීම සම්බන්ධයෙන් නොව විඥාන ස්වභාවය ලඝු කොට තැකීම සම්බන්ධයෙනි. එසේ වන්නේ, වාස්තවික සංවර්ධනය මනා ලෙස වටහා ගැනීමට අවශ්‍ය "විඥානය" ඔහුට නොතිබුණු බව එයින් පෙනෙන හෙයිනි. එනිසා, සාංසිද්ධික භාවයේ හා විඥාන භාවයේ "සාපේක්ෂ (අවධානය "රබෝචිය දියල") වැදගත්කම තක්සේරු කිරීම" ගැන කථා කිරීමෙන්ම විඥානය කොහෙත්ම නොමැති බවක් හෙළිදරව් වේ. "සංවර්ධනයේ සාංසිද්ධික මූලිකාංගයන්" සමහරක්, මිනිස් අවබෝධයට හසුකර ගැනීමට කිසියම් හෝ හැකියාවක් තිබේ නම්, එවිට, ඒවා වැරදි ලෙස තක්සේරු කිරීම යනු "විඥාන භාවය ලඝු කොට තැකීමක්" හා සමාන වේ. එහෙත්, ඒවා වටහා ගැනීමට හැකියාවක් අපට නොමැති නම්, අපි ඒවා ගැන නොදන්නෙමු නම්, ඒ නිසාම අපට ඒවා ගැන කථා කළ නොහැක. එසේ නම් ක්‍රිචෙව්ස්කි සාකච්ඡා කරන්නේ කුමක් ගැන ද? ඔහු ප්‍රකාශ කර ඇති අන්දමට, "ඉස්ක්‍රා" පත්‍රයේ "මනෝ-මූල සැලසුම්" වැරදි සහගත යයි ඔහු කල්පනා කරන්නේ නම්, එම සැල-සුම් විසින් අමතක කෙරෙන වාස්තවික කරුණු මොනවාද යනු,ප්‍රථමයෙන් පැහැදිලි කර, ඒවා අමතක කිරීමට තරම් දේශපාලන විඥානය නොමැති වීම ගැන, ඔහුගේම වචනවලින් කියතොත්, "විඥාන භාවය ලඝු කොට

* නව තත්වයට මුහුණ දීම සඳහා "සැලැස්මක් වන උපක්‍රම" තෝරා ගැනීමේදී සමාජවාදීන් ප්‍රථමයෙන් දැක්වූ දෙගිඩියාව හා අධිෂ්ඨාන ශූන්‍ය භාවය ගැන විස්තරය ද ඇතුලත්, "ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතිහාසය" නමින් මේරිං ලියූ පොතෙහි, එම විස්තරය අඩංගු පරිච්-ජේදයේ සිරස්තලය යොදා තිබුණේ Ein Jahr der Verwirrung (අවුල් වියවුල් සහිත අවුරුද්දක්) යනුවෙනි.

** "ඉස්ක්‍රා" අංක 1 හි ප්‍රධාන ලිපිය. වී. අයි. ලෙනින්. "අප ව්‍යාපාරයේ හදිසි කර්තව්‍යයන්" (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 4, පිටුව 374), සංස්කාරක.

තැකීම'' ගැන ''ඉස්ක්‍රා'' පත්‍රයට චෝදනා කළ යුතුව තිබුණේ ඉන් පසුව පමණකි. කෙසේ හෝ වේවා, ඔහු මනෝමූල සැලසුම් ගැන අප්‍රසන්නව, ''සාංසිද්ධිකතාවය ලඝු කොට තැකීම'' (!!) හැර වෙනත් තර්කයක් ඉදිරිපත් කිරීමෙහි අසමත්ව සිටී නම්, එයින් පෙනී යන්නේ 1) න්‍යායික වශයෙන් ඔහු මාක්ස්වාදය වටහා ගන්නේ බෙල්තව්ගෙන් සැහෙන තරම් සමච්චල් වී සිටින කරේයව් හා මිහයිලෝව්ස්කි මෙන් වන බවත්, 2) අපගේ නීත්‍යානුකූල මාක්ස්වාදීන් බර්න්ෂ්ටයින්වාදය වෙතද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ''ආර්ථිකවාදය'' වෙතද ඇද ගෙන ගිය, සංවර්ධනයේ සාංසිද්ධික මූලිකාංගයන්'' ගැන, ඔහු ප්‍රායෝගික වශයෙන් ඉතාමත් සතුටු වී සිටින බව හා කුමණ තත්වයක් යටතේ වුවද, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ''සාංසිද්ධික'' සංවර්ධනයේ මාර්ගයෙන් ඉවතට යොමු කිරීමට ඉටා ගෙන සිටින අය කෙරෙහි වූ ''කෝපයෙන් පුපුරමින් සිටින'' බවත් පමණකි.

තවද, ඉන් පසුව, නිශ්චිත වශයෙන්ම විහිළු ස්වභාවයක් ගන්නා දේ සඳහන්ව ඇත. ''ස්වභාව විද්‍යාවේ සොයා ගැනීම් සියල්ලක්ම එසේ තිබියදී, මිනිසුන් උත්පාද වන්නේ පරණ ක්‍රමයටම වන මෙන්, සමාජ විද්‍යාවේ සොයා ගැනීම් සියල්ලමත්, විඥාත සටන් කරුවන්ගේ සංඛ්‍යාව වැඩි වීමත්, එසේ තිබියදීම, අනාගතයේදී ද, නව සමාජ ක්‍රමයක් බිහිවන්නේ ප්‍රධාන වශයෙන්ම ප්‍රකෘති ස්වභාමය පිපිරීම්වල ප්‍රතිඵලයක් වශයෙනි'' (පිටු 19). ලොවට දරුවන් ගෙන ඒමට ඕනෑම කෙනෙක් සමත් වෙතියි, අපගේ සීයා වරු ඔවුන්ගේ පරණ තාලේ නුවණින් ප්‍රකාශ කළාක් මෙන්ම, නව සමාජ ක්‍රමයේ සාංසිද්ධික උත්පත්තියට ඕනෑම කෙනෙකුට හවුල් විය හැකි යයි (à la නර්ත්සීස් තුපරිලව්[164])* නව සමාජවාදීහුද, දැන් ඔවුන්ගේ නුවණ මෙහෙයා කියති. ඕනෑම කෙනෙකුට හැකි බව අපිද විශ්වාස කරමු. ඒ වර්ගයේ හවුල් වීම සඳහා කළ යුතු වන්නේ, ''ආර්ථිකවාදය'' ප්‍රබල වූ කල එයටද, ත්‍රස්තවාදය මතු වන විට එයටද, ඉඩ දී යටත් වීම පමණකි. ත්‍රස්තවාදයෙන් මෝහනය වීම ගැන අනතුරු හඟවමින්, එයට විරුද්ධ රාවයක් නාද කරවීම, මෙම වර්ෂයේ වසන්තයේ එතරම්ම වැදගත් කර්තව්‍යයක්ව තිබුණේ වී නමුත්, ''රබෝචිය දියල'' එයට අළුත් දෙයක් වූ ගැටළුවක් ඉදිරියේ අවිනිශ්චිතව තුෂ්නීම්භූත වූයේ ඒ අනුවය. දැන්, එය ඉන් හය මසකට පසුව, එම ප්‍රශ්නයේ කාලෝචිත භාවය අඩු වී ගිය තැන, ''ත්‍රස්තවාදී හැඟීම් පැන නැගීමට විරුද්ධව ක්‍රියා කිරීම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍යයක් නොවන බව හා නොවිය යුතු බව අපි අදහස් කරමු'' යන (''රබෝචිය දියල'' අංක 10 පිටු 23) ප්‍රකාශයත්, ''ක්‍රමාණුකූල හා ආක්‍රමණශීලී ත්‍රස්තය අවස්ථාවෝචිත නොවන බව

* නර්ත්සීස් තුපරිලව් වැනි — සංස්කාරක.



සම්මේලනය කල්පනා කරයි'' (''සම්මේලන දෙකක්'' පිටු 18) යන සම්මේලන යෝජනාවත්, යන දෙක ම අප වෙත එක වර ඉදිරිපත් කරයි. මෙය කොතරම් අලංකාර ලෙසට පැහැදිලිද? ගැලපෙන සුලුද? විරුද්ධව ක්‍රියා නොකරන නමුත්, අවස්ථාවෝචිත නොවන බව ප්‍රකාශ කරන අතර, එයද ප්‍රකාශ කර ඇත්තේ, ක්‍රමාණුකූල නොවන සහ ආරක්ෂාශීලී ත්‍රස්තය ''යෝජනාවේ'' පරිමාණයට හසු නොවන ආකාරයට ය. කථා කරන නමුත් කිසිවක් නො කියන මිනිසෙක් කියන්නක් වැරදි නොවන ලෙසට ස්වයං රක්ෂණය කරගන්නේ යම් සේ ද, එවැනි යෝජනාවක්ද, එසේම, වැරදි වැලැක්වීම සඳහා සම්පූර්ණයෙන්ම සුරක්ෂිත කර තිබෙන බව, පිළිගත යුතුය. එවැනි යෝජනාවක් සකස් කිරීම සඳහා අවශ්‍ය වන්නේ, ව්‍යාපාරයේ වලිග කොණෙහි රැඳී සිටීමේ හැකියාව පමණකි. ත්‍රස්තය පිළිබඳ ප්‍රශ්නය අළුත් එකකැයි කීම ගැන, ''ඉස්ක්‍රා'' පත්‍රය ''රබෝචිය දියල'' ට සමච්චල් කළ විට, ''රබෝචිය දියල'' කළේ, ''විදේශ ගත ලේඛකයන් කණ්ඩායමක් විසින්, අවුරුදු පසළොසකටත් වඩා ඉහතදී උපක්‍රමීය ප්‍රශ්න සම්බන්ධයෙන් යෝජනා කරන ලද විසඳීම්, පක්ෂ සංවිධානය මත පැටවීමට තරම් නො ඇදහිය හැකි විළිබිය නොමැති කමක්'' (පිටු 24) ''ඉස්ක්‍රා'' පත්‍රයට ඇතැයි කියමින් උදහසින් චෝදනා කිරීම ය. සැබැවින්ම විළි බිය නොමැති කමකි. විඥාත ස්වභාවය ගැන මොන තරම් නම් අධි තක්සේරුවක්ද? ප්‍රථමයෙන්, න්‍යායික වශයෙන් ප්‍රශ්න කල් තබා විසඳා ගෙන, ඉන් පසු එම විසඳීමේ නිරවද්‍යතාවය ගැන සංවිධානයට, පක්ෂයට හා ජනතාවට අවබෝධ කිරීමට දරන ප්‍රයත්නයකි*. මූලික කාරණා ප්‍රතිරාවය කරමින්, කිසිම කෙනෙක් මත කිසිම දෙයක් ''පටවන්නේ'' නැතිව, සෑම ''නැම්මක්''ම සමඟ, එක්කෝ ''ආර්ථිකවාදයේ'', නැතහොත්, ත්‍රස්තවාදයේ පැත්තට පැද්දී ගියේ නම්, මීට වඩා කොතරම් හොඳ ද? ලෝකායත ප්‍රඥාවෙහි මෙම මහා ශික්ෂාව පවා, සාමාන්‍යකරණය කරගන්නා ''රබෝචිය දියල'', ''නියම හැඩයක් නොමැති, අවුල් ජාලයකට උඩින් පියාසර කරන්නා වූ ජීව බලයක් මෙන් ඔවුන්ගේ වැඩ පිළිවෙළ ව්‍යාපාරයට හරස් කොට තබත්'' යයි කියමින් (පිටු 24) ''ඉස්ක්‍රා'' සහ ''සර්යා'' ප්‍රකාශනවලට චෝදනා කරයි. එහෙත්, සාංසිද්ධික ව්‍යාපාරයට ඉහළින් පියාසර කරන්නා වූ පමණක් නොව, එම ව්‍යාපාරය ''තම වැඩ පිළිවෙළේ මට්ටමට'' ඉහළට ඔසවන්නා වූ ද ''ජීව බලයක්'' වීම හැර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට හිමි වන්නේ කුමණ කාර්යයක් ද? ව්‍යාපාරයේ

* ''ශ්‍රම විමුක්ති'' කණ්ඩායමේ ත්‍රස්තය පිළිබඳ ප්‍රශ්නය න්‍යායික වශයෙන් විසඳීමේදී, පසු කාලීන විප්ලවවාදී ව්‍යාපාරයේ අත් දැකීම් සාමාන්‍යකරණය කරගත් බවද අමතක නොකළ යුතු වේ.

වල්ගයට වී ඇදී යාම ඇත්තෙන්ම එහි කාර්යය නොවේ. එසේ කිරීම, ඉතාමත් හොඳ අර්ථයෙන් ගතහොත්, එයින් ව්‍යාපාරයට සිදු වන යහපතක් නැත. එය නරකම අර්ථයෙන් ගතහොත්, එයින් බලවත් හානි සිදු වේ. එසේ වුවද, ''රබෝචිය දියල'' මෙම ''ක්‍රියාදමයක් වන උපක්‍රම'' අනුගමනය කරනුවත් හැර, එය ප්‍රතිපත්තියක තත්වයට ඔසවා තැබීමද කරයි. එම නිසා, එම උපනතිය අවස්ථාවාදය වශයෙන් විස්තර කරනුවට වඩා (වල්ගය යන අර්ථයෙන්) වල්ගාවාදය යනුවෙන් විස්තර කිරීම උචිත ය. එමෙන්ම, නිතරම ව්‍යාපාරය පසු පස යාමට හා එහි වල්ගය වීමට අධිෂ්ඨාන කර ගෙන සිටින අය සම්පූර්ණ වශයෙන් හා සදාකාලිකව ම ''සංවර්ධනයේ සාංසිද්ධික ස්වභාවය ලඝු කොට තැකීම'' යන වරදට හසු නොවන සේ සුරක්ෂිතව සිටින බව පිළිගත යුතුව ඇත.

* * *

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ''නව උපනතිය'' විසින් කරන ලද මූලික වරද නම්, සාංසිද්ධිකතාවයට නමස්කාර කිරීම බවත්, ජනතාව සාංසිද්ධිකතාවය නිසාම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විඥානය උසස් මට්ටමක පැවතීමේ අවශ්‍යතාවය වටහා ගැනීමට එය අසමත් වීම බවත්, අපට දැන් අවබෝධ වී ඇත. ජනතාවගේ සාංසිද්ධික උත්සන්නිය මහත් වූ තරමටම ව්‍යාපාරය වඩාත් ව්‍යාප්ත වූ හා වේගවත් වූ තරමට ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ න්‍යායික, දේශපාලන හා සංවිධානමය කටයුතු විෂයෙහි විඥත ස්වභාවය, ඊට වඩා ඉහළින් තිබීම අවශ්‍ය වේ.

රුසියාවේ සාංසිද්ධික ජනතා උත්සන්නිය කොතරම් වේගවත් ලෙස සිදු වීද (හා තව දුරටත් සිදුවන්නේද) යත්, මෙම යෝධ කර්තව්‍යයන් ඉටු කිරීම සඳහා, තරුණ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සූදානමකින් නොසිටි බව ඔප්පු විය. මෙම සූදානමක් නොමැති කම අපගේ පොදු දුර්භාග්‍යය වන්නේ ය. එය රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සියළු දෙනාගේම දුර්භාග්‍යය වන්නේ ය. ජනතා උත්සන්නිය ඇති වී, අවිච්ඡේද ලෙස පැතිරී ගියේය. එය ආරම්භ වූ ප්‍රදේශවල පමණක් පැවතුනේ නොවේ. එය අළුත් ප්‍රදේශවලටත්, අළුත් ජනතා ස්ථරයන්ටත්, පැතිර ගියේය (කම්කරු පංති ව්‍යාපාරයේ බලපෑම යටතේ තරුණ ශිෂ්‍යයන් අතර, පොදු වශයෙන් බුද්ධිමතුන් අතර හා ගොවි ජනයා අතර පවා නව පණක් ලැබී කැළඹිලි ඇති විය). එහෙත්, විප්ලවවාදීහු, ඔවුන්ගේ ''න්‍යාය'' හා ක්‍රියාකාරීත්වය යන දෙ අංශයෙන්ම උත්සන්නිය පිටුපසින් ගාටමින් සිටියහ. සමස්ත ව්‍යාපාරයටම නායකත්වය දීමෙහි සමත් නියම, එමෙන්ම, නොකඩවා කටයුතු කරන සංවිධානයක් පිහිටුවීමෙහි ඔවුහු සමත් නොවූහ.

''රබෝචිය දියල'' අපගේ න්‍යායික කර්තව්‍යයන් ලඝු කොට තැකූ බවත්, ''විවේචනය කිරීමේ නිදහස'' යන හැඬ කාර සහ සිත් ගන්නා පාඨය ''සාංසිද්ධික ලෙස'' ප්‍රතිරාවය කළ බවත්, අපි පළමුවැනි පරිච්ඡේදයෙන් සනාථ කෙළෙමු. මෙම චිත්තාකර්ෂණීය පාඨය අනුප්‍රාසයෙහි යෙදුනු අයට, අවස්ථාවාදී ''විවේචකයන්'' ගේ ස්ථාවරයනුත්, ජර්මනියේ සහ රුසියාවේ විප්ලවවාදීන්ගේ ස්ථාවරයනුත්, එක එල්ලේම එකිනෙකට ප්‍රතිවිරුද්ධ වූ බව වටහා ගැනීමට තරම්, විඥනයක් තිබුණේ නැත.

මෙසේ සාංසිද්ධිකතාවයට නමස්කාර කිරීම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ දේශපාලන කර්තව්‍යයන් සහ සංවිධාන කර්තව්‍යයන් විෂයෙහි ප්‍රකාශිත වූයේ කෙසේද යන්න, ඉදිරියේ එන පරිච්ඡේදවලින් පෙන්වා දෙන්නෙමු.

## III

## වෘත්තීය සමිතිවාදී දේශපාලනය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය

නැවතත් ''රබෝචිය දියලට'' ප්‍රශංසා කරමින් පටත් ගනිමු. මර්තිනව් ''ඉස්ක්‍රා'' පත්‍රය සමග එකඟ නොවන්නා වූ කරුණු සම්බන්ධයෙන්, ඔහු ''රබෝචිය දියල'' අංක 10 හි පළ කළ ලිපියට සිරස්තල කොට ගෙන තිබුණේ ''හෙළිදරව්කාරී සාහිත්‍යය සහ නිර්ධන පංති අරගලය'' යන්නය. වෙනස් කම් වල හරය ඔහු ඉදිරිපත් කළේ පහත සඳහන් පරිදි ය. ''එහි (කම්කරු පංති පක්ෂයේ) වර්ධනයට බාධා කාරී ක්‍රමය හෙළිදරව් කිරීමට පමණක් සීමා වී අපට සිටිය නොහැක. නිර්ධන පංතියේ හදිසි ප්‍රවර්තන උවමනාවන් සම්බන්ධයෙන්ද, අප ක්‍රියාකාරී විය යුතුය. ... ''ඉස්ක්‍රා'' පත්‍රය... ඇත්ත වශයෙන්ම, අපගේ රටේ තත්වය, විශේෂයෙන්ම දේශපාලන තත්වය, හෙළිදරව් කරන විප්ලවවාදී විරුද්ධ පිළේ පත්‍රයකි... කෙසේ හෝ වේවා, අපි කම්කරු පංතියේ යහපත පිණිස, නිර්ධන පංති අරගලය සමග සමීප ජෛන්ද්‍රිය සම්බන්ධකම් ඇතිව කටයුතු කරමු. දිගටම කටයුතු කරන්නෙමු'' (පිටු 63). මෙම සූත්‍රය ප්‍රකාශයට පත් කිරීම ගැන මර්තිනව්ට කෘතඥ නොවී බැරිය. ''රබෝචිය දියල'' සමග ඇති අපගේ අසමථයන් පමණක් නොව, දේශපාලන අරගලය පිළිබඳ ප්‍රශ්නයේදී, ''ආර්ථිකවාදීනුත්'' අපත් අතර ඇති පොදු අසමථයන්ද, බොහෝ දුරට, එම සූත්‍රයේ ආලිංගනයට හසුව ඇති හෙයින්, එය සාමාන්‍යයෙන් මහත් උනන්දුවක් ඇති කරන්නේය. ''ආර්ථිකවාදීන්'' ''දේශපාලනය'' මුළුමනින්ම ප්‍රතික්ෂේප නොකරන බවත්, එහෙත්, නිරන්තරවම ඔවුන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංකල්පයෙන් බැහැර වෙමින්, වෘත්තීය සමිතිවාදී සංකල්-

පය කරා යොමු වන බවත්, අපි පෙන්වා දී ඇත්තෙමු. මර්තිනව්ද ගන්නේ හරියටම, ඒ මාර්ගයමය. ඒ නිසා, මෙම ප්‍රශ්නය පිළිබඳ වූ, ආර්ථිකවාදී වරදෙහි අනුරූපය වශයෙන් ඔහුගේ අදහස් ගන්නෙමු. මෙම තෝරා ගැනීම සම්බන්ධයෙන්, ... ''රබෝචය මිස්ල්'' පත්‍රයේ ''විශේෂ අතිරේකයේ'' කර්තෘ වරුන්ට වත්, ''ස්වයං විමුක්ති කණ්ඩායම'' නිකුත් කළ ප්‍රකාශයේ කර්තෘ වරුන්ට වත්, එසේත් නැතහොත්, ''ඉස්ක්‍රා'' අංක 2 හි පළ කරන ලද ''ආර්ථිකවාදී'' ලිපියෙහි කර්තෘ වරුන්ට වත්, උරණ වීමට හේතුවක් නොමැති බව ඔප්පු කිරීමට උත්සාහ කරන්නෙමු.

### අ) දේශපාලන උද්ඝෝෂණය සහ ආර්ථිකවාදීන් විසින් එය සීමා කරනු ලැබීම

ආර්ථික (කම්හල් හා සේවා) තත්වයන් හෙළිදරව් කරමින් ''සාහිත්‍ය'' පළ කිරීමත් හා සමග සම කාලීනව, රුසියානු කම්කරුවන්ගේ ආර්ථික* අරගලය පුළුල් ලෙස පැතිරී යාම හා ශක්තිමත් වීම සිදු වූ බව කවුරුත් දනිති. පත්‍රිකා ප්‍රධාන වශයෙන් මිඩංගු කරන ලද්දේ,පැක්ටරි ක්‍රමය හෙළිදරව් කිරීම සඳහා වූ අතර, නොබෝ කලකින්ම හෙළිදරව් කිරීම සඳහා අනුරාගයක් බඳු උනන්දුවක් කම්කරුවන් තුළ පිබිදුනි. කම්කරුවන්ගේ දුක් බර පැවත්මත්, දැරිය නොහැකි තරම් අසීරු වැඩත්, අයිතිවාසිකම් නොමැති කමත් ගැන සම්පූර්ණ සත්‍ය තොරතුරු කියන අළුත් පන්නයේ පත්‍රිකාවක් සැපයීමට, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අධ්‍යයන කව කැමති බවත්, එම කටයුත්ත කිරීමට ඒවා සමත් බවත්, කම්කරුවන්ට අවබෝධ වූ වහාම පැක්ටරි හා වැඩ පළ වලින්, අප වෙත ලිපි එවන්නට, ඇත්ත වශයෙන්ම ගඟාවක් ගලන ලෙසට ලිපි එවන්නට ඔවුහු පටන් ගත්හ. මෙම ''හෙළිදරව් කාරි සාහිත්‍ය'' නිසා, හෙළිදරව්වට අදල පැක්ටරියෙහි පමණක් නොව, හෙළිදරව් කරන ලද පුවත පැතිරී ගිය සියළුම පැක්ටරිවලද, අති මහත් ආන්දෝලනයක් ඇති විය. එ පමණක් නොව, විවිධ ව්‍යවසායයන්හි හා විවිධ සේවාවල කම්කරුවන්ගේ දුප්පත්කම හා අග හිඟ කම, බොහෝ

* මෙහි හා මෙම පොත මුළුල්ලේම, ආර්ථික අරගලය යනුවෙන් අප අදහස් කරන්නේ (අප අතර පිළිගත් යෙදුම අනුව) ''ප්‍රායෝගික ආර්ථික අරගලය'' යි. එය, ඉහත එංගල්ස්ගෙන් උපුටා දක්වා ඇති කොටසෙහි, ඔහු ''ධනපතියනට ප්‍රතිරෝධනය'' යනුවෙන් හඳුන්වා සඳහන් කර ඇති අරගලය සහ නිදහස් රටවල සංවිධානය වූ ශ්‍රම සම්මේල නැතහොත් වෘත්තීය සමිති අරගලයද බවත්, වැරදි අවබෝධයක් ඇති වීම වලක්වනු වස් පෙන්වා දෙමු.



දුරට එක සමාන හෙයින්, කම්කරුවන්ගේ ජීවිතය පිළිබඳ සත්‍යයෙන්, සියළු දෙනාම කැළඹී ගියහ. ''මුද්‍රණ ද්වාරයෙන් පළ කිරීම සඳහා'' ඉතාමත් නොදියුණු කම්කරුවන් තුළ පවා, අනුරාගයක් බඳු බලවත් උනන්දුවක් ඇති විය. කොල්ල කෑම හා පීඩනය මත පදනම් වී ඇති, සමස්ත වර්තමාන සමාජ ක්‍රමයටම විරුද්ධව ගෙන යන මේ ප්‍රාරම්භක යුද්ධ ක්‍රමය සඳහා වූ එම අනුරාගය උතුම්. හෙළිදරව් කිරීම් හේතු කොට ගෙන, කම්කරුවෝ බෙහෙවින් කැළඹිල්ලට පත් වූහ. ඒ අනුව, ඉතාමත් බරපතල සපරාධී තත්වයන් ඉවත් කිරීම සඳහා, ඔවුන් අතරින් පොදු ඉල්ලීම් මතු වීමත්, වැඩ වර්ජන මගින් ඉල්ලීම්වලට සහයෝගය දැක්වීමේ සූදනමක් ඔවුන් තුළ ජනිත වීමත්, සිදු විය. එනිසා මෙම පත්‍රිකා අතුරෙන් බහුතරය ඇත්ත වශයෙන්ම යුද්ධ ප්‍රකාශ කිරීමක් විය. අවසානයේදී මෙම පත්‍රිකා යුද්ධ ප්‍රකාශ කිරීමක් වශයෙන්, ස්වාමි වරුන්ටම පිළිගැනීමට සිදු විය. ඉන් බොහෝ අවස්ථාවල සටන් ආරම්භ වන තෙක් නො සිටම, ඔවුන් ක්‍රියාත්මක වීමෙන්, මේ බව පැහැදිලි වේ. නිතරම පාහේ දක්නට ලැබුණු පරිද්දෙන් හෙළිදරව් කිරීම් ප්‍රකාශයට පත් කළ පමණින්ම ඒවා ප්‍රතිඵලදායක විය. ශක්තිමත් සදචාරමය බලපෑමක් වශයෙන් ඒවා වැදගත් තැනක් ගත්තේය. පත්‍රිකා පළ වූ පමණින්ම, ඉදිරිපත් කරන ලද ඉල්ලීම් සියල්ලම හෝ ඉන් කොටසක් හෝ දෙන ලද අවස්ථා බොහෝ ය. කොටින් කියතොත් ආර්ථික (පැක්ටරි) හෙළිදරව් කිරීම් ආර්ථික අරගලයේ වැදගත් ලීවරයක් විය. තව දුරටත් එසේම වන්නේ ය. කම්කරුවන්ගේ ආරක්ෂාව සලසා ගැනීමේ අවශ්‍යතාවය ඔවුන් හමුවේ ඉස්මතු කරන, ධනවාදය පවතින තාක් කල්, හෙළිදරව් කිරීම්වල වැදගත් කම ද, තව දුරටත් පවතිනු ඇත. යුරෝපයේ ඉතාමත් දියුණු රටවල, කිසියම් නොදියුණු කර්මාන්තයක, නැතහොත්, අමතක කරන ලද දේශීය කර්මාන්ත අංශයක අක්‍රමිකතාවයන් හෙළිදරව් කිරීම, පංති විඥනය පුබුදු කිරීමටත්, වෘත්තීය සමිති අරගලය ආරම්භ කිරීමටත්, සමාජවාදය පැතිර වීමටත්,*

* මෙම පරිච්ඡේදයෙහි අප සඳහන් කරන්නේ පුළුල් හෝ පටු අර්ථයෙන් වූ දේශපාලන අරගලය ගැන පමණකි. එබැවින් (මර්තිනව් විසින් පරණ කැලි පූට්ටු කර ලියන ලද ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය හා කම්කරු පංතිය යන'' කුඩා පොතෙහි සඳහන් පරිදි — ''සම්මේලන දෙකක්'', පිටු 27) ආර්ථික අරගලය සම්බන්ධයෙන් ''ඉස්ක්‍රා'' පත්‍රය ''ඉවසනවා වැඩිය'' යන ''රබෝචිය දියල'' චෝදනාව අමතර කාරණයක් වශයෙන් සඳහන් කරන්නේ, කුතුහල දනවන්නක් ලෙසට පමණකි. තෝරා ගන්නා ඕනෑම අවුරුද්දක් තුළ, ''ඉස්ක්‍රා'' පත්‍රයෙහි කාර්මික කොටසෙහි, ආර්ථික අරගලය ගැන කෙරුණු සාකච්ඡාවන් ගෙන, චෝදකයන් (ඉබාහෝ ආශා කරන පරිදි) ඒවා හොණ්ඩර නැතහොත්, රීම් ගණනින් ගණන් බැලූ

ආරම්භක පියවරක් වශයෙන් ප්‍රයෝජනවත් වන බව තවමත් දක්නට ලැබේ.

මැත කාලය තුළ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වැඩි දෙනෙක්, මුළුමනින්ම පාහේ ඇලී ගැලී සිටියේ මෙම හෙළිදරව් කිරීමේ කටයුත්තෙහි ය. ඔවුන් කොතරම් දුරට එම කටයුත්තෙහි ඇලී ගැලී සිටියේ ද යන්න වටහා ගැනීමට ''රබෝචය මිස්ල්'' පත්‍රය ගැන මතක් කිරීම පමණක් ප්‍රමාණවත් වේ. එය, මෙම කර්තව්‍යයෙහි කොතරම් දුරට නිමග්නව සිටියේ ද යත්, එම කර්තව්‍යය තනි කොට ගත් කල,එය හුදෙක්ම වෘත්තීය සමිති කටයුත්තක් පමණක් වන බවත්, එය තවමත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කටයුත්තක් නොවන බවත්, ඔවුනට සැබැවින්ම අමතක වී ගියේය. හෙළිදරව් කිරීම් නියත වශයෙන්ම ලියා තිබුණේ නියමිත කර්මාන්තයක කම්කරුවන් හා ඔවුන්ගේ ස්වාමි වරුන් අතර සම්බන්ධය ගැන ය. ඒවායින් ඉටු වූ එකම සේවය වූයේ, ශ්‍රම ශක්තිය විකුණන අය, තමන්ගේ ''වෙළෙඳ භාණ්ඩය'' වඩාත් හොඳ මිළකට විකිණීමටත්, පැහැදිලි වාණිජමය ගනුදෙනුවක් සම්බන්ධයෙන්, මිළට ගන්නා අය සමග සටන් කිරීමටත්, ඉගෙන ගැනීම පමණකි. මෙම හෙළිදරව් කිරීම්, (විප්ලවවාදීන්ගේ සංවිධානය විසින්, ඒවා නිසි ලෙස උපයෝජනය කරගන්නා ලද්දේ නම්) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කටයුතුවල ආරම්භයක් හා ඒවායේ සංයුක්ත කොටසක් වශයෙන් ප්‍රයෝජනවත් වන්නට තිබුණි. එසේ වුවත්, (සාංසිද්ධිකතාවයට වන්දනාමාන කිරීමේ ආකල්පය ඇති වී නම්, නිසැක ලෙසටම) එම, හෙළිදරව් කිරීම් ඔස්සේම, ''පිරිසිදු වෘත්තීය සමිති'' අරගලයක් හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන කම්කරු පංති ව්‍යාපාරයක් කරා යොමු වීමට ද ඉඩ තිබුණි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කම්කරු පංති අරගලයට නායකත්වය දෙන්නේ, ශ්‍රම ශක්තිය සඳහා වඩාත් හොඳ මිළක් ලබා ගැනීමට පමණක් නොව, තමන් ධනවතුන්ට විකිණෙනු පිණිස, දේපල නැතියවුනට බල කරන සමාජ ක්‍රමය අහෝසි කිරීම සඳහා ය. සමාජ-

---

වත්, ''රබෝචිය දියල'' සහ ''රබෝචය මිස්ල්'' යන දෙකෙහිම එම කොටස් එකට ගෙන සසඳා බැලුවත්, පසුකී ප්‍රකාශන බොහෝ සේ පසුබා සිටින බව පහසුවෙන්ම පෙනී යනු ඇත. මෙම සරල සත්‍යය ඔවුනට අවබෝධ වී ඇති හෙයින්, ඔවුන්ගේ පටලැවිල්ල පැහැදිලිව අනාවරණය වන ආකාරයේ තර්ක ඉදිරිපත් කරන තත්වයට ඔවුන් වැටී ඇති බව පෙනේ. ''ඉස්ක්‍රා''පත්‍රය කැමති වුනත් නැතත් (!) ජීවිතයේ මහ නොහැරිය හැකි බල කිරීම (!) සැලකිල්ලට ගෙන, කම්කරු පංති අරගලය සම්බන්ධයෙන් යටත් පිරිසෙයින් (!!) ලිපි පළ කිරීමට වත් එයට සිදු වී ඇතැයි ඔවුහු ලියති (''සම්මේලන දෙකක්'' පිටු 27). මෙය නම් ඔරොත්තු දිය නොහැකි තර්කයකි.



ප්‍රජාතන්ත්‍රවාදය කම්කරු පංතිය නියෝජනය කරන්නේ, කිසියම් ස්වාමි වරුන් කණ්ඩායමක් සමග වූ එහි සම්බන්ධකම් වලට පමණක් විෂය වන ආකාරයෙන් නොව, නවීන සමාජයේ සියළුම පංති සමග හා සංවිධානය වූ බලවේගයක් වන රාජ්‍යය ද සමග වූ එහි සම්බන්ධකම්වලටත් විෂය වන ආකාරයෙනි. එහෙයිනි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් තනිකර ආර්ථික අරගලයට පමණක් සීමා නොවිය යුතුය යනුත්, ආර්ථික හෙළිදරව් කිරීම්, ඔවුන්ගේ කටයුතුවල ප්‍රධාන කොටස බවට පත්වීමට ඉඩ නොදිය යුතුය යනුත් එයින් අදහස් වන්නේය. කම්කරු පංතියට දේශපාලන අධ්‍යාපනය දීම සහ එහි දේශපාලන විඥනය සංවර්ධනය කිරීම සඳහා අපි ක්‍රියාශීලී විය යුත්තෙමු. දැන් ''සර්යා'' සහ ''ඉස්ක්‍රා'' ප්‍රකාශන ''ආර්ථිකවාදයට'' විරුද්ධව ප්‍රථම පහර ගසා ඇති හෙයින් ''සියළු දෙනාම මෙයට එකඟය'' (එහෙත් අපට දැන් පෙනෙන පරිදි සමහර අය එකඟ වන්නේ වචනයෙන් පමණකි).

දේශපාලන අධ්‍යාපනයට අඩංගු විය යුත්තේ කුමක්ද යන ප්‍රශ්නය පැන නගී. ඒකාධිපත්‍ය කෙරෙහි වූ කම්කරු පංතියේ විරෝධය පිළිබඳ ප්‍රචාරයට එය සීමා කළ හැකිද? කිසි සේත් එසේ කළ නොහැකිය. කම්කරුවන් දේශපාලන වශයෙන් පීඩාවට පත් කර සිටින බව ඔවුනට තේරුම් කර දීම ද (කම්කරුවන්ගේ උවමනාවන්, ස්වාමි වරුන්ගේ උවමනාවන්ට ප්‍රති විරුද්ධ වන බව ඔවුනට තේරුම් කර දීම ප්‍රමාණවත් නොවුවා සේ ම) ප්‍රමාණවත් නොවේ. මෙම පීඩාවෙහි, සෑම නිශ්චිත නිදර්ශනයක්ම සම්බන්ධයෙන් (ආර්ථික පීඩාවේ නිශ්චිත නිදර්ශනයන් වටා උද්ඝෝෂණය කිරීමට අප පටන් ගෙන තිබෙන ලෙසට) උද්ඝෝෂණය කළ යුතු වේ. මෙම පීඩාව සමාජයේ විවිධතම පංති කෙරෙහි බලපාන හෙයින්ද, එය වෘත්තීයමය, ප්‍රජා, පෞද්ගලික, පවුල්, ආගමික, විද්‍යාත්මක ආදී වශයෙන් වූ, ජීවිතයේ ක්‍රියාකාරිත්වය පිළිබඳ සෑම ක්ෂේත්‍රයකදීම දක්නට ලැබෙන හෙයින්ද ඒකාධිපත්‍යය ගැන සෑම පැත්තකින්ම දේශපාලන වශයෙන් හෙළිදරව් කිරීම භාර ගෙන, එය සංවිධානය කිරීමට, අපි කටයුතු නොකරන්නමෝ නම්, කම්කරුවන්ගේ දේශපාලන විඥනය දියුණු කිරීම පිළිබඳ අපගේ කර්තව්‍යය සපුරාලීමෙහි අප නොයෙදෙන බව පැහැදිලි නොවන්නේ ද? පීඩාව කෙරෙන නිශ්චිත අවස්ථා වටා උද්ඝෝෂණය කිරීම පිණිස, (ආර්ථික උද්ඝෝෂණය සඳහා පැක්ටරි අක්‍රමිකතාවයන් හෙළිදරව් කළ යුතු වූවාක් මෙන්ම) එම අවස්ථා ගැන හෙළිදරව් කළ යුතුය.

මෙය මනා සේ පැහැදිලි දෙයකැයි අයෙක් සිතනු ඇත. නමුත්, දේශපාලන විඥනය, එහි සෑම පැත්තෙන්ම සංවර්ධනය කිරීම ගැන ''සියළු දෙනාම'' එකඟ වන්නේ වචනයෙන් පමණක් බව හෙළිදරව් වන්නේ ය.

නිදර්ශනයක් වශයෙන් ''රබෝචිය දියල'', අංග සම්පූර්ණ දේශපාලන හෙළිදරව් කිරීම් සංවිධානය කිරීමේ කර්තව්‍යය ඉටු කරනු (නැතහොත්, එය සංවිධානය කිරීම ආරම්භ කරනු) තබා, එම කර්තව්‍යය භාර ගෙන කරගෙන යන ''ඉස්ක්‍රා'' පත්‍රය පවා, එයින් ඉවතට ඇදගෙන යාමට යත්න දරයි. මෙයට කන් දෙන්න: ''කම්කරු පංතියේ දේශපාලන අරගලය යනු, හුදෙක්ම (කිසිසේත් ''හුදෙක්ම'' යයි කිව නොහැක) ආර්ථික අරගලයේ ඉතාමත් සංවර්ධිත, පුළුල් හා ඵලදායක ආකාරයයි'' (''රබෝචිය දියල'' 1 වැනි කලාපයෙහි, 3 වැනි පිටුවෙහි පළ කළ එහි වැඩ පිළිවෙළ). ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දැන් මුහුණ පා සිටින්නේ ආර්ථික අරගලයට ම හැකි තාක් දුරට දේශපාලන ස්වරූපයක් දීමේ කර්තව්‍යයට ය'' (මර්තීනව්, 10 වැනි කලාපය, පිටු 42). ''ආර්ථික අරගලය යනු බහු ජනතාව ක්‍රියා කාරී දේශපාලන අරගලය කරා යොමු කරවීම සඳහා වඩාත් පුළුල් ලෙස උපයෝගි කරගත හැකි මාධ්‍යය යි'' (සංගමයේ[165] සම්මේලනයෙන් අනුමත වුනු යෝජනාව සහ එහි ''සංශෝධන'': ''සම්මේලන දෙකක්'', පිටු 11 හා 17). පාඨකයාට පෙනෙනු ඇති ලෙසට, මේ සියල්ල ''රබෝචිය දියල'' පළමුවැනි කලාපයේ පටන්, එහි අළුත් ම කර්තෘ වරුන්ට උපදෙස් දක්වාම, එම පත්‍රය හාත්පස විනිවිද ගොස් ඇත. ඒ සියල්ලෙන්ම ප්‍රකාශ වන්නේ, දේශපාලන උද්ඝෝෂණය හා අරගලය සම්බන්ධයෙන් වූ එකම අදහසක් බව පැහැදිලි ය. සියළුම ''ආර්ථිකවාදීන්'' අතර බල පවත්නා අදහස වන ආර්ථික උද්ඝෝෂණය පසු පස දේශපාලන උද්ඝෝෂණය ගමන් කළ යුතුය — යන, මෙම මතය පරීක්ෂා කර බලමු. පොදු ජනතාව දේශපාලනයට ඇද ගැනීම සඳහා ''ඉතාමත් පුළුල් ලෙස උපයෝගි කර ගත හැකි මාධ්‍යය'' ආර්ථික අරගලය වන්නේය යන්න සාමාන්‍ය වශයෙන්*

* අප ''සාමාන්‍ය වශයෙන්'' යයි කියන්නේ ''රබෝචිය දියල'' සමස්ත පක්ෂයේ ම පොදු ප්‍රතිපත්ති හා පොදු කර්තව්‍යයන් ගැන කථා කරන හෙයිනි. ආර්ථික කටයුතු පසු පස දේශපාලනය නිසැකවම ගමන් කළ අවස්ථා සාමාන්‍ය ව්‍යවහාරයේදී පැන නගින නමුත්, සමස්ත රුසියාවටම අදාල ලෙස සකස් කළ යෝජනාවක එසේ කිව හැක්කේ ''ආර්ථිකවාදීන්ට'' පමණකි. ''තනිකර ආර්ථික පදනමක්'' මත ''ආරම්භයේ පටන් ම'' දේශපාලන උද්ඝෝෂණය කරගෙන යාමට ඉඩ ලැබෙන අවස්ථා ඇති බව සැබවි. එහෙත් අවසානයේදී, ''රබෝචිය දියල'' නිගමනය කළේ ''මෙය කිසි සේත් අවශ්‍ය නොවේ'' (''සම්මේලන දෙකක්'' පිටු 11) යනුවෙනි. දේශපාලනඥයන් හා විප්ලවවාදීන් සිය උපක්‍රම නිගමනය කර ගැනීමේදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍යයන් අමතක නො කරන බවත්, එපමණක් නොව, එම කර්තව්‍යයන් සාර්ථක ලෙස සපුරාලීමෙහි සමත් වන්නේ ද, ඔවුන් පමණක් වන බවත්, ඊළඟ පරිච්ඡේදයෙන් පෙන්වා දෙන්නෙමු.



පිළිගත හැකි සත්‍යයක් ද? එය සම්පූර්ණයෙන්ම අසත්‍ය ය. ආර්ථික අරගලය හා සම්බන්ධයෙන් පමණක් නොව, දක්නට ලැබෙන්නා වූ පොලිස් දුෂ්ඨත්වය හා ඒකාධිපත්‍යයේ බලහත්කාර කම් සම්බන්ධයෙන් වූ ඕනෑම සහ සෑම අවස්ථාවක් ම වුවද, පොදු ජනයා ''ඇද ගැනීමේ'' මාධ්‍යයක් වශයෙන් ''පුළුල් ලෙස උපයෝගි කර ගැනීමේ'' හැකියාව අතින්, අල්ප මාත්‍ර වශයෙන් හෝ සුළු පටු නොවේ. ගම් පරිපාලකයන්[166] සහ දුප්පත් ගොවීන්ට කස පහර දීමත්, නිලධාරීන්ගේ දූෂණ සහ නගරවල ''පොදු ජනයාට'' කරන පොලිස් සැලකිලිත්, දුර්භික්ෂයට පත් ජනතාවට විරුද්ධව සටන් කිරීම සහ අවබෝධය හා දැනුම ලබා ගැනීමට දරන ප්‍රයත්නයන් යටපත් කිරීමත්, බලපුළුවන්කාර කමින් අය බදු ගැනීම සහ ආගමික නිකායයන් පෙළීමත්, සොල්දදුවන්ට අවමන්කාරී ලෙස සැලකීම සහ ශිෂ්‍යයන්ට හා ලිබරල් බුද්ධිමතුන්ට බැරෑක්ක ක්‍රමයෙන් සංග්‍රහ කිරීමත්, යන මේවා සහ, දක්නට ලැබෙන එවැනි දහසක් දුෂ්ඨ කම්, කෙළින්ම ආර්ථික අරගලයට සම්බන්ධ නො වූවත්, ජනතාව දේශපාලනයට ඇද ගැනීම සඳහා, පොදු වශයෙන් ''පුළුල් ලෙස උපයෝගි කර ගත හැකි'' මාධ්‍යයන් හා අවස්ථා බවට පත් වීමේ සුදුසු කම් අතින් අඩුවක් තිබේ ද? ඇත්ත එහි අනිත් පැත්ත ය. කම්කරුවන්ට (තමන්ටම නැතහොත් තමන්ට සමීප ලෙස සම්බන්ධ වූ අයට) දුෂ්ඨ පාලනයෙන්, හිංසනයෙන් හා අයිතිවාසිකම් නොමැති කමින් පීඩා විඳින්නට සිදු වූ අවස්ථා සියල්ලෙහි ම එකතුව අතුරෙන්, හුදු වෘත්තීය සමිති අරගලයම නිසා පොලිස් දුෂ්ඨත්වයට ඉලක්ක වූ අවස්ථා ගණන ඉන් ඉතා සුළු කොටසක් බව, නිසැකවම කිව හැකිය. එසේ වූ කල, පොදු වශයෙන් කියතොත්, ''පුළුල් ලෙස උපයෝගි කර ගැනීමේ'' හැකියාව අතින් නො අඩු වූ අතිරේක මාධ්‍යයන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට අවශ්‍යව තිබියදී, එක මාධ්‍යයක් පමණක් ''ඉතාමත් පුළුල් ලෙස උපයෝගි කර ගත හැකි'' වන බව ප්‍රකාශ කිරීමෙන් දේශපාලන උද්ඝෝෂණයේ විෂය ප්‍රමාණය කල් තබා සීමා කිරීමට අපට ඇති උවමනාව කුමක්ද?

අවුරුදු දුරාතීතයෙහි (හරියට අවුරුද්දකට පෙර!..), ''රබෝචිය දියල'' මෙසේ ලීවේය: ''එක වැඩ වර්ජනයකින් පසුව, නැතහොත්, කුමණ තත්වයක් යටතේ වුවත්, වැඩ වර්ජන කීපයකින් පසුව'', ''ඔවුනට විරුද්ධ ආණ්ඩුව විසින් පොලිසිය හා හමුදා එවනු ලැබූ වහාම'', ''පොදු ජනතාව හදිසි දේශපාලන ඉල්ලීම් වටහා ගැනීමට පටන් ගනිති'' (අංක 7, 1900 අගෝස්තු, පිටු 15). දැන් මෙම අවධි පිළිබඳ අවස්ථාවාදී න්‍යාය ප්‍රතික්ෂේප කර ඇති විදේශගත සංගමය, අපගේ අදහසට ගරු කිරීමක් දක්වමින්, ''සමාරම්භයේ පටන් ම, දේශපාලන උද්ඝෝෂණය ආර්ථික පදනමක් මත පමණක් ගෙන යාමේ කිසිම උවමනාවක් නැතැ'' යි ප්‍රකාශ කරයි

("සම්මේලන දෙකක්'' පිටු 11). ''ආර්ථිකවාදීන්'' කොතරම් දුරට ගැඹුරට සමාජවාදය පිරිහෙළා ඇද්ද යනු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගැන විමසන, අනාගත ඉතිහාසඥයාට ප්‍රශ්න ගැනීම පිණිස දීර්ඝ තර්ක ගණනාවකට වඩා, ''සංගමය'' විසින්, එහි පරණ වැරදි වලින් කොටසක් ඉවත ලනු ලැබීම, ඉවහල් වනු ඇත. එහෙත්, එක්තරා ආකාරයකින් දේශපාලනය සීමා කිරීම අත් හැරීමෙන්, වෙනත් ආකාරයකින් එය සීමා කිරීමට අප එකඟ කරවා ගත හැකි යයි, විදේශ ගත සංගමය කල්පනා කරන්නේ නම්, එය මහත් ලාමක කමකි. ආර්ථික අරගලය හැකි තරම් පුළුල්තම පදනමකින් ගෙන යා යුතු බවත්, දේශපාලන උද්ඝෝෂණය සඳහා එය නිතරම උපයෝගි කර ගත යුතු බවත් එහෙත්, පොදු ජනතාව දේශපාලනයට ඇද ගැනීම පිණිස පුළුල්තම වශයෙන් උපයෝගි කර ගත හැකි මාධ්‍යය ආර්ථික අරගලය ලෙසට සැලකීමේ කිසිම අවශ්‍යතාවයක් නොමැති බවත්, මෙහිදී ද කියන ලද නම් වඩාත් තර්කානුකූල නොවේද?

යුදෙව් කම්කරු සංගමයේ (බුන්ද්)[167] හතරවැනි සම්මේලනයේ යෝජනාවක අඩංගු ''හොඳම මාධ්‍යය'' යන වචන වෙනුවට ''පුළුල් තම වශයෙන් උපයෝගි කර ගත හැකි මාධ්‍යය'' යන වාක්‍ය ඛණ්ඩය තමන් විසින් ආදේශ කරනු ලැබීම වැදගත් කරුණක් ලෙස සංගමය සලකයි. මේ යෝජනා දෙකෙන්, වඩා හොඳ කුමණ එකද යන්න කීම අපට අපහසු බවට පාපෝච්චාරණය කරමු. අපගේ අදහසේ හැටියට යෝජනා දෙක ම ඉතා ම නරකය. විදේශ ගත සංගමය සහ බුන්ද් සංවිධානය යන දෙකම, දේශපාලනයට ආර්ථිකවාදී සහ වෘත්තීය සමිතිවාදී අර්ථ නිරූපනයක් දීමේ (සමහර විට, සම්ප්‍රදයේ බලපෑම නිසා නොදැනුවත්වම) වරදට වැටෙති. මෙසේ කිරීමේදී ඒ සඳහා ''හොඳම'' යන වචනය යොදු ගත්තත්, නැතහොත්, ''පුළුල්තම වශයෙන් උපයෝගි කර ගත හැකි'' යන වචන යොදු ගත්තත්, එයින් කිසිදු සැලකිය යුතු වෙනසක් සිදු නොවේ. විදේශ ගත සංගමය කීවේ, පුළුල්තම ලෙස (උපයෝගි කර ගත හැකි නොව) උපයෝගි කර ගනු ලබන මාධ්‍යය, ''ආර්ථික පදනමක් මත දේශපාලන උද්ඝෝෂණය කිරීම'' බව නම්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සංවර්ධනයේ එක්තරා කාල සීමාවක් සම්බන්ධයෙන්, එය නිවැරදි වන්නට තිබුණි. ''ආර්ථිකවාදීන්'' සම්බන්ධයෙන් හා 1898-1901 කාලයේ ක්‍රියා කාරක වරුන් (වැඩි දෙනා නොවේ නම්) බොහෝ දෙනෙකු සම්බන්ධයෙන් එය නිවැරදි වන්නට තිබුණි. ඊට හේතුව, මෙම ප්‍රායෝගික ආර්ථිකවාදීන් (දේශපාලන උද්ඝොෂණය කළේ නම්, එය කළ තාක් දුරට) දේශපාලන උද්ඝෝෂණය ක්‍රියාත්මක කළේ නිතරම ආර්ථිකමය වූ පදනමක් මත වීමය. අප දුක ඇති පරිදි එවැනි දේශපාලන උද්ඝෝෂණයක් ගෙන යාම ''රබෝචය මිස්ල්'' සහ ''ස්වයං විමුක්ති කණ්ඩායම'' විසින් පිළිගන්නා



ලද අතර, නිර්දේශ ද කරන ලදී. ප්‍රයෝජනවත් ආර්ථික උද්ඝෝෂණ කටයුත්ත හා සමාගම්ව, හානිකර ලෙස දේශපාලනය සීමා කෙරෙන බව අවධාරණයෙන් පෙන්වා දීමේ යුතුකම ''රබෝචිය දියල''ට භාරව තිබුණි. එසේ නොකර, ඒ වෙනුවට, එය ප්‍රකාශ කරන්නේ, (''ආර්ථිකවාදීන්'' විසින්) පුළුල්තම ලෙස උපයෝගි කර ගනු ලබන මාධ්‍යය, පුළුල්තම ලෙස උපයෝගි කරගත හැකි මාධ්‍යය වන බවයි! අප මොවුන් ''ආර්ථිකවාදීන්'' වශයෙන් හඳුන්වන විට, අප වෙත අනේක විධ අවලාද එල්ල කිරීම හැර, වෙනත් කිසිවක් කිරීමට ඔවුන් අසමත් වීම පුදුමයක් නොවේ. අපට ''ව්‍යාකූල කරන්නෝ'', ''කඩා කප්පල් කාරයෝ'', ''පාප්ගේ දූතයෝ'' හා ''අපවාද කාරයෝ* යයි කියනු ලැබේ. අප විසින් ඔවුන් මාරාවේශ කෝපයට පත් කරන ලදැයි කියමින්, ඔවුහු මුළු ලෝකයටම පැමිණිලි කරමින් යති. එමෙන්ම, ''කිසිම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයක, දැන් ''ආර්ථිකවාදී'' පැහැයක් වත් නැතැයි,දිවුරමින් මෙන් කියති**. අහෝ, ඒ අපවාදකාර දුෂ්ඨ දේශපාලනඥයෝ! ඔවුහු මනුෂ්‍ය වර්ගයා කෙරෙහි ඇති හුදු වෛරය නිසාම, අනුන් මාරාවේශ ලෙස අමනාපයට පත් කරනු පිණිස, උවමනාවෙන් ම ''ආර්ථිකවාදය'' නිර්මාණය නොකළෝද?

''ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීම'' පිළිබඳ කර්තව්‍යය සමාජ-ප්‍රජාතන්ත්‍රය හමුවේ තබන මර්තිනව්ගේ මෙම වචනවල අර්ථය කුමක්ද? ආර්ථික අරගලය යනු, කම්කරුවන් ඔවුන්ගේ ශ්‍රම ශක්තිය අලෙවි කිරීමේදී, වඩාත් හොඳ මිළක් ලබා ගැනීමටත්, වඩාත් හොඳ ජීවන සහ සේවා තත්වයන් ලබා ගැනීමටත්, ස්වාමි වරුන්ට විරුද්ධව කරන සාමූහික අරගලය යි. මෙය අවශ්‍යයෙන්ම වෘත්තීය සමිති අරගලයකි. මක් නිසා ද යත්, විවිධ වෘත්තීන්හි සේවා තත්වයන් බෙහෙවින් වෙනස් වන හෙයින්ද, ඒ හේතු කොට ගෙන ද, එම තත්වයන් වැඩි දියුණු කර ගැනීමට කරන අරගලය ගෙන යා හැක්කේ, වෘත්තීය සංවිධාන පදනම් කර ගෙන (බටහිර රටවල වෘත්තීය සමිති මගින් හා රුසියාවේ තාවකාලික වෘත්තීය සංගම් සහ පත්‍රිකා ආදිය මගින්) පමණක් වන හෙයිනි. එනිසා, ''ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීම'' යනුවෙන් වැටහෙන්නේ, (මර්තිනව් තම ලිපියේ ඊළඟ පිටුවේ සඳහන් කරන පරිදි, පිටු 43) ''ව්‍යවස්ථාදයක සහ පරිපාලන පියවරයන්'' මගින්, මෙම වෘත්තීය ඉල්ලීම් ඉටු කරවා ගැනීම සහ එක් එක් විශේෂ කර්මාන්තයෙහි සේවා තත්වයන් වැඩි දියුණු කර ගැනීම සඳහා උත්සාහ දැරීමය. කම්කරුවන්ගේ වෘත්තීය

* ''සම්මේලන දෙකක්'' හි යොදු ඇත්තේ මෙම වචනමය. — පිටු 31, 32, 28 හා 30.

** ''සම්මේලන දෙකක්'', පිටු 32.

සමිති සියල්ලම කර ඇත්තේද, කරන්නේද මෙයමය. මැනවින් විද්‍යාත්මක (හා ''මැනවින්'' අවස්ථාවාදී වෙබ් මහතාගේ හා මහත්මියගේ කෘති කියවන්න. බ්‍රිතාන්‍ය වෘත්තීය සමිති, මීට බොහෝ කලකට පෙර, ''ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීමේ'' කර්තව්‍යය ඉටු කිරීමේ නිරතව සිටි බව ඔබට පෙනෙනු ඇත. එම සමිති, වැඩ වර්ජනය කිරීමේ නිදහස සඳහා ද, සමූපකාර සහ වෘත්තීය සමිති ව්‍යාපාරවලට ඇති නීතිමය බාධාවන් ඉවත් කරනු සඳහා ද, කාන්තාවන් හා ළමයින් ආරක්ෂා කිරීමේ නීති පැනවීම සඳහා ද,සෞඛ්‍ය හා පැක්ටරි නීති මගින්, ශ්‍රම කරු තත්වයන් වැඩි දියුණු කිරීම සඳහා ද, ආදී වශයෙන්, දීර්ඝ කාලයක් තිස්සේ සටන් කර ඇත.

මේ අනුව, ''ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දීම'' පිළිබඳ වූ, මෙතරම් ගාම්භීර හඬක් නංවන, පම්පෝරි විප්ලවකාරී පාඨය ප්‍රයෝජනවත් වන්නේ, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය, වෘත්තීය සමිතිවාදී දේශපාලනයේ තත්වයට පිරිහෙළීමට දරන සම්ප්‍රදායික ප්‍රයත්න වසං කිරීම සඳහා යොදා ගන්නා කඩතුරාවක් මෙනි. ''සිද්ධාන්ත විප්ලවයක් ඇති කිරීම, ජීවිතයේ විප්ලවයක් ඇති කිරීමටත් වඩා ඉහළින්''* තබන්නේ යයි කියා චෝදනා කරනු ලබන ''ඉස්ක්‍රා'' පත්‍රයේ එක පැත්තකට බර වූ ගතිය නිවරද කිරීමේ නියායෙන්, ආර්ථික ප්‍රතිසංස්කරණ සඳහා වූ අරගලය අත්‍යන්තයෙන් ම අළුත් දෙයක් ලෙසට අප වෙත ඉදිරිපත් කෙරෙන්නේ ය. ''ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීම'' යන වාක්‍ය කොටසින් අදහස් කෙරෙන්නේ, ආර්ථික ප්‍රතිසංස්කරණ සඳහා අරගල කිරීම මිස ඊට වැඩි කිසිවක් නොවේ. මර්තිනව් ඔහුගේම වචනවල අර්ථය ගැන මෙනෙහි කර බැලුවේ නම්, ඔහුට ම මෙම නිගමනයට එළඹෙන්නට තිබුණි. ''ඉස්ක්‍රා'' පත්‍රය වෙත තමන්ගේ ප්‍රබලතම ප්‍රහාරය එල්ල කරන ඔහු ''ආර්ථික සූරා කෑම, විරක්ෂාව, දුර්භික්ෂය, ආදියට විරුද්ධව ව්‍යවස්ථාදයක හා පරිපාලනමය පියවරයන් ගන්නා ලෙස කියා ආණ්ඩුවට නිශ්චිත ඉල්ලීම් ඉදිරිපත් කිරීම අප පක්ෂයට කළ හැකිව හා එය විසින් කළ යුතුව තිබිණි'' යි කියයි (''රබෝචිය දියල'' අංක 10, පිටු 42—43). පියවරයන් ගන්නා ලෙස කියන නිශ්චිත ඉල්ලීම් — මෙයින් අදහස් වන්නේ

---

* ''රබෝචිය දියල'' අංක 10, පිටු 60. ''වැඩ පිළිවෙළවල් දූසිමකට වඩා, තථ්‍ය ව්‍යාපාරයේ සෑම පියවරක්ම වැදගත් වන්නේය'' යන ප්‍රවාදය, වෙනස්කර අපගේ ව්‍යාපාරයේ නූතන අවුල් සහගත තත්වයට මර්තිනව් විසින් ගලපාගනු ලබන්නේ මෙසේය. මෙම ගලපා ගැනීමේ ස්වභාව නිරූපනයක් අප ඉහත දක්වා ඇත. ඇත්ත වශයෙන්ම මෙය, ''සියළු අගය ඇත්තේ ව්‍යාපාරයෙහිය, අරමුණෙහි අගයක් නැත'' යන බර්න්ෂ්ටයින් වාක්‍යයෙහි රුසියානු පරිවර්තනය පමණකි.



සමාජ ප්‍රතිසංස්කරණ සඳහා ඉල්ලීම් නොවේද? අපක්ෂපාත පාඨකයාගෙන් අපි නැවතත් මෙසේ අසමු. ''රබෝචිය දියල'' වාදීන් (කාලීන වශයෙන් භාවිතා වන මෙම හැඩ නැති නිල නාමය! සම්බන්ධයෙන් සමා වන්න) ''ඉස්ක්‍රා'' පත්‍රය සමග මත භේද වීමට තුඩු දුන් කරුණ වශයෙන්, ආර්ථික ප්‍රතිසංස්කරණ සඳහා අරගල කිරීමේ අවශ්‍යතාවය පිළිබඳ ඔවුන්ගේ ප්‍රවාදය පෙන්වන විට, ඔවුන් ගුප්ත බර්න්ෂ්ටයින්වාදීන් ලෙසට හැඳින්වීමෙන් අප ඔවුනට අවමානයක් කර තිබේ ද?

විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, තම කටයුතුවල කොටසක් වශයෙන්, ප්‍රතිසංස්කරණ සඳහා වූ අරගලය නිතරම ඇතුලත් කර ගන්නේ ය. එහෙත්, එය ''ආර්ථික'' උද්ඝෝෂණය ප්‍රයෝජනයට ගන්නේ, විවිධ පියවරයන් සඳහා ඉල්ලීම් ආණ්ඩුව වෙත ඉදිරිපත් කිරීමට පමණක් නොවේ. එය එම උද්ඝෝෂණය ප්‍රයෝජනයට ගන්නේ, ආණ්ඩුව ඒකාධිපත්‍යයක් වී තිබීම කෙළවර කරන ලෙස (මූලික වශයෙන්) ඉල්ලනු සඳහා ය. එපමණක් නොව, මෙම ඉල්ලීම තනිකරම ආර්ථික අරගලය මත පදනම් නොකර, පොදු වශයෙන් ජන හා දේශපාලන ජීවිතයේ ප්‍රකට වන කරුණු සියල්ලම මත පදනම් කර ගෙන ආණ්ඩුවට ඉදිරිපත් කිරීම, ස්වකීය යුතු කම බව විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අදහසය. කොටින් කියතොත්, ප්‍රතිසංස්කරණ සඳහා අරගලය, සමස්තයෙහි කොටසක් වශයෙන්ද, නිදහස හා සමාජවාදය සඳහා වූ විප්ලවවාදී අරගලයෙහි කොටසක් වශයෙන් ද, එයට යටත් කරනු ලැබේ. එසේ වුවද අවධි පිළිබඳ න්‍යායට පුනර්ජීවනයක් දී, නවතාවයකින් එය ඉදිරිපත් කරන මර්තිනව්, දේශපාලන අරගලය සංවර්ධනය කිරීම සඳහා වට්ටෝරුවක් ලෙසට, නිතරම පාහේ ආර්ථික අරගලය නියම කිරීමට පරිශ්‍රම දරයි. විප්ලවවාදී ව්‍යාපාරය වර්ධනය වන මෙම අවස්ථාවේ, විශේෂ ''කර්තව්‍යයක්'' යයි කියනු ලබන ප්‍රතිසංස්කරණ සඳහා අරගලය ඉදිරියට දැමීමෙන් කරන්නේ පක්ෂය ආපසු ඇදගෙන යාමකි; එමෙන්ම එසේ කිරීම, ''ආර්ථිකවාදීන්'' සහ ලිබරල්වාදීන් යන දෙකොට්ඨාශයේම ග්‍රහණයට හසු වීමකි.

එපමණක් නොවේ. ''ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීම'' යන පම්පෝරි ප්‍රවාදය අසු අස්සේ, ප්‍රතිසංස්කරණ සඳහා වූ අරගලය ලජ්ජාවෙන් මෙන් සඟවා තැබූ මර්තිනව්, විශේෂ කාරණයක් ඉදිරිපත් කරන පරිද්දෙන්, තනිකරම ආර්ථික (ඇත්ත වශයෙන්ම, තනිකරම පැක්ටරි) ප්‍රතිසංස්කරණ පිළිබඳ අදහස පෙරට දැම්මේ ය. ඔහු එසේ කළේ කුමණ හේතුවක් නිසාදැයි අපි නො දනිමු. සමහර විට අපරීක්ෂාකාරීත්වය නිසා විය හැකි ද? එහෙත්, ''පැක්ටරි'' ප්‍රතිසංස්කරණවලට වඩා වෙනත් යමක් ඔහුගේ සිතෙහි වී නම්, එවිට, අප ඉහත සඳහන් කර ඇති ඔහුගේ ප්‍රවාදය අර්ථ ශූන්‍ය වෙයි. සමහර විට ඔහු එසේ කෙළේ, ආණ්ඩුව විසින්

දෙනු ලැබිය හැක්කේ සහ දෙනු ලැබෙනු ඇත්තේ, ආර්ථික ක්ෂේත්‍රයේ සහනයන් පමණකැයි අදහස් කළ නිසා විය හැකි ද?* එසේ නම් එය අරුම පුදුම රැවටීමකි. කස පහර දීම, ගමන් අවසරපත්, ඉඩම් නිදහස් කර ගැනීමේ ගාස්තු,[168] ආගමික නිකායයන්, පුවත් පාලනය, ආදී වූ කරුණු සම්බන්ධයෙන්, ව්‍යවස්ථාදායක ක්ෂේත්‍රයෙහි දී සහනයන් ලබා ගත හැකිය — එම සහනයන් දෙනු ද ලැබේ. ආණ්ඩුව පැත්තෙන් බලන කල, ආර්ථික සහන (නැතහොත් ව්‍යාජ සහන) ඉතාමත් මිළ අඩු සහ වාසිදායක සහන වෙති. එසේ වන්නේ, එය මෙම සහන මාර්ගයෙන් වැඩ කරන ජනතාවගේ විශ්වාසය දිනා ගැනීමට අපේක්ෂා කරන හෙයිනි. මේ හේතුව නිසා, ආර්ථික ප්‍රතිසංස්කරණ ගැන අප වැඩි අගයක් කරන බවට, යනාදී වශයෙන් වූ, විශ්වාසයක් (නැතහොත්, වැරදි හැඟීම්) ඇති වීමට, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වූ අපි, කුමණ හෝ තත්වයන් යටතේ වුවද, නැතහොත්, මොනම ආකාරයකින් වුවද, කිසිසේත් ඉඩ නොදිය යුතු වෙමු. ඉහත සඳහන්, නීති සම්පාදනමය සහ පරිපාලනමය පියවරයන් සඳහා වූ, නිශ්චිත ඉල්ලීම් ගැන සඳහන් කරමින්, එවැනි ඉල්ලීම් මගින් ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි නිසා, ඒවාට කම්කරුවන්ගේ ක්‍රියාත්මක සහයෝගය ලැබෙනු ඇති හෙයින්,''ඒවා හුදු පුහු ඝෝෂාවක් පමණක් නොවනු ඇතැ''යි මර්තිනව් ලියයි. අපි ආර්ථිකවාදීන් නොවමු. අහෝ නැත! අප කරන්නේ, බර්න්ෂ්ටයින්ලා, ප්‍රකපෝවිච්ලා, ස්ත්‍රුවේලා, ආර්. එම්. ලා හා tutti quanti** අනුව නිශ්චිත ප්‍රතිඵලවල ''ප්‍රත්‍යක්ෂ භාවය'' ඉදිරියේ දස ලීලාවෙන් දනින් වැටීම පමණකි! අපට අවශ්‍ය ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල පිළිබඳ බලාපොරොත්තු පුහු ඝෝෂාවක් බව (නර්ත්සිස් තුපරිලව් ඇතුළු) සියල්ලටම අවබෝධ කරවීම පමණකි.අප උත්සාහ කරන්නේ, වැඩ කරන ජනතාව, ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල පිළිබඳ කිසිම බලාපොරොත්තුවක් නොමැති කල පවා ඒකාධිපත්‍යයට එරෙහිව සෑම අවස්ථාවකදීම විරෝධය පෑම සඳහා ක්‍රියාත්මක ලෙස සහයෝගය දැක්වීමට අසමත් වූ කලෙක (තමන්ගේ අමන ස්වභාවය වැඩ කරන ජනතාවගේ කර පිට දමා තිබියදීම, එසේ සහයෝගය දැක්වීමේ ස්වකීය හැකියාව, එම ජනතාව දැනටමත් ඔප්පු කර නොතිබුණි නම්) කළ යුතු ආකාරයට තර්ක කිරීම පමණකි.

නිදර්ශනයක් වශයෙන්, මර්තිනව් ම ඉදිරිපත් කරන විරක්ෂා සහ

---

* පිටු 43. ''කිසියම් ආර්ථික ඉල්ලීම් ආණ්ඩුවට ඉදිරිපත් කරන ලෙස අප කම්කරුවන්ට උපදෙස් දෙන විට, අප එසේ කරන්නේ, ඒකාධිපති ආණ්ඩුවට ආර්ථික ක්ෂේත්‍රයෙහි සමහර සහනයන් දීමට අවශ්‍යයෙන්ම සිදු වී ඇති පරිදි එය එම සහන දීමට සූදානම් හෙයිනි''.

** ඒ වගේ වෙනත් අය. — සංස්කාරක



දුර්භික්ෂ සහන සඳහා වූ එම ''පියවරයන්'' ම ගනිමු. ''රබෝචිය දියල'' දී තිබෙන පොරොන්දු අනුව පෙනී යන්නේ, එය ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි ''නීති සම්පාදක හා පරිපාලනමය පියවරයන් සඳහා වූ නිශ්චිත'' ඉල්ලීම් මාලාවක් කෙටුම්පත් කිරීමෙහි (පණත් ආකාරයෙන්ද?) සහ එහි විස්තර සකස් කිරීමෙහි යෙදී සිටින බවය. ඒ අතර, ''සිද්ධාන්තවල විප්ලවයක් ඇති කිරීම, ජීවිතයේ විප්ලවයක් ඇති කිරීමටත් වඩා ඉහළින් තබා කටයුතු කරන'' ''ඉස්ක්‍රා'' පත්‍රය, විරක්ෂාව හා ධනපති ක්‍රමය අතර ඇති අඛණ්ඩ සම්බන්ධය විස්තර කර පෙන්වීමට උත්සාහ දැරීමෙහිත්, ''දුර්භික්ෂය එන්නේය'' යන අනතුර හැඟවීමෙහිත්, දුර්භික්ෂයට ගොදුරු වූ ජනයාට ''විරුද්ධව'' පොලිසියේ ''සටන'' හා ඉසිලිය නොහැකි පරිදි තාවකාලික ලෙස බන්ධනාගාරගත කිරීමේ නීතිය[169] ගැන හෙළිදරව් කිරීමෙහිත්, නිතරව සිටී. ''සර්යා'' පත්‍රය දුර්භික්ෂය සම්බන්ධයෙන් ලියන ලද, ''ස්වදේශ කටයුතු සමාලෝචනය'' නැමති කෘතියෙන් කොටසක්, උද්ඝෝෂණික පත්‍රිකාවක් වශයෙන් යළිත් මුද්‍රණය කර පළ කළේය. එහෙත්, අහෝ දෙවියනි! මෙම පටු හා සාධර්මික න්‍යාය ධර්මවාදීන්, කොතරම් නො හික්ම විය හැකි ලෙසට ''එක පැත්තකට බර වී'' සිටිත් ද? ''ජීවිතයෙන් ම'' නැගෙන හඬට ඔවුන් කොතරම් බිහිරිද? ඔවුන්ගේ ලිපිවල, ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි, එකද ''නිශ්චිත ඉල්ලීමක්'' හෝ නොවීය! අහෝ භයංකාරය. මෙය ඇදහිය හැකි ද? අසරණ න්‍යාය ධර්මවාදීන්! උපක්‍රම යනු, වර්ධනය පිළිබඳ වූ සහ වර්ධනය වන දෙය පිළිබඳ වූ ක්‍රියාදමයක් වන බව ද, ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දිය යුතු බවද, උගෙන ගැනීමට ඔවුන් ක්‍රිචේව්ස්කි හා මර්තිනව් වෙත යැවීම සුදුසු ය!

''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කම්කරුවන් ගෙන යන ආර්ථික අරගලයේ (''ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය!!'') තිබෙන ක්ෂණික විප්ලවවාදී වැදගත් කමට අමතරව, එහි මෙම වැදගත් කමද ඇත: ''කම්කරුවනට දේශපාලන අයිතිවාසිකම් අහිමි බව ඔවුන්හට එයින් නිතරම අවබෝධ වන්නේ ය'' (මර්තිනව්, පිටු 44). මෙම ඡේදය උපුටා දක්වන්නේ, ඉහතින් සිය දහස් වරටත් කියා පෑ දෙය, නැවත වරක් කීමට නොවේ. මෙම විශිෂ්ඨ සූත්‍රය ඉදිරිපත් කිරීම ගැන මර්තිනව්ට විශේෂ ස්තුතියක් කිරීමට ය. ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කම්කරුවන් ගෙනයන ආර්ථික අරගලය'' — මෙය මොන තරම් අගේ ඇති මාණික්‍යයක් ද?! ''පොදු යහපත පතා, සියළුම කම්කරුවන්ගේ තත්වය වැඩි දියුණු කිරීම සඳහා වූ දේශපාලන අරගලයට''* කම්කරුවන් කැඳවීමෙන් ආරම්භ

---

* ''රබෝචිය මිස්ල්'', ''විශේෂ අතිරේකය'', පිටු 14.

කළ තැන් පටන්, අවයි පිළිබඳ න්‍යාය ඔස්සේ යමින්, ''පුළුල්තම ලෙස උපයෝගි කර ගත හැකි'' ආදී වශයෙන් වූ සම්මේලන යෝජනාවෙන් කෙළවර වුනු, ''ආර්ථික වන්දනාවේ'' සාර ගර්භ හරය, මේ අදහසින් පැහැදිලි ලෙසත් සංක්ෂිප්ත ලෙසත්, ප්‍රකාශ කරන අතර, ''ආර්ථිකවාදීන්'' අතර පවතින අර්ධ අසමථයන් හා ප්‍රභේද මාත්‍ර වෙනස් කම්, අනුකරණය බැරි වන තරම් දක්ෂ ලෙසට ඉවත ලීම ද, මෙයින් ඉටු කෙරේ. ''ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' යනු නියත වෘත්තීය සමිතිවාදී දේශපාලනය යි. එය තවමත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනයට වඩා බොහෝ දුරින් පවතී.

### ආ) මර්තිනව් ප්ලෙහානව්ගේ අරුත්සරු බව වැඩි කළ හැටි

''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ලමනෝසව්ලා කොතරම් නම් විශාල පිරිසක් මෑතකදී අප අතර මතු වී සිටිත් ද!'' යි එක් දිනක් සහෝදරයෙක් ඇසීය. ඔහු එසේ ඇසුවේ, ''ආර්ථිකවාදය'' වෙත නැඹුරු වූ බොහෝ දෙනෙක් ''අවශ්‍යයෙන් ම ඔවුන්ගේ ම වැටහීම අනුව'' (නිදර්ශනයක් වශයෙන් කම්කරුවන්ට අයිතිවාසිකම් අහිමි බව ගැන කල්පනා කිරීමට ආර්ථික අරගලය විසින් ඔවුන් උනන්දු කෙරේය යනු වැනි) මහා සත්‍යයන් වෙත එළඹීමටත්, එසේ කිරීමේදී, මහා ප්‍රාඥයන් මෙන් විප්ලවවාදී ව්‍යාපාරයේ සහ විප්ලවවාදී චින්තනයේ පසු ගිය සංවර්ධනයන් ඉතාමත් පිළිකුල් සහගත ලෙස නොතකා හැරීමටත්, දක්වන්නා වූ රුචිය ගැන සිත්හි ඇතිව ය. ලමනෝසව්-මර්තිනව් හරියටම එවැනි ප්‍රාඥයෙකි. බොහෝ ඉහත දී අක්සෙල්රොද් විසින් කියන ලද දෙය වෙත, ඔහු, ''ඔහුගේ ම වැටහීම අනුව'' එළඹෙන්නේ කෙසේ ද යන්න දැක ගැනීමට, ඔහුගේ ''හදිසි ප්‍රශ්න'' යන ලිපිය යම්තමින් කියවීම ප්‍රමාණවත් වේ (අපේ ලමනෝසව් එහි අක්සෙල්රොද් ගැන වචනයක්වත් සඳහන් කර නැත). නිදර්ශනයක් වශයෙන්, ධනේශ්වර පංතියේ එක් එක් ස්ථරයන්ගේ විරුද්ධත්වය ආදිය, අපට අමතක කළ නොහැකි බව ඔහු වටහා ගැනීමට පටන් ගෙන තිබෙන්නේ කෙසේ ද? (''රබෝචිය දියල'' අංක 9, පිටු 61, 62, 71: මෙය ''රබෝචිය දියල'' අක්සෙල්රොද්ට දුන් ''පිළිතුර'' සමග සසඳන්න. පිටු 22, 23, 24). එහෙත්, අදෝමැයි! ඔහු තවමත් ''එළඹෙනවා'', තවමත් ''පටන්ගන්නවා'' පමණකි. ඊට වඩා දුර ගොස් නැත. ඔහු අක්සෙල්රොද්ගේ අදහස් වටහාගෙන තිබෙන්නේ ඉතාමත් අල්ප වශයෙන් වන හෙයින්, ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' ගැන කථා කරයි. ''රබෝචිය දියල'' අවුරුදු තුනක් ම තිස්සේ (1898-1901) අක්සෙල්රොද්ගේ අදහස් අවබෝධ කර ගැනීමට උත්සාහ ගත් නමුත්, එය තවමත් සාර්ථක වී නැත! ''මනුෂ්‍ය වර්ගයා මෙන්ම'', සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයත් තමන් සඳහා නියම කර ගන්නේ, ජය ගත හැකි කර්තව්‍යයන් පමණක් වීම, මෙයට එක් හේතුවක් විය හැකි ද?

එසේ වුවද, ලමනෝසව්ලා විශිෂ්ඨත්වයක් දරන්නේ, බොහෝ දේ ගැන වූ ඔවුන්ගේ නො දත් කම නිසා පමණක් නොව, (එසේ වී නම් එය අභාග්‍යයෙන් අඩක් පමණි) ඔවුන්ගේ ම නොදන්නා කම ගැන ද දැනුමක් නොමැති නිසා ය. මෙය නම්, සැබෑ ම අභාග්‍යයකි. ඔවුන් තව දුරටත් කරදර නොවී ප්ලෙහානව් අරුත්සරු කිරීමට මෙහෙයවන්නේ මෙම නියම අභාග්‍යය ය.

''ප්ලෙහානව් ඔහුගේ (''රුසියාවේ දුර්භික්ෂයට විරුද්ධව සටනේ දී සමාජවාදීන්ගේ කර්තව්‍යයන්'' යන) පොත ලිවීමෙන් පසු, බොහෝ කාලයක් ගෙවී ඇතැ'' යි ලමනෝසව්-මර්තිනව් කියයි. කම්කරු පංතියේ ආර්ථික අරගලයට දශකයක් තිස්සේ නායකත්වය දුන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, ... පක්ෂයේ උපක්‍රම සඳහා පුළුල් න්‍යායික පදනමක් සකස් කර ගැනීමෙහි තවමත් සමත් වී නැත. මේ ප්‍රශ්නය දැන් උග්‍ර අවස්ථාවකට පැමිණ ඇත. එබැවින්, එවැනි න්‍යායික පදනමක් නිශ්චය කර ගැනීමට අපි කැමැත්තෙමු නම්, කලකට ඉහත දී ප්ලෙහානව් විසින් විස්තර කරන ලද උපක්‍රම පිළිබඳ ප්‍රතිපත්ති සැලකිය යුතු පමණින් අරුත් සරු කිරීමට, අපට නියත වශයෙන්ම සිදු වනු ඇත... ප්‍රචාරය හා උද්ඝෝෂණය අතර වෙනස ගැන දැන් අප කරන විස්තරය, ප්ලෙහානව්ගේ විස්තරයට වඩා වෙනස් විය යුතු වේ. (මර්තිනව් ප්ලෙහානව් කී දෙය වචන මාත්‍ර වශයෙන් උපුටා දක්වා තිබේ: ''ප්‍රචාරකයෙක් එක පුද්ගලයෙකුට හෝ පුද්ගලයන් කිප දෙනෙකුට අදහස් රැසක් ඉදිරිපත් කරයි; උද්ඝෝෂකයෙක් එක අදහසක් හෝ අදහස් කීපයක් විශාල ජනකායකට ඉදිරිපත් කරයි''.) ප්‍රචාරය යනුවෙන් අප වටහා ගන්නේ, වර්තමාන සමාජය මුළුමනින්ම හෝ ඉන් කොටසක් ගෙන, එය දක්නට ලැබෙන ආකාරයෙන්, පුද්ගලයන්ට වැටහෙන ලෙසට හෝ, එසේ නැතහොත්, පොදු ජනතාවට වැටහෙන ආකාරයට හෝ ඒ ගැන විප්ලවවාදී ලෙස තේරුම් කිරීමයි. උද්ඝෝෂණය යන්නෙන් වචනයේ ස්ථිර අර්ථයෙන්ම (sic!) අපට වැටහෙන්නේ නියමිත හා පැහැදිලි ක්‍රියාවන්හි නිරත වන ලෙස පොදු ජනතාවට හඬ නැගීම සහ කෙළින් ම විප්ලවවාදී ලෙස සමාජ ජීවිතයට මැදිහත් වීම සඳහා නිර්ධන පංතිය උනන්දු කරවීමය''.

මර්තිනව්ට ස්තුති වන්නට, වඩාත් ස්ථිර සහ වඩාත් අරුත් සරු වචන මාලාවක් සොයා ගැනීම ගැන, රුසියානු සහ ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට ප්‍රශංසා කරමු. අප (ප්ලෙහානව් සහ ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සියළුම නායකයින්ද සමග) මෙතෙක් කල් කල්පනා කළේ, ප්‍රචාරකයා, නිදර්ශනයක් වශයෙන්, විරක්ෂාව ගැන කරුණු ඉදිරිපත් කිරීමේ දී, අර්බුදවල ධනේශ්වර ස්වභාවය ගැනත්, නූතන සමාජයේ ඒවා

ඇති වීම නොවැලැක්විය හැකි වීමට හේතු වන කරුණුත්, සමාජය, සමාජවාදී සමාජයක් බවට පරිවර්තනය කිරීමේ අවශ්‍යතාවයත්, ආදිය පැහැදිලි කළ යුතු බව ය. කොටින් කියතොත් ඔහු අදහස් රැසක් ඉදිරිපත් කළ යුතුය. ඇත්ත වශයෙන්ම, එම අදහස් සංඛ්‍යාව කොතරම් විශාල දැයි කිව හොත්, ඒවා ඒකීය සමස්තයක් බව වටහා ගනු ඇත්තේ (සංසන්ද-නීය වශයෙන්) ස්වල්ප දෙනෙකු පමණකි. එසේ වුවද, උද්ඝෝෂකයා, එම මාතෘකාව ගැන ම කථා කිරීමේ දී, ඔහුගේ ප්‍රේක්ෂක සමූහයාට පැහැ-දිලිව පෙනෙන ඉතාමත් ප්‍රකට කරුණක් ගෙන, නිදර්ශනයක් වශයෙන්, විරක්ෂාගත පවුලක හාමතය නිසා ඇති වූ මරණ, වැඩි වන දුප්පත් කම, යනාදී වූ කරුණු උදහරණ වශයෙන් ගෙන, කවුරුත් දන්නා එය උපයෝගි කර ගනිමින්, එක අදහසක්, එනම්, ධනය වැඩි වීමත්, දුප්පත් කම වැඩි වීමත් අතරේ පවතින ප්‍රතිවිරෝධය අර්ථයෙන් තොර එකක් වන බව වැනි අදහසක්, "පොදු ජනතාවට" ඉදිරිපත් කිරීමට ස්වකීය ප්‍රයත්නයන් මෙහෙයවයි. දරාගත නොහැකි අයුක්තියට විරුද්ධව ජනතා නොසන්සුන් කම සහ කෝපය ඇවිස්සීමට කටයුතු කරන ඔහු, මෙම ප්‍රතිවිරෝධය පිළිබඳ වඩාත් අංග සම්පූර්ණ විග්‍රහයක් කිරීමට, ප්‍රචාරකයාට ඉඩ තබයි. ඒ අනුව ප්‍රචාරකයා ප්‍රධාන වශයෙන් ක්‍රියාත්මක වන්නේ මුද්‍රිත වැකිය මාර්ගයෙනි — උද්ඝෝෂකයා වාචක කථාව මගිනි. උද්ඝෝෂකයාට අවශ්‍ය වන්නේ ප්‍රචාරකයාට වඩා වෙනස් ගුණාංග ය. නිදර්ශන වශයෙන් කෞට්ස්කි හා ලැෆාර්ග් ප්‍රචාරකයන් යයි අපි කියමු. බෙබෙල් හා ගෙද් උද්ඝෝෂකයින් යැයි කියමු. ප්‍රායෝගික ක්‍රියාකාරීත්වයේ තුන්වැනි ක්ෂේ-ත්‍රයක්, තුන්වැනි කාර්යයක් වෙන් කර "නිශ්චිත හා පැහැදිලි ක්‍රියාවන්හි නිරත වන ලෙස ජනතාවට හඬ නැගීම" එම කාර්යය වශයෙන් ඇතුලත් කිරීම මහ බොරුවකි. මක්නිසාද යත්, තනිකර "හඬ නැගීම" පමණක් ගත් කල, එය න්‍යායික විග්‍රහයට, ප්‍රචාරක පත්‍රිකාවට හෝ උද්ඝෝෂක කථාවට හෝ, ස්වභාවිකව ම හා අනිවාර්යයෙන් ම ඌණ පුරණ වන තනි ක්‍රියාවක් හෙයිනි. එසේ නොවන සෑම විටකම එය විධායක කාර්යයක් වන හෙයිනි. ධාන්‍ය බදුවලට විරුද්ධව, ජර්මන් සමාජවාදීන් දැනට ගෙන යන අරගලය නිදර්ශනයක් කොට ගනිමු. න්‍යායවාදීහු වාණිජ ගිවිසුම් හා නිදහස් වෙළෙඳාම සඳහා සටන් කිරීමට "හඬ නගමින්" තීරු බදු ප්‍රතිපත්තිය ගැන පර්යේෂණ කෘතීන් ලියති. වාර පුවත්පත් මගින් ප්‍රචාර-කයා ද, ප්‍රසිද්ධ කථා මගින් උද්ඝෝෂකයා ද එයම කරයි. වර්තමාන අවස්-ථාවේදී ධාන්‍ය බදු වැඩි කිරීමට විරුද්ධව ජනතාවගේ "ඒ කාන්ත ක්‍රියාව" ඊට විරුද්ධව රීක්ස්ටාග් පාර්ලිමේන්තුවට යැවීම සඳහා පෙත්සම් අත්සන් කිරීමේ ස්වරූපය ගනී. මෙම ක්‍රියාව සඳහා හඬ නැගීම න්‍යායවාදීන්, ප්‍රචාරකයන් හා උද්ඝෝෂකයන් විසින් අනියත වශයෙන් කරනු ලැබේ.



ඒ අතර, අත්සන් එකතු කිරීම සඳහා, පෙත්සම් ලැයිස්තු පැක්ටරිවලට හා පෞද්ගලික ගෙවල්වලට ගෙනයාමේ කටයුත්තෙහි යෙදෙන කම්ක-රුවන් විසින්, ඍජු ලෙස හඬ නැගීම කරනු ලැබේ. "මර්තිනව්ගේ වචන මාලාව" අනුව, කෞට්ස්කි හා බෙබෙල් යන දෙදෙනා ම ප්‍රචාරකයින් ය. අත්සන් එකතු කරන අය උද්ඝෝෂකයින් ය. මෙය පැහැදිලි නොවේ ද?

ජර්මන් නිදර්ශනය ගැන සඳහන් කරන විට, Verballhornung යන ජර්මන් වචනය සිහියට නැගේ. එය වචනාර්ථයෙන් පරිවර්තනය කළ විට, එහි අදහස "බල්හොර්න් කිරීම" යනු යි. දහසය වැනි ශත වර්-ෂයේ ලයිප්සිග්හි සිටි ජොහාන් බල්හොර්න් නැමති ප්‍රකාශකයා, ළමා කියවීම් පොතක් පළ කළේ ය. සිරිත් ලෙස, ඔහු එහි කුකුළකුගේ පින්තූ-රයක් ඇතුළත් කළේය. එහෙත්, පින්තූරයේ කුකුළාට පොර කටු නොති-බුණු අතර, ඌ අසල බිත්තර දෙකක් ද ඇඳ තිබුණි.මෙම පොතේ කවරයෙ-හි "ජොහාන් බල්හොර්න් විසින් සංශෝධිත සංස්කරණය" යන වැකිය ද ඔහු මුද්‍රණය කළේ ය. එතැන් පටන්, මුල් කෘතියට වඩා අයහපත් ඕනෑම "සංශෝධනයක්", "බල්හොර්න් කිරීම" යනුවෙන් හැඳින්වීමට ජර්මානුන් පුරුදුව සිටිති. ජ්ලෙහානව්ගේ "අරුත් සරු කම වැඩි කිරීමට" මර්තිනව් උත්සාහ දරන ආකාරය දන්නා කෙනෙකුට, බල්හොර්න් මතක් වීම වැලැක්විය නොහැකිය.

අපගේ ලමනෝසව් මෙම "වියවුල" නිර්මාණය කළේ මන්ද? "ඉස්ක්‍රා" පත්‍රය, "දශක එක හමාරකට පෙර ජ්ලෙහානව් කළ ලෙසටම, කාරණයේ එක පැත්තකට පමණක් අවධාරණය යොමු කරන බව" පෙන්නුම් කිරීම සඳහා ය. " "ඉස්ක්‍රා" පත්‍රය සම්බන්ධයෙන් වූ කල, යටත් පිරිසෙයින් වර්තමාන වකවානුවේ දී වත්, ප්‍රචාරක කර්තව්‍යයන් විසින් උද්ඝෝෂණික කර්තව්‍යයන් පසු තලයට තල්ලු කරනු ලැබේ". මෙම අන්තිමට කී අදහස, මර්තිනව්ගේ භාෂාවෙන් සාමාන්‍ය මිනිස් භාෂා-වට පරිවර්තනය කළහොත් (නව නිර්මිත වචන මාලාව උගෙන ගැනීමට තවමත් මිනිස් වර්ගයාට නොහැකි වී තිබෙන නිසා), එය පහත සඳහන් පරිදි වේ. "ඉස්ක්‍රා" පත්‍රය හා සම්බන්ධයෙන් වූ කල, දේශපාලන ප්‍රචාරයේ සහ දේශපාලන උද්ඝෝෂණයේ කර්තව්‍යයන් විසින්, "ප්‍රත්‍යක්ෂ යම් යම් ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි, නීති සම්පාදන සහ පරිපාලනමය පියවරයන් සඳහා වූ නිශ්චිත ඉල්ලීම්" (නැතහොත්, මර්තිනව්ගේ මට්ට-මට තවමත් වර්ධනය වී නැති මිනිස් වර්ගයාගේ පරණ වචන මාලාවෙන්ම කීමට නැවතත් අවසර ලැබේ නම්, සමාජ ප්‍රතිසංස්කරණ සඳහා වූ ඉල්ලීම්) "ඉදිරිපත් කිරීමේ" කර්තව්‍යය, පසු බිමට තල්ලු කරනු ලැබේ. මෙම ප්‍රවාදය පහත සඳහන් බිණුම සමග සසඳා බලන ලෙස පාඨකයාට යෝජනා කරන්නෙමු.

''මෙම වැඩ පිළිවෙළවල් (විප්ලවවාදීන් ඉදිරිපත් කරන වැඩ පිළිවෙළවල්) තුළ වන, අපගේ මවිතයට පවා හේතු වන දෙය නම්, පැක්ටරි කටයුතු සම්බන්ධයෙන් රුසියාවේ පවතින නිශ්පාදකයන්ගේ ව්‍යවස්ථාපිත සමිතිවලට කම්කරුවන් සහභාගි වීමේ වැදගත් කම, එසේ නැතහොත්, මහ නගර සභාවලට කම්කරුවන් සහභාගි වීමේ වැදගත් කම, එයින් (ඔවුන්ගේ විප්ලවකාරී ශූන්‍යවාදයට ස්තුති වන්නට) මුළුමනින්ම අමතක කෙරෙන නමුත්, (රුසියාවේ නොපවතින) පාර්ලිමේන්තුව තුළ කම්කරුවන්ගේ ක්‍රියාකාරීත්වයේ ඵල ප්‍රයෝජන ගැන, ඔවුන් නිරතුරුව ම කැපී පෙනෙන ලෙස කරන අවධාරණය යි''

ලමනෝසව්-මර්තිනව් ඔහුගේම වැටහීම අනුව සොයාගත්, ඒ අදහසම, තරමක් දුරට වඩාත් ඍජු ලෙස හා පැහැදිලි ආකාරයෙන් මෙම බිණුමෙන් ප්‍රකාශ වේ. ''රබෝචය මිස්ල්'' පත්‍රයේ ''විශේෂ අතිරේකයෙහි'' (පිටු 15) එන මෙහි කර්තෘ ආර්. එම්. ය.

## ඇ) දේශපාලන හෙළිදරව් කිරීම් සහ ''විප්ලවවාදී ක්‍රියාකාරීත්වය පුහුණු වීම''

''වැඩ කරන ජනතාවගේ ක්‍රියාකාරීත්වය ඉහළට නැංවීම'' පිළිබඳ වූ මර්තිනව්ගේ න්‍යාය ''ඉස්ක්‍රා'' පත්‍රයට විරුද්ධව ඉදිරිපත් කිරීමට යාමෙන්, ඔහු එම ක්‍රියාකාරීත්වය ලඝු කොට දක්වීමට පෙන්වන ආශාව ඇත්ත වශයෙන් ම හෙළිදරව් විය. මෙම වැඩ කරන ජනතා ක්‍රියාකාරීත්වය හා එහි විශාලතම ක්ෂේත්‍රය ඇවිස්සීමේ, ඇවිස්සුම්කාරී මාධ්‍යයක් වශයෙන්, වඩාත් සුදුසු හා වැදගත් වන්නේත්, ''පුළුල්තම ලෙස උපයෝගී කරගත'' හැකි වන්නේත්, ''ආර්ථිකවාදීන්'' මුනින් වැටී වන්දනා කරන ඒ ආර්ථිකවාදයම බව ප්‍රකාශ කිරීමෙන්, ඔහුගේ එම ආශාව පෙනී ගියේ ය. මෙම දුර්වල කම ස්වභාව නිරූපී ගුණාංගයක් වන හෙයින්ම, එය මර්තිනව්ට පමණක් සීමා වූවක් නොවේ. යථාර්ථය අනුව බලන කල, ''වැඩ කරන ජනතාවගේ ක්‍රියාකාරීත්වය ඉහළට නැංවිය'' හැක්කේ, මෙම ක්‍රියාකාරීත්වය ''ආර්ථික පදනම මත වූ දේශපාලන උද්ඝෝෂණයට'' සීමා නොකළ විට පමණකි. දේශපාලන උද්ඝෝෂණය අවශ්‍ය ලෙස ව්‍යාප්ත කිරීම පිණිස, ඉටු කළ යුතු මූලික කොන්දේසියකි, දේශපාලන හෙළිදරව් කිරීම් සංවිධානය කිරීම. එවැනි හෙළිදරව් කිරීම් මගින් හැර, වෙනත් කිසිම මාර්ගයකින් පොදු ජනතාවට දේශපාලන විඥානය හා විප්ලවවාදී ක්‍රියාකාරීත්වය සම්බන්ධයෙන් පුහුණුවක් දිය හැකි නොවේ. මෙම ස්වරූපයේ ක්‍රියාකාරීත්වය, සමස්ත ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ම ඉතාමත් වැදගත් කාර්යයක් වන්නේ එහෙයිනි. දේශපාලන නිදහස තිබුණත්,



හෙළිදරව් කිරීම් සඳහා අවශ්‍යතාවය එයින් මැකී යන්නේ නැත. එයින් සිදු වන්නේ එම හෙළිදරව් කිරීම්වල එල්ලයේ ක්ෂේත්‍රය පමණක් තරමක් දුරට වෙනස් වීම ය. ඒ අනුව බලන කල, ජර්මන් පක්ෂය, නොසැලෙන ධෛර්යයෙන් යුතුව, එහි දේශපාලන හෙළිදරව් කිරීමේ ව්‍යාපාරය ගෙන යන නිසා, එම පක්ෂය, ස්වකීය තත්වයන් විශේෂයෙන්ම ශක්තිමත් කර ගනිමින්, එහි බලපෑම ද පතුරුවා ලන්නේ ය. දුෂ්කර තත්වයට පත්වන පංතිය කුමක් ද යන්න නොතකා, දුෂ්ඨත්වය, පීඩනය, හිංසනය හා අක්‍රමිකතාවය පිළිබඳ සෑම අවස්ථාවකදීම, ක්‍රියාත්මක වීමට කම්කරුවන් පුහුණු කරන්නේ නම් මිස, එමෙන්ම, වෙනත් කිසිම දෘෂ්ටි කෝණයකින් නොව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දෘෂ්ටි කෝණයෙන් ක්‍රියාත්මක වීමට ඔවුන් පුහුණු කරන්නේ නම් මිස, කම්කරු පංති විඥානය දේශපාලන විඥානයක් බවට පත් විය නොහැක. අන් සෑම සමාජ පංතියක ම ජීවිතය කෙරෙහි දක්නට ලැබෙන, බුද්ධිමය, ආචාර-විචාරමය හා දේශපාලනමය වූ සියළු දේත් සහිතවද, නියත හා විශේෂයෙන්ම කාලීන දේශපාලන කරුණු තුළින් හා සිදුවීම් තුළින්ද, එම පංති ගැන නිරීක්ෂණය කිරීමට කම්කරුවන් උගත හොත් මිස, ජනගහනයේ සියළුම පංතිවල, ස්ථරවල හා කණ්ඩායම්වල, ජීවිතයේ සියළුම අංශ විෂයෙහි, ද්‍රව්‍යවාදී විඥානය හා ද්‍රව්‍යවාදී තක්සේරුව ක්‍රියාත්මක කිරීමට කම්කරුවන් උගත හොත් මිස, වැඩ කරන ජනතාවගේ විඥානය, නියම පංති විඥානයක් බවට පත් වන්නේ නැත. කම්කරු පංතියේ අවධානය, නිරීක්ෂණය හා විඥානය, නිතරම එම පංතිය කෙරෙහි පමණක්, නැතහොත්, ප්‍රධාන වශයෙන් වුවද, එය කෙරෙහි පමණක්, යොමු කරන අය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු නොවෙති. මක් නිසාද යත්, කම්කරු පංතියේ ස්වයං අවබෝධය නොමැකෙන සේ සම්බන්ධ වී පවතින්නේ දේශපාලන ජීවිතයේ අත් දැකීම් තුළින් ලබා ගත්, වර්තමාන සමාජ ජීවිතයේ විවිධ පංති සියල්ල අතර පවතින සම්බන්ධ කම් පිළිබඳ සම්පූර්ණයෙන් පැහැදිලි න්‍යායික අවබෝධයක් සමග නොවන, නැතහොත්, න්‍යායික අවබෝධයට වඩා ප්‍රායෝගික අවබෝධය සමග වන හෙයිනි. මේ නිසා, ජනතාව දේශපාලන ව්‍යාපාරයට ඇද ගැනීමට පුළුල්තම වශයෙන් උපයෝගී කරගත හැකි මාධ්‍යය ආර්ථික අරගලය වන බවට අපගේ ''ආර්ථිකවාදීන්'' දේශනා කරන අදහස පිළිගැනීමෙන් ඇති වන ප්‍රායෝගික ප්‍රතිඵල අනුව බලන කල එය ඉතාමත් හානිදයක සහ ප්‍රතිගාමී අදහසක් බව පෙනේ. කම්කරුවා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු වීම පිණිස, ඉඩම් හිමියාගේ, පූජකයාගේ, රජයේ උසස් නිලධාරියාගේ සහ ගොවියාගේ, ශිෂ්‍යයාගේ සහ පාදඩයාගේ පැහැදිලි පින්තූරයක් ඔහුගේ සිත තුළ තිබිය යුතුය, ඔහු ඔවුන්ගේ දුර්වල හා ශක්තිමත් තැන් දත යුතුය. සෑම පංතියකම හා සෑම ස්ථරයකම, ආත්මාර්ථකාමී ව්‍යායාම හා ඒවායේ

නියම ''අභ්‍යන්තර කටයුතු'' වසං කර තැබීමට යොදා ගන්නා චිත්තාකර්ෂණීය පාඨවල හා බොරු තර්කවල අර්ථය, ඔහුගේ ග්‍රහණයට හසු කර ගත යුතු ය. යම් යම් ආයතනවලින් හා යම් යම් නීතිවලින් පිළිබිඹු වන්නේ කුමණ උවමනාවන් ද යන්නත්, ඒ කෙසේද යන්නත්, ගැන ඔහු වටහා ගත යුතු ය. එසේ වුවද, මෙම ''පැහැදිලි පින්තූරය'' කිසිම පොතකින් ලබා ගත හැක්කක් නොවේ. එය ලබා ගත හැක්කේ, ජීවමාන උදාහරණවලින් හා නියමිත අවස්ථාවක අප වටා සිදු වන දේ ගැනත්, එක් එක් අය තමන්ට ම ආවේණික ක්‍රමය අනුව, සමහර විට කසු කුසු ගා කරන සාකච්ඡා, ඒ ඒ සිදුවීම්, ඒ ඒ සංඛ්‍යා ලේඛන, ඒ ඒ උසාවි තීන්දු ආදිය ගැනත්, සමීප, විමසිල්ලෙන් යුතුව කරන හෙළිදරව් කිරීම් මගිනි. පොදු ජනතාව දේශපාලන ක්‍රියාකාරීත්වයෙහි පුහුණු කිරීම සඳහා, මෙම අංග සම්පූර්ණ දේශපාලන හෙළිදරව් කිරීම අත්‍යවශ්‍ය මූලික කොන්දේසියකි.

ජනයාට කෙරෙන මෘග පොලිස් සැලකිලි, ආගමික නිකායයන්ට කෙරෙන තාඩන පීඩන, ගොවීනට කස පහර දීම, දරුණු පුවත් පාලනය, සොල්දාදුවන්ට වධ දීම, ඉතාමත් අහිංසක සංස්කෘතික ව්‍යාපාරවලට කරන දරුණු අතවර, ආදියට ප්‍රතිචාර වශයෙන්, රුසියානු කම්කරුවන් දක්වන විප්ලවීය ක්‍රියාකාරීත්වය තවමත් අල්පමාත්‍ර වන්නේ මන්ද? එසේ වන්නේ, එම ක්‍රියාකාරීත්වයෙන් ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය'' නොහැකි නිසා සහ එයින් සිදු වන ''යහපත'' අඩු කම නිසා, එම ක්‍රියාකාරීත්වයෙහි යෙදීමට ඔවුන් ''ආර්ථික අරගලය'' විසින් උනන්දු නොකෙරෙන නිසා විය හැකි ද? එවැනි අදහසක් පිළිගැනීම යනු චෝදනා නොලැබිය යුත්තන්ට චෝදනා කිරීමක් වන බවත්, තමන්ගේ ම මුග්ධ කමට (නැතහොත් බර්න්ෂ්ටයින්වාදයට) කම්කරුවන් වෙත දෙස් පැවරීම බවත්, අපි නැවතත් කියමු. පොදු ජන ව්‍යාපාරයට පිටු පසින් සිටීම ගැනත්, සියළුම සාපරාධී නොපනත් කම් ගැන ප්‍රමාණවත් තරම් පුළුල් ලෙස, සිත් කාවදින ලෙස හා වේගවත් ලෙස හෙළිදරව් කිරීමට නොහැකි වීම ගැනත්, අප දෙස් පවරා ගත යුත්තේ අපට මය. අප එම කාර්යය ඉටු කළ විට, (එය අපට කළ හැක) ඉතාමත් නොදියුණු කම්කරුවාට පවා වැටහෙන හෝ හැඟෙන කරුණකි, ස්වකීය ජීවිතයේ සෑම අවස්ථාවකදීම තමන්ට පීඩා කරන, තමන් මිරිකා ගෙන සිටින, ඒ අශෝභන බලවේගයන්ම, ශිෂ්‍යයින්ට හා ආගමික නිකායයන්ට ද, ගොවීන්ට හා කර්තෘ වරුන්ට ද, නිග්‍රහ හා දරුණු පීඩා කරන බව. එම වැටහීම පිළිබඳ හැඟීමෙන් මඩනා ලද ඔහු, ප්‍රතික්‍රියාකාරී වීම සඳහා වූ යටපත් කළ නොහැකි ආශාවකින් පිරී යනු ඇත. එවිට, එක් දිනෙක පුවත් පාලකයන්ට හූ කීමටත්, තවත් දිනෙක, ගොවි නැගිටීම මෘග ලෙස මර්දනය කළ ආණ්ඩුකාරයා ගේ මන්දිරය ඉදිරිපිට පෙළපාලි දැක්වීමටත්, තවත් වෙනත් දිනෙක, මිථ්‍යා



දෘෂ්ටිකයින් වඳ කිරීමේ ශුද්ධ පරීක්ෂණ කටයුතු වල යෙදී සිටින ලෝගු පොරවා ගත් පොලිස් කාරයින්ට පාඩමක් උගැන්වීමටත්, ආදිය, සඳහා ඔහු දනුම ලබනු ඇත. හැකි සියළුම දේ සම්බන්ධයෙන්, කලට වේලාවට, ජනතාව හමුවට හෙළිදරව් කිරීම් ගෙන ඒමට අප මෙතෙක් කර ඇති කටයුතු ඉතා ස්වල්ප ය — කිසිවක් කර නැතැයි කිව හැකි තරම් ය. මෙය අපගේ බලවත් යුතු කම බව අප බොහෝ දෙනෙක් තවමත් පිළි නොගන්නා අතර, ඔවුහු පැක්ටරි ජීවිතයේ පටු සීමාවන් තුළ කෙරෙන ''නීරස දිනපතා අරගලයේ'' පිටු පසින් සාංසිද්ධික ලෙස ඇදී යති. එවැනි තත්වයක් යටතේ, ''දීප්තිමත් හා පරිපූර්ණ අදහස් ප්‍රචාරය (මර්තිනව්, පිටු 61) හා සමග සසඳන කල, නීරස දිනපතා අරගලයේ ඉදිරි ගමනෙහි වැදගත් කම සුළු කොට දක්වීමේ නැඹුරුවක් ''ඉස්ක්‍රා'' පත්‍රයෙන් පෙන්නුම් කෙරෙන්නේය''යි කීම පක්ෂය ආපස්සට ඇදගෙන යාමක් වේ. එය අපගේ සූදානමක් නැතිකම හා නොදියුණු කම මහත් සේ හුවා දක්වීමකි.

පොදු ජනතාව සටනට කැඳවා හඬ නැගීම ගැන කිව යුත්තේ, උද්යෝගිමත් දේශපාලන උද්ඝෝෂණය ක්‍රියාත්මක වූ කල්හි, එය නිතැතින්ම සිදු වන බවයි. කිසි යම් අපරාධ කාරයෙක් අපරාධය කරන විටම අල්ලා ගෙන, ප්‍රසිද්ධියේ හා සෑම තන්හිදීම, ඔහු අපරාධ කාරයා බව ප්‍රකාශ කිරීම ම, ''හඬ නැගීම්'' ගණනාවකට වඩා ඵලදායක ය. මෙහි ප්‍රතිඵලය කෙබඳු ද යත්, පොදු ජනතාවට ''හඬ නැගුවේ'' කවුදැයි යනුත්, පෙළපාළිය සඳහා වූ, මේ නැතහොත්, අනිත් සැලැස්ම යෝජනා කළේ කවුදැයි යනුත්, ආදිය කිසි සේත් නිශ්චිතව කිව නොහැකි වනු ඇත. පොදු වශයෙන් නොව, වචනයේ නියම අර්ථයෙන්, සටනට හඬ නැගීම කළ හැක්කේ, සටන ඇති වන තැනදී ය. එවැනි හඬ නැගීම් කළ හැකි වන්නේ, තමන්ම සටනට අවතීර්ණ වන හා අප්‍රමාදව ම එසේ කරන අයට පමණකි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රකාශකයන් වශයෙන්, අපගේ කටයුත්ත වන්නේ, දේශපාලන හෙළිදරව් කිරීම් හා දේශපාලන උද්ඝෝෂණ ගැඹුරට ගෙන යාම, ව්‍යාප්ත කිරීම හා උත්සන්න කිරීම ය.

''සටනට කැඳවා හඬ නැගීම'' ගැන මෙහි දී වචනයක් කියනු කැමැත්තෙමු. කම්කරුවන්ට කිසිම ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵලයක් බලාපොරොත්තු නොහැකි වූ කරුණක් සම්බන්ධයෙන්, එනම්, ශිෂ්‍යයන් යුද්ධ හමුදාවට බඳවා ගැනීම සම්බන්ධයෙන්, ක්‍රියාශීලීව මැදිහත් වන ලෙසට, වසන්ත කාලයේ සිදුවීම්වලට[170] පෙර කම්කරුවන් කැඳවා හඬ නැගූ එකම ප්‍රවෘත්ති පත්‍රය ''ඉස්ක්‍රා'' පත්‍රය යි. ශිෂ්‍යයන් 183 දෙනෙක් හමුදාවට බඳවා ගැනීම පිළිබඳව, ජනවාරි 11 දින නියෝගය පළ වූ වහා ම, කිසිම පෙළපාලියක් ආරම්භ වීමට පෙර, මෙම කාරණය ගැන ලිපියක් පළ කළ ''ඉස්ක්‍රා'' (පෙබරවාරි කලාපය, අංක 2) පත්‍රය, ශිෂ්‍යයන්ගේ ආධාරයට වහාම යන ලෙස හඬ

නගා කම්කරුවන්ට ආයාචනා කළේය. ''සටනට කැඳවීම'' ගැන මර්තිනව් මෙතරම් කථා කරන නමුත්, ක්‍රියාකාරීත්වයේ විශේෂ ආකාරයක් ලෙසට පවා ''සටනට කැඳවා හඬ නැගීම'' යෝජනා කරන නමුත්, මෙම හඬ නැගීම ගැන, ඔහු වචනයක් වත් නොකීවේ මන්දැයි යන පුදුම එළවන කාරණය ගැන, කෙසේ නම් පැහැදිලි කළ හැකි ද? මෙයින් පසුව, ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි'' ඉල්ලීම් සඳහා අරගල කිරීමට ප්‍රමාණවත් තරම් හඬ නැගීම් නිකුත් නො කළ නිසා, ''ඉස්ක්‍රා'' පත්‍රය එක පැත්තකට බර වී යයි කියා එයට චෝදනා කිරීම, මර්තිනව්ගේ නරුමාලාපයක් නොවේද?

''රබෝචිය දියල'' ඇතුළුව, අපගේ ''ආර්ථිකවාදීහු'', තමන් නොදියුණු කම්කරුවන්ට ගැලපෙන සේ සකස් වූ නිසා, සාර්ථකත්වයක් ලදහ. ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි'' ඉල්ලීම් ආදිය ගැන කියන මෙම කථා, රූබලයකට කොපෙක් එකක් එකතු කිරීම පිළිබඳ පරණ සින්දුවේ ම අළුත් තාලයක් පමණක් වන බව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරුවා සහ විප්ලවවාදී කම්කරුවා (එවැනි කම්කරුවන්ගේ සංඛ්‍යාව වර්ධනය වෙමින් පවතී) වටහා ගනු ඇති හෙයින්, ඔහු ඒ සියල්ලම කෝපයෙන් ඉවත ලනු ඇත. එවැනි කම්කරුවෙක්, ''රබෝචය මිස්ල්'' සහ ''රබෝචිය දියල'' ප්‍රකාශනවල තම උපදේශකයින්ට මෙසේ කියනු ඇත: මහත්වරුනි, ඔබ කඩිමුඩියේ දඟලන්නේ නිරපරාදේය.අපට ම කර ගත හැකි කටයුත්තකට ඔබ මෙතරම් අධික උනන්දුවකින් ඇඟිලි ගැසීමෙන් ඔබ ඔබගේ නිසි කාර්යයන් පැහැර හරින්නෙහිය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ කර්තව්‍යය වන්නේ ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීම යයි ඔබ සත්ත වෙමින් කීමෙහි කිසිම අර්ථයක් නොමැත. එය ආරම්භය පමණක් මිස, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකුගේ ප්‍රධාන කර්තව්‍යය නොවේ. ඊට හේතුව, රුසියාව ඇතුලත්ව, සමස්ත ලෝකයේම, ආර්ථික අරගලයට දේශපාලන ස්වරූපයක් දීමේ මූලිකත්වය පොලිසිය විසින් ගනු ලැබීම යි. එමෙන්ම, ආණ්ඩුව ආධාර කරන්නේ කාට ද යන්න තේරුම් ගැනීමට කම්කරුවන් උගෙන ගැනීමයි*. නව ඇමෙරිකාවක් සොයා ගත් කලෙක මෙන්, ඔබ

* දේශපාලන කටයුතු පිළිබඳ ක්ෂේත්‍රයෙහිදී ''ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දීමට'' කරන ඉල්ලීමෙන් ඉතාමත් සිත් කාවදින ලෙස ප්‍රකාශිත වන්නේ සාංසිද්ධිකතාවයට යටහත් පහත් කම් දක්වන බව ය. ආර්ථික අරගලය බොහෝ අවස්ථාවල සාංසිද්ධික ලෙස දේශපාලන ස්වරූපයක් ගන්නේ ය. එයින් කියන්නේ ''විප්ලවවාදී රෝග බීජ — බුද්ධිමතුන්'' නොමැතිව විඥානය ඇති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මැදිහත් වීම නොමැතිව, එසේ වන බවයි. නිදර්ශනයක් වශයෙන්, සමාජවාදීන්ගේ කිසිම මැදිහත් වීමක් නොමැතිව, ඉංග්‍රීසි කම්කරුවන්ගේ ආර්ථික අරගලය



මෙතරම් කලබැගැනියක් කරන, ''ස්වාමි වරුන්ට සහ ආණ්ඩුවට විරුද්ධව කම්කරුවන්ගේ ආර්ථික අරගලය'' වැඩ වර්ජන ගැන කිසිවක් අසා නැති, ඉතාමත් පිටිසර පෙදෙස් ද ඇතුලත් කොටගත් රුසියාවේ සෑම ප්‍රදේශයකම සිටින කම්කරුවන් විසින් දැනටමත් කරගෙන යනු ලැබේ. ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි පැහැදිලි ඉල්ලීම් ඉදිරිපත් කිරීමෙන්, කම්කරුවන් වන අප අතර ඔබ දිරිගැන්වීමට බලාපොරොත්තු වන ''ක්‍රියාකාරීත්වය'' අපි දැනටමත් දක්වා ඇත්තෙමු. එමෙන්ම අපගේ සෑමද වෘත්තීය සමිති කටයුතුවලදී, බොහෝ විට බුද්ධිමතුන්ගේ කිසිම ආධාරයක් නොමැතිව, අපි මෙම පැහැදිලි ඉල්ලීම් ඉදිරිපත් කරමු. එහෙත් එබඳු ක්‍රියාකාරීත්වය අපට ප්‍රමාණවත් වන්නේ නැත. ''ආර්ථික'' දේශපාලන ලුණු කැඳ පමණක් අපට පොවන්නට අප ළමයින් නොවේ. අනිත් අය දන්නා සියල්ල ම අපටත් දැනගන්නට උවමනා ය. දේශපාලන ජීවිතයේ සියළුම අංශ ගැන ඉගෙන ගන්නටත්, සෑම දේශපාලන සිදුවීමකටම ක්‍රියාශීලී ලෙස සහභාගි වන්නටත් අපට උවමනා ය. අපට මෙය කර ගත හැකි වනු පිණිස, අප දැනටමත් දන්නා දේ* ගැන බුද්ධිමතුන් අපට කථා

දේශපාලන ස්වරූපයක් ගත්තේ ය. එසේ වුවද, ආර්ථික පදනමක් මත දේශපාලන උද්ඝෝෂණය කළ පමණින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කර්තව්‍යය අවසානයකට පත් නොවේ. ඔවුන්ගේ කර්තව්‍යය වන්නේ ආර්ථික අරගලයෙන් කම්කරුවන් අතර ජනිත වන දේශපාලන විඥානයේ ගිනි පුලිඟු උපයෝගි කර ගනිමින්, කම්කරුවන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන විඥානයේ මට්ටමට ඉහළට නංවාලීම සඳහා වෘත්තීය සමිතිවාදී දේශපාලනය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන අරගලය බවට පරිවර්තනය කිරීමයි. එසේ වුවද මර්තිනව්ලා කරන්නේ, කම්කරුවන් අතර සාංසිද්ධික ලෙස පහළ වන දේශපාලන විඥානය ඉහළට නැංවීම සඳහා උනන්දු දීම නොව, ඒ වෙනුවට, සාංසිද්ධිකතාවයට ආචාර කර, කම්කරුවන්ට දේශපාලන අයිතිවාසිකම් නොමැති බව තේරුම් ගැනීමට, ආර්ථික අරගලය විසින් ඔවුන් ''පොළඹ වනු'' ලබන බව නැවත නැවතත් කෙළවරක් නොමැතිව අනුප්‍රාසය කිරීමය. මහත්වරුනි, ඔබගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් මොනවාද යන්න වටහා ගැනීමට, සාංසිද්ධික ලෙසින් ප්‍රබෝධ වන වෘත්තීය සමිතිවාදී දේශපාලනය විසින් ඔබ ''පොළඹවනු'' නොලැබීම අවාසනාවකි.

* ''ආර්ථිකවාදියෙකුට'' කම්කරුවෙක් කියන මෙම කථාව, සත්‍ය කරුණු මත පදනම් කරගත් බව ඔප්පු කිරීමට, කම්කරු පංති ව්‍යාපාරය ගැන ස්වයම්භූත දැනුමක් ඇති බව නිසැකවම කිව හැකි, අපට, ''න්‍යාය ධර්මවාදීන්''ට, පක්ෂපාත වීමට කිසිම කැමැත්තක් නොදක්වන සාක්ෂිකරුවන් දෙදෙනෙක් ගැන සඳහන් කරමු. ඉන් එක සාක්ෂිකරුවෙක්, (''රබෝචිය දියල'' පවා දේශපාලන පත්‍රයක් ලෙසට සලකන) ''ආර්ථිකවාදියෙක්'' වන අතර, අනිත් අය ත්‍රස්තවාදියෙකි. ප්‍රථම සාක්ෂිකරුවා,

කළ යුත්තේ අඩුවෙනි. අප නොදන්නා දෙය වන හා අපගේ පැක්ටරි හා ''ආර්ථික'' අත් දැකීම්වලින් අපට කිසිදක උගෙන ගත නොහැකි දෙය වන, දේශපාලන දැනුම ගැන අපට වැඩියෙන් කියන්න. බුද්ධිමතුන් වන ඔබට මෙම දැනුම ලබා ගත හැක. ඔබ මෙතෙක් කළාට වැඩිය සිය දහස් ගුණයෙන් එය අප වෙත ගෙන ඒ ම ඔබගේ යුතු කම ය. එය අප වෙත ගෙන ආ යුත්තේ, සාකච්ඡා, පොත් පොඩි හා ලිපි (ඒවා බොහෝ විට තරමක් නීරසය — අපගේ නොවක් ප්‍රකාශය ගැන සමා වන්න) මාර්ගයෙන් පමණක් නොවේ. එය ඉඳුරාම කළ යුත්තේ, අපගේ ආණ්ඩුව සහ ආණ්ඩු කරන පංති, මේ අවස්ථාවේදී, ජීවිතයේ සියළුම අංශවල දී, කරන්නේ කුමක් ද යන්න ගැන කියන විචිත්‍ර හෙළිදරව් කිරීම් ආකාරයෙනි. මෙම යුතු කම ඉටු කිරීමෙහි ලා වැඩි උනන්දුවක් දක්වන්න. ''වැඩ කරන පොදු ජනතාවගේ ක්‍රියාකාරීත්වය ඉහළට නැංවීම'' ගැන අඩුවෙන් කථා කරන්න. අප ඔබට වඩා බෙහෙවින් ක්‍රියා කාරීය. ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල'' කිසිවක් හෝ බලාපොරොත්තු විය නොහැකි ඉල්ලීම්වලට පවා සහයෝගය දැක්වීම පිණිස, එළිමහන් වීදි සටන් කිරීමට අපි සම්පූර්ණයෙන්ම සමත් වෙමු.

---

''රබෝචිය දියල'' අංක 6 හි ''සාන්ත පීටර්ස්බර්ග් කම්කරු පංති ව්‍යාපාරය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රායෝගික කර්තව්‍යයන්'' යන ඉතාමත් සත්‍යවාදී සහ පැහැදිලි ලෙස ලියා ඇති ලිපියෙහි කර්තෘ ය. ඔහු පහත සඳහන් පරිදි කම්කරුවන් වර්ග කරයි. 1) පංති විඥානය ඇති විප්ලවවාදීන්; 2) අන්තර් ස්ථරය; 3) ඉතිරි පොදු ජනයා. ''අන්තර් ස්ථරය බොහෝ විට තමන්ගේ හදිසි ආර්ථික උවමනාවන්ට වඩා දේශපාලන ජීවිතයේ ප්‍රශ්න ගැන උනන්දුවක් දක්වති. ඔවුන් ආර්ථික උවමනාවන් සහ පොදු සමාජ තත්වයන් අතර සම්බන්ධය තේරුම් ගෙන බොහෝ කල් ය.''රබෝචය මිස්ල්''පත්‍රය එම ලිපියෙන් මෙසේ ''තියුණු ලෙස විවේචනයට'' භාජනය කර ඇත. ''එය එකම දෙය නැවත නැවතත් කියයි. අප බොහෝ කලක සිටම දන්නා, අප බොහෝ කලකට පෙර කියවා ඇති දෙය නැවතත් කියයි''. ''නැවතත් දේශපාලන සමාලෝචනයෙහි ඇති දෙයක් නැත.'' (පිටු 30—31) තවද, තුන්වන ස්ථරය වන ''වඩාත් තරුණ හා ඇවිස්සෙන සුලු කම්කරු කොටස, තැබෑරුමෙන් හා පල්ලියෙන් දූෂණය නොවූ සහ දේශපාලන පොත් පත් ලබා ගැනීමට පහසු කම් ඇත්තේ ම නැති තරම් වූ, කම්කරු කොටස පවා, දේශපාලන සිදුවීම් ගැන පිළිවෙළක් නොමැතිව සාකච්ඡා කරති. ශිෂ්‍ය කැරළි ආදිය සම්බන්ධයෙන් ඔවුනට ලැබෙන අසම්පූර්ණ පුවත් ගැන කල්පනා කරති''. ත්‍රස්තවාදියා මෙසේ ලියයි: ''...තමන්ගේ නගරය ගැන නොව, අනිත් නගරවල ජීවිතය ගැන ඇති සුළු විස්තර කරුණු ඔවුහු වරක් දෙවරක් කියවති. ඊට වඩා ඔවුන් කියවන්නේ නැත... කම්කරුවාගේ පත්‍රයක ආණ්ඩුව ගැන යමක් කියා නොතිබීම ඔවුනට අප්‍රසන්නය. එය කම්කරුවන් කුඩා ළමයින් ලෙසට ගෙන සැලකීමක් වන්නේ ය. කම්කරුවෝ කුඩා ළමුන් නොවෙති'' (විප්ලවවාදී — සමාජවාදී කණ්ඩායම පළ කරන ''ස්වබෝද''[171] (පිටු 69—70).



අපගේ ක්‍රියාකාරීත්වය ''ඉහළට නැංවීම'' ඔබගේ කටයුත්ත නොවේ. මන්ද යත්, හරියට ම ඔබට අඩු පාඩු වී තිබෙන්නේ ද, ක්‍රියාකාරීත්වය ම වන හෙයිනි. මහත්වරුනි, සාංසිද්ධිකතාවයට වහල් වී, ඊට නමස්කාර කිරීම අඩු කර, ඔබගේ ම, ක්‍රියාකාරීත්වය ඉහළට නැංවීම ගැන වැඩියෙන් කල්පනා කරන්න.

### ඇ) ආර්ථිකවාදය සහ ත්‍රස්තවාදය අතර ඇති පොදු දෙය කුමක්ද?

පසු ගිය පා සටහනෙන් අප ''ආර්ථිකවාදියෙකු'' සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන ත්‍රස්තවාදියෙකු ගැන කී අතර, ඒ දෙදෙනා අතර අහම්බෙන් එකඟත්වයක් ඇති වී තිබේ. එසේ වුවද, සාමාන්‍ය වශයෙන් කථා කරන කල, ''ආර්ථිකවාදියා'' සහ ත්‍රස්තවාදියා අතර අහම්බෙන් නොව, අවශ්‍ය හා ආවේණික සම්බන්ධයක් ඇත. ඒ ගැන අපට පසුව සඳහන් කිරීමට සිදුවන අතර, විප්ලවවාදී කටයුතු සඳහා අධ්‍යාපනය දීමේ ප්‍රශ්නයට අදාලව, එය මෙහි දී සඳහන් කිරීම අවශ්‍ය වන්නේ ය. ආර්ථිකවාදීන්ට හා මේ කාලයේ ත්‍රස්තවාදීන්ට ඇත්තේ එකම ප්‍රභව මූලයකි. එනම්, සාංසිද්ධිකතාවයට වහල් වීම ය. එය පොදු ප්‍රපංචයක් වශයෙන් ගෙන ඒ ගැන පසු ගිය පරිච්ඡේදයේ විස්තර දක් වූයෙමු. දේශපාලන ක්‍රියාකාරීත්වය සහ දේශපාලන අරගලය විෂයෙහි එයින් ඇති වන ප්‍රතිඵල හා සම්බන්ධයෙන්, අපි මෙහි දී පරීක්ෂා කර බලමු. අප ඒකාන්ත ලෙස ප්‍රකාශ කරන මෙම කාරණය, බැලූ බැල්මට ගැටළුවක් මෙන් පෙනෙන්නට පිළිවන. ''නීරස සැමදා අරගලය'' ගැන අවධාරණය කරන අයත්, පුද්ගලයන්ගෙන් ඉතාමත් ආත්ම පරිත්‍යාගී අරගලය අපේක්ෂා කරන අයත්, අතර වෙනස, එතරම් ම විශාල ය. එහෙත්, එහි ඇති ගැටළුවක් නැත. ''ආර්ථිකවාදීන්'' හා ත්‍රස්තවාදීන් නමස්කාර කරන්නේ, සාංසිද්ධිකතාවයේ වෙනස් අන්තවලට ය. ''ආර්ථිකවාදීහු'' ''පිරිසිදු හා සරල කම්කරු පංති ව්‍යාපාරයේ'' සාංසිද්ධිකතාවයට නමස්කාර කරති. ඒ අතර ත්‍රස්තවාදීන් ආචාර කරන්නේ, විප්ලවවාදී අරගලය හා කම්කරු පංති ව්‍යාපාරය ඒකීය සමස්තයක් වශයෙන්, ඒකාබද්ධ කර ගැනීමට හැකියාව හෝ අවස්ථාව හෝ නොමැති, බුද්ධිමතුන්ගේ අනුරාගී කෝපයේ සාංසිද්ධිකතාවයට ය. එම ඒකාබද්ධ කිරීම කළ හැකි දෙයකැයි යන විශ්වාසයට අහිමි වූ හා එම විශ්වාසය කිසි කලෙකත් නො දැරූ අයට, ඔවුන්ගේ කෝපය හා විප්ලවවාදී ශක්තිය මුදලීමට, ත්‍රස්තය හැර වෙනත් මාර්ගයක් සොයා ගැනීම ඇත්තෙන්ම අපහසු ය. ඒ අනුව බලන කල, අප සඳහන් කළ සාංසිද්ධිකතාවයට වහල් වීමේ දෙආකාරය ම, අපකීර්තිමත් "Credo"

වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීමේ ආරම්භයක් ම මිස අන් කිසිවක් නොවේ. ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව'' කම්කරුවන්ගේ ''ආර්ථික අරගලය'' ඔවුන් ගෙන ගියා වේ. (“Credo” කර්තෘ වරියගේ අදහස් මර්තිනව්ගේ වචනවලින් ප්‍රකාශ කිරීම ගැන ඇයට අපගේ කණගාටුව ප්‍රකාශ කරමු. කම්කරුවන්ගේ ආර්ථික අරගලය දේශපාලන රජය හා සමග ගැටෙන බව “Credo” වැඩ පිළිවෙළෙන් ද කියා තිබෙන නිසා, අපට එසේ ප්‍රකාශ කිරීමේ අයිතියක් ඇතැයි සිතමු). ඒ අතර, බුද්ධිමතුන් ඔවුන්ගේ ධෛර්යයෙන්, ඇත්ත වශයෙන් ම ත්‍රස්තයේ ආධාරයෙන්, ඔවුන්ගේ දේශපාලන අරගලය ගෙන ගියා වේ! මෙය ඉතාමත් තර්කානුකූල හා අනිවාරණීය නිගමනයකි. මෙම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීම ආරම්භ කරන අය ම පවා, මෙහි අනිවාරණීය භාවය තේරුම් නොගන්නා නමුත්, එම නිගමනය වෙනස් කළ යුතු නොවේ. ත්‍රස්ත කටයුතු සඳහා හෝ, ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීම සඳහා හෝ, ඉතාමත් යහපත් අපේක්ෂාවෙන් වුවද, හඬ නගන අයගේ විඥානය කුමක් වී නමුත්, ඉන් පරිබාහිරව, දේශපාලන ක්‍රියාකාරීත්වය කෙරෙහි දක්නට ලැබෙන තර්කානුකූල ස්වභාවයක් ඇත. අපායට යන පාරත් යහපත් අපේක්ෂාවන්ගෙන් අතුරන ලද්දක් ලු. මෙම අවස්ථාවේදී ඉතාමත් අබාධිත මාර්ගය ඔස්සේ ඇදී යාමේ, පිරිසිදු ධනේශ්වර “Credo” වැඩ පිළිවෙළෙහි මාර්ගය ඔස්සේ ඇදී යාමේ දෝෂයෙන්, අයෙක් ඔහුගේ යහපත් අපේක්ෂාවන් නිසා නිදහස් වන්නේ නැත. රුසියානු ලිබරල්වාදීන් — භක්තිමත් ලිබරල්වාදීන් සහ මාකස්වාදයේ වෙස් මුහුණ පළඳින ලිබරල්වාදීන් — බොහෝ දෙනෙක්, ඉත සිතින් ම ත්‍රස්තය කෙරෙහි හිතවත් කම් දක්වීම හා වර්තමාන කාලයේ සීඝ්‍රයෙන් මතු වී තිබෙන ත්‍රස්තවාදී හැඩ ගැස්ම පෝෂණය කිරීමට උත්සාහ දැරීම ද, කිසි සේත් අහඹුවක් නො වේ.

පී. බී. අක්සෙල්රොද්, ඔහුගේ ''සංකල්පනා දෙකක්'' ගෙන හැර දක්වීමේදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මෙම අනිස්ථිරභාවයෙන් ඇති වන ප්‍රතිඵල ගැන, 1897 අවසානයේ තරම් ඉහත කාලයක, (''වර්තමාන කර්තව්‍යයන් හා උපක්‍රම පිළිබඳ ප්‍රශ්නය ගැන'') නිවැරදි ලෙස අනාවැකියක් බඳුව කියා තිබුණි. හැකි සෑම ආකාරයකින්ම කම්කරු පංති ව්‍යාපාරයට ආධාර කිරීම ස්වකීය අරමුණ කරගත්, එහෙත්, එහි වැඩ පිළිවෙළට ත්‍රස්තයත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් දෝ තමන් නිදහස් වීමත්, ඇතුලත් කර ගත්, ''විප්ලවීය-සමාජවාදී ස්වබෝද කණ්ඩායම'' පිහිටුවීම, අක්සෙල්රොද්ගේ එම පුදුම සහගත විනිවිද දක්නා බුද්ධි මහිමය යළිත් තහවුරු කරන්නක් විය. පසුව, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර ඇති වූ,



සියළුම ආරාවුල් හා අසමථයන්, මෙම සංකල්පනා දෙක තුළ, බීජය තුළ වන පැලයක් සේ, ගැබ්ව තිබුණි.*

ආර්ථිකවාදයේ සාංසිද්ධිකතාවයට විරුද්ධව නැගී සිටීමට අසමත් වන ''රබෝචිය දියල'' එමෙන්ම, ත්‍රස්තවාදයේ සාංසිද්ධිකතාවයට ද විරුද්ධව නැගී සිටීමට අසමත් වන්නේ මන්ද යන්නත්, මෙම දෘෂ්ටි කෝණය අනුව පැහැදිලි වන්නේ ය. ත්‍රස්තවාදය ආරක්ෂා කිරීම සඳහා ''ස්වබෝද'' කණ්ඩායම ඉදිරිපත් කර තිබෙන විශේෂ තර්ක ගැන මෙහිදී සටහන් කර ගැනීම ඉතා වැදගත් ය. ත්‍රස්තවාදයේ මර්දනීය කාර්ය කොටස ''සම්පූර්ණයෙන් ම ප්‍රතික්ෂේප කරන'' (''විප්ලවයේ පුනර් ජනනය'', පිටු 64) එම කණ්ඩායම, ඒ වෙනුවට, එහි ඇති ''ඇවිස්සුම් කාරී වැදගත් කම'' ගැන අවධාරණය කරයි. මෙයින් ප්‍රථමයෙන් ම නිරූපනය වන්නේ, ඒකාන්ත ලෙස ත්‍රස්තවාදය ම ඉල්ලා සිටි, සම්ප්‍රදායික (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී) අදහස් චක්‍රය සිඳී යාමේ හා පිරිහී යාමේ එක් අවස්ථාවක් ඉන් නියෝජනය වන ස්වභාවය යි. දැන් ආණ්ඩුව ''සන්ත්‍රාසයට පත් කළ'' නොහැකි බව හා එනිසාම එය ත්‍රස්තය මගින් කඩා බිඳ දැමිය නොහැකි බව පිළිගැනීම යනු, අරගල ක්‍රමයක් වශයෙන් හා වැඩ පිළිවෙළේ අනුමත ක්‍රියාකාරීත්ව ක්ෂේත්‍රයක් වශයෙන් ත්‍රස්තය නුසුදුසු සේ සලකා සම්පූර්ණයෙන් ම හෙළා දැකීමක් වන්නේය. දෙවැනිව, එයින් වඩාත් හොඳින් නිරූපනය වන්නේ,



* මර්තිනව් ''වඩාත් යථාර්ථවාදී(?) උභතෝකෝටික තවත් ප්‍රශ්නයක් ගැන සිතයි (''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සහ කම්කරු පංතිය'', පිටු 19). ''එක්කෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය නිර්ධන පංතියේ ආර්ථික අරගලයේ නායකත්වය කෙළින්ම භාර ගෙන, එමගින් (!) එය විප්ලවීය පංති අරගලයක් බවට පරිවර්තනය කරයි...'' ''එමගින්'', ඒ කියන්නේ ආර්ථික අරගලයට කෙළින්ම නායකත්වය දීම ගැන බව පෙනේ. වෘත්තීය සමිති අරගලයට පමණක් නායකත්වය දීම තුළින්,වෘත්තීය සමිතිවාදී ව්‍යාපාරයක් විප්ලවවාදී පංති ව්‍යාපාරයක් බවට පරිවර්තනය වූ අවස්ථා එකක් වත් ගැන නිදර්ශනයක් දක්වීමට මර්තිනව්ට හැකිද? මෙම පරිවර්තනය ඇති කිරීම සඳහා සෑම පැත්තෙන්ම කරන දේශපාලන උද්ඝෝෂණයට ''කෙළින්ම නායකත්වය දීමට'' අප කටයුතු කළ යුතු බැව් ඔහුට තේරුම් ගත නොහැකිද?.. ''නැතහොත්, අනිත් සංකල්පනාව: සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය කම්කරුවන්ගේ ආර්ථික අරගලයේ නායකත්වය ගැනීමෙන් වැලකී සිටියි. එනයින්, තමන්ගේම තටු සිඳ ගනියි...'' ඉහත උපුටා දක්වා ඇති ''රබෝචිය දියල'' අදහස අනුව, ''වැලකී'' සිටින්නේ ''ඉස්ක්‍රා'' පත්‍රයයි. එහෙත්, මෙම පසු කී පත්‍රය, ''රබෝචිය දියල''ට වඩා ආර්ථික අරගලයට නායකත්වය දීම සඳහා බොහෝ සෙයින් කටයුතු කරන බව අපි දුටුවෙමු. එපමණක් නොව, එම පත්‍රය, එම කටයුත්තට පමණක් සීමා වී නොසිටින බවද, එම කටයුත්ත ගැන සලකා ස්වකීය දේශපාලන කර්තව්‍යයන් පටු තත්වයට ගෙන එන්නේ නැති බවද, අපි දැක ඇත්තෙමු.

"විප්ලවීය ක්‍රියාකාරීත්වය සඳහා අවශ්‍ය අධ්‍යාපනය"ට අදාල අපගේ හදිසි කර්තව්‍යයන් වටහා ගැනීමට අසමත් වීම පිළිබඳ වූ නිදර්ශනයක ස්වභාවය ය. කම්කරු පංති ව්‍යාපාරය "ඇවිස්සීමේ" හා ඊට "බලවත් ධෛර්යයක්" දීමේ මාධ්‍යයක් වශයෙන් "ස්වබෝද" කණ්ඩායම විසින් ත්‍රස්තය ඉදිරිපත් කරන ලදී. මීට වඩා සර්වාකාරයෙන් ම ස්වයං නාශක වූ තවත් තර්කයක් ගැන සිතීම අපහසු ය. විශේෂ "ඇවිස්සුම් කාරකයන්" නිර්මාණය කර නොගත්තාට, රුසියානු සමාජ ජීවිතයේ සෑහෙන තරම් දුෂ්ඨකම් සිදුවන්නේ නැද්ද? අනිත් අතට, රුසියාවේ දුෂ්ඨ පාලනයෙන් වත් කුපිතව ඇවිස්සෙන්නේ නැතියවුන්, ත්‍රස්තවාදීන් ස්වල්ප දෙනෙක් කරන, තනි වූ ආණ්ඩු විරෝධී සටනකදී, "නිකම්ම ඇඟිලි ගැට කඩමින්" බලා සිටිනු ඇති බව පැහැදිලි නොවේද? සත්‍ය කාරණය නම්, එම රුසියානු ජීවිතයේ සමාජ කෲර කම් වලින්, වැඩ කරන පොදු ජනතාව, ඉතා ඉහළ මට්ටමකින් කුපිතව ඇවිස්සෙන බවත්, එහෙත්, රුසියානු ජීවිතයේ තත්වයන් විසින්, අප සිතනවාට වඩා බොහෝ සෙයින් ඉදිරියට දමනු ලබන, පොදු ජන අප්‍රසාදයේ බිංදු හා කඳුරු, එක්රැස් කර සංකේන්ද්‍රණය කිරීමටත්, ඒකීය යෝධ මහෝඝයක් වන සේ ඒකාබද්ධ කිරීමටත්, අප සමත් නොවන බව ය. කම්කරු ව්‍යාපාරයේ අති දැවැන්ත සංවර්ධනයත්, දේශපාලන සාහිත්‍යය ලබා ගැනීම සඳහා, ඉහත සඳහන් පරිදි ඇති කම්කරුවන්ගේ බලවත් ආයාසයත් අනුව, මෙය සාර්ථක කළ හැකි කර්තව්‍යයක් වන බව අවිවාද ලෙස ම ඔප්පු වන්නේ ය. අනිත් අතට, ත්‍රස්තය සඳහා හඬ නැගීමත්, ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දීමට හඬ නැගීමත්, යනු, රුසියානු විප්ලවවාදීන්ගේ කර පිට දැනට පැවරී තිබෙන, ඉතාමත් හදිසි කාර්යය වන, අංග සම්පූර්ණ ලෙස දේශපාලන උද්ඝෝෂණය සංවිධානය කිරීම මඟ හැරීමේ එකිනෙකට වෙනස් ක්‍රම දෙකකි. උද්ඝෝෂණය වෙනුවට ත්‍රස්තය ආදේශ කිරීමට "ස්වබෝද" කණ්ඩායම ඇළුම් කරන අතර, "ජනතාව අතර උත්සන්න හා දැඩි උද්ඝෝෂණය ආරම්භ කළ වහාම, ත්‍රස්තයේ ඇවිස්සුම් කාරි කාර්ය කොටස කෙළවර වේ" යයි, එය විවෘත ලෙස ම පිළි ගනියි ("විප්ලවවාදයේ පුනර්ජනනය" පිටු 68). වසන්තයේ සිදුවීම්*සපයන සිත් කාවදින සාක්ෂි පෙනෙන්නට තිබිය දීම,එක කණ්ඩායමක් කෘතිම "ඇවිස්සුම් කාරකයන්" සොයා යන අතර, අනිත් කණ්ඩායම "පැහැදිලි ඉල්ලීම්" ගැන කථා කරතත්, ත්‍රස්තවාදීන් හා "ආර්ථිකවාදීන්" යන කණ්ඩායම් දෙකම, පොදු ජනතාවගේ විප්ලවීය ක්‍රියාකාරීත්වය ගැන අඩුවෙන් තක්සේරු කරන බව මෙයින් පෙනේ. සංවිධානය හා දේශපාලන හෙළිදරව් කිරීම් පිළිබඳ කටයුතු සම්බන්ධයෙන්, ස්වකීය ක්‍රියාකාරීත්වය සංවර්ධනය කිරීමට තරම් ප්‍රමාණවත්, අවධානයක් යොමු කිරීමට මෙම කණ්ඩායම් දෙකම අසමත් වෙති. වර්තමානයේ හෝ වෙනත් කාලයක, මෙම කර්තව්‍යය වෙනුවට ආදේශ කළ හැකි විකල්පයක් වශයෙයෙන් ගත හැකි වෙනත් කාර්යයක් නොමැත.

* 1901 වසන්තයේ ආරම්භ වූ විශාල වීදි පෙළපාලි. (1907 මුද්‍රණයට කතෘගේ සටහන. — සංස්කාරක)



## ඉ) කම්කරු පංතිය ප්‍රජාතන්ත්‍රවාදය සඳහා පෙරමුණු සටන් කරු වශයෙන්

අපගේ ක්‍රියාකාරීත්වය, සැබෑ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියාකාරීත්වයක් වීමට නම්, ඉතාමත් පුළුල් ලෙස දේශපාලන උද්ඝෝෂණය ගෙනයාම අත්‍යාවශ්‍ය වන බවත්, එනිසා සෑම පැත්තකින් ම දේශපාලන හෙළිදරව් කිරීම් කර ගෙන යාම අත්‍යාවශ්‍ය වන බවත්, අපි දුටුවෙමු. එසේ වුවද, අප මෙම නිගමනයට එළඹියේ, දේශපාලන දැනුම හා දේශපාලන පුහුණුව ලබා ගැනීම සඳහා, කම්කරු පංතියට තිබෙන බලවත් උවමනාව පමණක් පදනම් කර ගෙන ය. එහෙත්, ප්‍රශ්නය ඒ ආකාරයෙන් ඉදිරිපත් කිරීමෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ, විශේෂයෙන් ම, වර්තමාන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ, පොදු ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් අත් හැරෙන හෙයින්, එය පමණට වඩා පටු ක්‍රියා මාර්ගයකි. මෙම කරුණ වඩාත් පැහැදිලි ලෙස තේරුම් කිරීම සඳහා, "ආර්ථිකවාදීන්"ට "ආසන්නතම" වූ අංශයක් වන ප්‍රායෝගික අංශයෙන්, මාතෘකාවට ළඟා වන්නෙමු. කම්කරු පංතියේ විඥනය දියුණු කළ යුතු බවට "කවුරුත් එකඟ වෙති". එහෙත්, ප්‍රශ්නය නම්, එය කරන්නේ කෙසේ ද යන්න ය. එය කිරීමට අවශ්‍ය වන්නේ කුමක්ද යන්න ය. ආර්ථික අරගලයෙන් කම්කරුවන් "උනන්දු කරනු ලබන්නේ" කම්කරු පංතිය කෙරෙහි ආණ්ඩුව දක්වන ආකල්පය වටහා ගැනීමට පමණකි. එබැවින්, ආර්ථික අරගලයේ රාමුව ඉතා පටු හෙයින්' "ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දීමට" අප කොතරම් උත්සාහ කළත්, එහි සීමාව තුළ සිටිමින්, අපට කම්කරුවන්ගේ විඥනය (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන මට්ටමට) සංවර්ධනය කිරීම කිසිම දිනෙක කළ හැකි නොවේ. එහෙත්, මර්තිනව්ගේ සූත්‍රයෙහි වටිනා කමක් අපට ඇත. එසේ වන්නේ, කරුණු අවුල් කිරීමට මර්තිනව්ගේ ඇති කුසලතාවය එයින් පිළිබිඹු වන නිසා නොව, සියළුම "ආර්ථිකවාදීන්" කරන වරද එයින් එක එල්ලේ ප්‍රකාශ කරන හෙයිනි. එම මූලික වරද නම්, කම්කරුවන් අභ්‍යන්තරයෙන් ම, නැතහොත්, ඔවුන්ගේ ආර්ථික අරගලයෙන්, එනම්, එම අරගලය පමණක් (නැතහොත්, යටත් පිරිසෙයින්

ප්‍රධාන) ආරම්භක ස්ථානය වශයෙන් ගනිමින්, එය පමණක් (නැතහොත්, යටත් පිරිසෙයින් ප්‍රධාන) පදනම වශයෙන් ගෙන කටයුතු කරමින්, කම්කරුවන්ගේ දේශපාලන විඥනය සංවර්ධනය කළ හැකිය යන විශ්වාසය දූරීම ය. එවැනි අදහසක් මූලික වශයෙන්ම වැරදි ය. ඔවුනට විරුද්ධව අප කරන විවාදයෙන් උදහස් වූ ඔවුන්, මෙම අසමථයන්ගේ මූලාශ්‍රය ගැන කල්පනා කිරීම ප්‍රතික්ෂේප කරන හෙයින්, එහි ප්‍රතිඵලයක් වශයෙන්, අප දෙ ගොල්ලට එකිනෙකා තේරුම් ගත නොහැකි වී ඇත. අප භාෂා දෙකකින් කථා කළා හා සමාන ය.

පංතිමය දේශපාලන විඥනය කම්කරුවන් වෙත ගෙන ආ හැක්කේ පිටතින් පමණකි. එනම්, ආර්ථික අරගලයේ ක්ෂේත්‍රයට පිටතින්, කම්කරුවන් හා ස්වාමි වරුන් අතර වන සම්බන්ධයේ ක්ෂේත්‍රයට පිටතින් පමණකි. මෙම දැනුම ලබා ගත හැකි එකම ක්ෂේත්‍රය, සියළුම පංති හා ස්ථරයන් රාජ්‍යයට හා ආණ්ඩුවට දක්වන සම්බන්ධය, නැතහොත්, සියළුම පංති අතර අන්තර් සම්බන්ධය පිළිබඳ ක්ෂේත්‍රය යි. එම හේතුව නිසා, කම්කරුවන්ට දේශපාලන දැනුම ගෙන දීමට කළ යුත්තේ කුමක් ද යන ප්‍රශ්නයට දෙන පිළිතුර, බොහෝ ප්‍රායෝගික කාරක වරුන්, විශේෂයෙන් ම ආර්ථිකවාදයට නැඹුරු වූ අය, ඊට සතුටුදායක පිළිතුරක් යයි බොහෝ අවස්ථාවලදී සිතන, ''කම්කරුවන් අතරට යාම'' පමණක් විය නොහැකිය. කම්කරුවන්ට දේශපාලන දැනුම ගෙන දීම සඳහා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ජනගහනයේ සියළුම පංති අතරට යායුතු ය. ඔවුන් සිය හමුදාව සෑම දිසාවකට ම පිටත් කළ යුතු ය.

අප, උවමනාවෙන් ම මෙම කොරසැඩි සූත්‍රය තෝරා ගත්තේ, ඉතාමත් සරලව අපගේ අදහස් ප්‍රකාශ කර ඇත්තේ, උභතෝකෝටික ප්‍රකාශයක් කිරීමට අපේ ඇති ආශාවක් නිසා නොව, ''ආර්ථිකවාදීන්'', සමාවක් දිය නොහැකි ලෙසට, අමතක කර සිටින ඔවුන්ගේ කර්තව්‍යයන් ගැන වටහා ගැනීමට ඔවුන් ''උනන්දු කරවීම''ත්, වෘත්තීය සමිති දේශපාලනය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය අතර තිබෙන, එමෙන්ම, ඔවුන් වටහා ගැනීම ප්‍රතික්ෂේප කරන, වෙනස බලවත් ලෙස මතුකර දැක්වීමත්, සඳහා ය. එනිසා, උපේක්ෂා නොවී, අප කියන්න අවසානය දක්වා අසන ලෙස පාඨකයාගෙන් ඉල්ලමු.

පසු ගිය අවුරුදු කීපය තුළ ඉතාමත් ව්‍යාප්ති ආකාරයෙන් පැතිරී ගොස් තිබෙන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අධ්‍යයන කව වර්ගය ගෙන, එහි වැඩ කටයුතු ගැන පරීක්ෂා කර බලමු. එය ''කම්කරුවන් හා සමග සම්බන්ධ කම්'' පවත්වයි. එයින් සෑහීමට පත් වී, පැක්ටරිවල අක්‍රමිකතාවයන් ද, ධනේශ්වරයන් කෙරෙහි වූ ආණ්ඩුවේ පක්ෂපාතී භාවය ද, පොලිස් දුෂ්ඨ කම් ද, තද බල ලෙස හෙළාදකිමින් පත්‍රිකා නිකුත් කරයි. කම්කරුවන්-



ගේ රැස්වීම්වලදී පැවැත්වෙන සාකච්ඡාවන් කිසි කලෙකත් මෙම මාතෘකාවල සීමාවෙන් ඔබ්බට නොයයි. යතොත් ඒ ඉතා කලාතුරකිනි. විප්ලවවාදී ව්‍යාපාරයේ ඉතිහාසය, ආණ්ඩුවේ දේශීය සහ විදේශීය ප්‍රතිපත්තිය රුසියාවේ සහ යුරෝපයේ ආර්ථික පරිණාමය, නවීන සමාජයේ විවිධ පංතිවල තත්වයන්, යනාදී කරුණු සම්බන්ධයෙන් පැවැත්වෙන දේශන හෝ සාකච්ඡා ඉතා විරළ ය. සමාජයේ අනෙකුත් පංති සමග ක්‍රමාණුකූල ලෙස සම්බන්ධ කම් ඇති කර ගෙන ව්‍යාප්ත කිරීම ගැන, කිසිම කෙනෙක් සිහිනෙන් වත් සිතන්නේ නැත. එවැනි කවවල සිටින සාමාජිකයන් වැඩි දෙනෙකුගේ මනෝ පින්තූර අනුව, හොඳ නායකයා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන නායකයෙකුට වඩා, වෘත්තීය සමිති ලේකම් වරයෙකුගේ ස්වරූපය දරයි. එසේ කියන්නේ, නිදර්ශනයක් වශයෙන්, ඕනෑම ඉංග්‍රීසි වෘත්තීය සමිතියක ලේකම් වරයෙක්, ආර්ථික අරගලය ගෙනයාමට කම්කරුවන්ට නිතරම ආධාර කරන හෙයිනි; පැක්ටරි තත්වයන් හෙළි දරව් කිරීමට ඔහු ඔවුනට ආධාර වන හෙයිනි; නීති වලත්, වැඩ වර්ජනය කිරීමට හා පිකට් කිරීමට (කිසියම් පැක්ටරියක වැඩ වර්ජනයක් සිදුවන විට සෑම අයටම දන්වා කරුණු පැහැදිලිකර දීමට) කරන අවහිරකම් වලත් අසාධාරණ භාවය ද, ධනපති පංතියට අයත් බේරුම්කාර උසාවිවල විනිශ්චය කරුවන්ගේ පක්ෂග්‍රාහී කම් ද ආදී වූ කරුණු පෙන්නුම් කර දෙන හෙයිනි. කොටින් කියතොත්, සෑම වෘත්තීය සමිති ලේකම් වරයෙක් ම, ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' ගෙන යයි — ගෙනයාමට ආධාර කරයි. එහෙත්, තවමත් මෙය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය නොවන බවත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ උත්තම අපේක්ෂාව විය යුත්තේ, වෘත්තීය සමිතිවාදී ලේකම් වරයෙක් වීම නොව, ජනතාවගේ නියෝජිතයා වීම බවත්, ඔහු, දුෂ්ඨ පාලනය සහ පීඩනය දක්නට ලැබෙන සෑම අවස්ථාවකම, එය පැන නගින ස්ථානය නොසලකා, ඉන් ගැහැටට පත්වන සමාජ ස්ථරය හෝ පංතිය කුමක් ද යන්න නොසලකා, ඒ ගැන ක්‍රියාකාරී වීමෙහි සමත් විය යුතු බවත්, දක්නට ලැබෙන දුෂ්ඨ පාලනයේ හා පීඩනයේ අවස්ථා සියල්ලෙන්ම පොදු නිගමනවලට බැස ගනිමින්, පොලිස් හිංසනය හා ධනේශ්වර සූරා කෑම පිළිබඳව ඒකීය පින්තූරයක් ඉදිරිපත් කිරීමෙහි සමත් විය යුතු බවත්, සිය සමාජවාදී අවබෝධය හා සිය ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීම් සියල්ලන් ම ඉදිරියේ තැබීම සඳහාත්, නිර්ධන පංතියේ විමුක්ති අරගලයෙහි තිබෙන ලෝක ඓතිහාසික වැදගත් කම සෑම සියළු දෙනාටම පැහැදිලි කර දීම සඳහාත්, සෑම සෙසු පටු හෝ සිදුවීමකින් ම ප්‍රයෝජන ගැනීමෙහි සමත් විය යුතු බවත් කොතරම් අවධාරණය කළත්, එහි වරදක් නැත. නිදර්ශනයක් වශයෙන්, (එංගලන්තයේ ඉතාමත් ප්‍රබල වෘත්තීය සමිතිවලින් එකක් වන, බොයිලේරු තනන්නන්-

ගේ සමිතියේ වීර ප්‍රසිද්ධ ලේකම් හා නායකයා වන) රොබට් නයිට් වැනි නායකයෙක්, විල්හෙල්ම් ලිබ්ක්නෙහ්ත් හා සමග සංසන්දනය කර බලන්න. ඒ අතර ම මර්තිනව් ''ඉස්ක්‍රා'' පත්‍රය සමග ගැටෙමින්, එය සමග කරන විවාදයේ දී, ඔහු විස්තර කරන පිසංසන්ධනයන්, ඒ දෙදෙනාට ගැලපීමට උත්සාහ ගන්න. මම මර්තිනව්ගේ ලිපිය බලමින් සිටිමි. එසේ ගැලපීමේදී ඔබට මෙම කරුණු පෙනී යනු ඇති:රොබට් නයිට් වැඩි වශයෙන් ම යෙදුනේ, ''කිසියම් නිශ්චිත ක්‍රියාවන්හි යෙදෙන ලෙස පොදු ජනතාවට හඬ නැඟීමෙහි'' ය (පිටු 39). ඒ අතර ලිබ්ක්නෙහ්ත් වැඩි වශයෙන් යෙදුනේ ''සමස්ත වර්තමාන ක්‍රමය ම ගැන, නැතහොත්, එහි දක්නට ලැබෙන අංශ ගැන, විප්ලවවාදී ලෙස පැහැදිලි කිරීමෙහි''ය (38-39). රොබට් නයිට් ''නිර්ධන පංතියේ හදිසි ඉල්ලීම් සකස් කර, ඒවා දිනා ගැනීමේ මාර්ග ගෙන හැර දක් වූ (41) අතර, විල්හෙල්ම් ලිබ්ක්නෙහ්ත්, එයද කරමින් ම, ඒ සමග ම, විවිධ විරුද්ධ පාර්ශවීය ස්ථරයන් සඳහා නියත සටන් වැඩ පිළිවෙළක් පෙන්නුම් කරමින්* ''එම ස්ථරයන්ගේ කටයුතු මෙහෙයවීමෙන්'' ද වැලකුනේ නැත (41). ''හැකි තරමක් දුරට ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීමට'' රොබට් නයිට් උත්සාහ කළේ ය (42). ''කිසියම් ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි පැහැදිලි ඉල්ලීම් ආණ්ඩුව වෙත ඉදිරිපත් කිරීමට'' ඔහු විශිෂ්ඨ ලෙස සමත් විය (43). එහෙත් ලිබ්ක්නෙහ්ත්, ඊට වඩා බොහෝ දුරට යෙදුනේ ''එක පැත්තකට බර වූ'' ''හෙළිදරව් කිරීම්'' වල ය (40). රොබට් නයිට් ''නීරස සැමදු අරලයේ ඉදිරි ගමන'' කෙරෙහි වැඩි සැලකිල්ලක් දක් වූ (61) අතර ලිබ්ක්නෙහ්ත් ''දීප්තිමත් හා පරිපූර්ණ අදහස් ප්‍රචාරය'' කෙරේ වැඩි සැලකිල්ලක් දක් වීය (61). ලිබ්ක්නෙහ්ත් තමා අධ්‍යක්ෂණය කරමින් සිටි පත්‍රය ''විප්ලවවාදී විරුද්ධ පාර්ශවයේ පත්‍රයක් බවට හරවා, එමගින්, අප රටේ තත්වය, විශේෂයෙන් ම, දේශපාලන තත්වය ගැන විස්තර කරමින්, එය විවිධතම ස්ථරයන්ගේ උවමනාවන්ට බල පෑ තාක් දුරට, එම තත්වය ගැන හෙළිදරව් කළේය'' (63). එහෙත්, රොබට් නයිට්, ''නිර්ධන පංති අරගලය හා සමග සමීප ඓන්ද්‍රිය සම්බන්ධය ඇතිව, කම්කරු පංතියේ යහපත පිණිස වැඩ කළේ ය'' (63). මෙහිදී ''සමීප ඓන්ද්‍රිය සම්බන්ධය'' යනුවෙන් අදහස් කරන ලද්දේ, ක්‍රිචේව්ස්කි හා මර්තිනව් උදහරණයට ගනිමින්, අප ඉහත විස්තර කළ සාංසිද්ධිකතාවයට

---

* නිදර්ශනයක් වශයෙන්, ප්‍රංශ-ප්‍රරුසියන් යුද්ධ කාලයේදී සමස්ත ප්‍රජාතන්ත්‍රවාදය සඳහා ලිබ්ක්නෙහ්ත් සටන් වැඩ පිළිවෙළක් පෙන්නුම් කළේය. 1848 දී මාක්ස් හා එංගල්ස් ඔහු කළාටත් වැඩි තරමින් එසේ කළහ.



නමස්කාර කිරීම වන අතර, ''එසේ කිරීමේදී, එම බල පෑමේ ක්ෂේත්‍රය වඩාත් සංකීර්ණ කෙරෙන්නේය යන අවබෝධය'' මර්තිනව් මෙන්ම ඇති කර ගෙන, ''තමා බලපාන ක්ෂේත්‍රය සීමා කළේය'' (63). කොටින් කියතොත්, මර්තිනව් සමාජ-ප්‍රජාතන්ත්‍රයේ යහපතට ඇති අකැමැත්තක් නිසා නොව, ප්ලෙහානව් කීදේ වටහා ගැනීමට කරදර වෙනවා වෙනුවට, ඔහුට අරුත් සරු බවක් දීමට, තරමක් පමණ ඉක්මවා ගිය හුදු ඉක්මන්කාරී කම නිසාම, ඔහු de facto* සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය වෘත්තීය සමිතිවාදයේ මට්ටමට පහත හෙළූ බව ඔබට පෙනෙනු ඇත.

කෙසේ හෝ වේවා, අපි අපගේ ප්‍රවාදයන් වෙත ආපසු යමු. නිර්ධන පංතියේ දේශපාලන විඥනය සංවර්ධනය කිරීම අවශ්‍ය බව ඇත්තෙන් ම විශ්වාස කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, ''ජනගහනයේ සියළුම පංති අතරට යා යුතු ය'' යි අපි කීවෙමු. මෙය කරන්නේ කොහොම ද? මෙය කිරීමට තරම් ප්‍රමාණවත් බලවේග අප ළඟ තිබේද? සියළු පංති අතර එබඳු වැඩ කිරීමට පදනමක් තිබේද? පංති දෘෂ්ටි කෝණයෙන් බලන කල, මෙය පසු බැසීමක්, නැතහොත්, පසු බැසීමට මග විවෘත වීමක් බව අදහස් නොවේ ද? යන මේ ප්‍රශ්න පැන නගී. ඒවා ගැන කරුණු සලකා බලමු.

න්‍යායවාදීන් වශයෙන්, ප්‍රචාරකයන් වශයෙන්, උද්ඝෝෂකයන් වශයෙන් හා සංවිධායකයන් වශයෙන්, අප ''ජනගහනයේ සියළුම පංති අතරට යා යුතුය''. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ න්‍යායික කටයුතු ඉලක්ක කළ යුත්තේ විවිධ පංතිවල සමාජ හා දේශපාලන තත්වයෙහි යථා භූත අංග ලක්ෂණ සියල්ල ම අධ්‍යයනය කිරීම වෙත ය යන්න ගැන කිසිවෙකු හෝ තුළ සැකයක් නැත. එසේ වුවද, පැක්ටරි ජීවිතයේ යථා භූත අංග ලක්ෂණ අධ්‍යයනය කිරීමට කරන කටයුතු හා සමග සංසන්දනය කරන කල්හි, මේ සම්බන්ධයෙන් කෙරෙන කටයුතු ඉතා අල්ප ය. ලෝහ කර්මාන්තයේ කිසියම් විශේෂ අංශයක් ගැන පවා අධ්‍යයනය කිරීමෙහි නියැලී සිටින අය, කාරක සභා සහ අධ්‍යයනය කව තුළදී කෙනෙකුට හුමු විය හැක. එහෙත්, වෙනත් සමාජ ස්ථරයන් අතර, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ කරගෙන යාමට මාධ්‍යයක් වශයෙන් ප්‍රයෝජනවත් විය හැකි, අප රටේ දැවෙන සමාජ හා දේශපාලන ප්‍රශ්නයක් ගැන තොරතුරු විස්තර එකතු කිරීමෙහි යෙදී සිටින සංවිධාන සාමාජිකයින් කිසි විටෙකත් සොයා ගත නොහැකි තරම් විරළ ය (මොන යම් හේතුවක් නිසා හෝ, ඔවුනට ප්‍රායෝගික වැඩ අත් හැරීමට සිදු වන අවස්ථා බොහෝ ඇතත් තත්වය එසේ ය.). කම්කරු පංති ව්‍යාපාරයේ වර්තමාන නායකයන්

---

* යථාර්ථ වශයෙන් — සංස්කාරක

වැඩි දෙනෙකුට පුහුණුවක් නොමැති කම ගැන කරුණු සඳහන් කිරීමේ දී, මෙම කරුණු සම්බන්ධයෙන් පුහුණුව ගැන ද සඳහන් නොකර බැරි ය. ඊට හේතුව, එයද "නිර්ධන පංති අරගලය සමග සමීප වෙන්ද්‍රීය සම්බන්ධය" පිළිබඳ වූ "ආර්ථිකවාදී" සංකල්පය සමග බැඳී ඇති හෙයිනි. ඇත්ත වශයෙන් ම, ප්‍රධාන කරුණ වන්නේ, සියළුම ජනතා ස්ථරයන් අතර, ප්‍රචාරය හා උද්ඝෝෂණය කිරීම ය. මේ හා සම්බන්ධයෙන් ගත් කල, බටහිර යුරෝපීය රටවල, ප්‍රසිද්ධ රැස්වීම් වලට හා මහජන රැළිවලට සහභාගි වීමේ නිදහස, සියළු දෙනාට ම තිබෙන නිසාත්, පාර්ලිමේන්තුව තුළ දී සියළුම පංතිවල නියෝජිතයන් ආමන්ත්‍රණය කිරීමේ නිදහස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාට තිබෙන නිසාත්, ඔහුගේ කටයුතු සඳහා පහසු කමක් ඇත. අපට පාර්ලිමේන්තුවක් හෝ රැස්වීමේ නිදහස හෝ නැත. එසේ වුවද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකුට කන් දීමට කැමති කම්කරුවන්ගේ රැස්වීම් පිළියෙළ කිරීමේ හැකියාව අපට ඇත. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාට කන් දීමට කැමති සියළුම සමාජ පංතිවල නියෝජිතයන්ගේ රැස්වීම් කැඳවීමේ මාර්ග හා මාධ්‍ය අප සොයා ගත යුතුය. "කොමියුනිස්ට්වාදීන් සෑම විප්ලවවාදී ව්‍යාපාරයකටම ආධාර කරන"[172] බවත්, එම හේතුව නිසාම, අපගේ සමාජවාදී අවබෝධය මොහොතකට හෝ නොසඟවා ම, සමස්ත ජනතාව ම හමුවේ තිබෙන පොදු ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් විස්තර කිරීම හා ඒවා අවධාරණය කිරීම අප කළ යුතු බවත්, භාවිතයෙහි දී අමතක කරන තැනැත්තේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු නොවේ. සෑම පොදු ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රශ්නයක් ම මතුකිරීමෙහි දී සහ විසඳීමෙහි දී, අන් සියළු දෙනාටම ඉදිරියෙන් සිටීමට ඇති තමන්ගේ යුතු කම අමතක කරන තැනැත්තේ ද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් නොවේ.

"නමුත්, සෑම කෙනෙක් ම මෙයට එකඟය" යි නො ඉවසිලිමත් පාඨකයා තදින් කියනු ඇත. එපමණක් නොව, විදේශ ගත සංගමයේ පසු ගිය සම්මේලනය, "රබෝචිය දියල" කර්තෘ මණ්ඩලය සඳහා අනුමත කළ උපදෙස්වල ද, නියත වශයෙන් ම මෙසේ සඳහන් ය: "සමාජ හා දේශපාලන ජීවිතයේ දී, කෙළින් ම හෝ, විශේෂ පංතියක් වශයෙන් හෝ, එසේ නැතහොත්, නිදහස සඳහා කරන අරගලයේ යෙදී සිටින, සියළු විප්ලවවාදී බලවේගයන්ගේ පෙරටු බල ඇණිය වශයෙන්, නිර්ධන පංතිය කෙරෙහි බලපාන සියළුම සිදුවීම්, දේශපාලන ප්‍රචාරය හා උද්ඝෝෂණය සඳහා සුදුසු මාතෘකා වන්නේය" ("සම්මේලන දෙකක්" — පිටු 17, අවධාරණය අපගේ ය). මේවා ඉතාමත් නිවැරදි, ඉතාමත් යහපත් වචන බව සැබවි. "රබෝචිය දියල" ඒවා තේරුම් ගන්නේ නම්, ඊළඟ හුස්මට ම ඒවාට ප්‍රතිවිරෝධී දේ කීමෙන් එය වැළකී සිටින්නේ නම්, අපි අතිශයින්ම සතුටු වන්නෙමු. එසේ කියන්නේ, අප "පෙරටු බල ඇණිය" බව, නැත-



හොත්, ඉදිරියෙන්ම සිටින බල ඇණිය බව, අප ම කියා ගැනීම ප්‍රමාණවත් නොවන හෙයිනි. අප පෙරමුණෙහි ගමන් කරන බව අනිකුත් සියළුම බල ඇණිවලට ද පෙනෙන හා පිළිගැනීමට සිදු වන ආකාරයට, අපි කටයුතු කළ යුතු වෙමු. තවද, අපි පාඨකයාගෙන් මෙසේ ද අසමු. අප "පෙරටු බල ඇණිය" වන බව කියන අපගේ වචන මාත්‍රය ඇදහීමට තරම්, අනිකුත් "බල ඇණිවල" නියෝජිතයෝ මෝඩයෝ වෙති ද? පහත සඳහන් පරිදි මනෝ පින්තූරයක් සිතට නගා ගන්න. උගත් රුසියානු උන්නතිකාමීන්ගේ, නැතහොත්, ලිබරල් ව්‍යවස්ථානුකූලවාදීනගේ "බල ඇණිය" වෙත පැමිණෙන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, මෙසේ කියයි: පෙරටු බල ඇණිය වන්නේ අපය. "අප දූත් මුහුණ පා සිටින කර්තව්‍යය නම්, හැකි තාක් දුරට ආර්ථික අරගලයටම දේශපාලන ස්වරූපයක් දීමයි". උන්නතිකාමියා, නැතහොත්, ව්‍යවස්ථානුකූලවාදියා මඳක් හෝ බුද්ධිය ඇති අයෙක් නම්, (රුසියානු උන්නතිකාමීන් හා ව්‍යවස්ථානුකූලවාදීන් අතර බුද්ධිමත් පුද්ගලයන් බොහෝ ඇත) ඔහු මෙම කථාව අසා, මුවින් නො බැන සිනාසී, (බොහෝ අවස්ථාවල ඔහු උපාය දක්ෂයෙකි) තමන්ට ම මෙසේ කියා ගනු ඇත. "නුඹලාගේ පෙරටු බල ඇණිය" නම් නිවටයන්ගෙන් සැදුනක් විය යුතු ය! කම්කරුවන්ගේ ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දීම අපගේ කර්තව්‍යය බව, එනම්, ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදයේ නියෝජිතයන්ගේ කර්තව්‍යය බව වත්, ඔවුනට තේරෙන්නේ නැත. මන්ද? බටහිර යුරෝපයේ ධනේශ්වර පංතියට මෙන් ම, කම්කරුවන් දේශපාලනයට ඇද ගැනීමේ උවමනාව, අපට ද තිබේ. එහෙත්, ඒ වෘත්තීය සමිතිවාදී දේශපාලනයට මිස, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනයට නොවේ. කම්කරු පංතියේ වෘත්තීය සමිතිවාදී දේශපාලනය යනු, කම්කරු පංතියේ ධනේශ්වර දේශපාලනයයි. ඒ අතර මෙම "පෙරටු බල ඇණිය" තමන්ගේ කර්තව්‍යය ලෙසට ඉදිරිපත් කරන්නේ, වෘත්තීය සමිති දේශපාලනය විසින් ඉදිරිපත් කරනු ලබන කර්තව්‍යය ම ය! ඔවුනට ඇති තාක්, ඔවුන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන බව කියා ගත්තා වේ.ලේබලයක් ගැන කලබල වීමට තරම් මම ළදරුවෙක් නොවෙමි. එහෙත්, ඔවුන් අර අනර්ථකාරී සාධර්මික න්‍යාය ධර්මවාරීන්ගේ බල පෑමට හසු නොවිය යුතුය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අවිඥත ලෙස වෘත්තීය සමිතිවාදී මාවතට පලවා හරින්නවුනට විවේචනය කිරීමේ නිදහස දිය යුතු ය".

තවද, අපගේ ව්‍යාපාරය තුළ, සම්පූර්ණයෙන්ම මෙන් සාංසිද්ධිකතාවය බල පවත්වන මෙම කාලයේ දී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය පෙරමුණු බල ඇණිය වශයෙන් ගෙන කථා කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, "සාංසිද්ධිකතාවය ලඝු කොට තැකීමට" තරම් ද, "දීප්තිමත් හා පරිපූර්ණ

අදහස් ප්‍රචාරය හා සමග සංසන්දනය කරන කල, නීරස සැමද අරගලයේ ඉදිරි ගමන අඩුවෙන් තක්සේරු කිරීම'' යනාදියට තරම් ද, වෙන කිසිවකට බිය නොවන බව අපගේ ව්‍යවස්ථානුකූලවාදියා තේරුම් ගත් පසු, ඔහුගේ මඳ සිනහව කොක් හඬ ලා සිනා සීමක් බවට පත් වනු ඇත! සාංසිද්ධිකතාවය ඉක්මවා විඥතභාවය ඉදිරියට යතැයි බිය වන හා අපට වඩා වෙනස් අදහස් දරන අයට පවා පිළිනොගෙන හැරීමට බැරි වන නිර්භීත ''සැලැස්මක්'' ඉදිරිපත් කිරීමට බිය වන, ''පෙරටු ඇණියක්''! මොවුන් පෙරටු බල ඇණිය පසු බල ඇණිය සමග පටලවා ගන්නවා නොවේද?

මර්තිනව්ගේ පහත සඳහන් තර්කය හොඳින් විමසා බලමු. අක්‍රමිකතාවයන් හෙළිදරව් කිරීමට ''ඉස්ක්‍රා'' පත්‍රය අනුගමනය කරන උපක්‍රම වලදී එය එක් පැත්තකට බර වන්නේ යයි ද, ''අප ආණ්ඩුවට එරෙහිව කොතරම් අවිශ්වාසය හා වෛරය පතුරුවා හැරියත්, එය පෙරළා දැමීම සඳහා සෑහෙන සමාජ ශක්තියක් උපදවා ගැනීමෙහි අප සමත් වන තෙක්, අපට අපගේ අරමුණ සාර්ථක කර ගත හැකි නොවන්නේය''යි ද, මර්තිනව් 40 පිටුවේ කියා ඇත. මෙය නම්, පොදු ජන ක්‍රියාකාරීත්වය ඇති කිරීමට දක්වන සුපුරුදු බලවත් උවමනාව බවත්, ඒ සමගම ස්වකීය ක්‍රියාකාරීත්වය සීමා කර ගැනීමට යත්න දැරීම බවත් අපි මෙහි දී මැදිහත් වී කියනු කැමැත්තෙමු. එහෙත්, දැනට ප්‍රධාන තැන ගන්නා කරුණ එය නොවේ. මෙහිදී (''පෙරළා දැමීම සඳහා'') විප්ලවවාදී ශක්තිය ගැන, අනුකූලතාවයෙන් මර්තිනව් කථා කරයි. ඉන් ඔහු බැස ගන්නා නිගමනය කුමක් ද? සාමාන්‍ය කාලවලදී, සමාජ ස්ථරයන්, අවශ්‍යයෙන් ම වෙන් වෙන්ව ගමන් කරන හෙයින්, ''විවිධ සමාජ ස්ථරයන්ගේ කටයුතු එක් වරම මෙහෙය වීම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපට කළ නොහැකි බව පැහැදිලිය. ඔවුන් සඳහා නියත ක්‍රියාකාරී වැඩ පිළිවෙළක් නියම කිරීම අපට කළ නොහැකිය. ඔවුන්ගේ අවශ්‍යතාවයන් සඳහා දිනපතා අරගලය කළ යුත්තේ කෙසේ ද යන්න නියම කිරීම අපට කළ නොහැකිය... ලිබරල් ස්ථරයන්ගේ හදිසි උවමනාවන් සඳහා වූ ක්‍රියාශීලී අරගලය, එනම්, ඔවුන් අපගේ දේශපාලන රාජ්‍ය පාලනය සමග මුහුණට මුහුණ ලා සිටින තත්වයට ගෙන එන අරගලය ගැන ඔවුන්ම වග බලාගන්නවා ඇත'' (පිටු 41). විප්ලවවාදී ශක්තිය ගැනත්, ඒකාධිපත්‍යය පෙරළා දැමීමට ක්‍රියාශීලී ලෙස අරගල කිරීම ගැනත්, කථා කරමින් පටන්ගත් මර්තිනව්, මේ ලෙසට, වහාම වෘත්තීය සමිති ශක්තිය හා හදිසි උවමනාවන් සඳහා වූ ක්‍රියාශීලී අරගලය වෙතට හැරෙයි. ශිෂ්‍යයන්, ලිබරල්වාදීන්, ආදීන්ගේ ''හදිසි උවමනාවන්'' සඳහා වූ ඔවුන්ගේ අරගලය අපට මෙහෙය විය නොහැකි බව කීම අවශ්‍ය නොවේ. එහෙත්, වැදගත් ආර්ථිකවාදියාණනි, සාකච්ඡාවට බඳුන් වූ කරුණ එය නොවේ! අප සාකච්ඡා කරමින් සිටියේ, ඒකාධිපත්‍යය පෙරළා දැමීමේ කටයුත්තට විවිධ සමාජ ස්ථරයන්ගෙන් ලබා ගත හැකි හා ලබා ගැනීම අවශ්‍ය වන, සහභාගිත්වය ගැන ය. තවද, විවිධ ''විරුද්ධ පාර්ශවීය ස්ථරයන්ගේ'' මෙම කටයුතු අපට මෙහෙයවිය හැකිවා පමණක් නොව, අප ''පෙරමුණ බල ඇණිය'' වීමට කැමැත්තේ නම්, එම මෙහෙයවීම කිරීම අපගේ බලවත් යුතු කම ද වේ. අපගේ ශිෂ්‍යයන් හා ලිබරල්වාදීන් ආදී වූ කොටස්, ''අපගේ දේශපාලන රාජ්‍ය පාලනය හා සමග මුහුණට මුහුණ ලා සිටින තත්වයට'' ගෙන එන අරගලය ගැන, වග බලා ගන්නේ ඔවුන් පමණක් නොවේ. ප්‍රථමයෙන් ම හා අන් හැමටම පෙර, ඒකාධිපති ආණ්ඩුවේ පොලිසිය හා නිලධාරීන්, ඒ ගැන වග බලාගන්නවා ඇත. එසේ වුවද, අපි ප්‍රථම පෙළේ ප්‍රජාතන්ත්‍රවාදීන් වීමට කැමැත්තෙමු නම්, විශ්වවිද්‍යාලයේ නැතහොත් සියම්ස්ත්වො දිස්ත්‍රික් සභාවේ පවතින තත්වයන් ගැන පමණක් අප්‍රසන්නව සිටින අය ගේ කල්පනාවන්, සමස්ත දේශපාලන ක්‍රමයම වැඩකට නැතැයි යන අදහස වෙතට යොමු කිරීම ''අප ගේ'' කාර්යය වශයෙන් භාර ගත යුතු වේ. අප පක්ෂයේ නායකත්වය යටතේ සර්ව පාර්ශවීය දේශපාලන අරගලයක් සංවිධානය කිරීමේ කර්තව්‍යය අප භාර ගත යුතු වේ. එම අරගලය සංවිධානය කළ යුත්තේ, එම අරගලයටත්, අප පක්ෂයටත් සියළුම විරුද්ධ පාර්ශවීය බලවේගයන්ගේ ආධාරය දීම ඒවාට කළ හැකි වන ආකාරයට ය. මෙම සර්ව පාර්ශවීය අරගලයේදී මතු වන සියළු තත්වයන් මෙහෙයවා ගැනීමෙහි සමත් වන හා කුපිත වූ ශිෂ්‍යයන්, අප්‍රසන්න වූ සියම්ස්ත්වො කොටස්, ප්‍රකෝප වූ ආගමික නිකායයන්, අමනාපයට පත් පාඨශාලා ගුරුවරුන්, ආදීන් වෙනුවෙන්, නියම වේලාවට, ''නියත සටන් වැඩ පිළිවෙළක් නියම කිරීමෙහි'' සමත් වන, දේශපාලන නායකයන් බවට පත් වන සේ, අපි අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රායෝගික කාරක වරුන් පුහුණු කළ යුත්තෙමු. එනිසා, ''මේ අය සම්බන්ධයෙන් අපට ක්‍රියා කළ හැක්කේ අක්‍රමිකතාවයන් හෙළිදරව් කරන්නන් වශයෙන් හුදෙක්ම ප්‍රතිරුද්ධ (අවධාරනය අපගේය) කාර්ය කොටස ඉටු කිරීමෙනි... අපට කළ හැක්කේ, ආණ්ඩුවේ විවිධ කොමිසම් කෙරෙහි වූ, ඔවුන්ගේ විශ්වාසය ක්ෂය කර හැරීම පමණකි,'' යනුවෙන් මර්තිනව් කරන ප්‍රකාශය සම්පූර්ණයෙන්ම අසත්‍ය ය. මර්තිනව්ගේ මෙම ප්‍රකාශයෙන් පැහැදිලි වන්නේ, විප්ලවවාදී ''පෙරටු බල ඇණිය'' ඇත්ත වශයෙන් ම ඉටු කළ යුතු කාර්ය කොටස වටහා ගැනීමට, ඔහු අත්‍යන්තයෙන් ම අසමත් වී ඇති බව ය. පාඨකයා මෙය සිත්හි දරා ගන්නේ නම් ඔහුට, මර්තිනව් අවසාන වශයෙන් කියා තිබෙන කරුණුවල නියම අර්ථය පැහැදිලි වනු ඇත. ''ජනගහනයේ විවිධතම ස්ථරයන්ගේ උවමනාවන් සමග එක්ව සිටින නිසා අප රටේ තත්වය, විශේෂයෙන් ම, දේශපාලන

තත්වය හෙළිදරව් කරන ''ඉස්ක්‍රා'' පත්‍රය විප්ලවවාදී විරුද්ධ පාර්ශවයේ පත්‍රය යි. කෙසේ හෝ වේවා, අපි කම්කරු පංතියේ යහපත පිණිස, නිර්ධන පංති අරගලය සමග සමීප ඓන්ද්‍රීය සම්බන්ධය ඇතිව වැඩ කටයුතු කරන්නෙමු. තවදුරටත් එසේ කර ගෙන යන්නෙමු. අපගේ ක්‍රියාත්මක බලපෑමේ ක්ෂේත්‍රය සීමා කිරීමෙන් අපි ඒ ක්‍රියාත්මක බලපෑම වඩාත් සංකීර්ණ කරන්නෙමු'' (63). මෙම නිගමනයෙහි නියම අර්ථය මෙසේය: කම්කරු පංතියේ වෘත්තීය සමිතිවාදී දේශපාලනය (අපගේ ප්‍රායෝගික කාරක වරුන්ගේ වැරදි අවබෝධය, නුපුහුණු කම, නැතහොත්, වැටහීමේ ස්වභාවය නිසා නිතරම පාහේ ඔවුන්ගේ කටයුතු ඊට සීමා කරති) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනයේ මට්ටමට ඉහළට නැංවීමට''ඉස්ක්‍රා''පත්‍රය කැමති ය. එසේ නමුත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය, වෘත්තීය සමිතිවාදී දේශපාලනයේ තත්වයට පිරිහෙළීමට ''රබෝචිය දියල'' කැමති ය. එපමණක් නොව, මෙම ස්ථාවරයන් දෙක ම, ''පොදු ව්‍යාපාරය තුළදී සම්පූර්ණයෙන්ම එකිනෙකට ගැලපෙන'' බවට එය ලෝකයාටම සහතික වෙයි (63). O, sancta simplicitas!*

එපමණක් ද නොවේ. සියළුම සමාජ පංති අතර ප්‍රචාරය හා උද්ඝෝෂණය මෙහෙයවීමට තරම් වන බලවේග අප වෙත තිබේ ද? සත්තකින්ම තිබේ. නිතර මෙය ප්‍රතික්ෂේප කිරීමට කැමැත්ත දක්වන අපගේ ආර්ථිකවාදීහු, 1894 (පමණ) පටන් 1901 දක්වා අපගේ ව්‍යාපාරය ලබා ඇති දැවැන්ත ප්‍රගතිය නොදකිති. සැබෑ ''අන්තිමයන්'' මෙන් ඔවුහු ව්‍යාපාරයේ අතීතය තුළ ජීවත් වෙති. මුල් කාලයේදී අපට තිබුණු බලවේග සංඛ්‍යාව, ඇත්ත වශයෙන් ම විශ්මය ජනක තරම්, අඩු ප්‍රමාණයක් විය. ඒ නිසා, එම කාලයේ දී, අපි තනිකරම පාහේ කම්කරුවන් අතර වැඩ කිරීමට කැප වූනෙමු නම්, එය එවකට සම්පූර්ණයෙන්ම ස්වාභාවික හා සාධාරණ දෙයක් විය. එවකට සම්පූර්ණ කර්තව්‍යය වී තිබුණේ කම්කරු පංතිය තුළ අපගේ තත්වය තහවුරු කිරීම ය. එහෙත් වර්තමානයේ ඇත්තේ, දැවැන්ත බලවේගයන් ව්‍යාපාරය වෙත ආකර්ෂණය වූ තත්වයකි. උගත් පංතිවල තරුණ පරම්පරාවේ ඉතාමත් හොඳ නියෝජිතයන් අප ව්‍යාපාරය වෙත එමින් සිටිති. (1894 දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ගණන කෙනෙකුගේ ඇඟිලි ගණනින් ගණන් ගත හැකි වූ නමුත්) පසු කාලයේ ව්‍යාපාරයේ වැඩ කොටස් ඉටු කර ඇති, නැතහොත්, දැන් එසේ කිරීමට කැමති අය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය වෙත ඇදී එන අය, විවිධ පළාත්වල සෑම තන්හිම, පවත්නා තත්වයෙහි බලපෑම යටතේ, පදිංචිව සිටිති. මේ සියළු බලවේගයන් උපයෝගී කර ගනිමින්, ඒවාට නිසි කාර්යයන් භාර දීමෙහි අපොහොසත් වීම, අපගේ ව්‍යාපාරයේ මූලික දේශපාලන හා සංවිධාන දුර්වල කමකි (මීළඟ පරිච්ඡේදයෙන් මේ ගැන වඩාත් සම්පූර්ණ ලෙස කරුණු දක්වන්නෙමු.). මෙම බලවේගයන් අතුරෙන් බහුතරයට, ''කම්කරුවන් අතරට යාමට'' අවස්ථා දුර්ලභ නිසා, බලවේගයන් අපගේ ප්‍රධාන කර්තව්‍යයන් කෙරෙන් වෙනත් අතකට හැරී යාමේ බියක් ඇති කර ගැනීමට අපට හේතුවක් නැත. සැබෑ, අංග සම්පූර්ණ සහ දේශපාලන දැනුමෙන් කම්කරුවන් සන්නද්ධ කිරීම පිණිස, ඔවුනට අපගේ රාජ්‍යයේ අභ්‍යන්තර ක්‍රියාකාරීත්වය ගැන දැනුමක් ලබා ගත හැකි වන සේ,''අපේම ජනයා'', එනම්, සමාජ-ප්‍රජාතන්වාදීන්, සෑම තැනකම, සමාජයේ සියළු ස්ථරයන් අතර ම හා සියළු තත්වයන්හි ම, සිටිනු දැකීමට අප වග බලා ගත යුතුය. එවැනි අය ප්‍රචාරය හා උද්ඝෝෂණය සඳහා පමණක් නොව, ඊටත් වඩා, සංවිධාන කටයුතු සඳහා එවැනි අය විශාල වශයෙන් අවශ්‍යව ඇත.

ජනගහනයේ සියළුම පංති අතර ක්‍රියාකාරී වීමට පදනමක් තිබේද? මේ ගැන සැක සිතන කිසියම් හෝ කෙනෙක් වෙත් නම්, ඔහු පොදු ජනතාවගේ සාංසිද්ධික පිබිදීම පසු පස ඇදී යන විඥානයක් ඇති තැනැත්තෙකි. කම්කරු පංති ව්‍යාපාරය විසින්, සමහර අය අතර අප්‍රසාදයත්, තවත් අය අතර විරුද්ධ පාර්ශවයට සහයෝගය දිනා ගැනීමේ බලාපොරොත්තුවත්, තවත් වෙන අය අතර, ඒකාධිපත්‍යය නො ඉවසිය හැක්කේයයි ද, එය අනිවාර්ය ලෙස ම බිඳ වැටෙන්නේය යි ද, යන විශ්වාසයත් පුබුදුවන ලදී. තව දුරටත් පුබුදු වනු ලැබේ. අප්‍රසාදය මතු වන සෑම අවස්ථාවක්ම උපයෝගී කර ගැනීම හා කොතරම් කුඩා වූ හෝ සෑම විරෝධය ප්‍රකාශයක් ම පවා එක්කර, ඉන් උපරිම වාසිය ලබා ගැනීම, අපගේ කර්තව්‍යය වන බව අපි තේරුම් නොගන්නෙමු නම්, (සත්‍ය ලෙස ම නිතර සිදුවන පරිදි), අප ''දේශපාලනඥයන්'' හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන්නේ නමින් පමණකි. එපමණක් නොවේ. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු වීමට යම්තමින් හෝ සුදුසු කම් ලත් තැනැත්තෙකුගේ කථාවට කන් දීමට නිතරම සූදනම්, දශ ලක්ෂ සංඛ්‍යාත වැඩ කරන ගොවීහු, හස්ත කාර්මිකයෝ සහ සුළු කාර්මිකයෝ සිටිති. අයිතිවාසිකම් නොමැති කමින් ද, දූෂ්‍ය පාලනයෙන්ද අප්‍රසන්නව සිටින හා එනිසා, ඉතාමත් හදිසි ප්‍රජාතන්ත්‍රවාදී අවශ්‍යතාවයන් වෙනුවෙන් ඉදිරිපත් වන කථිකයා ලෙසට කටයුතු කරන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ ප්‍රචාරය මගින් ළඟා විය හැකි පුද්ගලයන්, කණ්ඩායම් හා කව නොමැති, එකම සමාජ පංතියක් වත්, ඇත්තෙන්ම තිබේ ද? ජනගහනයේ සියළුම පංති හා ස්ථරයන් අතර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් ගෙන යා යුතු උද්ඝෝෂණය කෙබඳු ද යන්න ගැන, පැහැදිලි අදහසක් ලබා ගැනීමට අපේක්ෂා කරන අය, මෙම

* අහෝ සරලත්වයේ සාන්තුවරයාණෙනි! — සංස්කාරක.

උද්ඝෝෂණයේ ප්‍රධාන විධිය (එහෙත් එකම විධිය නොවේ) වශයෙන්, දේශපාලන හෙළිදරව් කිරීම් එහි පුළුල් අර්ථයෙන් ගැනීම සුදුසු බව, පෙන්වා දෙනු කැමැත්තෙමු.

''යම්තමින් හෝ දේශපාලන විඥනයක් ඇති සියළුම ජන කොටස් අතර දේශපාලන හෙළිදරව් කිරීම් ගෙන යාමේ අනුරාගයක් ඉස්මතු කළ යුතු වෙමු''යි මම මගේ''පටන් ගත යුත්තේ කොතැනින් ද?''යන ලිපියෙහි ලීවෙමි (''ඉස්ක්‍රා'', අංක 4, මැයි 1901). ඒ ගැන පසුව විස්තර සහිතව සඳහන් කරමි. ''දේශපාලන හෙළිදරව් කිරීමේ හඬ අද මෙතරම් දුර්වල, බියසුලු හා දුරාචාර වීම ගැන අපි අධෛර්යයට පත් නොවිය යුත්තෙමු. මෙය මුළුමනින්ම සිදු වී ඇත්තේ, පොලිස් සර්වාධිකාරයට සම්පූර්ණයෙන්ම යටත් වීම නිසා නොවේ; හෙළිදරව් කිරීම් සඳහා හැකියාව සහ සූදනම ඇති අයට කථා කිරීමට මාධ්‍යයක් වත්, උනන්දුවක් හා ධෛර්යයක් ඇති කරනසුලු ප්‍රේක්ෂක පිරිසක්වත් නොමැති හෙයිනි; ''සර්වබලධාරී'' රුසියානු ආණ්ඩුවට විරුද්ධව ස්වකීය පැමිණිල්ල ඉදිරිපත් කිරීමෙන් අර්ථ සිද්ධියක් පිළිබඳ අපේක්ෂාව ඇති කරන ඒ බලවේගය ජනතාව අතර කොහේවත් ඔවුනට දකින්නට නොලැබුණු නිසාය... සාර් ආණ්ඩුව ගැන ජාති-ව්‍යාප්ත වශයෙන් හෙළිදරව් කිරීම සඳහා මාධ්‍යයක් සැපයීමට අපට දැන් තත්වයක් ඇත. මෙය ඉටු කිරීම අපගේ යුතු කම ය. එම මාධ්‍යය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවෘත්ති පත්‍රයක් විය යුතුය.''*

දේශපාලන හෙළිදරව් කිරීම් සඳහා ඉතාමත් සුදුසු ප්‍රේක්ෂක සමූහයා නම්, කම්කරු පංතිය යි. සකලාංග සම්පූර්ණ හා ජීවමාන දේශපාලන දැනුම ප්‍රථමව හා අන් සියල්ලන්ටම පෙර අවශ්‍ය වී සිටින්නේත්, ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල'' බලාපොරොත්තු විය නොහැකිව තිබිය දී පවා, එම දැනුම ක්‍රියාශීලී අරගලය බවට පරිවර්තනය කර ගැනීමෙහි වඩාත් ම සමර්ථ වන්නේත්, එම පංතිය යි. ජාති-ව්‍යාප්ත හෙළිදරව් කිරීම් සඳහා මාධ්‍යය විය හැක්කේ, සමස්ත රුසියානු ප්‍රවෘත්ති පත්‍රයක් පමණකි. ''දේශපාලන පත්‍රයක් නොමැතිව, අද යුරෝපයේ දේශපාලන ව්‍යාපාරයක් වශයෙන් හැඳින් විය හැකි ව්‍යාපාරයක් ගැන සිතිය නොහැකිය. මේ හා සම්බන්ධයෙන් ගත් කල, රුසියාවත් නිසැක ලෙසම අද යුරෝපයට ඇතුලත් කළ යුතු ය. පුවත් පත් අප රටේ බලවතෙක් බවට පත් වී බොහෝ කල් ය. නො එසේ නම්, ඊට අල්ලස් දීමටත්, කත්කොව්ලාට හා මෙෂේර්ස්කිලාට ආධාර දීමටත්, ආණ්ඩුව රූබල් දශ දහස් ගණන් වියදම් නො කරනු ඇත. තවද, පුවත් පාලනයේ පවුරු බිඳගෙන ආ, රහසිගත පුවත් පත් විසින්,

---

* සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 5, පිටු 10-11 බලන්න — සංස්කාරක.



ඒවා ගැන විවෘත සේ කථා කරන ලෙසට නීත්‍යානුකූල හා ගතානුගතික පුවත් පත් වලට බලකරනු ලැබීම, ඒකාධිපති රුසියාවට අළුත් දෙයක් නොවේ. එක් දහස් අටසිය හැත්තෑ ගණන්වල හා පණස් ගණන්වල පවා, සිදු වූයේ එය ය. නීති විරෝධී රහසිගත පත්‍ර කියවීමටත්, කම්කරුවෙක් ''ඉස්ක්‍රා'' අංක 7 පත්‍රයට ලියූ ලිපියක[173] සඳහන් පාඨයක් යොදතොත්, ජීවත් වන්නේ කෙසේ ද සහ මැරෙන්නේ කෙසේ ද යනු එයින් උගෙන ගන්නටත්, කැමති ජන කොටස් එකලට වඩා දැන් කොපමණ පුළුල් ද? කොපමණ ගැඹුරු ද? ආර්ථික හෙළිදරව් කිරීම් ස්වාමි වරුන්ට විරුද්ධව යුද්ධ ප්‍රකාශයක් වන්නේ යම් සේ ද, දේශපාලන හෙළිදරව් කිරීම් ද, එලෙසටම ආණ්ඩුවට විරුද්ධව යුද්ධ ප්‍රකාශයක් වන්නේ ය. හෙළිදරව් කිරීමේ ව්‍යාපාරය වාඩාත් පුළුල් හා බලවත් වූ තරමටත්, යුද්ධය ආරම්භ කිරීම පිණිස යුද්ධය ප්‍රකාශ කළ සමාජ පංතිය, පිරිසෙන් විශාල වූ තරමටත්, අධිෂ්ඨාන සහගත වූ තරමටත්, එම යුද්ධ ප්‍රකාශයෙහි සදාචාර වැදගත් කම ද, තව තවත් වැඩි වේ. ඒ අනුව බලන කල, දේශපාලන හෙළිදරව් කිරීම තනිව ගත් කළ, අප විරුද්ධ වන ක්‍රමය කඩා ඉහිරවීමටත්, එහි අනියම් හා තාවකාලික මිතුරන් එයින් වෙනතකට හැරවීමටත්, ප්‍රයෝජනවත් වන ප්‍රබල අවියක් වශයෙන් ද, ඒකාධිපත්‍යයේ ස්ථිර කොටස් කරුවන් අතර වෛරය හා අවිශ්වාසය පතුරුවාලීමට මාධ්‍යයක් වශයෙන් ද, එය ප්‍රයෝජනවත් වේ.

අපගේ කාලයේ දී, විප්ලවවාදී බලවේගයන්ගේ පෙරටු බල ඇණිය විය හැක්කේ, නියත වශයෙන් ම, ජාති-ව්‍යාප්ත හෙළිදරව් කිරීම් සංවිධාන කරන පක්ෂයකට පමණකි. කොටින් කියතොත් ''ජාති-ව්‍යාප්ත'' යන්නෙහි, ඉතා ගැඹුරු අර්ථයක් ඇත (පෙරටු බල ඇණිය වීමට නම් අනෙකුත් පංති අප වෙත ආකර්ෂණය කරගත යුතු බව මතක තබා ගත යුතු ය.). කම්කරු පංති නොවන හෙළිදරව් කාරීන් අති බහුතරය, බුද්ධිමත් දේශපාලනඥයන් සහ තැන්පත් නුවණින් යුත් කාර්යවත් පුද්ගලයන් ය. ''සර්වබලධාරී'' රුසියානු ආණ්ඩුවට විරුද්ධව තබා, සුළු නිලධාරියෙකුට පවා විරුද්ධව ''පැමිණිළි කිරීම'' කොතරම් අන්තරාදායක ද යනු ඔවුහු දනිති. එසේ වූ කල, ඔවුන් ස්වකීය පැමිණිළි ගෙන අප වෙත එන්නේ, එම පැමිණිළි වලින් නියත වශයෙන් ම සෙතක් ලැබෙන බව පෙනෙන විට හා අප දේශපාලන බලවේගයක් නියෝජනය කරන විට පමණකි. පිටස්තර අයගේ බැල්මට හසුවන එවැනි බලවේගයක් බවට පත් වීමට නම්, අපගේ ම විඥනය, ක්‍රියාරම්භකතාවය සහ ධෛර්යය උසස් තත්වයට ගෙන ඒම පිණිස, අත් නොහැර සහ ඉතා දැඩි ලෙස, කළ යුතු වැඩ බොහෝ ය. මෙය සාර්ථක කර ගැනීයට ''පෙරටු බල

ඇණිය'' යන ලේබලයක් ගෙන, එය පසු බල ඇණි න්‍යායක් හා ව්‍යවහාරයක් මත ඇලවීම ප්‍රමාණවත් නොවේ.

එහෙත්, නියත වශයෙන් ම ජාති-ව්‍යාප්ත ලෙස ආණ්ඩුව ගැන හෙළිදරව් කිරීමේ කටයුත්ත අප භාර ගත යුතු නම්, එවිට අපගේ පංති ස්වභාවය ප්‍රකාශිත වන්නේ කුමණ ආකාරයෙන් ද? යන ප්‍රශ්නය ''නිර්ධන පංතිය සමග සමීප ඓන්ද්‍රීය සම්බන්ධකම්'' පැවැත්වීමේ අති උද්යෝගී පක්ෂවාදියා අසනු ඇත. ඇත්ත වශයෙන් ම ඔහු එම ප්‍රශ්නය නගන්නේ ය. ඊට පිළිතුරු කීපයකි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි ජාති-ව්‍යාප්ත හෙළිදරව් කිරීම් සංවිධානය කරන්නෙමු. උද්ඝෝෂණය විසින් මතු කරනු ලබන සියළු ප්‍රශ්න, සසංගත ලෙස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අර්ථයෙන් පැහැදිලි කරන අතර, දූන හෝ නොදූන, මාක්ස්වාදය විකෘති කිරීමට ඉඩක් නොදෙන්නෙමු. සර්ව — පාර්ශවීය දේශපාලන උද්ඝෝෂණය කරනු ලබන්නේ, සමස්ත ජනතාව වෙනුවෙන් ආණ්ඩුවට විරුද්ධව එල්ල කරන ප්‍රහාරයත්, නිර්ධන පංතිය විප්ලවවාදී ලෙස පුහුණු කිරීමත්, එහි දේශපාලන ස්වාධීනත්වය ආරක්ෂා කිරීමත්, සූරා කන්නවුන් සමග ඇතිවන සියළු සාංසිද්ධික සට්ටන, කම්කරු පංතියේ ආර්ථික අරගලය පිණිස හා නිර්ධන පංතිකයන් අප කඳවුරට අද්දගනු පිණිස උපයෝගී කර ගැනීමත් යන කටයුතු ඒකීය හා අභේද්‍ය සමස්ථයකට එක්සත් කරන පක්ෂයක් විසිනි.

නිර්ධන පංතියේ ඉතාමත් වැදගත් අවශ්‍යතාවය (දේශපාලන උද්ඝෝෂණය හා හෙළිදරව් කිරීම් මගින් අංග සම්පූර්ණ දේශපාලන අධ්‍යාපනයක් දීම) හා පොදු ප්‍රජාතන්ත්‍ර ව්‍යාපාරයේ අවශ්‍යතාවය අතර ඇති මෙම සම්බන්ධය හා ඊටත් වඩා, ඒවායේ අනන්‍යතාවයත්, වටහා ගැනීමට අසමත් වීම ''ආර්ථිකවාදයේ'' ඉතාමත් ස්වභාව නිරූපී අංග ලක්ෂණය යි. අවබෝධය පිළිබඳ මෙම අඩුපාඩුව පෙනෙන්නේ, මර්තීනව්වාදී වාක්‍ය ඛණ්ඩයන්ගෙන් පමණක් නොවේ. එම වාක්‍ය ඛණ්ඩ හා සමග එක සමාන අරුතක් ඇති පංති දෘෂ්ටි කෝණයක් ගැන කියමින්, සඳහන් කරන කරුණුවලින් ද එය පෙනේ. ඒ අනුව ''ඉස්ක්‍රා'' අංක 12 හි ''ආර්ථිකවාදී'' ලිපියේ කර්තෘ වරු මෙසේ ලියති.* ''විවිධ සමාජ පංති හා උපනති කෙරෙහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නයේ දී ''ඉස්ක්‍රා'' පත්‍රය දක්වන අස්ථිරත්වයට ද හේතු වී ඇත්තේ, එහි ඇති මෙම දුර්වලතාවය යි (දෘෂ්ටිය පිළිබඳ අධි තක්සේරුවයි). ''ඉස්ක්‍රා'' පත්‍රය අත්තනෝමතවාදයට විරුද්ධව අරගල කරා පරිවර්තනය වීමේ ප්‍රශ්නය විසඳුවේ න්‍යායික තර්ක ඉදිරිපත් කිරීම මගිනි...'' (''පක්ෂය සමග වැඩෙන පක්ෂ කර්තව්‍යයන්ගේ වර්ධනයෙන්''... නොවේ). ''වර්තමානයේ පවත්නා තත්වයන් යටතේ එවැනි කර්තව්‍යයන් ඉටු කිරීම කම්කරුවන්ට දුර්ෂකර වන බව සමහර විට එයට හැඟෙන්නේ යයි සිතීමට සියළු හේතු ඇත''... (කිසි කලෙකත් අමතක නොකළ යුතු මර්තීනව් භාෂාවෙන් කියතොත්, ''ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය'' නොහැකි ඉල්ලීම් සඳහා පවා සටන් කිරීමට කම්කරුවන් සූදනම් හෙයින්, කම්කරුවන් කෙරේ ආයම්මාගේ සැලකිල්ලක් දක්වන 'ආර්ථිකවාදී' බුද්ධිමතුන්ට තරම්, කම්කරුවන්ට මෙම කර්තව්‍යය දුෂ්කර නොවන බවට හැඟීමක් පමණක් නොව හොඳ අවබෝධයක් ද ඇත)... ''එහෙත් කම්කරුවන් මෙම අරගලය සඳහා අවශ්‍ය බලවේග රැස්කර ගන්නා තෙක් සිටීමට තරම් ඉවසීමක් නොමැති නිසා ''ඉස්ක්‍රා'' පත්‍රය ලිබරල්වාදීන් හා බුද්ධිමතුන් අතරින් මිතුරන් සොයන්නට පටන් ගනී...''

එසේය. ''ආර්ථිකවාදීන්'' ඔවුන්ගේම නොදියුණු කම සම්බන්ධයෙන් කම්කරුවන්ට චෝදනා කිරීමත්, ඔවුන්ගේම ධෛර්යය හීන භාවය සාධාරණ බව පෙන්වීමට කම්කරුවන්ට චෝදනා කිරීමත්, නවත්වන කාලය එතැයි, විවිධ ''සමාදන කාරීන්'' අපට දුන් පොරොන්දු අනුව ''බලා සිට'' ඇත්තෙන් ම අපගේ ''ඉවසීම'' කෙළවර වී ඇත. අපි ''ආර්ථිකවාදීන්'' ගෙන් මෙසේ අසමු. ''අරගලය සඳහා අවශ්‍ය කම්කරු පංති ශක්තිය රැස්කර ගැනීම'' යනුවෙන් ඔවුන් අදහස් කරන්නේ කුමක් ද? මෙයින් අදහස් කරන්නේ අපගේ අධම ඒකාධිපත්‍යයේ සෑම පැත්තක් ගැන ම කම්කරුවන්ට පැහැදිලි වන සේ ඔවුනට දේශපාලන පුහුණුවක් දීම බව නොපෙනේ ද? හරියටම මෙම කටයුත්ත ම ඉටු කරනු පිණිස, සියම්ස්ත්වො දිස්ත්‍රික් සභාවලට, ගුරුවරුන්ට, සංඛ්‍යා විද්‍යාඥයන්ට, ශිෂ්‍යයන්ට, ආදීන්ට, ගසන දේශපාලන පහර හෙළිදරව් කිරීම පිණිස, අප හා සමග එකතු වීමට සූදනම් ''ලිබරල්වාදීන් සහ බුද්ධිමතුන් අතරින් මිත්‍රයන්'' අපට අවශ්‍ය වන බව පැහැදිලි නොවේද? මෙම මවිතකාරි

---

* ''ආර්ථිකවාදීන්'' ගේ ස්වභාවය ඉතා හොඳින් නිරූපනය කෙරෙන මෙම ලිපියට ''ඉස්ක්‍රා'' පත්‍රය මගින් විස්තර සහිත පිළිතුරක් දීමෙන් අප වැලකුණේ ඉඩ මඳ කම නිසා ය. එම ලිපිය පළ වීම ගැන අපි සතුටු වූණෙමු. ''ඉස්ක්‍රා'' පත්‍රය ස්ථිර පංති දෘෂ්ටි කෝණයක් මත නොපිහිටන්නේය යන චෝදනාව ඊට බොහෝ කලකට පෙර අපට අසන්නට ලැබුණි. එම නිසා, ඊට පිළිතුරු දීමට සුදුසු අවස්ථාව, නැතහොත්, මෙම හැඩකාර චෝදනාව විධිමත් ලෙස ප්‍රකාශ වන තෙක් බලාපොරොත්තුවෙන් සිටියෙමු. එපමණක් ද නොව, ප්‍රහාරයන්ට පිළිතුරු දීමට අප පුරුදුව සිටින්නේ ප්‍රති ප්‍රහාරයෙනි.

තරම් ''පැටලිලි සහිත ක්‍රියාමාර්ගය'' තෝරුම් ගැනීම ඇත්ත වශයෙන් ම ඔතරම්ම දුෂ්කර ද? නිර්ධන පංති නොවන පංති අතරෙන්, අනුගාමිකයන් හා ඍජු සහ අනියම් මිතුරන් දිනා ගැනීම සම්බන්ධයෙන්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට මුහුණ පාන්නට සිදු වී ඇති කර්තව්‍යය විසඳෙනු ඇත්තේ, ප්‍රධාන වශයෙන් හා මූලික වශයෙන්, නිර්ධන පංතිය අතර ම ගෙන යනු ලබන්නා වූ ප්‍රචාරක කටයුතුවල ස්වභාවයෙන් යයි, පී. බී. අක්සෙල්රොද් 1897 න් පසු නිරතුරුවම යළි යළිත් කියා නැද්ද? එහෙත්, කම්කරුවන් ප්‍රථමයෙන් ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව අරගලය මගින්'' (වෘත්තීය සමිතිවාදී දේශපාලනය සඳහා) ශක්තිය රැස්කර ගත යුතු යයි ද, ඊළඟට — වෘත්තීය සමිතිවාදී කටයුතු පුහුණු වීමෙන් පසුව යන්න අදහස් කෙරේ යයි සිතමු — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කටයුතුවලට ''මාරු විය'' යුතු යයි ද, මර්තිනව්ලා හා වෙනත් ''ආර්ථිකවාදීහු'' කල්පනා කරති!

'''මිතුරන්' අතර අප්‍රසාදයට හේතු සහ එම අප්‍රසාදයේ මට්ටම් බෙහෙවින් අසමාන වුවද, ''ඉස්ක්‍රා'' පත්‍රය කරන මෙම ගවේෂණයේදී, එය ආණ්ඩුව කෙරෙහි වූ අප්‍රසාදයේ පොදු ස්වභාවය ඉදිරියට දමන්නේ, නිතරම පාහේ පංති දෘෂ්ටි කෝණයෙන් ඉවත යමින් හා පංති සතුරුතාවයන් අඳුරට තල්ලු කරමින් ය. නිදර්ශනයක් වශයෙන්, ''ඉස්ක්‍රා'' පත්‍රය සියම්ස්ත්වො සභා කෙරෙහි දක්වන ආකල්පය එබඳුය'' යි ''ආර්ථිකවාදීහු'' තව දුරටත් කියති. ''ආණ්ඩුවෙන් දෙන ස්වල්ප වාසි ගැන අප්‍රසාදයට පත්ව සිටින වත්සක්කාරයිනට, කම්කරු පංතියේ ආධාරය පොරොන්දු වන ''ඉස්ක්‍රා'' පත්‍රය, මෙම සමාජ ස්ථරයන් අතර තිබෙන පංති සතුරුතාවය ගැන, වචනයක් හෝ කියන්නේ නැතැ'' යි චෝදනා කරනු ලැබේ. ලිපියේ කර්තෘ වරු සඳහන් කරන්නේ ''ඒකාධිපත්‍යය සහ සියම්ස්ත්වො සභා'' යන (''ඉස්ක්‍රා'', අංක 2 හා 4) ලිපිය ගැන යයි බොහෝ දුරට සිතිය හැකි ය. පාඨකයා ඒවා* පෙරළා බලන්නේ නම්, එහි ලියා ඇත්තේ, ''සමාජ වත්ස පදනමක් මත පිහිටුවා තිබෙන නිලධාරිවාදී සියම්ස්ත්වො සභා ගෙන යන මොලොක් උද්ඝෝෂණය'' හා ''දේපොල හිමි පංතිවල පවා ස්වාධීන ක්‍රියාකාරීත්වය කෙරෙහි, ආණ්ඩුව දක්වන්නා වූ ආකල්පය ගැන බව, ඔහුට පෙනෙනු ඇත. ආණ්ඩුව සියම්ස්ත්වො සභාවලට විරුද්ධව අරගලයක් ගෙන යන විට, කම්කරුවන්ට ඒ ගැන නොතකා සිටිය නොහැකි බවත්, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය එහි මුළු ශක්තියම යොද ආණ්ඩුවට මුහුණ දී ගැටෙන විට, සියම්ස්ත්වො සභා ඒවායේ මොලොක් කථා නවත්වා, ස්ථිර ගතියෙන් සහ අධිෂ්ඨාන සහගත ලෙස කථා කළ යුතු බවත් එම ලිපියෙන් කියා ඇත. ලිපියේ කර්තෘවරුන් මෙයින් කුමකට එකඟ නොවන්නේ ද යන්න පැහැදිලි නැත. ''දේපල හිමි පංති'' හා ''සමාජ වත්ස පදනමක් මත පිහිටුවා ඇති නිලධාරිවාදී සියම්ස්ත්වො සභා'' යන වාක්‍ය කොටස් කම්කරුවන්ට නොතේරෙතැයි ඔවුහු සිතති ද? මොලොක් කථා අත් හැර දමා ස්ථිරව කථා කරන ලෙස උනන්දු කිරීම ''දෘෂ්ටිය ගැන අධිතක්සේරු කිරීමක්'' වශයෙන් ඔවුහු සලකති ද? ඒකාධිපත්‍යය සියම්ස්ත්වො සභා කෙරෙහි දක්වන ආකල්පය ගැනත්, කම්කරුවන් කිසිවක් නොදැන සිටියි නම්, ඒකාධිපතිත්වයට විරුද්ධව කරන අරගලය සඳහා කම්කරුවන්ට ''ශක්තිය රැස් කර'' ගත හැකි වේ යයි ඔවුහු කල්පනා කරති ද? මේ සියල්ල ද ගැන දැනගන්නට නැත. එක කරුණක් පමණක් පැහැදිලි ය. එය නම්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දේශපාලන කර්තව්‍යයන් මොනවාද යන්න ගැන ලිපියේ කර්තෘ වරුන්ට තිබෙන්නේ ඉතාමත් අනුමාන දැනුමක් බව ය. ''ඉස්ක්‍රා'' පත්‍රය ශිෂ්‍ය ව්‍යාපාරය කෙරෙහි දක්වන ආකල්පය ද එබඳු ම ය,'' (එනම්, එයින් ද, ''පංති සතුරුතාවය අඳුරට තල්ලු කෙරෙන බව'' ය) යන ඔවුන්ගේ කියමනෙන් ද ඒ බව තවත් හොඳින් පැහැදිලි වන්නේ ය. රැහැන් මුදු ගත් හිංසනය, කලබල හා බලහත්කාර කම් යන මේවා බෝ කෙරෙන නියම ස්ථානය, රුසියානු ආණ්ඩුව මිස, විශ්වවිද්‍යාල තරුණ පෙළ නොවේ යයි (''ඉස්ක්‍රා'', අංක 2) ප්‍රසිද්ධ පෙළපාලි මගින් ප්‍රකාශ කරන ලෙස කම්කරුවන්ට හඬ නගා කීම වෙනුවට, සමහර විට අප කළ යුතුව තිබුණේ ''රබෝචය මිස්ල්'' පත්‍රය අනුව තර්ක ඇතුලත් කිරීම විය හැක! සමාජ-ප්‍රජාතන්වාදීන් විසින් එවැනි අදහස් ප්‍රකාශ කරන ලද්දේ 1901 පෙබරවාරි-මාර්තු සිදුවීම්වලින් අනතුරුව, ඇති වූ නව ශිෂ්‍ය උත්සන්නියට පූර්වාසන්නව, එම වර්ෂයේ ශරත් සමයේ ය. මෙම ක්ෂේත්‍රයෙහි දී පවා, ඒකාධිපත්‍යයට විරුද්ධව කෙරෙන සාංසිද්ධික විරෝධය ප්‍රකාශය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ විඥත නායකත්වය පසු කර යමින් තිබුණු බව එයින් පැහැදිලි වේ. පොලිසියේ හා කොසාක් වරුන්ගේ පහර දීමට භාජනය වන ශිෂ්‍යයන් ආරක්ෂා කිරීමට, කම්කරුවන් දරන සාංසිද්ධික ප්‍රයත්නය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයේ විඥතභාවය ඉක්මවා යන්නකි!

ලිපියේ කර්තෘවරු තවදුරටත් මෙසේ කියති. ''තවද, ''ඉස්ක්‍රා'' පත්‍රයේ තවත් ලිපිවලින්, සියළු ආකාරයේම බේරුම් කර ගැනීම් හෙළා දකිනු ලබන අතර, ගෙද්වාදීන්ගේ ඉවසුම් නොදෙන හැසිරීම වැනි කටයුතු

* මෙම ලිපි අතර තුර කාලයේ ගම්බද පෙදෙස්වල පංති විරෝධතා ගැන විශේෂයෙන් ලියන ලද (''ඉස්ක්‍රා'' අංක 3) එක් ලිපියක් විය. ගම්බද පෙදෙස්වල පංති සතුරුතාවය ගැන එයින් විශේෂයෙන් කරුණු ඉදිරිපත් කරන ලදී.

එය විසින් ආරක්ෂා කරනු ලැබේ.'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර තිබෙන වර්තමාන අසමඑයන්අනවශ්‍ය යයි ද, එනිසා භේදයක් වීම සාධාරණ නොවේ යයි ද, එතරම් සාඩම්බරව හා නිස්සාර ලෙස දොඩන අය, මෙම වචන ගැන කල්පනා කර බැලීම සුදුසු බව, ඔවුනට කියමු. විවිධ පංති කෙරෙහි ඒකාධිපත්‍යයේ ශත්‍රුභාවය ගැන, එම පංතිවලට පැහැදිලි කර දීමටත්, විවිධ සමාජ ස්ථරයන් ඒකාධිපත්‍යය කෙරෙහි දක්වන විරුද්ධත්වය ගැන කම්කරු පංතියට දන්වීමටත්, අප කර තිබෙන කටයුතු ඉතාමත් අප්‍රමාණවත් යයි, සංවිධානයක එක් කොටසක් තර්ක කරන අතර, ඒ ගැන පැහැදිලි කිරීම ''බේරුම් කර ගැනීමක්'' වශයෙන් — ඉන් අදහස් කෙරෙන්නේ ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලය'' පිළිබඳ න්‍යාය සමග බේරුම් කර ගැනීමක් විය යුතුය — එම සංවිධානයේ ම තවත් කොටසක් හඳුන්වන විට, ඒ අයට එකම සංවිධානයෙහි වැඩ කළ හැකි ද?

ගොවි ජන විමුක්තියේ හතළිස්වැනි සංවත්සරය නිමිති කර ගෙන, පංති අරගලය ගම්බද දිස්ත්‍රික්ක තුළට ගෙන යාම උනන්දු කෙළෙමු (කලාපය අංක 3)[174].ඒ සමග ම පළාත් පාලන මණ්ඩලත්, ඒකාධිපත්‍යයත් එකට එක නොගැලපෙන බව විත්තෙගේ රහස් ලියවිල්ල[175] හා සම්බන්ධයෙන් අපි කීවෙමු (අංක 4). නව නීතිය හා සම්බන්ධයෙන් අපි රදළ ස්වාමිවරුන්ට හා ඔවුන්ට සේවය කරන ආණ්ඩුවට පහර දුන්නෙමු (අංක 8).[176] එමෙන්ම රහසිගත සියම්ස්ත්වො සම්මේලනය ගැන සතුට පළ කෙළෙමු. යටහත් පහත් පෙත්සම් යැවීම නවත්වා (අංක 8) අරගලයට බසින ලෙස සියම්ස්ත්වො සභා උනන්දු කෙළෙමු. දේශපාලන අරගලයේ අවශ්‍යතාවය වටහා ගැනීමට පටන් ගෙන සිටි ශිෂ්‍යයන් එම අරගලය ආරම්භ කරන ලෙසට උනන්දු කෙළෙමු. ඒ අතරම, වීදි පෙළපාළිවලට සහභාගි වීමෙන් වැලකෙන ලෙස ශිෂ්‍යයන්ට හඬනගා කී ''පිරිසිදු ශිෂ්‍ය'' ව්‍යාපාරයේ අනුගාමිකයින්ගේ ''ප්‍රකෝපකාරී වටහා නොගැන්ම'' සම්බන්ධයෙන් අපි ඔවුනට පහර දුනිමු (අංක 3 මොස්කව් ශිෂ්‍යයන්ගේ විධායක කාරක සභාව විසින් පෙබරවාරි 25 දින නිකුත් කරන ලද ප්‍රකාශය සම්බන්ධයෙනි.). ''රසියා''[177] කණ්ඩායමේ කපටි ලිබරල්වාදීන්ගේ ''තේරුමක් නැති සිහින'' හා ''බොරුකාර කුහකත්වය'', අපි හෙළිදරව් කෙළෙමු (අංක 5). ඒ අතරම, ආණ්ඩුවේ බන්ධනාගාර නිලධාරියා මොන තරම් නම් වියරුවකින් ''සාමකාමී ලේඛකයින්, වයස්ගත මහාචාර්ය වරුන්, විද්‍යාඥයන් හා සුප්‍රසිද්ධ සියම්ස්ත්වො ලිබරල්වාදීන් පීඩනයට ගොදුරු කරන්නේද යනු, පෙන්නුම් කෙළෙමු (අංක 5, ''පොලිසියේ සාහිත්‍ය වැටලීම''). ''කම්කරුවන්ගේ ශුභසාධනයට පොලිස් ආරක්ෂාව'' පිළිබඳ වූ වැඩ පිළිවෙළෙහි නියම අර්ථය, අපි හෙළිදරව් කෙළෙමු. ''ප්‍රතිසංස්කරණ සඳහා ඉල්ලීම් ඉදිරිපත් කරන තෙක් බලා සිටිනවාට වඩා, ඉහළින් ප්‍රතිසංස්කරණ කර දීමෙන්, එවැනි ප්‍රතිසංස්කරණ සඳහා ඉල්ලීම් පහළින් ඉදිරිපත් කිරීම අනවශ්‍ය වන ලෙසට කටයුතු කිරීම හොඳ බව'' ට කළ ''අගනා පිළිගැනීම'' ගැන අපි සතුට ප්‍රකාශ කෙළෙමු (අංක 6). අපි, විරෝධය පෑමෙහි යෙදී සිටි සංඛ්‍යා විද්‍යාඥයන්-උනන්දු කෙළෙමු (අංක 7). වැඩ වර්ජන කඩා කප්පල් කරන සංඛ්‍යා විද්‍යාඥයන්ට දෝෂාරෝපනය කෙළෙමු (අංක 9). මෙම උපක්‍රම තුළින්, නිර්ධන පංතියේ පංති විඥනය අඳුරට තල්ලු කිරීමක් හා ලිබරල්වාදීන් සමග බේරුමකට එළඹීමක්, දකින තැනැත්තේ "Credo" ලියවිල්ලෙහි අඩංගු වැඩ පිළිවෙළෙහි නියම වැදගත් කම තේරුම් ගැනීමෙහි අන්ත අසාමාර්ථය පෙන්නුම් කරන අතර ම, ඔහු එය කොතරම් ප්‍රතික්ෂේප කළත්, de facto එම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කරන්නේය. මක් නිසා ද යත්, එවැනි ප්‍රවේශනයක් තුළින්, ඔහු ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' දෙසට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අදින හෙයින් ද, ලිබරල්වාදයට යට වන හෙයින් ද, සෑම ''ලිබරල්'' ප්‍රශ්නයකටම ක්‍රියාශීලී ලෙස මැදිහත් වෙමින්, ප්‍රශ්නය සම්බන්ධයෙන් ඔහුගේම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ආකල්පයක් ඇති කර ගැනීමේ කර්තව්‍යය අත් හැර දමන හෙයින් ද වේ.

ඊ) නැවතත් ''අපවාද කාරයෝ'', නැවතත් ''ව්‍යාකූල කරන්නෝ''

මෙම ආචාරශීලී කියමන් ''රබෝචිය දියල'' පත්‍රයට අයත් බව පාඨකයාට මතක ඇති. ''කම්කරු පංති ව්‍යාපාරය ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදයේ උපකරණයක් බවට හැරවීම පිණිස අනියමින් පදනම සකස් කිරීම'' ගැන, අප ''රබෝචිය දියල'' ට නැගූ චෝදනාවලට එය පිළිතුරු දෙන්නේ මේ ආකාරයට ය. මෙම චෝදනාව හුදෙක් විවාදත්මක ප්‍රහාරයක් ම වී යයි ''රබෝචිය දියල'' නෝන්ජල් ලෙස නිගමනය කළේය: මෙම අගතිගාමී න්‍යාය ධර්ම වාදීහු අප ගැන විවිධාකාර අප්‍රසන්න දේ කීමේ අභිප්‍රාය ඇතිව කටයුතු කරති. ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදයේ උපකරණයක් වීමට වඩා අප්‍රසන්න තවත් දෙයක් තිබිය හැකි ද? එනිසා ඔවුහු ලොකු අකුරින් ''නිෂ්ප්‍රභා කිරීමක්'' පළ කරති: ''මේ නම් ඒකාන්ත අපවාදයකි,'' ''ව්‍යාකූල කිරීමකි'', ''කෝලම් කිරීමකි'' (''සම්මේලන දෙකක්'', පිටු 30, 31, 33). ''රබෝචිය දියල'' පත්‍රයට වැරදී තිබෙන නිසා, එය ජුපිටර් දෙවියා මෙන් (එය එම දෙවියාට සමාන කමක් නැතත්), බලවත් කෝපයට පත්ව ඇත. එපමණක් නොව, එහි ඉක්මන්කාරී බැනවැදීම කරණ

කොට ගෙන, එයට ප්‍රතිවාදියාගේ තර්ක පිළිවෙළ තේරුම් ගත නොහැකි වූ බව ද ඔප්පු වේ. එසේ වුවත්, එය මඳක් හෝ කල්පනා කළේ නම්, පොදු ජන ව්‍යාපාරයේ සාංසිද්ධිකතාවයට කුමණ ලෙසකින් හෝ වහල් වීම හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය කුමණ ලෙසකින් හෝ වෘත්තීය සමිතිවාදී දේශපාලනයේ තත්වයට පිරිහෙළීම යනු, කම්කරු පංති ව්‍යාපාරය ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදයේ උපකරණයක් බවට පත් කිරීම සඳහා පසු බිම සකස් කිරීමක් වන්නේ කෙසේ ද යන්න එයට වැටහෙන්නට තිබුණි. සාංසිද්ධික කම්කරු පංති ව්‍යාපාරයට ස්ව ශක්තියෙන් නිර්මානය කර ගත හැක්කේ (හා එය අනිවාරණීය ලෙස නිර්මානය කර ගන්නේ) වෘත්තීය සමිතිවාදය පමණකි. එමෙන්ම කම්කරු පංති වෘත්තීය සමිතිවාදී දේශපාලනය යනු නියත වශයෙන්ම කම්කරු පංතියේ ධනේශ්වර දේශපාලනය යි. කම්කරු පංතිය දේශපාලන අරගලයට සහභාගි වීමෙන් පමණක්, දේශපාලන විප්ලවයට වුවද සහභාගි වීමෙන් පමණක්, හුදෙක් ඒ හේතුව නිසාම, එහි දේශපාලනය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය බවට පත් වන්නේ නැත. ''රබෝචිය දියල'' මෙය ප්‍රතික්ෂේප කිරීමට තරම් නිර්භීත ද? එය ජාත්‍යන්තර හා රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හදිසි ප්‍රශ්න තේරුම් ගන්නේ කෙසේද යන්න, මෙතරම් කල් ගත වී හෝ, දැන්වත්, ප්‍රසිද්ධ ලෙස, පැහැදිලි ලෙස හා ඒකාන්ත ලෙස විස්තර කරයි ද? එවැනි දෙයක් නම් එය කිසි කලෙකත් නොකරනු ඇත. ඊට හේතුව, එය ''මෙහි නැත'' ක්‍රමය යනුවෙන් විස්තර කළ හැකි උප්පරවැට්ටිය අත නොහැර, එහි එල්බ සිටීම ය. ඒ මා නොවෙයි, ඒ මගේ අශ්වයා නොවෙයි, රියැදුරා මා නොවෙයි. අපි ''ආර්ථිකවාදීන්'' නොවෙමු; ''රබෝචය මිස්ල්'' පත්‍රය ''ආර්ථිකවාදයට'' පක්ෂපාත නැත; රුසියාවේ ''ආර්ථිකවාදයක්'' ඇත්තේ ම නැත. මෙය බෙහෙවින් හුරු බුහුටි හා ''දේශපාලන'' උප්පරවැට්ටියක් වන නමුත්, එය භාවිතා කරන ප්‍රකාශනවලට, ''ඔබ වහන්සේගේ යටහත් සේවක''[178] යන විකට නාමය පට බැඳී තිබීම, සුළු දුර්වලතාවයකි.

රුසියාවේ ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදය සාමාන්‍ය වශයෙන් ''හොල්මනක්'' පමණකැයි ''රබෝචිය දියල'' කල්පනා කරයි (''සම්මේලන දෙකක්'', පිටු 32)*. වාසනාවන්ත මිනිස්සු! පැස්බරු මෙන්, ඔවුහු තම

* ''කම්කරු පංති ව්‍යාපාරය ඉරණම්වාදී ලෙස විප්ලවවාදී මාවතට යොමු කරන රුසියාවේ යථා තත්වයන්'' ගැන කරන සඳහනක් ඊළඟට ඇත. එහෙත් කම්කරු පංති ව්‍යාපාරයේ විප්ලවවාදී මාවත, තවමත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මාවතක් නොවන්නට ඉඩ තිබෙන බව මෙම අය තේරුම් නොගනිති. අත්තනෝමතිකවාදය රජ කරන විට, මුළු මහත් බටහිර



හිස වැල්ලේ ඔබා ගෙන, අවට සියළු දේ ම අතුරුදහන් වී යයි සිතති. මාක්ස්වාදය බිඳ වැටීම ගැන හා මාක්ස්වාදය අතුරුදහන් වීම ගැන පවා, මාස් පතා ලෝකයාට කියන, ලිබරල් ප්‍රකාශනයන් ද, බ්‍රෙන්තානෝ පංති අරගල සංකල්පය[179] හා වෘත්තීය සමිතිවාදී දේශපාලන සංකල්පය කම්කරුවන් වෙත ගෙන එන, ලිබරල්වාදීන් උනන්දු කරන (''සන්ක්ත් පිතිර්බුර්ග්ස්කිය වියදමස්ති'', රුස්කිය වියදමස්ති හා වෙනත් බොහෝ) ලිබරල් පුවත් පත් ද, තමන් ගේ නියම ප්‍රවණතාවයන් "Credo" ලියවිල්ලෙන් ඉතාමත් හොඳින් හෙළිදරව් කෙරෙන හා රුසියාවේ කරදරයක් හිරිහැරයක් නොමැතිව ප්‍රචාරය වන එකම සාහිත්‍යයේ නිෂ්පාදකයන් වන මාක්ස්වාදයේ විවේචකයන් සමූහය ද, විශේෂයෙන් ම, පෙබරවාරි-මාර්තු සිදු වීම්වලින් පසුව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන විප්ලවවාදී උපනති පුණර්ජීවයක් ලැබීම ද, යන මේ සියල්ලම නිකම්ම හොල්මන් වශයෙන් සැලකෙන බව පෙනේ. මේ සියල්ලම ධනේශ්වර පංතිය සමග කිසිම සම්බන්ධයක් නොමැත!

''වසන්ත කාලයේ සිදු වීම් වලින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අධිකාරය හා ගෞරවය වැඩි වනු වෙනුවට, සමාජ-ප්‍රජාතන්ත්‍ර නොවන විප්ලවවාදී ප්‍රවණතාවයන් ඒ ආකාර පුනර් ජීවනයක් ලැබුවේ කුමණ හේතුවක් නිසාද'' යන්න ගැන ''රබෝචිය දියල'' ත් ''ඉස්ක්‍රා'' අංක 12 හි පළ කරන ලද ''ආර්ථිකවාදී'' ලිපියේ කර්තෘ වරුනුත් ''කල්පනා කර'' බැලිය යුතු ය. ඊට හේතු වූයේ, අපගේ කර්තව්‍යයන් සාර්ථක ලෙස ඉටු කිරීමට අප සමත් නොවීම ය. කම්කරු පොදු ජනතාව අපට වඩා ක්‍රියාශීලී බව ඔප්පු විය. විරුද්ධ පාර්ශවීය ස්ථරයන් සියල්ලම අතර පැවති මනෝ ස්වභාවය ගැන, ඉතා හොඳ වැටහීමක් ඇති හා ව්‍යාපාරයට නායකත්වය දීමට සමත්, සාංසිද්ධික විරෝධය පැමක් දේශපාලන විරෝධය පැමක් බවට හරවා ගැනීම හා එහි දේශපාලන ස්වරූපය පුළුල් කිරීම ආදියෙහි සමත්, ප්‍රමාණවත් පුහුණුවක් ඇති විප්ලවවාදී නායකයන් හා සංවිධායකයන් අපට සිටියේ නැත. එවැනි තත්වයක් යටතේ, වඩාත් ජංගමශීලී හා වඩාත් ධෛර්යමත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නො වන විප්ලවවාදීන් අනිවාරණීය ලෙස අපගේ නො දියුණු කමින් ප්‍රයෝජන ගනු ඇත. කම්කරුවන් කොතරම් ධෛර්යමත් ලෙස හා ආත්ම පරිත්‍යාගයෙන්,

යුරෝපීය ධනපති පංතියම කම්කරුවන් විප්ලවයේ මාවතට යොමු කළේය. එසේ වුවද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපට එයින් සතුටු වී සිටිය නොහැක. තවද, කුමණ හෝ මාර්ගයකින්, අපි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනය, සාංසිද්ධික වෘත්තීය සමිතිවාදී දේශපාලනයේ තත්වයට පිරිහෙළන්නමෝ නම්, අප ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ උගුලට හසු වන ලෙසට කටයුතු කරන්නේ වෙයි.

පොලිසියටත්, යුද්ධ හමුදවටත් විරුද්ධව සටන් කළත්, එයින් ඔවුන් පත් වන්නේ හුදෙක් ධනේශ්වර පසු බල ඇණිය වන, ඒ විප්ලවවාදීන්ගේ ආධාරක බලවේගයක තත්වයට මිස, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පෙරමුණු බල ඇණියට ආධාරක වූ බලවේගයක තත්වයට නොවේ. නිදර්ශනයක් වශයෙන්, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගනිමු. අපගේ ආර්ථිකවාදීන් ආශා කරන්නේ, ඔවුන්ගේ දුර්වල කම් පමණක් ගෙන, ඒවා ඔවුන් සමග තරඟකාරී ලෙස ක්‍රියාත්මක කිරීමට ය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අධිකාරය හා ගෞරවය වැඩී යාමට හේතු නොවන එක ද දේශපාලන සිදු වීමක් වත් ජර්මනිය තුළ ඇති නොවන්නේ මන්ද? එසේ වන්නේ, නිශ්චිත සෑම සිදු වීමක් ම ගැන ඉතාමත් විප්ලවවාදී අගය කිරීම ඉදිරිපත් කිරීමේදීත්, දූෂ්‍ය පාලනයට එරෙහිව කරන සෑම විරෝධය පෑමක්ම වෙනුවෙන් ඉදිරිපත් වී සටන් කිරීමේදීත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අන් සියල්ලටම වඩා ඉදිරියෙන් සිටින බව පෙනෙන හෙයිනි. කම්කරුවන්ට දේශපාලන අයිතිවාසිකම් නැතැයි යන අවබෝධය ආර්ථික අරගලය විසින් ඔවුනට දෙනු ලැබේ යයි ද, යථා තත්වය විසින්, කම්කරු පංති ව්‍යාපාරය නොවැලැක් විය හැකි ලෙසට විප්ලවයේ මාවතට තල්ලු කරනු ලැබේ යයි ද, යන තර්ක වලින්, එය තමන් ම නැලවිල්ලට පත් වන්නේ නැත. සමාජ හා දේශපාලන ජීවිතයේ සෑම ක්ෂේත්‍රයකම, සෑම ප්‍රශ්නයකටම, එය මැදිහත් වෙයි. ධනේශ්වර ප්‍රගතිවාදියෙකු නගරාධිපති වශයෙන් පත් වීම අනුමත කිරීම විල්හෙල්ම් විසින් ප්‍රතික්ෂේප කරනු ලැබීම සම්බන්ධයෙන් ද (එවැනි කටයුත්තකට මැදිහත් වීම ඇත්ත වශයෙන්ම ලිබරල්වාදයට ඉඩ දීමක් ය යන වැටහීම, ජර්මන් වරුන්ට ලැබෙන සේ ඔවුනට අධ්‍යාපනයක් දීමට අපගේ ආර්ථිකවාදීන් තවමත් සමත් වී නැත), ''අසභ්‍ය'' ප්‍රකාශන හා පින්තූර විරෝධී නීතිය සම්බන්ධයෙන් ද, මහාචාර්ය වරුන් තෝරා පත් කිරීම කෙරෙහි ආණ්ඩුවේ බලපෑම සම්බන්ධයෙන්ද, යනාදී ප්‍රශ්නවලට එය මැදිහත් වෙයි. සෑම තැනැකම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඉදිරි පෙරමුණෙහි සිටිනු දක්නා ලැබේ. ඔවුහු සියළුම පංති අතර දේශපාලන අප්‍රසාදය අවුස්සති. සෝමාරියන් පුබුදුවති. ගාටන්නන් උනන්දු කරති. නිර්ධන පංතියේ දේශපාලන විඥනය හා දේශපාලන ක්‍රියාකාරීත්වය වර්ධනය කිරීම පිණිස කරුණු රැසක් සපයති. එහි ප්‍රතිඵලයක් වශයෙන් සමාජවාදයේ බලවත් සතුරන් පවා, දියුණු දේශපාලන සටන් කරුවාට මහත් ගෞරවයක් දක්වති. එමෙන්ම, කිසියම් අරුම පුදුම ආකාරයකින්, ධනේශ්වරයන්ගේ වැදගත් ලියවිල්ලක් නිලධාරිවාදී හා රාජ සභා කොටස්වලින් පවා, "Vorwärts" පත්‍රයේ කර්තෘ මණ්ඩල කාර්යාලය වෙත ලැබෙන අවස්ථා ද එමට ය.

''රබෝචිය දියල'', එහි දෑත් අහසට නගා ''කෝලම් කිරීමකි'' යි කෑගැසීම හැර, වෙනත් දෙයක් කර කියා ගත නොහැකි වන තරමට, එහි අවබෝධ ශක්තිය ඉක්මවන''ප්‍රතිවිරෝධයක්'' ලෙසින් එයට පෙනෙන කාරණයේ විසඳීම එපරිදි ය! ඇත්තෙන්ම ඒ ගැන මඳක් කල්පනා කර බලන්න: ''රබෝචිය දියල'', අපි, පොදු ජන කම්කරු පංති ව්‍යාපාරය මුල් ගල ලෙස සලකමු (ඒ බව ලොකු අකුරෙන් ම කියමු!). සාංසිද්ධික භාවය ලඝු කොට නො තකන ලෙස, සෑම සියළු දෙනාට ම අවවාද කරමු. ආර්ථික අරගලයට ම — එම අරගලයට ම — දේශපාලන ස්වරූපයක් දීමට අපි කැමැත්තෙමු. නිර්ධන පංති අරගලය හා සමග සමීප ඓන්ද්‍රිය සම්බන්ධකම් පැවැත්වීමට අපි කැමැත්තෙමු. එහෙත්, කම්කරු පංති ව්‍යාපාරය ධනේශ්වර ප්‍රජාතන්ත්‍රවාදයේ උපකරණයක් බවට පත් කිරීම සඳහා පසු බිම සකස් කිරීම, අප විසින් කරනු ලැබේ යයි අපට කියති! මෙසේ කීමට තරම් ගරු සරු නොමැත්තෝ කවරහු ද? එසේ කියන්නේ, සෑම ලිබරල් ප්‍රශ්නයක් සම්බන්ධයෙන් ම මැදිහත් වීමෙන් (නිර්ධන පංති අරගලය හා සමග ඓන්ද්‍රිය සම්බන්ධකම් පැවැත්වීම ගැන මොන තරම් නම් බරපතල වැරදි අවබෝධයක් ද!) හා ශිෂ්‍යයන්ට හා සියම්ස්ත්වො සභාවලට පවා (අහෝ භයංකාර ය) එතරම් අවධානයක් ලක් කිරීමෙන්, ලිබරල්වාදයට ඉඩ සලසන අය යි! (''ආර්ථිකවාදීන්'' සමග සංසන්ධනය කරන විට) ජනගනයේ නිර්ධන පංති නොවන පංති අතර කටයුතු සඳහා, සාමාන්‍ය වශයෙන් ඔවුන්ගේ ප්‍රයත්නයන්ගෙන් සියයට වැඩි කොටසක් කැප කරන අය ය! මෙය ''කෝලම් කිරීමක්'' මිස වෙන කුමක් ද?

අසරණ ''රබෝචිය දියල''! මෙම විශ්මය ජනක ගැටළුව එයට කිසි කලෙකත් විසඳා ගත හැකි දැයි සිතන්නේද?

## IV

## ආර්ථිකවාදීන්ගේ පැරණි තාලය හා විප්ලවවාදීන්ගේ සංවිධානය

ඉතාමත් පුළුල් ලෙස ක්‍රියාත්මක කළ හැකි දේශපාලන උද්ඝෝෂණ මාධ්‍යය ආර්ථික අරගලය වන්නේ යයි ද, දැන් අප ඉටු කළ යුතු කර්තව්‍යය ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දීම යයි ද, ආදී වූ, අප ඉහත විග්‍රහ කළ හා ''රබෝචිය දියල'' තරයේ ඉදිරිපත් කරන කරුණුවලින් අපගේ දේශපාලන කර්තව්‍යයන් පමණක් නොව, සංවිධානමය කර්තව්‍යයන් ද පිළිබඳ ප්‍රකාශ වන්නේ පටු අදහසකි. ''ස්වාමිවරුන්ට

හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' සඳහා, මධ්‍යගත සමස්ත රුසියානු සංවිධානයක් අවශ්‍ය වන්නේ නැත. එනිසා, දේශපාලන විරුද්ධත්වය, විරෝධය පෑම හා කෝපය පැන නගින සෑම අවස්ථාවක්ම එකට සම්බන්ධ කරන සංවිධානයක්, වෘත්තීය විප්ලවවාදීන්ගෙන් සමන්විත වන හා සමස්ත ජනතාවගේ ම සැබෑ නායකයන් විසින් මෙහෙයවනු ලබන සංවිධානයක්, මෙම අරගලයෙන් කිසි කලෙකත් බිහි නොවනු ඇත. මෙය තර්කානුකූල දෙයකි. ඕනෑම සංවිධානයක ස්වභාවය අනිවාර්‍ය්‍ය ලෙසටම නිර්ණය වන්නේ, එහි ක්‍රියාකාරීත්වයෙහි සන්ධාරය අනුව ය. ඒ අනුව බලන කල, ඉහත විග්‍රහ කරන ලද ප්‍රකාශයන් මගින්, ''රබෝචිය දියල'' දේශපාලන ක්‍රියාකාරීත්වයේ පමණක් නොව, සංවිධාන කාර්යය විෂයෙහි ද පටු ස්වභාවය උතුම් හා සුදුසු දෙයක් ලෙසට පෙන්වයි. අන් සෑම අවස්ථාවකදී මෙන්ම මෙහි දී ද, ''රබෝචිය දියල'' ඔප්පු කර තිබෙන්නේ, එය තමන්ගේ විඥානය සාංසිද්ධිකතාවයට යටපත් කරන සහරාවක් බවයි. එහෙත් සාංසිද්ධික වශයෙන් ඇති වන සංවිධාන ආකෘතිවලට වහල් වීමත්, අපගේ සංවිධානවල පටු ස්වභාවය හා පැරණි තාලය මෙන්ම, මෙම වැදගත් ක්ෂේත්‍රයෙහි අප අනුගමනය කරන ''හස්ත කර්මාන්ත'' ස්වරූපී ක්‍රමද, වටහා ගැනීමට අසමත් වීමත්, යන මේවා ගැන අවබෝධයෙන් තොරව සිටීම නම්, අපගේ ව්‍යාපාරයට වැළඳී ඇති ව්‍යාධියක් හා සමාන යයි මම කියමි. එය පිරිහීම සමග මතුවන ව්‍යාධියක් නොවේ. ඇත්ත වශයෙන් ම එය වර්ධනයත් සමග ඇති වන්නකි. එසේ වුවද, සාංසිද්ධික කෝපයේ රළවේගය අප මත්තෙන් පෙරළිගෙන යන මෙම වර්තමාන කාලයේදී, නොදියුණු කම ආරක්ෂා කිරීම සඳහා කරන සියල්ලටමත්, මෙම කාරණය සම්බන්ධයෙන් වූ පටු ස්වභාවය සුජාතකරණය සඳහා කරන සියල්ලටමත් විරුද්ධව, නො සමහන් අරගලයක් කිරීම අත්‍යාවශ්‍ය ය. අප අතර බලපවත්නා ආධුනික ස්වභාවය ගැන අප්‍රසන්නතාවයක් හා අප එයින් නිදහස් වීම සඳහා වූ ස්ථිරසාර අධිෂ්ඨානයක් ද, ප්‍රායෝගික වැඩ කටයුතු වලට සහභාගිවන හෝ එම වැඩ භාර ගැනීමට සූදනම් වන හෝ අය, සියළු දෙනාම තුළ, ඇති කිරීම විශේෂයෙන්ම අවශ්‍ය ය.

### අ) පැරණි තාලය යනු කුමක්ද?

1894-1901 කාලයේ පැවති, නියම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අධ්‍යයන කවයක කටයුතු ගැන කෙටි විස්තරයක් කිරීමෙන්, මෙම ප්‍රශ්නයට පිළිතුරු දීමට අපි උත්සාහ කරන්නෙමු. එකළ තරුණ ශිෂ්‍ය සමස්තය ම මාක්ස්වාදයෙහි නිමග්නව සිටි බව අප සඳහන් කර ඇත. නමුත්, මෙම ශිෂ්‍යයන් ඇත්ත වශයෙන් ම උනන්දුවක් ගත්තේ, මාක්ස්වාදය ගැන පමණක් නොවේ. ඔවුනට උවමනා කර තිබුණේ, සතුරන්ට විරුද්ධව සටන් බිමට එළඹීමට කැඳවීමක් වශයෙන් ''කළ යුත්තේ කුමක් ද?'' යන ප්‍රශ්නයට පිළිතුරක් සොයා ගැනීමය. මෙම නව රණශූරීන් සටනට අවතීර්ණ වූයේ, මවිත කර තරම් වූ පැරණි තාලයක් පෙන්වන අවි ආයුධ හා පුහුණුවක් සහිතව ය. ඔවුන් අති විශාල පිරිසකට අවි ආයුධ තිබුණේ නැත. කිසිම පුහුණුවක් ද තිබුණේ නැත. නගුල් හැර දමා එන ගොවීන් සේ, ආයුධ වශයෙන් පොලු මුගුරු පමණක් අතැතිව, ඔවුහු සටන් බිමට වන්හ. ව්‍යාපාරයේ පැරණි සාමාජිකයන් සමග කිසිම සම්බන්ධයක් නැති, වෙනත් දිස්ත්‍රික්කවල හෝ එකම නගරයේ පවා අනිකුත් (නැතහොත් වෙනත් අධ්‍යාපන ආයතනවල) අධ්‍යයන කව සමග කිසිම සම්බන්ධ කමක් නොමැති, ශිෂ්‍ය කවයක් කම්කරුවන් සමග සම්බන්ධකම් ඇති කර ගෙන වැඩ ආරම්භ කරයි. මෙම කවය ක්‍රම ක්‍රමයෙන් එහි ප්‍රචාරය හා උද්ඝෝෂණය ව්‍යාප්ත කරයි. එහි කටයුතු මාර්ගයෙන් සැලකිය යුතු තරම් විශාල කම්කරු කොටස් වල හා උගත් ස්ථරයන්ගේ සමහර කොටස්වල ආධාරය එයට ලැබෙයි. එමගින් ඊට මුදල් ද ලැබෙයි. එම කොටස් අතරින් නව කණ්ඩායම් බඳවා ගැනීමට ''කමිටුව'' ක්‍රියා කරයි. කමිටුවේ (නැතහොත්, අරගල සංගමයේ) ආකර්ෂණීය බලය වර්ධනය වෙයි. එහි ක්‍රියාකාරීත්වයේ ක්ෂේත්‍රය පුළුල් වෙයි. සම්පූර්ණයෙන්ම සාංසිද්ධික ලෙස කමිටුව මෙම කටයුතු ව්‍යාප්ත කරයි. අවුරුද්දකට හෝ මාස කීපයකට පෙර, ශිෂ්‍ය කව රැස්වීම් තුළ කථා කරමින් ''යන්නේ කොහේද?'' යන ප්‍රශ්නය ගැන සාකච්ඡා කළ, එමෙන්ම කම්කරුවන් සමග සම්බන්ධකම් ඇති කර ගෙන, එම සම්බන්ධකම් පවත්වා ගත්, පත්‍රිකා ලියූ හා පළ කළ, ඒ අයම, දැන්, වෙනත් විප්ලවවාදී කණ්ඩායම් සමග සම්බන්ධකම් ඇති කර ගනිති. පොත්පත් ලබා ගනිති. ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍රයක් පළ කිරීමට වැඩ කටයුතු කරති. පෙළපාලියක් සංවිධානය කිරීම ගැන කථා කිරීමට පටන් ගනිති. අවසානයේදී (තත්වය අනුව ප්‍රථම උද්ඝෝෂණ පත්‍රිකාව හෝ පුවත් පතක ප්‍රථම කලාපය නිකුත් කිරීම, නැතහොත් ප්‍රථම පෙළපාලිය සංවිධානය කිරීම වැනි ස්වරූපයක් ගත හැකි වන) විවෘත යුද්ධය වෙත යොමු වෙති. සාමාන්‍ය වශයෙන්, එවැනි සටන් ආරම්භයක් අවසන් වන්නේ නොබෝ කලකින් හා සම්පූර්ණයෙන්ම එය ව්‍යර්ථ වීමෙනි. එය නොබෝ කලකින්ම හා සම්පූර්ණයෙන්ම ව්‍යර්ථ වන්නේ, එය විවෘත යුද්ධයක් වන අතරම, දීර්ඝ හා අත නොහරින අරගලයක් කිරීම සඳහා, සිතා බලා සුපරීක්ෂා කාරී ලෙස සකස් කරගත් සැලැස්මක ප්‍රතිඵලයක් නොවීමත්, හුදෙක්ම, සම්ප්‍රදායික අධ්‍යයන කවයක

සාංසිද්ධික වර්ධනයේ ප්‍රතිඵලයක් පමණක් වීමත් නිසා ය. ප්‍රාදේශීය නායකයන්, ඔවුන්ගේ ශිෂ්‍ය කාලයේදී ම ''ප්‍රසිද්ධියක් ලබා'' සිටි නිසා එම ව්‍යාපාරයේ සියළු තන්හි ම පාහේ ප්‍රධාන නායකයින් කවුරුන් ද යන වග ස්වාභාවික ලෙසම දැනගත් පොලිසිය, වැටලීම සඳහා බලා සිටියේ නියම අවස්ථාව එළඹෙන තෙක් පමණක් වූ හෙයිනි. ඔවුන් උවමනාවෙන් ම, අධ්‍යයන කවයක වැඩ වර්ධනය කර ගෙන යාමට සෑහෙන කාලයක් දුන්හ. එසේ කළේ නියත වශයෙන් ම Corpus delicti* ඒ අය හසු කර ගත හැකි වන තෙක් ය. ඒ පමණක් නොව, ඔවුන් දන්නා කීප දෙනෙකුට ''බෝවීම සඳහා'' (මා දන්නා තරමට අපේ ජනයා මෙන්ම, පොලිස් කාරයිනුත් භාවිතා කරන වචනය එයයි) නිදහසේ හැසිරීමට ඔවුනට ඉඩ දෙනු ලැබේ. මෙම යුද්ධ ශිල්පය සමාන කළ හැක්කේ නවීන යුද්ධ හමුදාවනට විරුද්ධව පොලු මුගුරු ගෙන යුද වැදුනු ගොවි ජනතාවන් කළ යුද්ධයකට ය. සටන් කරුවන්ට කිසිම පුහුණුවක් නොමැතිව තිබිය දී, පැතිරී, වර්ධනය වී, ජයග්‍රහණය ලැබූ මෙම ව්‍යාපාරයේ ජීවන ශක්තිය ගැන අයෙක් මවිත වනු ඇත. ඓතිහාසික වශයෙන් බලන කල, පැරණි කාලේ අවි ආයුධ පාවිච්චි කිරීමට සිදු වීම අනිවාර්ණීය පමණක් නොව, පුළුල් ලෙස සටන් කරුවන් බඳවා ගැනීම සඳහා සුදුසු ද වන බව පවා ඇත්ත ය. එහෙත් බරපතල ලෙස යුද්ධ කටයුතු ආරම්භ වූ වහාම (ඇත්ත වශයෙන්ම 1896 ග්‍රීෂ්ම ඍතුවේ වැඩ වර්ජන වලින් එම කටයුතු ආරම්භ විය) අප්ගේ සටන් සංවිධානයේ දුර්වල කම් එන්න එන්නම වැඩි වැඩියෙන් මතුවන්නට පටන් ගති. මුලින් අවුලට පත්ව මෝඩකම් ගණනාවක් කළ (නිදර්ශනයක් වශයෙන්, සමාජවාදීන්ගේ වැරදි ක්‍රියා ගැන, නැතහොත්, ප්‍රධාන නගරවලින් කම්කරුවන් ප්‍රාදේශීය මධ්‍යස්ථානවලට පිටුවාහල් කිරීම ගැන, ජනතාවට කරුණු විස්තර කරමින් ආයාචනා කළ) ආණ්ඩුව, ඉතා ඉක්මණින්ම, අරගලයේ අළුත් තත්වයනට අනුරූප වන සේ හැඩ ගැසී, මැනවින් සංවිධානය කරන ලද ප්‍රකෝපකාරී චර පුරුෂයින්, ඔත්තු කරුවන් හා පොලිස්කාර කණ්ඩායම්, අවශ්‍ය ලෙස විහිදුවා ලීමට සමත් විය. වැටලීම් ඉතාමත් නිරන්තර විය. ඒවා විශාල ජනකායකට බල පෑවේය. ඒ අනුව, කම්කරු පොදු ජනතාවට, ඔවුන්ගේ නායකයන් සියළු දෙනාම අහිමි වන තරමට, ප්‍රාදේශීය අධ්‍යයන කව වල සාමාජිකයින් හැම දෙනාම පාහේ අත් අඩංගුවට ගන්නා ලදී. එනිසා විමතියක් උපදවන තරමටම ව්‍යාපාරය අතරින් පතර පැන නගින තත්වයක් පැවැත්තේ ය. එය නොකඩවා පවත්වා ගෙන යාමත්, එහි වැඩ කටයුතු එකට ගලපා ගැනීමත්, අත්‍යන්තයෙන් ම දුෂ්කර වන තත්වයක් ඇති

* නීති විරෝධී ක්‍රියාවකට. — සංස්කාරක



විය. ප්‍රාදේශීය නායකයන් භයානක ලෙස විසිර යාම, අධ්‍යයන කව සාමාජිකත්වයේ අස්ථිර ස්වභාවය, න්‍යායික දේශපාලන හා සංවිධාන ප්‍රශ්න ගැන පුහුණුවක් නොමැති කම හා පටු අදහස් යන, මේ සියල්ලම, ඉහත විස්තර කරන ලද තත්වයන්ගෙන් ඇති වූ අනිවාර්ණීය ප්‍රතිඵල වෙති. අපගේ ආත්ම සංයමය නොමැති කම හා රහස් රැක ගැනීමට නොහැකි කම නිසා, කීප තැනකම කම්කරුවන්, බුද්ධිමතුන් කෙරේ විශ්වාස භංගත්වයෙන්, ඔවුන් මග හැරීමට පටන්ගන්නා තරමට තත්වය නරක් විය. බුද්ධිමතුන් ඉතාමත් අපරීක්ෂාකාරී නිසා, ඔවුන් පොලිස් වැටලීම් ඇති කරතියි කම්කරුවෝ කියති.

අන්තිමේදී, මෙම ආධුනික ක්‍රම, රෝගයක් වශයෙන් සැලකීමට, කල්පනාකාරී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සියළු දෙනාම පටන් ගෙන තිබෙන බව, ව්‍යාපාරය ගැන යම්තමින් හෝ දන්නා ඕනෑම කෙනෙක් දනියි. අප ව්‍යාපාරය ගැන නොදන්නා පාඨකයා තුළ, අප ව්‍යාපාරයේ විශේෂ අවධියක් හෝ විශේෂ රෝගයක් ''නිර්මාණය කරන්නේය'' යන අදහස ඇති වීමට ඉඩ නොතබනු පිණිස, මීට පෙර උපුටා දක් වූ කොටසක කර්තෘ වන සාක්ෂි කරුගෙන් තවත් ප්‍රකාශයක් ගෙන බලමු. මෙම ඡේදය දීර්ඝ වීම ගැන අපට සමාව ලැබෙතැයි කල්පනා කරමු.

''''රබෝචිය දියල'' අංක 6 හි බී — වී මෙසේ ලියයි: රුසියානු කම්කරු පංති ව්‍යාපාරය දැනට පසු කරමින් සිටින පොදු පරිවර්තනීය කාල පරිච්ඡේදය මත කෙළින්ම රඳ පවත්නා වූ පරිවර්තනයක් වන, වඩාත් විස්තීර්ණ දේශපාලන ක්‍රියාකාරීත්වය කරා සංක්‍රමණය වීම, ස්වභාව නිරූපී අංග ලක්ෂණයක් වුවද, ඊට නොදෙවැනි තරමින් උනන්දුවක් දනවන තවත් අංග ලක්ෂණයක් රුසියානු කම්කරු විප්ලවයේ පොදු ක්‍රියා පිළිවෙළෙහි ඇත. අප සඳහන් කරන්නේ සටනට සුදුසු තත්වයේ විප්ලවවාදී බලවේගයන් නොමැති වීම පොදු* අංග ලක්ෂණයක්ව තිබීම ගැන ය. මෙය සාන්ත පීටස්බර්ග්හි පමණක් නොව රුසියාවේ සෑම තන්හි ම දක්නට ලැබෙන්නකි. කම්කරු පංති ව්‍යාපාරයේ පොදු පුනර් ජීවනයත් සමග වැඩ කරන පොදු ජනතාවගේ සාමාන්‍ය සංවර්ධනයත් සමග, වැඩ වර්ජනවල නිරන්තර ස්වභාවය වැඩි වීමත් සමග, කම්කරුවන්ගේ බහු ජන අරගලය වැඩි වැඩියෙන් විවෘත තත්වයට පත්වීමත් සමග හා ඒ එක්කම, ආණ්ඩුවේ පීඩනයේ, සිර භාරයට ගැනීමේ, විදේශ වලට නෙරපා හැරීමේ සහ පිටුවාහල් කිරීමේ පියවරයන්ද උත්සන්න කරන විට, හොඳින් පුහුණු වූ විප්ලවවාදී බලවේගයන් අවශ්‍ය පමණට නොමැති තත්වය වැඩි වැඩියෙන් පැහැදිලි වන්නට පටන් ගෙන තිබේ. ඒ හේතු කොට ගෙන ව්‍යාපාරයේ, ගැඹුරු ස්වභාවයටත්, පොදු ස්වභාවයටත්, නිසැක ලෙස ම හානි පැමිණෙනු ඇත. විප්ලවවාදී සංවිධානවල

* අවධාරණය කිරීම් සියල්ලම අපගේය.

කිසිම ශක්තිමත් හා ඍජු බලපෑමක් නොමැතිව බොහෝ වැඩ වර්ජන ඇති වේ... උද්ඝෝෂණීය පත්‍රිකා හා නීති විරෝධී පොත්පත් ප්‍රමාණවත් තරම් නොමැති බව දනේ... කම්කරුවන්ගේ අධ්‍යයන කව වල උද්ඝෝෂකයන් නොමැත... ඊට අමතරව නිතරම මුදල් හිඟයද දනේ. කොටින් කියතොත්, කම්කරු පංති ව්‍යාපාරයේ වර්ධනය, විප්ලවවාදී සංවිධානවල වර්ධනයත්, දියුණුවත්, ඉක්මවා යමින් පවතී. ක්‍රියාත්මකව සිටින විප්ලවවාදීන් සංඛ්‍යාව ඉතා කුඩා හෙයින්, අප්‍රසාදයට පත් ජනතාව කෙරෙහි ක්‍රියාත්මක කරනු ලබන බලපෑම තම අතෙහි රඳවා ගැනීමට හෝ මෙම අප්‍රසාදයට ඒකාබද්ධතාවයක හා සංවිධානයක ඡායාවක් වත් දීමට ඔවුහු සමත් නොවෙති... විසිරී ගිය හා අසම්බන්ධ වූ, තනි අධ්‍යයන කව හා තනි විප්ලවවාදීන් මගින් අනුපාතික ලෙස සංවර්ධනය වූ කොටස් සහිත, ඒකීය හා විනය සම්පන්න සංවිධානයක් නියෝජනය නොවේ''... කඩා විසුරුවන ලද අධ්‍යයන කව වෙනුවට වහාම අළුත් කව සංවිධානය කිරීමෙන් ''ව්‍යාපාරයේ ජීව ශක්තිය පමණක් ඔප්පු වන බවත්... ප්‍රමාණවත් තරම් සූදනමක් ඇති විප්ලවවාදී කාරක වරුන් සෑහෙන සංඛ්‍යාවක් සිටිතැයි යන්න එයින් ඔප්පු නොවන බවත්'' පිළිගන්නා කර්තෘ මෙසේ නිගමනය කරයි: ''සාන්ත පීටර්ස්බර්ග් විප්ලවවාදීන්ට පුහුණුවක් නොමැති බව, ඔවුන්ගේ කටයුතුවල ප්‍රතිඵලවලින් පෙනේ. කම්කරු පංතියේ තත්වයන් ගැන විස්තර සහිත දැනුමක් නොමැති වූ, ඒ නිසා ම නියමිත පැක්ටරියක උද්ඝෝෂණය ගෙන යා හැක්කේ කුමණ තත්වයන් යටතේ දැයි නොදන්නා, රහස්‍ය භාවයේ ප්‍රතිපත්ති ගැන දැනුමක් නොමැති, එමෙන් ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සාමාන්‍ය ප්‍රතිපත්ති (ඔහු ඒවා දන්නේ නම්) පමණක් දන්නා, තරුණ උද්ඝෝෂකයාට ඔහුගේ වැඩ කටයුතු මාස හතරක්, පහක් හෝ හයක් කර ගෙන යා හැකි බව මෑතදී පැවැත්වුනු නඩු විභාග වලින්, විශේෂයෙන්ම, ''ස්වයං විමුක්ති කණ්ඩායම'' ට හා ''ප්‍රාග්ධනයට විරුද්ධව ශ්‍රමය කණ්ඩායම'' ට[180] විරුද්ධව පැවැත්වුනු නඩුවලින් පැහැදිලිව පෙනේ. ඊළඟ කණ්ඩායම ම, නැතහොත්, කෙසේ හෝ වේවා, ඉන් කොටසක් වත් කඩා විසුරුවන ආකාරයේ සිරභාරයට ගැනීම් සිදු වෙයි. එම නිසා, කණ්ඩායමේ පැවැත්ම මාස ගණනින් මැණීමට සිදු වේ නම්, එම කණ්ඩායමට සාර්ථක ලෙස කටයුතු කළ හැකි ද? යන ප්‍රශ්නය පැන නගියි. පවත්නා කණ්ඩායම්වල දුර්වලකම් සියල්ලම පැන නගින්නේ පරිවර්තනීය කාලසීමාව නිසා යයි කිව නොහැකි බව පැහැදිලි ය.... ක්‍රියාත්මක සංවිධානවල සංඛ්‍යාත්මක සැකැස්ම හා අන් සියල්ලටම වඩා ගුණාත්මක සැකැස්ම සුළු පටු සාධකයක් නොවන බව පැහැදිලි ලෙස පෙනේ. එනිසා, අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් භාර ගත යුතු ප්‍රථම කර්තව්‍යය වන්නේ... ඵලදයක ලෙස සංවිධාන ඒකාබද්ධ කිරීම හා ඒවායේ සාමාජිකත්වය ඉතා සූපරීක්ෂාකාරී ලෙස තෝරා ගැනීමයි

## ආ) පැරණි තාලය හා ආර්ථිකවාදය

සෑම පාඨකයෙකුගේම සිතට පැන නැගෙනු ඇති ප්‍රශ්නයක් ගැන දන් සඳහන් කළ යුතු වෙමු. සමස්ත ව්‍යාපාරයටම බල පාන වර්ධන



වේදනාව වශයෙන් ගත හැකි පැරණි තාලයත්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ එක ධාරාවක් වන ''ආර්ථිකවාදයත්'' අතර සම්බන්ධයක් පෙන්විය හැකි ද? හැකි යයි සිතමු. ආරම්භයේ පටන් ම, අචල ලෙස විප්ලවවාදී මාක්ස්වාදයට පක්ෂව සිටි අය ද ඇතුළුව අප සියළු දෙනාට ම, පුහුණුවක් නොමැති කම හා සංවිධාන වැඩ කරගෙන යාමට හැකියාවක් නොමැති කම, ඇත්ත වශයෙන් ම පොදු දෙයකි. අඩු පාඩු වී තිබුණේ සැබැවින් ම පුහුණුව පමණක් නම්, ප්‍රායෝගික කාරක වරුන්ට දෙස් පැවරීම කිසිවෙකුටත් කළ නොහැක. එහෙත් ''පැරණි තාලය'' යන පාඨයෙහි පුහුණුව නොමැති කමට වඩා යමක් අන්තර්ගත ය. එයින් අදහස් වන්නේ විප්ලවවාදී කටයුතුවලදී පොදු වශයෙන් දක්නට ලැබෙන පටු ස්වභාවයකි; එවැනි පටු ක්‍රියාකාරිත්වයක් පදනම් කර ගෙන, විප්ලවවාදීන්ගේ හොඳ සංවිධානයක් ගොඩ නැගිය නොහැකි බව අවබෝධ කර ගැනීමට අසමර්ථ බවකි; අන්තිම වශයෙන්, පටු ස්වභාවය යුක්ති සහගත බව පෙන්වීමට එය විශේෂ ''න්‍යායක'' මට්ටමට නැංවීමට ප්‍රයත්න දැරීමෙන්, මෙම ප්‍රශ්නයේදී ද සාංසිද්ධිකතාවයට යටපත් වූ බවකි. මෙහි ප්‍රධාන කාරණය එය ය. එවැනි ප්‍රයත්නයන් පැහැදිලිව විද්‍යාමාන වූ පසු, පැරණි තාලය ''ආර්ථිකවාදය'' සමග සම්බන්ධ බව පැහැදිලි විය. එමෙන්ම, අප පොදු වශයෙන් ''ආර්ථිකවාදයෙන්'' (එනම්, මාක්ස්වාදී න්‍යාය පිළිබඳව මෙන්ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කාර්ය භාරය හා එහි දේශපාලන කර්තව්‍යයන් ද පිළිබඳ පටු ආකල්පයෙන්) නිදහස් වන තෙක්, අප අපගේ සංවිධාන කර්තව්‍යයන්ගේ පටු ස්වභාවයෙන් කිසි කළෙකත් නිදහස් නොවනු ඇත. එම ඉහත සඳහන් ප්‍රයත්නයන් දෙ ආකාරයකින්, දෙ පැත්තකින් ප්‍රකට වෙයි. සමහරු කියන්නට වන්නේ, විප්ලවවාදී පොදු ජනතාව පිට ''පටවන්නට'' උත්සාහ කරන පුළුල් සටන් කාමී දේශපාලන කර්තව්‍යයන්, කම්කරු පොදු ජනතාවගෙන් තවමත් ඉදිරිපත් වී නොමැති බවත්, හදිසි දේශපාලන ඉල්ලීම් සඳහා අරගල* සහ ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' තවදුරටත් කර ගෙන යා යුතු බවත්, (ස්වාභාවික වශයෙන් ම පොදු ජන ව්‍යාපාරයට ''ළඟා විය හැකි,'' මෙම අරගලයට ගැලපෙන, ඉතාමත් නුපුහුණු තරුණයින්ට පවා ''ළඟා විය හැකි'' සංවිධානයක් තිබිය යුතු බවත්) ය. ''ක්‍රමික භාවය'' පිළිබඳ සෑම න්‍යායකින්ම ඉතාමත් දුරස්තර වූ අනිත් අය කීවේ, ''දේශපාලන විප්ලවයක් සිදු කිරීම'' කළ හැකි හා කිරීමට අවශ්‍ය දෙයක් බවත්, එසේ වුවත්, ඒ සඳහා දැඩිතර හා

* ''රබෝචය මිස්ල්'' හා ''රබෝචිය දියල'', විශේෂයෙන් ම ප්ලෙහානව්ට ''පිළිතුර''.

අත් නොහරින ලෙස අරගල කිරීම පිණිස නිර්ධන පංතිකයන් පුහුණු කිරීමට විප්ලවවාදීන්ගේ ශක්තිමත් සංවිධානයක් තිබීම අවශ්‍ය නොවන බවත් ය. අප කළ යුත්තේ අපගේ පැරණි මිතුරා වන ''ළහා විය හැකි'' මුගුර අතට ගැනීම පමණක් බවත් ය. උපමා වාක්‍ය පසෙකින් තැබුව-හොත්, එයින් අදහස් වන්නේ, අප සමන්ත මහා වැඩ වර්ජනයක්* සංවිධානය කළ යුතු බවයි. නැතහොත්, ''ඇවිස්සුම් කාරී ත්‍රස්තය''* මගින් කම්කරුවන්ගේ ''ජීවගුණයෙන් තොර'' ප්‍රගතිය පණ ගැන්විය යුතු බව ය. අවස්ථාවාදීන් හා ''විප්ලවවාදීන්'' යන මේ දෙකොටසෙහි ම උපනති, දූනට පවත්නා ආධුනික ස්වභාවයට නමස්කාර කරති.

''කම්කරු පංති ව්‍යාපාරයේ වර්ධනය විප්ලවවාදී සංවිධානවල වර්ධනයත් දියුණුවත් ඉක්මවා යමින් පවතී'' යයි කියන බී — වී ගේ වචන අපි උපුටා දක්වූයෙමු. ''සමීප නිරීක්ෂකයෙකුගේ මෙම අගනා කියමන'' (බී — වී ගේ ලිපිය ගැන ''රබෝචිය දියල'' පත්‍රයේ විස්තරය) අපට දෙ ආකාරයකින් අගනේ ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වර්තමාන අර්බුදයට ප්‍රධාන හේතුව වී ඇත්තේ,නායකයන් (''දෘෂ්ටිවාදීන්'', විප්ලවවාදීන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්) පොදු ජනතාවගේ සාංසිද්ධික උත්සන්නිය පසු පස්සේ ඇදී යාමය යන, අපගේ අදහස නිවැරදි බව එයින් පෙනේ. නීරස සැමද අරගලයේ සාංසිද්ධිකතාවය ලඝු කොට තැකීමේ අන්තරාය ගැන ද, ක්‍රියාදමයක් වන උපක්‍රම ගැන ද, ආදී වූ දේ ගැන කියමින්, ක්‍රිචෙව්ස්කි හා මර්තිනව් විසින් (''ඉස්ක්‍රා'' අංක 12 පළ කරන ලද ''ආර්ථිකවාදී'' ලිපියේ කර්තෘ වරුන් ඉදිරිපත් කළ තර්ක සියල්ලම, පැරණි තාලයට ප්‍රෞඪත්වයක් දීමක් හා එය ආරක්ෂා කිරීමක් හැර, වෙනත් දෙයක් නොවන බවද, එයින් පෙන්නුම් කෙරේ. විරිත්තන්නේ නැතිව, ''න්‍යායවාදියා'' යන වචනය උච්චාරණය කළ නොහැකි, පොදු නුපුහුණු කමට හා නොදියුණු කමට කරන්නා වූ ස්වකීය දණ නමස්කාරය ''ජීවිතයේ යථාර්ථය ගැන හැඟීමක්'' වශයෙන් විස්තර කරන, මොවුන් ව්‍යවහාරයේ කටයුතුවලින් හෙළිදරව් කරන්නේ, අපගේ අනිවාර්යතම ප්‍රායෝගික කර්තව්‍යයන් වටහා ගැනීමට ඔවුන් අසමත් බව ය. ගාටන්නන් හට කෑ ගසා ඔවුහු මෙසේ කියති. හරියට පියවර තබන්න! ඉස්සර වී දුවන්න එපා! සංවිධාන කටයුතුවලදී ධෛර්යය හා ක්‍රියාරම්භකතාවය නොමැතිව සිටින, පුළුල් හා නිර්භීත ක්‍රියාකාරිත්වය

---

* කීව් කමිටුව විසින් යළිත් නිකුත් කරන ලද''නිර්ධන පංති අරගලය'' යන නමින් රුසියාවේ පළ වූ ලිපි එකතුවෙහි ''දේශපාලන විප්ලවය ඇති කරන්නේ කවුද?'' යන ලිපිය බලන්න.

* ''විප්ලවවාදයේ පුනර් ජනනය'' හා ''ස්වබෝද'' සඟරාව.



සඳහා ''සැලසුම්'' නොමැතිව සිටින අයට ''ක්‍රියාදමයක් වන උපක්‍රම'' ගැන නන් දෙඩති! අප කරන බලවත්ම පාපය නම්, අපගේ දේශපාලනමය හා සංවිධානමය කර්තව්‍යයන් සැමද අරගලයේ හදිසි, ''ප්‍රත්‍යක්ෂ'' ''පැහැදිලි'' උවමනාවන්ගේ තත්වයට පිරිහෙළීම ය. එහෙත් ඔවුන් අපට ගායනා කරන්නේ එම තාලයමය: ආර්ථික අරගලයට ම දේශපාලන ස්වරූපයක් දෙනු! මෙවැනි දෙයින් ප්‍රදර්ශනය වන්නේ, ජන ප්‍රිය උපමා කථාවක සඳහන් පරිදි, ගමන් කරන අවමංගල පෙරහැරකට ''ශුභ උපන් දිනක් වේවා'' යි මහ හඬින් ප්‍රාර්ථනා කළ වීරයාගේ මෙන් වන, ''ජීවිතයේ යථාර්ථයන් පිළිබඳ හැඟීමකි''!

''වචනයේ සැබෑ හා ප්‍රායෝගික අර්ථයෙන්, එනම්, දේශපාලන ඉල්ලීම් සඳහා කරන යථායෝග්‍ය හා සාර්ථක ප්‍රායෝගික අරගලයේ අර්ථයෙන් (''රබෝචිය දියල'' පිළිතුරු, පිටු 24), පොදු වශයෙන් ගත් කල, කම්කරු කව වලට (sic!) දේශපාලන කර්තව්‍යයන් ඉටු කිරීමට නුපුළුවන්'' බව, ජ්ලෙහානව්ට දේශනා කළ, මෙම බොරු පණ්ඩිතයන්ගේ සැබෑ ''නර්ත්සිස් ස්වරූපී''[181] අසම සම උද්ධච්ඡ කම සිහියට නංවමු. මහත්වරුනි, නොයෙක්, නොයෙක් කව තිබේ. ''ආධුනිකයන්ගේ'' කව ගැන කියන්නේ නම්, ඒවා ඔවුන්ගේ ආධුනික ස්වභාවය ගැන වටහා නොගෙන සිටින තාක්කල් හා එය අත් නොහරින තාක් කල්, දේශපාලන කර්තව්‍යයන් ඉටු කිරීමෙහි සමත් නොවෙති. තවද, ඊට අමතරව, සිය පැරණි තාලයට ඇළුම් කරන මෙම ආධුනිකයෝ, ''ප්‍රායෝගික'' යන වචනය අවධාරණය කර ලිවීමෙහි දැඩි ලෙස එල්බ ගෙන සිටින අතර, අයෙක් ප්‍රායෝගික වීමට, හේ තමන්ගේ කර්තව්‍යයන්, ජනතාවගේ ඉතාමත් නො දියුණු ස්ථරයන්ගේ අවබෝධයේ මට්ටමට පහත දැමිය යුතු යයි කල්පනා කරති නම්, එවිට ඔවුහු පිළිසරණක් ද නොමැති ආධුනිකයන් වෙති. එසේ වූ කළ පොදු වශයෙන් දේශපාලන කර්තව්‍යයන් කිසිවක් ඉටු කිරීම ඔවුන්ට ඒකාන්ත වශයෙන් ම නුපුළුවන් වන්නේ ය. එහෙත් අලෙක්සේයෙව් හා මීෂ්කින් වැනි, හල්තූරින් හා ෂෙලියාබොව් වැනි අයගෙන් සමන්විත වූ කවයක් වේ නම්, සාංසිද්ධික ලෙස ප්‍රබෝධමත් වන ජනතාවගෙන් ඔවුන්ගේ ප්‍රචාරයට අනුකූලතාවයත්, විප්ලවවාදී පංතියෙන් ඔවුන්ගේ කාන්තිමත් ධෛර්යයට අනුබලය හා එම පංතියේ ශක්තියේ ආධාරයත් ලැබෙන නිසා හා ඒ තාක් දුරට, වචනයේ නියම හා ප්‍රායෝගික අර්ථයෙන් ම, එයට දේශපාලන කර්තව්‍යයන් ඉටු කිරීමට හැකි වෙයි. මෙම විප්ලවවාදී පංතිය හඳුන්වා දීමේ දී සහ එය අනිවාරණීය ලෙසට සාසිද්ධික වශයෙන් ප්‍රබෝධමත් වන බව පෙන්වා දීමේදී පමණක් නොව, ''කම්කරු කවවලට'' ශ්‍රේෂ්ඨ හා උත්තුංග කර්තව්‍යයන් පැවරී-මේදී ද, ජ්ලෙහානව් කළේ නිවැරදි දෙයකි. එහෙත්, මෙම කර්තව්‍යය

පිරිහෙළීම පිණිස "කම්කරු කවවල" ධෛර්යය හා විෂය ප්‍රමාණය අඩු කිරීම පිණිස, ඉන් පසුව පැන නැගුනු පොදු ජන ව්‍යාපාරය ගැන ඔබ සඳහන් කරන්නෙහි ය. ඔබ ඔබගේ ම පැරණි තාලයෙන් මෝහනය වූ ආධුනිකයින් නොවෙති නම් වෙන කවුරු වෙත් ද? ඔබ ප්‍රායෝගික වන බවට පුරසාරම් දෙඩන නමුත්, සෑම රුසියානු කාරක වරයෙක්ම දන්නා දෙය ඔබට පෙනෙන්නේ නැත. එනම්, කවයක පමණක් නොව, පුද්ගලයෙකුගේ පවා ධෛර්යයෙන්, විප්ලවවාදී ව්‍යාපාරයේදී ඉටු කළ හැකි ප්‍රාතිහාර්යයන් ඔබටපෙනෙන්නේ නැත.එසේ නම්, ඔබ අදහස් කරන්නේ, එක් දහස් අටසිය හැත්තෑ ගණන්වල සිටි වැනි නායකයන් ඉදිරිපත් කිරීමට, අපගේ ව්‍යාපාරය අසමත් බවක් ද? ඒ අපට පුහුණුවක් නොමැති නිසා ද? නමුත්, අපි පුහුණු වෙමින් සිටිමු. අපි අපගේ පුහුණු වීම දිගටම ගෙන යමු. අපි පුහුණු වූ තත්වයට පැමිණෙන්නෙමු! අවාසනාවකට මෙන් "ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලය" නැමති පල් වෙන ජලය මත පාසි බැඳී තිබෙන බව ඇත්ත ය. රුසියානු නිර්ධන පංතියේ "පසු පැත්ත" (ප්ලෙහානව්ගේ පාඨය අනුව) දෙස බිරාන්ත වී බලා සිටිමින්, සාංසිද්ධිකතාවය හමුවේ දනින් වැටී යාඥා කරන අය, සමහර දෙනෙක් අප අතර මතු වී ඇත. එහෙත්, අපි මෙම පාසි ඉවත් කරන්නෙමු. රුසියානු විප්ලවවාදීන්, නියම විප්ලවවාදී න්‍යායකින් මග පෙන්වීම ලබමින්, සැබැවින්ම විප්ලවවාදී සහ සාංසිද්ධික ලෙස ප්‍රබෝධමත් වන පංතිය කෙරෙහි විශ්වාසය තබමින්, ඔවුන්ගේ පූර්ණ පෞරුෂත්වයෙන් හා මුළු මහත් යෝධ ශක්තියෙන්ම යුතුව, අන්තිමේ දී — මෙතෙක් කලකට පසුව — නැගී සිටිය හැකි කාලය එළඹ තිබේ. අපගේ කාරක සමූහයාත්, ඊට වඩා විශාල පිරිසක් වූ, පාසල් යන අවධියේ පටන්ම, ප්‍රායෝගික වැඩ ගැන සිහින මවමින් සිටි ජනයාත් කළ යුතුව ඇත්තේ, අපගේ දේශපාලන කර්තව්‍යයන් පිරිහෙළීමට හා අපගේ සංවිධාන වැඩ කටයුතුවල විෂය ප්‍රමාණය සීමා කිරීමට ඉදිරිපත් කරනු ලබන, ඕනෑම යෝජනාවක් සමච්චල් කොට ඉවත ලීම පමණකි. අපි එය කරන්නෙමු. ඒ ගැන සැක නොසිතන්න මහත්වරුනි!

"පටන් ගත යුත්තේ කොතැනින්ද?" යන ලිපියෙහි, මා "රබෝචිය දියල" ට විරුද්ධව මෙසේ ලියා ඇත: "කිසියම් අප්‍රධාන විශේෂ ප්‍රශ්නයක් ගැන උද්ඝෝෂණය කිරීම හා සම්බන්ධ උපක්‍රම හෝ පක්ෂ සංවිධානයේ සුළු කාරණයක් ගැන වූ උපක්‍රම හෝ, පැය විසි හතරකින් වෙනස් කිරීමට ඉඩ තිබේ. එහෙත්, පොදු ජනතාව අතර අරගල ගෙනයන හා දේශපාලන උද්ඝෝෂණ කරන සංවිධානයක් පොදු වශයෙන් ද, අඛණ්ඩව ද, අවිවාද ලෙස ද, තිබීම අවශ්‍යය යන අදහස, පැය විසි හතරකින් තබා, මාස විසි හතරකින් වත්, වෙනස් කළ හැක්කේ කිසිම ප්‍රතිපත්තියක් නැති අයට පමණකි."* මෙයට "රබෝචිය දියල" පිළිතුරු දුන්නේ මෙසේ ය... ""ඉස්ක්‍රා" පත්‍රයේ චෝදනා සියල්ලම අතුරෙන්, කරුණු පදනම් කරගත් බවක් ව්‍යාජ ලෙස පෙන්නුම් කරන මෙය, සම්පූර්ණයෙන් ම පදනම් විරහිත ය. "ඉස්ක්‍රා" පත්‍රය නිකුත් වන තෙක් සිටින්නේ නැතිව, ආරම්භයේ පටන් ම, දේශපාලන උද්ඝෝෂණය සඳහා අප හඬ නැගූ බව පමණක් නොව,"... (කම්කරු අධ්‍යයන කව තුළ පමණක් නොව, "පොදු ජන කම්කරු පංති ව්‍යාපාරයේ ද, ප්‍රථම දේශපාලන කර්තව්‍යය වශයෙන් ගත හැක්කේ, අත්තනෝමතිකවාදී පාලනය පෙරළා දැමීම නොව," හදිසි දේශපාලන ඉල්ලීම් සඳහා අරගලය වන බවත්, "එක වැඩ වර්ජනයකින් නැතහොත්, කුමණ හෝ තත්වයක යටතේ වුවද, වැඩ වර්ජන කීපයකින් පසුව, පොදු ජනතාව හදිසි ඉල්ලීම් ගැන වටහා ගැනීමට පටන් ගන්නා" බවත් ඒ සමගම කියමින්)... "විදේශයේ සිට රුසියාවේ වැඩ කරන සහෝදර වරුන් වෙත, අප එවූ, අපගේ ප්‍රකාශනය මගින්, එකම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන හා උද්ඝෝෂණික පත්‍රය සැපයීමේ කටයුත්ත ද කළ, බව "රබෝචිය දියල" පාඨකයන් හොඳින් දනිති"... (තවද, මෙම එකම පත්‍රය මගින්, පුළුල්තම දේශපාලන උද්ඝෝෂණය නිතරම ආර්ථික අරගලයේ පදනම මත පිහිටු වීම පමණක් නොව, "පුළුල්තම ලෙස උපයෝගී කරගත හැක්කේ ද මෙම සීමා කළ උද්ඝෝෂණයයි," කීමට තරම් දුර යාම ද ඔබෙන් කෙරුනි. එ පමණක් නොව, ඔබගේ ම — සපයන ලද්දේ, මෙම එකම පත්‍රයයි යන — තර්කය අනුව, "ඉස්ක්‍රා" පත්‍රය ආරම්භ කිරීමෙහිත්, "රබෝචිය දියල" ට විරුද්ධව කරන මෙම අරගලයෙහිත්, අවශ්‍යතාවය ඔප්පු වන බව ඔබට නොපෙනේ ද මහත්වරුනි?)... "අනික් අතට අපගේ ප්‍රකාශක කටයුතු මගින්, ඇත්ත වශයෙන් ම, පත්‍රයේ උපක්‍රමීය සමගිය සඳහා භූමිය සකස් විය". ...(උපක්‍රම යනු පක්ෂ සමග වැඩෙන පක්ෂ කර්තව්‍යයන්ගේ ක්‍රියාදාමය වන බවට ඇති කරගත් අවබෝධය මත සමගිය ද? ඇත්ත වශයෙන් ම අගේ ඇති සමගියක්!)... "එසේ කිරීමෙන් 'සටන්කාමී සංවිධානයක්' ඇති කිරීම පහසු කළ විදේශගත සංගමය, ඒ සඳහා විදේශගත සංවිධානයකට හැකි සෑම දෙයක් ම කළේ ය" ("රබෝචිය දියල" අංක 10, පිටු 15). මෙය මග හැරීමට දරන අසාර්ථක ප්‍රයත්නයකි! ඔබට හැකි වූ සියළු දේම කළ බව ප්‍රතික්ෂේප කිරීමට මම සිහිනෙනුදු නො සිතුයෙමි. ඔබට "කළ හැකිව" තිබෙන දේ ඔබගේ අදහස් වල පටු ස්වභාවය නිසා, සීමා වී තිබෙන බව, මම ස්ථිරව කියා ඇත්තෙමි. දැනුදු එසේ කියන්නෙමි. "හදිසි

* සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 5, පිටුව 6 — සංස්කාරක.

දේශපාලන ඉල්ලීම්'' සඳහා සටන් කිරීමට හෝ ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' ගෙන යාම සඳහා හෝ ''සටන්කාමී සංවිධානයක්'' ගැන කථා කිරීම මෝඩ කමකි.

එහෙත්, ''ආර්ථිකවාදීන්'' ආධුනික ස්වභාවයෙන් මෝහනය වීම පිළිබඳව අගනා නිදර්ශන දකීමට කැමති නම්, පාඨකයා කළ යුත්තේ, හැම තැනින්ම කරුණු අවුලාගන්නා හා වැනෙන සුළු ''රබෝචිය දියල'' අත්හැර, ස්ථිර හා අධිෂ්ඨාන සහගත ''රබෝචය මිස්ල්'' පත්‍රය වෙත හැරීම ය. එහි ''විශේෂ අතිරේකයෙහි'' පිටු 13 හි ආර්. එම්. මෙසේ ලිවීය. ''ඊනියා නියම විප්ලවවාදී බුද්ධිමතුන් ගැන වචනයක් දෙකක් මෙහිදී කියමු. ''සාර්වාදයට විරුද්ධව අධිෂ්ඨාන සහගත ලෙස සටනට බැසීමට'' තමන් සූදානම් බව, ඔවුහු වරකට වඩා ඔප්පු කොට ඇති බව සැබවි. එසේ වුවද, අපගේ විප්ලවවාදී බුද්ධිමතුන්, දේශපාලන පොලිසියේ නිර්දය හිංසා පීඩාවනට භාජනය කරනු ලබන අතර, දේශපාලන පොලිසියට විරුද්ධව අරගල කිරීම ඒකාධිපත්‍යයට විරුද්ධව අරගල කිරීමක් වශයෙන් ඔවුන් කල්පනා කිරීම අවාසනාවකි. ''ඒකාධිපත්‍යයට විරුද්ධව කරන අරගලය සඳහා වූ බලවේගයන් ලබා ගන්නේ කොහෙන්ද?'' යන්න එයට අද දක්වා වටහා ගත නොහැකිව තිබෙන්නේ එහෙයිනි.''

සාංසිද්ධික ව්‍යාපාරයට මෙම (වචනයේ නරකම අර්ථයෙන්) නමස්කාර කරන්නා, පොලිසියට විරුද්ධව අරගලයට දක්වන උඩඟු පිළිකුල, ඇත්තෙන්ම අසම සම ය! සාංසිද්ධික පොදු ජන ව්‍යාපාරයේදී, දේශපාලන පොලිසියට විරුද්ධව අරගල කිරීම, කොහෙත්ම වැදගත් වන්නේ නැතැයි තර්ක කරමින්, රහසිගත කටයුතු සංවිධානය කිරීමට අපගේ ඇති නොහැකියාව, සාධාරණ බව පෙන්වීමට ඔහු සූදනම් ය!! මෙම භයානක නිගමනයට දයක වනු ඇත්තේ, ඉතාමත් ස්වල්ප දෙනෙක් පමණකි. අපගේ විප්ලවවාදී සංවිධානවල අඩුපාඩු කම් එතරම්ම වැදගත් කාරණයක් වී තිබේ. එහෙත්, මර්තිනව් මෙයට දයක වීමට ප්‍රතික්ෂේප කරන්නේ නම්, ඔහු එසේ කරන්නේ, එක්කෝ ස්වකීය අදහස් ගැන තර්කානුකූල නිගමනයක් දක්වා සිතා බැලීමට ඔහු අසමත් නිසාය. නැත-හොත්, එසේ කිරීමට ධෛර්යයක් ඔහුට නොමැති හෙයිනි. පොදු ජනතා-වගේ පැහැදිලි ඉල්ලීම්, නැතහෙත්, ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි ඉල්ලීම් ඉදිරිපත් කිරීම පිළිබඳ''කර්තව්‍යය'' උදෙසා, විප්ලවවා-දීන්ගේ ස්ථායී, මධ්‍යගත හා සටන්කාමී සංවිධානයක් ඇති කිරීමට විශේෂ ප්‍රයත්න දැරීමේ අවශ්‍යතාවයක් සැබැවින්ම මතු වේ ද? ''දේශපාලන පොලිසියට විරුද්ධව කිසිම අරගලයක්'' නොකරන පොදු ජනයාට පවා එවැනි... ''කර්තව්‍යයක්''... ඉටු කළ නොහැකිද? එපමණක් නොව, නායකයන් කීප දෙනාට අමතරව, ''දේශපාලන පොලිසියට විරුද්ධව



අරගල කිරීමේ'' කිසිම හැකියාවක් නැති කම්කරුවන් (අති බහුතරය) මෙම කර්තව්‍යය භාර ගෙන ඉටු කරන්නේ නැත්නම්, එය සාර්ථක කළ හැකි වේද? එවැනි, කම්කරුවෝ හා සාමාන්‍ය පොදු ජනයා වැඩ වර්ජන වලදී ද, පොලිසිය හා යුද්ධ භටයන් සමග කෙරන වීදි ගැටුම් වලදී ද, අති මහත් ධෛර්යයක් හා ආත්ම පරිත්‍යාගයක් පෙන්වීමට සමත් වෙති. අපගේ සමස්ත ව්‍යාපාරයේ ම ප්‍රතිඵල තීරණය කිරීමෙහි සමත්, (ඇත්ත වශයෙන් ම සමත් එකම පිරිස) වෙති. එහෙත් දේශපාලන පොලිසියට විරුද්ධව අරගල කිරීම සඳහා විශේෂ ගති ගුණ අවශ්‍ය වේ. ඒ සඳහා වෘත්තීය විප්ලවවාදීන් අවශ්‍ය වේ. එනිසා, පොදු ජනතාවගෙන් පැහැදිලි ඉල්ලීම් ''ඉදිරිපත් වනු'' දකීම පිණිස පමණක් නොව, කම්කරු පොදු ජනතාවගෙන් එවැනි වෘත්තීය විප්ලවවාදීන් වැඩි වැඩියෙන් ''ඉදිරිපත් වනු'' දකීම පිණිසද, අප අවශ්‍ය කටයුතු කළ යුතුය. එනයින් වෘත්තීය විප්ලවවාදීන්ගේ සංවිධානයක් හා පිරිසිදු, සරල කම්කරු ව්‍යාපාරය අතර සම්බන්ධය පිළිබඳ ප්‍රශ්නය වෙත, අපි ළඟාවී ඇත්තෙමු. මෙම ප්‍රශ්නය, පොත පතෙහි පිළිබිඹු වී ඇත්තේ ස්වල්ප වශයෙන් වුවද, ''ආර්ථිකවාදය'' කෙරෙහි අඩු හෝ වැඩි ප්‍රමාණයෙන් නැඹුරු වන සහෝදරවරුන් සමග, ඒ ගැන බොහෝ සාකච්ඡා නැතහොත් වාද විවාද කිරීමට, ''දේශපා-ලනඥයන්'' වන අපට සිදු විය. මෙය විශේෂයෙන් ම සලකා බැලීමට සුදුසු වන ප්‍රශ්නයකි. එහෙත් ඒ ගැන කරුණු සඳහන් කිරීමට පෙර, පැරණි තාලය හා ''ආර්ථිකවාදය'' අතර සම්බන්ධය පිළිබඳ අපගේ ප්‍රවාදයට අදල නිදර්ශනයක් වශයෙන්, උපුටා ගත් කොටසක් ගෙන හැර දක්වමු.

N. N. මහතා ඔහුගේ ''පිළිතුරෙහි''[182] මෙසේ ලීවේය: ''අරගලයට අවශ්‍ය ද්‍රව්‍යමය බලවේගයන් ලබා ගන්නේ කොහෙන් ද යන්න ප්‍රථම-යෙන් සලකා බලන්නේ නැතිවම, අරගලයේ මාර්ගය දක්වන්නේ නැතිවම, ආණ්ඩුවට විරුද්ධව ඍජු අරගල කිරීම කම්කරු විමුක්ති කණ්ඩායම විසින් අපේක්ෂා කරනු ලැබේ.'' අරගලයේ මාර්ගය යන වචන අවධා-රණය කරන කර්තෘ, ''මාර්ගය'' යන වචනයට පහත සඳහන් පා සටහන ද යොදයි: ''වැඩ පිළිවෙළෙහි සඳහන්ව ඇත්තේ, කුමන්ත්‍රණයක් ගැන නොව, පොදු ජන ව්‍යාපාරයක් ගැන ය. එනිසා, රහස්‍ය භාවයේ අරමුණු අනුව එය පැහැදිලි කළ නොහැකිය. එපමණක් නොව, පොදු ජනයාට රහස් මාර්ග වලින් යාමට ද නොපුළුවන. රහස් වැඩ වර්ජනයක් ගැන අපට සිතන්නට පුළුවන් ද? රහස් පෙළපාලි හෝ පෙත්සම් ගැන අපට සිතන්න පුළුවන් ද?'' ("Vademecum", පිටු 59). මේ ලෙසට කර්තෘ වරයා ''ද්‍රව්‍යමය බලවේග'' (වැඩ වර්ජන හා පෙළපාලි සංවිධායකින්) හා අරගලයේ ''මාර්ග'' පිළිබඳ ප්‍රශ්නයට ඉතාමත් සමීප වන නමුත්, ඔහු පොදු ජන ව්‍යාපාරයට ''වන්දනා'' කරන හෙයින්, එනම්, එය විප්ලවවාදී

කටයුතු කිරීමේ අවශ්‍යතාවයෙන් අප නිදහස් කරන දෙයක් වශයෙන් සැලකීම නිසා ද, අපගේ විප්ලවවාදී කටයුතු සඳහා අපට උනන්දුව හා දිරිගැන්වීම ගෙන දෙන්නක් ලෙසට එය වටහා නොගැනීම නිසා ද, ඔහු තවමත් චිත්ත වික්ෂෝප තත්වයෙන් පසුවෙයි. වැඩ වර්ජනයට සහභාගි වන අයට හා එයට කෙළින්ම සම්බන්ධ වූ අයට, එය රහසක් විය නොහැක. එහෙත්, වැඩ වර්ජනය සම්බන්ධයෙන් වූ සියළු තොරතුරු පැතිරී නොයන සේ යටපත් කිරීම සඳහා වැඩ වර්ජකයන් හා සමග පණිවුඩ හුවමාරු කිරීමේ මාර්ග සියල්ලම කපා හැරීමට තරම් ආණ්ඩුව සුපරීක්ෂාකාරී වන නිසා, එය රුසියානු කම්කරු පොදු ජනතාවට "රහසක්" වී තිබෙන්නට පුළුවන. "දේශපාලන පොලිසියට විරුද්ධව" විශේෂ "අරගලය" ඇත්ත වශයෙන්ම අවශ්‍ය වන්නේ මෙහි දී ය. එය, වැඩ වර්ජනයට සහභාගි වන තරම් විශාල ජනකායක් විසින්, ක්‍රියාශීලී ලෙස කරගෙන යා හැකි අරගලයක් නොවේ. මෙම අරගලය, වෘත්තියක් වශයෙන් විප්ලවවාදී කටයුතුවල යෙදී සිටින අය විසින්, "කලාවේ සියළුම නීතිරීති" අනුව සංවිධානය කරනු ලැබිය යුතු අරගලයකි. පොදු ජනතාව සාංසිද්ධික වශයෙන් අරගලයට ඇදී එන නිසා, එම කරුණ ම හේතු කොට ගෙන, අරගලය සංවිධානය කිරීමේ අවශ්‍යතාවයෙහි අඩුවක් වන්නේ නැත. එපමණක් නොව, එයින් එම අවශ්‍යතාවය වැඩි වේ. සෑම වැඩ වර්ජනයක් ම, සෑම පෙළපාලියක් ම, රහසක් කොට තබා ගැනීමෙන් පොලිසිය වලක්වා ලීමට, (එමෙන්ම, අප ද කලින් කලට රහසිගත ලෙස වැඩ වර්ජන හා පෙළපාලි සූදනම් කිරීමටද) අප කටයුතු කරන්නේ නැත්නම්, සමාජවාදීන් වශයෙන් අපෙන් පොදු ජනතාවට ඉටු විය යුතු යුතු කම අපි පැහැර හරින්නමෝ වෙමු. එපමණක් නොව, සාංසිද්ධික ලෙස ප්‍රබෝධමත් වන පොදු ජනතාව විසින් ද, ඔවුන්ගේම පිරිස් අතරින්, වැඩි වැඩියෙන් "වෘත්තීය විප්ලවවාදීන්" බිහි කරනු ලබන හෙයින්, මෙම යුතු කම ඉටු කිරීමෙහි අපි සමත් වන්නෙමු (එය සිදු වන්නේ, කල් බලමින් සිටින කම්කරුවන්ට උපදෙස් දීමට අප අධිෂ්ඨාන කර නොගතහොත් පමණකි).



### ඇ) කම්කරුවන්ගේ සංවිධානය සහ විප්ලවවාදීන්ගේ සංවිධානය

දේශපාලන අරගලය පිළිබඳ සංකල්පය හා "ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලය" පිළිබඳ සංකල්පය ඒකීභූත වශයෙන් සලකන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු, "විප්ලවවාදීන් ගේ සංවිධානය" බොහෝ දුරට "කම්කරුවන්ගේ සංවිධානය" හා එක සමාන



වනු ඇතැයි අපේක්ෂා කිරීම ඉතාමත් ස්වාභාවික ය. ඇත්ත වශයෙන්ම සිදු වන්නේ ද එය ම ය. එනිසා අප සංවිධාන ගැන කථා කරන විට, භාෂා දෙකකින් කථා කරනු වැනි ය. නිදර්ශනයක් වශයෙන්, මා කලින් හඳුනා ගෙන නොසිටි, තරමක් දුරට ස්ථිර වූ "ආර්ථිකවාදියෙක්" සමග මා වරක් කළ සංවාදය මට හොඳට මතක ය.[183] අප කථා කරමින් සිටියේ "දේශපාලන විප්ලවය ඇති කරන්නේ කවුද?" යන කුඩා පොත ගැන ය. එම පොතෙහි ප්‍රධාන දුර්වලකම වූයේ, එහි සංවිධානය පිළිබඳ ප්‍රශ්නය ගැන සඳහන් කර නොතිබීම ය යන අදහසට, වැඩි දුර යන්න මත්තෙන් ම අපි එළඹීයෙමු. අප දෙදෙනා අතර සම්පූර්ණ එකඟත්වයක් ඇතැයි යන අදහස පිළිගන්නට පටන් ගන්නා තැනට පැමිණ සිටියෙමු. එහෙත් සංවාදය තව දුර යත් ම, අප කථා කරන්නේ එකිනෙකට වෙනස් දේ ගැන බව පෙනී ගියේ ය. වැඩ වර්ජන අරමුදල්, අන්‍යෝන්‍ය යහ සාධක සමිති ආදිය ගැන අමතක කිරීම සම්බන්ධයෙන් මගේ සංවාදකයා කර්තෘට චෝදනා කළ අතර, මා සිත්හි තිබුණේ දේශපාලන විප්ලවය "ඇති කිරීම" සඳහා අත්‍යාවශ්‍ය වන සාධකයක් වශයෙන්, විප්ලවවා-දීන්ගේ සංවිධානයක් පිළිබඳව ය. අසමථය ගැන පැහැදිලි වීමෙන් පසු, මට මතක හැටියට, "ආර්ථිකවාදියා" සමග මා එකඟ වූ ප්‍රතිපත්තිමය ප්‍රශ්න එකක් වත් නොවීය!

අපගේ අසමථය ප්‍රභව වූයේ කුමකින් ද? ඊට කාරණා වූයේ සංවිධානය හා දේශපාලනය යන දෙ ආකාරයේ ම ප්‍රශ්නවල දී "ආර්ථිකවාදීන්", සදාකාලිකවම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් වෘත්තීය සමිතිවාදයට ඇද හැලෙමින් සිටීම ය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දේශපාලන අරගලය, කම්කරුවන් ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලයට වඩා ඉතාමත් විස්තීර්ණය, සංකීර්ණය. එමෙන්ම, (ඇත්ත වශයෙන්ම, එම හේතුව නිසාම) විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සංවිධානය ද, කම්කරුවන්ගේ මෙම අරගලය සඳහා අරමුණු කළ සංවිධානයට වඩා අනිවාර්යණීය වශයෙන් ම වෙනස් වූ වර්ගයේ එකක් විය යුතුය. දෙවැනිව, එය හැකි තරම් දුරට පුළුල් විය යුතු ය. තුන්වැනිව, පවත්නා තත්වයන් අනුව ඉඩ ලැබෙන තාක් දුරට, එය හැකි තරම් ප්‍රසිද්ධ සංවිධානයක් විය යුතුය (මෙහිදී හා තවත් ඉදිරියේ දී, මා මෙසේ සඳහන් කරන්නේ ඒකාධිපති රුසියාව ගැන පමණකි). අනිත් අතට, විප්ලවවා-දීන්ගේ සංවිධානය, පළමුව හා ප්‍රධාන වශයෙන් සමන්විත විය යුත්තේ, විප්ලවවාදී කටයුතු ස්වකීය වෘත්තීය වශයෙන් ගත්, පුද්ගලයන්ගෙනි (එහෙයින්, මා කථා කරන්නේ විප්ලවවාදීන්ගේ, එනම්, සමාජ-ප්‍රජා-තන්ත්‍රවාදීන්ගේ සංවිධානය ගැනය). එවැනි සංවිධානයක සාමාජිකයින් අතර, තිබිය යුතු මෙම පොදු අංග ලක්ෂණ ගැන සලකා බලන කල,

ඔවුන් අතර කම්කරුවන් හා බුද්ධිමතුන් යන වැනි වෙනස් කම් සියල්ල මකා දැමිය යුතු ය. එම දෙ කොටසෙහි ම වෘත්තීන් අතර වෙනස් කම් ද මකා හළ යුතු බව, මේ අනුව කීම අවශ්‍ය නොවේ. එවැනි සංවිධානයක් අවශ්‍යයෙන්ම බොහෝ විස්තීර්ණ විය නොහැකිය. එය හැකි තරම් දුරට රහස්‍ය විය යුතු ය. මෙම තුන් වැදැරුම් වෙනස් කම් ගැන සලකා බලමු.

දේශපාලන නිදහස තිබෙන රටවල වෘත්තීය සමිති සංවිධානයක් හා දේශපාලන සංවිධානයක් අතර ඇති වෙනස ප්‍රමාණවත් තරමට පැහැදිලි ය. වෘත්තීය සමිතිවාදය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අතර වෙනස ද එසේ ම පැහැදිලි ය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය හා වෘත්තීය සමිති අතර සම්බන්ධකම්, ඒ ඒ රටෙහි, ඓතිහාසික, නීතිමය හා වෙනත් තත්වයන් අනුව, ස්වාභාවික වශයෙන් ම වෙනස් වනු ඇත. ඒවා අඩු වැඩි වශයෙන් සමීප හා සංකීර්ණ විය හැක (අපගේ අදහසේ හැටියට ඒවා හැකි තාක් දුරට සමීප හා සංකීර්ණ භාවයෙන් අඩු විය යුතු ය). නමුත්, නිදහස් රටවල වෘත්තීය සමිති සංවිධානය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සංවිධානය සමග එක සම වීම කිසි සේත් සිදු විය නොහැකි ය. එසේ වුවද, රුසියාවේ සියළු ආකාරයකම කම්කරු සමාගම් හා අධ්‍යයන කව තහනම් කර තිබෙන නිසා ද, කම්කරුවන්ගේ ආර්ථික අරගලය ප්‍රකාශ කෙරෙන ප්‍රධාන ක්‍රමය වන වැඩ වර්ජනය සාපරාධී වරදක් ලෙස (සමහර විට දේශපාලන! වරදක් ලෙස පවා) සලකනු ලබන නිසා ද, ඒකාධිපත්‍යයේ වියගස හේතු කොට ගෙන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානය හා කම්කරුවන්ගේ සංවිධාන අතර සියළු වෙනස් කම් මැකී යන ආකාරයක් බැලූ බැල්මට පෙනෙන්නට තිබේ. එම නිසා අප රටේ පවත්නා තත්වයන් විසින්, එක් අතකින්, ආර්ථික අරගලයේ යෙදී සිටින කම්කරුවන්, දේශපාලන ප්‍රශ්න සම්බන්ධයෙන් සැලකිලිමත් වීමට "පොළඹවනු" ලැබීමත්, අනිත් අතට, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, වෘත්තීය සමිතිවාදය හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය එකට පටලවා ගැනීමට පොළඹවනු ලැබීමත්, සිදු වේ (තවද, අපගේ ක්‍රිචේව්ස්කි, මර්තිනව් සහ සමාගම, ඉන් ප්‍රථම වර්ගයේ "පොළඹවීම" ගැන උත්සුක ලෙස සාකච්ඡා කරමින් සිටින අතර, දෙවැනි වර්ගයේ "පොළඹවීම" නොම දකිති). "ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලය" තුළ, සියයට අනූ නවයක්ම ගිලී සිටින අය කෙබඳුද යනු ඇත්තෙන්ම සිතට නගා බලන්න. ඉන් සමහර දෙනෙක්, ඔවුන්ගේ ක්‍රියාකාරිත්වයේ (මාස හතර සිට හය දක්වා වන) මුළු කාලය තුළ ම, විප්ලවවාදීන්ගේ වඩාත් සංකීර්ණ සංවිධානයක අවශ්‍යතාවය ගැන කල්පනා කිරීමට, කිසි කලෙකත් නොපෙළඹෙනු ඇත. අන් අයට, සමහර විට, වඩාත් පුළුල් ලෙසට බෙද හරිනු ලබන බර්න්ෂ්ටයින්වාදී පත පොත ලැබී, එයින් ඔවුනට "සැමද නීරස අරගලයේ" ඉදිරි ගමනෙහි



වැදගත් කම ගැන ගැඹුරු අවබෝධයක් ලැබෙනු ඇත. තවත් සමහර අය, "නිර්ධන පංති අරගලය සමග සමීප ඓන්ද්‍රිය සම්බන්ධ කම් පැවැත්වීම, වෘත්තීය සමිති සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර අතර සම්බන්ධකම් පැවැත්වීම, පිළිබඳව ලෝකයාට නව ආදර්ශයක් දීමේ අදහසින් මුළාවට පත් වනු ඇත. කිසියම් රටක්, ධනේශ්වර පොර පිටියට පා තැබීමටත්, ඒ අනුව කම්කරු පංති ව්‍යාපාරයට පා තැබීමටත්, ප්‍රමාද වූ තරමට, ඒ රටේ සමාජවාදීන්, වෘත්තීය සමිති ව්‍යාපාරයට සහභාගි වීමට හා ඊට ආධාර කිරීමට තිබෙන ඉඩ කඩ වැඩි බවත්, ඒ තාක් දුරට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන සමිති පැවතීමට හේතු අඩු වන බවත් කියමින්, එවැනි පුද්ගලයන් තර්ක කිරීමට පිළිවන. මේ දක්වා, එම තර්කය සම්පූර්ණයෙන්ම නිවැරදි ය. එහෙත්, අවාසනාවකට මෙන්, සමහර අය ඊටත් එහා ගොස්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සම්පූර්ණයෙන් ම වෘත්තීය සමිතිවාදය සමග එකට සංකලනය කිරීමේ සිහින දකිති. එ වැනි සිහින වලින්, අපගේ සැලසුම් කෙරෙහි හා සංවිධාන කෙරෙහි ඇති වන හානි දයක ප්‍රතිඵල කෙබඳු ද යන්න, ගැන නිදර්ශනයක් වශයෙන්, "සාන්ත පීටර්ස්බර්ග් අරගල සංගමයේ" ව්‍යවස්ථාවෙන් නුදුරේ දීම අපට දක්ක හැකිය.

ආර්ථික අරගලය සඳහා වූ කම්කරුවන්ගේ සංවිධානය විය යුත්තේ, වෘත්තීය සමිතිය ය. සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කාරක වරයෙක් ම, හැකි තාක් දුරට, මෙම සංවිධානවලට සහාය විය යුතු ය. ඒවා තුළ ක්‍රියාශීලී ලෙස වැඩ කළ යුතු ය. එසේ වුවත්, වෘත්තීය සමිති සංගම්වල සාමාජිකත්වයට තෝරා ගත යුත්තේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පමණක්ය යන ඉල්ලීම, කිසි සේත් අපට යහපතක් ගෙන දෙන්නක් නොවේ. එයින් සිදු වන්නේ පොදු ජනතාව කෙරෙහි, අප බල පාන ක්ෂේත්‍රය පටු කිරීමක් පමණකි. ස්වාමී වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව අරගලය සඳහා එක්සත් විය යුතු බව වටහා ගත්, සෑම කම්කරුවෙක්ම වෘත්තීය සමිතිවලට සම්බන්ධ කර ගත මනා ය. වෘත්තීය සමිති මගින්, යටත් පිරිසෙයින් මෙම අවබෝධය ඇති අය සියළු දෙනා ම වත් එකසත් කරන්නේ නැත්නම්, ඒවා ඉතා පුළුල් සංවිධාන නොවන්නේ නම්, එවිට, ඒවායේම අරමුණු පවා, කිසිසේත් ඉටු කර ගත හැකි නොවේ. මෙම වෘත්තීය සංගම් පුළුල් වූ තරමට, ඒවා කෙරෙහි අප පාන බලය ද, වැඩියෙන් පුළුල් වේ. එම බල පෑම ඇති වන්නේ, ආර්ථික අරගලයේ "සාංසිද්ධික" සංවර්ධනය නිසා පමණක් නොව, සමාජවාදී වෘත්තීය සංගම් සාමාජිකයන්, ඔවුන්ගේ සහෝදරයන් කෙරෙහි බල පෑමට දරන ඍජු හා විඥත ප්‍රයත්නයන් නිසා ද වේ. එහෙත් පුළුල් සංවිධානයකට, තදබල රහසිගත ක්‍රම යොද ගත නොහැකිය. (ආර්ථික අරගලය සඳහා අවශ්‍ය වෙනවාට වඩා ඉතාමත්

දුඩි පුහුණුවක්, එම ක්‍රම සඳහා අවශ්‍ය වන හෙයිනි). විශාල සාමාජිකත්වයක් අවශ්‍ය වීමත්, තද බල රහසිගත ක්‍රම අවශ්‍ය වීමත්, අතර ප්‍රති විරෝධය විසඳා ගන්නේ කෙසේ ද? අපි, කෙසේ නම්, වෘත්තීය සමිති හැකි තරම් දුරට ප්‍රසිද්ධ සංවිධාන බවට පත් කරන්නෙමු ද? සැබෑ ලෙස ම කියතොත්, මෙම අරමුණ ඉටු කරගැනීමට ඇත්තේ මාර්ග දෙකක් පමණකි. එක්කෝ වෘත්තීය සමිති සංගම් නීති ගත විය යුතු ය (සමහර රටවල සමාජවාදී හා දේශපාලන සංගම් නීත්‍යානුකූල කිරීමට පෙර මෙය සිදු විය). නැතහොත්, සංවිධාන රහසිගතව තබා ගන්නා නමුත්, බහුතර සාමාජිකත්වය සම්බන්ධයෙන් රහස්‍ය ක්‍රම අවශ්‍ය වීම ඉතාමත් අඩු වන සේ එය ''නිදහස්'' සහ නියමයක් නැති ලෙසට, ජර්මන් වරු කියන පරිදි lose* තබාගත යුතුය.

රුසියාවේ සමාජවාදී නොවන, දේශපාලන නොවන, සංගම් පවත්වා ගැනීම සඳහා නීති සම්පාදනය කිරීමට කටයුතු ආරම්භ කර තිබේ. වේගයෙන් වර්ධනය වන අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පංති ව්‍යාපාරය නිසා, නීති සම්පාදනය කිරීමට දරන ප්‍රයත්නයන් ද, වැඩි වන හා උනන්දු කෙරෙන බවට සැකයක් නැත. වැඩි වශයෙන් ම මෙම ප්‍රයත්න දරන්නේ, පවත්නා ක්‍රමයේ ආධාර කරුවන් වන නමුත්, කම්කරුවන් අතරින්ද, ඒ සඳහා ප්‍රයත්න දරනු ලැබෙන අවස්ථා ඇත. වසීලියව්ලා සහ සුබාතව්ලා දැනටමත් නීත්‍යානුකූල භාවයේ ධජය ඔසවා ඇත. වොර්ම්ස් සහ ඕසෙරව් එයට ආධාර දීමට දැනටමත් පොරොන්දු වී ඇත. නව ප්‍රවණතාවයේ අනුගාමිකයින් දැන් කම්කරුවන් අතර ද සිටිති. මෙතැන් පටන්, මෙම ප්‍රවණතාවය ගණන් නොගෙන සිටීමට අපට පුළුවන් කමක් නොමැත. අප එය සැලකිල්ලට ගෙන කටයුතු කරන්නේ කොහොම ද? මෙම කාරණය සම්බන්ධයෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර අදහස් දෙකක් තිබිය නොහැකිය. මෙම ව්‍යාපාරය තුළ සුබාතව්ලා සහ වසීලියව්ලාත්, පොලිස් හේවායන් හා පූජක වරුනුත්, කරන ඕනෑම කටයුත්තක් ස්ථිරසාර ලෙස හෙළිදරව් කරමින්, ඔවුන්ගේ සැබෑ බලාපොරොත්තු ගැන කම්කරුවන්ට විස්තර කර දීමට, අපි කටයුතු කළ යුතු වෙමු. කම්කරුවන්ගේ නීත්‍යානුකූල රැස්වීම් වලදී ලිබරල් දේශපාලනඥයන් කථා කරන්නේ, සාමකාමී පංති සහයෝගිතාවය සුදුසු ය යන බලවත් විශ්වාසයෙන් හෝ, නැතහොත්, බලවතුන්ගේ ප්‍රසාදයට ලක් වීමේ කැමැත්තෙන් හෝ, එසේත් නැතහොත්, හුදෙක් ම ඔවුන්ගේ අමන ස්වභාවයම නිසා වුවද, ඒ ගැන නොතකා අපි ඔවුන්ගේ කථා වලින් ඇසෙන බෙරුම් කාරී සහ ''සංගත'' තාල සියල්ලක්ම හෙළිදරව් කළ

* lose — ලිහිල්ව — සංස්කාරක.



යුතු වෙමු. අවසාන වශයෙන්, එවැනි විවෘත රැස්වීම් වලදී හා අවසර ලත් සමිතිවලදී ''උග්‍ර එවුන්'' සොයා ගැනීමටත්, නීති සහගත සංවිධාන ප්‍රයෝජනයට ගනිමින්, නීති විරෝධී සංවිධාන තුළට කුපිතකාරී වර පුරුෂයන් රිංගවීමට දරන වෑයමක් වශයෙනුත්, පොලිස්කාරයන් නිතර අටවන උගුල් සම්බන්ධයෙන්, අපි කම්කරුවන්ට අනතුරු හඟවමු.

මේ සියල්ල කිරීමෙන් අදහස් කරන්නේ, කම්කරු පංති ව්‍යාපාරය නීත්‍යානුකූල කිරීමෙන් සුබාතව්ලාට නොව, අවසානයේ දී අපට වාසි වන බව අමතක කිරීම නොවේ. එපමණක් නොව, තිරිඟු පැල අතරින් වල් පැලෑටි වෙන් කර ගැනීමට උපකාර වන්නේ ද, අපගේ හෙළිදරව් කිරීමේ ව්‍යාපාරය මය. වල් පැලෑටි මොනවාද යනු අපි දැනටමත් පෙන්වා දී ඇත්තෙමු. තිරිඟු පැල යනුවෙන් අප අදහස් කරන්නේ, කම්කරුවන්ගේ ඉතාමත් නොදියුණු කොටස ද ඇතුළුව, එන්න එන්නම වැඩි වන කම්කරු සංඛ්‍යාවන්ගේ අවධානය සමාජ හා දේශපාලන ප්‍රශ්න කෙරේ ආකර්ෂණය කිරීම හා අවශ්‍යයෙන් ම නීත්‍යානුකූල වන (නීත්‍යානුකූල පොත් බෙදහැරීම, අන්‍යොන්‍යාධාර ආදී) කාර්යයන්ගෙන් විප්ලවවාදීන් වන අප නිදහස් වීම ය. එම නීත්‍යානුකූල කාර්යයන් වර්ධනය වීමෙන්, නිසැකවම අපගේ උද්ඝෝෂණය සඳහා වැඩි වැඩියෙන් කරුණු ලැබෙනු ඇත. මේ අර්ථයෙන්, සුබාතව්ලාට හා ඕසෙරව්ලාට අපි මෙසේ කිව මනා ය, කිව යුතුය: එය කරගෙන යන්න මහත් වරුනි. පුළුවන් තරම් හොඳින් එය කරන්න. ඔබ (ඍජු ප්‍රකෝප කිරීමකින් හෝ ''ස්ත්‍රෑවේවාදයේ''[184] ආධාර ඇතිව, ''අවංකව'' කම්කරුවන් දුර්මුඛ කිරීම මගින් හෝ) කම්කරුවන්ගේ මාර්ගයේ උගුලක් ඇට වූ විටෙක, ඔබ හෙළිදරව් වන තැනට අපි කටයුතු කරන්නෙමු. එහෙත්, සැබැවින්ම ඔබ ඉදිරි පියවරක් ගත් විටෙක, එය ඉතාමත් ''බියගුළු වට වංගුවක්'' වුවත් අපි මෙසේ කියමු: කරුණාකර නො නැවත ඉදිරියට යන්න! තවද, සැබෑ ඉදිරි පියවරක් විය හැකි එකම පියවර තැබීම වන්නේ යම්තමින් හෝ කම්කරුවන්ගේ යටත් ක්ෂේත්‍රය ව්‍යාප්ත කිරීමය. එවැනි සෑම ව්‍යාප්ත වීමක් ම අපගේ වාසියට හේතු වේ. නීත්‍යානුකූල සමිති ඇතිවීම එයින් ඉක්මන් කෙරෙන අතර, එම සමිති වර්ගය, කුපිතකාරී වර පුරුෂයන් විසින් සමාජවාදීන් ලුහු බඳිනා භූමියක් නොව, සමාජවාදීන් විසින් අනුගාමිකයන් දිනා ගන්නා භූමියක් වන්නේය. කොටින් කියතොත්, අපගේ කර්තව්‍යය වී තිබෙන්නේ, වල් පැලෑටි මර්දනය සඳහා සටන් කිරීමය. අපගේ කර්තව්‍යය මල් පෝච්චිවල තිරිඟු වැවීම නොවේ. වල් පැලෑටි උදුරා දැමීමෙන් අප කරන්නේ තිරිඟු වැවෙනු පිණිස බිම ශුද්ධ කිරීම ය. අපනාසි ඉවානව්ච්ලා හා පුල්හේරිය ඉවානව්නලා[185] ඔවුන්ගේ මල් පෝච්චි කෙත බලාගෙන සිටිද්දී අපි අද

වල් නෙළීම සඳහා පමණක් නොව, හෙට අස්වැන්න නෙළීම සඳහා ද නෙළුම් කරුවන් සූදනම් කළ යුතු වෙමු.*

එම නිසා, හැකි තරම් දුරට රහස්‍ය භාවය අඩු, හැකි තරම් දුරට විශාල වෘත්තීය සමිතියක් හැදීමේ ප්‍රශ්නය නීත්‍යානුකූල කිරීමේ මාර්ගයෙන් විසඳාගත නො හැකි බව අපට පෙනේ. (එහෙත්, එවැනි විසඳීමක් කර ගැනීමට අර්ධ හෝ අවස්ථාවක්, පවා විවෘත කිරීමට සුබාතව්ලා සහ ඕසෙරව්ලා සමත් වෙති නම්, අපි බෙහෙවින් සතුටු වෙමු. එසේ වුවත්, මෙම අරමුණ සාර්ථක කර ගැනීම සඳහා අපි ඔවුන්ට විරුද්ධව මහත් පරිශ්‍රමයෙන් සටන් කළයුත්තෙමු). රහසිගත වෘත්තීය සමිති තිබේ. )අප නිශ්චිත වශයෙන්ම දන්නා පරිදි) මෙම ක්‍රියාමාර්ගය අනුගමනය කරන කම්කරුවන්ට හැකි සෑම ආධාරයක්ම දිය යුත්තෙමු. වෘත්තීය සමිති සංවිධාන, ආර්ථික අරගලය සංවර්ධනය කිරීමෙහි දී හා තහවුරු කිරීමෙහි දී, ඉතාමත් අගනා සේවයක් ඉටු කිරීමෙහි සමත් වෙනවා පමණක් නොව, දේශපාලන උද්ඝෝෂණයට හා විප්ලවවාදී සංවිධානයට ද ඉතා වැදගත් ආධාරකයක් විය හැක. මෙම අරමුණ ඉටු කර ගැනීම සඳහා සහ වැඩී ගෙන එන වෘත්තීය සමිති ව්‍යාපාරය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අපේක්ෂා කරන මාර්ගය ඔස්සේ මෙහෙය වනු සඳහා, අප ප්‍රථමයෙන් ම කළ යුත්තේ, පස් වසරකට ආසන්න කාලයක් තිස්සේ සාන්ත පීටර්ස්බර්ග් "ආර්ථිකවාදීන්" විසින් පෝෂණය කරන ලද සැලැස්මෙහි අමනෝඥ ස්වභාවය පැහැදිලිව තේරුම් ගැනීම ය. එම සැලැස්ම, ("රබෝචය මීස්ල්" අංක 1 පත්‍රයෙන් ගෙන, "ලිස්තොක් 'රබෝත්නිකා'" අංක 9—10, පිටු 46 හි) 1897 ජූලි මාසයේ පළ කරන ලද, "කම්කරුවන්ගේ අන්‍යොන්‍ය යහ සාධක අරමුදලක් සඳහා ව්‍යවස්ථා" මගින් මෙන්ම, 1900 ඔක්තෝබරයේ දී නිකුත් කළ (විශේෂ පත්‍රිකාවක් වශයෙන් පළ කරන ලදුව, "ඉස්ක්‍රා" අංක 1 හි සඳහන් කරන ලද) "කම්කරු වෘත්තීය

* වල් පැටිවලට විරුද්ධව "ඉස්ක්‍රා" පත්‍රය ගෙන ගිය ව්‍යාපාරය, "රබෝචිය දියල" කළ මෙම කෝපාවිෂ්ඨ ප්‍රකාශයට හේතු විය: "'ඉස්ක්‍රා' පත්‍රය කියන හැටියට, මෙම කාලයේ සංකේතය හැටියට ගැනෙන්නේ (වසන්තයේ) ශ්‍රේෂ්ඨ සිදුවීම්වලට වඩා කම්කරු පංති ව්‍යාපාරය "නීත්‍යානුකූල කිරීමට" සුබාතව් ජේන්ඩලා දරන කාලකණ්ණි උත්සාහයන් ය. මෙම කරුණු එයට හරස් වන බව එයට නො පෙනේ. ආණ්ඩුවේ ඇසින් බලන කල කම්කරු පංති ව්‍යාපාරය තර්ජනාත්මක මට්ටමක් ගෙන ඇති බව තහවුරු වේ" ("සම්මේලන දෙකක්", පිටු 27). මේ සියල්ලටම අප චෝදනා කළ යුත්තේ "ජීවිතයේ බලවත් ඉල්ලීම්වලට කන් නොදෙන" සාධර්මිකවාදීන්ගේ "පොතේ ගුරුවාදය" ටයි. යාරයක් උස තිරිඟු දකිම ප්‍රතික්ෂේප කරන ඔවුහු, අඟලක් උස වල් පැලැටි පීරති! "රුසියානු කම්කරු පංති ව්‍යාපාරය හා සම්බන්ධයෙන් අරමුණු පිළිබඳ විකෘති හැඟුමක්" මෙයින් හෙළි නොවන්නේ ද (එම, පිටු 27)?



සමිති සංවිධානයක් සඳහා ව්‍යවස්ථා" මගින් ද ඉදිරිපත් කර තිබේ. මෙම ව්‍යවස්ථා මාලා දෙකෙහිම, එක ප්‍රධාන දුර්වල කමක් ඇත. පුළුල් කම්කරු සංවිධානයක් අනම්‍යශීලී නිශ්චිත ව්‍යුහයක් තුළ රුවාලීම සහ එම සංවිධානය විප්ලවවාදීන්ගේ සංවිධානය සමග පටලවා ගැනීම, ඒ දෙකෙන්ම කෙරේ. පසුව සඳහන් කළ ව්‍යවස්ථා, ඉතාමත් සවිස්තර ලෙස කෙටුම්පත් කර ඇති හෙයින්, ඒවා ප්‍රථමයෙන් ගෙන බලමු. මෙහි ව්‍යවස්ථා දක්වෙන කොටසෙහි ඡේද පණස් දෙකකි. ඉන් විසි තුනක සඳහන් වන්නේ "කම්කරු කව" වල ව්‍යුහය, ඒවා ක්‍රියා කරන ක්‍රමය හා ඒවායේ බලතල ගැනය. එම කම්කරු කව සෑම පැක්ටරියකම ("දස දෙනෙකුගේ උපරිම සංඛ්‍යාවකින් යුක්තව") සංවිධානය කිරීමට අරමුණු කර ඇති අතර, ඒවා විසින් "මධ්‍යම (පැක්ටරි) කණ්ඩායම්" තෝරා පත් කරනු ලැබීමට නියමිත ය. "පැක්ටරියේ නැතහොත් වැඩ පළේ සිදුවන සියල්ල නිරීක්ෂණය කරන මධ්‍යම කණ්ඩායම, සියළු සිදුවීම් ගැන වාර්තාවක් ලබා ගනියි", යනුවෙන් 2 වැනි ඡේදයේ සඳහන් වේ. "මධ්‍යම කණ්ඩායම දායකයන් වෙත මාසික මුදල් වාර්තාවක් ඉදිරිපත් කරයි", (ඡේදය 17) ආදී වශයෙන් ද සඳහන් ය. "දිස්ත්‍රික්ක සංවිධානය" සඳහා ඡේද දහයක් වෙන් කර තිබේ. ඡේද දහනමයක් වෙන් කර තිබෙන්නේ, "කම්කරුවන්ගේ සංවිධානයේ කාරක සභාව" හා "සන්ක් පිතිර්බුර්ග්ස්කිය අරගල සංගමයේ කමිටුව" අතරවන ඉතාමත් සංකීර්ණ සම්බන්ධ කම් වෙනුවෙනි. ("සන්ක් පිතිර්බුර්ග්ස්කිය අරගල සංගමය" සමන්විත වන්නේ, සෑම දිස්ත්‍රික්කයකින්ම තෝරා පත් කරගත් නියෝජිතයන්ගෙන් ද, "ප්‍රචාරක කණ්ඩායම්, පළාත් සමග හා විදේශගත සංගමය සමග සම්බන්ධකම් පවත්වන කණ්ඩායම් සහ ගබඩා, ප්‍රකාශන හා මුදල් පාලනය කරන කණ්ඩායම්" යන "විධායක කණ්ඩායම්" වල නියෝජිතයන් ගෙන් ද වේ).

කම්කරුවන්ගේ ආර්ථික අරගලය හා සම්බන්ධයෙන් වූ කල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය="විධායක කණ්ඩායම්". "ආර්ථිකවාදීන්"ගේ අදහස්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සිට වෘත්තීය සමිති වාදය කරා අපගමනය කරන බවත්, නිර්ධන පංතියේ සමස්ත විමුක්ති අරගලයට ම මග පෙන්වීමෙහි සමත්, විප්ලවවාදීන් ගේ සංවිධානයක් ගැන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ සැලකිල්ල පළමුවෙන් හා ප්‍රධාන වශයෙන් යොමු කළ යුතු යයි කියවෙන කිසියම් හෝ අදහසක් ඔවුනට කොතරම් අන්‍යතරද යනුත්, මීට වඩා කැපී පෙනෙන ලෙසින් පෙන්වා දීම අපහසු දෙයක් වීමට ඉඩ තිබේ. "කම්කරු පංතියේ දේශපාලන විමුක්තිය" ගැන හා "සාර්වාදී දූෂ්‍ය පාලනයට" විරුද්ධව කරන අරගලය ගැන කථා කරන අතරම, මෙවැනි ව්‍යවස්ථා කෙටුම්පත් කිරීමෙන් අදහස් කෙරෙන්නේ, සමාජ-

ප්‍රජාතන්ත්‍රවාදයේ නියම දේශපාලන කර්තව්‍යයන් ගැන කිසිම වැටහීමක් නොමැති බවයි. පොදු ජනතාව අතර, හැකි තරම් පුළුල් පරිමාණයෙන් දේශපාලන උද්ඝෝෂණය කරගෙන යාමත්, රුසියානු ඒකාධිපතිවාදයේ සෑම අංශයක්ම හා රුසියාවේ විවිධ සමාජ පංතිවල විශේෂ අංග ලක්ෂණයන්ද මතු කොට දක්වන උද්ඝෝෂණයක් ගෙන යාමත් අවශ්‍යය යන වැටහීම පිළිබඳ මන්දලෝකයක් වත්, පණස් ගණනක් වූ ඡේද අතුරෙන් එකකින්වත් පෙනෙන්නේ නැත. මෙ වැනි ව්‍යවස්ථා වලින් දේශපාලන අරමුණු තබා, වෘත්තීය සමිති අරමුණු පවා ඉටු කර ගැනීමට, සිදු වන ප්‍රයෝජනයක් නැත. වෘත්තීය සමිති සංවිධානය කරනු ලබන්නේ කර්මාන්ත අනුව වන නමුත්, ඒ ගැන ද කිසිම සඳහනක් මෙම ව්‍යවස්ථාවල නැත.

එහෙත් මෙම ''ක්‍රමයේ'' ඉතාමත් ස්වභාව නිරූපී අංග ලක්ෂණය වන්නේ, එහි දක්නට ලැබෙන පුදුමාකාර මුදුන බර ස්වභාවය යි. එකාකාර හා හාස්‍ය ජනක තරම් නොවැදගත් ස්ථිර ව්‍යවස්ථා වලියකින් හා මට්ටම් තුනකින් යුත් තෝරා පත් කිරීම් ක්‍රමයකිනුත්, සෑම පැක්ටරියක්ම හා එහි ''කාරක සභාව'' එකට බැඳීමට එම ක්‍රමයෙන් උත්සාහ කරනු ලැබේ. ''ආර්ථිකවාදයේ'' පටු අදහසින් කොටු වූ සිත, අනවශ්‍ය කාර්යයන් හා නිලධාරිවාදය පිළිබඳ දුර්ගන්ධය ඒකාන්ත ලෙසම විහිදුවන, විස්තර අතරට වැදී මුළා වී ඇත. ව්‍යවස්ථා ඡේදයන් අතුරෙන් හතරෙන් තුනක්ම භාවිතයේ දී ක්‍රියාත්මක නො කෙරේ. අනික් අතට, සෑම පැක්ටරියක ම මධ්‍යම කණ්ඩායමක් සහිත මෙම වර්ගයේ ''රහස්'' සංවිධාන ඇති කිරීම කරණ කොට ගෙන, පොලිස් හේවායන්ට ඉතා පහසුවෙන් බොහෝ විශාල පරිමාණයේ වැටලීම් කළ හැකි වේ. පෝලන්ත සහෝදර වරුද ව්‍යාපාරයේ මෙවැනි අවධියක් පසු කළහ. පැතිරී ගිය පරිද්දෙන්, කම්කරුවන්ගේ යහ සාධක අරමුදල් සංවිධානය කිරීම ගැන සෑම දෙනා ම උනන්දු වූහ. එහෙත්, එවැනි සංවිධානවලින් සිදුවන්නේ පොලිස්කාරයින්ට සරු අස්වැන්නක් ලබා දීම පමණක් වන බව දුටු ඔවුහු, ඉතා ඉක්මණින් ම මෙම අදහස ඉවත ලූහ. අප සිත තුළ තිබෙන්නේ සිර භාරයට ගැනීම බහුල කිරීම නො වේ නම්, පොලිස් හේවායන් තෘප්තියට පත් කිරීමේ අදහසක් අපට නැත්නම්, අප කල්පනා කරන්නේ පුළුල් කම්කරු සංවිධාන ගැන නම්, එවිට, එම සංවිධාන අනම්‍යශීලී, විධිමත් ව්‍යුහයකින් තොරව, පවත්වා ගැනීමට අපි වග බලාගත යුත්තෙමු. නමුත් එසේ වූවහොත්, ඒවාට ස්වකීය කාර්යයන් ඉටු කළ හැකි වේ ද? මෙම කාර්යයන් මොනවාදැයි බලමු. ''පැක්ටරියේ සිදු වන සියල්ල නිරීක්ෂණය කර සිදුවීම් ගැන වාර්තාවක් තබා ගැනීම'' (ව්‍යවස්ථාවල 2 වැනි ඡේදය). මෙම කටයුත්ත සඳහා අපට විධිමත් ලෙස පිහිටුවන ලද කණ්ඩායමක් ඇත්ත



වශයෙන් ම අවශ්‍ය වේ ද? විශේෂ කණ්ඩායම් පිහිටුවන්නේ නැතිව, නීති විරෝධී ප්‍රවෘත්ති පත්‍රවල කෙරෙන ලිපි හුවමාරුව මගින් මෙම කාරණය වඩාත් සාර්ථක ලෙස ඉටු කර ගත හැකි නො වේ ද? ''...කර්මාන්ත ශාලාවේ කම්කරුවන්ගේ තත්වයන් වැඩි දියුණු කර ගැනීම සඳහා වූ ඔවුන් ගේ අරගලයට නායකත්වය දීම'' (3 වැනි ඡේදය). මේ සඳහා නියමිත සංවිධාන ආකෘතියක් අවශ්‍ය නොවේ. කම්කරුවන්ගේ ඉල්ලීම් මොනවාද යනු සාමාන්‍ය සංවාදයේ දී වටහා ගෙන, ඒවා පත්‍රිකාවකින් ප්‍රකාශයට පත් කිරීම පිණිස, විප්ලවවාදීන්ගේ (පුළුල් නොවන) පටු සංවිධානයක් වෙත යැවීම, ඕනෑම කල්පනා කාරී උද්ඝෝෂකයෙකුට කළ හැකි දෙයකි. ''...රූබලයකට* කොපෙක් දෙක බැගින්, දයක මුදල් ගෙවනු ලබන අරමුදලක් සංවිධානය කර'' (9 වැනි ඡේදය), ඊළඟට දයකයින්ට මාසික මුදල් වාර්තාවක් ඉදිරිපත් කිරීම (17 වැනි ඡේදය), තම දයක මුදල නො ගෙවන සාමාජිකයින් නෙරපීම (10 වැනි ඡේදය) ආදී වශයෙනි. මෙය නම් පොලිසියට ස්වර්ගයක් බඳු ය. ''මධ්‍යම පැක්ටරි අරමුදලේ'' රහස්‍ය භාවය පසාරු කර ගෙන ගොස්, මුදල් රාජ සන්තක කර, හොඳම අය සිර භාරයට ගැනීම තරම් ඔවුනට පහසු වන තවත් දෙයක් නොමැති වනු ඇත. කවුරුත් දන්නා (ඉතා පටු සහ ඉතා රහසිගත) සංවිධානයක නිල මුද්‍රාව සහිත කොපෙක් එකේ හෝ කොපෙක් දෙකේ කූපන් නිකුත් කිරීමෙන් හෝ, කිසිම වර්ගයක කූපන් නොමැතිව හෝ, මුදල් එකතු කිරීම හා නීති විරෝධී පුවත් පතක ගුප්ත ආකාරයෙන් වාර්තා පළ කිරීම, වඩාත් සරල නො වන්නේද? එ මගින් අරමුණ ඉටු කර ගත හැකි ය. එහෙත්, එවිට, පොලිසියට හෝඩුවාවන් සොයා ගැනීමේ කටයුත්ත සිය ගුණයකටත් වැඩියෙන් දුෂ්කර වනු ඇත.

මෙසේ තවදුරටත් මට ව්‍යවස්ථා විග්‍රහ කළ හැකි නමුත් මෙතෙක් කියා තිබෙන කරුණු සෑහේ යයි සිතමි. ප්‍රධාන දිස්ත්‍රික්කවල වග කිව යුතු නියෝජිතයින් සිටින, රහසිගත භාවයේ ඉතාමත් තද බල නීති සියල්ලෙන්ම විප්ලවවාදීන්ගේ සංවිධානය හා සමග බැඳුනු, ඉතාමත් විශ්වාසදයක, වැඩිම පළ පුරුද්දක් ඇති හා දැඩිතම කම්කරුවන් ගේ අරටු කොටස වශයෙන් ගත හැකි, කුඩා හා මනාව ඒකාබද්ධ වූ කම්කරුවන් ක්ණ්ඩායමකට, පොදු ජනතාවගේ පුළුල්තම සහයෝගය ලබා ගත් විට, ඔවුන්ට, විධිමත් සංවිධානයක් නොමැතිවම, වෘත්තීය සමිති සංවිධානයකට අදල සියළුම කාර්යයන් ඉටු කළ හැකි වනවා පමණක් නොව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට ගැලපෙන ආකාරයට ද එය කළ හැකි වේ. පොලිස් හේවායන් කොතෙකුත් සිටියදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වෘත්තීය

* ඉපයූ චේතනයෙන් — සංස්කාරක

සමිති ව්‍යාපාරයේ තහවුරුතාවය හා සංවර්ධනය ඇති කර ගත හැක්කේ මේ මාර්ගයෙන් පමණකි.

එතරම් lose*, නියම ආකාරයෙන් පිහිටුවා නැති, ඒ තබා, බඳවා ගත් හා ලියා පදිංචි සාමාජිකත්වයක් පවා නැති සංවිධානයක්, කිසිසේත් සංවිධානය යන නමින් හැඳින්විය නො හැකි යයි කියමින් කෙනෙකුට විරුද්ධ වීමට පුළුවන. සමහර විට එය එසේ විය හැක. වැදගත් වන්නේ නම නො වේ. වැදගත් වන්නේ, අපේක්ෂා කරන සියළුම දේ "සාමාජිකයින් නොමැති සංවිධානයෙන්" නියත ලෙසට ඉටු වීම හා අනාගත වෘත්තීය සමිති හා සමාජවාදය අතර දැඩි සම්බන්ධයක් නොපිරිහෙලා ඇති කිරීම ය. ඒකාධිපත්‍යය යටතේ, නිලවරණ, වාර්තා සහ සර්වජන ඡන්දය ආදිය සහිතව කම්කරුවන්ගේ පුළුල් සංවිධානයක් පවත්වනු ඇත්තේ, හුදෙක්ම දුස්සාධ්‍ය මනෝරාජිකවාදියෙක් පමණකි.

මෙයින් ගත හැකි ආදර්ශය සරල ය. විප්ලවවාදීන්ගේ ශක්තිමත් සංවිධානයකින් සැදුම් ලත්, දැඩි පදනමක් ඇතිව අපි කටයුතු අරඹන්නෙමු නම්, අපට ව්‍යාපාරයේ ස්ථායි තාවය තහවුරු කළ හැකි වන අතර ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සහ නියම වෘත්තීය සමිතියේ ද, යන දෙකෙහි ම, අරමුණු ද ඉටු කළ හැකි වේ. එසේ වුවද, පොදු ජනතාවට වඩාත් පහසුවෙන් ළඟා විය හැකි යයි කියන (නමුත් ඇත්ත වශයෙන්ම පොලිස් හේවායන්ට පහසුවෙන් ළඟා වෙනු හැකි හා පොලිස් හේවායින්ට විප්ලවවාදීන් වෙත ළඟා වීම ඉතාමත් පහසු කරන), පුළුල් කම්කරු සංවිධානයක් ඇතිව අපි කටයුතු කරන්නමෝ නම්, අපට ඒ අරමුණු දෙකෙන් එකක් වත් ඉටු කර ගැනීමට නුපුළුවන් වේ. එ මෙන්ම, අප විසිරී සිටින නිසා හා පොලිසිය අපගේ බලවේගයන් නිතරම කඩා කප්පල් කරන නිසා, එවිට අප කරන්නේ, සුබාතව් හා ඕසෙරව් වර්ගයේ වෘත්තීය සමිති වෙත ළඟා වීම පොදු ජනයාට වඩාත් පහසු කිරීම පමණකි.

හරි ආකාරව කථා කරතොත්, විප්ලවවාදීන් ගේ සංවිධානයේ කාර්යයන් විය යුත්තේ මොනවා ද? — මේ ප්‍රශ්නය ගැන සවිස්තරව කරුණු ඉදිරිපත් කරන්නෙමු. එතෙකුදු වුවත්, ස්වභාවය මනාව පිළිබිඹු කරමින්, අපගේ ත්‍රස්තවාදියා ඉදිරිපත් කරන තර්කයක් ප්‍රථමයෙන් පරීක්ෂා කර බලමු. මෙම කාරණය සම්බන්ධයෙන් ද ඔහු "ආර්ථිකවාදියා" ට යාබද නිවසේ සිටින, ඔහුගේ අසල් වැසියා වන්නේ ය (ශෝක ජනක ඉරණමකි!). කම්කරුවන් සඳහා පළ කරන ලද "ස්වබෝද" සඟරාවේ ප්‍රථම කලාපයෙහි "සංවිධානය" යන මාතෘකාව යටතේ එන ලිපියක් අන්තර්ගත ය. එම ලිපියේ කර්තෘ, ඔහුගේ මිතුරන් වන, ඉවානවස්නිසියන්ස්කි හි "ආර්ථිකවාදී" කම්කරුවන් ආරක්ෂා කිරීමට උත්සාහ දරයි. ඔහු මෙසේ ලියයි:

"පොදු ජනයා නිහඬව අවබෝධයෙන් තොරව සිටින විට, ව්‍යාපාරය සාමාන්‍ය ජනතාවගෙන් මතු වී නො එන විට, එය නරක දෙයකි. නිදර්ශනයක් වශයෙන්, විශ්වවිද්‍යාල නගරයක ශිෂ්‍යයන් ග්‍රීෂ්ම සෘතුවේ හෝ වෙනත් නිවාඩුවක් සඳහා නිවෙස් බලා ගිය විට, ඒ වහාම කම්කරු ව්‍යාපාරය ඇන හිටින්නේ ය. පිටතින් තල්ලු කිරීමට සිදු වී ඇති කම්කරු ව්‍යාපාරයක්, සැබෑ බලවේගයක් බවට පත් විය හැකි ද? නැත. ඇත්තෙන් ම... එය තවමත් ඇවිදින්නට උගෙන ගෙන නැත. එය තවමත් ගෝල තත්වයේ පසු වෙයි. සෑම කාරණයක් ම සම්බන්ධයෙන්, එහි තත්වය එයයි. ශිෂ්‍යයන් යන්න ගිය විට සියල්ල ම ඇන හිටියි. ඉතාමත් දක්ෂ අය සිරභාරයට ගනු ලැබේ. යොදය ඉවත් කරනු ලැබේ — එවිට කිරි ඇඹුල් රස වෙයි. "කාරක සභාව" අත් අඩංගුවට ගතහොත්, අළුත් කාරක සභාවක් පිහිටුවනු හැකි වන තෙක්, සියල්ල ම ඇන හිටියි. ඊළඟට පිහිටුවනු ලබන්නේ කුමණ ආකාරයේ කාරක සභාවක් ද යනු කිසිවෙකුත් දන්නේ නැත. එය කලින් එකට කිසි සේත් සමාන නො වන්නට ඉඩ තිබේ. කලින් කාරක සභාව එක දෙයක් කීය. ඊළඟ එක ඊට හාත් පසින් ම විරුද්ධ දෙය කියන්නට ඉඩ ඇත. ඊයේ හා හෙට අතර සම්බන්ධය බිඳී ඇත. අතීත අත් දැකීම්, අනාගත මාර්ග දේශකයෙක් වශයෙන් ප්‍රයෝජනවත් වන්නේ නැත. මේ සියල්ල සිදු වන්නේ පොදු ජනතාව අතර ගැඹුරට මුල් විහිදී නොමැති නිසා ය. වැඩ කරගෙන යනු ලැබෙන්නේ මෝඩයන් සියයක් විසින් නොවේ. ඥානවන්තයින් දුසිමක් විසිනි. ඥානවන්තයින් දුසිමක් සැනෙකින් පිස දැමිය හැකිය. නමුත් සංවිධානය ජනතාව වැළඳ ගෙන පවතින කල, සියල්ල ඔවුන් කෙරෙන් ආරම්භ වන කල්හි, කවුරු කොතරම් උත්සාහ කළත් එම උත්තම ව්‍යාපාරය විනාශ කළ නො හැකිය" (පිටු 63).

කරුණු නිවැරදි ලෙස විස්තර කර තිබේ. අප ගේ ආධුනික ස්වභාවයේ පින්තූරය මැනවින් ඇඳ තිබේ. එහෙත්, එයින් බැස ගත් නිගමන, ඒවායේ අමන ස්වභාවය හා දේශපාලන උපක්‍රම විරහිත භාවය ගැන සලකා බලන කල,ඒවා සුදුසු වන්නේ"රබෝචය මිස්ල්"පත්‍රයට ය.කර්තෘ"මුල්" වල ගැඹුර ගැන වූ දර්ශනික හා සමාජ ඓතිහාසික ප්‍රශ්න හා සමග පොලිස් හමුදු භටයන්ට විරුද්ධව සටන් කිරීමේ හොඳම ක්‍රමය ගැන වූ විධි මාත්‍ර සංවිධානමය ප්‍රශ්නයන් පටලවා ගන්නා හෙයින්, එම නිගමන වලින් අමන ස්වභාවයේ උච්ඡ අවස්ථාව පිළිබිඹු කෙරෙයි. නරක නායකයන් වෙනුවට හොඳ නායකයන් සඳහා ආයාචනා කළ යුතුව තිබිය දී, පොදුවේ නායකයන් වෙනුවට "පොදු ජනතාව" යෙදී ම සඳහා ආයාචනා කිරීම නිසා, එම නිගමන වලින් දේශපාලන උපක්‍රම විරහිත භාවයේ උච්ඡ අවස්ථාව ද පිළිබිඹු කෙරෙයි. මෙය සංවිධානමය වශයෙන් ආපස්සට

* ලිහිල් — සංස්කාරක

ඇදීමට දරන ප්‍රයත්නයකි — දේශපාලන උද්ඝෝෂණය වෙනුවට ඇවිස්සුම්කාරී ත්‍රස්තය ආදේශ කිරීමට සමාන දෙයකි. ''ස්වබෝද'' ඉදිරිපත් කර තිබෙන අවුල් ජාලයෙහි සඳෙස් තැන් කොතරම් තිබේ දැයි කිව හොත්, එහි පටලැවිලි බේරුම් කිරීමට කොතැනින් පටන් ගනීම් ද යන්න embarras de richesses* විමති වෙමි. පැහැදිලි කම තකා, නිදර්ශනයක් ගැන සඳහන් කිරීමෙන් පටන් ගැනීමට අදහස් කරමි. ජර්මානුන් ගැන සිතා බලමු. ඔවුන් ගේ සංවිධානය පොදු ජන සංවිධානයක් බවත්, ජර්මනියේ සියළු දේම ආරම්භ වන්නේ පොදු ජනතාව කෙරෙන් වන බවත්,එහි කම්කරු පංති ව්‍යාපාරය ඇවිදින්නට උගෙන ගෙන තිබෙන බවත්, ප්‍රතික්ෂේප නො කෙරෙනු ඇතැයි විශ්වාස කරමි. එහෙත් මෙම දශ ලක්ෂ සංඛ්‍යාත ජනයා, ඔවුන්ගේ විශ්වාසවත් නායකයන් ''දූසිම'' අගය කරන ආකාරයත්, ඔවුන් කෙරෙහි තදින් එල්බ සිටින ආකාරයත් බලන්න. පාර්ලිමෙන්තුවේ සිටින ඔවුනට විරුද්ධ පක්ෂවල මන්ත්‍රීවරු නොයෙක් වර මෙසේ කෑ ගසා කියා ඇත. ''ඇත්තෙන් ම ඔබ නම් හරිම ප්‍රජාතන්ත්‍රවාදිහු වෙති! ඔබේ ව්‍යාපාරය කම්කරු පංති ව්‍යාපාරයක් වෙන්නේ නමින් පමණකි. සෑම විටම, සැබැවින්ම පෙනෙන්නට සිටින්නේ එකම නායක කල්ලිය මය. අවුරුදු පතාම, එක ම බේබෙල් ය, එකම ලිබ්ක්නෙහ්ත් ය. එය දශක ගණන් තිස්සේ වෙනස් නො වී පවතී. තෝරා පත් කර ගන්නවා යයි කියන ඔබේ කම්කරු නායකයන් අධිරාජයා පත් කරන නිලධාරීන්ට වඩා ස්ථිර ය!'' එහෙත්, ''නායකයන්ට'' විරුද්ධව ''පොදු ජනයා'' උසිගැන්වීමට, පොදු ජනයා තුළ අයහපත් බල ලෝභී හැඟීම් ඇවිස්සීමට හා පොදු ජනයාගේ ''ඥනවන්ත මිනිසුන් දූසිම'' කෙරෙහි පොදු ජනයා තබා ඇති විශ්වාසය දුර්වල කිරීමෙන්, ව්‍යාපාරයේ දෘඩ භාවය හා ස්ථායීතාවය සොරා ගැනීමට, දරන මෙම කෛරාටික ප්‍රයත්නයන් බලා ජර්මානුන් කරන්නේ සිනා සීම පමණකි. ජර්මානුන් තුළ, ප්‍රමාණවත් පමණින් දේශපාලන චින්තනය වර්ධනය වී ඇත. එමෙන්ම, ඔවුන් ප්‍රමාණවත් තරම් දේශපාලන අත් දැකීම් ද ලබා ඇත. එනිසා වෘත්තියමය පුහුණුවක් ලැබූ, දීර්ඝ පළ පුරුද්දෙන් ශික්ෂණය ලැබූ, මනා සංගතියෙන් වැඩ කටයුතු කරන, විශ්වාසවත් හා දක්ෂ නායකයන් ''දූසිම'' (දක්ෂයන් සිය ගණනින් උපදනේ නැත) නොමැතිව, වර්තමාන සමාජයේ කිසිද පංතියකට අධිෂ්ඨාන සහගත අරගලයක් කළ නො හැකි බව, ඔවුහු අවබෝධ කරගෙන සිටිති. ''මොඩයන් සියයට'' බොරු වර්ණනා කළ, ඔවුන් ''ඥනවන්ත මිනිසුන් දූසිමට'' වඩා උච්ඡස්ථානයේ ලූ, පොදු ජනයාගේ ''ගොරෝසු අත්'' මහත් සේ පැසසූ හා

* තෝරා ගැනීමේ අපහසුවෙන් — සංස්කාරක



(මොස්ත් හා හස්සෙල්මන් ලෙසට) වග විභාගයක් නොමැතිව ඔවුන් ''විප්ලවවාදී'' සටන් වලට පෙළඹ වූ, එ මෙන් ම, ස්ථිර හා අචපල නායකයන් කෙරෙහි අවිශ්වාසය වගා කළ කෛරටිකයන්, ජර්මන් ජනයා අතර ද සිටිය හ. ජර්මන් සමාජවාදය දැන් පවතින තත්වයට ශක්තිමත් වීමෙහි සමත් වූයේ, සමාජවාදී ව්‍යාපාරය තුළ වූ සියළු කෛරාටික කොටස්වලට විරුද්ධව දෘඩ ලෙස හා නිර්දය ලෙස සටන් කිරීමෙනි. එසේ වූ නමුත්, සාංසිද්ධික වශයෙන් ප්‍රබෝධවන පොදු ජනයාට මහ පෙන්වීමට ප්‍රමාණවත් තරම් පුහුණුවක් ඇති, දියුණුව හා පළ පුරුදු කම් ඇති, නායකයන් නොමැති වීම හේතු කොට ගෙන පැන නැගී තිබෙන අර්බුදයකට රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය මුහුණ දෙමින් සිටිය දී, අපගේ බොරු පණ්ඩිතයෝ, මෝඩයන්ට උචිත ගාම්භීරත්වයක් පාමින්, හඬ නගා මෙසේ කියති:''සාමාන්‍ය පිරිස් කෙරෙන් ව්‍යාපාරය ආරම්භ නො වන්නේ නම්, එය නරක දෙයකි''.

ශිෂ්‍යයින්ගේ කාරක සභාවකින් ඇති වැඩක් නැත. එය ස්ථායී නොවේ. — සම්පූර්ණයෙන්ම සත්‍යය. එහෙත්, මෙයින් බැස ගත යුතු නිගමනය වන්නේ, අපට වෘත්තීය විප්ලවවාදීන්ගේ කාරක සභාවක් තිබිය යුතුය යනුය. වෘත්තීය විප්ලවවාදියෙකු වීමට හැකි තැනැත්තේ ශිෂ්‍යයෙක් හෝ කම්කරුවෙක් හෝ වන්නේද යන්න වැදගත් නො වේ. එසේ වුවද, ඔබ එළඹෙන්නේ, කම්කරු පංතිය පිටතින් තල්ලු කරනු නො ලැබිය යුතුය යන නිගමනයට ය! ඔබගේ දේශපාලන අහිංසකභාවය නිසා, ඔබ, අප ''ආර්ථිකවාදීන්'' ගේ උගුලට අසුවන ලෙසට කටයුතු කරන බවත්, ඔබ ආධුනිකවාදය පෝෂණය කරන බවත්, ඔබට පෙනෙන්නේ නැත. අපගේ ශිෂ්‍යයෝ කම්කරුවන් තල්ලු කළේ කුමක් සම්බන්ධයෙන් ද? එය සිදු වූ බව ඔබ කියන්නේ, ශිෂ්‍යයාට අතරින් පතර ඇහිඳ ගත හැකි වූ, බොහෝ අඩු පාඩු සහිත සමාජවාදී අදහස් (වර්තමාන ශිෂ්‍යයාගේ ප්‍රධාන බුද්ධිමය ආහාරය වන නීත්‍යානුකූල මාක්ස්වාදයෙන් ලැබිය හැක්කේ ප්‍රාථමික දැනුම පමණකි; අංශු මාත්‍ර දැනුමක් පමණකි), එනම්, ශිෂ්‍යයා සතු සුළු දේශපාලන දැනුම, ඔහු කම්කරුවා වෙත ගෙන ආ අර්ථයෙනි. පමණ ඉක්මවා එසේ ''පිටතින් තල්ලු කිරීම'' බොහෝ සිදුවී නැත. සත්‍යය එහි අනිත් පැත්තය. මේ දක්වා අප ව්‍යාපාරය තුළ එය සිදුවී ඇත්තේ ඉතා අඩුවෙනි. අපි මහත් උනන්දුවෙන් අපගේම තෙලෙන් බැදෙමින් සිටියෙමු. අපි වහල් ස්වභාවයෙන් ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන'' කම්කරුවන්ගේ ''ආර්ථික අරගලයට'' පමණට වඩා නමස්කාර කරමින් සිටියෙමු. අප මෙතෙක් කළාට වැඩිය, සිය ගුණයක් වැර යොදා මේ ආකාරයේ ''තල්ලු කිරීමෙහි'' යෙදීම, වෘත්තීය විප්ලවවාදීන් වන අපේ කාර්යය කොට ගත යුත්තෙමු. ස්ථිර

වශයෙන්ම එය අපගේ කාර්ය කර ගත්තෙමු. නමුත් ''පිටතින් තල්ලු කරනු ලැබීම'' වැනි, පාඨයක් තෝරා ගැනීමෙන් ම, දේශපාලන දැනුම හා විප්ලවවාදී පළපුරුද්ද පිටතින් ගෙන එන සියළුම අය කෙරෙහි, කම්කරුවන් තුළ (යටත් පිරිසෙයින් ඔබ වැනි අඥානවත්, දේශපාලන දැනුම හා විප්ලවවාදී පළ පුරුද්ද නොමැති කම්කරුවන් තුළ වත්) අවිශ්වාස සහගත හැඟීම් අවුස්සන සහ එවැනි සියළුම අයට විරුද්ධත්වය දැක්වීමේ නිරායාස අභිලාෂයක් අනිවාර්යයෙන්ම අවුස්සන, පාඨයක් තෝරා ගැනීමෙන් ම, ඔප්පු වන්නේ ඔබ කෙරාටිකයන් වන බව ය. එසේම, කෙරාටිකයෝ කම්කරු පංති ව්‍යාපාරයේ දරුණුතම සතුරෝ වෙති.

දැන්, මගේ ''සහෝදරත්වයට නැති'' විවාද ක්‍රමය ගැන බෙරිහන් දෙන්න ඉක්මන් නො වන්න. ඔබගේ අපේක්ෂාවන්ගේ පාරිශුද්ධිය ගැන සැක කිරීමේ කිසිම අභිලාෂයක් මා තුළ නැත. මා කියා ඇති ලෙසට හුදු දේශපාලන අහිංසක කම නිසාම, කෙනෙක් කෙරාටිකයෙකු විය හැක. කෙසේ හෝ වේවා, ඔබ කෙරාටික තත්වයට ඇද වැටී සිටින බව මම පෙන්වා දී ඇත්තෙමි. එමෙන්ම කෙරාටිකයන් කම්කරු පංතියේ දරුණුතම සතුරන් වන බව කීවරක් කීවත්, නැවත නැවතත් කීවත්, මා එයින් විඩාවට පත් නොවේ. ඔවුන් දරුණුතම සතුරන් වන්නේ, ඔවුන් ජනතාවගේ පහත් හැඟීම් අවුස්සන හෙයිනි. අවබෝධයක් නැති කම්කරුවාට, ඔහු නියෝජනය කරන, සමහර විට ඔහුගේ මිතුරන් ලෙසට අවංකවම ඔහු නියෝජනය කරන මිනිසුන් අතරින්, සතුරන් දැන හැඳින ගැනීම ඔහුට අපහසු වන හෙයිනි. අසමගිය හා වැනෙන සුලු භාවය පවතින කාලයක, අපගේ ව්‍යාපාරය එක්තරා ප්‍රමාණයකින් හැඩ ගැසී ඒම ආරම්භ වන විට, පොදු ජනතාව නොමග යැවීමට, කෙරාටික කම තරම් පහසු වෙනත් ක්‍රමයක් නොමැති නිසාත්, එයින් නොමග ගියවුනට, තමනට සිදු වූ වැරදීම ගැන තේරුම් ගැනීමට ඉඩ ලැබෙන්නේ, පසු කලෙක, අම්හිරි අත් දැකීම් ලැබීමෙන් අනතුරුව වන නිසාත්, කෙරාටිකයෝ දරුණු තම සතුරන් වෙති. කෙරාටික තත්වයට වැටී තිබෙන ''ස්වබෝද'' සහ ''රබෝචිය දියල'' යන දෙකට ම විරුද්ධව දැඩි අරගලයක් කරමු යි යන්න, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වර්තමාන සටන් පාඨය විය යුත්තේ එහෙයිනි. මේ ගැන වඩාත් විස්තර සහිතව පසුව සඳහන් කරන්නෙමු*.

---

* පිටතින් තල්ලු කරනු ලැබීම'' හා සංවිධානය ගැන වූ ''ස්වබෝද'' සඟරාවේ අනෙකුත් දේශනා ගැන, අප සඳහන් කර තිබෙන කරුණු, සම්පූර්ණයෙන්ම ''රබෝචිය දියල'' අනුගාමිකයින් ද ඇතුළුව, සියළුම ''ආර්ථිකවාදීන්ට'' අදළ වන බව පමණක් දැනට කියනු කැමැත්තෙමු.



''මෝඩයන් සියයට වඩා පහසුවෙන් ඥානවන්තයින් දුසිමක් පිස දැමිය හැක.'' මෙම පුදුම එලවන සත්‍යය (ගැන මෝඩයන් සියය ඔබට අත් පොළසන් දෙනු ඇති) පැහැදිලි කරුණක ස්වරූපය ගන්නේ, තර්කය මැදදී ඔබ එක ප්‍රශ්නයකින් තවත් ප්‍රශ්නයකට පැන තිබෙන නිසා පමණකි. ''කාරක සභාවක්'' උගුල්ලා දැමීම ගැන, ''සංවිධානයක්'' උගුල්ලා දැමීම ගැන කථා කරන්නට පටන් ගෙන, ඒ ගැන කථා කරගෙන ගිය ඔබ, දැන් ව්‍යාපාරයේ ''මුල්'', ඒවා විහිදී තිබෙන ''ගැඹුරු තැන්'' වලින් උගුල්ලා දැමීමේ ප්‍රශ්නයට පනියි. සත්‍යය නම්, අපගේ ව්‍යාපාරය උගුල්ලා දැමිය නො හැකි බවයි. එසේ වීමට හේතුව, එහි නිමක් නැති දහස් ගණන් මුල්, පොදු ජනතාව තුළ ගැඹුරට කිඳා බැස තිබීම ය. එහෙත්, අදල ප්‍රශ්නය එය නො වේ. ''ගැඹුරට විහිදුනු මුල්'' ගැන කථා කරතොත්, කොතෙක් අපගේ ආධුනික ස්වභාවය තිබුණත්, දැනු දු අප ''උගුල්ලා'' දැමිය හැකි නො වේ. එසේ වුවද, සංවිධාන උගුල්ලා දමුනු ලබන බවත්, එහි ප්‍රතිඵලයක් වශයෙන්, ව්‍යාපාරයේ අවිච්ඡේද භාවය රැක ගැනීම දුෂ්කර බවත් අපි කියමු. එය නො කියා බැරි ය. එසේ වුවද, ''සංවිධාන'' උගුල්ලා දමනු ලැබීම ගැන ප්‍රශ්නය මතු කරන ඔබ, ඔබේ අදහසෙහි එල්බ සිටින හෙයින්, ඥානවන්ත අය දුසිමක් උගුල්ලා දැමීම, මෝඩයන් සියයක් උගුල්ලා දැමීමට වඩා බෙහෙවින් දුෂ්කර බව ස්ථිරව ම ප්‍රකාශ කරමි. මගේ ''ප්‍රජාතන්ත්‍ර විරෝධී'' අදහස් ආදිය ගැන කියා, ඔබ මට විරුද්ධව පොදු ජනතාව කොතරම් උසිගැන්නුවත්, මම මෙම ප්‍රතිඥාව රකින්නෙමි. මා නැවත නැවතත් කියා ඇති පරිදි, සංවිධාන සම්බන්ධයෙන් මා ඥානවන්තයින් යනුවෙන් අදහස් කරන්නේ, වෘත්තීය විප්ලවවාදීන් ය. ඔවුන් සංවර්ධනය වී ආවේ ශිෂ්‍යයින් අතරෙන් ද, නැතහොත්, කම්කරුවන් අතරෙන් ද යන්න නො තකා, එම හැඳින්වීම කර තිබේ. 1) අවිච්ඡේදව පවත්වා ගෙන යනු ලබන නායකයින් ගේ සංවිධානයක් නොමැතිව, කිසිම විප්ලවවාදී ව්‍යාපාරයකට පැවතිය නො හැකි බවත්, 2) ව්‍යාපාරයේ පදනම වන හා අරගලයට සාංසිද්ධික වශයෙන් ඇදී එන පොදු ජනකාය පුළුල් වූ තරමට, (විවිධ වර්ගයේ කෙරාටිකයන්ට වඩාත් නො දියුණු පොදු ජන කොටස් නො මග යැවීම ඉතා පහසු වන නිසා) එවැනි සංවිධානයක අවශ්‍යතාවය වඩාත් හදිසි වන බවත් එය වඩාත් ශක්තිමත් විය යුතු බවත්, 3) එවැනි සංවිධානයක් ප්‍රධාන වශයෙන් සමන්විත විය යුත්තේ, වෘත්තීයක් වශයෙන් විප්ලවවාදී කටයුතුවල යෙදී සිටින අය ගෙන් වන බවත්,

---

ඉන් සමහර දෙනෙක්, ක්‍රියාශීලී ලෙස එවැනි අදහස් දේශනා කර හා ඒ වෙනුවෙන් කථා කර ඇති අතර අනික් අය එම අදහස් පිළිගන්නා තත්වයට පත්ව සිටිති.

4) ඒකාධිපත්‍යයේ පාලනයක් තිබෙන විට, එවැනි සංවිධානයක සාමාජිකත්වය වෘත්තීයක් වශයෙන් විප්ලවවාදී කටයුතුවල යෙදී සිටින හා දේශපාලන පොලිසියට විරුද්ධව සටන් කිරීමේ කලාවෙහි වෘත්තීය පුහුණුවක් ලත් අයට වැඩි වශයෙන් සීමා කරන තරමට, එම සංවිධානය උගුල්ලා දැමීම වඩාත් අපහසු වන බවත්, 5) එවිට, ව්‍යාපාරයට සම්බන්ධවීමට හා ක්‍රියාශීලී ලෙස එහි වැඩ කටයුතුවල යෙදීමට හැකි වන කම්කරු පංතියේ සහ අනෙකුත් සමාජ ස්ථරයන්ගේ ජන සංඛ්‍යාව වඩාත් විශාල වන බවත් මම ස්ථිර වශයෙන්ම ප්‍රකාශ කරමි.

හැකි නම් මෙම අදහස වැරදි යයි ඔප්පු කරන ලෙස, මම අපගේ ‘‘ආර්ථිකවාදීන්ට’’,ත්‍රස්තවාදීන්ට හා ‘‘ආර්ථිකවාදී-ත්‍රස්තවාදීන්ට’’*කියමි. මෙම අවස්ථාවේදී අන්තිම කරුණු දෙක ගැන පමණක් විස්තර විභාග දක්වමි. වඩාත් පහසු වන්නේ ‘‘ඥානවන්තයින් දුසිමක්’’ පිස දැමීමද, නැතහොත් මෝඩයන් සියයක් පිස දැමීමද යන ප්‍රශ්නය සරල කොට ගත් කල මතු වන්නේ, දැඩි රහසිගත භාවය අවශ්‍යව තිබියදී පොදු ජන සංවිධානයක් ඇති කරගත හැකි ද යන ප්‍රශ්නය ය. ආණ්ඩුවට විරුද්ධව නොනවත්වා හා අවිච්ඡේද ලෙස අරගල කිරීම සඳහා අපට ඒකාන්ත ලෙස අවශ්‍ය වන මට්ටමේ රහසිගත ස්වභාවයක්, කිසි කලෙකත් පුළුල් සංවිධානයක් තුළ ඇති කළ නො හැකිය. එම රහස්‍ය කාර්යයන්, වෘත්තීය විප්ලවවාදීන් හැකි තරම් අඩු සංඛ්‍යාවක් වන ස්වල්ප දෙනෙක් අතර මධ්‍යගත කිරීමෙන් අදහස් කරන්නේ, ඒ ස්වල්ප දෙනා ‘‘සියළු දෙනා ම වෙනුවෙන් සිතන බවක්’’ හෝ, සාමාන්‍ය සාමාජික පිරිස් ව්‍යාපාරයේ

* ‘‘ආර්ථිකවාදීන්’’ට වඩා මෙම පාඨය සමහර විට ‘‘ස්වබෝධ’’ සඟරාවට ගැලපෙනු ඇත. එය ‘‘විප්ලවවාදයේ පුනර් ජනනය’’ යන හිසින් යුත් ලිපියෙන් ත්‍රස්තවාදය රකියි. ඒ අතර, මෙහි සමාලෝචනය කරන ලිපියෙන් ‘‘ආර්ථිකවාදය’’ රකිනු ලැබේ. අයෙක් ‘‘ස්වබෝධ’’ ගැන මෙසේ කියනු ඇත. ‘‘එයට හැකියාව තිබුණා නම්, එය කරනු ඇත. එහෙත්, එයට නො හැකිය’’. එහි ප්‍රාර්ථනා හා අපේක්ෂාවන් ඉස්තරම් ය. එහෙත් ප්‍රතිඵල අන්ත අවුලකි. මෙයට ප්‍රධාන හේතුව වන්නේ, ‘‘ස්වබෝධ’’ සඟරාව සංවිධානයේ අඛණ්ඩ පැවැත්මට පක්ෂව කථා කරන අතරම, විප්ලවවාදී චින්තනයේ හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී න්‍යායෙහි අඛණ්ඩ පැවැත්ම නො පිළි ගැනීම ය. වෘත්තීය විප්ලවවාදියා යළි පණ ගැන්වීම ලිපියට (‘‘විප්ලවවාදයේ පුනර් ජනනය’’) අවශ්‍ය වේ. එය පරමාර්ථ කරගෙන ප්‍රථමයෙන්, ඇවිස්සුම් කාරී ත්‍රස්තවාදයත්, දෙවැනිව ‘‘පිටතින් තල්ලු කරනු ලැබීමට’’ වැඩි ඉඩක් නො දෙන සාමාන්‍ය කම්කරුවන්ගේ සංවිධානයත් යෝජනා කරයි (‘‘ස්වබෝධ’’ අංක 1, පිටු 66 පටන් ඉදිරියට). වෙනත් වචන වලින් කියතොත් ගෙය උණුසුම් කිරීම පිණිස එහි දැව පාවිච්චි කිරීම සඳහා ගෙය කඩා දැමීමට එය යෝජනා කරයි.



ක්‍රියාත්මක කාර්ය කොටසක් ඉටු නො කරන බවක් හෝ නොවේ. ඒ පමණක් නොව, සාමාජිකත්වය ස්වකීය පිරිස් අතරින් වැඩි වැඩියෙන් අය වෘත්තීය විප්ලවවාදීන් ගේ මට්ටමට උසස් කරන්නේය. සාමාජිකත්වය එසේ කරන්නේ, ‘‘කාරක සභාවක්’’ පිහිටු වීම පිණිස එකතු වීම සඳහා, ශිෂ්‍යයන් කීප දෙනෙකු හා කම්කරුවන් කීප දෙනෙකු එක් වී ආර්ථික අරගලය ගෙන යාම ප්‍රමාණවත් නො වන බැවිනි. කෙනෙකුට වෘත්තීය විප්ලවවාදියෙක් වීමට අවශ්‍ය පුහුණුව ලැබීමට අවුරුදු ගණනක් ගත වන බව ඔවුන් දන්නා හෙයිනි. ආධුනික ක්‍රම ගැන පමණක් නොව, එවැනි පුහුණුව ගැන ද සාමාජිකත්වය කල්පනා කරනු ඇත. සංවිධානයේ රහස්‍ය කාර්යයන් සංකේන්ද්‍රණය කිරීමෙන්, ව්‍යාපාරයේ සියළුම කාර්යයන් මධ්‍යගත කිරීමක් කිසි සේත් අදහස් නො වේ. නීති විරෝධී පුවත් පත් වල කටයුතු හා සම්බන්ධ රහස්‍ය කාර්යයන්, වෘත්තීය විප්ලවවාදීන් ‘‘දුසිමක්’’ අත මධ්‍යගත කර ගැනීමෙන්, පුළුල්තම පොදු ජන කොටස් එම පුවත් පත් කටයුතු වලට සම්බන්ධ වීම කිසි ලෙසකින් හෝ අඩු නො වේ. සිදු වන්නේ එහි අනිත් පැත්ත වන අතර, එම කටයුතු වලට පොදු ජන සහභාගිත්වය දස ගුණයෙන් වැඩි වේ. මේ ආකාරයෙන්, දහස් ගණනින් බෙද හරිනු ලබන ප්‍රකාශනයක, සෑම පිටපතක් ම පාසා, සවිස්තර ලෙස නීතිමය හා පරිපාලනමය ක්‍රියාදාමයන් ක්‍රියාත්මක කිරීමේ නුණුවන කම හා නොහැකියාව, ඉක්මණින්ම පොලිසියට වැටහෙනු ඇති හෙයින්, නීති විරෝධී පත්‍ර කියවීම, ඒවාට ලිවීම හා එක්තරා දුරකට ඒවා බෙද හැරීම පවා රහස්‍ය නොවන තත්වයකට ඉඳුරාම ගෙන එන්නෙමු. එය කළ හැක්කේ මේ මාර්ගයෙන් පමණකි. මෙම ක්‍රියා මාර්ගය පත්‍ර වලට පමණක් නොව, ව්‍යාපාරයේ සෑම කාර්යයකටම, පෙළපාලියකට පවා, අදාලවේ. එපමණක් ද නොවේ. පොලිසියට නො දෙවැනි වෘත්තීය පුහුණුවක් ලත්, පළ පුරුදු විප්ලවවාදී ‘‘දුසිම’’, කටයුතු සියල්ලෙහි ම සෑම රහස්‍ය අංශයක්ම ඔවුන් අත මධ්‍යගත කිරීමෙන්, පත්‍රිකා සකස් කිරීම, දළ සැලසුම් සකස් කිරීම, සෑම නාගරික දිස්ත්‍රික්කයක්ම, සෑම පැක්ටරි දිස්ත්‍රික්කයක්ම, සෑම එක් එක් අධ්‍යාපන ආයතනයක්ම සඳහා නායක මණ්ඩල පත් කිරීම, ආදියෙන්, ක්‍රියාශීලී සහ පොදු ජන සහභාගිත්වයට හානියක් සිදු නො වේ. ඇත්ත වශයෙන්ම එයින් ඒ සඳහා පහසු කම් සැලසෙනු ඇත (මගේ ‘‘ප්‍රජාතන්ත්‍රවාදී නොවන’’ අදහස් වලට විරුද්ධත්වය දක්වීම් ඇති විය හැකි බව මම දනිමි. එහෙත් ඒවා කිසිසේත් බුද්ධිමත් විරුද්ධත්වයන් නොවන අතර ඒවාට පහත පිළිතුරු සපයමි). විප්ලවවාදී සංවිධානයක ඉතාමත් රහසිගත කාර්යයන් මධ්‍යගත කිරීමෙන් සිදුවන්නේ, වෙනත්, පුළුල් මහජන කොටස් සඳහා අරමුණු කර තිබෙන හා එනිසා හැකි තරම් දුරට ලිහිල් හා නො රහසිගත වන, කම්කරු වෘත්තීය

සමිති, කම්කරු ස්වයං. අධ්‍යාපන කව හා නීති විරෝධී පොත් පත් කියවීමේ කව සහ සියළු ජනතා කොටස් අතර තිබෙන, වෙනත් සමාජවාදී මෙන්ම ප්‍රජාතන්ත්‍රවාදී කව ආදිය වැනි වූ සංවිධානවල ක්‍රියාකාරිත්වයේ පරිමාණය හා සගුණත්වය අඩු වීම නොව තවත් වැඩි වීමයි. පුළුල් තම කාර්ය විවිධත්වයක් ඇති, එවැනි, කව, වෘත්තීය සමිති හා සංවිධාන සෑම තන්හි ම හැකි තරම් විශාල සංඛ්‍යාවක් තිබීම අපට අවශ්‍ය ය. එ නමුත්, ඒවා විප්ලවවාදීන්ගේ සංවිධාන සමග පටලවා ගැනීම ද, ඒවා හා විප්ලවවාදීන්ගේ සංවිධාන අතර මායිම් රේඛාව මකා දැමීම ද, දැනට ඉතා සූළු වශයෙන් පිළි ගැනෙන කාරණා වන, පොදු ජන ව්‍යාපාරයට "සේවය" කිරීම සඳහා සම්පූර්ණයෙන්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට කැප වූ අය අපට සිටීමේ අවශ්‍යතාවය හා එම අය වෘත්තීය විප්ලවවාදීන් වීම සඳහා ඉවසිලිමත්ව හා ස්ථිර සාර ලෙස පුහුණු වීමේ අවශ්‍යතාවය තවදුරටත් අපැහැදිලි කිරීම ද, අනුවණ හා හානි දයක වේ.

එහෙත්, මෙම පිළිගැනීම දුර්වල තත්වයක පවතින හෙයින්, එය ඇදහිය නො හැකි වන තරම් අපැහැදිලිය. සංවිධානය සම්බන්ධයෙන් අප කර තිබෙන භයානක ම පාපය නම්, අපගේ පැරණි තාලේ වැඩවලින්, රුසියාවේ විප්ලවවාදීන් ගේ ගෞරවනීය තත්වය පහත හෙළීම යි. න්‍යායික ප්‍රශ්නවලදී උදාසීන හා අස්ථිර ගතියක් දක්වන, පටු වැටහීමක් ඇති, තමන්ගේ ඔතැනි ගතියට හේතුව වශයෙන් පොදු ජනයාගේ සාං-සිද්ධිකතාවය පෙන්නුම් කරන, ජනතා නියෝජිතයාට වඩා වෘත්තීය සමිති ලේකම්ට සමාන වන, විරුද්ධවාදීන්ගේ පවා ගෞරවයට හේතු වන ආකාරයේ පුළුල් හා නිර්භීත සැලසුමක් කල්පනා කර ගැනීමට නො හැකි හා ස්වකීය වෘත්තීයට අදල කලාව වන පොලිසියට විරුද්ධව සටන් කිරීමේ කලාවෙහි දී නුපුරුදු කම් හා ඔලමොට්ටලකම් දක්වන තැනැත්තේ විප්ලවවාදියෙක් නො වේ. ඔහු කාලකණ්ණි ආධුනිකයෙකි!

මෙසේ අවංකව අදහස් ප්‍රකාශ කිරීම ගැන, කිසිම ක්‍රියාශීලී කම්කරු-වෙක් උරණ නොවිය යුතුය. පුහුණුව ප්‍රමාණවත් නොවීම ගැන මා පෙන් වූ කරුණු මා ප්‍රථමයෙන් ම අදළ කරගන්නේ මට ය. මා අධ්‍යයන කවයක්[186] තුළ වැඩ කර ඇත. එය නියම කර ගත් කර්තව්‍යයන් ඉතාමත් පුළුල්ය, සර්වග්‍රාහී ය. සුප්‍රසිද්ධ කියමනක් වෙනස් කර ගනිමින් "අපට විප්ලවවාදීන් ගේ සංවිධානයක් දෙන්න. එවිට අපි රුසියාව කණපිට පෙරළන්නෙමු!" යි කීමට ඉඩ කඩ තිබුණු අවස්ථාවක, කවයේ අප සාමාජිකයන් සියළු දෙනාම කටයුතු කරන්නේ ආධුනික ස්වභාවයෙනැ යි යන වැටහීමෙන් අපි වේදනා සහ බලවත් පීඩා වින්දෙමු. එවකට මා තුළ බලපැවැත් වූ මදිකම පිළිබඳ හැඟීමෙන් මා දැවුනු හැටි සිහිපත් වන කල, "විප්ලවවාදීන් ගේ වෘත්තියට නින්ද ගෙන දෙන" දේශනා පවත්වන්නා වූ ද, අප ගේ



කර්තව්‍යය ආධුනිකයින් විප්ලවවාදීන් ගේ තත්වයට උසස් කිරීම මිස, විප්ලවවාදියා ආධුනිකයෙකු ගේ තත්වයට පිරිහෙළීම නො වන බව තේරුම් නො ගන්නා වූද, බොරු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කෙරෙහි මගේ හැඟීම වඩාත් අමිහිරි වන්නේ ය.

### ඇ) සංවිධාන කටයුතුවල විෂය ප්‍රමාණය

"සාන්ත පීටර්ස්බර්ග්හි පමණක් නොව, සමස්ත රුසියාවේම, සෑම තැනෙකමත් දැනෙන පරිදි, සටනට සුදුසු බලවේගයන් නොමැති කම" ගැන බී-වී ට හැඟෙන අයුරින්, ඔහු කී දෙය අපි ඇසුවෙමු. මෙම ප්‍රකාශයට විරුද්ධව කිසිවෙකු තර්ක නො කරනු ඇත. එහෙත්, මෙයට හේතුව කුමක් ද? යන ප්‍රශ්නය පැන නගියි. බී — වී මෙසේ ලියයි:

"මෙම ප්‍රපංචයට හේතු වන කරුණු විස්තර කිරීමට අපි බලාපො-රොත්තු නො වෙමු. දීර්ඝ කාලයක් තිස්සේ බල පැවති ප්‍රතිගාමීත්වය නිසා අධෛර්යයට පත්, අතීත හා වර්තමාන ආර්ථික වෙනස් කම් නිසා භේද භින්න වුණු සමාජයක්, ස්වකීයමය වූ ජන කොටස් අතරින් බිහි කරන, විප්ලවවාදී කටයුතු සඳහා සුදුසු වන පිරිස ඉතා කුඩා සංඛ්‍යාවක් වන බවත්, කම්කරු පංතිය විසින්, නීති විරෝධී සංවිධානවල සාමාජිකත්වය වැඩි කරමින් විප්ලවවාදී කම්කරුවන් ඉදිරිපත් කරනු ලබන නමුත්, එවැනි විප්ලවවාදීන් ගේ සංඛ්‍යාව, වකවානුවේ අවශ්‍යතාවයන් සපුරාලීමට අප්‍රමාණවත් බවත්, පමණක් ප්‍රකාශ කරමු. මෙය එසේ වීමට වඩාත් ම හේතු වන්නේ, දිනකට පැය එකොළහ හමාරක් පැක්ටරියේ ගත කරන කම්කරුවා බොහෝ කොටම සිටින්නේ, උද්ඝෝෂකයෙකු ගේ කාර්යයන් ඉටු කිරීමට පමණක් හැකි තත්වයක වන හෙයිනි. එනිසා, ප්‍රචාරක හා සංවිධාන කටයුතු, රහස්‍ය පොත පත බෙදා හැරීම සහ ඒවායේ පිටපත් ගැනීම, පත්‍රිකා නිකුත් කිරීම ආදිය අවශ්‍යයෙන් ම බුද්ධිමතුන් ප්‍රධාන කොට ගෙන සමන්විත වූ, ඉතාමත් කුඩා බල ඇණියක කර පිට පැවරෙනු යුතුය" ("රබෝචිය දියල" අංක 6, පිටු 38—39).

බොහෝ කරුණු සම්බන්ධයෙන්, විශේෂයෙන් ම අප අවධාරණය කර තිබෙන කරුණු සම්බන්ධයෙන්, අපි බී-වී සමග එකඟ නො වන්නෙමු. (සිතා බලන සෑම ප්‍රායෝගික කාරක වරයෙක් මෙන්ම), බී — වී ද අප ගේ ආධුනික තත්වයෙන් විඩා පත්ව සිටින නමුත්, ඔහුට, මෙම ඉවසුම් නො දෙන තත්වයෙන් ගොඩ ඒමට මගක් සොයා ගත නොහැක්කේ, ඔහු "ආර්ථිකවාදයේ" බරෙන් මිරිකී සිටින නිසා ය. සැබැව නම්, "සත් ව්‍යාපාරයට" සුදුසු වන අය අති විශාල සංඛ්‍යාවක් සමාජයෙන් සැපයෙන නමුත්, ඒ සියළු දෙනාම උපයෝගි කර ගැනීමේ පුළුවන් කමක් අපට

නො තිබීම ය. මේ සම්බන්ධයෙන්, අප ව්‍යාපාරයේ තීරණාත්මක පරිවර්තනීය අවධිය මෙසේ විස්තර කිරීම සුදුසු ය. ජනයා නැත: එහෙත් විශාල පොදු ජන කායක් ඇත. විශාල පොදු ජන කායක් සිටින බව කියන්නේ කම්කරු පංතිකයන් ද, වැඩි වන සමාජ ස්ථරයන් ගණනක් විසින්, ඒවායේ සාමාන්‍ය පිරිස් අතරින් වැඩි වැඩියෙන් ඉදිරියට දමනු ලබන අප්‍රසාදයට පත් ජනයා ද, විරෝධය පෑමට කැමති වන නිසා ය; ඒකාධිපත්‍යයට විරුද්ධව කරන අරගලයේ දී, තමන්ට ආධාරයක් කිරීමට ඔවුන් සූදානම්ව සිටින අතර, ඒකාධිපතිවාදය ඉවසිය නො හැකි බව සියළු දෙනා ම පිළිගන්නා තත්වය තවමත් උද වී නැතත්, ඒ බව වඩාත් තියුණු ලෙස හඟින පොදු ජනකාය වැඩි වෙමින් පවතින නිසාය. ඒ අතර ම අපට ජනයා නැත. ඒ අපට නායකයින් නොමැති නිසා ය; දේශපාලන නායකයින් ද, විශාල මෙන්ම, ඒකාකාර හා සංගත පරිමාණයෙනුත්, ඉතා කුඩා බලවේග පවා ඇතුලත්ව, සියළුම බලවේග උපයෝගි කර ගන්නා ලෙසටත්, වැඩ කටයුතු පිළියෙළ කර ගැනීමේ හැකියාව ඇති දක්ෂ නායකයින්ද,අපට නොමැති නිසා ය.බී—වී ද පිළිගන්නා පරිදි, ''විප්ලවවාදී සංවිධානවල වර්ධනය හා විකාශය,'' කම්කරු ව්‍යාපාරයේ වර්ධනයට පමණක් නොව, සියළු සමාජ ස්ථරයන් අතර ඇති පොදු ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට ද වඩා පසු බා ඇත (මෙය බී-වී ගේ නිගමනයට ඌන පූරකයක් සේ ගැනීමට ඔහු කැමති වනු ඇති බව, මෙහිලා කියනු කැමැත්තෙමි). ව්‍යාපාරයෙහි සාංසිද්ධික පදනමෙහි පෘථුලත්වය හා සමග සසඳා බලන කල, විප්ලවවාදී කටයුතුවල විෂය ප්‍රමාණය ඉතා පටු ය. ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලය'' පිළිබඳ වූ කාලකණ්ණි න්‍යායෙන් එය බොහෝ දුරට කොටු වී ඇත. එසේ වී නමුත්, මෙම කාලයේ දී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උද්ඝෝෂකයන් පමණක් නොව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධායකන් ද, ''ජනගහනයේ සියළුම පංති අතරට යා යුතුය''* සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංවිධාන කටයුතුවලට අදළ, ඉතා සුළු දහසකුත් එකක් කාර්යයන්, ඉතාමත් විවිධ පංතිවල එක් එක් නියෝජිතයන් අතර බෙදු දීම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට කළ හැකි

* කම්කරුවන් හා ශිෂ්‍යයන් වැනි ''සතුරන්ට'' විරුධව, වඩාත් නිරතුරු ලෙස වීදි සටන්වල යෙදීම ද, එක්තරා දුරකට හේතු කොට ගෙන, යුද්ධ සේවයේ අය අතර, ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවයෙහි නිසැක පුණර්ජීවයක් මෑත කාලයේදී දක්නට ලැබුණු බව, මෙයින් පැහැදිලි වේ. අප වෙත ඇති බලවේගයන් අනුව, ඉඩ ලැබෙන වහාම, සොල්දාදුවන් හා යුද්ධ හමුද නිලධාරීන් අතර ප්‍රචාරක හා උද්ඝෝෂණ කටයුතුවල යෙදීමත්, පක්ෂයට අනුබද්ධ ''යුද්ධ සංවිධානයක්'' ඇති කිරීමේ කටයුතුවල යෙදීමත්, සඳහා නොවරදවාම, ඉතාමත් බරපතල අවධානය යොමු කළ යුත්තෙමු.



වන බව, අවිශ්වාස කරන, එකද ප්‍රායෝගික කාරක වරයෙක්වත් නොමැති තරම් ය. විශේෂඥතා හීන කම අපගේ ශිල්ප ක්‍රමයෙහි දක්නට ලැබෙන බලවත් දුර්වලකම් වලින් එකකි. බී — වී මේ ගැන යුක්ති සහගත ලෙස මැසිවිලි කියයි. අපගේ පොදු සත් ව්‍යාපාරයේ එක් එක් වෙන් කොට ගත් ''සටන් කටයුත්ත'' කුඩා වූ තරමට, එවැනි කටයුතු කිරීමට සමත් ජනයා සොයා ගැනීම අපට පහසු වේ. (මේ අය අතරින් වැඩි දෙනෙක්, වෘත්තීය විප්ලවවාදීන් වීමට කිසිසේත් නො හැකි අය වෙති). මෙම ''සුළු කාරක වරුන් සියළු දෙනා ම, ''අල්ලා ගැනීම'' පොලිසියට වඩාත් අපහසු වන්නේය. සිරභාරයට ගැනීමකින් පසුව කිසියම් සුළු කරුණක් පදනම් කරගෙන, ''ආරක්ෂාව'' සඳහා කරන ආණ්ඩුවේ වියදමට සිරිලන ආකාරයේ නඩුවක් සකස් කිරීම, ඊටත් වඩා දුෂ්කර වන්නේය. අපට ආධාර කිරීමට සූදනම් ජනයාගේ සංඛ්‍යාව සම්බන්ධයෙන් පසු ගිය පස් අවුරුද්දක පමණ කාලය තුළ සිදු වී තිබෙන දැවැන්ත වෙනස ගැන පසුගිය පරිච්ඡේදයෙහි සඳහන් කෙළෙමු. අනික් අතට මෙම ලේශ මාත්‍ර කාර්යයන් සියල්ලම, එක සමස්තයකට එක්සත් කිරීම සඳහා ද, ව්‍යාපාරයේ කාර්යයන් කොටස් කර වෙන් කරන කල්හි, ව්‍යාපාරය කොටස්වලට වෙන් නො වනු සඳහා ද, ඉතා කුඩා කාර්යයන් ඉටු කරන ජනයාට, එම කාර්යයන්හි වැදගත් කම ගැන අවබෝධයක් ඔවුන් තුළට කාවැදී නො තිබුණ හොත්, ඔවුන් කිසි කලෙකත්, එම කාර්යයන් ඉටු නො කරන නිසා, එම වැටහීම ඔවුනට ගෙන දෙනු* සඳහා ද, සටනෙන් පන්නරය

* සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට ආධාර කිරීමට උවමනා කළ පැක්ටරි පරීක්ෂක වරයෙක් ගැන, වරක් සහෝදරයෙක් කීවා මතකය. ඔහු ඇත්තෙන්ම ආධාර දුන් නමුත්, ඔහු සැපයූ තොරතුරු නිසි විප්ලවවාදී මධ්‍යස්ථානය වෙත ලැබුණේද යන්නත්, ඔහුගේ ආධාරය කොතරම් දුරට අවශ්‍ය ද යන්නත්, ඔහුගේ කුඩා හා සුළු සේවාවන් උපයෝගි කර ගැනීමේ ඉඩ කඩ කොතරම් තිබේද යන්නත් ගැන, ඔහු නො දන්නා බව කණස්සළු ස්වභාවයෙන් කීවේය. අපගේ පැරණි තාලය නිසා, අපට මිතුරන් නැතිව ගිය එවැනි අවස්ථා රැසක් ගෙන හැර දැක්වීමට හැම ප්‍රායෝගික කාරක වරයෙකුටම පුළුවන් බව සත්‍යයකි. වෙන් කොට ගත් කළ ''කුඩා'' නමුත්, පොදු සමස්තයක් වශයෙන් ගත් කල ඉතාමත් වටිනා සේවාවන්, පැක්ටරිවල පමණක් නොව, තැපැල් සේවයේ ද, දුම්රිය සේවයේද, රේගුවෙහි ද, කාර්යාලවල ද සේවීන් හා නිලධාරීන් විසින්ද, රදළ කොටස්, පූජක,පොලිස් හා උසාවි ඇතුළු වෙනත් ජීවන වෘත්තීන් හි යෙදී සිටින පිරිස් අතරින් එන අය විසින් ද අපට ඉටු කර දෙනු හැකිය — ඉටු කර දෙනු ලැබේ! අපට නියම පක්ෂයක්, සටන්කාමී විප්ලවවාදීන්ගේ සැබෑ සංවිධානයක් තිබුණේ නම්, මෙම ''සහායකයන්'' සියළු දෙනා ගෙන්ම නො සැහෙන සේවයක් අපේක්ෂා නො කරන්නෙමු. නිතරම, අනිවාර්ය වශයෙන්, ඔවුන් අපගේ ''නීති විරෝධී භාවයේ'' හදවත මධ්‍යයට ගෙන

ලැබූ විප්ලවවාදීන්ගේ බලවත් සංවිධානයක් තිබීම අවශ්‍ය ය. එවැනි සංවිධානයක රහසිගත භාවය වැඩි වූ තරමට, පක්ෂය කෙරෙහි වූ විශ්වාසය, වඩාත් ශක්තිමත් හා පැතිරී ගිය එකක් වනු ඇත. අප දන්නා පරිදි යුද්ධ කාලයේ දී, තම හමුදාවේ ශක්තිය ගැන තම හමුදාවටම විශ්වාසයක් කාවැද්දීම අතිශයින් ම වැදගත් ය. එපමණක් නොව, එම ශක්තිය ගැන සතුරාට හා මධ්‍යස්ථශීලී කොටස්වලටත් අවබෝධයක් දීම ද, වැදගත්ය. සමහර විට මිත්‍රශීලී මධ්‍යස්ථ භාවය අනුව, ප්‍රශ්නය තීරණය වන්නට පිළිවන. ශක්තිමත් න්‍යායික පදනමක් මත ගොඩනගන ලද හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍රයක් හිමි, එවැනි සංවිධානයක් ඇතොත්, එය වෙත ආකර්ෂණය වන බොහෝ ''පිටස්තර'' කොටස් හේතු කොට ගෙන, ව්‍යාපාරය එහි මාවතෙන් පිටතට යොමු වේ යයි යන බිය ඇති කර ගැනීමට හේතුවක් නොමැත. (එහෙත්, අනිත් අතට, ආධුනික ස්වභාවය ප්‍රබලව පවතින හෙයින්, “Credo” වැඩ පිළිවෙළ වෙත නැඹුරු වෙමින්, මනෝරාජික වශයෙන් පමණක් තමන් සමාජවාදීන් යයි සිතන අය බොහෝ දෙනෙක් අපට දක්නට ලැබෙන්නේ ද හරියටම මෙම වර්තමාන කාලයේ දී ම ය) කොටින් කියතොත් විශේෂඥතා වර්ධනය ඇති වීමට අවශ්‍යයෙන් ම මධ්‍යගත කරණය පූර්ව කොන්දේසියක් වන අතර, එය අනිවාර්යයෙන් ම කළ යුත්තක් ද වන්නේ ය.

විශේෂඥතා වර්ධනයේ අවශ්‍යතාවය ගැන එතරම් විශිෂ්ට ලෙස විස්තර කළ බී—වී ම,එහි වැදගත් කම අව තක්සේරු කරන බව,අප උපුටා දැක්වූ තර්කයෙහි දෙවැනි ඡේදයෙන් පෙනෙන්නේය යනු, අප ගේ අදහස ය. කම්කරු පංති විප්ලවවාදීන් ගේ සංඛ්‍යාව ප්‍රමාණවත් නැතැයි ඔහු කියයි. මෙය සම්පූර්ණයෙන් ම සත්‍ය ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වර්තමාන අර්බුදයට හේතු පිළිබඳව අපගේ අදහස් ''සමීප නිරීක්ෂකයෙකු ගේ අගනා පණිවුඩය'' මගින් සම්පූර්ණයෙන් ම තහවුරු වන බවත්, ඒ අනුව එය ජය ගැනීමේ මාධ්‍ය ගැන වූ අප ගේ අදහස් ද තහවුරු වන

---

ඒමට ඉක්මන් නො වන්නෙමු. එපමණක් නොව අනික් අතට ඉතාමත් ප්‍රවේසම් සහිත ලෙස, ඔවුන් රැක බලාගෙන දියුණු කර ගනිමින්, එවැනි කාර්යයන් සඳහා ජනයා පුහුණු කිරීමට පවා කටයුතු කරන්නෙමු. එසේ කිරීමේ දී, කිසියම් නිල තනතුරක් දරමින් සිටින බොහෝ ශිෂ්‍යයන්, එවැනි ''සහායකයන්'' වශයෙන් කටයුතු කරතොත්, ''කෙටිකාලීන විප්ලවවාදීන්'' වශයෙන් ඉටු කරනවාට වඩා ඉතා විශාල සේවයක් ඔවුන්ගෙන් පක්ෂයට ලැබෙනු ඇත. එවැනි උපක්‍රම ක්‍රියාත්මක කිරීමට අයිතියක් ඇත්තේ, ශක්තිමත් ලෙසට ස්ථාපිත වී තිබෙන හා ක්‍රියාශීලී බලවේගයන් අතින් අඩුවක් නැති සංවිධානයකට පමණක් බව මම නැවතත් කියමි.



බවත්, අපි නැවතත් අවධාරණය කරමු. විප්ලවවාදීන් පොදු වශයෙන් පොදු ජනතාව ගේ සාංසිද්ධික පිබිදීමට පිටු පසින් සිටිනවාත් හැර, කම්කරු විප්ලවවාදීන් ද, කම්කරු පංති පොදු ජනතාවගේ සාංසිද්ධික පිබිදීමට පිටු පසින් සිටිති. කම්කරුවන්ට අපෙන් ඉටු විය යුතු යුතුකම් ගැන සාකච්ඡා කිරීමේ දී, බොහෝ විට අපට දේශනා කරනු ලබන, ''අධ්‍යාපන විද්‍යාව''ගැන ප්‍රායෝගික දෘෂ්ටි කෝණයෙන් සලකා බැලුවත්, එහි ඇති අමනෝඥ ස්වභාවය පමණක් නොව, දේශපාලන වශයෙන් තිබෙන ප්‍රතිගාමී ස්වභාවය ද, මෙම කරුණෙන් සාක්ෂි සහිතව ඔප්පු වේ. පක්ෂ කටයුතු හා සම්බන්ධයෙන් වූ කල, බුද්ධිමතුන් අතරින් එන විප්ලවවාදීන් හා සමාන මට්ටමක සිටින සේ, කම්කරු පංති විප්ලවවාදීන් පුහුණු කිරීමට ආධාර දීම, අපගේ ප්‍රථම යුතු කම බව,මෙම කරුණෙන් ඔප්පු වේ. (පක්ෂ කටයුතු සම්බන්ධයෙන්'' යන්න, මෙහි දී අවධාරණය කරමු. අනික් අංශ වලින් ද, කම්කරුවන් බුද්ධිමතුන් ගේ මට්ටමට ගෙන ඒම අවශ්‍ය වුවත්, එය එතරම් පහසු හෝ, බලවත් අවශ්‍යතාවයක් හෝ නො වේ). එබැවින් ප්‍රධාන වශයෙන් අවධානය යොමු කළ යුත්තේ, කම්කරුවන් විප්ලවවාදීන් ගේ මට්ටමට උසස් කිරීමට ය. ආර්ථිකවාදීන් අපේක්ෂා කරන ලෙසට, ''වැඩ කරන ජනතාව ගේ මට්ටමට පහළ බැසීම හෝ, ''ස්වබෝද'' කැමති ලෙසට ''සාමාන්‍ය කම්කරුවන්'' ගේ තත්වයට පහත වැටීම (හා එමගින් ආර්ථිකවාදී ''අධ්‍යාපන විද්‍යාවේ'' දෙවැනි ශ්‍රේණියට උසස් වීම) හෝ, කිසිසේත් අප ගේ කර්තව්‍යය නොවේ. පොදු ජන භාවිතයට සුදුසු පොත් පත්, ඉතාමත් සරල(දියාරු කරන ලද ඒවා නම් නොවේ) පොත් පත්, කම්කරුවන්ට, විශේෂයෙන්ම, නො දියුණු කම්කරුවන්ට සැපයීමේ අවශ්‍යතාවය මා කිසිසේත් ප්‍රතික්ෂේප කරන්නේ නැත. එහෙත්, මා නො රුස්සන්නේ, අධ්‍යාපන විද්‍යාව පිළිබඳ ප්‍රශ්න, නිතරම දේශපාලනය හා සංවිධානය පිළිබඳ ප්‍රශ්න සමග පටලවා ගැනීම යි. මහත්වරුනි, ''සාමාන්‍ය කම්කරුවා'' ගැන ඔතරම් උනන්දුවක් ගන්නා ඔබ, කම්කරු පංති දේශපාලනය හා කම්කරු පංති සංවිධානය ගැන කථා කිරීමේ දී ඔවුන්ට ලොකුකම් පා කථා කිරීමෙන් ඔබ කරන්නේ, ඔවුනට යහපතක් නොව, ඇත්ත වශයෙන් ම අවමානයකි. බරපතල දේ ගැන බරපතල ලෙසට කථා කරන්න. අධ්‍යාපන විද්‍යාව හා සම්බන්ධ දේ දේශපාලනඥයන්ට හා සංවිධායකයින්ට! නොව අධ්‍යාපනඥයන්ට පවරන්න. බුද්ධිමතුන් අතර වුවද, දියුණු අය, ''සාමාන්‍ය අය'' හා පොදු ජනයා යන කොටස් නොමැති ද? පොදු ජනයාට සුදුසු පොත් පත්, බුද්ධිමතුන්ට ද අවශ්‍ය බව, සැම කෙනෙක්ම පිළිගන්නා කරුණක් නො වේ ද? එ වැනි පොත් පත් ලියනු නො ලැබේ ද? විද්‍යාලීය නැතහොත්, උසස් පාසල් ශිෂ්‍යයන් සංවිධානය කිරීම ගැන ලිපියක් ලියන කෙනෙක්,

තමා අළුත් ගවේෂනයක් කළ කලෙක මෙන්, අප ප්‍රථමයෙන් ම ''සාමාන්‍ය ශිෂ්‍යයන් ගේ'' සංවිධානයක් පිහිටුවා ගත යුත්තෙමු යි පුන පුනා කියන තත්වයක් ගැන සිතා බලන්න. එ වැනි ලිපියක කර්තෘ විහිළුවට ලක් වනු ඇත. එසේ වීමෙහි වරදක් ද නැත. සංවිධානය පිළිබඳව ඔබේ අදහස් අපට දෙන්න, සාමාන්‍ය කවුද, ඊට වඩා උසස් කවුද, පහත් කවුද, යන්න අපි තීරණය කර ගන්නෙමු යි, ඔහුට කියනු ලැබෙනු ඇත. එසේ නමුත්, සංවිධානය පිළිබඳව ඔබගේම අදහස් නොමැති නම්, එවිට ''පොදු ජනයා'' සහ ''සාමාන්‍ය ජනතාව'' වෙනුවෙන් ඔබ ගන්නා වූ වෙහෙස කන්දෙස්කිරියාවක් පමණකි. ''දේශපාලනය'' හා ''සංවිධානය'' සම්බන්ධයෙන් වූ ප්‍රශ්න ඒවායේ ස්වභාවය අනුවම බරපතල ප්‍රශ්න වන හෙයින්, ඒවා ගැන බරපතල ආකාරයෙන් හැර, වෙනත් ලෙසකින් කටයුතු කළ නො හැකි වන බවද, ඔබට තේරුම් යා යුතුය. මෙම ප්‍රශ්න කම්කරුවන් (විශ්වවිද්‍යාල ශිෂ්‍යයන් හා ජිම්නේසියම් විද්‍යායතන ශිෂ්‍යයන්) සමග අපට සාකච්ඡා කළ හැකි වනසේ අපි ඔවුන්ට අධ්‍යාපනයක් දිය යුත්තෙමු. මෙම ප්‍රශ්න මතු කළ විටෙක ඔබට ඒවාට පිළිතුරු දීමට සිදු වේ. ආපස්සට ගොස් ''සාමාන්‍ය'' හා ''පොදු ජනයා'' පිටු පස මුවා වෙන්නට හදන්න එපා.කවට වදන් හා හිස් වාක්‍ය ඛණ්ඩ යෙදීමෙන් ප්‍රශ්නයෙන් මඟ හරින්න උත්සාහ කරන්න එපා.*

ස්වකීය කර්තව්‍යය සඳහා පූර්ණ සූදනමින් සිටීමට නම්, කම්කරු-විප්ලවවාදියා එසේ ම වෘත්තීය විප්ලවවාදියෙක් බවට පත් විය යුතුය. එනිසා, කම්කරුවෙක්, පැක්ටරියෙහි පැය එකොළහ හමාරක් ගත කරන හෙයින්, (උද්ඝෝෂණය හැර) අනිකුත් සියළුම විප්ලවවාදී කාර්යයන් ගේ බර ''මුළු මනින් ම මෙන් හා අවශ්‍යයෙන් ම වැටෙනු යුත්තේ බුද්ධිමතුන් ගේ කුඩා බල ඇණියක කර මත ය'' යන බී—වී ගේ කියමන වැරදි ය. නමුත්, මෙම තත්වය පවතින්නේ ''ඉඳුරා ම අවශ්‍ය'' දෙයක්

* ''ස්වබෝද'' අංක 1, පිටු 66, ''සංවිධානය'' යන ලිපියෙහි: ''රුසියානු කම්කරුවන් වෙනුවෙන් ඉදිරිපත් කෙරෙන සියළුම ඉල්ලීම්, කම්කරුවන් ගේ බලවත් අඩි හැප්පීමෙන් ශක්තිමත් කෙරේ.'' මෙහි කම්කරුවන් ගැන සඳහන් වන්නේ ලොකු අකුරෙන් බව කිව යුතුය. තවද, කර්තෘ මෙසේ හඬ නගයි: ''මා බුද්ධිමතුන්ට කිසිසේත් විරුද්ධ නැත. නමුත්...'' (නමුත් යන වචනයෙහි අර්ථය ''නළලට වඩා උසට කන් නොවැඩෙන්නේය!'' යනුවෙන් ෂෙද්රින් පරිවර්තනය කළේය)'' නමුත් ලස්සන හා සිත් අලවන වචන කියමින් මා වෙත එන අයෙක් ලස්සන සහ වෙනත් හොඳ ගුණ තමාගේ(ඔහුගේ) යයි සලකා භාර ගන්නා ලෙස කියන සෑම විටෙකම මට භය ජනක තරමට නොරිස්සුම ඇති වේ'' (පිටු 62). ඔව්, මටද ''නිතරම භය ජනක තරම් නොරිස්සුම ඇති වේ...''



ලෙසින් නොවේ. එය පවතින්නේ, අප ගේ නො දියුණු කම නිසා ය. සෑම දක්ෂ කම්කරුවෙක් ම, වෘත්තීය උද්ඝෝෂකයෙකු ගේ, සංවිධායකයෙකු ගේ, ප්‍රචාරකයෙකු ගේ, පොත් පත් බෙද හරින්නෙකු ගේ, ආදී වශයෙන් වූ තත්වයට පත්වීම පිණිස ඔවුනට ආධාර කිරීමට ඇති අප ගේ යුතු කම අප නො පිළිගන්නා නිසා ය. මේ සම්බන්ධයෙන් වූ කල අපි නියත වශයෙන් ම නිහීන ලෙස අප ගේ ශ්‍රමය අපතේ හරිමින් සිටින්නෙමු. විශේෂ සුපරීක්ෂාකාරීත්වයකින් රැක බලා ගෙන, ඇති දැඩි කළ යුතු අය දියුණු කර ගැනීමේ හැකියාව අපට නොමැත. ජර්මානුන් දෙස බලන්න. ඔවුන් ගේ ශක්තිය අප ගේ මෙන් සිය ගුණයකටත් වැඩිය. එනමුත් සැබැවින් ම දක්ෂ උද්ඝෝෂකයින් ආදීන් බොහෝ විට උසස් කරනු ලබන්නේ ''සාමාන්‍ය'' පිරිස් අතරින් නොවන බව, ඔවුහු මනාව වටහා ගෙන සිටිති. මේ නිසා, වැඩ කරන සෑම දක්ෂයෙකුට ම, ඔහු ගේ දක්ෂ කම්, සම්පූර්ණ වශයෙන් ම දියුණු කර ගත හැකි වන හා උපයෝගි කර ගත හැකි වන තත්වයට ඔහු පත් කිරීම පිණිස ඔවුහු වහ වහා උත්සාහ දරති. ඔහු වෘත්තීය උද්ඝෝෂකයෙක් කරනු ලැබේ. ඔහු ක්‍රියාකාරී වන ක්ෂේත්‍රය පුළුල් කිරීමට, එය එක පැක්ටරියකින් සමස්ත කර්මාන්තයක් දක්වා ද, එක් ප්‍රදේශයකින් මුළු රටම දක්වා ද පැතිරවීමට, ඔහු උනන්දු කරනු ලැබේ. ඔහු ස්වකීය වෘත්තියෙහි නිපුනත්වය හා පළපුරුද්ද ලබා ගනියි. ඔහු ඔහුගේ අවබෝධය පුළුල් කර ගනියි. දැනුම වැඩි කර ගනියි. ඔහු වෙනත් ප්‍රදේශවල හා වෙනත් පක්ෂවල ප්‍රධාන දේශපාලන නායකයන් සමීප ලෙස අධ්‍යයනය කරයි. හේ ඔවුන් ගේ මට්ටමට දියුණු වීමටත්, වෘත්තීයමය හුරුබුහුටි කමකින් කම්කරු පංති වටපිටාව පිළිබඳ දැනුම හා නැවුම් සමාජවාදී අදහස් තමන් තුළ ඒකාබද්ධ කිරීමටත් ප්‍රයත්න දරයි. එය නොමැතිව, මනා පුහුණුවක් ඇති සතුරන්ට විරුද්ධව සටන් කිරීම නිර්ධන පංතියට කළ හැකි නො වේ. කම්කරු පොදු ජනයා විසින්, බේබෙල් සහ ඖවර් යන අයගේ වර්ගයේ පුරුෂයන් ඉදිරිපත් කරනු ලබන්නේ මේ මාර්ගයෙන් පමණකි. එසේ වුවද, දේශපාලන නිදහස තිබෙන රටක, බොහෝ දුරට නිරායාසයෙන් සිදු වන දෙය, රුසියාවේ අපේ සංවිධාන විසින් ආයාසයෙන් හා ක්‍රමානුකූලව ඉටු කළ යුතුව තිබේ. යම් තරමකින් හෝ කුසලතා ඇති හා බලාපොරොත්තු ඇති කරවන, කම්කරු උද්ඝෝෂකයන් පැක්ටරියේ දිනකට පැය එකොළහ හමාරක් වැඩ කිරීමට හැර දැමීම නො කළ යුතුය. ඔහුගේ පළපුරුද්ද විශාල කර ගැනීමට හා අවබෝධය පුළුල් කර ගැනීමට නම්, අවුරුදු කීපයක් වත්, පොලිස් හේවායන්ට විරුද්ධව සටන් කිරීමේ හැකියාව ඔහුට ලැබීමට නම්, ඔහු පක්ෂය මගින් නඩත්තු කිරීමත්, කල් යල් ඇතිව සැඟවී සිටීමත්, ඔහු ක්‍රියාත්මක වන ප්‍රදේශය වෙනස් කිරීමත්, සඳහා

අපි පිළිවෙළ යෙදිය යුතු වෙමු. කම්කරු පොදු ජනතාවගේ ව්‍යාපාරයේ සාංසිද්ධික නැගීම පුළුල් හා ගැඹුරු වීමත් සමග, ඔවුන් විසින්, ඔවුන් ගේ පිරිස් අතරින් දක්ෂ උද්ඝෝෂකයන් පමණක් නොව, දක්ෂ සංවිධායකයන්, ප්‍රචාරකයන් හා වචනයේ යහපත් ම අර්ථයෙන් ''ප්‍රායෝගික කාරක වරුන් ද'' උසස් කර ඉදිරි පත් කරනු ලැබේ (අප ගේ බුද්ධිමතුන් අතර ප්‍රායෝගික කාරක වරුන් ඇත්තේ ඉතා ස්වල්ප දෙනෙකි. රුසියානු සිරිත අනුව බලන කල, ඔවුන් ද බොහෝ දෙනෙකුගේ හුරුපුරුදු කම් අපරීක්ෂාකාරීය, ප්‍රමාද සහිතය). ඉතාමත් පෘථුල සූදානම් කිරීමක් සහිත (සැබැවින්ම, සේවාවේ ''සැම අංශයක් ම හුරු විප්ලවවාදීන්'' වන) විශේෂ පුහුණුවක් ලත් කම්කරු විප්ලවවාදීන්ගෙන් සමන්විත බලවේග අපට සිටින විට, ඔවුන් හා සමග තරඟ කිරීමට මිහිපිට කිසිම පොලිසියකට නො හැකි වනු ඇත. එසේ වීමට හේතුව නම්, අසීමිත ලෙස විප්ලවයට කැප වී සිටින මෙම බලවේගයන්, පුළුල්තම කම්කරු පොදු ජනතා කොටස්වල අපරිමිත විශ්වාසයක් දිනාගෙන සිටීමයි. කම්කරුවන්ටත්, ''බුද්ධිමතුන්ටත්'' පොදු වූ මෙම මාර්ගය ගන්නා ලෙස කම්කරුවන් ''උනන්දු කිරීමට'' අප කර තිබෙන කටයුතු ප්‍රමාණවත් නොවන නිසාද, කම්කරු පොදු ජනතාවන්ට, ''සාමාන්‍ය කම්කරුවන්'' ආදීන්ට, ''ළඟා විය හැක්කේ'' කුමක් වෙත ද යනාදිය සම්බන්ධයෙන් කරන කථා වලින්, ඔවුන් ආපසු අදිනු ලබන නිසාද, වරද කෙළින් ම අප පිට පැවරේ.

මෙම අංශයෙහි හා අනිකුත් අංශවලත්, අපගේ සංවිධාන කටයුතුවල විෂය ප්‍රමාණය පටු වීමට ඉඳුරා ම හේතු වන කාරණය, අප ගේ න්‍යාය හා දේශපාලන කර්තව්‍යයන් පටු ක්ෂේත්‍රයකට සීමා කිරීම බව කිව හැක. (''ආර්ථිකවාදීන්'' හා ප්‍රායෝගික කටයුතුවල යෙදී සිටින නවකයන් බහුතරය, මෙය වටහා ගෙන නැතත්, සත්‍යය එය ම වේ). සාංසිද්ධිකතාවයට වහල් වීම නිසා, පොදු ජනතාවට ''ළඟා විය හැකි දෙයින් බැහැරව එකම පියවරක් පවා ගැනීමට බිය වන බවත්, පොදු ජනතාවගේ හදිසි හා සෘජු අවශ්‍යතාවයන් කිරීම ඉක්මවා, පමණට වඩා ඉහළට නැගෙති යි යන බියක් ඇති වන බවත් පෙනේ. බිය නො වන්න, මහත්වරුනි! අප සිටින්නේ සංවිධානය පිළිබඳ ඉතාම පහළ මට්ටමේ තලයක හෙයින්, පමණ ඉක්මවා ඉහළ නැගීම සම්බන්ධයෙන් වූ අදහස පවා විහිළුවකි!

ඉ) ''රහස් කුමන්ත්‍රණකාරී'' සංවිධානය සහ ''ප්‍රජාතන්ත්‍රවාදය''

මිහි පිට ඇති අන් සියල්ලටමත් වඩා, ''ජීවිතයේ හඬට'' බිය වන ආකාරයෙන්, එය හමුවේ සසල වන බොහෝ දෙනෙක් තවමත් අප අතර සිටිති. මෙහි විස්තර කෙරෙන අදහස් දරන අය ''නරෝද්නය වෝලියා'' පිළිවෙත අනුගමනය කරන බවත්, ඒ අය ''ප්‍රජාතන්ත්‍රවාදය'' වටහා ගැනීමෙහි අසමත් වන බව ආදියත්, ඔවුහු කියති. ''රබෝචිය දියල'' දෝංකාර දෙවා ඇති මෙම චෝදනාව ගැන සලකා බැලීම අවශ්‍ය වන්නේ ය.

සාන්ත පීටර්ස්බර්ග් ''ආර්ථිකවාදීහු'' ''රබෝචයා ගසේතා'' පත්‍රයට විරුද්ධව ''නරෝද්නය වෝලියා'' ප්‍රවණතා අනුගමනය කිරීම පිළිබඳව චෝදනා කළහයි මෙම වැකි වල කර්තෘ හොඳින් දනියි. (''රබෝචය මිස්ල්'' පත්‍රය හා සමග සසඳන කල, මෙය තේරුම් ගත හැකි දෙයකි). ''ඉස්ක්‍රා'' පත්‍රය නිකුත් වූ වහාම එක් නගරයක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, එය ''නරෝද්නය වෝලියා'' සංවිධානයේ පත්‍රයක් ලෙස හඳුන්වනු ලබන බව එක් සහෝදරයෙක් අපට දැන්වූ නමුත්, අප එයින් පුදුමයට පත් නො වූයේ එහෙයිනි. ඇත්තෙන් ම අපි එම චෝදනාවෙන් උදම් වුනෙමු. නරෝද්නය වෝලියා අනුගාමිකයෙකැයි යනුවෙන් ''ආර්ථිකවාදීන්'' විසින් චෝදනා කරනු නොලැබූ හොඳ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා කවුද?

මෙම චෝදනා දෙ ආකාර දූර්මතවල ප්‍රතිඵලයකි. ප්‍රථමයෙන් අප අතර, විප්ල්වවාදී ව්‍යාපාරයේ ඉතිහාසය ගැන පවතින දැනුම ඉතා අල්ප නිසා, සාර්වාදයට විරුද්ධව අධිෂ්ඨාන සහගත ලෙස යුද්ධ ප්‍රකාශ කරන ඕනෑම සටන්කාමී මධ්‍යගත සංවිධානයක් හැඳින් වීමට ''නරෝද්නය වෝලියා''නම පාවිච්චි කරනු ලැබේ.එහෙත් හැත්තෑ ගණන්වල පැවති,අපට ආදර්ශයක් විය යුතු විශිෂ්ඨ සංවිධානය පිහිටුවන ලද්දේ ''නරෝද්නය වෝලියා'' විසින් නොව, ''සිම්ලියා ඊ වෝලියා'' විසිනි.[187] එම සංවිධානය භේද වී චෝර්නි පිරිදියල් හා නරෝද්නය වෝලියා යන සංවිධාන ඇති විනි. ඒ අනුව බලන කල, විප්ලවවාදී සටන්කාමී සංවිධානයක්, ස්වරූපය අනුව, ''නරෝද්නය වෝලියා'' හා සමාන සේ සැලකීම, ඓතිහාසික මෙන්ම තාර්කික වශයෙන්ද, අමනෝඥය. අරගල කිරීම ගැන බරපතල ලෙස කල්පනා කරන ඕනෑම විප්ලවවාදී උපනතියකට එවැනි සංවිධානයක් නැතිවම බැරිය. ''නරෝද්නය වෝලියා'' කළ වරද, අප්‍රසාදයට පත් සියළු දෙනාම සංවිධානයට බඳවාගැනීමටත්, ඒකාධිපත්‍යයට විරුද්ධව ධෛර්ය සම්පන්න ලෙස එම සංවිධානය මෙහෙයවීමටත්, උත්සාහ දැරීම නො වේ.එය කළ වරද වූයේ, සාරාර්ථ වශයෙන් කිසිසේත් විප්ලවවාදී නොවන න්‍යායයක් කෙරෙහි විශ්වාසය තැබීමයි. එමෙන් ම,දියුණු වෙමින් පැවති ධනපති සමාජයේ පංති අරගලය හා සමග, තමන් ගේ ව්‍යාපාරය අභේද්‍ය ලෙස ගලපා ගැනීමේ හැකියාව ද, ''නරෝද්නය වෝලියා''

සාමාජිකයිනට නො තිබිනි. ''සිම්ලියා ඊ වෝලිය'' සංවිධානයට තිබුණු වැනි හෝ, ඇත්තෙන්ම ඊට වඩා අතිශයින් ම හොඳ, විප්ලවවාදීන් ගේ සංවිධානයක් නිර්මාණය කිරීමට අප වෙත පැවරී ඇති යුතුකම ඉටු කිරීමේ වගකීමෙන්, කම්කරු පංතියේ සාංසිද්ධික නැගී ඒම විසින්, අප නිදහස් කරනු ලැබේ ය යන අදහස සිතට නැගෙනු ඇත්තේ, මාක්ස්වාදය තේරුම් ගැනීමට අත්‍යන්තයෙන්ම අසමත් වීම (නැතහොත්, එය ''ස්ත්‍රුවේවාදයේ'' ජීව ගුණයෙන් වටහා ගැනීම) නිසා වන්නේ ය. ඊට ප්‍රතිකූල වශයෙන්, මෙම ව්‍යාපාරය අප වෙත යුතුකමක් පවරයි. ඊට හේතුව, කම්කරු පංතියේ සාංසිද්ධික අරගලයට විප්ලවවාදීන් ගේ ශක්තිමත් සංවිධානයක නායකත්වය ලැබෙන තෙක්, එය එම පංතියේ සැබෑ පංති අරගලය බවට පත් වන්නේ නැති වීම යි.

දෙ වැනිව, දේශපාලන අරගලය පිළිබඳ ''රහස් කුමන්ත්‍රණකාරී'' අදහසට විරුද්ධව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නිරතුරුව ගෙන ගිය විවාදය බී. ක්‍රිචේව්ස්කි (''රබෝචිය දියල'' අංක 10, පිටු 18) ඇතුළු බොහෝ දෙනෙක් වරදවා වටහා ගනිති. දේශපාලන අරගලය රහස් කුමන්ත්‍රණයකට සීමා කිරීම ගැන අපි නිතරම විරෝධය ප්‍රකාශ කෙළෙමු. අනාගතයේ දී ද තවදුරටත් ඊට විරෝධය පාන්නෙමු* ශක්තිමත් විප්ලවවාදී සංවිධානයක අවශ්‍යතාවය ප්‍රතික්ෂේප කරන බවක් අපි මෙයින් කිසිසේත් අදහස් නො කරමු. ඒ අනුව, ඒකාධිපතිවාදයට විරුද්ධව, එය පොඩි පට්ටම් වන ආකාරයට පහරක් දීම පිණිස, ''කැරළි ගැසීමට'' හා ''වෙනත් සෑම ආකාරයකම පහර දීමකට'' ත් සමත් වන තරම් ශක්තිමත් වන (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පරමාදර්ශය වන) සංවිධානයක විස්තරයක්, පසුගිය පාසටහනෙහි සඳහන් පොතෙහි එන, දේශපාලන අරගලය රහස් කුමන්ත්‍රණයක තත්වයට පහත හෙළීමට විරුද්ධව ඉදිරිපත් කෙරෙන තර්ක වලින් අනතුරුව, එහි සඳහන් කර ඇත**.''කොන්ස්පිරසියෝන්''

---

* ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ කර්තව්‍යයන්'', පිටු 21, පී. එල්. ලව්රෝව්ට විරුද්ධව විවාදය.

** ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ කර්තව්‍යයන්'', පිටු 23, (සම්පූර්ණ කෘතීන්, 5 වැනි මුද්‍රණය, වෙළුම 2, පිටු 461. සංස්කාරක). මේ සම්බන්ධයෙන්, ''රබෝචිය දියල'' එක්කෝ තමන්ම කථා කරන දෙය ගැන වැටහීමකින් තොරව සිටින බවට එසේ නැතහොත් එය ''සුළඟ හමන අතට'' එහි අදස් වෙනස් කරන බවට තවත් නිදර්ශනයක් දක්වන්නෙමු''. ''රබෝචිය දියල'' අංක 1 හි පහත සඳහන් කොටස අවධාරණය සහිතව සඳහන්ව ඇති බව අපට දක්ක හැකිය. ''පොතෙන් ඉදිරිපත් කර ඇති අදහස්වල හරය සම්පූර්ණයෙන් ම ''රබෝචිය දියල'' කර්තෘ



යන ප්‍රංශ වචනය ''සගවොර්'' (රහස් කුමන්ත්‍රණය) යන වචනයට සමාන හෙයින් ද, ඒකාධිපත්‍යයේ පාලනයක් තිබෙන රටක පවතින, එවැනි විප්ලවවාදී සංවිධානයක උපරිම රහස්‍ය භාවය තිබිය යුතු නිසා ද, එවැනි සංවිධානයක්, ආකෘතියෙන් ''රහස් කුමන්ත්‍රණකාරී'' වශයෙන් විස්තර කළ හැකි වේ. මෙම වර්ගයේ සංවිධානයක රහස්‍ය භාවය, ඊට අත්‍යාවශ්‍යම කොන්දේසියක් වන හෙයින්, එහි අනිත් සියළු කොන්දේසි ද (සාමාජිකයන් ගණන හා ඔවුන් තෝරා ගන්නා ක්‍රමය, කාර්යයන් ආදිය) ඊට ගැලපෙන ලෙස සකස් කළ යුතු වේ. එනිසා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් රහස් කුමන්ත්‍රණකාරී සංවිධානයක් නිර්මාණය කිරීමට කැමැත්ත දක්වතියි යනුවෙන් කරන චෝදනාවට බිය වීම සැබෑම අන්ත නෝන්ජල් කමකි. ''නරෝද්නය වෝලිය'' පිළිවෙත අනුගමනය කරන බවට චෝදනා කරන කල්හි මෙන්ම, එවැනි චෝදනා ඉදිරිපත් කරන විට ද, ආර්ථිකවාදයට එරෙහි සෑම කෙනෙක්ම සතුටට පත් වේ.

රහස්‍ය කටයුතුවල සියළුම නූල් තමන් අතට සංකේන්ද්‍රනය කර ගත්, එබඳු බලවත් හා තදබල ලෙස රහස්‍ය සංවිධානයක්, අවශ්‍යයෙන් ම මධ්‍යගත කරන ලද සංවිධානයක්, සමහර විට පහසුවෙන් ම අකාලයේ පහර දීම කරා දිව යාමට ඉඩ ඇති බවත්, එවැනි ප්‍රහාරයක් දීමට හැකි වීම පිණිස අවශ්‍ය තත්වයන් ඇති කිරීමට පෙර, කම්කරු පංතියේ දේශපාලන අප්‍රසාදය, උත්සන්නතාවය හා කෝපය වර්ධනය වීමට පෙර, සිතා නො බලා ව්‍යාපාරය වේගවත් කිරීමට ඉඩ තිබෙන බවත්, යනාදිය කියමින්, විරුද්ධ මතයක් ඉදිරිපත් කිරීමට පුළුවන. ඊට අපේ පිළිතුර මෙය යි: කල්පිත වශයෙන් කථා කරත හොත් නම්, සටන්කාමී සංවිධානයක්, සමහර විට සිතා නොබලා සටන් වදිනු ඇතැයි ද, වෙනත් තත්වයන් යටතේ වලක්වා ලිය හැකි පරාජයකින් එම සටන කෙළවර වීමට සමහර විට ඉඩ ඇතැයි ද යන්න,ප්‍රතික්ෂේප කළ නො හැකි ය. එහෙත් එවැනි ප්‍රශ්නයක් ගැන වූ කාල්පනික තර්ක වලට පමණක් සීමා වී, අපට

---

මණ්ඩලයේ ප්‍රතිපත්තිය හා සමග ගැලපෙයි (පිටු 142). ඇත්තෙන් ම? සර්වබලධාරී ඒකාධිපතිත්වය පෙරළා දැමීම පොදු ජන ව්‍යාපාරයේ ප්‍රථම ඉල්ලීම වශයෙන් නියම නොකළ යුතු ය යන අදහස, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කර්තව්‍යයන් යන පොතෙහි එන අදහස් හා සමග ගැලපේ ද? ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය'' හා අවධි න්‍යාය, පොතෙහි ප්‍රකාශිත අදහස් වලට එකඟ වේද? ''අදහස් අතින් ගැලපීම'' යන්න මෙම අද්භූත ආකාරයට වටහා ගන්නා පත්‍රයකට, ස්ථිර ප්‍රතිපත්ති තිබිය හැකි ද යන්න නිගමනය කිරීම, පාඨකයාට භාර කරමු.

බලා සිටිය නො හැක. පරාජය වීමේ කල්පිත ඉඩකඩ, සෑම සටනක් කෙරෙහිම ආවේණිකව ඇත, සටන සඳහා සංවිධානාත්මකව සූදනම් වීම හැර මෙම ඉඩ කඩ අඩු කිරීමේ වෙනත් මගක් නොමැත. කෙසේ හෝ වේවා, දනට රුසියාවේ පවතින යථා තත්වයෙන් පටන් ගෙන අපි ඉදිරියට යන්නමෝ නම්, ව්‍යාපාරයට ස්ථාවරත්වය දීමත්, සිතා නොබලා පහර දීමේ ඉඩ කඩ හේතුකොට ගෙන ඇතිවන අන්තරායෙන් එය ආරක්ෂා කිරීමත් සඳහාම, ශක්තිමත් විප්ලවවාදී සංවිධානයක් අවශ්‍ය ය යන නියත තීරණයට බැස ගත යුත්තෙමු. එවැනි සංවිධානයක් තවමත් නො පවතින මෙම අවස්ථාවේ ම, විප්ලවවාදී ව්‍යාපාරය සීඝ්‍ර ලෙස හා සාංසිද්ධික ලෙස වර්ධනය වෙමින් තිබිය දී (බලාපොරොත්තු විය හැකි ලෙසට එකිනෙකට ''මුණ ගැසෙන'') ප්‍රතිවිරෝධී අන්තයන් දෙකක් අපට දනටමත් පෙනෙන්නට තිබේ. මෙම අන්තයන් නම්, බෙහෙවින් දෝෂ හරිත ආර්ථිකවාදය හා සංයමය සඳහා කරන දේශන ද, ''සංවර්ධනය වෙමින් හා ශක්තිමත් වෙමින් තිබෙන්නා වූත්, අවසානයට වඩා තවමත් ආරම්භයට සමීපව පවතින්නා වූත්, ව්‍යාපාරයේ නිමා ලක්ෂණ කෘතීම ලෙස ඇති කිරීමට'' (වී. සසුලිච්, ''සර්යා'' අංක 2—3, පිට 353) උත්සාහ දරන, එසේම දෝෂහරිත ''ඇවිස්සුම්කාරි ත්‍රස්තය'' ද වෙති. එමෙන් ම, මෙම සීමාන්තයන් දෙකටම ඉඩ දෙන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිටින බව ''රබෝචිය දියල'' ආදර්ශයෙන් පෙන්නුම් කෙරේ. මෙය පුදුමයට කාරණයක් නො වේ. ඊට හේතු වන කරුණු පසෙක තිබිය දී, ''ස්වාමි වරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව කරන ආර්ථික අරගලයෙන්'' විප්ලවවාදීන් කිසි කලෙකත් නො සැනසෙන නිසා, ප්‍රති විරුද්ධ අන්තයන්, නිරතුරුව ම තැනින් තැන මතු වනු ඇත. සිතා නො බලා කරන ප්‍රහාරයන් ගෙන් ව්‍යාපාරය ආරක්ෂා කර ගනිමින්, ජයග්‍රහණය පිළිබඳ බලා පොරොත්තු ඇති කරන ප්‍රහාරයන් සූදනම් කළ හැකි වන්නේ, සියළුම විප්ලවවාදී හැඟීම් හා පරිශ්‍රමයන්ට අනුකූල වන්නේ යයි කිව හැකි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්ති නිති පතා ක්‍රියාත්මක කරන මධ්‍යගත සටන් කාමී සංවිධානයකට පමණකි.

තවත් විරෝධතාවයක් මතු කිරීමට ඉඩ ඇත. එනම්, මෙහි විස්තර කර තිබෙන සංවිධානය පිළිබඳ වූ අදහස් ''ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තියට'' පටහැණි බවයි.කලින් චෝදනාව නිශ්චිත රුසියානු ප්‍රභවයක් ඇති එකක් වූ අතර, මෙය නියමිත විදේශීය ස්වරූපයක් ගත් එකකි. එමෙන් ම තමන් ගේ කර්තෘ මණ්ඩලයට පහත සඳහන් වැනි උපදෙස් දීමට හැකි වූයේ (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ විදේශ ගත සංගමය) විදේශගත සංවිධානයකට පමණකි.



''සංවිධාන ප්‍රතිපත්තිය: සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සාර්ථක ලෙස සංවිධානය කර ගැනීම සහ එක්සත් කර ගැනීම උදෙසා, පක්ෂය, සංවිධානය පිළිබඳ පුළුල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තිය ගැන අවධාරණය කළ යුතුය. —එය විකාශ කළ යුතු ය.ඒ සඳහා සටන් කළ යුතුය.අපගේ පක්ෂ සාමාජිකත්වය තුළ දක්නට ලැබෙන ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රවණතාවයන් ගැන සලකා බලන කල, මෙය විශේෂයෙන් ම අවශ්‍ය වන්නේ ය''. (''සම්මේලන දෙකක්'', පිටු 18).

''ඉස්ක්‍රා'' පත්‍රයේ ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රවණතාවයන්ට විරුද්ධව ''රබෝචිය දියල'' සටන් කරන්නේ කෙසේ ද යන්න මීළඟ පරිච්ඡේද-යෙන් සලකා බලමු. දනට, ''ආර්ථිකවාදීන්'' ඉදිරිපත් කරන ප්‍රතිපත්තිය වඩාත් සමීප ලෙස පරීක්ෂා කර බලන්නෙමු. ''පුළුල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තිය'' ක්‍රියාත්මක වීම සඳහා, පහත සඳහන් කොන්දේසි දෙක ඉටු විය යුතු බව, සෑම කෙනෙක් ම පිළිගනු ඇතැයි අපේක්ෂා කරමු: ප්‍රථමයෙන් ප්‍රසිද්ධියට පත් කිරීම ද දෙවැනිව, සියළු ම නිල සඳහා තෝරා පත් කිරීම ද එම කොන්දේසි වෙති. ප්‍රසිද්ධියට පත් කිරීමක් නොමැතිව, එපමණක් නොව, සංවිධානයේ සාමාජිකයන්ට පමණක් සීමා නො වන ප්‍රසිද්ධියට පත්කිරීමක් නොමැතිව, ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කිරීම විහිළුවකි. අප ජර්මන් සමාජවාදී පක්ෂය ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයක් ලෙසට හඳුන්වන්නේ, එහි කටයුතු සියල්ලම ප්‍රසිද්ධියේ කෙරෙන හෙයිනි. එහි පක්ෂ සම්මේලනය පවා පැවැත්වෙන්නේ ප්‍රසිද්ධියේ ය. සංවිධා-නයක කටයුතු එහි සාමාජිකත්වයෙන් හැර, අන් සියල්ලන් කෙරෙන් ම රහස්‍ය භාවයේ තිරයකින් සඟවන ලද විට, එය ප්‍රජාතන්ත්‍රවාදී යයි කිසිවෙකු නො කියනු ඇත. එසේ නම්, ප්‍රජාතන්ත්‍රවාදයට අවශ්‍ය මූලික කොන්දේසිය ඉටු කිරීම, රහස් සංවිධානයකට නුපුළුවන්ව තිබියදී, එම ප්‍රතිපත්තිය ඉදිරිපත් කිරීමෙන් සිදුවන ප්‍රයෝජනය කුමක් ද? ''පුළුල් ප්‍රතිපත්තිය'', නිකම් ම දෝංකාර දෙවනු ලබන, එහෙත් හිස් වාක්‍ය ඛණ්ඩයක් බවට පත් වෙයි. එපමණක් නොව, සංවිධානය හා සම්බන්ධ-යෙන් දනට අවශ්‍ය ඉතාමත් හදිසි කර්තව්‍යයන් ගැන සම්පූර්ණ අනව-බෝධයක් ද එයින් අනාවරණය වේ. අප ගේ විප්ලවවාදීන්ගේ ''පුළුල්'' පොදු ජනතාව අතර, රහස්‍ය භාවය කොතරම් බරපතල ලෙස අඩු ද යනු කවුරුත් දනිති.මෙම කරුණ සම්බන්ධයෙන් බී—වී ගේ කටුක පැමිණිලිත්, ''ඉතා සුපරීක්ෂාකාරී ලෙස සාමාජිකයන් තෝරා ගැනීම'' සඳහා වූ ඔහු ගේ ඉතා සාධාරණ ඉල්ලීමත්, (''රබෝචිය දියල'' අංක 6, පිටු 42) අපි අසා ඇත්තෙමු. එහෙත්, තියුණු ''යථාර්ථය පිළිබඳ හැඟුමක්'' ඇතැයි කියමින් උදම් අනන අය, මෙවැනි තත්වයක් යටතේ බල කර කියන්නේ, දැඩි තම ලෙස රහස්‍ය භාවය රැකීම හා දැඩි තම ලෙස සුපරීක්ෂාවෙන්

(ඒ අනුව වඩාත් සීමා සහිත ලෙස) සාමාජිකයන් තෝරා ගැනීම අවශ්‍ය බව නොව, "පුළුල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තිය" ගැනය! මෙය නම් ගව් ගණනකින් ඉලක්කය වරද්ද ගැනීමකි.

ප්‍රජාතන්ත්‍රවාදයේ දෙවැනි අංග ලක්ෂණය වන තෝරා පත් කිරීමේ ප්‍රතිපත්තිය හා සම්බන්ධයෙන් ද, තත්වය ඊට වඩා යහපත් නොවේ. දේශපාලන නිදහස ඇති රටවල, මෙම කොන්දේසිය සාමාන්‍යයෙන් පවතින්නක් ලෙස පිළිගනු ලැබේ. "පක්ෂ වැඩ පිළිවෙළෙහි ප්‍රතිපත්ති පිළිගන්නා සහ පක්ෂයට හැකි සෑම ආධාරයක් ම දෙන අය, පක්ෂයේ සාමාජිකයන් වෙති" යි ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ව්‍යවස්ථාවල 1 වැනි වගන්තියෙන් කියවේ. නාට්‍ය වේදිකාවක් ප්‍රේක්ෂක සමූහයාගේ දර්ශනයට හසු වන ලෙසට විවෘතව තිබෙන සේ, සමස්ත දේශපාලන පොර පිටියම මහජන දෘෂ්ටියට විවෘතව ඇති නිසා, මෙම පිළිගැනීම හෝ නොපිළිගැනීමත්, දක්වන ආධාරය හෝ විරෝධයත්, පුවත්පත් වලින් හා මහජන රැස්වීම් වලින් සියළු දෙනාටම දැන ගත හැකිය. කිසියම් දේශපාලනඥයෙකු ඔහුගේ කටයුතු පටන් ගත්තේ අසුවල් ආකාරයට ය, ඔහු පරිණාම වූයේ අසුවල් ආකාරයටය, දුෂ්කර අවස්ථාවල හැසුරුනේ අසුවල් ආකාරයට ය, ඔහු ගේ ගතිගුණ අසුවල් පිළිවෙළය, යන්න සියළු දෙනාම දනිති. ඒ අනුව, ඔහු කිසියම් පක්ෂ නිලයකට පත් කර ගැනීමට හෝ පත් කර ගැනීම ප්‍රතික්ෂේප කිරීමට, සියළුම කරුණු දන්නා, සියළුම පක්ෂ සාමාජිකයිනට පුළුවන. පක්ෂයේ අයෙකුගේ සෑම ක්‍රියාවක් ම සම්බන්ධයෙන් ක්‍රියාත්මක වන සාමාන්‍ය පාලනය (වචනාර්ථයෙන්) විසින් ජීව විද්‍යාවේ එන "සවිමත් එකා ආරක්ෂා වීම" යනුවෙන් හැඳින්වෙන නියාමය ක්‍රියාත්මක කෙරෙන ක්‍රියාදමයක් ජනිත කරනු ලැබේ. පූර්ණ ප්‍රසිද්ධිය මගින් කෙරෙන ස්වාභාවික තේරීම, තෝරා පත් කිරීම හා සාමාන්‍ය පාලනය, මගින් අවසාන විනිශ්චයේදී සෑම දේශපාලනඥයෙක්ම, "ඔහුට නිසි තැනට" ත්, ඔහුගේ හපන් කම් හා හැකියාවන් අනුව, ඔහුට ඉතාමත් හොඳින් ගැලපෙන කාර්යයන්හිත්, යෙදෙනු ලැබීම ද, ඔහු ගේ වැරදිවල ඵල විපාක ඔහුට විඳින්නට සිදු වීම සහ සමස්ත ලෝකයා ම හමුවේ තම වැරදි පිළිගෙන, ඒවා මග හැරීමට ඇති ඔහුගේ හැකියාව ඔප්පු කිරීමද පිළිබඳ සහතිකය සැපයෙන්නේ ය.

මෙම පින්තූරය අපගේ ඒකාධිපත්‍යයේ රාමුවට ගැලපීමට උත්සාහ ගන්න! රහසේ වැඩ කරන විප්ලවවාදියාගේ කටයුතු හා සම්බන්ධ සෑම කාර්යයක්ම, "පක්ෂ වැඩ පිළිවෙළෙහි ප්‍රතිපත්ති පිළිගන්නා හා පක්ෂයට හැකි සෑම ආධාරයක්ම දෙන" සියලු දෙනාම විසින් පාලනය කිරීම, රුසියාවේ සිදුවිය හැකි දෙයක් යයි සිතන්න පුළුවන් ද? නිලතල සඳහා තේරීමේදී කැමැත්ත ප්‍රකාශ කරන සියලු දෙනා අතුරෙන්, දහයෙන් නම දෙනෙකුටම දැන ගැනීමට නොහැකි වන සේ, විප්ලවවාදී කටයුත්තෙහි යහපත උදෙසාම, අවශ්‍යයෙන්ම සැඟවී සිටීමට සිදුවන විප්ලවවාදීන්ගෙන් කෙනෙකු තෝරා පත් කිරීම, සියලු දෙනා විසින් ම කළ හැකි දෙයක් ද? "රබෝචිය දියල" හඬ දෙවන්නා වූ මහා ශාබ්දික වාක්‍ය ඛණ්ඩවල නියම අර්ථය ගැන ටිකක් සිතා බලන්න. ඒකාධිපත්‍යයේ අන්ධකාරයන්, පොලිස් ඔත්තු සේවා අධිපති කමත් මධ්‍යයේ, පක්ෂ සංවිධාන කටයුතු සඳහා "පුළුල් ප්‍රජාතන්ත්‍රවාදය" යොදා ගැනීම, වැඩ කට නැති, එහෙත් හානිදායක කෙළි බඩුවක්ම මිස, වෙනත් යමක් නොවන බව එවිට ඔබට වැටහෙනු ඇත. කැමැත්ත කොතරම් තිබුණත්, කිසිම විප්ලවවාදී සංවිධානයක් විසින් පුළුල් ප්‍රජාතන්ත්‍රවාදය ඇත්ත වශයෙන්ම, ව්‍යවහාරයට ගන්නා ලද්දේ හෝ, ගත හැකි වන්නේ හෝ නැති බැවින්, එය ප්‍රයෝජනයක් නැති කෙළි බඩුවකි. "පුළුල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තිය" ක්‍රියාත්මක කිරීමට දරන ඕනෑම ප්‍රයත්නයක් වෙතොත්, එය පුළුල් පරිමාණයේ වැටලීම් කිරීමට, පොලිසියට දෙන ලොකු උදව්වක් වනු ඇත. එය, පවත්නා පැරණි තාලය චිරස්ථායී කිරීමක් වනු ඇත. ප්‍රායෝගික කාරකවරුන්ගේ බරපතල හා හදිසි කර්තව්‍යය වන, ඔවුන්ගේ අවධානය නිලවරණ ක්‍රම සඳහා "කඩදාසි" රෙගුලාසි පිළියෙළ කිරීම වෙතට හැරවීමක් වනු ඇත. නියත වශයෙන්ම ක්‍රියාත්මක ලෙස වැඩෙහි යෙදීමට ඉඩ ප්‍රස්ථා නොමැති අය එක් රැස්වන විදේශයන්හි පමණක්, විශේෂයෙන්ම කුඩා කණ්ඩායම් වශයෙන් සෑදී, මෙම "ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රීඩාවෙහි" යෙදීම තැනින් තැන සිදුවිය හැකි ය.

පෙනුමෙන් හොඳ "පතිපත්තියක්" වන ප්‍රජාතන්ත්‍රවාදය, විප්ලවවාදී කටයුතුවලදී ඉදිරිපත් කිරීමෙන් "රබෝචිය දියල" ගෙනයන සුපුරුදු ප්‍රායෝගයෙගි අශෝභනත්වය පෙන්නුම් කිරීමට, අපි නැවත වරක් සාක්ෂි කාරයෙක් කැඳවමු. "නකනූනෙ" නම් ලන්ඩන් සඟරාවේ කර්තෘ තැන්පත් වයි. සෙරෙබ්රියකෝව් වන සාක්ෂිකරු, "රබෝචිය දියල" ට ඇල්මක් දක්වන අතර ප්ලෙහානව් සහ "ප්ලෙහානව්වාදීන්" කෙරෙහි දැඩි වෛරයෙන් පිරී සිටී. "විදේශ ගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ භේදය ගැන එය පළ කළ ලිපි මගින්, ස්ථිර වශයෙන්ම "රබෝචිය දියල" පත්‍රයේ පැත්ත ගත්, "නකනූනෙ" සඟරාව, ප්ලෙහානව් වෙත පහත් අපවාද රාශියක් එල්ල කළේ ය. ඒ අනුව, සාකච්ඡා කෙරෙන ප්‍රශ්නය සම්බන්ධයෙන්, මෙම සාක්ෂිකරු වඩාත් වැදගත් වන්නේය. බරපතල විප්ලවවාදී ව්‍යාපාරයක් තුළ "ආත්ම වංචනය, නායකත්වය හා ඊනියා ඒරියෝපාගුස් සමාන ඉහළ මණ්ඩල" වැනි දේ ගැන කථා කිරීම "කැත" දෙයකැයි "නකනූනෙ" අංක 7, (1899 ජූලි) කලාපයේ "කම්කරුවන්ගේ ස්වයං විමුක්ති කණ්ඩායමේ ප්‍රකාශනය ගැන" යන

මාතෘකාවෙන් යුත් ලිපියෙන් තර්ක කරන සෙරියබ්රියකෝව්, වෙනත් කරුණුද සඳහන් කරමින් පහත සඳහන් පරිදි ලීවේය.

''මීෂ්කින්, රොගචෝව්, ෂෙලියාබව්, මීහායිලව්, පෙරෝව්ස්කයා, පිග්නර් හා තවත් අය තමන් නායකයන් යයි කිසි කලෙකත් නොසිතූහ. කිසිවෙක් ඔවුනට එවැනි පත්වීම් නොදුන්හ. එහෙත්, ඇත්ත වශයෙන්ම ඔවුහු නායකයෝ වූහ. එසේ වූයේ, ඔවුන් වැඩ කටයුතුවල ප්‍රධාන කොටස කරට ගත් හෙයිනි; ඔවුන් ඉතාමත් අන්තරාදායක තැන්වලට ගිය හෙයිනි; ඔවුන්ගේ වැඩ කටයුතු ඉතාමත් ප්‍රතිඵලදායක වූ හෙයිනි. ඔවුන් නායකයන් වූයේ, ඔවුන් එය අපේක්ෂා කළ නිසා නොව, ඔවුන් වට කොට ගෙන සිටි ඔවුන්ගේ සහෝදරවරු, ඔවුන්ගේ ඥානවන්ත භාවය, ධෛර්යය හා පක්ෂපාත භාවය කෙරෙහි විශ්වාසය තැබූ හෙයිනි. සිතූ මතයට ව්‍යාපාරය පාලනය කරන ඒරියෝපාගුස් වැනි කිසියම් වර්ගයක මණ්ඩලවලට බියවීම (නො බිය නම් ඒ ගැන ලියන්නේ කුමට ද!) පමණට වඩා නෝන්ජල් වීමකි. ඒ ගැන තකන්නේ කවුද?

''ඒරියෝපාගුස්'' වැනි මණ්ඩල ''ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රවණතාවයන්ගෙන්'' වෙනස් වන්නේ කුමණ ආකාරයෙන්ද යනු පාඨකයාගෙන් විමසනු කැමැත්තෙමු. තවද, ''රබෝච්ය දියල'' සඟරාවේ පෙනුමෙන් හොඳ'' සංවිධාන ප්‍රතිපත්තියෙහි ද, ඒ සමානව නොන්ජල් කම හා කැත ස්වභාවය ඇති බව පැහැදිලි නොවේද? ''ඒරියෝපාගුස්'' නැතහොත් ''ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රවණතාවයන්'' ඇති අය ''වට කොට ගෙන සිටින සහෝදරවරු'' ඔවුන්ගේ ''ඥානාන්විත භාවය, ධෛර්යය, පක්ෂපාත භාවය'' ගැන විශ්වාසයක් නැතිව සිටියෝනම්, එවිට කිසිවෙක් ඔවුන් ගැන සැලකිල්ලක් නොදක්වන නිසා එය නෝන්ජල් ප්‍රතිපත්තියකි. සමහර දෙනෙකුගේ අහංකාර කමත්, අප ව්‍යාපාරයේ නියම තත්වය ගැන අනික් අයගේ නොදන්නා කමත්, තවත් අයගේ නුපුහුණු කම හා විප්ලවවාදී ව්‍යාපාරයේ ඉතිහාසය ගැන නොදැනුවත් කමත්, වාසියට හරවා ගැනීමේ අරමුණ ඇතිව කරන කෛරාටික කඩා වැදීමක් වන බැවින්, එය කැතය. අප ව්‍යාපාරයේ ක්‍රියාකාරක වරුන් සඳහා සුදුසු එකම ප්‍රතිපත්තිය විය යුත්තේ, දැඩිතම ලෙස රහස්‍ය භාවය ආරක්ෂා කිරීම, දැඩි පරීක්ෂාකාරිත්වයෙන් සාමාජිකයන් තෝරා ගැනීම හා වෘත්තීය විප්ලවවාදීන් පුහුණු කිරීම ය. මෙම ගුණාංගයන් ඇති වූ කල, ''ප්‍රජාතන්ත්‍රවාදයටත්'' වඩා අගනා දෙයක් වන, සම්පූර්ණ සහෝදරාත්මක අන්‍යෝන්‍ය විශ්වාසය විප්ලවවාදීන් අතර ඇති වීම සහතික වන්නේ ය. මෙය අපට අනිවාර්ය ලෙසම අත්‍යාවශ්‍ය ය. එසේ වන්නේ, ඒ වෙනුවට, රුසියාව තුළ පොදු ප්‍රජාතන්ත්‍රවාදී පාලනය ආදේශ කිරීම පිළිබඳ ප්‍රශ්නයක් පැන නැගිය නො හැකි හෙයිනි. නියම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් ඇති කිරීමට නොහැකි වීම නිසා, විප්ලවවාදී ව්‍යාපාරයේ සාමාජිකයින්,



සම්පූර්ණයෙන්ම පාලනයෙන් බැහැර වන්නේ යයි විශ්වාස කිරීම වරදකි සෙල්ලම් භාණ්ඩ ආකාර ප්‍රජාතන්ත්‍රවාදය (සමීප ලෙස ඒකාබද්ධ වුණු සහෝදරයන්ගෙන් සමන්විත, අන්‍යෝන්‍ය විශ්වාසය බල පවත්නා මණ්ඩලයක් තුළ ප්‍රජාතන්ත්‍රවාදය) සඳහා ඔවුනට කාලවේලා නොමැත. එහෙත් සැබෑ විප්ලවවාදීන්ගේ සංවිධානයක්, තමන්ට නොතරම් වන සමාජිකයෙක් එයින් ඉවත් කර පිරිසිදු වීමට, හැකි සෑම දෙයක්ම කරන බව, පළ පුරුද්දෙන් දන්නා ඔවුන් තුළ, වගකීම පිළිබඳව ඇත්තේ උත්සුක්ත හැඟීමකි. දීර්ඝ ඉතිහාසයක් ඇති රුසියානු (හා ජාත්‍යන්තර) විප්ලවවාදී පිරිස් අතර, තරමක් හොඳින් සංවර්ධනය වුණු ජන මතයක් වෙයි. සහෝදරත්වයේ යුතු කම් කෙරෙන් බැහැර යන සෑම අවස්ථාවක්ම සම්බන්ධයෙන්, එය තදබල දඬුවම් පමුණුවයි. (එමෙන්ම, සෙල්ලම් භාණ්ඩ ප්‍රජාතන්ත්‍රවාදය නොව, නියම ප්‍රජාතන්ත්‍රවාදය, සහෝදරත්වය පිළිබඳ සංකල්පයේ ස්ථිර වශයෙන්ම අඩංගු වන්නේය). මේ සියල්ලම සැලකිල්ලට ගත් කල, ''ප්‍රජාතන්ත්‍ර විරෝධී ප්‍රවණතාවයන්'' ගැන වූ මෙම කථාවලින් හා මෙම යෝජනා කෙරෙන්, දැනට විදේශවල කෙරෙන සේනාපති ක්‍රීඩාවෙහි පුස්ගඳ වහනය වන බව, ඔබට වැටහෙනු ඇත.

මෙම සංවාදයේ අනික් ප්‍රභව මූලය වන නෝන්ජල්කම, පැවැත්ම ලබන්නේ ප්‍රජාතන්ත්‍රවාදය යන්නෙහි අර්ථය ගැන තිබෙන අවුල් සහගත තත්වයෙනි. වෙබ් මහතා සහ එම මහත්මිය ඉංග්‍රීසි වෘත්තීය සමිති ගැන ලියූ පොතෙහි ''පෞරාණික ප්‍රජාතන්ත්‍රවාදය'' යන මාතෘකාව යටතේ එන ඡේදය සැලකිල්ල අවුස්සන්නකි. ඉංග්‍රීසි වෘත්තීය සමිතිවල මුල් කාලයේදී, සමිති කළමණාකරණයට අදල සියලුම කටයුතු, සියලුම සාමාජිකයින් විසින් කරනු ලැබීම, ප්‍රජාතන්ත්‍රවාදයේ අත්‍යාවශ්‍ය ලක්ෂණයක් වශයෙන් ඉංග්‍රීසි කම්කරුවන් සැලකූ හැටි කර්තෘවරු එහි විස්තර කරති. සියලුම ප්‍රශ්න සියලුම සාමාජිකයින්ගේ ඡන්දයෙන් තීරණය කළා පමණක් නොව, සෑම නිල කාර්යයන් ද, වටයෙන් වටය සියලුම සාමාජිකයින් විසින් ඉටු කරන ලදී. ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ එවන් සංකල්පයක විකල් ස්වභාවය අවබෝධ කර ගැනීමටත්, එක් අතකින් නියෝජන බලැති ආයතන හා අනිත් අතින්, පූර්ණ කාලීන නිලධාරීන් අවශ්‍ය බව අවබෝධ කර ගැනීමටත්,කම්කරුවන්ට දීර්ඝ කාලයක ඓතිහාසික අත් දැකීම් අවශ්‍ය විය. දයක මුදල් හා යහ සාධක ගෙවීම් ගැන හුදු ප්‍රජාතන්ත්‍රවාදී ඡන්දයෙන්ම තීරණය කළ නොහැකි බවත්, ඒ සඳහා රක්ෂණ විශේෂඥයන්ගේ උපදෙස්ද අවශ්‍ය බවත්, කම්කරුවන්ට තේරුම් ගියේ, සමිති ගණනාවක භාණ්ඩාගාර, මුදල් අතින් බංකොලොත් වීමෙන් පසුවය. පාර්ලිමේන්තුවාදය හා ජනතාව විසින් නීති සම්පාදනය කිරීම ගැන වූ කෞට්ස්කිගේ පොත ගැන ද සලකා බලමු. එහිදී මාක්ස්වාදී න්‍යායවාදියා

බැසගන්නා නිගමනයන් ද, ''සාංසිද්ධික ලෙස'' සංවිධාන වූ කම්කරුවන් අවුරුදු බොහෝ ගණනක් තිස්සේ ලැබූ ප්‍රායෝගික අත්දැකීම්වලින් උගත් පාඩම් ද, එක සමාන බව අපට එයින් පෙනේ. ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ රිතින්ග්හවුසෙන්ගේ පැරණි සංකල්පය ගැන කෞට්ස්කි තදින් විරෝධය පළ කරයි. ''පොදු ජන පුවත්පත කෙළින්ම ජනතාව විසින් සංස්කරණය කරනු ලැබිය යුතුය'' යනුවෙන් ප්‍රජාතන්ත්‍රවාදයේ නාමයෙන් ඉල්ලන අය ඔහුගේ සමච්චලයට ලක් වෙති. නිර්ධන පංතියේ පංති අරගලයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායකත්වය සඳහා වෘත්තීය පුවත්පත් කලාවේදීන්, පාර්ලිමේන්තු මන්ත්‍රීවරු, ආදීන් අවශ්‍ය බව ඔහු පෙන්වා දෙයි. නූතන සමාජයේ ජනතාව විසින් නීති සම්පාදනය කරනු ලැබීම පිළිබඳ අදහස ක්‍රියාත්මක කළ හැක්කේ, සාපේක්ෂ වශයෙන් පමණක් වන බව වටහා ගැනීමට අසමත්ව, ''ප්‍රතිඵල අපේක්ෂාවෙන් ප්‍රයත්න දරමින්'', ජනතාව විසින් කෙළින්ම නීති සම්පාදනය කරනු ලැබීම ගැන ප්‍රසංශාත්මකව කථා කරන, ''අරාජිකවාදීන්ගේ හා උගතුන්ගේ සමාජවාදයට'' ඔහු පහර ගසයි.

පොදු ශිෂ්‍ය හා වැඩ කරන ජනතා කොටස් අතර ''පෞරාණික'' ප්‍රජාතන්ත්‍රවාදී සංකල්පය කොතරම් විශාල ලෙස පැතිරී තිබේ ද යනු, අප ව්‍යාපාරය තුළ ප්‍රායෝගික වැඩ කටයුතු කළ අය දනිති. මෙම සංකල්පය සංවිධානවල ව්‍යවස්ථා සහ සාහිත්‍ය තුළට රිංගීම පුදුමයක් නොවේ. බර්න්ෂ්ටයින්වාදී පන්නයේ ආර්ථිකවාදීහු, ඔවුන්ගේ ව්‍යවස්ථාවල මෙය ඇතුලත් කර තිබේ. ''§10. සමස්ත සංගම් සංවිධානයේම උවමනාවන් කෙරෙහි බලපාන සියලුම කටයුතු, එහි මුළු සාමාජිකත්වයේ වැඩි ඡන්දයෙන් තීරණය කරනු ලැබේ.'' ඔවුන් අනුවම ත්‍රස්තවාදී පන්නයේ ආර්ථිකවාදීහු ද මෙසේ පුනරුච්ඡාරණය කරති: ''කාරක සභාවේ තීරණ වලංගු වන්නේ, ඒවා සියලුම කව වෙත යොමු කර කැමැත්ත විමසීමෙන් පසුව පමණකි'' (''ස්වබෝද'' අංක 1, පිටු 67). පුළුල් ලෙස ක්‍රියාත්මක කෙරෙන විශේෂ ඡන්දය සඳහා වූ මෙම යෝජනාව ඉදිරිපත් කරන්නේ, සමස්ත සංවිධානයම, තෝරා පත් කිරීමේ පදනමකින් ගොඩ නැගිය යුතුය යන යෝජනාවට අමතරව බව සටහන් කර ගන්න! එසේ වුවද, නියම ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයක න්‍යාය හා භාවිතය අධ්‍යයනය කිරීමට තරම්, ප්‍රමාණවත් අවස්ථා නො ලද ප්‍රායෝගික කාරක වරුන් මේ කරුණ නිසා හෙළා නොදකිමු. එහෙත්, නායකත්වයට අයිතිවාසිකම් කියන ''රබෝචිය දියල'', එවැනි තත්වයක් යටතේ, පුළුල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්ති ගැන වූ යෝජනාවට පමණක් සීමා වන කල, එය හුදෙක්ම ''ප්‍රතිඵල අපේක්ෂාවෙන් ප්‍රයත්න දැරීම'' පිළිබඳ අවස්ථාවක් ලෙසට හැර වෙනත් කිසිද ආකාරයකින් විස්තර කළ හැකි ද?



## ඊ) ප්‍රදේශීය සහ සමස්ත රුසියා වැඩ

මෙහි සටහන් කර තිබෙන සංවිධාන සැලැස්ම ප්‍රජාතන්ත්‍රවාදී නොවේ යයි ද රහස් කුමන්ත්‍රනකාරී වේ යයි ද, යන හේතු පදනම් කර ගෙන, එයට දක්වන විරුද්ධත්වය ඉතාමත් දුර්වල එකකි. එසේ වුවද අසනු ලබන හා විස්තර විභාග කිරීම සුදුසු වන, ප්‍රශ්නයක් ඇත. එය නම් ප්‍රාදේශීය හා සමස්ත රුසියා වැඩ පිළිබඳ ප්‍රශ්නය ය. මධ්‍යගත සංවිධානයක් පිහිටුවීමෙන්, ප්‍රාදේශීය සංවිධානය කෙරෙන් මධ්‍යගත සංවිධානය වෙතට ගුරුත්වාකර්ශන කේන්ද්‍රය වෙනස් වනු ඇතැයි ද, එමගින්, කම්කරු පංතිය සමග පවත්නා සම්බන්ධකම්වල හා ප්‍රදේශීය උද්ඝෝෂණයේ අවිච්ඡේද ස්වභාවය දුර්වල වී යාමෙන්, ව්‍යාපාරයට හානි පැමිණෙතැයි ද, යන සැකය පළ කරණු ලැබේ. පසු ගිය අවුරුදු කීපය තුළ අපගේ ව්‍යාපාරයට හානි පැමිණියේ, ප්‍රදේශීය කාරක වරුන් පමණ ඉක්මවා ප්‍රාදේශීය වැඩ කටයුතු කෙරෙහි ඇලී ගැලී සිටි නිසා ම බව, මෙම සැක පහළ කරන්නන්ට පිළිතුරු වශයෙන් සඳහන් කරනු කැමැත්තෙමු. එමනිසා, මෙම ගුරුත්වාකර්ෂණ කේන්ද්‍රය තරමක් දුරට සමස්ත රුසියා වැඩ කරා ගෙන යාම අවශ්‍ය වේ. එසේ කිරීමෙන්, අපගේ සම්බන්ධකම් හා ප්‍රාදේශීය උද්ඝෝෂණයේ අවිච්ඡේද ස්වභාවය ශක්තිමත් වනු මිස, කිසිසේත් දුර්වල නොවනු ඇති බව ද, සඳහන් කරමු. මධ්‍යම සහ ප්‍රාදේශීය පුවත්පත් පිළිබඳ ප්‍රශ්නය ගෙන බලමු. අප පුවත්පත් ගැන සඳහන් කරන්නේ, පමණ කළ නොහැකි තරම් වඩාත් පුළුල් හා ඉතාමත් විවිධ, පොදු විප්ලවවාදී වැඩ කටයුතු සම්බන්ධයෙන්, උදාහරණයක් ගෙන හැර දැක්වීමට පමණක් බව, අමතක නොකරන ලෙස පාඨකයාගෙන් ඉල්ලමු.

බහුජන ව්‍යාපාරයේ මුල් කාලය (1896-1898) තුළ, සමස්ත රුසියානු පත්‍රයක්, ''රබෝචිය ගසියත'' පත්‍රය, පළ කිරීමට ප්‍රාදේශීය කාරකවරු ප්‍රයත්න දැරූහ. ඊළඟ කාල පරිච්ඡේදයේ දී (1898-1900), ව්‍යාපාරය දැවැන්ත ඉදිරි පියවරක් තැබූ නමුත්, නායකයන්ගේ අවධානය සම්පූර්ණයෙන්ම ප්‍රාදේශීය පත්‍ර පළ කිරීම වෙත ඇදී තිබිණි. පළ කරන ලද ප්‍රාදේශීය පත්‍ර මුළු ගණන බැලුවහොත්, සාමාන්‍ය වශයෙන් මසකට පත්‍රයක් බැගින් පළ කරන ලදී.* මෙය අපගේ ආධුනික භාවය පෙන්වන පැහැදිලි

* ''පැරිස් සම්මේලන වාර්තාව''[188] බලන්න, පිටුව 14, ''එතැන් (1897) පටන් 1900 වසන්තය දක්වා විවිධ ස්ථානවල විවිධ පත්‍රවලින් කලාප 30 ක් නිකුත් කරන ලදී... සාමාන්‍ය වශයෙන් මසකට පත්‍ර එකකට වැඩි ගණනක් නිකුත් කරන ලදී.

නිදර්ශනයක් නොවේද? අපගේ විප්ලවවාදී ව්‍යාපාරය, ව්‍යාපාරයේ සාංසිද්ධික වර්ධනය පසු පස ඇදී යන බව මෙයින් පැහැදිලිව පෙන්නුම් නොකෙරේ ද? විසිරී ගිය ප්‍රාදේශීය කණ්ඩායම් මගින් නොව, එකම සංවිධානයක් මගින් එම පත්‍ර කලාප ගණනම පළ කරන ලද්දේ නම්, එවිට අති මහත් ශ්‍රමයක් ඉතිරි කර ගැනීමට පමණක් නොව, අපගේ වැඩ කටයුතු විෂයෙහි අපමණ ස්ථායී භාවයක් හා අවිච්ඡේද ස්වභාවයක් ඇති කර ගැනීමට ද, හැකිව තිබුණි. ක්‍රියාශීලී ලෙස හා තනි කර ම පාහේ, ප්‍රාදේශීය ප්‍රකාශන සම්බන්ධයෙන් වූ වැඩ කටයුතුවල යෙදී සිටින, ඒ ප්‍රායෝගික කාරක වරු බොහෝ විට මෙම සරල කාරණය නොදකිති (අවාසනාවකට මෙන් ඔවුන් වැඩි දෙනා සම්බන්ධයෙන් දූනුදු මෙම කාරණය සත්‍ය වේ). එමෙන්ම, මෙම ප්‍රශ්නය හා සම්බන්ධයෙන්, පුදුම සහගත මෝඩ වීරත්වයක් පෙන්වන ප්‍රකාශකයෝ ද, මෙම කාරණය නොදකිති. සමස්ත රුසියා ප්‍රවෘත්ති පත්‍රයක් සංවිධානය කිරීමෙ කටයුත්ත ඉටු කිරීම ප්‍රදේශීය කාරක වරුන්ට "දුෂ්කර"* බවත්, පුවත්පත් නොමැති තත්වයට වඩා ප්‍රදේශීය පුවත්පත් තිබීම හොඳ බවත්, කියමින් තර්ක කර සැනසීමට ප්‍රායෝගික කාරකවරු සාමාන්‍යයෙන් පුරුදුව සිටිති. මෙම තර්කය සාධාරණ බව පිළිගනිමු. ඕනෑම ප්‍රායෝගික කාරක වරයෙකු මෙන්ම අපි ද සාමාන්‍ය වශයෙන් ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍රවල ඇති ඉමහත් වැදගත් කම අගේ කරමු. එහෙත් කාරණය එය නොවේ. අවුරුදු දෙක හමාරක කාලය තුළ රුසියාවේ සෑම තන්හිම පළ කරන ලද, ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර කලාප තිහෙන්, ඇස් පනා පිට පෙනෙන පරිදි පවතින කොටස්වලට වෙන් වී සිටින තත්වය හා පැරණි තාලය, අපට ජයගත නොහැකි ද? කාරණය එයයි. ප්‍රදේශීය ප්‍රවෘත්ති පත්‍රවල සාමාන්‍ය ප්‍රයෝජනවත් කම පිළිබඳ ප්‍රතික්ෂේප කළ නොහැකි, එහෙත්, ඉතා පොදුවේ කෙරෙන ප්‍රකාශයට සීමා නොවන ලෙස ඔබට කියමු. අවුරුදු දෙක හමාරක කාලයක් තුළ ලැබූ අත් දැකීම්වලින් හෙළිදරව් වී ඇති, ඒවායේ අවාසි පැත්තද, අකුටිලව පිළිගැනීමට තරම් ධෛර්යමත් වන්න. අප වැඩ කරන තත්වයන් යටතේ, ප්‍රදේශීය ප්‍රවෘත්ති පත්‍රිවලින් බහුතරය, ඒවායේ ප්‍රතිපත්ති අතින් අස්ථාවර වන බවත්, ඒවා දේශපාලන වැදගත් කමෙන් තොර බවත්, විප්ලවවාදී බලවේගයන් වැය වීම අතින්, ඉතාමත් අලාහදයක බවත්, ශිල්පීය ක්‍රියා පිළිවෙළ අතින් (මා අදහස් කරන්නේ මුද්‍රණ ශිල්පය ගැන නොව, පළ කිරීමේ නිරන්තර භාවය හා නිත්‍යතාවය ගැන ය) ඉතාමත් අසතුටුදායක බවත්, මෙම අත්දැකීමෙන් පැහැදිලි වී තිබේ. මෙම දුර්වල කම් ඇති වූයේ අහම්බෙන් නොව, කොටස්වලට වෙන් වී සිටීමේ අනිවාර්ය ප්‍රතිඵලයක් වශයෙනි. සමාලෝචනය කෙරෙන කාලය තුළ, ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර ප්‍රබල වීමට එක් අතකින් හේතු වූ කරුණ ද එය විය. අනික් අතට, එසේ කොටස්වලට වෙන් වීම උනන්දුමත් කරන ලද්දේ ද, මෙම ප්‍රබලත්වය විසිනි. වෙන් වී සිටින ප්‍රාදේශීය සංවිධානයක පත්‍රය, ප්‍රතිපත්තියමය ස්ථිරත්වයක් පවත්වා ගන්නා දේශපාලන පක්ෂ පත්‍රයක තත්වයට නංවා ගැනීම නියත වශයෙන්ම එම සංවිධානයේ ශක්තිය ඉක්මවා යන්නකි. අපගේ මූළු දේශපාලන ජීවිතයටම එළිය දීම සඳහා ප්‍රමාණවත් තරම් කරුණු රැස් කර, ඒවා උපයෝගි කර ගැනීම, එහි ශක්තිය ඉක්මවා යන කර්තව්‍යයකි. නිදහස තිබෙන රටවල, ප්‍රාදේශීය පත්‍ර රැසක් තිබීමේ අවශ්‍යතාවය ඒත්තුගැන්වීමට ඉදිරිපත් කෙරෙන සුපුරුදු තර්කය නම්, ප්‍රාදේශීය කම්කරුවන් මගින්, අඩු වියදමින් මුද්‍රණ කටයුතු කරවාගත හැකි වීම හා ජනතාව වෙත වඩාත් අංග සම්පූර්ණ ලෙස හා වඩාත් සීඝ්‍ර ලෙස තොරතුරු දන්වීමට හැකි වීම ය. පළ පුරුද්දෙන් පෙන්නුම් කර ඇති අන්දමට, මෙම තර්කයෙන් සනාථ වන්නේ, රුසියාවේ ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර පැවැතීමට විපක්ෂ අදහස ය. එම පත්‍ර සඳහා වැය වන විප්ලවවාදී බලවේග අනුව, ඒවායේ මිළ ඉතාමත් අධිකය. එමෙන්ම ඒවා නිකුත් වන්නේ ඉතාමත් කලාතුරකිනි. මෙසේ වීමට පැහැදිලි හේතුව නම්, කොතරම් කුඩා වූ හෝ නීති විරෝධී පත්‍රයක් පළ කිරීම සඳහා, ඉතා විශාල රහස් සංවිධානයක් අවශ්‍ය වීමයි. එබඳු සංවිධානයක් තිබිය හැක්කේ මහා පරිමාණ පැක්ටරි නිෂ්පාදනය වැනි තත්වයක් ඇතොත් පමණකි. කුඩා හස්ත කාර්මික කර්මාන්ත ශාලාවක, එවැනි සංවිධානයක් ඇති කළ නොහැක. රහස් සංවිධානයේ පැරණි තාලය නිසා, (සෑම ප්‍රායෝගික කාරක වරයෙකුටම මේ පිළිබඳ අවස්ථා රැසක් ගැන සඳහන් කළ හැකිය) ඉතාමත් නිරන්තරව සිදු වන්නේ, පත්‍ර කලාප එකක් හෝ දෙකක් නිකුත් කළ පසු එයින් ප්‍රයෝජන ගනිමින් තොග ගණනින් සිරභාරයට ගැනීමේ හැකියාව පොලිසියට ලැබීමය. එහි ප්‍රතිඵලය, සංවිධාන මුළුමනින්ම අතුගා දැමීමකට සමාන වන හෙයින්, නැවතත් මුල සිටම කටයුතු ඇරඹීමට සිදු වේ. හොඳින් සංවිධානය කළ රහස් සංවිධානයක් සඳහා, හොඳින් පුහුණු වූ වෘත්තීය විප්ලවවාදීන් ද, උසස්තම මට්ටමකින් සසංගත ලෙස ක්‍රියාත්මක කෙරෙන ශ්‍රම විභජනයක් ද, අවශ්‍ය වන්නේ ය. වෙන් වූ ප්‍රදේශීය සංවිධානයක්, නිශ්චිත එක් අවස්ථාවක කොතරම් බලවත් වූවත්, මෙම අවශ්‍යතාවයන් දෙකම

* මෙම දුෂ්කරතාවය යථාර්ථයකට වඩා පෙනුමෙන් පවතින්නකි. ඇත්ත වශයෙන් ම සමස්ත රුසියානු වැඩ කටයුතු සම්බන්ධයෙන්, මොනයම් හෝ කාර්යයක් භාර ගැනීමට අවස්ථාවක් නොමැති, එක ද ප්‍රාදේශීය අධ්‍යයන කවයක් නැත. "මට නොහැකිය නොකියන්න, මා කැමති නැත කියන්න."

සපුරාලීමට අවශ්‍ය ශක්තිය එයට නොමැත. සමස්තයක් වශයෙන් අපගේ ව්‍යාපාරයේ පොදු උවමනාවන් (ස්ථිර සමාජවාදී හා දේශපාලන ප්‍රතිපත්ති සම්බන්ධයෙන් නිපුණත්වයක් ලබන සේ කම්කරුවන් පුහුණු කිරීම) පමණක් නොව, නියම ප්‍රාදේශීය උවමනාවන් පවා, වඩා හොඳින් ඉටු කෙරෙන්නේ ප්‍රාදේශීය නොවන ප්‍රවෘත්ති පත්‍ර මගිනි. බැලූ බැල්මට මෙය තේරවිල්ලක් ලෙස පෙනෙන්නට පිළිවන. එහෙත්, ඉහත සඳහන් අවුරුදු දෙක හමාරක අත්දැකීමෙන් මෙය සම්පූර්ණයෙන් ම ඔප්පු වී තිබේ. පත්‍ර කලාප තිහ පළ කිරීමට යෙදුනු සියලුම ප්‍රාදේශීය බලවේග එක පත්‍රයක් පළ කිරීමට කටයුතු කළෝ නම්, ඉන් කලාප සියයක් සෝවේ නම්, හැටක් වත්, පහසුවෙන් පළ කළ හැකිව තිබුණු බවත්, ඒ අනුව, ව්‍යාපාරයේ ප්‍රදේශීය අංග ලක්ෂණ, වඩාත් අංග සම්පූර්ණ ලෙස ප්‍රකාශයට පත් කළ හැකිව තිබුණ බවත්, සැම කෙනෙක්ම පිළිගනු ඇත. එබඳු මට්ටමක සංවිධාන තත්වයක් ඇති කර ගැනීම, පහසු නොවන බව ඇත්තකි. එහෙත්, අපි එහි අවශ්‍යතාවය අවබෝධ කොටගත යුත්තෙමු. පිටතින් දිරි දීමක් ගැන බලාපොරොත්තුව නොසිට, අපගේ විප්ලවවාදී අත්දැකීමෙන් පෙනී ගොස් ඇති පරිදි, බොහෝ දුරට මායාවක් බවට පත්වන, ප්‍රදේශීය ප්‍රවෘත්ති පත්‍රයක ජනප්‍රියතාවයෙන් හා සමීපතාවයෙන් නොමුළාව, සැම ප්‍රාදේශීය සංවිධානයක් ම, ඒ ගැන කල්පනා කළ යුතු ය. එය සාර්ථක කර ගැනීමට, ක්‍රියාශීලී ලෙස වැඩ කළ යුතුය.

තමන් ප්‍රායෝගික කාරක වරුන්ට ඉතාමත් සමීපස්ථව සිටිතියි සිතන්නා වූ ද, මෙම මායා ස්වභාවය නොදක්නා වූ ද, අපට ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර තිබිය යුතුය, අපට දිස්ත්‍රික්ක ප්‍රවෘත්ති පත්‍ර තිබිය යුතුය. එමෙන්ම අපට සමස්ත රුසියානු ප්‍රවෘත්ති පත්‍ර තිබිය යුතුය, යනුවෙන් උපායශීලී ලෙස කියමින්, මවිතකාරී හා පහත් තර්ක ඉදිරිපත් කරන්නා වූ ද, ඒ විචාරකයන් ප්‍රායෝගික වැඩ කටයුතුවලට කරන්නේ අයහපතක්ම ය. සාමාන්‍ය වශයෙන් කියතොත් මේ සියල්ලම අවශ්‍ය ය. නමුත් නිශ්චිත සංවිධාන ප්‍රශ්නයක් විසඳීමට පටන් ගත් කල, ඊට අදල කාලය හා වාතාවරණය ගැන සැලකිල්ලට ගත යුතු බව ඇත්තෙන්ම පැහැදිලි කරුණක් විය යුතුය. ''ස්වබෝද'' (අංක 1, පිටු 68) සඟරාවෙහි ''ප්‍රවෘත්ති පත්‍රයක් පිළිබඳ ප්‍රශ්නය ගැන කටයුතු කිරීම'' යන ලිපියෙහි මෙසේ ලිවීම බොරු වීරත්වයක් පෑමක් නොවේ ද? ''සැලකිය යුතු කම්කරු සංඛ්‍යාවක් සිටින සැම ප්‍රදේශයකටම තමන්ගේම ප්‍රවෘත්ති පත්‍රයක් තිබීම අවශ්‍යය යනු අපගේ හැඟීමය. පිටතින් ආනයනය කළ ප්‍රවෘත්ති පත්‍රයක් නොව, එම ප්‍රදේශයටම අයත් එකක් තිබිය යුතුය. මෙම වචන ලියූ විචාරකයා ඒවායේ අර්ථය ගැන කල්පනා නොකරන්නේනම්, යටත් පිරිසෙයින් පාඨකයාවත්, ඔහු වෙනුවෙන් ඒ ගැන සිතා බැලීම වටී. ''සැලකිය යුතු කම්කරු



සංඛ්‍යාවක් සිටින ප්‍රදේශ'' දුසිම් කීයක්, එසේ නැතහොත්, කී සියයක් රුසියාවේ තිබේ ද? එසේම සැම ප්‍රාදේශීය සංවිධානයක්ම තමන්ගේම ප්‍රවෘත්ති පත්‍රයක් පළ කිරීමට කටයුතු කිරීම, කොතරම් දුරට අපගේ ආධුනික ස්වභාවය චිරස්ථායී කිරීමක් වන්නේ ද! මෙම විසිරුවීම හේතු කොට ගෙන, අපගේ විප්ලවවාදී කාරක වරුන්ගේ කාර්ය ආරම්භයේදීම, සැලකිය යුතු වෙහෙසක් හෝ නොදරා ඔවුන් දැලට හසු කර ගැනීම සඳහා, පොලිස් හේවායිනට ලොකු පහසුවක් සැලසෙන අතර, එම කාරක වරුන් නියම විප්ලවවාදීන් වශයෙන් සංවර්ධනය වීම ද වැලකේ. ''තමන්ගේ ම නගරය නොවන, විවිධ නගරවල'' පැක්ටරි හිමියන්ගේ අක්‍රමිකතාවයන් ගැන විස්තර හා ''පැක්ටරි ජීවිතය ගැන විස්තර තොරතුරු'' ගැන, සමස්ත රුසියානු පුවත්පතක පාඨකයා දක්වනු ඇත්තේ මඳ උනන්දුවකැයි කර්තෘ තව දුරටත් කියයි. එහෙත් ''ඔරල්හි වැසියෙකුට ඔරල් ගැන තොරතුරු කියවීම නීරස දෙයක් නොවනු ඇත. ''තඩිබෑමට අල්ලා ගන්නා ලද්දේ'' කවුද, ''පහරදී'' තිබෙන්නේ කාට ද යනු සැම කලාපයකින් ම ඔහු දැනගනු ඇත. එවිට ඔහු උදම් වනු ඇත'' (පිටුව 69). ඇත්තෙන්ම,ඔරල්හි පාඨකයා උදම්ව සිටී.එහෙත්,අපගේ විචාරකයාකගේ මනෝරාජික සිතුවිලි ද ඉහළ ය. පමණට වඩා ඉහළ ය. ඉතා සුළු දේ ගැන, එතරම් වැදගත් කමක් දැක්වීම උපක්‍රමීය වශයෙන් නිවැරදි ද යනු, ඔහු තමාගෙන් ම විමසිය යුතුව තිබුණි. පැක්ටරි කටයුතු හෙළිදරව් කිරීමේ වැදගත් කම හා අවශ්‍යතාවය අගය කිරීමේදී, අපි අන් කිසිවෙකුට දෙවැනි නොවෙමු. එහෙත්, සාන්ත පීටර්ස්බර්ග් නගරයේ පළ කරන ''රබෝචය මිස්ල්'' පත්‍රයේ එන සාන්ත පීටර්ස්බර්ග් ලිපි කියවීම, සාන්ත පීටර්ස්බර්ග් ජනයාට නීරස වන අවධියට පත්ව තිබෙන බව, සිතෙහි දරා ගත යුතුවේ. පැක්ටරි කටයුතු හෙළිදරව් කිරීමේදී, ඒ සඳහා මාධ්‍යය වශයෙන් නිතරම යොදා ගන්නා ලද්දේ හා තව දුරටත් යොදා ගත යුත්තේ පත්‍රිකා ය. නමුත් අප ප්‍රවෘත්ති පත්‍රයේ තත්වය උසස් කළ යුතු ය. එය පැක්ටරි පත්‍රිකාවක මට්ටමට පහත නොහෙළිය යුත්තෙමු. අප ''ප්‍රවෘත්ති පත්‍රයකින්'' බලාපොරොත්තු වන්නේ ''සුළු'' හෙළිදරව් කිරීම්වලට වඩා, පැක්ටරි ජීවිතය නිරූපනය කරන මහා අධමකම් හෙළිදරව් කිරීම ය. එයින් බලාපොරොත්තු වන්නේ ඉතාමත් සිත් කාවදින, එනිසාම, ව්‍යාපාරයේ සියලුම කම්කරුවන්ගේ හා නායකයන්ගේ කුතුහලය ඇවිස්සීමෙහිත්, ඇත්ත වශයෙන්ම ඔවුන්ගේ දැනුම පෝෂණය කිරීමෙහිත්, අවබෝධය පුළුල් කිරීමෙහිත්, සමත් වන හා එමෙන්ම, අළුත් දිස්ත්‍රික්කවල හා වැඩි වැඩියෙන් අලුත් කාර්මික ප්‍රදේශවල, කම්කරුවන් අවදි කරවා ගැනීමේ ආරම්භයක් ලෙස උපයෝගි කරගත හැකි කරුණු පදනම් කරගත් හෙළිදරව් කිරීම් ය.

''එපමණක් නොව, පැක්ටරි පාලනයේ සහ වෙනත් අධිකාරීන්ගේ

අක්‍රමිකතාවයන්, ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍රයක් මගින්, එකෙනෙහිදීම සහ එතැන දීම, දෝෂ දර්ශනයට ලක් කළ හැකිය. ඈත තිබෙන පත්‍රයක් වෙත ආරංචි ළඟා වන විට ඊට අදාළ කරුණු, එම ආරංචි හා සම්බන්ධ පෙදෙස්වල අයට අමතක වී ගොස් ය. පත්‍රය ලැබුණු පසු පාඨකයා මෙසේ කියනු ඇත: 'ඒ කොයි කාලයක ද? ඕවා මතක තිබෙන්නේ කාටද?' (එම ලිපිය). ප්‍රශ්නය එයම ය. ඒවා මතක තිබෙන්නේ කාට ද! අවුරුදු දෙක හමාරක් තුළ පළ කරන ලද පත්‍ර කලාප 30 නිකුත් වූයේ, නගර හයකින් බව එම ආරංචි මාර්ගයෙන් ම දැනගන්නෙමු. සාමාන්‍ය වශයෙන්, එක නගරයකට අඩ වසරකට එක පත්‍රයක් බැගිනි! අපගේ නිසරු විචාරකයා, ප්‍රාදේශීය වැඩ කටයුතු පිළිබඳ ඔහුගේ ඇස්තමේන්තු තුන් ගුණයකින් වැඩි කළත් (සාමාන්‍ය නගරයක් සම්බන්ධයෙන් මෙය කළ නොහැකිය. අපගේ සුපුරුදු ක්‍රම අනුව නිෂ්පාදකත්වය සැලකිය යුතු පමණින් වැඩි කළ නොහැකි ය), එ විට ද, අපට ලැබෙන්නේ මාස දෙකකට එක කලාපයකි. මෙය කිසිසේත්, එතැනදීම, එකෙනෙහිම, දෝෂ දර්ෂණයට ලක් කිරීමක් නොවන්නේ ය. එහෙත්, සෑම සතියකට වරක්ම, මුළු රුසියාව පුරාම, සුළු අධමකම් නොව, කැපී පෙනෙන හා තත්ව නිරූපී අධමකම් ''දෝෂ දර්ශනයට ලක් කිරීම'', අපට කළ හැකි වනු පිණිස, පොදු ප්‍රවෘත්ති පත්‍රයක් සංවිධානය කිරීමේ කටයුත්තට එක් වන ප්‍රදේශීය සංවිධාන දහයකින් නියෝජිතයන් එවුවහොත්, එය ප්‍රමාණවත් වන්නේය. අපගේ සංවිධානවල පවත්නා තත්වය දන්නා කිසිවෙකුට, ඒ ගැන සැක සිතීමට කිසිම ඉඩක් නොමැත. සතුරා අපරාධය කරද්දීම අල්ලා ගැනීම පිළිබඳව, ලක්ෂණ වාක්‍ය ඛණ්ඩයක් වශයෙන් නොව, ඒ ගැන බරපතල ලෙස කථා කරතොත්, එය කළ යුත්තේ පත්‍රිකාවක් මගින් බව කිව යුතු ය. ඒ ස්වභාවයේ (නිදර්ශනයක් වශයෙන්, සුපුරුදු කෙටි වැඩ වර්ජන, වේගවත් පැක්ටරි ගැටුම්, පෙළපාලි ආදිය) හෙළිදරව් කිරීම සඳහා ඇති උපරිම කාල සීමාව දිනක් හෝ දින දෙකකට වැඩි නොවේ.

බරිස් ක්‍රිචෙව්ස්කිට පවා ගෞරවයක් විය හැකි තරම් ලෙසට දැඩි සසංගත භාවයක් දක්වන කර්තෘ විශේෂත්වයේ සිට පොදු ස්වභාවය දක්වා ඉහළට නගිමින්, ''කම්කරුවෝ පැක්ටරියෙහි පමණක් නොව නගරයෙහි ද ජීවත් වෙති'' යි තවදුරටත් ලියයි. ඒ සමගම, මහ නගර සභා රෝහල් හා පාසල් පිළිබඳව සඳහන් කරමින්, පොදු වශයෙන් නාගරික සභා කටයුතු අමතක නොකරන ලෙස, කම්කරු පුවත්පත්වලින් ඉල්ලයි. ඉල්ලීමක් වශයෙන් නම් මෙය විශිෂ්ඨ ය. එහෙත්, ප්‍රාදේශීය පුවත්පත් පිළිබඳව කෙරෙන සාකච්ඡා, බොහෝ විට සීමා වන්නේ කුමණ ආකාරයේ හිස් මන්ත්‍රණ මාත්‍රයන්ට ද යන්න ගෙන හැර දැක්වීමට, මෙය පැහැදිලි නිදර්ශනයක් ද වේ. පළමුවෙන්ම, ''ස්වබෝද'' සඟරාවේ කැමැත්ත ලෙසට, මහ නගර සභා පිළිබඳව එසේ විස්තර තොරතුරු ඇතුලත් කර, ''සැලකිය යුතු කම්කරු සංඛ්‍යාවක් සිටින සෑම ප්‍රදේශයකම'' පුවත්පත් නිකුත් කිරීම ඇත්ත වශයෙන් ම සිදුවුවහොත්, අපගේ රුසියානු තත්වයන් යටතේ එයින් අනිවාරණීය ලෙසට සිද්ධ වන්නේ, අනිවාරණීය ලෙසටම ඉතාමත් නොවැදගත් දේ ගැන සැලකිල්ල දක්වන තත්වයට පහත වැටීමත්, ඒකාධිපත්‍යයට විරුද්ධව කෙරෙන සමස්ත රුසියා ප්‍රහාරයක වැදගත්කම සම්බන්ධයෙන් විඥාත භාවය දුර්වල වීමකට මහ පැදීමත්, නො පවත්නා පාර්ලිමේන්තු ගැන වැඩියෙන් කථා කරන හා පවත්නා මහ නගර සභා ගැන අඩුවෙන් කථා කරන විප්ලවවාදීන් ගැන වූ කියමනෙන් හඳුනා ගන්නා ලද, ප්‍රවණතාවයෙහි උදුරා දමා නැති, එහෙත් වසං වුනු හෝ තාවකාලිකව යටපත් ස්වභාවයෙන් පවතින ඉතාමත් ප්‍රබල රිකිලි ශක්තිමත් කිරීමත්[189] ය. අප ''අනිවාරණීය ලෙසට යයි කියන්නේ මෙය සිදු වෙනවාට ''ස්වබෝද'' පැහැදිලි ලෙසම නොකැමැති බව අවධාරණය කිරීමේ අදහසිනි. එහෙත් අපේක්ෂාවන් පමණක් ප්‍රමාණවත් නොවේ. අපගේ වැඩ කටයුතු සමස්තය හා සමග ඇති සම්බන්ධයට අනුකූලව, නාගරික සභා කටයුතු ගැන නිසි අරමුණින් යුතුව කටයුතු කිරීම සඳහා, ප්‍රථමයෙන්ම එම අරමුණු පැහැදිලිව තේරුම් ගෙන, ඒවා සම්ප්‍රදායක් වැනි ස්ථාවරයකට පත්වන සේ, තර්කයෙන් පමණක් නොව, බොහෝ උදාහරණ ද මගින්, ශක්තිමත් ලෙස ස්ථාපිත කළ යුතු වේ. අප තවමත් සිටින්නේ මෙම තත්වයට බොහෝ ඈතිනි. එහෙත්, ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර ගැන කල්පනා කිරීමට හෝ කථා කිරීමට යොමු වීමට පෙර අපි ප්‍රථමයෙන් මෙම කාර්ය ඉටු කළ යුත්තෙමු.

දෙවැනිව, නාගරික කටයුතු ගැන ඉතා හොඳට හා උනන්දු කාරක ලෙස ලිවීමට නම්, අයෙකුට අදාල ප්‍රශ්න ගැන පොතේ දැනුම නොව අත්දුටු දැනුමක් තිබීම අවශ්‍යය. එහෙත් එවැනි දැනුමක් ඇති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් රුසියාවේ කිසිම තැනක නැති තරම් ය. නාගරික සහ රාජ්‍ය සභා කටයුතු ගැන ඉතා හොඳට උනන්දු කාරක ලෙස ලිවීමට නම්, අයෙකුට අදාල ප්‍රශ්න ගැන පොතේ දැනුම නොව, අත්දුටු දැනුමක් තිබීම අවශ්‍ය ය. එහෙත් එවැනි දැනුමක් ඇති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් රුසියාවේ කිසිම තැනක නැති තරම් ය. නාගරික සභා හා රාජ්‍ය කටයුතු ගැන (ජනප්‍රිය පත්‍රිකාවල නොව) පුවත්පත්වල ලිවීමට, දක්ෂ අය විසින් රැස් කරන ලද හා ලේඛන ගත කරන ලද, අලුත් හා විවිධ කරුණු තිබිය යුතුය. එවැනි කරුණු රැස්කර ගැනීමට හා ලිවීමට නම්, සෑම දෙනාම සෑම දේ ම කරන හා විශේෂ ඡන්ද විමසීමේ ක්‍රීඩාවෙහි යෙදීමෙන් සියල්ලෝම ප්‍රීති වන, පැරණි තාලේ කවයක ''පෞරාණික ප්‍රජාතන්ත්‍රවාදයට'' වැඩි මහත් යමක් අවශ්‍ය වේ. ඒ සඳහා විශේෂ ලේඛකයන් සහ ලිපි සපයන්නන්

මණ්ඩලයක් සිටිය යුතුය. ඇත එපිට සම්බන්ධකම් ඇති කර ගන්නා නොයෙක් නොයෙක් වර්ගයේ ''රාජ්‍ය රහස්'' (ඒ ගැන දැනුම නිසා රුසියානු ආණ්ඩු නිලධාරියා බොහෝ පිම්බෙන, එහෙත්, ඒ ගැන දෙඩීම ඉතා පහසු වන රහස්) අවබෝධ කර ගැනීමෙහි සමත් වන හා ''තිරයෙන් පිටු පසට'' කාවැදීමෙහි සමත් වන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වාර්තාකරුවන් හමුදුවක්, තමන්ගේ ''නිල රාජකාරී වශයෙන්'' සෑම තැනම සිටින හා සියලු දේ ම ගැන දන්නා අයගේ හමුදුවක්, සිටිය යුතුය. එනිසා සියලු ආර්ථික, දේශපාලන, සමාජමය හා ජාතික පීඩනයට විරුද්ධව සටන් කරන පක්ෂය වන අප, එවැනි සියලු දේ ගැන දන්නා හමුදුවක් සඳහා පිරිස සොයා ගැනීමට එකතු කිරීමට, පුහුණු කිරීමට, සංවිධානය කිරීමට හා එම හමුදුව ක්‍රියාත්මක කිරීමට සමත් ය. අප එය කළ යුතු ය. එහෙත්, මේ සියල්ලම තවමත් කළ යුතුව තිබෙන දේ ය. ප්‍රදේශයන් අති බහුතරයකම, මේ උදෙසා තවමත් එකද පියවරක්වත් ගෙන නැත. එපමණක් නොව, බොහෝ විට එම අවශ්‍යතාවය පිළිගැනීම හෝ නො-කෙරේ. යමෙක් අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍රවල, අපගේ ලොකු කටයුතු ගැන ද, රාජ්‍යතන්ත්‍රික, යුද්ධමය, පූජකයින් ගැන, නාගරික හා මුදල් කටයුතු පිළිබඳ ආදී වූ කාරණා ගැන ද, ලියන ලද ප්‍රාණවත් හා කුතූහලය අවුස්සන ලිපි හා වාර්තා සහ හෙළිදරව් කිරීම් සොයන්නේ නම්, එය නිරර්ථක සෙවීමක් වනු ඇත. ඒවායේ, එම කරුණු සම්බන්ධ-යෙන් කිසි දෙයක් නොමැති තරම් ය. ඇතත්, ඒ ඉතා අල්ප වශයෙනි*.

---

* ඉතාමත් හොඳ ප්‍රාදේශීය පුවත්පත්වල ආදර්ශයෙන් පවා අපගේ අදහස සනාථ වන්නේ එහෙයිනි. උදහරණයක් වශයෙන් ප්‍රතිපත්තිමය අස්ථිරත්වයෙන් සම්පූර්ණයෙන්ම නිදහස් ''යූෂ්නි රබෝචි''[190] පත්‍රය දැක්විය හැක. එහෙත්, එයට එහි කලාප නිති පතා නිකුත් කළ නොහැකි විය. විශාල පොලිස් වැටලීම් නිසා, ප්‍රාදේශීය ව්‍යාපාරයට අවශ්‍ය දේ සැපයීම කළ නොහැකි විය. අප ව්‍යාපාරයේ මූලික ප්‍රශ්න ප්‍රතිපත්තියා-නුකූල ලෙස ඉදිරිපත් කිරීම හා පුළුල් දේශපාලන උද්ඝෝෂණය අප පක්ෂයට ඉතාමත් හදිසි අවශ්‍යතාවයක් වී ඇති නමුත්, එම කටයුත්ත ප්‍රාදේශීය පත්‍රයට කළ නොහැකි තරම්, විශාල එකකි. එහි පළ කරන ලද, පතල් හිමියන්ගේ සම්මේලනය ගැන හා විරක්ෂාව ගැන වූ විශේෂ වටිනා කමකින් යුත් ලිපි ප්‍රාදේශීය ඒවා වශයෙන් ද ගත නොහැකි ය. ඒවා දකුණේ ජනයාට පමණක් නොව, මුළු රුසියාවටම අවශ්‍ය විය. එවැනි ලිපි කිසිවක් අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍රවල පළ වී නැත. අයෙක් මා වෙත පැමිණ ''සැලකිය යුතු කම්කරු සංඛ්‍යාවක් සිටින සෑම ප්‍රදේශයකම'' පැක්ටරි, නාගරික හා ආණ්ඩුවේ අධම කම් හෙළි කරන ප්‍රවෘත්ති පත්‍ර තිබීමේ අවශ්‍යතාවය ගැන ''ලස්සන චින්තාකර්ෂණීය වචන කියන විට, මා තුළ බිය ජනක තරම් නොරිස්සුම් ගතියක් ඇති වන්නේ'' එහෙයිනි.



මධ්‍යම පත්‍රවලට වඩා ප්‍රාදේශීය පත්‍ර ප්‍රබල වීම එක්කෝ දුප්පත් කමේ, නැතහොත්, ආඪ්‍ය සම්පන්න කමේ ලක්ෂණයක් විය හැක. මහා පරිමාණ නිෂ්පාදනයට අවශ්‍ය බලවේගයන් සංවර්ධනය කර ගැනීමේ කටයුත්ත තවමත් ව්‍යාපාරයට සාර්ථක කර ගත නොහැකිව තිබියදී, එය ආධුනික ස්වභාවයේ එරී දඟලන කල හා ''පැක්ටරි ජීවිතය පිළිබඳ නොවැදගත් විස්තර'' වල බොහෝ දුරට ගිලී පවතින විට, එය දුප්පත් කමේ ලක්ෂණයකි. ව්‍යාපාරය, අංග සම්පූර්ණ හෙළිදරව් කිරීම් හා අංග සම්පූර්ණ උද්ඝෝෂණය යන කර්තව්‍යයන්හි සම්පූර්ණ නිපුණත්වය ලබා තිබෙන විට ද, මධ්‍යම පත්‍රයට අමතරව බොහෝ ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර පළ කිරීම අවශ්‍යව තිබෙන විට ද, එය ආඪ්‍ය සම්පන්න තරම් ලක්ෂණයකි. වර්තමාන රුසියාවේ ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර ප්‍රබලත්වයට පත් වීමෙන් අදහස් වන්නේ කුමක් ද යන්න, එක් එක් අය තමාම තීරණය කර ගැනීම මැනවි. වැරදි වැටහීමක් ඇති වීමට ඉඩ නොතැබීම සඳහා මගේ නිගමනය පැහැදිලි ලෙස ඉදිරිපත් කිරීමට මම සීමා වන්නෙමි. අපගේ ප්‍රාදේශීය සංවිධාන අතුරන් බහුතරය, මේ දක්වා ම නිතර ම පාහේ කල්පනා කළේත්, තමන්ගේ කටයුතු සියල්ල ම පාහේ කැප කළේත්, ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර සම්බන්ධයෙන් පමණකි. මෙය අසාමාන්‍ය ය. සිදුවිය යුතුව තිබුණේ එහි අනිත් පැත්ත ය. ප්‍රාදේශීය සංවිධාන බහුතරය, සමස්ත රුසියා ප්‍රවෘත්ති පත්‍රයක් පළ කිරීම ගැන, ප්‍රධාන වශයෙන් කල්පනා කළ යුතුය. මෙය කරන තෙක්, අංග සම්පූර්ණ පුවත්පත් උද්ඝෝ-ෂණයක් මගින් ව්‍යාපාරයට කිසියම් පමණකින් හෝ ආධාර කිරීමට සමත් වන, එක ප්‍රවෘත්ති පත්‍රයක්වත් ස්ථාපිත කිරීම අපට කළ නොහැකි වන්නේ ය. එහෙත්, මෙය කළ පසු, අවශ්‍ය මධ්‍යම ප්‍රවෘත්ති පත්‍රයක්, අවශ්‍ය ප්‍රාදේශීය පත්‍රත් අතර සාමාන්‍ය සම්බන්ධකම් නිරායාසයෙන්ම ස්ථාපිත වනු ඇත.

*  *  *

ගුරුත්වාකර්ෂණ කේන්ද්‍රය ප්‍රාදේශීය වැඩ කටයුතුවලින් සමස්ත රුසියා වැඩ වෙතට ගෙන යාමේ අවශ්‍යතාවය, විශේෂයෙන්ම ආර්ථික අරගලයට අදාල නොවන්නේ යයි බැලූ බැල්මට පෙනෙන්නට පුළුවන. මෙම අරගලයේදී, කම්කරුවන්ගේ ආසන්න තම සතුරන් වන්නේ, එක් එක් ස්වාමිවරුන් හෝ, ස්වාමිවරුන්ගේ කණ්ඩායම් ය. දේශපාලන අරගලයේදී අපගේ ආසන්න තම සතුරා වන, තද බල ලෙස මධ්‍යගත කරනු ලැබූ හා සියලුම නොවැදගත් විස්තර කරුණු පවා ඒකීය අධිෂ්ඨා-නයකින් මෙහෙයවනුලබන, රුසියානු ආණ්ඩුවේ, නියත යුද්ධමය සංවිධානයට යම්තමින් හෝ සමාන වන කිසිම සංවිධානයකින්, එම ස්වාමිවරුන් බැඳී නැත.

එහෙත් නියම තත්වය එය නොවේ. අප නැවත නැවතත් පෙන්වා දී ඇති පරිදි, ආර්ථික අරගලය වෘත්තීය හා සම්බන්ධ අරගලයකි. ඒ හේතුව නිසාම, රැකියා ස්ථානය පදනම් කරගෙන පමණක් නොව, වෘත්තීන් පදනම් කරගෙන ද කම්කරුවන් සංවිධානය කිරීම අවශ්‍ය වේ. අපගේ ස්වාමිවරු සමාගම් හා සම්මේල වශයෙන් සංවිධානය වීම ඉක්මන් වූ තරමට, වෘත්තීය අනුව සංවිධානය වීම වඩ වඩාත් හදිසි කර්තව්‍යයක් බවට පත්වේ. අප කොටස්වලට වෙන් වී සිටීම මෙයට ඒකාන්ත බාධාවකි. මෙම සංවිධාන කටයුත්ත සඳහා සියලුම රුසියා වෘත්තීය සමිතිවලට නායකත්වය දීමෙහි සමත්, විප්ලවවාදීන්ගේ එකම සමස්ත රුසියා මණ්ඩලයක් අවශ්‍ය ය. මෙම අරමුණ ඉටු කර ගැනීම සඳහා අවශ්‍ය වන්නේ කුමණ වර්ගයේ සංවිධානයක් ද යන්න, අපි ඉහත විස්තර කෙළෙමු. මේ හා සම්බන්ධයෙන්, අපගේ ප්‍රවෘත්ති පත්‍ර ගැන පමණක් වචන කීපයක් මෙහිදී එකතු කරන්නෙමු.

සැම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පුවත්පතකට ම, වෘත්තීය (ආර්ථික) අරගලය සඳහා වෙන් කළ විශේෂ දෙපාර්තමේන්තුවක් තිබීමේ අවශ්‍යතාවය ගැන අනුමාන කරන කිසිවෙක් නැති තරම්. එපමණක් නොව, වෘත්තීය සමිති පත්‍ර පටන් ගැනීම ගැන කල්පනා කිරීමට ද, වෘත්තීය සමිති වර්ධනය විසින් අපට බල කෙරෙයි. එසේ වුවද, දුර්ලභ විශේෂත්වයන් කීපයක් හැරුණු විට, මෙම කාලය තුළ රුසියාවේ වෘත්තීය සමිති පත්‍ර පටන් ගැනීමට කොහෙත්ම පුළුවන් කමක් නැත. එය අඩ්‍ය සම්පන්න කමකට සමාන වන අතර අප සිටින්නේ, දෛනික ආහාරයවත් නොමැති තත්වයක ය. අපට බලපාන නීති විරෝධී තත්වයන්ට ගැලපෙන පරිදි, මෙම කාලයේ, දැනටමත් අවශ්‍ය වී තිබෙන වෘත්තීය සමිති පත්‍ර, අනෙකක් නොව වෘත්තීය සමිති පොත් පොඩි ය. මෙම පොත් පොඩි මගින් නිශ්චිත කර්මාන්තයක පවතින සේවා තත්වයන් ගැන ද, එම සේවා තත්වයන් සම්බන්ධයෙන් රුසියාවේ විවිධ ප්‍රදේශවල පවතින වෙනස්කම් ගැන ද, එම නියමිත කර්මාන්තයේ කම්කරුවන් ඉදිරිපත් කරන ප්‍රධාන ඉල්ලීම් ගැන ද, කර්මාන්තයට බලපාන නීති ප්‍රමාණවත් නොවීම පිළිබඳව ද, කර්මාන්තයෙහි කම්කරුවන් ආර්ථික අරගලයෙහි යෙදුනු වැදගත් අවස්ථා ගැන ද, ඔවුන්ගේ වෘත්තීය සමිති සංවිධානයේ ආරම්භය, වර්තමාන තත්වය හා අවශ්‍යතාවයන් ගැන ද, අදී වූ, නීත්‍යානුකූල* හා නීති විරෝධී

* නීත්‍යානුකූල ලියවිලි මේ හා සම්බන්ධයෙන් විශේෂයෙන්ම වැදගත් ය. ඒවා ක්‍රමානුකූල ලෙස රැස්කර උපයෝගී කර ගැනීමේ හැකියාව අතින් අපි විශේෂයෙන් ම පසු බා සිටිමු. නීත්‍යානුකූල කරුණු පමණක් පදනම් කර ගෙන අයෙකුට වෘත්තීය සමිති පොත් පිංචක්



කරුනු ක්‍රමානුකූලව රැස්කොට තැබිය යුතු වේ. ප්‍රථමයෙන්ම, එවැනි පොත් පොඩි පළ කිරීම හේතු කොට ගෙන, නිශ්චිත එක කර්මාන්තයක කම්කරුවන් පමණක් උනන්දු කරවන ආකාරයේ වූ, වෘත්තීය පිළිබඳ විස්තර කරුණු රාශියක් පළ කිරීමේ කාර්යයෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍ර නිදහස් වේ. දෙවැනිව, අපගේ වෘත්තීය සමිති අරගලයේ අත්දැකීම්වල ප්‍රතිඵල එමගින් වාර්තා ගත වනු ඇත. එමෙන්ම පත්‍රිකා හා අසම්පූර්ණ විස්තර අඩංගු ලිපි මහා රාශියක් අතර සැඟවී යන තොරතුරු — විස්තර එයින් ආරක්ෂා වේ. එමගින්, මෙම කරුණු සම්පිණ්ඩනය කිරීම සිදු කෙරේ. තුන්වැනිව, සේවා තත්වයන් වෙනස් වීමට බොහෝ කල් ගත වන නිසාත්, නිශ්චිත කර්මාන්තයක කම්කරුවන්ගේ ප්‍රධාන ඉල්ලීම් ඉතාමත් ස්ථාවර වන නිසාත් (නිදර්ශනයක් වශයෙන් 1885 දී[192] මොස්කව් දිස්ත්‍රික්කයේ පේෂ කාර්මිකයන් ද, 1896 දී සාන්ත පීටර්ස්බර්ග් දිස්ත්‍රික්කයේ අයද,[193] ඉදිරිපත් කළ ඉල්ලීම් බලන්න), එයින් උද්ඝෝෂණ

සකස් කළ හැකි යයි කීම, අතිශයෝක්තියක් නොවේ. එහෙත්, නීති විරෝධී කරුණු පමණක් පදනම් කරගෙන, එය කළ නොහැක ''රබෝචය මිස්ල්'' ප්‍රකාශක මගින් විවරණය කෙරෙනු වැනි, ප්‍රශ්න[191] ගැන කම්කරුවන් නීති විරෝධී තොරතුරු රැස් කිරීමට, විප්ලවවාදීන්ගේ (ඔවුන් වෙනුවට නීත්‍යානුකූල කාරක වරුන්ට ඉතා පහසුවෙන් ඒ තැන ගත හැකිය) අති මහත් පරිශ්‍රමයක් වැය වන නමුත්, අපට කිසි කලෙකත් හොඳ තොරතුරු ලබා ගත නොහැකි ය. ඊට හේතුව මෙයයි. විශාල පැක්ටරියක, බොහෝ විට එක දෙපාර්තමේන්තුවක් පමණක් ගැන දන්නා, නිතරම පාහේ ස්වකීය සේවයේ ආර්ථික ප්‍රතිඵල මිස පොදු තත්වයන් හා ප්‍රමිති ගැන නොදන්නා, කම්කරුවෙකුට, කාර්යාල හෝ පැක්ටරි නිලධාරීන් ද, පරීක්ෂක වරුන් හා දොස්තරවරුන් ද සතුවූත්, සුළු පත්‍ර වාර්තා හා විශේෂ කාර්මික, වෛද්‍ය, සියම්ස්ත්වො සහ වෙනත් ප්‍රකාශන අතර විසිරී තිබෙන්නාවූත් දැනුම රැස්කර ගත හැකි නොවේ.

මා ''ප්‍රථම වතාවට කළ'' හා නැවත කිසිදක කිරීමට අකැමති, ''පරීක්ෂණයක්'' ගැන මට හොඳට මතකය. මා හමු වීමට නිතර පැමිණි කම්කරුවෙකු වැඩ කළ, අති විශාල පැක්ටරියේ බල පවත්නා තත්වයන් හා සම්බන්ධ සැම අංශයක්ම ගැන ඔහුගෙන් ''විභාග'' කිරීමට මම සති කීපයක් ගත කෙළෙමි. මහත් පරිශ්‍රමයකින් පසුව (එක පැක්ටරියක් පමණක් ගැන) විස්තරයක් කිරීම සඳහා අවශ්‍ය තොරතුරු ලබා ගැනීමට මට පුළුවන් බව ඇත්ත වූ නමුත්, සාකච්ඡාව අවසානයේ, ඔහු නළලේ ඩා බිඳු පිස දමා මඳ සිනහවක් පාමින්, මට මෙසේ කීය. ''ඔබගේ ප්‍රශ්නවලට උත්තර දෙනවාට වඩා අති කාල වැඩ කිරීම මට පහසු ය''.

අපගේ විප්ලවවාදී ව්‍යාපාරය, වඩාත් ධෛර්යමත් ලෙස කරගෙන ගිය තරමට, අපගේ ''වෘත්තීය සමිති'' කටයුතුවලින් කොටසක් නීත්‍යානුකූල නොකර බැරි තත්වයට, ආණ්ඩුව පත්වේ. ඒ අනුව, අපගේ බරෙන් කොටසකින් නිදහස් වීමේ ඉඩ අපට ලැබේ.

සඳහා මාර්ග දේශකත්වය ලබා ගත හැකි වේ. එවැනි ඉල්ලීම් හා අවශ්‍යතාවයන් එක්රැස්කර, සංගෘහිත කර ගතහොත්, එය නොදියුණු ප්‍රදේශවල, නැතහොත්, නොදියුණු කම්කරු ස්ථරයන් අතර, ආර්ථික ප්‍රශ්න ගැන උද්ඝෝෂණය කරන අයට, අවුරුදු ගණනාවක් ප්‍රයෝජනවත් වන මා හැඟි පොතක් විය හැකි ය. එක් නිශ්චිත පළාතක සාර්ථක වූ වැඩ වර්ජන, එක් ප්‍රදේශයක පවතින උසස් ජීවන තත්වයන් හා වැඩි දියුණු වූ සේවා කොන්දේසි පිළිබඳ නිදර්ශන වලින්, අනිකුත් ප්‍රදේශවල කම්කරුවන් නැවත නැවතත් සටනෙහි යෙදීම සඳහා ධෛර්යමත් කෙරේ. සිව්වැනිව, වෘත්තීය සමිති අරගලය පොදු අරගලයක් බවට පත් කිරීමේ කටයුතු ආරම්භ කර, එමගින්, රුසියානු වෘත්තීය සමිති ව්‍යාපාරය සහ සමාජවාදය ශක්තිමත් කරන අතරම, අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කාර්ය සමස්තය තුළ, වෘත්තීය සමිති, කටයුතු ගන්නා තැන, පමණට, වඩා කුඩා හෝ විශාල හෝ නොවන බවට, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වග බලාගන්නවා ඇත. අනිකුත් නගරවල සංවිධාන සමග සම්බන්ධකම් නොමැතිව පවතින, ප්‍රදේශීය සංවිධානයකට, මෙම නිවැරදි අනුපාතය පිළිබඳ හැඟීමක් ඇති කර ගැනීම දුෂ්කරය — සමහර විට කොහෙත්ම නොහැකි තරම් ය (මොන තරම් දුරට භයානක ලෙස වෘත්තීය සමිතිවාදය කෙරේ අධිකතර ලෙස නැඹුරු විය හැකි ද යන්න, "රබෝචය මිස්ල්" පත්‍රයේ නිදර්ශනයෙන් පෙන්නුම් කෙරේ). එහෙත්, එය අවලා ලෙස මාක්ස්වාදයේ පදනම මත පිහිටා සිටින්නා වූ ද, වෘත්තීය උද්ඝෝෂකයින් පිරිසක් සිටින්නා වූ ද, විප්ලවවාදීන්ගේ සමස්ත රුසියානු සංවිධානයකට, එම අනුපාතය නිසි ලෙස නියම කර ගැනීම කිසි කලෙකත් දුෂ්කර කටයුත්තක් නොවේ.

## V

## සමස්ත රුසියා දේශපාලන ප්‍රවෘත්ති පත්‍රයක් සඳහා "සැලැස්ම"

"ව්‍යවහාරය කෙරෙන් න්‍යාය ඈත් කිරීමෙන්, එය ජීවයෙන් තොර ධර්මයක් බවට හැරවීමේ" ප්‍රවණතාවයක් දක්වන්නේ යයි අපට චෝදනා කරන ("රබෝචිය දියල", අංක 10, පිටු 30) බී. ක්‍රිචේව්ස්කි "මේ සම්බන්ධයෙන් "ඉස්ක්‍රා" පත්‍රය කළ බරපතල ම මෝඩ කම, පොදු පක්ෂ සංවිධානයක් සඳහා සැලැස්මක් ඉදිරිපත් කිරීමය"යි ලීවේ ය (එසේ සඳහන් කර ඇත්තේ, "පටන් ගත යුත්තේ කොතැනින් ද?" යන ලිපිය ගැන ය). දීප්තිමත් හා පරිපූර්ණ අදහස් ප්‍රචාරය හා සමග සසඳන විට, සැම ද නීරස අරගලයේ ඉදිරි ගමන සුළු කොට තැකීමට "ඉස්ක්‍රා" පත්‍රය



අනුගමනය කරන ප්‍රවණතාවය... උච්ඡස්ථානයට පත් වූයේ, එහි 4 වැනි කලාපයෙන් ඉදිරිපත් කළ "පටන් ගත යුත්තේ කොතැතැනින්ද" යන ලිපිය මගින් එය ඉදිරිපත් කර තිබෙන, පක්ෂ සංවිධානය සඳහා වූ සැලැස්මෙනි" යි (එම පිටු 61) කීමෙන් මර්තිනව්ද එම අදහසම දෝංකාර නංවයි. අන්තිමේදී "සැලැස්මට" (උපුටා දැක්වීමේ ලකුණ යොද තිබෙන්නේ උපහාසය අදහස් කිරීමටය) විරුද්ධව බලවත් උදහස ප්‍රකාශ කරන්නන්ගේ තාලය ඇල්ලීමට එල්. නදෙෂ්දින් මෑත දී එකතු වී සිටී. (අප දන හැඳින ගෙන සිටින "ස්වබෝද" "විප්ලවවාදී සමාජවාදී කණ්ඩායම" විසින් පළ කරන ලද) "විප්ලවයේ පූර්වාසන්නය" යන මේ දැන් අපට ලැබුණු පොතෙහි (පිටුව 126) ඔහු මෙසේ ප්‍රකාශ කරයි. "සමස්ත රුසියානු ප්‍රවෘත්ති පත්‍රයකින් එකට සම්බන්ධ කර ගන්නා සංවිධානයක් ගැන දැන් කථා කිරීම යනු, හාන්සි පුටු අදහස් හා හාන්සි පුටු වැඩ ප්‍රචලිත කිරීමක් වන අතර "පොත්ගුළු" ස්වභාවය පෙන්නුම් කිරීමක් ද වේ, යනාදී වශයෙනි.

අපගේ ත්‍රස්තවාදියා,"නීරස දින පතා අරගලයේ ඉදිරි ගමනේ"වීරයන් සමග එකහත්වයෙන් පසු වීම ගැන අපි පුදුම නොවෙමු. ඔවුන් අතර දක්නට ලැබෙන මෙම සමීප මිත්‍රත්වයේ මූලාශ්‍රයන් ගැන දේශපාලනය හා සංවිධානය පිළිබඳ පරිච්ඡේදවලින් සෙව්වෙමු. එහෙත් තමන් නොකැමති ලිපියක චින්තාදමය වටහා ගෙන, හිතට එකඟව, ඊට එක එල්ලේ පිළිතුරු සැපයීමට උත්සාහ ගත් එකම තැනැත්තා නදෙෂ්දින් බව, මෙහිදී සඳහන් කළ යුතු ය. "රබෝචිය දියල" කර තිබෙන්නේ කාරණයට අදල කිසිවක් නොකියා, නොහොබනා කෛරාටික පරහදීම් මගින් ප්‍රශ්නය ව්‍යාකූල කිරීමට වෙර දැරීම පමණකි. මෙම අවිගී ඉස්තාලය[194] ශුද්ධ කිරීම අප්‍රසන්න කර්තව්‍යයක් වුවද, අපි ප්‍රථමයෙන් ඒ සඳහා කාලය මිඩංගු කළ යුතු වෙමු.

### අ) "පටන් ගත යුත්තේ කොතැනින්ද?" යන ලිපියෙන් අමනාප වූයේ කවුද?*

"රබෝචිය දියල" අප වෙත දමා ගැසූ,ගැරහුම් සහ මචිත ස්වර වදන් අතුරෙන් තෝරාගත් ස්වල්පයක් ඉදිරිපත් කරමු. "පක්ෂ සංවිධානය නිර්මාණය කළ හැක්කේ ප්‍රවෘත්ති පත්‍රයකට නොව, සිදුවිය යුත්තේ එහි

* "වර්ෂ 12 ක් තුළ" නැමැති කෘති එකතු වේ පස්වැනි පරිච්ඡේදයේ "අ" ඡේදය ඉවත් කළ වී. අයි. ලෙනින් පහත පාද සටහන යෙදුවේය.

අනික් පැත්ත ය''... ''එයට තමන්ගේම ඒජන්තවරුන්ගෙන් සමන්විත කාර්ය මණ්ඩලයක් සිටීමට ස්තුති වන්නට, පක්ෂයට ඉහළින්, එහි පාලනයෙන් බැහැරව හා එයින් නිදහස්ව, පවතින ප්‍රවෘත්ති පත්‍රයක්''... ''''ඉස්ක්‍රා'' පත්‍රය හිමි පක්ෂයට ඇත්ත වශයෙන්ම අයත්ව පවත්නා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන ගැන, එයට අමතක වූයේ මොන ප්‍රාතිහාර්යයක් නිසා ද?''... ''පක්ෂයේ නියම අරගලයේ උත්තරීතර නියමුවන් වන්නේ,ස්ථිර ප්‍රතිපත්ති හා ඊට ගැලපෙන සැලැස්මක් ඇති, තම සැලැස්ම ක්‍රියාත්මක කිරීමට පක්ෂයට අඬකරන අය ය''... ''අපගේ ක්‍රියාශීලී සහ පුරුෂවත් සංවිධානය සෙවනැලි රාජ්‍යයකට පලවා හරින සැලැස්ම, ඒජන්තවරුන්ගේ ජාලක සංවිධානයක් උත්පාදනය කිරීමේ අභිලාෂයක් දක්වයි''... ''ඉස්ක්‍රා'' පත්‍රයේ සැලැස්ම ක්‍රියාත්මක කළහොත්, දැනට සකස් වෙමින් පවතින, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සියලු සලකුණු පවා මැකී යනු ඇති''... ''ප්‍රචාරක පත්‍රයන්, සමස්ත ප්‍රායෝගික විප්ලවවාදී ව්‍යාපාරයටම බලපාන පාලනයකට යටත් නැති, සර්ව බලධාරී නීති සම්පාදයෙක් වන්නේ ය''... ''ස්වෛරී කර්තෘ මණ්ඩලයකට පක්ෂය සම්පූර්ණයෙන්ම යටත් කළ යුතුය, යන යෝජනාව සම්බන්ධයෙන් පක්ෂය දැක්විය යුතු ප්‍රතික්‍රියාව කුමක් ද?'' මේ ආදී වශයෙනි.

ඉහත සඳහන් උපුටා ගත් කොටස්වල අන්තර්ගත කරුණු වලින් හා ඒවායේ ස්වරයෙන් පාඨකයාට පෙනී යනු ඇති පරිදි ''රබෝචිය දියල'' අමනාප වී තිබේ. එය අමනාප වී තිබෙන්නේ තමන් උදෙසා නොවේ, එය චෝදනා කරන පරිදි, සෙවනැලි රාජ්‍යයට පලවා හැරීමටත්, සලකුණු පවා මකා දැමීමටත්, ''ඉස්ක්‍රා'' පත්‍රය අභිප්‍රාය කරන, අප පක්ෂයේ සංවිධාන හා කාරක සභා උදෙසාය. ඉතාමත් භයානක ය!එහෙත්,අරුම පුදුම දෙයක් සටහන් කර ගත යුතු වේ. ''පටන් ගත යුත්තේ කොතැනින් ද'' යන ලිපිය පළ වූයේ 1901 මැයි මාසයේදී ය. ''රබෝචිය දියල'' ලිපිය පළ වූයේ 1901 සැප්තැම්බර් මාසයේදී ය. දැන් අපි 1902 ජනවාරි මාසයේ මැද්දට පැමිණ සිටිමු. (සැප්තැම්බරයෙන් පෙරත්, ඉන් පසුවත් වූ) මෙම පස් මාසයක කාල තුළම තමන් සෙවනැලි රාජ්‍යයට පළවා හැරීමට උත්සාහ කරන, මෙම රාක්ෂසයාට විරුද්ධව, පක්ෂයේ එකම කාරක සභාවක් වත්, එකම සංවිධානයක් වත්, විධිමත් ලෙස විරෝධය පළ කළේ නැත. එ නමුත්,මෙම කාලය තුළ ප්‍රාදේශීය හා ප්‍රාදේශීය නොවන,ප්‍රකාශන අති විශාල ගණනක මෙන්ම, ''ඉස්ක්‍රා'' පත්‍රයේ ද, රුසියාවේ සියලුම පෙදෙස්වලින් එවුනු සන්දේශ පළ විය. සෙවනැලි රාජ්‍යයට පලවා හරිනු ලබන අය ඒ ගැන නොදන්නා සහ අමනාප නොවූ තත්වයක්ද, එහෙත් තුන්වැනි පිරිසක් අමනාප වූ තත්වයක් ද, ඇති වූයේ කෙසේ ද?

මෙම තත්වය උද වී තිබෙන්නේ, කාරක සභා සහ වෙනත් සංවිධාන ''ප්‍රජාතන්ත්‍රවාදය'' යන ක්‍රීඩාව කිරීමෙහි නොයෙදී නියත කාර්යයන්හි නියැලී සිටීමේ හේතුවෙනි. කාරක සභා, පටන් ගත යුත්තේ කොතැනින් ද යන ලිපිය කියවූහ. එයින් නියෝජනය වන්නේ, ''සංවිධානයක්'' පිහිටුවීම සඳහා සියලුම අංශවලින් කටයුතු කරනු පිණිස නිශ්චිත සැලැස්මක් විස්තර කර දැක්වීමේ'' උත්සාහයක් වන බව, ඒවාට පෙනින. සංවිධානය පිහිටුවීමේ අවශ්‍යතාවය හා එහි නිර්මාණ සැලැස්මේ නිරවද්‍යතාවය ගැන අවබෝධයක් ඇති වන තෙක්, මෙම ''පාර්ශවයන්ගෙන්'' කිසිම එකක් හෝ ''එය ගොඩනැගීමේ කටයුතු ආරම්භ කිරීම'' සම්බන්ධයෙන් සිහිනෙනුදු නොසිතන බව, එම කාරක සභා සහ සංවිධාන හොඳින් දත් නිසාත්, දුටු නිසාත්, ''ඉස්ක්‍රා'' පත්‍රය මගින් පහත සඳහන් පරිදි කී අයගේ නිර්භීත කම ගැන උරණ වීම පිළිබඳ අදහසක්, ඒවා තුළ ඇති නොවීම ස්වාභාවික ය: ''දැනට මුද්‍රණය සඳහා සූදනම් කෙරෙමින් පවතින පොතක් මගින් විස්තර සහිතව ඉදිරිපත් කිරීමට බලාපොරොත්තු වන සැලැස්මක සැකිල්ලක්, ප්‍රශ්නයේ බලවත් වැදගත් කම සලකා, අප විසින් ඉදිරිපත් කරනු ලැබීමේ වරදක් නැතැයි අපි හඟිමු''* සහෝදරවරුන් වෙත ඉදිරිපත් කරන ලද සැලැස්ම ඔවුන් විසින් පිළිගනු ලැබුව හොත්, එවිට ''යටත්'' නිසා නොව, එය අපගේ පොදු ව්‍යාපාරයට අවශ්‍ය බව අවබෝධ වූ නිසා, ඔවුන් එය ක්‍රියාත්මක කරනු ඇතැයිද, ඔවුන් එය නො පිළිගත හොත් එවිට ''සැකිල්ල'' (උඩඟු වචනයක්, නො එසේ ද?) නිකම්ම සැකිල්ලක්ව පවතිනු ඇතැයි ද යනුවෙන් මිස, වැඩ කටයුතු කෙරෙහි අවංකව ළඟා වීමේ හැඟීමෙන් යුතුව කල්පනා කළ හැකි වෙනත් ආකාරයක් තිබේ ද? සැලැස්මක සැකිල්ලට විරුද්ධව සටන් කිරීමේදී, ''එය සුනු විසුනු කර දැමීම'' හා එය ප්‍රතික්ෂේප කරන ලෙස සහෝදරවරුන්ට උපදෙස් දීම පමණක් නොකර, එහි කර්තෘවරුන් ''නීති සම්පාදනය කිරීමට'' හා ''උත්තරීතර නියමුවන්'' වශයෙන් ඉදිරිපත් වීමට තරම් නිර්භීත වීම

''අ) ''පටන්ගත යුත්තේ කොතනින්ද?'' යන ලිපියෙන් අමනාප වූයේ කවුද?'' යන ඡේදය මෙම ප්‍රකාශනයෙන් ඉවත්කරනු ලැබේ. ඒ ''ඉස්ක්‍රා'' පත්‍රය ''ආඥා කිරීමට'' ආදියට කරන උත්සාහය පිළිබඳ ප්‍රශ්නයේ දී ''රබෝචිය දියල'' හා බුන්ද් සමග දැඩි භේදකාරී තත්වයක් උසුලන හෙයිනි. ඒ කෙසේ වෙනත් එම ඡේදයේ ම, පක්ෂයේ මධ්‍යම සංවිධානය පුනරුත්ථාපනය කිරීම හා ''සාහිත්‍ය පර්යේෂණාගාරයක්'' සංවිධානය කිරීම සඳහා බුන්ද් ''ඉස්ක්‍රා'' සාමාජිකයින්ට ආරාධනා කළ බව කියා තිබිණි. — සංස්කාරක.

* සම්පූර්ණ කෘතීන්,5 වැනි මුද්‍රණය,වෙළුම 5,පිටුව 9. — සංස්කාරක.

පමණක් පදනම් කර ගෙන, එනම්, සැලැස්මක දළ සටහනක් යෝජනා කිරීමට තරම් නිර්භීත වීම හේතුවක් කොට ගෙන, ඔවුනට විරුද්ධව, විප්ලවීය කටයුතුවල පළ පුරුද්දක් නොමැති අය පෙළඹවීම කෛරාටික කමක් නොවේ ද? පුළුල් අදහස්, පුළුල් කර්තව්‍යයන්, පුළුල් සැලසුම් ආදිය පෙන්නුම් කරමින් ප්‍රාදේශීය කාර්යයන් උසස් කිරීමට දරන ප්‍රයත්නයකට විරුද්ධ වන්නේ, මෙම අදහස් වැරදි බව කියමින් පමණක් නොව, උසස් කිරීමට අප දක්වන ''අභිලාෂයම'' ''අදහස්'' අවුස්සන්නක් වන බව ද කියමින් නම්, අප පක්ෂයට වර්ධනය වී ප්‍රගතියක් ඇති කර ගත හැකි ද? එල්. නදෙෂ්දින් අපගේ සැලැස්ම ''සුනු විසුනු කළේය''. එහෙත් එසේ කිරීමේදී,ඊට හේතුව නෝන්ජල් කම,නැතහොත්,දේශපාලන අදහස්වල පැරණි තාලය වන්නේ යයි කීමට බැරි වන තරම්, පහත් කෛරාටික තත්වයකට ඔහු වැටුනේ නැත. ''පක්ෂය මත පරීක්ෂකත්වයක්'' ඇති කිරීමට අප අදහස් කරතැයි යන චෝදනාව ඔහු මුල සිටම ප්‍රතික්ෂේප කළේය. සැලැස්ම ගැන වූ ''රබෝචිය දියල'' විවේචන කෙරෙහි දක්විය යුත්තේ පිළිකුල් කිරීමේ සැලකිල්ල පමණක් වන අතර, නදෙෂ්දින්ගේ විවේචනයෙහි අගය අනුව එයට පිළිතුරු සැපයිය යුත්තේ එබැවිනි.

එහෙත්, ''ඒකාධිපත්‍යය''. හා ''යටත් කිරීම'' ගැන ඝෝෂා කරන ලේඛකයෙකු කෙරේ පිළිකුල පළ කළ පමණින්, එවැනි අය ඔවුන්ගේ පාඨකයන්ගේ සිත් තුළ ඇති කරන අවුල් නිරවුල් කිරීමට අපට තිබෙන යුතු කමෙන් අප නිදහස් නොවේ. මෙහි දී ''පුළුල් ප්‍රජාතන්ත්‍රවාදය'' වැනි සිත් ගන්නා වචනවල ස්වභාවය ගැන ලෝකයාට පැහැදිලි ලෙස පෙන්නුම් කර දීමට අපට හැකි වේ. කාරක සභා අමතක කිරීම, නැත-හොත්, ඒවා සෙවනැලි රාජ්‍යයට පලවා හැරීමට ප්‍රයත්න දැරීම, ආදිය, ගැන අපට චෝදනා කර ඇත. රහසිගත භාවය සම්බන්ධයෙන් දක්විය යුතු සැලකිල්ල නිසා, කාරක සභා සමග වන අපගේ සම්බන්ධය ගැන කරුණු කිසිවක් ම පාහේ පාඨකයාට දීමට අපට නොහැකිව තිබිය දී, මෙම චෝදනාවලට අපි කෙසේ පිළිතුරු දෙමුද? පිරිස ප්‍රකෝප කිරීමේ අදහසින් අප වෙත තද පරුෂ චෝදනා දමා ගසන අය, අපට වඩා ඉදිරියෙන් සිටින ආකාරයක් පෙනෙන්නේ, ඔවුන්ගේ අලජ්ජී ස්වභාවයත්, විප්ලවවා-දියෙකු පවත්වා ගෙන යන, ඇති කිරීමෙහි යෙදී සිටින, නැතහොත්, ඇති කිරීමට බලාපොරොත්තු වන, සම්බන්ධකම් හා දැන ඇඳුනුම් කම්, සුපරීක්ෂාකාරී ලෙස ලෝකයාගේ ඇසෙන් වසං කිරීමට ඇති ඔහුගේ යුතු කම ගැන, ඔවුන් දක්වන නොසැලකිල්ල නිසා ය. ස්වාභාවික වශයෙන් ම අපි, එවැනි අය සමග ''ප්‍රජාතන්ත්‍රවාදය'' පිළිබඳ ක්ෂේත්‍රයෙහි තරඟ කිරීම ඉඳුරා ම ප්‍රතික්ෂේප කරමු. පක්ෂ කටයුතු සියල්ල ගැන පළ



පුරුද්දක් නොමැති පාඨකයා ගැන සලකා බලන කල, ඔහු වෙනුවෙන් අපගේ යුතු කම ඉටු කළ හැකි එකම මාර්ගය වන්නේ, im Werden* පවත්නා දෙය හා තත්වාකාර දෙය ගැන ඔහුට පැහැදිලි කිරීමෙන් නොව සිදු වී ඇති දෙයින් හා ගත වූ කාලයේ සිදු වූ දෙයක් වශයෙන් කිව හැකි කරුණුවලින් බිඳක් විස්තර කිරීමෙනි.

බුන්ද් සංවිධානය අප ''වෙස් වලාගත්තවුන්''** ලෙස හැඳින්වීමේ ඉහියක් කරයි. පක්ෂයේ සියළු සලකුණු මකා දැමීමට අප තැත් කරතැයි විදේශ ගත ''සංගමය'' අපට චෝදනා කරයි. මහත්වරුනි, අතීතය ගැන කරුණු හතරක් මහජනයාට විස්තර කළ පසු ඔබට සම්පූර්ණ තෘප්තිය ලැබෙනු ඇත.

ප්‍රථම කාරණය.*** අප පක්ෂය පිහිටුවීමේදී, කෙළින්ම හා ආරම්භක පක්ෂ සම්මේලනයට නියෝජිතයෙක් එවීමෙන්, එයට සම්බන්ධ වුනු ''අරගල සංගම්'' අතුරෙන් එකක සාමාජිකයෝ, සමස්ත ව්‍යාපාරයට ම ප්‍රයෝජනවත් වන පරිදි කම්කරුවන් සඳහා විශේෂ පොත් පෙළක් පළ කිරීම සම්බන්ධයෙන්, ''ඉස්ක්‍රා'' කණ්ඩායමේ සාමාජිකයෙක් සමග එකඟත්වයක් ඇති කර ගත්හ. එම පොත් පෙළ පළ කිරීමට දරන ලද ප්‍රයත්නය අසාර්ථක වූ අතර, ඒ සඳහා ලියන ලද ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කර්තව්‍යයන්'' සහ ''නව පැක්ටරි නීතිය'' යන කුඩා පොත් වට වංගු මාර්ගයකින් හා තුන්වැනි පාර්ශවයක් මගින් විදේශයට ගෙන යන ලදුව එහිදී පළ කෙරිණ.

දෙවැනි කරුණ. එවකට ''සාහිත්‍ය පර්යේෂණාගාරය'' යනුවෙන් බුන්ද් සංවිධානය විසින් හඳුන්වන ලද්ද සංවිධානය කිරීම සඳහා වූ යෝ-ජනාවක් ද රැගෙන,එම සංවිධානයේ සාමාජිකයෝ ''ඉස්ක්‍රා'' කණ්ඩායමේ සාමාජිකයන් වෙත ආහ. මෙම යෝජනාව ඉටු නොකළහොත් ව්‍යාපාරය බොහෝ සෙයින් පසු බසිනු ඇතැයි ඔවුහු එය ඉදිරිපත් කරමින් කීහ. මෙම සාකච්ඡාවල ප්‍රතිඵලය වූයේ ''රුසියාවේ කම්කරු පංති ව්‍යාපාරය''**** යන පොත නිකුත් වීම ය.

---

* බිහිවීමේ හා ගොඩ නැගීමේ ක්‍රියාදමය තුළ — සංස්කාරක

** ''ඉස්ක්‍රා'' අංක 8, ජාතික ප්‍රශ්න ගැන අපගේ ලිපියට රුසියාවේ හා පෝලන්තයේ පොදු යුදෙව් සංගමයේ මධ්‍යම කාරක සභාවේ පිළිතුර.

*** මෙම කරුණු විස්තර කිරීමේ දී ඒවායේ අනු පිළිවෙළ අනුගමනය නොකරන්නේ උවමනාවෙන් ය.[195]

**** කර්තෘගේ කලින් පොත් පොඩි මෙන්ම, මෙයද විදේශ ගත ''සංගමය'' වෙත යවන ලද්දේ, එහි ප්‍රකාශන ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම විසින් සංස්කරණය කෙරෙන්නේය යන (එකල කර්තෘ මණ්ඩලයේ වෙනස ගැන — 1899 පෙබරවාරි — කිසියම් තත්වයක් නිසා ඔහුට දැනගත නො-

තුන්වැනි කරුණ. ප්‍රාදේශීය නගරයක් මගින් ''ඉස්ක්‍රා'' කණ්ඩායමේ සාමාජිකයෙක් වෙත ළඟා වුණු බුන්ද් මධ්‍යම කාරක සභාව, පුනරුත්ථාපනය කරන ලද ''රබෝචය ගසියත'' පත්‍රයේ සංස්කරණය භාර ගන්නා ලෙස ඉල්ලා ඔහුගේ කැමැත්ත ද ලබා ගත්තේය. මෙම ඉල්ලීම පසුව වෙනස් කරන ලදුව, කර්තෘ මණ්ඩලය සකස් වන ආකාරය ගැන වූ නව සැලැස්මක් ඇති හෙයින්, එම පත්‍රයට ලිපි සපයන්නෙකු සේ කටයුතු කරන ලෙස ඔහුගෙන් ඉල්ලන ලදී. මෙම යෝජනාව සඳහා ද ඔහුගේ කැමැත්ත ලබා ගන්නා ලදී. යෝජනාව පසුව වෙනස් කරන ලදී: කර්තෘ මණ්ඩලයේ නව වෙනස්කම් නිසා සහයෝගීව කටයුතු කිරීමට යෝජනා කෙරිණි. එය සඳහා ද කැමැත්ත ලැබිණි. ලිපි යැවිනි (අපට ඒවා ආරක්ෂා කරගත හැකි විය). ''අපේ වැඩ පිළිවෙළ'' — මෙය බර්න්ෂ්ටයින්වාදයට විරුද්ධවත්, නීත්‍යානුකූල සාහිත්‍යයේ සහ ''රබෝචය මිස්ල්'' පත්‍රයේ ප්‍රතිපත්ති වෙනස් කිරීමට විරුද්ධවත් එක එල්ලේ ලියන ලද විරෝධය ප්‍රකාශයකි; ''අපගේ ක්ෂණික කර්තව්‍යය'' (''නිතිපතා නිකුත් වන හා සියළුම ප්‍රාදේශීය කණ්ඩායම් සමග සමීප සම්බන්ධකම් ඇති පක්ෂ පත්‍රයක් පටන් ගැනීමට''; බල පවත්නා ''ආධුනික ස්වභාවයේ'' දුර්වල කම්); ''හදිසි ප්‍රශ්නයක්'' (පොදු පක්ෂ පත්‍රයක් පටන් ගැනීමට පෙර, ප්‍රථමයෙන් ප්‍රාදේශීය කණ්ඩායම්වල කටයුතු සංවර්ධනය කළ යුතුය, යනුවෙන් ඉදිරිපත් වූ විරුද්ධත්වය පරීක්ෂා කර බැලීම; විප්ලවවාදී සංවිධානයෙහිත්, ''සංවිධානය, විනය හා රහස්‍ය කාර්ය විධි, උසස්තම අංග සම්පූර්ණත්වය දක්වා සංවර්ධනය කිරීමේ'' අවශ්‍යතාවයෙහිත් ඇති ඉමහත් වැදගත් කම ගැන තරයේ කියා පෑම).* ''රබෝචය ගසියත'' පත්‍රය යළිත් පළ කිරීමේ යෝජනාව ක්‍රියාත්මක නොකරන ලදින් මෙම ලිපිද පළ නොකරන ලදී.

හතරවැනි කාරණය. අප පක්ෂයේ දෙවැනි විධිමත් සම්මේලනය සංවිධානය කරමින් සිටි කාරක සභාවේ සාමාජිකයෙක්, සම්මේලනයේ වැඩ පිළිවෙළ ''ඉස්ක්‍රා'' කණ්ඩායමේ නියෝජිතයෙකු වෙත එවා, පුනරුත්ථාපනය කරන ලද ''රබෝචය ගසියත'' පත්‍රයේ කර්තෘ මණ්ඩලය ලෙසට එම කණ්ඩායම පත් කිරීමට යෝජනා කළේ ය. ප්‍රාථමික යයි කිව හැකි මෙම පියවර, එම සාමාජිකයා අයත් කාරක සභාව සහ බුන්ද් මධ්‍යම කාරක සභාව විසින්ද පසුව අනුමත කරන ලදී. සම්මේලනය

---

හැකි විය) විශ්වාසයෙන් බව සඳහන් කරන ලෙස, මෙම පොත් පිංචේ කර්තෘ මගෙන් ඉල්ලයි. ලීගය[196] විසින් මෙම පොත ළඟදී ම නැවත මුද්‍රණය කරනු ලැබේ.

* සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 4, පිටු 182-186, 187-192, 193-198 — සංස්කාරක



පවත්වන ස්ථානය හා වේලාව ''ඉස්ක්‍රා'' කණ්ඩායමට දන්විනි. ඒ අනුව (යම් යම් හේතු කරණ කොට ගෙන නියෝජිතයෙකු යැවීමේ ස්ථිර හැකියාවක් නොවූ නිසා), එය සම්මේලනය සඳහා ලිඛිත වාර්තාවක් සකස් කළේ ය. වර්තමානය මෙන් සම්පූර්ණ අවුල් සහගත තත්වයක් බලපවත්නා කාලයක, හුදෙක් මධ්‍යම කාරක සභාවක් පමණක් තෝරා පත් කිරීමෙන්, එක්සත් කිරීම පිළිබඳ ප්‍රශ්නය නොවිසඳෙනවා පමණක් නොව, රහසිගත භාවය නොපවතින තත්වයක් බලපවත්වන හෙයින්, සිදුවීමට බොහෝ ඉඩ තිබෙන පරිදි, ක්ෂණික හා අංග සම්පූර්ණ පොලිස් වැටලීමක් සිදුවූවහොත්, පක්ෂයක් පිහිටු වීමේ උදර අදහස පවා අනතුරට ලක් විය හැකිය යන අදහස වාර්තාවෙන් ඉදිරිපත් කර තිබුණි. එනිසා, සියළුම කාරක සභා අතර සැබෑ සම්බන්ධකම් නිත්‍ය ලෙසම ඇති කිරීමට හා සමස්ත ව්‍යාපාරය ම සඳහා නායකයින් කණ්ඩායමක් සැබැවින් ම පුහුණු කිරීමට හැකිවනු පිණිස, පුනරුත්ථාපනය කරන ලද පොදු පත්‍රයට ආධාර කරන ලෙස, සියළුම කාරක සභාවලට හා වෙනත් සංවිධානවලට ආරාධනා කිරීමෙන් කටයුතු ආරම්භ කළ යුතු බවත්, එවැනි කණ්ඩායමක් වර්ධනය වී ශක්තිමත් වූ පසු, එය මධ්‍යම කාරක සභාවක් පරිවර්තනය කර ගැනීම කාරක සභා වලටත්, පක්ෂයටත්, ඉතා පහසු වනු ඇති බවත් එම වාර්තාවෙහි සඳහන් කර තිබුණි. කෙසේ හෝ වේවා, භාදක කීපයකම ප්‍රතිඵලයක් වශයෙන් සම්මේලනය පැවැත්විය නොහැකි විය. ආරක්ෂාව හා සම්බන්ධ හේතූන් නිසා, එක් කාරක සභාවක නියෝජිතයන් ඇතුළු සහෝදරවරු ස්වල්පදෙනෙක් විසින් එම වාර්තාව කියවන ලද පසු එය විනාශ කරන ලදී.

අප වෙස් වලා ගත්තවුනැයි හඟවන බුන්ද් සංවිධානයද, කාරක සභා සෙවනැලි රාජ්‍යයට යැවීමට හා පක්ෂ සංවිධානය වෙනුවට එක ප්‍රවෘත්ති පත්‍රයකින් ඉදිරිපත් කෙරෙන අදහස් පතල කරන සංවිධානයක් ආදේශ කිරීමට අප උත්සාහ කරන්නේ යයි චෝදනා කරන ''රබෝචිය දියල'' ද, ඒ සඳහා යොදා ගන්නා ක්‍රමවල ස්වභාවය ගැන නිගමනයකට එළඹීම දැන් පාඨකයාට භාර කරමු. ඒකාබද්ධ ලෙස කටයුතු කිරීම සඳහා නිශ්චිත සැලැස්මක් අනුමත කර ගැනීමේ අවශ්‍යතාවය ගැන අප වාර්තා කළේ කාරක සභාවලට ය. එසේ කළේ ඒවා නැවත නැවතත් කළ ඉල්ලීම් අනුව ය. ''රබෝචය ගසියත'' පත්‍රයට යැවූ ලිපි වලින් මෙම සැලැස්ම පැහැදිලි කරන ලද්දේ පක්ෂ සංවිධාන සඳහා ම ය. නැවත පක්ෂ සම්මේලනයට ඉදිරිපත් කළ වාර්තාවෙන් එසේ කළේ, පක්ෂය (ඇත්ත වශයෙන් ම) පුනරුත්ථාපනය කිරීම සඳහා ක්‍රියාරම්භකතාවය ගත්, එපමණට ම, පක්ෂය තුළ බලපෑමක් ඇති අයගේ ආරාධනා අනුව ය. ප්‍රධාන පක්ෂ පත්‍රය යළිත් පටන් ගැනීමට සහෝදරවරුන් දරන තුන්වැනි

ප්‍රයත්නයේදී, ඔවුන් හමුවේ හුදු අනුමාන සහගත යෝජනා පමණක් නොව, අත්දැකීමේ ප්‍රතිඵලද තිබෙනු සඳහා, නිල නොවන පක්ෂ පත්‍රයක් පළ කිරීම අපගේ වැදගත් යුතුකම ලෙස සැලකුවේ, අපගේ ද සහභාගිත්වය ඇතිව, ඒ සඳහා පිට පිටම දෙවරක් පක්ෂ සංවිධානය විසින් දරන ලද නිල ප්‍රයත්නයන් අසාර්ථක වීමෙන් පසුව පමණකි. දැන් මෙම අත් දැකීමේ යම් යම් ප්‍රතිඵල සියල්ලන්ටම බලා ගත හැකිව තිබේ. අප, අපගේ යුතුකම් හරි හැටි අවබෝධ කර ගෙන තිබේ ද යනුත්, සමහර අය ජාතික ප්‍රශ්නය සම්බන්ධයෙන් ඔවුන්ට ද, තවත් සමහර අය ප්‍රතිපත්තිමය කරුණු සම්බන්ධයෙන් දක්වන වැනෙන සුලු භාවය පිළි ගත නොහැකි බව ඒ අයට ද, අප විසින් පෙන්වා දෙනු ලැබීමෙන් සරොස්ව, එනිසා, ආසන්න අතීතය ගැන නො දත් අය නොමග යැවීමට තැත් කරන, එම පුද්ගලයන් ගැන කෙසේ සිතනු යුතු ද යනුත්, දැන් සියළුම සහෝදරවැන්ට නිගමනය කළ හැකි ය.

ආ) ප්‍රවෘත්ති පත්‍රයකට සාමූහික සංවිධායකයෙක් විය හැකිද?

"පටන් ගත යුත්තේ කොතැනින් ද" යන ලිපියෙන් මෙම ප්‍රශ්නයම සාකච්ඡා කර ඊටම ඔව් යනුවෙන් පිළිතුරු දීම එම ලිපියේ වැදගත් ම ස්වභාව ලක්ෂණය යි. අප දන්නා තරමට, මෙම ප්‍රශ්නය එහි වැදගත් කම අනුව පරීක්ෂා කර බලා, එයට නැත යනුවෙන් පිළිතුරු දීමට තැත් කළ එක ම තැනැත්තා නදෙෂ්දින් ය. ඔහුගේ තර්කය සම්පූර්ණයෙන් ම පහත පළ වේ:

"...සමස්ත රුසියානු ප්‍රවෘත්ති පත්‍රයක අවශ්‍යතාවය පිළිබඳ ප්‍රශ්නය "ඉස්ක්‍රා" (අංක 4) පත්‍රය විසින් ඉදිරිපත් කරනු දැකීමෙන් අපි බෙහෙවින් සතුටු වූනෙමු. එහෙත්, එම ප්‍රශ්නය ඉදිරිපත් කර තිබෙන ආකාරය "පටන් ගත යුත්තේ කොතැනින්ද" යන එහි මාතෘකාවට ගැලපේ යයි අපට එකඟ විය නොහැක. නිසැක වශයෙන් ම මෙය ඉතාමත් වැදගත් කරුණකි. එහෙත්, විප්ලවවාදී කාලවල දී, සටන්කාමී සංවිධානයක පදනම වශයෙන්, ප්‍රවෘත්ති පත්‍රයක් හෝ, ජනප්‍රිය පත්‍රිකා මාලාවක් හෝ, එසේත් නැතහොත්, කන්දක් තරම් විශාල ප්‍රකාශන ගොඩක් වූවද, යොදා ගත නොහැක්කේ ය. අපි ප්‍රදේශවල ශක්තිමත් දේශපාලන සංවිධාන ගොඩනැගීමේ කටයුතු ආරම්භ කළ යුත්තෙමු. අපට එවැනි සංවිධාන නොමැත. පොදු ජනතාව තනිකරම පාහේ ආර්ථික අරගලයෙහි යෙදී සිටියදී අපගේ වැඩ කටයුතු ප්‍රධාන වශයෙන් කරගෙන ගොස් ඇත්තේ අවබෝධය ලැබූ කම්කරුවන් අතර ය. ප්‍රදේශීය දේශපාලන සංවිධාන ශක්තිමත් ලෙස පුහුණු නොකරන්නේ නම්, ඉතාමත් විශිෂ්ඨ ලෙස සංවිධානය කළ සමස්ත රුසියා ප්‍රවෘත්ති පත්‍රයක වූවද ඇති වැදගත් කම කුමක් ද? එය දැල්වෙන පඳුරක් හා සමානය. එය නොපිළිස්සී දැල්වෙන නමුත් එයින් කිසිවෙකු පත්තු නොවෙනු ඇත! එය වටා සහ එය කරන කටයුතු වලදී ජනයා එකතු වී සංවිධානය වනු ඇතැයි "ඉස්ක්‍රා" පත්‍රය කල්පනා කරයි. එහෙත් වඩාත් නිශ්චිත කටයුතු වටා එකතු වීම හා සංවිධානය වීම ඊට වඩා පහසු බව ඔවුනට පෙනෙනු ඇත. ප්‍රාදේශීය පත්‍ර පුළුල් ලෙස සංවිධානය කිරීම, පෙළපාලි සඳහා කම්කරු බලවේග වහ වහා සූදනම් කිරීම, ප්‍රාදේශීය සංවිධාන විරක්ෂාගත අය අතර කර ගෙන යන නිරන්තර කටයුතු (වෙහෙස නොබලා පොත් පොඩි හා පත්‍රිකා බෙද හැරීම, රැස්වීම් කැඳවීම, ආණ්ඩුවට විරෝධය ප්‍රකාශ කිරීමේ සටන් සඳහා ආයාචනා කිරීම, ආදිය) මෙම වඩාත් නිශ්චිත කටයුතු වනු ඇත, විය යුතුය. අපි ප්‍රදේශවල ජීවමාන දේශපාලන කටයුතු ආරම්භ කළ යුතු වෙමු. ඒ අනුව එක්සත් වීමට කාලය පැමිණෙන විට, එය කෘතිම කඩදසි සමගියක් නොවන්නේ ය. සමස්ත රුසියා ව්‍යාපාරයක් සඳහා, ප්‍රාදේශීය වැඩ එසේ එක්සත් කළ හැකි වන්නේ ප්‍රවෘත්ති පත්‍රයක් මගින් නොවේ!" (විප්ලවයේ පූර්වාසන්නය", පිටු 54).

මෙම වතුර වදන් ප්‍රහාරයේ අප අවධාරණය කර දක්වා ඇත්තේ, කර්තෘ අපගේ සැලැස්ම වැරදි ලෙස වටහා ගත් බවත්, "ඉස්ක්‍රා" පත්‍රයට විරුද්ධව පොදුවේ හුවා දක්වන ඔහුගේ අදහස වැරදි බවත්, ඉතා පැහැදිලි ලෙස පෙන්නුම් කෙරෙන කොටස් ය. අපි ප්‍රදේශවල ශක්තිමත් සංවිධාන පුහුණු නොකරන්නමෝ නම්, ඉතා විශිෂ්ඨ ලෙස සංවිධාන කළ සමස්ත රුසියා පුවත් පතකින් පවා ප්‍රයෝජනයක් නොවේ. මෙයට විරුද්ධ විය නොහැක. එහෙත්, සැලකිය යුත්ත නම්, සමස්ත රුසියා පුවත් පතක මාධ්‍යයෙන් හැර, ශක්තිමත් දේශපාලන සංවිධාන පුහුණු කිරීමේ වෙනත් මාර්ගයක් නොමැති වීම ය. "ඉස්ක්‍රා" පත්‍රය එහි "සැලැස්ම" විස්තර කිරීම පටන් ගැනීමට ඉහතින්, එය කර තිබුණු ඉතාමත් වැදගත් ප්‍රකාශය කර්තෘට ඇස ගැසී නැත. නාමික වශයෙන් පමණක් නොව, යථා ව්‍යාපාරයෙහි දී ද, "සියළුම බලවේග, එක්සත් කිරීමෙහි හා ව්‍යාපාරය මෙහෙය වීමෙහි සමත් වන විප්ලවවාදී සංවිධානයක්, එනම් සෑම විරෝධය ප්‍රකාශයකටම, සෑම කැරැල්ලකටම ආධාර දීමට හා තීරණාත්මක අරගලය සඳහා සුදුසු වන සටන් බලවේග ගොඩ නැගීමට, ඒවා උපයෝගි කර ගැනීමට නිතර ම සූදනම් වූ සංවිධානයක් පිහිටුවන ලෙස කියා හඬ නැඟීම" අවශ්‍ය බව එයින් කියා තිබුණි. එහෙත්, පෙබරවාරි මාර්තු සිදුවීම් වලින් පසුව, සෑම කෙනෙක් ම මෙම ප්‍රතිපත්තියට එකඟ වනු ඇතැයි ද, "ඉස්ක්‍රා" පත්‍රය තව දුරටත් සඳහන් කරයි. නමුත්, අපට අවශ්‍යව තිබෙන්නේ ප්‍රශ්නය ප්‍රතිපත්තියක් වශයෙන් විසඳීම නොව, එය ප්‍රායෝගික වශයෙන් විසඳීම ය. සෑම පැත්තකින්ම, සෑම දෙනාටම, වහාම ගොඩ නැගීම්

කටයුතු ආරම්භ වන සේ, අපි වහාම නිශ්චිත නිර්මානශීලී සැලැස්මක් ඉදිරිපත් කළ යුත්තෙමු. දැන් නැවතත්, ප්‍රායෝගික විසඳුම කෙරෙන්, වෙනත්, ප්‍රතිපත්තියක් වශයෙන් නිවැරදි, විරුද්ධ විය නොහැකි හා ශ්‍රේෂ්ඨ, එහෙත් කිසිසේත් ප්‍රමාණවත් නොවන හා පුළුල් පොදු ජනතාවට නොවැටහෙන දෙයක්, එනම්, "ශක්තිමත් දේශපාලන සංවිධාන ඇති කිරීම" දෙසට, අප බැහැර ඇදගෙන යනු ලැබේ! සම්භාවනීයතම කර්තෘ තුමනි,ප්‍රශ්නය මෙය නොවේ.ඇති කිරීමට කටයුතු කරන්නේ කොහොමද? එය සාර්ථක කරන්නේ කොහොමද?

"පොදු ජනතාව තනිකරම පාහේ ආර්ථික අරගලයෙහි යෙදී සිටිය දී, ප්‍රධාන වශයෙන් අපගේ වැඩ කටයුතු කරගෙන ගොස් ඇත්තේ අවබෝධය ලැබූ කම්කරුවන් අතර" යයි කීම ඇත්ත නොවේ. ප්‍රවාදය මේ ආකාරයෙන් ඉදිරිපත් කරන විට, එය "ස්වබෝද" සඟරාවට සුපුරුදු, එහෙත්, මූලික වශයෙන් අසත්‍ය බෙදීමක් වන, අවබෝධය ලත් කම්කරුවන් හා "පොදු ජනතාව" ප්‍රතිවිරුද්ධ පැති වලට දැමීමේ තත්වයට වැටේ. මෑත අවුරුදු වලදී, අවබෝධය ලත් කම්කරුවන් පවා "යෙදී සිටියේ තනිකරම පාහේ ආර්ථික අරගලයෙහි" ය. ප්‍රථම කරුණ එයයි. අනිත් අතට, අවබෝධය ලත් කම්කරුවන් හා බුද්ධිමතුන් යන දෙ කොටසම අතරෙන්, දේශපාලන නායකයන් පුහුණු කිරීමට අප උදව් කරන තෙක් පොදු ජනතාව එම අරගලය ගෙනයාමට ඉගෙන ගන්නේ නැත. එවැනි නායකයන්ට පුහුණුව ලැබිය හැක්කේ අපගේ දේශපාලන ජීවිතයේ සියළුම එදිනෙද අංගයන්ද, විරෝධය පෑමට හා අරගල කිරීමට, විවිධ හේතු අනුව, විවිධ පංති දරන සියළුම ප්‍රයත්නයන්ද, ක්‍රමානුකූල ලෙස අගය කිරීමෙන් පමණකි. එනිසා, "දේශපාලන සංවිධාන ඇති කිරීම පිළිබඳ හා ඒ අතරම ප්‍රවෘත්ති පත්‍රයක "කඩදාසි වැඩ" හා "ප්‍රදේශවල ජීවමාන දේශපාලන වැඩ" අසමාන කර දැක්වීම මෝඩ කමක් බව පැහැදිලි ය. ප්‍රවෘත්ති පත්‍රයක් සඳහා වූ "ඉස්ක්‍රා" පත්‍රයේ සැලැස්ම, විරක්ෂාගත වූවන්ගේ ව්‍යාපාරයටත්, ගොවි කැරළි වලටත්, සියම්ස්ත්වො ජනයා අතර අප්‍රසාදයටත්, "උවදුරු කිරීමෙහි යෙදී සිටින සාර්වාදී කුලී හේවායෙකුට විරුද්ධව පැන නගින ජනතා කෝපයට" ත් යනාදියට ආධාර දීමට "සටන්කාමී සූදනමක්" ඇති කිරීමේ "සැලැස්මට" ගලපා තිබේ. ප්‍රාදේශීය සංවිධාන අතුරෙන් අති බහුතරය, මේවා ගැන කිසි කලෙකත් සිතන්නේ නැති බවත්, එකම සංවිධානයක් හෝ මෙහි සඳහන් "ජීවමාන දේශපාලන වැඩ" කිසි කලෙකත් ඉෂ්ට කර නොමැති බවත්, නිදර්ශනයක් වශයෙන්, සියම්ස්ත්වො බුද්ධිමතුන් අතර අප්‍රසාදය හා විරෝධය වර්ධනය වීම කෙරෙහි අවධානය යොමු කිරීමට තැත් කළහොත්, එයින් නදෙෂ්දින් තුළ ("අහෝ දෙවියනි, මෙම ප්‍රවෘත්ති පත්‍රය සියම්ස්ත්වො ජනයා සඳහා



පළ කිරීමට අදහස් කරන්නක්ද? "පූර්වාසන්නය", පිටුව 129), "ආර්ථිකවාදීන්" තුළ ("ඉස්ක්‍රා" පත්‍රයට ලිපිය, අංක 12) හා වෙනත් ප්‍රායෝගික කාරක වරුන් බොහෝ දෙනෙක් තුළද, භීතිය හා විමතිය ඇවිස්සෙන බවත්, ව්‍යාපාරය ගැන යම්තම් හෝ වැටහීමක් ඇති ඕනෑම කෙනෙක් දනියි. මෙම තත්වය යටතේ, ජනතාව මේ සියල්ලම ගැන කල්පනා කිරීමටත්, කැළඹිලි හා ක්‍රියාත්මක අරගල සියල්ලම සම්පිණ්ඩනය කිරීමටත්, ඉන් පොදු නිගමන වලට එළඹීමටත් උනන්දු කිරීමෙන් පමණක් "පටන් ගැනීම" කළ හැකි ද? අපගේ කාලයේදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් පිරිහෙළනු ලබද්දී, "ජීවමාන දේශපාලන කටයුතු" පටන් ගත හැක්කේ ජීවමාන දේශපාලන උද්ඝෝෂණය මගින් පමණකි. නිතර නිතර නිකුත් කෙරෙන හා නිතිපතා බෙද හරිනු ලබන, සමස්ත රුසියානු ප්‍රවෘත්ති පත්‍රයක් නොමැතිව නම්, එය කළ නොහැකි ය.

"ඉස්ක්‍රා" සැලැස්ම "පොත් ගුළු භාවය" පෙන්නුම් කරන්නකැයි සලකන අය, එහි හරය කිසි සේත් වටහා ගනු බැරිව, වර්තමාන කාලයට ඉතාමත් සුදුසු මාර්ගය සේ දක්වා ඇති දෙය, අරමුණ ලෙසට ගනිති. සැලැස්ම පැහැදිලි ලෙස ඉදිරිපත් කිරීම් වස්, විස්තර කරන ලද උපමා දෙක ගැන අධ්‍යයනය කිරීමට තරම්, මොවුන් උවමනාවක් දක්වා නැත. "ඉස්ක්‍රා" පත්‍රය මෙසේ ලීවේය. අපගේ සංවිධානය (එනම් සෑම විරෝධය ප්‍රකාශයකට ම හා සටනාරම්භයකට ම ආධාර කිරීමට නිතරම සූදනම් සංවිධානය) සංවර්ධනය කර ගැනීමටත්, ගැඹුරු කර ගැනීමටත්, ව්‍යාප්ත කර ගැනීමටත්, අප අදල කර ගන්නා ප්‍රධාන ක්‍රියාමාර්ගය සමස්ත රුසියානු දේශපාලන ප්‍රවෘත්ති පත්‍රයක් පළ කිරීම විය යුතුය. අති දැවැන්ත හා පෙර නොවූ විරූ, ගොඩනැගිල්ලක් තැනීමට ගඩොල් තබන කම්කරුවන්ට, නිවැරදි ලෙස ගඩොල් තැබීමට උදව්වනු පිණිස ලඹය ඇල්ලීමත්, පොදු කාර්යයෙහි අවසාන අරමුණ කුමක් ද යනු ඔවුන්ට දන්වීමත්, සෑම ගඩොලක්ම පමණක් නොව, සෑම ගඩොල් කැබැල්ලක් ම පවා, ඊට පෙර හා පසුව තබන ගඩොල් හා සමග සිමෙන්තියෙන් බද්ධ කළ විට, එකම අවිච්ඡින්න පේළියක් වන සේ උපයෝගී කර ගැනීමේ හැකියාව ලබා දීමත්, කඩදාසි වැඩ ද? යනු කරුණාකර මට කියන්න. එපමණක් නොව, පක්ෂ ජීවිතයේ, දැන් අප ගත කරමින් සිටින්නේ, එබඳු කාලයක්, ගඩොල් හා ගඩොල් තබන කම්කරුවන් ඇති, එහෙත්, සෑම දෙනාටම බලා ගත හැකි හා අනුගමනය කළ හැකි ලඹයක් නොමැති කාලයක් නොවේද? ලඹය දිග හැරීමේදී අප අණ දීමේ කාර්ය අතට ගනිතැයි කියමින් ඔවුන් ඝෝෂා කළා වේ. අණ දීමේ ආශාවක් අපට වී නම්, සමහර සහෝදරවරු අපට ආරාධනා කළ පරිදි පත්‍රයේ මුල් පිටුවේ නම "ඉස්ක්‍රා" අංක 1 නොව

‘‘රබෝචය ගසියත’’ අංක 3 යන්න ලියන්නට තිබිණි. මහත්රුනි, ඉහත විස්තර කළ සිද්ධීන්ගෙන් පසුව එසේ කරීමට සම්පූර්ණ බලය ද අපට තිබුණේය. එහෙත් අපි එසේ නොකෙළෙමු. සියළුම ව්‍යාජ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විරුද්ධව අසමාදන අරගලයක් කිරීමට අපගේ අත් නිදහස්ව තබා ගැනීමට අපට උවමනා විය. අපගේ ක්‍රියාමාර්ගය හරි ආකාරව ඉදිරිපත් කර තිබේ නම්, එය නිල පත්‍රයකින් ඉදිරිපත් කළ නිසා නොව, එහි නිවැරදි භාවය නිසා, ඊට ගරු කරනු ඇතැයි අපි බලාපොරොත්තු වෙමු.

‘‘ප්‍රදේශීය කටයුතු මධ්‍යම මණ්ඩලය තුළට එක්සත් කිරීම පිළිබඳ ප්‍රශ්නය විෂම කවයක දිවෙන්නකැ’’ යි නදෙෂ්දින් අපට චෝදනා කරයි. ‘‘එක්සත් කිරීම සඳහා අංගෝපාංගයන්ගේ වර්ග-සම ස්වභාවය අවශ්‍ය වේ. එමෙන් ම වර්ග-සම ස්වභාවය නිර්මානය කළ හැක්කේ ද, කිසියම් එක්සත් කාරී සාධකයක් විසිනි. තවද, එක්සත්කාරී අංගය ශක්තිමත් ප්‍රාදේශීය සංවිධාන වලින් හටගන්නා දෙයක් විය හැකි නමුත්, මෙම කාලයේදී එම සංවිධාන වර්ග-සම තාවය අතින් කිසි ද විශිෂ්ඨත්වයක් ලබා නැත.’’ අප ශක්තිමත් සංවිධාන පුහුණු කළ යුතුය යන්න මෙන්ම, මෙම සත්‍යය ද ගරු කොට සැලකෙන හා ප්‍රතික්ෂේප කළ නොහැකි එකකි. එපමණක් නොව, එය එසේ ම නිසරු ය. සමස්තයක් වශයෙන් ගත් කල, දේශපාලන ජීවිතය, නිමක් නැති පුරුක් සහිත, කොනක් නැති, දම්වැලක් හා සමානය. එහෙයින් සෑම ප්‍රශ්නයක් ම ‘‘විෂම කවයක දිවෙන්නේ ය.’’ ඒ මුළු දේශපාලනයම අසංඛ්‍ය සංඛ්‍ය පුරුක්වලින් සෑදි කෙලවරක් නැති දම්වැලක් වැනි හෙයිනි.දේශපාලනයේ මුළු කලාවම රඳා පවත්නේ,අපගේ අතින් ගසා දැමීම වඩාත් ම අපහසු වන, නියමිත අවස්ථාවේදී ඉතාමත් ම වැදගත් වන හා එක පුරුකක් අල්ලා ගත් අයට මුළු දම්වැලෙහිම අයිතිය සහතික කෙරෙන, ඒ පුරුක සොයා ගැනීම සහ අපට හැකි පමණ තදින් එය අල්ලා ගැනීම තුළ ය.* මග පෙන්වීමක් නොමැතිව, හරියටම අවශ්‍ය ආකාරයට ගඩොල් තැබීමෙහි සමත්, ඉතා හොඳින් එක්ව වැඩ කිරීමට උගෙන ගත්, පළ පුරුදු ගඩොල් තබන්නන් කණ්ඩායමක් අපට සිටියේ නම් (කාල්පනික වශයෙන් කියතොත්, මෙය කිසිසේත් සිදුවිය නොහැක්කක් නොවේ), එසේ නම්, සමහර විට අපි වෙනත් පුරුකක් අල්වා

* ත්‍රිචේව්ස්කි සහෝදරය, මර්තිනව් සහෝදරය! මෙම කුපිතකාරී ‘‘ඒකාධිපත්‍යය’’, ‘‘පාලනයෙන් තොර අධිකාරය’’ ‘‘උත්තරීතර මෙහෙයවීම’’ ආදිය කෙරෙහි ඔබගේ අවධානය යොමු කරමි! මොහොතක් ඒ ගැන සිතන්න. සමාවන්න: මුළු දම්වැල ම අයිති කර ගැනීමේ ආශාවක් ඇත! වහාම පැමිණිල්ලක් කරන්න. ‘‘රබෝචිය දියල’’ අංක 12 පත්‍රයේ ප්‍රධාන ලිපි දෙකකට සුදුසු සඳ නිමකළ මාතෘකාවක් මෙහි ඇත.



ගත යුත්තෙමු. එහෙත් කණ්ඩායම් වැඩට පුහුණු කරන ලද, පළ පුරුදු ගඩොල් තබන්නන් අපට නොසිටීම අවාසනාවකි. එනිසා ගඩොල් කිසිසේත් ම අවශ්‍ය නැති තැන්වල තබනු ලැබේ. ඒවා පොදු ක්‍රියාමාර්ගයට අනුකූලව තබනු නොලැබේ. ගොඩනැගිල්ල ගඩොලින් නොව වැල්ලෙන් තනන ලද කලෙක මෙන්, සතුරාට සුනු විසුනු කළ හැකි වන ලෙසට ගඩොල් විසිරුනු තත්වයෙන් තබා ඇත.

තවත් උපමාවකි. ‘‘ප්‍රවෘත්ති පත්‍රයක් යනු සාමූහික ප්‍රචාරකයෙක් හා සාමූහික උද්ඝෝෂකයෙක් පමණක් නොව, සාමූහික සංවිධායකයෙක් ද වේ. මේ නයින් බලන කල, එය තනන ගොඩනැගිල්ලක් වටා ඉදි කරන පලංචියට උපමා කිරීම උචිතය. එයින්, ගොඩනැගිල්ලේ උස් මිටි තැන් සලකුණු වීමත්, ගොඩනැගිලි කරුවන් අතර අදහස් හා භාණ්ඩ හුවමාරුවට හා ඔවුන්ගේ සංවිධිත ශ්‍රමයෙන් ලබන ප්‍රතිඵල බලා ගැනීමට පහසු කම් සැපයීමත්, සිදු වේ.’’* මෙය, ස්වකීය කාර්ය කොටස අතිශයෝක්තියෙන් හුවා දැක්වීමට, හාන්සි පුටු කර්තෘ වරයෙක් දරන උත්සාහයක් ලෙසට කිසිසේත් සැලකිය හැකිද? නිවස්නය සඳහා පලංචිය කිසිසේත් අවශ්‍ය නොවේ. එය තනා ඇත්තේ අගයෙන් අඩු ද්‍රව්‍ය වලිනි. ඉදි කර ඇත්තේ ද තාවකාලික වශයෙන් පමණකි. ගොඩනැගිල්ලේ සැකිල්ල සම්පූර්ණ කළ වහාම පලංචිය ඉවත් කර එය දරට ගනු ලැබේ. විප්ලවවාදී සංවිධාන ගොඩ නැගීම සම්බන්ධයෙන් වූ කල, හැත්තෑ ගණන් වල දක්නා ලද පරිදි, සමහර විට පලංචිය නොමැතිව ඒවා ගොඩනැගීමට හැකි වීමට පුළුවන. එහෙත් මේ කාලයේ අපට අවශ්‍ය ගොඩනැගිල්ල නම් පලංචිය නොමැතිව තැනීම ගැන සිතීමට පවා නොහැකිය.

නදෙෂ්දින් මෙසේ කියමින් මෙයට විරුද්ධ වෙයි. ‘‘එය වටා සහ එය වෙනුවෙන් කරන කටයුතු වලදී ජනයා එකතු වී සංවිධානය වනු ඇතැයි ‘‘ඉස්ක්‍රා’’ පත්‍රය කල්පනා කරයි.වඩාත් නිශ්චිත කටයුතු වටා එකතු වීම සහ සංවිධානය වීම, බොහෝ පහසු බව ඇත්තය. එසේ වන්නේ නිශ්චිත කටයුතු වටා එක්වීම වඩාත් පහසු නිසාය... රුසියානු ආප්තෝපදේශයකින් මෙසේ කියවේ: ළිඳට කෙළ ගසන්න එපා; ඔබට එයින් දිය බොන්නට උවමනා විය හැක. නමුත්, කෙළ ගසනු ලැබූ ළිඳකින් දිය බීමට විරුද්ධ නොවන අය සිටිති. මෙම, වඩාත් නිශ්චිත යමක් නාමයෙන්, අපගේ ශ්‍රේෂ්ඨ නීත්‍යානුකූල ‘‘මාක්ස්වාදයේ විවේචකයන්’’ හා ‘‘රබෝචය මිස්ල්’’

* මෙම ඡේදයේ මුල් වාක්‍යය ‘‘රබෝචිය දියල’’ (අංක 10, පිටු 62) පත්‍රයෙහි උපුටා දැක්වීමේ දී, මර්තිනව්, එහි දෙවැනි වාක්‍යය අත් හැරියේ, ප්‍රශ්නයේ අවශ්‍ය ම කොටස් සාකච්ඡා කිරීමට අකැමැත්ත, නැතහොත්,ඒවා අවබෝධ කර ගැනීමට නොහැකියාව අවධාරණය කරන කලෙක මෙනි.

පත්‍රයේ නීති විරෝධී ආවඩන්නන්, කොතරම් නම් තුච්ඡ දේවල් කියා තිබේ ද! ''වඩාත් නිශ්චිත යමක් වටා එකතු වීම ඊට වඩා බොහෝ පහසු'' බව පෙනෙතියි කියන, සම්ප්‍රදයික තර්කයෙන් සාධාරණ කර පෙන්වනු ලබන අපගේම පටු ස්වභාවයෙන්, ක්‍රියාරම්භකතාවය නොමැති කමෙන් හා පැකිලීමෙන්, අපගේ ව්‍යාපාරය කොතරම් සීමා වී තිබේ ද! එමෙන්ම, ''ජීවිතයේ යථාර්ථයන්'' පිළිබඳ තියුණු හැඟීමක් තමන්ට ඇතැයි සිතන, හාන්සි පුටු කර්තෘ වරුන් තදින් හෙළා දකිමින්, සෑම තැනෙක ම ''ආර්ථිකවාදීන්'' දකින්නේ යයි (බොරු උජාරුව ද ඇතිව) ''ඉස්ක්‍රා'' පත්‍රයට චෝදනා කරන, සාධර්මික හා විවේචක යන දෙකොටස අතර භේදයට වඩා බොහෝ ඉහළින් තමන් සිටින බව සිතන, නදෙෂ්දින්ට නොපෙනෙන්නකි, ඔහු, තමන්ගේම උදහසට හේතුවන පටු ස්වභාවයට තමන්ගේම තර්ක වලින් ආධාර කරන බව හෝ ඔහු දිය බොන්නේ වැඩි-යෙන්ම කෙළ ගසනු ලැබූ ළිඳෙන් බව! පටු ස්වභාවය ගැන උදහසට පත් තැනැත්තේ ම, රුවල හෝ සුක්කානම නොමැතිව, හැත්තෑ ගණන්වල විප්ලවවාදීන් මෙන්ම, ''සාංසිද්ධික ලෙස'' ගසා ගෙන යන්නේ නම්, ''ඇවිස්සුම් කාරී ත්‍රස්තය'', ''ගොවිජන ත්‍රස්තය'', ''අනතුරු හැඟවීමේ සන්ධාව නාද කිරීම'' ආදිය කෙරෙහි එල්බ ගන්නේ නම්, ඔහුගේ අදහස ඉතාමත් අවංක වුවද, දනින් වැටී පටු ස්වභාවයට නමස්කාර කරන්නවුන් නැගිටුවා තැබීමේ ආවේගී ආශාවක් ඔහුට තිබුණේ වී නමුදු, එය ප්‍රමාණවත් නොවේ. එකතු වීම සහ සංවිධානය වීම, ''වඩාත් බොහෝ පහසු'' වන්නේ යයි ඔහු කියන්නේ කුමණ නම් ''වඩාත් නිශ්චිත'' කටයුතු වටා ද යන්න ගෙන බලමු. 1) ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර;2) පෙළපාලි සඳහා සූදනම් වීම; 3) විරක්ෂා ගත අය අතර කටයුතු කිරීම. යමක් කීමට කරුණු වශයෙන් මේවා එහෙන් මෙහෙන් අල්ලාගත් බව, ක්ෂණයෙන් ම පැහැදිලි වේ. ඊට හේතුව, ඒවා ගැන කොතරම් සලකා බැලුවත්, ඒවා තුළ ''එකතු කර සංවිධානය කිරීම'' සඳහා සුදුසු වන විශේෂ යමක් ඇතැයි සිතීම මෝඩ කමක් වීම යි. තවත් පිටු කීපයකින් පසුව, එම නදෙෂ්දින්, ම මෙසේ කියයි: ''ප්‍රදේශවල කටයුතු කෙරෙන්නේ ඉතාමත් කණගාටුදයක ආකා-රයකින් බවත්, කාරක සභා වලට කළ හැකි වැඩ වලින් දහයෙන් එකක් වත් නොකෙරෙන බවත්, අප පැහැදිලිව කිව යුතු කාලය එළඹ තිබේ... දනට අපට තිබෙන සම්බන්ධීකරණ මධ්‍යස්ථානය යනු පවිත්‍රතම මිථ්‍යාවක් වන අතර, එය එක්තරා ආකාරයක නිලධාරි පැලැන්තියක් නියෝජනය කරයි. ඒවායේ සාමාජිකයන් අන්‍යෝන්‍ය වශයෙන් සේනාධිපති කම් ප්‍රදනය කර ගනිති. එමෙන්ම ශක්තිමත් ප්‍රාදේශීය සංවිධාන ගොඩනැගෙන තෙක් තත්වය තව දුරටත් එසේම පවතිනු ඇත.'' මෙම අදහස් වලින් තත්වය තරමක් දුරට අතිශයෝක්තියෙන් දක්වා ඇතත්, ඒවා තුළ අමිහිරි



සත්‍යයක් ගැබ්ව තිබෙන බව නිසැක ය. එසේ වුවද, ප්‍රදේශවල කටයුතු කණගාටුදයක ආකාරයකින් සිදු වීමත්, ප්‍රාදේශීය සංවිධානවලට සීමා වී සිටින පක්ෂ කාරක වරුන්ගේ නුපුහුණු කම අනුව, නොවැලැක්විය හැකි ලෙසට ඇති වන ඔවුන්ගේ පටු මානසික දර්ශනය හා ඔවුන්ගේ කටයුතු වල පටු පරිමාණයත්, අතර සම්බන්ධය නදෙෂ්දින්ට නොපෙනේ යයි කිව හැකි ද? (1898 පටන්) පුළුල් ප්‍රාදේශීය පත්‍ර කරා පරිවර්තනය වීම හා සමග සමාගම්ව ආර්ථිකවාදය හා ''පැරණි තාලය'' තදින් උත්සන්න වූ බව ''ස්වබෝද'' සඟරාවේ පළ කරන ලද සංවිධානය ගැන වූ ලිපියෙහි කර්තෘට මෙන්ම මොහුටත් අමතක වී තිබේ ද? කිසි යම් ලෙසකින්, ''පුළුල් ප්‍රාදේශීය පත්‍ර'' සතුටුදයක ලෙස පිහිටුවීමට හැකි වුවත් (ඉතාමත් විශේෂ අවස්ථාවක හැර මෙය කිසි සේත් කළ නොහැක්කක් බව අප පෙන්වා දී ඇත) එවිටද ඒකාධිපත්‍යයට විරුද්ධව පොදු ප්‍රහාරයක් දීම සඳහා සහ එක්සත් අරගලයට නායකත්වය දීම සඳහා, සියළුම විප්ලවවාදී බලවේග ''එකතු කර සංවියානය කිරීම'' ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍රවලට කළ හැකි නොවේ. මෙහි දී අප සාකච්ඡා කරන්නේ, ප්‍රවෘත්ති පත්‍රයේ ඇති ''ඒකරාශී කිරීමේ'' සංවිධානමය වැදගත් කම ගැන පමණක් වන බව, අමතක නොකරමු. ඒ අතර කොටස් කිරීමට පක්ෂව කරුණු කියන, නදෙෂ්දින් උපහාසාත්මකව නගන ප්‍රශ්නය ම, අපට ඔහු ගෙන් ඇසිය හැකිය: ''විප්ලවවාදී සංවිධායකයින් 2,00,000 ක බුදලයක් අපට ඉතිරි කර ඇද්ද? එපමණක් ද නොව, පෙළපාලි සඳහා කටයුතු සූදනම් කිරීම ''ඉස්ක්‍රා'' පත්‍රයේ සැලැස්මට ප්‍රතිවිරුද්ධ දෙයක් ලෙසට ඉදිරිපත් කිරීම ද, කළ නොහැක. එයට හේතුව හැකි තරම් පුළුල් පෙළපාලි සංවිධානය කිරීම, එම සැලැස්මේ එක් අරමුණක් වශයෙන් එහි අන්තර්ගත කර තිබීමයි. සාකච්ඡා වෙමින් පවතින්නේ ඒ සඳහා ප්‍රායෝගික මාධ්‍යයක් තෝරා ගැනීම පිළිබඳ ප්‍රශ්නයයි. මේ කාරණය සම්බන්ධයෙන් ද නදෙෂ්දින් අවුලට පත්ව සිටී. එසේ කියන්නේ, පෙළපාලි (මේ දක්වා ඉන් බහුතරය ඇති වූයේ සාංසිද්ධික වශයෙනි) සඳහා ''සූදනම් විය හැකි වන්නේ'' ''එකතුවී සංවිධානය වී'' සිටින බලවේගයන්ට පමණක් බවත්, අපට නැත්තේ ද ඒකරාශී කිරීමේ හා සංවිධානය කිරීමේ හැකියාව බවත්, ඔහුට අමතක වී තිබෙන හෙයිනි. ''විරක්ෂා ගත අය අතර කටයුතු.'' නැවතත් එම අවුල ම ය. මෙය ද සංවිධානය කළ බලවේගයන්ගේ කටයුතු සඳහා ක්ෂේත්‍රයක් මිස, බලවේගයන් සංවිධානය කිරීම සඳහා සැලැස්මක් නොවන හෙයිනි. අප කොටස් වලට වෙන් වී සිටීම නිසා, අපට ''සංවිධා-යකයින් 2,00,000 ක්'' නොමැති නිසා, වන හානිය ගැන, මෙහි දී ද නදෙෂ්දින් තක්සේරු කරන්නේ කොතරම් අඩුවෙන් ද යන්න පහත සඳහන් කරුණෙන් දක්ක හැකිය. ''ඉස්ක්‍රා'' පත්‍රය විරක්ෂාව ගැන සපයන

පුවත් ප්‍රමාණවත් නොවීම ගැන හා ග්‍රාමීය ජීවිතයේ ඉතාමත් සාමාන්‍ය සිදු වීම් ගැන පළ කරන ලිපිවල අනියම් ස්වභාවය ගැන (නදෙෂ්දින් ඇතුළුව), බොහෝ දෙනෙක් එයට දෝෂාරෝපනය කළහ. දෝෂාරෝපනය යුක්ති යුක්ත ය. නමුත් ''ඉස්ක්‍රා'' පත්‍රය එයට ''වැරදි කරු වුවත්, එය පවක් කර නැත''. ගම් ප්‍රදේශ හරහා ද ''ලඹයක් දිග හැරීමට'' අපි තැත් කරන්නෙමු. එහි කිසිම තැනක ගඩොල් තබන්නන් ඇත්තේ ම නැති තරම් ය. එනිසා, ඉතාමත් සාමාන්‍ය කරුණු ගැන පවා, අපට දැනුම් දෙන සෑම කෙනෙක් ම ධෛර්යමත් කිරීම අපගේ යුතු කමක් වශයෙන් අප සලකන්නේ, එයින් මෙම ක්ෂේත්‍රයේ අපගේ දයකයන් වැඩි වෙතියි ද, අවසානයේදී ඉතාමත් වැදගත් කරුණු තෝරා ගැනීම පිළිබඳව අප හැම දෙනාටම පුහුණුවක් ලැබෙනු ඇතැයි ද, යන බලාපොරොත්තුව ඇතිව ය. එහෙත් පුහුණු වීම සඳහා අපට ලැබෙන කරුණු කොතරම් අඩුද යත්, ඒවා මුළු රුසියාවටම සාමාන්‍යකරණය කර නොගතහොත්, අපට පුහුණුවක් ලැබීම සඳහා ඒවා කොහෙත්ම ප්‍රමාණවත් නොවනු ඇත. නදෙෂ්දින් කෙරේ දක්නට ලැබෙන තරමට වත්, උද්ඝෝෂකයෙකු වශයෙන් හැකියාව ද, පාදඩයාගේ ජීවිතය ගැන දැනුම ද, ඇති කෙනෙකුට, විරක්ෂා ගත අය අතර උද්ඝෝෂණය ගෙන යාමෙන්, ව්‍යාපාරයට මිළ නොකළ හැකි තරම් සේවයක් කළ හැකි බවට සැකයක් නැත. එහෙත්, රුසියාවේ සිටින සහෝදරවරු, පිරිසක් වශයෙන් ගත් කල, අළුත් වැඩ භාර ගෙන කිරීමේ හැකියාව තවමත් ලබා නොමැති නිසාත්, එවැනි හැකියාව ලැබූ කෙනෙකුගේ ආදර්ශයෙන් ඔවුනට අධ්‍යාපනයක් ලැබීමට ඉඩ තිබෙන නිසාත්, ඔහු කරන වැඩ කටයුතු වලදී, ඔහු ගත් සෑම පියවරක්ම ගැන, ඔහු එම සහෝදරවරු සියළු දෙනාටම නොදැන්වුවහොත්, ඔහු නිසැක වශයෙන් ම ස්වකීය දැනුම සඟවා තබාගන්නා තැනැත්තෙක් වේ.

එක්සත් කමෙහි වැදගත් කම හා ''එකතු වීමේ හා සංවිධානය වීමේ'' වැදගත් කම ගැන දැන් කථා නොකරන කෙනෙක් නැත. එසේ වුවද, එක්සත් කම ඇති කිරීමට පටන් ගත යුත්තේ කොතනින් ද, එය කරන්නේ කෙසේ ද යන්න ගැන වැඩි දෙනෙක් තුළ නිශ්චිත අදහසක් නැත. නිදර්ශනයක් ගතහොත්, කිසියම් නිශ්චිත නගරයක දිස්ත්‍රික් කව ''එක්සත්'' කළ හොත්, එම කටයුත්ත සඳහා පොදු ආයතනයන්, එනම්, සංගමයට පොදු නමක් පමණක් නොව, සැබවින්ම පොදු වූ වැඩ ද, ද්‍රව්‍ය, පළපුරුද්ද හා බලවේග අන්‍යොන්‍ය වශයෙන් හුවමාරු කර ගැනීම ද, දිස්ත්‍රික්ක පදනමෙන් පමණක් නොව, නගර ව්‍යාප්ත පරිමාණයෙන් විශේෂඥතා වර්ධනය අනුව කාර්ය බෙද හැරීම ද, අවශ්‍ය වන බවට, සමහර විට සියළු දෙනාම එකඟ වනු ඇත. විශාල රහස් සංවිධානයක වැඩ කටයුතු වලදී දරන්නට සිදු වන වියදම (වාණිජ පාඨයක් යොදතොත්)



එකම දිස්ත්‍රික්කයක (මුදල් හා මිනිස් බල යන දෙ ආකාරයේ ම) ''සම්පත්වලින්'' දැරිය නොහැකි බවත්, මෙම පටු ක්ෂේත්‍රයෙන් විශේෂඥයෙකුගේ කුසලතා වර්ධනයට ප්‍රමාණවත් තරම් අවකාශ නොසැලසෙන බවත්, සියළු දෙනාම පිළිගනු ඇත. එමෙන්ම, නිශ්චිත ප්‍රදේශයක් වුවද, ඉතාමත් පටු ක්ෂේත්‍රයක් වන නිසාත්, ඒ බව අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ඉතිහාසයෙන් ඔප්පු වී ඇති නිසාත්, නගර කීපයක කටයුතු ඒකාබද්ධ කිරීම සම්බන්ධයෙන් ද එම කරුණු අදාල වේ. දේශපාලන උද්ඝෝෂණ සහ සංවිධාන වැඩ හා සම්බන්ධයෙන් අපි මෙය ඉහත විස්තර සහිතව ඉදිරිපත් කර ඇත්තෙමු. ප්‍රථමයෙන්ම හා අත්‍යාවශ්‍ය ලෙසම අපට උවමනා කරන්නේ ක්ෂේත්‍රය පුළුල් කිරීම හා නිතිපතා කරන පොදු වැඩ කටයුතු පදනම් කරගෙන නගර අතර නියම සම්බන්ධකම් ඇති කර ගැනීම ය. කොටස් වලට වෙන් වී සිටීම ජනතාවට අවහිරයක් වන අතර, ලෝකයේ සිදුවන්නේ කුමක්ද, උගෙන ගන්නේ කාගෙන්ද, පළපුරුද්ද ලබන්නේ කෙසේද, පුළුල් ක්‍රියාකාරීත්වයෙහි යෙදීමට ඇති ආශාව ඉටු කර ගන්නේ කෙසේ ද යන කරුණු නොදැන, ඔවුහු (''ඉස්ක්‍රා'' පත්‍රයේ ලියුම් කරුවෙකුගේ පාඨයක් උපයෝගී කරගතහොත්) ''වලකට වැටී එහි හිර වී සිටිති''. අපට නියම සම්බන්ධකම් ඇති කර ගැනීමට පටන් ගත හැකි වන්නේ පොදු ප්‍රවෘත්ති පත්‍රයක ආධාරයෙන් පමණක් වන බව මම තව දුරටත්, නැවත නැවතත්, කියමි. ඉතාමත් විවිධාකාර වූ කටයුතුවල ප්‍රතිඵල සම්පිණ්ඩනය කරන්නා වූ ද, සියළුම මාර්ග රෝමයට වැටෙන සේ, විප්ලවය කරා යන අප්‍රමාණ මාර්ග සියල්ලම ඔස්සේ වෙහෙස නොතකා ඉදිරියට යන ලෙසට ජනතාව කුළුගන්වන්නා වූ ද, නිතිපතා ක්‍රියාත්මක වන, එකම සමස්ත රුසියා ආයතනය, පොදු ප්‍රවෘත්ති පත්‍රය යි. අප බලාපොරොත්තු වන්නේ හුදෙක් නාමික එක්සත් කමක් නොවේ නම්, සෑම ප්‍රාදේශීය අධ්‍යයන කවයකම, බලවේගයන්ගෙන් හතරෙන් එකක් වැනි ප්‍රමාණයක් පොදු ව්‍යාපාරයේ ක්‍රියාශීලී වැඩ කටයුතුවල යෙදෙනු සඳහා වහාම වෙන් කිරීමට අපි පිළියෙළ යෙදිය යුත්තෙමු. එවිට ව්‍යාපාරයේ පොදු රටාව, විෂය ප්‍රමාණය හා ස්වභාවය ගැන ප්‍රවෘත්ති පත්‍රය විසින් ඔවුන්* වෙත නොපමාව දන්වනු ලැබේ. එමගින් සමස්ත රුසියා ක්‍රියා-

* එක විශේෂයක්: මෙසේ වන්නේ, නියමිත අධ්‍යයන කවයක්, ප්‍රවෘත්ති පත්‍රයේ ප්‍රතිපත්තියට අනුකූලතාවය දක්වතොත් හා සහායක වීම, එනම්, ලිපි ලේඛන කටයුතු වලදී පමණක් නොව, පොදු විප්ලවීය කටයුතු වලදී ද සහායක වීම ප්‍රයෝජනවත් යයි සලකතොත් පමණකි. ''රබෝචිය දියල පත්‍රය සඳහා විශේෂ සටහන': ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රීඩාවෙහි යෙදෙනුවට වඩා ව්‍යාපාරය අගේ කරන, ''අනුකූලතාවය දැක්වීමක්,''

කාරිත්වයේ ඉතාමත් තදින් දැනෙන අඩුපාඩු කම් ගැන ද, උද්ඝෝෂණය නොකෙරෙන හා සම්බන්ධකම් දුර්වල තැන් ගැන ද,අධ්‍යයන කව වලට අදහසක් ලැබෙන අතර, අති විශාල පොදු යන්ත්‍රයේ කුමණ නම් කුඩා රෝද නියමිත අධ්‍යයන කවයක් මගින් අළුත් වැඩියා කරනු සුදුසු ද, නැත-හොත්, ඒ වෙනුවට වඩා හොඳ රෝද යොදනු යුතු ද යන්න ද, පෙන්නුම් කෙරේ. එවිට, තවමත් වැඩ ආරම්භ කර නැති, එහෙත්, ක්‍රියාකාරිත්වයෙහි යෙදීමටම ප්‍රථම වරට අරමුණු කරන අධ්‍යයන කවයකට, ''කර්මාන්ත යේ''පසු ගිය වර්ධනයන් ගැන නොදන්නා, නැතහොත්, කර්මාන්තයේ බලපවත්නා පොදු නිෂ්පාදන ක්‍රමවල මට්ටම ගැන නොදන්නා වූ ද, කුඩා කර්මාන්ත ශාලාවක තනි වී සිටින්නා වූ ද, කම්කරුවෙකු මෙන් කටයුතු නොකර, ඒකාධිපත්‍යයට පහර දෙන, සමස්ත මහා විප්ලවවාදී ව්‍යාපාරය පිළිබිඹු කරන පැතිරී ගිය ව්‍යාපාරයක කොටස් කරුවෙකු වශයෙන්, එහි වැඩ කටයුතු පටන් ගත හැකි වේ. සෑම කුඩා රෝදයකම නිමාව විශිෂ්ඨ වූ තරමට, පොදු ව්‍යාපාරයේ යෙදුනු විස්තර කාරක වරුන් සංඛ්‍යාව වැඩි වූ තරමට, අපගේ දැල් ආකාර සංවිධානය වඩාත් බලවත් වන අතර, අනිවාරණීය වශයෙන්ම සිදුවන පොලිස් වැටලීම් කරණ කොට ගෙන සාමාජිකත්වය අතර පැන නගින අපිළිවෙළද, අඩු වන්නේ ය.

ප්‍රවෘත්ති පත්‍රයක් (යනුවෙන් හැඳින් වීමට තරම් වන පත්‍රයක් නම්, එනම්, සඟරාවක් මෙන් මසකට වරක් නිකුත් කෙරෙන එකක් නොව, නිතිපතා, මසකට හතරවරක් වත් නිකුත් කෙරෙන එකක් නම්), බෙද හැරීමේ හුදු කාර්යයෙන් ම, සැබෑ සම්බන්ධකම් ඇති කර ගැනීමට ඉඩ සැලසේ. දැනට විප්ලවවාදී කටයුතු සම්බන්ධයෙන්, නගර අතර තොරතුරු හුවමාරුව ඉතාමත් විරළ ය. එය කොතැනක හෝ සිදු වුවත්, එය විශේෂ දෙයක් මිස සාමාන්‍යයෙන් සිදු වන්නක් නොවේ. එසේ වුවත්, අපට ප්‍රවෘත්ති පත්‍රයක් තිබුණේ නම්, එම තොරතුරු හුවමාරුව සාමාන්‍ය දෙයක් බවට පත් වී, ප්‍රවෘත්ති පත්‍රය බෙදා හැරීම පමණක් නොව (ඊට වඩා වැදගත් වන), අත්දැකීම්, ද්‍රව්‍යමය බලවේග හා සම්පත් හුවමාරු කර ගැනීම ද සාර්ථක ලෙස කර ගත හැකි වේ. එ මගින් සංවිධාන කටයුතුවල පරිමාණය ද ඉතා ඉක්මණින් ඉතා විශාල වීමටත්, එක ප්‍රදේශයක දී ලබන සාර්ථකත්වය තවදුර අංග සම්පූර්ණත්වය ලැබීම සඳහා වන ස්ථාවර දිරි දීමක් ලෙසට ප්‍රයෝජනවත් වීමටත්, ඉඩ ඇත. රටේ වෙනත් පෙදෙස් වල වැඩ කරන සහෝදරවරුන් ලබන අත්දැකීම් උපයෝගි කර ගැනීමේ ආශාව එයින් කිති කැවේ. එනයින්, ප්‍රාදේශීය වැඩ දැන් පවතින තත්වයට

---

ඉතාමත් ක්‍රියාශීලි සහ ප්‍රමාණවත් සහභාගිත්වයත්, අතර වෙනසත් නොදකින විප්ලවවාදීන් කෙරෙහි මෙම විශේෂත්වය ඇතැයි සලකනු ලැබේ.



වඩා බෙහෙවින් ගුණාත්මක හා විවිධාකාර වන ස්වභාවයක් ගනු ඇත. මුළු මහත් රුසියාවේ සියළුම පෙදෙස් වලින් එකතු කරගත්, දේශපාලන හා ආර්ථික හෙළිදරව් කිරීම් වලින්, සියළුම කර්මාන්තවල සෑම සංවර්ධන මට්ටමකම සිටින කම්කරුවන්ගේ මනස පෝෂණය වේ. එමගින්, ඉතාමත් විවිධාකාර මාතෘකා ගැන කථා පැවැත්වීමට හා කියවීමට අවශ්‍ය කරුණු හා අවස්ථාවන් ද සැපයේ. එපමණක් නොව, ඊට අමතරව, නිත්‍යානුකූල පත්‍රවල ඉඟිකිරීම් මගින් ද, ජනතාව අතර කෙරෙන කථා බහෙන් ද, ආණ්ඩුවේ ''කොහොල්'' ප්‍රකාශන වලින් ද, එම මාතෘකා පිළිබඳ අදහසක් ඇති කෙරේ. සෑම කැරැල්ලක් ගැන ම, සෑම පෙළපාලියක සෑම අංශයක් ගැන ම, අගය කිරීම සහ සාකච්ඡා කිරීම රුසියාවේ සෑම පෙදෙසකම සිදුවනු ඇත; ඔවුන් අභිබවා යාමේ පවා (සමාජවාදීන් වන අපි අභිබවා යාමේ සියළු ප්‍රයත්නයන් හෝ ''තරඟය'' සම්පූර්ණයෙන් ම! හෝ ප්‍රතික්ෂේප නොකරමු) අභිලාෂය ද, මතු වන්නේ ය. එනිසා ම, කලින් සාංසිද්ධික ආකාරයෙන් මෙන් පැන නැගී දේ විඥානීය ලෙස සූදනම් කිරීමේද, ප්‍රහාරයේ සැලැස්ම සුදුසු ලෙස වෙනස් කර ගැනීම සඳහා, නියමිත දිස්ත්‍රික්කයක හෝ නියමිත අවස්ථාවක පවතින වාසිදායක තත්වයන්ගෙන් ප්‍රයෝජන ගැනීමේ ද, අභිලාෂයන් කුළු ගැන්වීම ආදිය සිදු වේ. ඒ අතර ම ප්‍රාදේශීය වැඩ කටයුතු මෙසේ පුනර්ජීවනය ලැබීමෙන් පසු, දැන් සිදුවන ලෙසට, සෑම පෙළපාලියක් ම පැවැත්වීමේදීත්, ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍රයක සෑම කලාපයක් ම පළ කිරීමේදීත්, බොහෝ විට දරන්නට සිදුවන, සියළු අවදානම් සහගත හා ''වෙවුළුම් දෙවන'' ප්‍රයත්නයන් දැරීමත්, සියළුම බලවේගයන් පරදුවට තැබීමත්, අවශ්‍ය නොවේ. එක් අතකින් ඒවායේ ''මුල්'' සොයා ගැනීමට හාරා අවුස්සා බැලිය යුත්තේ කුමණ දිස්ත්‍රික්කයක ද යන්න පොලිසිය නොදන්නේ නම්, ඒවා සොයා ගැනීම ඔවුනට අපහසු වන්නේ ය. අනිත් අතට, නිතිපතා පොදු වැඩ කටයුතු වල යෙදීම හේතු කොට ගෙන, නියමිත ප්‍රහාරයකට අදළ බලවේගය, පොදු හමුදාවේ නියමිත බල ඇණියෙහි ශක්තියට ගැලපෙන ආකාරයට සකස් කර ගැනීමට ද, අපගේ අය පුහුණු වෙති (දැනට එසේ කිරීම ගැන සිහිනෙනුදු සිතන අය විරළ ය. ඊට හේතුව අවස්ථා දහයකින් නමයකදී ම ප්‍රහාරය දෙන්නේ සාංසිද්ධික වශයෙන් වීම ය). එසේ පොදු වැඩ කටයුතු කිරීම නිසා, එක තැනක සිට තවත් තැනකට පොත් පමණක් නොව, විප්ලවීය බලවේගයන් ද ''ප්‍රවාහණය කිරීමේ'' හැකියාව ලැබේ.

සීමා සහිත ප්‍රාදේශීය වැඩ සඳහා ශක්තිය ක්ෂය කිරීමෙන්, බලවේගයන් බෙලහීන තත්වයට පත් කෙරෙන අවස්ථා බොහෝ ඇත. එහෙත් අප සාකච්ඡා කරන තත්වය යටතේ, දක්ෂ උද්ඝෝෂකයෙකු හෝ සංවිධායකයෙකු රටේ එක කොනක සිට තවත් කොනකට මාරු

කිරීමට හැකි වේ. එසේ කිරීම අවශ්‍ය වන අවස්ථා ද බොහෝ පැන නගිනු ඇත. පක්ෂ කටයුතු සඳහා, පක්ෂ වියදමින් යන කෙටිකාලීන ගමන් වලින් පටන් ගෙන, කල් යාමේ දී පක්ෂය විසින් නඩත්තු කරනු ලැබීමට ද, වෘත්තීය විප්ලවවාදීන් වීමට ද, තමන් දේශපාලන නායකයන් වශයෙන් පුහුණු වීමට ද සහෝදරවරු පුරුදු වෙති.

එමෙන්ම, ප්‍රාදේශීය කාරක සභා, ප්‍රාදේශීය කණ්ඩායම් හා අධ්‍යයන කව සියල්ලම, නැතහොත්, යටත් පිරිසෙයින් ඉන් සැලකිය යුතු තරම් වැඩි කොටසක් වත්, පොදු ව්‍යාපාරයේ වැඩ කටයුතු ක්‍රියාශීලී ලෙස ඉටු කරන තත්වයක් ඇති කර ගත හැකි වුව හොත්, නුදුරු අනාගතයේ දී ම, රුසියාවේ සෑම තන්හි ම දසදහස් ගණනින් බෙදා හරිනු ලබන සතිපතා පුවත් පතක්, අපට පිහිටුවිය හැකි වේ. මෙම ප්‍රවෘත්ති පත්‍රය පංති සටනේ සහ පොදු ජන කෝපයේ සෑම පුලිඟුවක් ම, පොදු ගිනි ජාලයක් බවට පත් වන සේ ඊට හුළං පිඹින දැවැන්ත කම්මල් මයින හමක කොටසක් බඳු වනු ඇත. තනිකර ගත් කළ, තවමත් ඉතා අහිංසක හා ඉතා කුඩා යයි කිව හැකි, එහෙත්, නිතිපතා සහ වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම පොදුවේ දරනු ලබන, එම ප්‍රයත්නය වටා, පළ පුරුදු සටන් කරුවන් ගෙන් සමන්විත ස්ථිර හමුදවක් ක්‍රමානුකූල ලෙස එක් රැස් වෙති, ඔවුහු පුහුණුව ලබා ගනිති. මෙම පොදු සංවිධාන ව්‍යුහයේ ඉණි මං හා පලංචි මත, අප ගේ විප්ලවවාදීන් අතරින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ෂෙලියාබව්ලාත්, අපගේ කම්කරුවන් අතරින් රුසියානු බේබෙල්ලාත්, කල් නොයවා ම සංවර්ධනය වී ඉදිරිපත්ව, සංවිධිත හමුදාවේ තමනට හිමි නිසි තැන ගෙන, රුසියාවේ අවමානය හා ශාපය සමග ගනු දෙනු බේරීම පිණිස සමස්ත ජනතාව ම කුළුගන්වනු ඇත.

අප සිහින දැකිය යුත්තේ මෙය ගැනය!

* * *

අපි ''සිහින දැකිය යුතු'' වෙමු! මෙම වචන ලියා ඉන් පසුව මම තැති ගත්තෙමි. මා ''සමගි සාකච්ඡාවකට වාඩි වී සිටින සැටියක් ද, මා ඉදිරියෙන් ''රබෝචිය දියල'' කර්තෘ වරු හා එහි ලියුම් කරුවන් වාඩි ගෙන සිටින සැටියක් ද, මම සිහියට නැඟුවෙමි. මර්තිනව් සහෝරයා නැගී සිට මා දෙසට හැරී තදින් මෙසේ කියයි: ''පක්ෂ කාරක සභාවල අදහස ප්‍රථමයෙන් ලබා නො ගෙන සිහින දැකීමේ අයිතියක් ස්වෛරී කර්තෘ මණ්ඩලයකට තිබේද?යි ඔබෙන් ප්‍රශ්න කිරීමට මට අවසර දෙන්න''. ඔහුට අනතුරුව නැගී සිටින ක්‍රිචෙව්ස්කි සහෝදරයා (බොහෝ ඉහතදී ප්ලෙහානව් සහෝදරයා ගේ අරුත්සරු බව වැඩි කළ මර්තිනව් සහෝදරයා ගේ අරුත්සරු කම දර්ශනික වශයෙන් වැඩි කරමින්) වඩාත් තදින් තවදුරටත් මෙසේ කියයි. ''මම ඉන් ඔබ්බට යන්නෙමි. මාක්ස් කියන ලෙසට, මනුෂ්‍ය වර්ගයා නිතරම තමන් සඳහා නියම කර ගන්නේ, තමන්ට විසඳිය හැකි කර්තව්‍යයන් බවත්, උපක්‍රම යනු, පක්ෂය හා එක්ව වැඩෙන පක්ෂ කර්තව්‍යයන් වර්ධනය වීමේ ක්‍රියාදාමයක් වන බවත්, දැන දැන ම මාක්ස්වාදියෙකුට සිහින දැකීමේ අයිතියක් තිබේද?

මෙම බරපතල ප්‍රශ්න ගැන කල්පනා මාත්‍රයක් ඇති වූ පමණින් ම,මට සීතලක් දැනී, මා සසලවෙයි. එයින් සැඟවෙන්නට තැනක් හැර අන් සියල්ල ම මට එපා වෙයි. මම පීසරෙව් පිටුපස සැඟවෙන්නට උත්සාහ ගන්නෙමි.

''නොයෙක් නොයෙක් භේද ඇතැ''යි පිසරෙව් ලිවේය. ඔහු එසේ ලීවේ සිහින හා යථාර්ථය අතර භේදය සම්බන්ධයෙනි. ''මගේ සිහින ස්වාභාවික සිදුවීම් වලට වඩා ඉදිරියෙන් ගමන් කිරීමට ඉඩ තිබේ. එසේ නැතහොත්, ඒවා ස්වාභාවික සිදුවීම් කිසි කලෙකත් ගමන් නොගන්නා බැහැර දිසාවකට ඉගිල යාමට ඉඩ තිබේ. මෙයින් ප්‍රථම වර්ගයේ මගේ සිහිනයෙන් කිසි හානියක් සිදු නො වන්නේ ය. එයින් වැඩ කරන ජනතාවගේ ධෛර්යයට රුකුලක් පවා ලැබීමට ඉඩ තිබේ... ශ්‍රම ශක්තිය විකෘති කරන හෝ අප්‍රාණික කරන කිසිවක් එම සිහිනවල නැත. එ පමණක් නොව, ඊට ප්‍රතිකූලව, මේ ආකාරයෙන් සිහින දැකීමේ හැකියාව කිසිසේත් මිනිසාට නො තිබිණි නම්, ස්වකීය අත්වලින් හැඩ ගැසීමේ ආරම්භක තත්වයේ පමණක් තවම පවතින නිෂ්පාදිතයෙහි නිම් ස්වභාවයේ සමස්ත හා සම්පූර්ණ පින්තූරය ගැන, කලින් කල ඉදිරියට දිව ගොස්, මානසික වශයෙන් සිතා ගැනීමට ඔහුට නො හැකි විනි නම්, එවිට, කලා, විද්‍යා හා ප්‍රායෝගික අධ්‍යාසයේ ක්ෂේත්‍රයන්හි, විශාල හා බලවත් ලෙස වෙහෙස වීම අත්‍යාවශ්‍ය වන වැඩ ආරම්භ කර සම්පූර්ණ කිරීම සඳහා ඔහු පොළඹවන කුමණ නම් උනන්දු කාරකයක් තිබිය හැකි දැයි මට සිතා ගත නො හැකි ය... සිහින දකින තැනැත්තේ, ඔහුගේ සිහින ගැන බරපතල ලෙස විශ්වාස කරන්නේ නම්, ඔහු අවධානයෙන් යුතුව ජීවිතය නිරීක්ෂණය කර, ඔහු ගේ නිරීක්ෂණ ප්‍රතිඵල ඔහුගේ අහස් මාළිගා සමග සසඳා බලන්නේ නම්, සාමාන්‍ය වශයෙන් කියතොත්, ඔහු තමාගේ මනස්කාර සාර්ථක කිරීමට අවංකව වැඩ කරන්නේ නම්, එපමණක් සිදුවේ නම්, සිහින හා යථාර්ථය අතර භේදයෙන් හානියක් සිදු නො වන්නේය. සිහින හා ජීවිතය අතර සම්බන්ධයක් තිබේ නම්, එවිට සියල්ල යහපති''.[197]

අවාසනාවකට මෙන්, අප ව්‍යාපාරය තුළ මෙවැනි සිහින දැකීම ඇත්තේ ඉතා ස්වල්ප වශයෙනි. ඊට වගකිව යුත්තේ, ස්වකීය කල්පනා-

කාරී අදහස් හා ''නියත ස්වභාවයට'' තමන්ගේ ඇති ''ආසන්න භාවය'' ගැන පුරසාරම් දොඩන අය වන, නීත්‍යානුකූල විවේචනයේ සහ නීත්‍යා-නුකූල නොවන ''වල්ගාවාදයේ'' නියෝජිතයන් ය.

ඇ) අපට අවශ්‍ය කුමන වර්ගයේ සංවිධානයක්ද?

අපගේ ''උපක්‍රම-සැලැස්ම'' සංයුක්ත වන්නේ, වහාම ප්‍රහාරය දීම සඳහා හඬ නැගීම ප්‍රතික්ෂේප කිරීමෙන් බවත්, ''සතුරු බල කොටුව සාර්ථක ලෙස වැටලීමට'' කරන ඉල්ලීමෙන් බවත්, නැතහොත්, වෙනත් වචනවලින් කියතොත්, ස්ථිර යුද්ධ හමුදා රැස් කිරීම, සංවිධානය කිරීම හා සටනට සූදානම් කිරීම වෙත සියළුම ප්‍රයත්නයන් එල්ල කළ යුතු යයි කියන ඉල්ලීමෙන් වන බවත්, ඉහත කියා ඇති කරුණු වලින් පාඨකයාට පෙනෙනු ඇත. ''ආර්ථිකවාදයේ'' සිට ප්‍රහාරයක් දෙන ලෙසට කරන ඉල්ලීම දක්වා පිම්මක් පැනීම ගැන, අප ''රබෝච්ය දියල'' (''ලිස්තොක් 'රබෝච්ච දියල''')[198] අංක 6 කලාපයෙන් එය ඒ සඳහා 1904 අප්‍රියෙල් හි දී ඝෝෂා කළේය) සමච්චල් කළ විට, එය අප වෙත කඩා පැන්නේ, අප ''න්‍යාය ධර්මවාදීන්'' වන බවට ද, අප ගේ විප්ලවවාදී යුතු කම තේරුම් ගැනීමට අප අසමත් වී ඇති බවට ද, අප ප්‍රවේසම් සහිත වන සේ කියා හඬ නගන බවට ද, ආදී වශයෙන් චෝදනා නගමිනි. කිසිම ප්‍රතිපත්තියක් නොමැති, ''උපක්‍රම-ක්‍රියාදමය'' ගැන ගාම්භීර ලෙස සඳහන් කරමින් සියළුම තර්කවලින් මග හරින අයගෙන් මෙම චෝදනා අසන්නට සිදුවීම ගැන අපි අල්ප මාත්‍ර වශයෙන් හෝ පුදුමයට පත් නො වෙමු. කල් පවත්නා වැඩ පිළිවෙළ හා උපක්‍රම පිළිබඳ මූල ධර්ම තදින් ම පිළිකුල් කරන නදෙෂ්දින් මෙම චෝදනා ප්‍රතිරාවය කළ කල්හි මෙන්ම, මෙහි දී ද අපි පුදුම නො වෙමු.

ඉතිහාසය යළිත් නො එතැයි කියා තිබේ. එහෙත්, එය යළිත් ගෙන්වා ගැනීමට සෑම උත්සාහයක්ම දරන නදෙෂ්දින්, ''විප්ලව රෝපණ වාදය'' බලවත් ලෙස හෙළා දැකීමෙන් ද, ''අනතුරු හඟවන සන්ධ්‍යාව නාද කිරීම'' සහ ''විප්ලවයේ පූර්වාසන්න අදහසක්'' ගැන ඝෝෂා කිරීමෙන් ද, ආදි-යෙන්, මහත් උනන්දුවෙන් ත්කචෝව් අනුගමනය කරයි. ඉතිහාසයේ මුල් සිදුවීමෙන් ශෝකාලාපයක් නියෝජනය වන අතර, එහි ප්‍රතිමූර්තිය හුදෙක් ම විහිළුවක් වන්නේය[199] යන, සුප්‍රසිද්ධ සිද්ධාන්තය ඔහුට අමතක වී ඇති සේය. ත්කචෝව් ගේ දේශනා මගින් සූදනම් කරන ලද, සැබැවින්ම ත්‍රස්ත කළ ''ත්‍රාසජනක'' ත්‍රස්තය මගින් ක්‍රියාත්මක කරන ලද, බලය අල්වා ගැනීමේ ප්‍රයත්නයේ උදර පෙනුමක් තිබුණ නමුත්, සුළු ත්කචෝව්



කෙනෙකු ගේ ''ඇවිස්සුම් කාරී'' ත්‍රස්තය විහිළුවක් පමණකි. සාමාන්‍ය ජනතාවගේ සංවිධානයක් පිළිබඳ අදහස ඌණ පූරණ වශයෙන් ඊට එකතු කරගත් කල, එය මහා විහිළුවක් වේ.

'' ''ඉස්ක්‍රා'' පත්‍රය එහි පොත්ගුළු ස්වභාවයේ ක්ෂේත්‍රයෙන් පිටතට ඇදෙන්නේ නම්, මෙවැනි (''ඉස්ක්‍රා'' අංක 7 පත්‍රයේ පළවූ කම්කරුවා ගේ ලිපිය වැනි) අවස්ථාවලින් පෙන්නුම් කෙරෙන්නේ ''ප්‍රහාරය'' ඉක්මණින්, ඉතා ඉක්මණින් ම, ආරම්භ කිරීමේ ලකුණු බව එයට අවබෝධ වනු ඇත. එසේ වූ කල දූන් (Sie!) සමස්ත රුසියා ප්‍රවෘත්ති පත්‍රයක් ගැන කථා කිරීම හාන්සි පුටු කල්පනා ප්‍රචලිත කිරීමකි''යි නදෙෂ්දින් ලීවේය. මෙය ඇදහිය නො හැකි තරම් මහා අවුලකි. එක් අතකින් ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍රයක් වැනි ''වඩාත් නිශ්චිත'' යමක් වටා එකතුවීම වඩාත් ''බොහෝ පහසුය'' යන අදහස හා සමග එක් වූ ඇවිස්සුම් කාරී ත්‍රස්තය හා සමග ''සාමාන්‍ය ජනතාව ගේ සංවිධානය'' කි. අනිත් අතින්, ''දූන්'' සමස්ත රුසියා සංවිධානයක් ගැන කථා කිරීම හාන්සි පුටු කල්පනා ප්‍රචලිත කිරීමකි. නො එසේ නම්, කෙළින් ම කියතොත් ''දූන්'' නම් ප්‍රමාද වුනා වැඩි ය! නමුත් ''ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර පුළුල් ලෙස සංවිධාන කිරීම'' ගැන කියන්නේ කුමක් ද? මා මිත්‍ර එල් නදෙෂ්දින් මහතාණනි, ඒ සඳහා පමා වුනා වැඩි නැද්ද? තවද, මෙය ''ඉස්ක්‍රා'' පත්‍රයේ අදහස හා උපක්‍රමීය ක්‍රියාමාර්ගය සමග සසඳා බලන්න. ඇවිස්සුම්කාරී ත්‍රස්තය යනු තේරුමක් නොමැති දෙයකි. සාමාන්‍ය ජනතාව ගේ සංවිධානයක් හා ''පුළුල් ලෙස'' ප්‍රාදේශීය ප්‍රවෘත්ති පත්‍ර පළ කිරීම ගැන කථා කිරීම යනු ආර්ථිකවාදයට සම්පූර්ණයෙන් ම දොර විවෘත කර දීමකි. අපි, විප්ලවවාදීන් ගේ ඒකීය සමස්ත රුසියා සංවිධානයක් ගැන කථා කළ යුත්තෙ මු. කඩදසි ප්‍රහාරයක් නොව, සැබෑ ප්‍රහාරයක් ආරම්භ වන තෙක්, ඒ ගැන කථා කිරීමට පමා වුනා වැඩි නැත.

''එසේය, සංවිධාන කටයුතු සම්බන්ධයෙන් නම් පවතින තත්වය වෙන කවර ආකාරයකින් විස්තර කළත්, දීප්තිමත් තත්වයක් ලෙස විස්තර කළ නො හැකිය'' යි නදෙෂ්දින් තව දුරටත් ලියයි. ''අපගේ සටන්කාරී බලවේග සමූහය ස්වේච්ඡා සටන්කරුවන් ගෙන් හා කැරළි කාරුවන් ගෙන් සමන්විත වන බව කියන විට ''ඉස්ක්‍රා'' පත්‍රය සම්පූර්ණ-යෙන් ම නිවැරදි බව ඇත්ත ය... අපගේ බලවේගයන් ගැන එතරම් නිවැරදි පින්තූරයක් දීම ඔබගේ හපන් කමකි. නමුත් ඒ අතරම, ජනතාව කිසිසේත් අපගේ නො වන බවත්, එනිසා ම යුද්ධ කටයුතු ආරම්භ කිරීමට සුදුසු වේලාව ගැන අපගෙන් නො විමසනු ඇති බවත් ඔබ අමතක කරන්නේ නැද්ද? ඔවුන් නිකම්ම ගොස් ''කැරළි ගසනු'' ඇත... ජනකාය ගේ විනාශකාරී බලවේගය ද සහිතව, ඔවුන් ස්වේච්ඡාවෙන් ම කැරළි ගසන

විට,''ස්ථිර හමුදව'' යට වී අතුගැවී යාමට ඉඩ තිබේ. මෙම ස්ථිර හමුදව අතර, ක්‍රමානුකූල සංවිධාන ඇති කිරීමට අප සැමදමත් උත්සාහ කළ නමුත් කිසි කලෙකත් එය සාර්ථක කර ගැනීමෙහි සමත් නො වූයෙමු''. (අවධාරණය අපගේය).

විශ්මයාකුල තර්ක! ''ජනතාව අපගේ නො වන'' හේතුව නිසා ම, වහා ම ''ප්‍රහාරයක්'' දීම ගැන කථා කිරීම අඥාන ය, නො හොබනේ ය. එයට හේතුව වන්නේ ප්‍රහාරය යනුවෙන් අදහස් කරන්නේ ස්ථිර හමුදව ගසන පහරක් මිස, සාසිද්ධික පොදු ජනතා උත්සන්නියක් නො වීම යි. පොදු ජනතාව ස්ථිර හමුදව පෙරළා ගෙන ගොස් එය පසෙකට අතුගා දැමීමට ඉඩ තිබෙන නිසා ම, අපි නොවරදවාම ස්ථිර හමුදව තුළ ''ඉතාමත් ක්‍රමානුකූල සංවිධාන ඇති කිරීමට'' වැඩ කිරීම මගින්, සාංසිද්ධික උත්සන්නියට ඉදිරියෙන් සිටීමට සමත් විය යුත්තෙමු. අප එවැනි සංවිධාන ඇති කිරීමෙහි ''සමත්'' වූ තරමට, ස්ථිර හමුදව පොදු ජනතාවට යට නො වීමේ හැකියාව වැඩි වීමටත්, එපමණක් නොව, එය පොදු ජනයාගේ පෙරමුණු ස්ථානයට පත් වීමේ හැකියාව වැඩි වීමටත් ඉඩ තිබේ. නදෙෂ්දින් පත් වී සිටින්නේ, හමුදවන් ක්‍රමානුකූල ලෙස සංවිධානය වීමේදී, ඔවුන් යෙදී සිටින්නේ ජනතාවගෙන් තොර වන කටයුත්තක යයි ඔහු කල්පනා කරන බැවිනි. එහෙත්, ඔවුන් එම කටයුත්තෙහි යෙදී සිටින වකවානුවේ දී, ඇත්ත වශයෙන් ම මුළුමනින්ම යෙදී සිටින්නේ සැම පැත්තකින්ම හා සර්ව ග්‍රාහී ලෙස කරන දේශපාලන උද්ඝෝෂණයෙහිය. එනම්, පොදු ජනතාව ගේ දැවැන්ත විනාශකාරී බලවේගයත්, විප්ලවවාදීන් ගේ සංවිධානයේ විඥත විනාශකාරී බලවේගයත්, එකිනෙකට ලංකර ඒකීය සමස්තයක් වනසේ එකට සංයෝග කරන කටයුත්තෙහිය. මහත්වරුනි, ඔබට දෝෂාරෝපනය කරන්නට උවමනා කර තිබෙන්නේ දෙස් ලැබිය යුතු අයට නො වේ. ස්වකීය වැඩ පිළිවෙළෙහි ත්‍රස්තය ඇතුලත් කිරීමෙන්, ත්‍රස්තවාදී සංවිධානයක් ඇති කිරීමට හඬ නගන්නේ අන් කවුරුන් හෝ නොව, ''ස්වබෝද'' කණ්ඩායම ම වන අතර, එ වැනි සංවිධානයකින් සිදු වන්නේ, අවාසනාවකට මෙන් තවමත් අපගේ නොවන හා අවාසනාවකට මෙන් ඔවුන් ගේ යුද්ධාරම්භය පිළිබඳ අවස්ථාව හෝ ආකාරය ගැන අපෙන් නො විමසන, නැතහොත්, කලාතුරකින් පමණක් විමසන, පොදු ජනතාව සමග වූ සම්බන්ධ කම් ඇති කර ගැනීමේ කටයුත්තෙන් අප ගේ හමුදව ඇත්තෙන්ම වැලැක්වීම ය.

''ඉස්ක්‍රා'' පත්‍රය බිය වැද්දීමට නදෙෂ්දින් දරන ප්‍රයත්නයේ දී ඔහු තවදුරටත් මෙසේ කියයි: ''අහසින් එන අකුණක් මෙන්, අපමත කඩා වැටුනු මෑත සිදුවීම් අපට මග හැරුණු ලෙසටම, අපට විප්ලවයත් මග



හැරෙනු ඇත.'' ඉහත උපුටා දක්වන කොටස සමග මෙම වාක්‍ය ගත් කල, එයින් පෙනෙන්නේ ''ස්වබෝද'' නිර්මාණය කර ගත් ''විප්ලවයේ පූර්වාසන්න අදහස'' කිසිම අර්ථයක් නැති එකක් බවයි.* සරල බසින් කියතොත්, මෙම විශේෂ ''අදහසෙහි'' අවසාන අර්ථය වන්නේ, ''දුන්'' සාකච්ඡා කිරීමට හා සූදනම් වීමට කල් ගත වුනා වැඩි බවයි. ''පොත්ගුළු ස්වභාවයේ'' ප්‍රතිපාක්ෂිකයාණනි, තත්වය එසේ නම් ''න්‍යාය** හා උපක්‍රම පිළිබඳ ප්‍රශ්න'' ගැන පිටු 132 ක පොතක් ලිවීමෙහි තිබුණු ප්‍රයෝජනය කුමක් ද? ''ඔවුන් පුපුරුවා හරිනු, ඔවුන් ගසා දමනු'' යන ලුහුඬු හඬ නැගීම ඇතුලත් පත්‍රිකා 1,32,000 ක් නිකුත් කළේ නම් ''විප්ලවයේ පූර්වාසන්න අදහස'' අනුව වඩාත් සුදුසු වන්නට තිබුණු බව, ඔබ කල්පනා නො කරන්නෙහි ද?

''ඉස්ක්‍රා'' පත්‍රය මෙන්, ජාති ව්‍යාප්ත දේශපාලනය සිය වැඩ පිළිවෙළෙහි, සිය උපක්‍රම වල හා සංවිධාන කටයුතු වල මුල්ගල වශයෙන් ගන්නා අය කෙරෙහි විප්ලවය මග හැරී යාමේ අනතුර බලපාන්නේ අන් අයට වඩා ඉතාමත් අඩුවෙනි. සමස්ත-රුසියා ප්‍රවෘත්ති පත්‍රයෙන් විසිරී යන සම්බන්ධ කම් දැල් ආකාරයෙන් ගෙතීමේ කටයුත්තෙහි යෙදී රුසියාව සැම තැනෙක ම සිටින ජනයාට, වසන්තයේ සිදු වීම් මග නො හැරුනා පමණක් නොව, අනිත් අතට එම සිදුවීම් ඇති වන බවට අනාගත වාක්‍ය

* ''විප්ලවයේ පූර්වාසන්නය,'' පිටුව 62.

** නදෙෂ්දින් ගේ ''න්‍යාය පිළිබඳ ප්‍රශ්න පුනරාවලෝකනය'' යන පොතෙහි එන හා විප්ලවයේ පූර්වාසන්න අදහස අනුව බලන කල ඉතාමත් අමුතු ස්වභාවයක් ගන්නා, පහත සඳහන් ඡේදය හැරුණු විට, න්‍යාය පිළිබඳව සාකච්ඡා කෙරෙන වෙන කිසිම දෙයක්, එහි නො වූ තරම් වන බව මෙහිලා සඳහන් කළ යුතු ය: ''මේ අවස්ථාවේ දී බර්න්ෂ්ටයින්වාදයේ අපට ඇති වැදගත් කම අඩු වී ගෙන යන්නේ ය. එමෙන්ම ස්ත්‍රුවේ මහතා කස පහර ලැබීමට දැනටමත් සුදුසු කම් ලබා ඇතැයි අදමෝව්ච් මහතා ඔප්පු කරයි ද, එසේ නැතහොත්, ස්ත්‍රුවේ මහතා අදමොව්ච් මහතා ගේ මතය වැරදි බව ඔප්පු කර, ඉල්ලා අස්වීම ප්‍රතික්ෂේප කරයි ද යන ප්‍රශ්නයෙහි වැදගත් කම හීන වේ. විප්ලවයට ''නියි කනිසම'' වැදී ඇති නිසා ඇත්ත වශයෙන් එයින් වෙනසක් සිදු නො වේ'' (පිටු 110). න්‍යාය ගැන නදෙෂ්දින් දක්වන අන්ත නො සැලකිල්ල ගැන මීට වඩා පැහැදිලි නිදර්ශනයක් පිළිබඳව අයෙකුට සිතීම අපහසු වේ. ''අපි විප්ලවයේ පූර්වාසන්නය'' ප්‍රකාශයට පත් කර ඇත්තෙමු. එනිසා, විවේචකයින් දරන ප්‍රතිෂ්ඨාවෙන් ඔවුන් ඉවත් කිරීමට සාධර්මිකවාදීන් සමත් වුවත්, නැතත්, ''එහි වෙනසක් නොමැත''!! විවේචකයින් ගේ ප්‍රායෝගික ප්‍රතිෂ්ඨාවන් පරාජය කිරීම සඳහා, ඔවුන් සමග අප කරන න්‍යායික සටන් වල ප්‍රතිඵල අපට අවශ්‍ය වන්නේ හරියටම විප්ලවය අතර තුර බව අපගේ බොරු පණ්ඩිතයෝ නොදනිති.

කීමට ද ඔවුහු අපට අවස්ථාව සලසා දුන්හ. ''ඉස්ක්‍රා'' අංක 13 හා 14 හි විස්තර කරන ලද පෙළපාළිද[200] ඔවුනට මග හැරුණේ නැත. එ පමණක් නොව, සාංසිද්ධික වශයෙන් නැගී සිටින පොදු ජනතාවට ආධාර කිරීමත්, ඒ අතරම, රුසියාවේ සිටින සහෝදරවරුන් සියළු දෙනාට ම පෙළපාලි ගැන දැන ගැනීමට හා ඒවා මගින් රැස් කළ අත් දැකීම් උපයෝගි කර ගැනීමට පත්‍ර මාධ්‍යයෙන් උපකාර කිරීමත්, සිය යුතු කම වන බවට පැහැදිලි අවබෝධයකින් යුතුව, ඔවුහු එම පෙළපාලි වලට ද සහභාගි වූහ. එ මෙන්ම ඔවුන් ජීවත්ව සිටින තාක් කල් ඔවුනට විප්ලවය මග නො හැරෙනු ඇත. තවද, ප්‍රථමයෙන් ම හා අන් කවර දෙයකටත් වඩා විප්ලවය අපෙන් බලාපොරොත්තු වන්නකි, උද්ඝෝෂණය කිරීමේ පළපුරුදු කම හා මිතුරන්ගේ ප්‍රමාද දෝෂ වලිනුත්, සතුරන් ගේ උගුල් වලිනුත් විප්ලවය ආරක්ෂාකර ගැනීමේ ද, ඒ අතරම සාංසිද්ධික ව්‍යාපාරයට මග පෙන්වීමේ මෙන්ම සෑම විරෝධය ප්‍රකාශයකට ම (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයෙන්) ආධාර දීමේ ද හැකියාව!

පොදු ප්‍රවෘත්ති පත්‍රයක් සඳහා කරන පොදු වැඩ තුළින්, සමස්ත රුසියා ප්‍රවෘත්ති පත්‍රයක් කේන්ද්‍ර කොට ගෙන, ඒ වටා ගෙතුනු සංවිධානයක් සඳහා වූ සැලැස්ම ගැන එ තරම් තදබල ලෙස හා දැඩිව කියා සිටීමට අපට බල කරන අවසාන කාරණයට පැමිණ සිටිමු. සටන්කාමී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයකට තිබිය යුතු නම්‍යශීලී භාවය ඇති වීම සහතික කළ හැක්කේ එවැනි සංවිධානයකට පමණකි. එම නම්‍යශීලී භාවයෙන් බලාපොරොත්තු වන්නේ, අරගලයේ ඉතාමත් විවිධාකාර හා වේගයෙන් වෙනස් වන තත්වයන්ට ගැලපෙන සේ ක්ෂණික ලෙස හැඩ ගැසීමට ඊට හැකියාව තිබීම හා ''එක් අතකින්, අති දැවැන්ත සතුරා ඔහුගේ සියළුම බලවේගයන් එක තැනකට යොමු කර තිබෙන විට, ඔහුට විරුද්ධව විවෘත සටනෙන් මඟ හැරීමටත්, එහෙත් අනිත් අතට, ඔහුගේ හසුරුවා ගත නො හැකි විශාලත්වයෙන් ප්‍රයෝජන ගනිමින්, ඔහු අඩුවෙන් ම බලාපොරොත්තු වන විට හා තැනට පහර දීමටත් හැකියාව තිබීම ය''*.කැරළි

* ''ඉස්ක්‍රා'' අංක 4, ''පටන් ගත යුත්තේ කොතැනින් ද?'' ''විප්ලවයේ පූර්වාසන්න අදහස නො පිළි ගන්නා විප්ලවරෝපණවාදීන්, දීර්ඝකාලයක් තිස්සේ වැඩ කිරීමට සිදු වෙතැයි යන අපේක්ෂාවෙන් කිසිසේත් නො කැළඹෙති''යි නදෙෂ්දින් ලියයි (පිටු 62). මේ ගැන අපගේ නිරීක්ෂණය මෙසේ ය. ඉතා දීර්ඝ කාලයක් තිස්සේ වැඩ කිරීම සඳහා දේශපාලන උපක්‍රම හා සංවිධානමය සැලැස්මක් සකස් කර ගැනීමට අප සමත්වන්නේ නම්, එසේම, ඒ සමගම, සිදුවීම් ඇති වීමේ වේගය ඉක්මන් වූ හැම විටෙකම පැන නගින සෑම හදිසි තත්වයක් ම යටතේ, ස්වකීය වගකීම පැහැර නොහැර, ස්වකීය යුතුකම් ඉටු කිරීමට



හා වීදි සටන් ඇති වීම පමණක් බලාපොරොත්තුවෙන් හෝ, එසේ නැතහොත්, ''නීරස සෑමදු අරගලයේ ඉදිරි ගමන'' පමණක් පදනම් කරගෙන හෝ පක්ෂ සංවිධානය ගොඩ නැගීම ඉතාමත් බරපතල වරදක් වනු ඇත. කැරළි සහිත කාලයක් ගෙවී, සන්සුන් කාලයක් ඇති වන්නේ කවදද යනු කල්තියා දැන ගැනීම, බොහෝ විට කුමණ ආකාරයකින් වත් නො හැකි වන තරම් දෙයක් හෙයින්, අප නිතරම අප ගේ සෑම ද වැඩ කටයුතු කිරීමට, සෑම තත්වයකට ම මුහුණ දීමටත් සූදනම්ව සිටිය යුත්තෙමු. එසේ වුවත්, එම අනාගත දැනුම ලබා ගත හැකි අවස්ථා වල, අපගේ සංවිධානය යළිත් ගොඩ නගා ගැනීම සඳහා එයින් ප්‍රයෝජන ගත හැකි වේ. එසේ කළ යුතු වන්නේ, ඒකාධිපත්‍යය පවතින රටක වෙනස් වීම් ඇදහිය නො හැකි තරම් වේගයකින්, සමහර විටෙක, සාර්වාදී යනිවාර්[201] වරුන් ගේ එක් රැයක වැටලීමක් හේතුකොට ගෙන පවා, සිදු විය හැකි හෙයිනි. එ මෙන්ම (නදෙෂ්දින් කල්පනා කරන්නේ යයි පෙනෙන්නට තිබෙන ලෙසට) විප්ලවය එක ක්‍රියාවක් ලෙසට සැලකීම කිසි ලෙසකින් වත් නො කටයුත්තකි. එය සලකා ගත යුත්තේ, සම්පූර්ණ සන්සුන්තාවය බොහෝ දුරට බල පවත්න කාල සීමා හා සමග සීඝ්‍ර ලෙස මාරුවෙන් මාරුවට පැන නගින බොහෝ සෙයින් බලවත් කැරළි මාලාවක් වශයෙනි. එම හේතුව නිසා, අප පක්ෂ සංවිධානයේ කටයුතු වලට ප්‍රධාන වශයෙන් අඩංගු විය යුත්තේ ද, එම කටයුතුවල එල්ලය විය යුත්තේ ද, ඉතාමත් බලවත් කැරැල්ලක් පවතින කාලයක මෙන් ම, සම්පූර්ණ සන්සුන්තාවය පවතින කාලයක ද කළ හැකි වන හා අත්‍යාවශ්‍ය වන කටයුතු ය. එ නම්, රුසියාව සෑම තන්හිම, එකට සම්බන්ධ වූ ආකාරයෙන් ගෙන යනු ලබන, ජීවිතයේ සෑම අංශයක් ම ආලෝකමත් කරන, එසේම, පොදු ජනතාවගෙන් හැකි තරම් පුළුල්තම කොටස් අතර ගෙන යනු ලබන දේශපාලන, උද්ඝෝෂණ කටයුතු ය. එසේ වුවද, නිතර නිකුත් කෙරෙන සමස්ත රුසියානු පුවත් පතක් නොමැතිව, වර්තමාන රුසියාවේ මෙම කටයුත්ත කිරීම ගැන සිතන්නට පවා නො හැකිය. මෙම ප්‍රවෘත්ති

පක්ෂයේ තිබෙන සූදනම මෙම වැඩ කිරීමේ ක්‍රියාදමය තුළින්ම සහතික කිරීමට අප සමත් වන්නේ නම් මිස, අප කාලකණ්ණි දේශපාලන අතිධාවනකාරීන් වන බව ඔප්පු වනු ඇත. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ අරමුණ වී ඇත්තේ, සමස්ත මිනිස් වර්ගයාගේ ම ජීවන තත්වයන් මූලික වශයෙන් පරිවර්තනය කිරීම බවත්, මේ හේතුව නිසා වැඩ කිරීමට සිදුවන කාලයේ දීර්ඝ කම නිසා ''කැලඹීමට'' පත්වීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකුට ඉඩක් නොමැති බවත්, අමතක කළ හැක්කේ මෑතදී පටන් තමා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු ලෙස හඳුන්වා ගැනීමට පටන් ගත් නදෙෂ්දින්ට පමණකි.

පත්‍රය වටා ගොඩ නැගෙන සංවිධානය, එහි අනුග්‍රාහක වරුන්ගේ (වචනයේ පුළුල් අර්ථයෙන්, එනම්, ඒ සඳහා වැඩ කරන සියළු දෙනාගේම) එම සංවිධානය, තියුණු විප්ලවවාදී ''අවපාත'' කාලවලදී පක්ෂයේ ගෞරවය, ප්‍රසාද ජනක තත්වය හා අඛණ්ඩතාවය රැකීමේ පටන්, ජාති ව්‍යාප්ත අවිගත් නැගිටීම සූදනම් කිරීම, ඊට කල් යල් නියම කිරීම සහ එය ක්‍රියාත්මක කිරීම දක්වා වූ සියළුම දේ සඳහා, සූදනම්ව සිටිනු ඇත.

රුසියාවේ සිදුවන ඉතාමත් සාමාන්‍ය දෙයක් වන, එක් හෝ කීප පෙදෙසක අපගේ සහෝදරවරු වටලා අල්ලා ගනු ලැබීම ගැන ඇත්තෙන්ම සිතට නගා බලන්න. සියළු ම ප්‍රාදේශීය සංවිධාන ඒකාබද්ධ කරන, ඒකීය, පොදු, නිති පතා ක්‍රියාකාරිත්වයක් නොමැති වීම නිසා, බොහෝ විට, එවැනි වැටලීම් වල ප්‍රතිඵලයක් වශයෙන්, මාස ගණන් තිස්සේ වැඩ නැවතී යන්නේ ය. එහෙත්, සියළුම ප්‍රාදේශීය සංවිධානවලට, එක, පොදු කටයුත්තක් තිබුණේ නම්, ධෛර්යමත් දෙතුන් දෙනෙකුට, සති කීපයක් ඇතුලත, පොදු මධ්‍යස්ථානය ද, අප දන්නා පරිදි, දූනුදු ඉතා ඉක්මණින් ම පැන නගින, අළුත් තරුණ කව ද, අතර සම්බන්ධය ගොඩ නැගිය හැකි වේ. තව ද, සිර භාරයට ගැනීම නිසා පොදු ක්‍රියාකාරිත්වය අවහිර වී තිබෙන බව සෑම දෙනාට ම පැහැදිලි වූ විට, අළුත් කව ඇති වී, ඒවාට මධ්‍යස්ථානය හා සමග වඩාත් සීඝ්‍රයෙන් සම්බන්ධකම් ඇති කර ගැනීමට ද, හැකි වේ.

අනිත් අතට පොදු ජන නැගිටීමක් ගැන සිතට නගා බලන්න. අපි මේ ගැන සිතා බලා සූදනම් විය යුතු වෙමුයි. සමහර විට දැන් සියළු දෙනා ම එකඟ වනු ඇත. එහෙත්, එය කරන්නේ කෙසේද? නැගිටීම සූදනම් කරනු සඳහා සියළු ම ප්‍රදේශ වලට ඒජන්තවරුන් පත් කර යැවීම ඇත්තෙන් ම මධ්‍යම කාරක සභාවට කළ නො හැකිය. අපට මධ්‍යම කාරක සභාවක් තිබුණත්, අද රුසියාවේ පවතින තත්වයන් යටතේ, එවැනි පත්වීම් මගින් අත් කර ගත හැකි කිසි ම යහපතක් නොමැත. එහෙත්, පොදු ප්‍රවෘත්ති පත්‍රයත් ආරම්භ කිරීමේ දී හා බෙදා හැරීමේ දී ගොඩනැගෙන ඒජන්ත වරුන්* ගේ සංවිධානයට නැගිටීමක් සඳහා හඬ නගන තෙක්

* අහෝ, අහෝ! මර්තිනව් ගේ ප්‍රජාතන්ත්‍රවාදී කන් වලට අම්හිරි ''ඒජන්තවරුන්'' යන වචනය මෙහි ඇතුල්වීමට මා නැවතත් ඉඩ දී තිබේ! මෙම වචනය ගැන හැත්තෑ ගණන්වල වීරයන් අමනාප නො වූයේ මන්ද, අනූ ගණන් වල ආධුනිකයන් අමනාප වන්නේ මන්ද යනුත්, කල්පනා කරමි. මා මෙම වචනයට කැමති වන්නේ සියළුම නියෝජිතයන් ගේ සිතුම් පැතුම් හා කටයුතු කැප කෙරෙන පොදු ව්‍යාපාරය ගැන එයින් පැහැදිලි ලෙස හා සිත් කාවදින ලෙස හැඟෙන හෙයිනි. ඒ වචනය වෙනුවට වෙනත් වචනයක් යෙදීමට මට සිදු වුවහොත්, මා තෝරා ගන්නා එකම වචනය ''අනුගාමික වරුන්'' යන්න ය. ඒ ද, කිසියම් පොත් ගුළු



''වාඩිවී බලා සිටීමට'' සිදු නො වේ. නැගිටීමක් ඇති වුවහොත්, එය සාර්ථක වීමේ හැකියාව ඉතාමත් ම ඉහළින් සහතික කිරීම පිණිස එයට නිති පතා කටයුතු කරගෙන යා හැකි වේ. නැගිටීමක දී ඉතා වැදගත් වන, වැඩ කරන ජනතාව ගේ පුළුල්තම ස්ථරයන් ද, ඒකාධිපත්‍යය සමග අප්‍රසාද වී සිටින සියළුම සමාජ ස්ථරයන් ද, සමග වූ අප ගේ සම්බන්ධකම් එවැනි කටයුතුවලින් ශක්තිමත් වේ. විශේෂයෙන්ම, පොදු දේශපාලන තත්වය හරි ආකාරව තක්සේරු කිරීමේ හැකියාවත්, ඒ අනුව නැගිටීම සඳහා නිසි වේලාව තෝරා ගැනීමේ හැකියාවත්, නිපුණ කිරීම උදෙසා එම කටයුතු ප්‍රයෝජනවත් වේ. සමස්ත රුසියාවම උද්ඝෝෂණයට පත් කරන, එකම දේශපාලන ප්‍රශ්නවලට, ගැටුම්වලට හා සිදුවීම්වලට එක් විටම පිළිතුරු දීමටත්, එවැනි ''සිදුවීම්'' සම්බන්ධයෙන් ඉතාමත් බලවත්, ඒකාකාර හා අවස්ථාවෝචිත ප්‍රතිචාර දැක්වීමටත්, සියළුම ප්‍රාදේශීය සංවිධාන පුහුණු කෙරෙන්නේ ද, එවැනි කටයුතු වලින් ම ය. එසේ කියන්නේ, නැගිටීමක් යනු, සමස්ත ජනතාවම ආණ්ඩුවට දෙන ඉතාමත් ශක්තිමත්, ඉතාමත් ඒකාකාර හා ඉතාමත් අවස්ථාවෝචිත පිළිතුර වන හෙයිනි. අවසාන වශයෙන් රුසියාවේ සෑම තන්හි ම ඇති, විප්ලවවාදී සංවිධානවලට ඉතාමත් අඛණ්ඩ ලෙසත්, ඒ අතර ම ඉතාමත් රහසිගත ලෙසත්, අන්‍යෝන්‍ය සම්බන්ධ කම් පවත්වා ගැනීමට හා එමගින් සැබෑ පක්ෂ සමගිය ඇති කිරීමට අවශ්‍ය පුහුණුව ලැබෙන්නේද, එවැනි කටයුතු වලින් ම ය. එවැනි සම්බන්ධ කම් නොමැති කල, නැගිටීම සඳහා සාමූහික ලෙස සැලැස්ම සාකච්ඡා කිරීමත්, අවසාන අවස්ථාවේ ගත යුතු හා ඉතාමත් රහසිගත ලෙස තබාගත යුතු, සූදනම් කිරීමේ පියවරයන් ගැනීමත්, කිසිසේත් කළ නො හැකි වේ.

කොටින් කියතොත්, ''සමස්ත රුසියානු දේශපාලන ප්‍රවෘත්ති පත්‍රයක් සඳහා වූ සැලැස්ම'' යනු (ඒ ගැන හොඳින් කල්පනා කර නො බැලූ අයට පෙනෙනු හැකිසේ) කිසිසේත් පොතේගුරුවාදී, පොත් ගුළු ස්වභාවයේ රෝග වැළඳුනු හාන්සි පුටු කාරකවරුන් ගේ ශ්‍රමය නියෝජනය කරන්නක් නොවේ. වහාම හා සෑම පැත්තෙන් ම නැගිටීම සූදනම් කිරීම සඳහාත්, ඒ අතරම, එදිනෙදා හදිසි වැඩ කටයුතු මොහොතකට හෝ අත් නො හැරම කරගෙන යනු සඳහාත්, ඉතාමත් ප්‍රායෝගික සැලැස්ම එය ය.

ස්වභාවයක් හා නොපැහැදිලි තාවයක් එහි නො දක්නා තාක් දුරට පමණකි. අපට අවශ්‍ය ව තිබෙන්නේ ඒජන්ත වරුන්ගේ යුද්ධමය සංවිධානයකි. කෙසේ හෝ වේවා ''අන්‍යෝන්‍ය වශයෙන් සේනාපති කම් ප්‍රදානය කර ගැනීමේ'', ඔවුන් ගේ ප්‍රියතම ක්‍රීඩාවෙහි යෙදී සිටින, නිමක් නැති (විශේෂයෙන් විදේශගත) මර්තිනව් ලා, ''ගමන් බලපත්‍ර ඒජන්ත'' කියනවාට වඩා ''විප්ලවවාදීන්ට ගමන් බල පත්‍ර සැපයීමේ විශේෂ දෙපාර්තමේන්තුවේ අධිපති තැන'' ආදී වශයෙන් කීමට කැමති වනු ඇත.

## අවසානය

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතිහාසය පැහැදිලි ලෙස ම කාල පරිච්ඡේද තුනකට බෙදිය හැකි ය.

ඉන් ප්‍රථම කාල පරිච්ඡේදයට, දළ වශයෙන් 1884 සිට 1894 දක්වා වූ දශ වර්ෂයක් පමණ අයත් වේ. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ න්‍යාය හා වැඩ පිළිවෙළ මතු වී තහවුරු වූයේ මේ කාලයේදී ය. රුසියාව තුළ වූ නව ප්‍රවණතාවයේ අනුගාමිකයන් සංඛ්‍යාව ඉතා අල්ප විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය පැවතියේ කම්කරු පංතියක් විරහිතව ය. එය දේශපාලන පක්ෂයක් වශයෙන් පැවතියේ සංවර්ධනයේ බීජාංකුර අවධියේ ය.

දෙවැනි කාල පරිච්ඡේදයට 1894—1898 අවුරුදු තුන හතර අයත් ය. මෙම කාලය තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සමාජ ව්‍යාපාරයක් වශයෙන් ද, පොදු ජනතාවන් ගේ උත්සන්නිය වශයෙන් ද, දේශපාලන පක්ෂයක් වශයෙන් ද, කලඑළි බැස්සේය. මෙය, එහි ළමා හා යෞවන කාලය විය. නරෝද්නික්වාදයට විරුද්ධව අරගලයෙන් හා ජනතාව අතරට යාම සඳහා වූ විශාල පොදු උනන්දුවකින් බුද්ධිමත්හු පණ ගැන්වී සිටියහ. කම්කරුවෝ වැඩ වර්ජන සඳහා පොදු උනන්දුවක් දැක්වූහ. ව්‍යාපාරය දැවැන්ත පියවර තබා පෙරට ගියේ ය. නායකයන් අතුරෙන් බහුතරය, කිසියම් ස්වාභාවික සීමා රේඛාවක් මෙන් එන්. මිහයිලෝව්ස්කි මහතාට පෙනුණ, ''අවුරුදු තිස් පහේ වයසට'' වත් පැමිණ සිටියේ නැත. ඔවුන්ගේ යෞවන භාවය නිසා, ඔවුහු ප්‍රායෝගික කටයුතු ගැන පුහුණුවක් නොමැතිව සිටි අතර, විශ්මයාකුල සීඝ්‍රතාවයකින් දර්ශන පථයෙන් ඉවත් වූහ. එසේ වුවද, ඔවුන් වැඩි දෙනෙකුගේ ක්‍රියාකාරිත්ව පරිමාණය ඉතා පුළුල් විය. ඉන් බොහෝ දෙනෙක් ඔවුන් ගේ විප්ලවවාදී සංකල්පනා ආරම්භ කර තිබුණේ ''නරෝද්නය වෝලිය'' සංවිධානයේ අනුගාමිකයන් ලෙසට ය. ඔවුන් සියළු දෙනා ම පාහේ, ඔවුන් ගේ මුල් තරුණ කාලයේදී, ත්‍රස්තවාදී වීරයන්ට උද්යෝගිමත් ලෙස නමස්කාර කළහ. එම වීර සම්ප්‍රදායයන් පිළිබඳ මන්මත් කරවන හැඟීම් අත් හැරීමට අරගලයක් කිරීම අවශ්‍ය විය. ''නරෝද්නය වෝලිය'' සංවිධානයට අධිෂ්ඨාන සහගත ලෙස පක්ෂපාතව සිටි හා තරුණ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියාගේ මහත් ගෞරවයට පාත්‍ර වූ අය සමග පෞද්ගලික සම්බන්ධ කම් බිඳ දැමීමක්ද, එම අරගලය හා සමගම සිදු විය. මෙම අරගලය හේතු කොට ගෙන, තම අධ්‍යාපනය දියුණු කර ගැනීමටත්, සෑම ප්‍රවණතාවයක ම නීති විරෝධී පොත් පත් කියවීමටත්, නීත්‍යානුකූල නරෝදනික්වාදයේ ප්‍රශ්න සමීප ලෙස අධ්‍යයනය කිරීමටත්, තරුණ නායකයන්ට බල කෙරිණ. මෙම අරගලයෙන් පුහුණුව ලත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී හු, ඔවුන් ගේ මඟ හෙළි කළ මාක්ස්වාදී න්‍යාය හෝ, ඒකාධිපත්‍යය පෙරළා දැමීමේ කර්තව්‍යය හෝ ''මොහොතකටවත්'' අමතක නො කර ම, කම්කරු පංති ව්‍යාපාරයට වන්හ. මෙම කාලය තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කළ, ඉතාමත් සිත් කාවදින හා අවසාන කටයුත්ත නම්,1898 වසන්තයේ දී පක්ෂය පිහිටුවීම ය.

තුන් වැනි කාල පරිච්ඡේදය, අප දුටු පරිදි 1897 දී සූදනම් කෙරුණු අතර, නිශ්චිත වශයෙන් ම 1898 දී (1898-?) එය දෙ වැනි කාල පරිච්ඡේදයෙන් බෙදී වෙන් විය. මෙය අසමගියේ, විසිර යාමේ හා වැනෙන සුළු භාවයේ කාල සීමාව විය. යෞවන කාලයේ තරුණයා ගේ කට හඬ ගොරෝසු වන්නේ ය. එ මෙන්ම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හඬ ද වෙනස් වන්නට පටන් ගති. එක් අතකින් ස්ත්‍රුවේ හා ප්‍රකපෝවිච් මහතුන්ගේ ද, බුල්ගාකව් හා බෙර්දියයෙව් මහතුන් ගේ ද, ලියවිලි වලිනුත්, අනිත් අතින් වී. අයි. ගේ හා ආර්. එම්. ගේ ද, ක්‍රිචේව්ස්කි හා මර්තීනව්ගේ ද, ලියවිලි මගිනුත්, ව්‍යාජ රාවයක් නිකුත් වීමට පටන් ගති. එහෙත් වෙන වෙන ම ඉබාගාතේ ගොස් ආපස්සට ඇදුනේ, නායකයන් පමණකි. ව්‍යාපාරය නො නැවතීම වැඩී ගිය අතර, දැවැන්ත පියවර තබමින් පෙරට ගමන් ගත්තේ ය. එය නො නැවතීම වැඩුනේ ය. නිර්ධන පංති අරගලය අළුත් කම්කරු ස්ථරයන් අතර පැතිර ගියේ ය. එය සමස්ත රුසියාවෙහි ම ව්‍යාප්ත විය. ඒ අතර ම ශිෂ්‍යයින් හා වෙනත් ජනතා කොටස් අතර, ප්‍රජාතන්ත්‍රවාදී ජීව ගුණය ද එයින් අනියම් ලෙසට පණ ගැන්විනි. එසේ වුවද, සාංසිද්ධික උත්සන්නියේ පෘථුල භාවය හා බලවත් කම හමුවේ නායකයන් ගේ දේශපාලන විඥනය යටත් විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර වෙනත් වර්ගයක ක්‍රියා කාරක වරුන් ප්‍රබලත්වයට පත්ව සිටියහ. එනම්, පොදු ජනතාවගේ සාංසිද්ධික ස්වභාවය විසින්, නායකයින් ගෙන් වැඩි වැඩියෙන් විඥත භාවය අපේක්ෂා කරනු ලැබූ තරමට ම, එය වඩ වඩාත් නො සෑහෙන තත්වයක පවතින බව ඔප්පු කළ හා තනිකරම පාහේ ''නීත්‍යානුකූල'' මාක්ස්වාදී සාහිත්‍යයෙන්

පමණක් පුහුණුව ලැබූ අයයි. නායකයන් න්‍යාය සම්බන්ධයෙන් ද ("විවේචනය කිරීමේ නිදහස"), ව්‍යවහාරය සම්බන්ධයෙන්ද ("පැරණි කාලය"), පසුබා සිටියා පමණක් නොව, ඔවුහු නානා විධ මහා ලොකු තර්ක ඉදිරිපත් කරමින්, ස්වකීය නො දියුණු කම නිවැරදි දෙයක් බව පෙන්වීමට ද උත්සාහ ගත්හ. නීත්‍යානුකූල සාහිත්‍යයේ බ්‍රෙන්තානෝ අනුගාමිකයන් හා නීති විරෝධී සාහිත්‍යයේ අන්තිමයන් විසින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය වෘත්තීය සමිතිවාදයේ මට්ටමට පිරිහෙළන ලදී. "Credo" වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීම ආරම්භ විය. එය විශේෂයෙන් ම සිදු වූයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ "පැරණි තාලේ ක්‍රම" නිසා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නො වන විප්ලවවාදී ප්‍රවණතාවයන් පුනර්ජීවනයට පත් වූ කලෙක ය.

"රබෝචිය දියල" නැමති ප්‍රකාශනයක් ගැන, මා පමණ ඉක්මවා දීර්ඝ ලෙස කරුණු ඉදිරිපත් කර ඇතැයි යන විවේචනාත්මක හැඟීමක් පාඨකයාට ඇති වන්නේ නම්, එම ප්‍රකාශනය තුන් වැනි කාල පරිච්ඡේදයේ "ජීව ගුණය" මහත් ප්‍රමුඛතාවයකින් පිළි බිඹු කළ හෙයින් එය "ඓතිහාසික වශයෙන්" වැදගත් තත්වයකට පත් වූ බව මට කිව හැක.* අසමගිය හා වැනෙනසුලු භාවයත්, "විවේචනයට", "ආර්ථිකවාදයට" හා ත්‍රස්තවාදයට ඉඩ සැලසීමේ සූදනමත්, නිසි ලෙස ප්‍රකාශ කිරීමෙහි සමත් වූයේ ස්ථිරත්වයක් දක්වන ආර්. එම්. නොව, අති චපල ක්‍රිචේව්ස්කි හා මර්තිනව්ලා ය. මෙම කාලසීමාවේ ස්වභාව ලක්ෂණය වූයේ, "ඒකාධිපතිත්වයට" නමස්කාර කරන්නෙකු ප්‍රායෝගික වැඩ කෙරෙහි දක්වූ උඩඟු පිළිකුළ නොව, සුළු දේ ගැන ආරාවුල් කිරීමේ පුරුද්ද හා සමග ඒකාබද්ධ වුනු, න්‍යාය කෙරෙහි දක්වන අන්ත නො සැලකිල්ල ය. එය නිරූපනය වූයේ, එකල සිටි වීරයන් විසින් "විරාජික පාඨ" එක එල්ලේ ප්‍රතික්ෂේප කරනු ලැබීමට වඩා ඒවා දියාරු ස්වභාවයට පත් කරනු ලැබීමෙනි. විද්‍යාත්මක සමාජවාදය අනුපූර්ණ විප්ලවවාදී න්‍යායක තත්වයෙන් බැහැරව, නිකුත් වූ සෑම අළුත් ජර්මන් පාඩම් පොතක ම අන්තර්ගත දේ සමග "නිදහස් ලෙස" සංකලනය කරන ලද පඹ ගාලක් බවට පත්

---

* ජර්මන් ප්‍රස්ථාව පිරුළක් මගින් මට පිළිතුරු දිය හැක. Den Sack schlägt man, den Esel meint man ඔබ තලන්නේ ගෝනියට නමුත් ඔබ අදහස් කරන්නේ බූරුවාට තැලීමට ය. "රබෝචිය දියල" පමණක් නොව, ප්‍රායෝගික කාරකවරුන් පුළුල් පිරිස හා න්‍යායවාදීහු, මොස්තරයක් වී පැවති "විවේචනය" සමග පාවී ගියහ. ඔවුහු සාංසිද්ධිකතාවය පිළිබඳ ප්‍රශ්නය හම්බන්ධයෙන් අවුලට පත් වෙමින්, අපගේ දේශපාලන හා සංවිධාන කර්තව්‍ය වලදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංකල්පයේ සිට වෘත්තීය සමිතිවාදී සංකල්පයට ඇද හැලෙමින් සිටියහ.



විය. "ආර්ථික අරගලය අභේද්‍ය ලෙස දේශපාලන අරගලය හා සමග සම්බන්ධ වී තිබෙන" හෙයින්, "පංති අරගලය" යන සටන් පාඨය, වඩාත් පුළුල් හා ධෛර්යමත් ක්‍රියාකාරිත්වය සඳහා උනන්දුව ජනිත කරවන්නක් නොව, සමහන් කාරී ආලේපයක් බඳු දෙයක් බවට පත් විය. පක්ෂය පිළිබඳ අදහස, විප්ලවවාදීන් ගේ සටන්කාමී සංවිධානයක් සඳහා කෙරෙන හඬනැගීමක් වශයෙන් නො ගන්නා ලද අතර, කිසියම් ආකාරයක "විප්ලවවාදී නිලධාරිවාදයක්" ද, ප්‍රජාතන්ත්‍රවාදී ආකෘති හැදීමේ ළදරු ක්‍රීඩාවක යෙදීම ද, සාධාරණ බව පෙන්වීමට උපයෝගී කර ගන්නා ලදී.

තුන් වැනි කාල පරිච්ඡේදය කෙළවර වී (දැනට පෙරනිමිති ගණනාවකින් ම ස්වකීය සම්ප්‍රාප්තිය ප්‍රකාශයට පත් කර ඇති) හතර වැනි කාල පරිච්ඡේදය ආරම්භ වන්නේ කිකල දැයි අපි නො දනිමු. අපි ඉතිහාසයේ ක්ෂේත්‍රයේ සිට, වර්තමානයේ ක්ෂේත්‍රයට හා අර්ධ වශයෙන් අනාගතයේ ක්ෂේත්‍රයට ද සංක්‍රමණය වෙමින් සිටින්නෙමු. එසේ වුවත්, හතර වැනි කාල පරිච්ඡේදයේ දී, සටන්කාමී මාක්ස්වාදය තහවුරු වීමට මග හෙළි වෙතියි ද, රුසියානු සමාජ-ප්‍රජාතන්වාදයේ පූර්ණ පෞරුෂත්වය මල් ගනිමින් එය අර්බුදයෙන් ගොඩ එතියි ද, අවස්ථාවාදී පසු බල ඇණිය වෙනුවට, ඉතාමත් විප්ලවීය පංතියේ සැබෑ පෙරමුණු බල ඇණියක් "ආදේශ කෙරෙතියි" ද අපි තදින් ම විශ්වාස කරමු.

එ වැනි "ආදේශ කිරීමක්" සඳහා හඬ නැගීමේ අර්ථයෙන් ද, ඉහත විස්තර කරන ලද කරුණු පිඩු කොට දැක්වීමක් වශයෙන් ද, කළ යුත්තේ කුමක් ද යන ප්‍රශ්නයට මෙසේ උත්තර දෙමු:

තුන්වැනි කාල පරිච්ඡේදය කෙළවර කරමු.

1901 සරත් කාලය හා 1902 පෙබරවාරි අතර ලියන ලදී

1902 දී වෙනම පොතක් ලෙස ස්තුත්ගාර්ත් හිදී මුද්‍රණය කරන ලදී

මෙම පරිවර්තනය කරන ලද්දේ, වී අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, 6 වැනි වෙළුම අනුවය. පිටු 1—192

අතිරේකය

## ''ඉස්ක්‍රා'' පත්‍රය ''රබෝචිය දියල'' හා සමග එක්සත් කිරීමේ පරිශ්‍රමය

''රබොචිය දියල'' සමග වූ ස්වකීය සංවිධානමය සම්බන්ධකම්වලදී ''ඉස්ක්‍රා'' පත්‍රය පිළිගත් හා ස්ථිර ලෙස අනුගමනය කළ උපක්‍රම ගැන විස්තර කිරීම අපෙන් ඉටු විය යුතුව තිබේ. ''විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ සංගමයේ භේදය'' යන හිසින් යුක්තව ''ඉස්ක්‍රා'' අංක 1 පත්‍රයේ පළ කරන ලද ලිපියෙන් මෙම උපක්‍රම සම්පූර්ණයෙන් ම විස්තර කෙරිණ. ආරම්භයේ පටන් ම අප පිළිගත් අදහස වූයේ, අප පක්ෂයේ විදේශගත නියෝජිතයන් වශයෙන්, එහි ප්‍රථම සම්මේලනයේ දී පිළිගන්නා ලද, සැබෑ ''විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ සංගමය'' සංවිධාන දෙකක් සේ භේද වී තිබුණු බව ය. භේද වූ විදේශගත සංගමයේ කොටස් දෙකෙන්, එකකින් එක් අයෙකු බැගින්, සාමාජිකයින් දෙදෙනෙකු, ජාත්‍යන්තර සමාජවාදී බියුරෝ සභාව[202] තුළ රුසියාව නියෝජනය කිරීමට පැරිසියේ ජාත්‍යන්තර සම්මේලනයේ දී තෝරා පත් කිරීමෙන් තාවකාලිකව හා කොන්දේසි සහිතව පමණක්, බේරුම් කරන ලද පක්ෂයේ නියෝජිතත්වය පිළිබඳ ප්‍රශ්නය, විවෘතව පැවතුනු බව ය. ''රබෝචිය දියල'' මූලික වශයෙන් ම වැරදි සහිත බව අපි ප්‍රකාශ කෙළෙමු. ප්‍රතිපත්තියක් වශයෙන් අපි තදින්ම කම්කරු විමුක්ති කණ්ඩායමේ පැත්ත ගත් අතර ම, භේදයේ විස්තර කරුණු සාකච්ඡාවට ගැනීම ප්‍රතික්ෂේප කෙළෙමු. එ මෙන් ම හුදු ප්‍රායෝගික වැඩ පිළිබඳ ක්ෂේත්‍රයෙහි දී විදේශගත සංගමයෙන් ඉටු වූ සේවයද සටහන් කර ගත්තෙමු.*

---

* භේදය සම්බන්ධයෙන් වූ අපගේ නිගමනය පදනම් වූයේ, එම කාරණය පිළිබඳ සාහිත්‍යය අධ්‍යයනය කිරීම මත පමණක් නොව, අප ගේ සංවිධානයේ සාමාජිකයින් කීප දෙනෙක්, විදේශයේ දී එක් රැස් කර ගත් තොරතුරුද, මතය.



ඒ අනුව, එක්තරා දුරකට, අප ගේ ප්‍රතිපත්තිය වූයේ ප්‍රමාද වී සිටීමය. විදේශ ගත සංගමය, න්‍යාය හා උපක්‍රම පිළිබඳ මූලික ප්‍රශ්න කීපයක් සම්බන්ධයෙන් ප්‍රකාශිත ස්වාධීන ස්ථාවරයක් නො ගනිමින්, එය ප්‍රතිපත්තියක් වශයෙන්, ''ශ්‍රම විමුක්තිය කණ්ඩායම'' සමග එකඟ වන බව නිතර නිතර ප්‍රකාශ කර තිබුණ හෙයින්, ආර්ථිකවාදයේ ඉතාමත් අධිෂ්ඨාන සහගත ප්‍රතිපාක්ෂිකයන්ට, එම ''සංගමය'' සමග අතිනත් ගෙන කටයුතු කළ හැකිය, යනුවෙන් වූ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් බහුතරය අතර බලපැවති අදහසට අපි ඉඩ දුන්නෙමු. ''ඉස්ක්‍රා'' පත්‍රයේ (1900 දෙසැම්බර්) පළමු වන කලාපය නිකුත් වීමත් හා සමග මෙන් ම, ''සංගමයේ'' සාමාජිකයන් තිදෙනෙක් ඉන් ඉවත් වී ඊනියා ''මූලාරම්භකයන් ගේ කණ්ඩායම'' යන නමින් සකස් වී 1) ''ඉස්ක්‍රා'' සංවිධානයේ විදේශ කොටසත්, 2) විප්ලවවාදී ''සොට්සල්-ඩිමොක්‍රට්''[203] සංවිධානයත්, 3) විදේශගත ''සංගමය''ත් ඔවුන් අතර සමගි සන්ධානයක් ඇති කර ගැනීම සඳහා සාකච්ඡා පැවැත්වීම පිණිස මැදිහත් වන්නන් වශයෙන් කටයුතු කරනු වස් ඔවුන් ගේ සේවය ප්‍රදානය කිරීමට ඉදිරිපත් වීමෙන්, අප ගේ ස්ථාවරයෙහි නිරවද්‍යතාවය අනියමින් ඔප්පු විය. මෙයින් මුල් සංවිධාන දෙක ඊට ඔවුන් ගේ එකඟත්වය එක් වර ම ප්‍රකාශ කළහ. ඉන් තුන් වැන්න එම යෝජනාව ප්‍රතික්ෂේප කළේ ය. පසු ගිය අවුරුද්දේ පවත්වන ලද ''සමගි'' සම්මේලනයේ දී, කථිකයෙක් මෙම කරුණු විස්තර කළ කල්හි, ''සංගමයේ'' පාලක කාරක සභාවේ සාමාජිකයෙක් ඒ ගැන කථා කරමින්, එම යෝජනාව ප්‍රතික්ෂේප කිරීමට මුළුමනින්ම හේතු වූයේ, මූලාරම්භකයන් ගේ කණ්ඩායම සකස් වී තිබුණු ආකාරය ගැන විදේශගත ''සංගමය'' නොසතුටු වූ නිසා යයි කී බව ඇත්ත ය. මෙම පැහැදිලි කිරීම ගෙන හැර දැක්වීම මගේ යුතු කමක් ලෙසට මා සලකන අතර, එය අසතුටුදයක පැහැදිලි කිරීමක් බව නිරීක්ෂණය කිරීමෙන් මට වැලකී සිටිය නො හැක. සංවිධාන දෙකක් සාකච්ඡාවලට එකඟ වූ බව දත් විදේශගත ''සංගමයට'' වෙනත් මැදිහත් වන අයෙක් මගින් හෝ, එම සංවිධාන වලට කෙළින්ම හෝ, තම අදහස දන්විය හැකිව තිබුණි.

1901 වසන්තයේ දී ''සර්යා'' (අංක 1, අප්‍රියෙල්) සහ ''ඉස්ක්‍රා'' (අංක 4 මැයි) යන ප්‍රකාශන දෙක ම''රබෝචිය දියල'' සමග විවෘත විවාදයට බටහ. ''ඉස්ක්‍රා'' පත්‍රය විශේෂයෙන් ම පහර දුන්නේ ''රබෝචිය දියල'', එහි අප්‍රියෙල් අතිරේකයෙහි පළ කලා වූ ද, වසන්තයේ සිදුවීම් වලින් පසුව ත්‍රස්තය පිළිබඳ ප්‍රශ්නය සම්බන්ධයෙන් එහි අස්ථිරත්වය හෙළිදරව් කළා වූද, ඒ කාලයේ බොහෝ දෙනෙකු මුලා වීමට හේතු වුනු හා එමෙන්ම ''ලේ'' ඉල්ලා හඬ නැගුවා වූද, ''ඓතිහාසික නැමමක්'' යන මාතෘකා-

වෙන් යුත් ලිපියට ය. විවාද එසේ තිබියදී, සමගි සන්ධානයක් ඇති කර ගැනීමක් සඳහා අළුත් ''බෙරුම් කාරීන්'' කණ්ඩායමක[204] උපකාරයෙන්, යළිත් සාකච්ඡා ඇරඹීමට ''සංගමය'' එකඟ විය. ඉහත සඳහන් කරන ලද, සංවිධාන තුනෙහි නියෝජිතයන් ගේ සහභාගිත්වයෙන් ජූනි මාසයේ පැවැත්වුනු ප්‍රාථමික සම්මේලනයේ දී ඇති කර ගත්, ඉතාමත් විස්තර සහිත ''ප්‍රතිපත්ති පිළිබඳ එකඟත්වය'' පදනම් කර ගෙන, කෙටුම්පත් ගිවිසුමක් සකස් කරන ලදින්, එය විදේශගත ''සංගමය'' විසින් ''සම්මේලන දෙකක්'' යන පොතෙහි ද, විදේශගත ලීගය විසින් '' 'සමගි' සම්මේලනයේ ලියවිලි'' යන පොතෙහි ද පළ කරන ලදී.

දක්නට ලැබෙන සෑම අවස්ථාවාදයක් ම, රුසියානු අවස්ථාවාදය, විශේෂයෙන් ම, ඉතාමත් ම තීරණාත්මක ලෙස ප්‍රතික්ෂේප කළ යුතු බව එක්සත් වීම සඳහා අනිවාර්ය කොන්දේසියක් සැටියෙන්, අප විසින් ඉදිරිපත් කරන ලදූයි යන්න, ප්‍රතිපත්ති සම්බන්ධයෙන් වූ (ජූනි සම්මේලන යෝජනා වශයෙන් බොහෝ විට හඳුන්වනු ලබන) එකඟත්වයේ සන්ධා-රයෙන් මනාව පැහැදිලි වේ. එහි පළමු වැනි ඡේදයෙන් මෙසේ කියවේ: ''නිර්ධන පංති අරගලය තුළට අවස්ථාවාදය ඇතුලත් කිරීම සඳහා දරන සියළුම ප්‍රයත්නයන්ට අපි විරුද්ධ වෙමු. මෙම ප්‍රයත්නය, ඊනියා ''ආර්ථිකවාදයෙන්'' ද, බර්න්ෂ්ටයින්වාදයෙන් ද, මිලියරාන්වාදයෙන් ද ආදියෙන් ප්‍රකට වී ඇත.'' ''විප්ලවවාදී මාක්ස්වාදයේ ප්‍රතිපාක්ෂිකයන් සියල්ලන්ට ම විරුද්ධව කරන දෘෂ්ටිමය අරගලය ද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ක්ෂේත්‍රයට ඇතුලත් වේ'' (4, c); ''රුසියානු නිර්ධන පංතියේ හදිසි කර්තව්‍යය වන්නේ, ඒකාධිපත්‍යය පෙරලා දැමීම ය යන්න, සංවිධානමය හා උද්ඝෝෂණික කටයුතුවල සෑම ක්ෂේත්‍රයක දී ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විසින් කිසි කලෙකත් මොහොතකට හෝ අමතක කරනු නො ලැබිය යුතු ය'' (5,a); ... ''චේතන ශ්‍රමය හා ප්‍රාග්ධනය අතර සෑමද අරගලය මත පදනම් වූ අරගලය පමණක් නො වේ'' (5, b); ... ''පිරිසිදු ආර්ථික අරගලයක හා අර්ධ දේශපාලන ඉල්ලීම් සඳහා අරගලයක... අවධියක් තිබෙන බව අප පිළිගන්නේ නැත'' (5 c); ... ''ව්‍යාපාරයේ පහළ සංවිධාන ආකෘතිවල සරල ස්වභාවය... හා පටු ස්වභාවය ප්‍රතිපත්තියක් බවට පරිවර්තනය කරගැනීමේ ප්‍රවණතාවයන් විවේචනය කිරීම, ව්‍යා-පාරයට වැදගත් වන බව අපි සලකන්නෙමු'' (5 d). මෙම යෝජනා එල්ලකර තිබෙන්නේ, ඒකාධිපත්‍ය පෙරළා දැමීමේ කර්තව්‍යය මො-හොතකට හෝ අමතක කරන, අවධි පිළිබඳ න්‍යාය පිළිගත්, පටු ස්වභාවය ප්‍රතිපත්තියක මට්ටමට නංවා ගත්, ආදී වූ අවස්ථාවදීන්ට විරුද්ධව බව, ඒවා මද අවධානයකින් හෝ කියවූ පසු,සම්පූර්ණ පිටස්තර-යෙකුට වුවද, ඒවා සකස් කර තිබෙන ආකාරයෙන් ම, තේරුම් යනු



ඇත. මෙම යෝජනා වලින් ප්‍රතික්ෂේප කරනු ලබන්නේ ''රබෝචිය දියල'' කළ වැරදි ම බව, එම සඟරාවට විරුද්ධව ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමත්, ''සර්යා'' සහ ''ඉස්ක්‍රා'' ප්‍රකාශනත් ගෙන ගිය විවාදය ගැන, ඉතාමත් ස්වල්ප වශයෙන් හෝ දන්නා ඕනෑම කෙනෙකුට මො-හොතකට හෝ නො අදහා සිටීමට බැරි ය. ''රබෝචිය දියල'' අංක 10 සඟරාවේ පළ කළ ලිපි ලිවීමට හේතු වූයේ විදේශගත ''සංගමයේ'' නව ''ඓතිහාසික නැම්මක්'' නිසා නොවන බවත්, යෝජනාවෙහි අතිශය ''අනියත ස්වභාවය'' නිසා බවත්*, විදේශගත සංගමයේ සාමාජිකයෙක් ''සමගි'' සම්මේනයේ දී ප්‍රකාශ කළ විට, සත්ත කරමින් කියන ලද එම ප්‍රකාශයට, එක් කථිකයෙක් යුක්ති යුක්ත ලෙස සමච්චල් කිරීමට යෙදුනේ එ නිසා ය. එම යෝජනා කෙසේ වත් අනියත නො වන අතර, ඒවා ඇදහිය නො හැකි තරම් නියත ස්වභාවයක් දරන බවත්, ඒවායින් ''යම් කිසිවෙකු අල්ලා ගැනීමට තැත් කරන'' සැටියක් කෙනෙකුට බැලූ බැල්මට පෙනෙන බවත්, එම කථිකයා කීවේ ය.

මෙම කීම නිසා, සම්මේලනයේ ඇති වූයේ ස්වභාව නිරූපී සිදුවීමකි. එක් අතකින්, ''අල්ලා ගැනීම'' යන වචනය දිව පැටලී කියවීමෙන් අපගේ නපුරු අපේක්ෂාවන් (''උගුලක් ඇටවීම'') හෙළිදරව් විනි යයි සිතා ගත් ක්‍රිචෙව්ස්කි, ''ඔවුන් අල්ලා ගැනීමට උත්සාහ කරන්නේ කවුරුන් ද'' යි ශෝකාත්මක ලෙස වේග ස්වරයෙන් ඇසී ය. ''ඇත්තෙන් ම කවුරුන්ද?'' යි ප්ලෙහානව් උපහාසාත්මක ලෙස ප්‍රශ්න කළේය. ''ප්ලෙහානව් සහෝදරයාට විනිවිද දක්නා බුද්ධිය නොමැති නිසා ඔහුට ආධාර වන්නෙමු'' යි කී ක්‍රිචෙව්ස්කි ''උගුල අටවන ලද්දේ ''රබෝචිය දියල'' කර්තෘ මණ්ඩලය ඇල්ලීමට (සියල්ලෝම සිනාසෙති) බව මම ඔහුට කියමි. එහෙත් අපි අසු නොවන්නෙමු'' යි පිළිතුරු දුන්නේ ය (වම් පැත්තෙන් අදහසක්: ''කාටද පාඩු!''). අනිත් අතට (බෙරුම් කාරයන් ගේ කණ්ඩායමක් වූ) ''බර්බා'' කණ්ඩායමේ සාමාජිකයෙක්, විදේශ ගත ''සංගමය'' ඉදිරිපත් කළ යෝජනා සංශෝධන වලට විරුද්ධ වෙමින්, අප ගේ කථිකයා රැකීමේ අදහසින්, ''අල්ලා ගැනීම'' යන වචනය විවාදයේ උනුසුම මැද්දේ අහම්බෙන් කියවුනක් බව පැහැදිලි යයි ප්‍රකාශ කළේ ය.

මෙම ''රැකීම'' සම්බන්ධයෙන්, එම වචන කී කථිකයා සතුටු නො වනු ඇතැයි, මම මගේ පැත්තෙන් කියනු කැමැත්තෙමි. මා කල්පනා කරන්නේ ''යම් කිසිවෙකු අල්ලා ගැනීමට තැත් කරන'' යන වචන, ''විහිළුවෙන් කියන ලද සැබෑ වචන'' බව ය. වැනෙන සුලු භාවය ගැන

* සත්ත කරන ලද මෙම ප්‍රකාශය ''සම්මේලන දෙකක්'' හි යළිත් දක්වා ඇත, පිටු 25.

අපි නිතරම ''රබෝචිය දියල'' ට චෝදනා කර ඇත්තෙමු. ඒ අනුව එහි වැනෙන සුලු භාවය කෙළවරක් කිරීමට, එය අල්ලා ගැනීමට උත්සායක් කිරීම, අපට ස්වාභාවික ලෙසටම අවශ්‍ය විය. මෙහි නපුරු බලාපොරොත්තුවක සේයාවක් වත් නො විය. එසේ කියන්නේ, අප සාකච්ඡා කරමින් සිටියේ, ප්‍රතිපත්ති වල අස්ථිර භාවයම ගැන වන හෙයිනි. එ පමණක් නොව, අප විදේශගත ''සංගමය'' ''අල්ලා ගැනීමට'' සමත් වීමු. එය කොතරම් සහෝදරාත්මක ලීලාවකින්* කරන ලද්දේ ද යත්, එම සංගමයේ පාලක කාරක සභාවේ තවත් සාමාජිකයෙකු සමග ක්‍රිචෙව්ස්කි ම, ජූනි යෝජනාවලට අත්සන් තැබී ය.

ග්‍රීෂ්ම ඍතුව හා සරත් ඍතුව අතර තුර කාලයේදී විදේශ ගත ''සංගමය'' තුළ නව නැම්මක් ඇති වූ බව ''රබෝචිය දියල'' අංක 10 ලිපිවලින් (අප සහෝදරවරු එම කලාපය ප්‍රථම වතාවට දුටුවේ සම්මේලනයට, පැමිණීමෙන් පසුව, රැස්වීම පටන් ගැනීමට දින කීපයකට පෙර ය),මනා සේ පැහැදිලිව පෙනිණ. ''ආර්ථිකවාදීන්'' නැවතත් බලයට පත්ව සිටියහ. ඒ අනුව, සැම ''සුලං'' රැල්ලක් සමගම නැමී ගිය කර්තෘ මණ්ඩලය, නැවතත් ''ඉතාමත් ප්‍රකට බර්න්ෂ්ටයින්වාදීන්'' හා ''විවේචනය කිරීමේ නිදහස'' ආරක්ෂා කිරීමටත්, ''සාංසිද්ධිකතාවය'' ආරක්ෂා කිරීමටත්, අප ගේ දේශපාලන බලපෑම (එම බලපෑම වඩාත් සංකීර්ණ කිරීමේ ප්‍රකාශිත අරමුණ ඇතිව) පිළිබඳ ක්ෂේත්‍රය ''සීමා කිරීමේ න්‍යාය'' මර්තිනව් ගේ කටින් දේශනා කරවීමටත්, කටයුතු ආරම්භ කර තිබේ. විධි ක්‍රමයන් මගින් අවස්ථාවාදියෙක් අල්ලා ගැනීම දුෂ්කර යයි

---

* රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සමස්තයක් වශයෙන් ගත් කල, නිතරම ''ශ්‍රම විමුක්තිය කණ්ඩායමේ ප්‍රතිපත්ති වලට පක්ෂ වූ බවත්, විදේශගත සංගමයේ විශේෂ සේවය වූයේ ප්‍රකාශක හා සංවිධානාත්මක ක්‍රියාකාරිත්වය බවත්, අපි ජූනි යෝජනාවල සංඥපනයෙහි සඳහන් කෙළෙමු. වෙනත් වචන වලින් කියතොත්, පසුගිය කාලය අමතක කිරීමට ද, අප ''අල්ලා ගැනීමට'' උත්සාහ කළ වැනෙන සුලු භාවය සම්පූර්ණයෙන්ම කෙළවර කරන්නේ නම්, විදේශගත ''සංගමයේ'' සහෝදර වරු කරන වැඩ (ව්‍යාපාරය සඳහා) ප්‍රයෝජනවත් වන බව පිළි ගැනීමට ද, අපගේ සම්පූර්ණ සූදනම් ප්‍රකාශ කෙළෙමු. ජූනි යෝජනා කියවූ ඕනෑම අපක්ෂපාත කෙනෙක්, ඒවා තේරුම් ගනු ඇත්තේ මේ අනුව පමණකි. ''ආර්ථිකවාදය'' කරා වූ තමන්ගේ නව නැම්මෙන් (අංක 10 හි ලිපි වලින් හා සංශෝධනවලින්) භේදයක් ඇති කළ විදේශගත සංගමය, ඔවුන්ගේ සේවය පිළිබඳව අප කියන ලද දෙය නිසා, අප අසත්‍ය ප්‍රකාශ කරන බවක් (''සම්මේලන දෙකක්'', පිටු 30) දැන් ගාම්භීර ලෙස චෝදනා කරන්නේ නම්, එවැනි චෝදනාවක් ඇත්ත වශයෙන් ම සමත් වන්නේ, සිනහ උපදවීමට පමණකි.



කියන පාර්වුස් ගේ උචිත නිරීක්ෂණය නිවැරදි බව, නැවත වරක් ඔප්පු වී තිබේ. අවස්ථාවාදය යනුවෙන් අදහස් කෙරෙන්නේ නිශ්චිත හා ස්ථිර ප්‍රතිපත්ති නොමැති කම ම වන හෙයින්, අවස්ථාවාදියෙක් ඕනෑම විධි ක්‍රමයකට කැමැත්තෙන් ම සිය නම අතසන් කර, එසේම කැමැත්තෙන්ම, එය අත් හැර දමයි. අද අවස්ථාවාදීන්, අවස්ථාවාදය ඉදිරිපත් කිරීමට දරන සියළු ප්‍රයත්නයන් ප්‍රතික්ෂේප කර ඇත. සියළු ආකාරයේ ම පටු ස්වභාවය ප්‍රතික්ෂේප කිරීමටත්, ''ඒකාධිපත්‍යය පෙරළා දැමීමේ කර්තව්‍යය ගැන මොහොතකට හෝ අමතක නො කිරීමටත්'', ''චේතන ශ්‍රමය හා ප්‍රාග්ධනය අතර දිනපතා අරගලය පමණක් පදනම වශයෙන් නො ගෙන උද්ඝෝෂණය'' ගෙන යාමට පොරොන්දු වීමටත් ආදිය සඳහා ඔවුන් ඉදිරිපත් වී ඇත. එහෙත් හෙට ඔවුන්ගේ කරුණු ප්‍රකාශ කිරීමේ ආකාරය වෙනස් කරමින්, සාංසිද්ධිකතාවයත්,නීරස සැමදෑ අරගලයේ ඉදිරි ගමනත්, ආරක්ෂා කිරීම හා ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි ඉල්ලීම් හුවා දැක්වීම යනාදිය දඩමීමා කරගෙන ඔවුන් ගේ පරණ ප්‍රයෝග නැවතත් ක්‍රියාත්මක කරනු ඇත. අංක 10 කලාපයේ පළ කරන ලද ලිපි නිසා"සම්මේලනයේ දී අනුමත කරගන්නා ලද පොදු ප්‍රතිපත්ති කෙරෙන් කිසිම මිථ්‍යා දෘෂ්ටික අපගමනයක් වන බව විදේශගත ''සංගමය'' දුටුවේ හෝ දැනුදු දක්නේ හෝ නැතැ''යි (''සම්මේලන දෙකක්'', පිටු 26) තව දුරටත් සත්ත කර ප්‍රකාශ කිරීමෙන් සිදු වන්නේ, අසමඵයන්ට හේතු වූ වැදගත් කරුණු වටහා ගැනීමට විදේශගත ''සංගමයේ'' සම්පූර්ණ නො හැකියාව, නැත හොත්, නො කැමැත්ත හෙළිදරව් වීම පමණකි.

''රබෝචිය දියල'' 10 වැනි කලාපයෙන් පසුව, අපට දැරිය හැකිව තිබුණේ එකම ප්‍රයත්නයක් පමණකි. එය නම්, එහි ලිපි හා කර්තෘ මණ්ඩලය සමග ''සංගමයේ'' සියළුම සාමාජිකයන් එකඟ වී දැයි නිශ්චය ලෙස දැන ගැනීම පිණිස, විවෘත පොදු සාකච්ඡාවක් ඇති කිරීම ය. විශේෂයෙන් ම මේ නිසා විදේශගත ''සංගමය'' අප සමග අමනාප වී තිබේ. ඒ අනුව, එහි සාමාජිකත්වය තුළ අසමගිය ඇති කිරීමට තැත් කිරීම හා අන් අය ගේ කටයුතු වලට ඇඟිලි ගැසීම ආදිය ගැන, එය අපට චෝදනා කරයි. මෙම චෝදනාව පදනම් විරහිත බව පැහැදිලි ය. හමා යන සැම සුලං රැල්ලක් සමගම ''නැමී යන'', තෝරා පත්කළ කර්තෘ මණ්ඩලයක් සිටින කල, සියළු දෙයක් ම රඳා පවතින්නේ සුලඟ හමන පැත්ත මත ය. එක්සත් වීමට බලාපොරොත්තු වන සංවිධානවල සාමාජිකයන් හැර, වෙනත් කිසිවෙක් පැමිණ නොසිටි රැස්වීම් වල දී, මෙම සුලං හමන පැත්ත අපි පැහැදිලි කෙළෙමු. විදේශගත ''සංගමයේ'' නමින් ජූනි යෝජනාවලට ඉදිරිපත් කෙරුණු සංශෝධනයන් කරනකොට ගෙන, සමගියක් වෙත එළඹීම සම්බන්ධයෙන් තිබුණ බලාපොරාත්තුවක් පිළිබඳ අන්තිම

සේයාවද ඉවත් විය. ''ආර්ථිකවාදය'' වෙතට යොමු වූ නව නැම්ම ද ''සංගමයේ'' සාමාජිකයන් බහුතරය ''රබෝචිය දියල'' අංක 10 සමග එකඟ වන බවද, ඔප්පු කරන ලිඛිත සාක්ෂියක් වශයෙන් මෙම සංශෝධන ගත හැකි ය. ආර්ථිකවාදයේ ප්‍රකට ස්වභාවයන් ගැන කෙරෙන සඳහනෙන්, ''ඊනියා ආර්ථිකවාදය'' යන වචන (ඒවායේ ''අර්ථය නො පැහැදිලියයි'' කියා) ඉවත් කිරීමටත් (එසේ නො පැහැදිලි නම් කළ යුතුව තිබුණේ මෙම පුළුල් ලෙස පැතිරී ගිය වරදෙහි වඩාත් පැහැදිලි විස්තරයක් දීම පමණකි), ''මිලියරාත්වාදය'' යන වචන (''රබෝචිය දියල'' අංක 2—3 පිටු 83—84 න් හා ඊටත් වඩා විවෘත ලෙස "Vorwärts"* හි ක්‍රිචෙව්ස්කි එයට පක්ෂව ලියා තිබුණක්) ඉවත් කිරීමටත් යෝජනා කරන ලදී. සෑම ආකාරයක ම දේශපාලන, ආර්ථික හා සමාජ පීඩනයන්ට විරුද්ධව නැග එනු පෙනෙන, සෑම නිර්ධන පංති අරගලයකටම මග පෙන්වීමත්, දක්නට ලැබෙන අරගල සියල්ලෙහිම ක්‍රමානුකූලතාවයක් හා සමගියක් ඇති කරන ලෙස හඬ නැගීමත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍යය වන බව ජූනි යෝජනා වල ස්ථිරව ම සඳහන් කර තිබුණේ වී නමුත්, විදේශගත ''සංගමය'' විසින් ''ආර්ථික අරගලය පොදු ජන ව්‍යාපාරයට බලවත් උනන්දු කාරකයක් වේ'' යන සම්පූර්ණයෙන්ම අනවශ්‍ය වචන ඊට එකතු කරන ලදී (තනි වශයෙන් ගත් කල, මෙම ප්‍රකාශයෙහි වරදක් දැක්විය නො හැකි නමුත්, පටු ''ආර්ථිකවාදය'' පවත්නා කල එය නියත වශයෙන් ම බොරු අර්ථ නිරූපනයන් කිරීමට හේතු වනු ඇත). එපමණක් නොව, ඒකාධිපත්‍යය පෙරළා දැමීමේ අරමුණ අමතක කිරීම) ''මොහොතකට හෝ'' (අමතක නො කළ යුතුය) යන වචන ලොප් කිරීමෙන් හා ''පොදු ජනතාව ක්‍රියාශීලී ලෙස දේශපාලන අරගලයට ඇද ගැනීම සඳහා ඉතාමත් පුළුල් ලෙස යොද ගත හැකි මාධ්‍යය ආර්ථික අරගලය වේ'' යන වචන එකතු කිරීමෙන් ''දේශපාලනය'' එක එල්ලේ ම අවහිර කොට තැබීම පවා ජූනි යෝජනාවලට ඇතුලත් කිරීමේ අදහසද ඉදිරිපත් කරන ලදී. මෙම සංශෝධන ඉදිරිපත් කිරීමෙන් පසුව, ස්වාභාවික වශයෙන් ම, අප ගේ පැත්තේ කථිකයෝ තව දුරටත් කථා කිරීම එක දිගටම ප්‍රතික්ෂේප කළහ. නැවතත් ආර්ථිකවාදය වෙත හැරෙමින් සිටින, ඒ මේ අත වැනීම සඳහා නිදහස ලබා ගැනීමට උත්සාහ කරන, අය සමග තවත් සාකච්ඡා කිරීමෙන් ප්‍රයෝජනයක් නොවන බව ඔවුහු කල්පනා කළහ.

* මෙම විෂය ගැන වර්තමාන "Vorwärts" කර්තෘ වන කෞට්ස්කි හා ''සර්යා'' කර්තෘ මණ්ඩලය අතර විවාදයක් ආරම්භ විය. මෙම මත භේදය ගැන රුසියානු කියවන්නාට කරුණු දැක්වීමට අමතක නො-කරන්නෙ මු.[205]



''ඉස්ක්‍රා පත්‍රය අදහස් කළ ලෙසට එකඟත්වයට බාධකය වූයේ අපගේ අනාගත එකඟත්වයේ කල් පැවැත්ම සඳහා sine qua non* දෙයක් ලෙසට විදේශ ගත සංගමය විසින් සලකන ලද, ''රබෝචිය දියල'' ස්වාධීන අංග ලක්ෂණ හා ස්වෛරී භාවය පවත්වා ගැනීමමය'' (''සම්මේලන දෙකක්'', පිටු 25). මෙය ඉතාමත් සාවද්‍ය කියමනකි. ''රබෝචිය දියල''සහරාවේස්වෛරී භාවයට**විරුද්ධ අරමුණක් අප තුළ කිසි කලෙකත් තිබුණේ නැත. එහෙත්, ''ස්වාධීන අංග ලක්ෂණ'' යනුවෙන් අදහස් කරන්නේ, න්‍යාය හා ව්‍යවහාරය සම්බන්ධයෙන් වූ ප්‍රතිපත්තිමය ප්‍රශ්න ගැන වූ ස්වාධීනත්වය නම්, එවැනි ස්වාධීන අංග ලක්ෂණ පිළිගැනීම අපි සම්පූර්ණයෙන් ම ප්‍රතික්ෂේප කරමු. අප පෙන්වා දී තිබෙන පරිදි, ව්‍යවහාරික වශයෙන් නිතරම එවැනි ''ස්වාධීන අංග ලක්ෂණ වල'' අර්ථය වන්නේ, අප අතර පවතින අසමගිය වැඩි දියුණු කරන හා පක්ෂ අදහස අනුව නො ඉවසිය හැකි, නොයෙක් ආකාර වැනෙන සුලු තත්වයන් ගැනීම වන හෙයින්, එවැනි ස්වාධීන අංග ලක්ෂණ තරයේ ප්‍රතික්ෂේප කිරීමක්, ජූනි යෝජනාවල අඩංගුය. එහි සංශෝධන හා සමග ගත් කළ ''රබෝචිය දියල'' එහි දඟ වැනි කලාපයේ පළ කළ ලිපි වලින් පෙනී ගියේ, මෙම ආකාරයේ ස්වාධීන අංගලක්ෂණ තබා ගැනීමට එය කැමති බව ය. එ වැනි අභිලාෂයක් නිසා ස්වාභාවික වශයෙන් ම භේදයක් ඇති වීමටත්, යුද්ධ ප්‍රකාශයකටත්, මඟ විවෘත විණි. එසේ වුවද, ''රබෝචිය දියල'' නිශ්චිත සාහිත්‍යමය කර්තව්‍යයන් කෙරෙහි අවධාරණය යොද කටයුතු කිරීමේ අර්ථයෙන්, එහි ස්වාධීන අංග ලක්ෂණ පිළිගැනීමට අපි සියළු දෙනා ම සූදනම්ව සිටියෙමු. මෙම කාර්යයන් නිසි ලෙස බෙද හැරීම සඳහා 1) න්‍යායික සහරාවක්, 2) දේශපාලන ප්‍රවෘත්ති පත්‍රයක්, 3) ජන ප්‍රිය ලිපි එකතුවක් හා ජන ප්‍රිය පත්‍රිකා පළ කිරීම අවශ්‍ය විය. ජූනි යෝජනාවල ඉලක්කය වූ ස්වකීය වැරදි අවසාන වශයෙන් ම අත් හැරීමට ''රබෝචිය දියල'' අවංකව ම කැමති බව ඔප්පු කිරීමට තිබුණු එකම ක්‍රමය එවැනි කාර්ය බෙද ගැනීමකට එකඟ වීම ය. ගැටුම් ඇති වීමේ සියළුම හැකියාවන් ඉවත් කිරීමට හා කල් පවත්නා එකඟත්වයක් සාර්ථක වශයෙන් සහතික කිරීමටත්, ඒ අතර ම අප ව්‍යාපාරයේ පූර්ණ ජීවනයකට හා නව ජයග්‍රහණයන්ට පදනමත් ලෙසට උපස්ථම්භක වීමටත් ඉඩ තිබුණේ එවැනි කාර්ය බෙද ගැනීමකින් පමණකි.

* නැතුවම බැරි — සංස්කාරක

** මෙසේ වන්නේ ඒකාබද්ධ සංවිධාන හා ඒකාබද්ධ උත්තර මණ්ඩලයක් පිහිටුවීම සම්බන්ධයෙන් කර්තෘ මණ්ඩලය මගින් තොරතුරු විමසීම ස්වෛරී භාවය සීමා කිරීමක් ලෙස නොසලකතොත් ය. එහෙත්, ජූනි මාසයේදී ''රබෝචිය දියල'' මීට එකඟ විය.

විප්ලවවාදී හා අවස්ථාවාදී ප්‍රවණතාවයන් අතර අවසාන භේදය ඇති වූයේ ''සංවිධානමය'' හේතු නිසා නොව, අවස්ථාවාදයේ ස්වාධීන අංග ලක්ෂණ තහවුරු කර ගැනීමටත්, ක්‍රිචේව්ස්කිලා ගේ සහ මර්තිනව්ලා ගේ විවරණ මගින් තව දුරටත් සිත් අවුල් කිරීමට අවස්ථාවාදීන් දක්වන කැමැත්ත නිසා වන බව අනුමාන කිරීමට, දූන් එක ද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකුට වත් ඉඩක් නොමැත.

## ''කළ යුත්තේ කුමක්ද''? නිදෙස් කිරීම

විදේශගත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංගමය යළි එක්සත් කිරීම සඳහා දරන ලද ප්‍රයත්නයේ දී, ඒ සම්බන්ධයෙන් ''මූලාරම්භකයන්ගේ කණ්ඩායම'' ඉටු කළ කාර්ය කොටස ගැන ''කළ යුත්තේ කුමක්ද?'' නැමති පොතෙහි කර ඇති විස්තරය පහත සඳහන් පරිදි නිදෙස් කරන ලෙස එම කණ්ඩායම මගෙන් ඉල්ලා ඇත. ''මෙම කණ්ඩායමේ සාමාජිකයන් තිදෙනා අතුරෙන්, එක් අයෙක් පමණක් 1900 අගදී විදේශගත ''සංගමයෙන්'' ඉවත් විය. අනිත් දෙදෙනා ඉවත් වූයේ, ''මූලාරම්භකයන්ගේ කණ්ඩායම'' යෝජනා කළ ලෙසට, විදේශගත ''ඉස්ක්‍රා'' සංවිධානයත්, ''විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රික සංවිධානයත්'' සමග සාකච්ඡාවක් කිරීමට සංගමයේ එකඟත්වය ලබා ගැනීම කිසි සේත් කළ නොහැකි බව අවබෝධ වීමෙන් පසුව 1901 දී ය. ''මූලාරම්භකයන්ගේ කණ්ඩායමට'' ඇතුළත් අය, මැදිහත් වන්නන් ලෙස කටයුතු කිරීමට සුදුස්සන් නොවන බවට තර්ක කරමින්, ප්‍රථමයෙන් යෝජනාව ප්‍රතික්ෂේප කළ ''සංගමයේ'' පාලක කාරක සභාව, විදේශගත ''ඉස්ක්‍රා'' සංවිධානය සමග කෙළින්ම සම්බන්ධකම් ඇති කර ගැනීමේ කැමැත්ත ප්‍රකාශ කළේය. එසේ වුවද, ඒ නොබෝ කලකින්ම, ''සංගමයේ'' පාලක කාරක සභාව ''මූලාරම්භකයන්ගේ කණ්ඩායම'' වෙත දන්වා එවූයේ, ''සංගමයේ'' භේදය ගැන වාර්තාව ඇතුලත් ''ඉස්ක්‍රා'' පත්‍රයේ ප්‍රථම කලාපය පළ කිරීමෙන් පසුව, එය ස්වකීය තීරණය වෙනස් කළ බව හා ''ඉස්ක්‍රා'' පත්‍රය සමග සම්බන්ධකම් පැවැත්වීමට තව දුරටත් කැමැත්තක් නොමැති බව ය. මෙයින් පසුව, ''මූලාරම්භකයන්ගේ කණ්ඩායම'' සකස් වී ඇති ආකාරය ගැන නොසතුටු වූ නිසාම පමණක්, විදේශගත ''සංගමය'' සාකච්ඡාවක් කිරීම ප්‍රතික්ෂේප කළේ යයි කියන, එම ''සංගමයේ'' පාලක කාරක සභාවේ සාමාජිකයෙකුගේ කථාව කෙසේ නම් පැහැදිලි කළ හැකිද? එමෙන්ම පසුගිය අවුරුද්දේ ජූනි මාසයේ දී විදේශගත ''සංගමයේ'' පාලක කාරක සභාව සාකච්ඡාවට එකඟ වූයේ මන්ද යන්න ද තේරුම් කිරීම දුෂ්කර ය. එම අවස්ථාව වන විට ද, ''ඉස්ක්‍රා'' ප්‍රථම කලාපයේ ලිපි බල පැවැත්තේ ය. ''ඉස්ක්‍රා'' පත්‍රය විදේශගත ''සංගමය'' කෙරෙහි දක්වූ ''ප්‍රතිෂේධාත්මක'' ආකල්පය ඊටත් වඩා තදින් ''සර්යා'' අංක 4 කලාපයෙන් ප්‍රකාශිතව තිබුණි. මේ දෙකම නිකුත් කර තිබුණේ ජූනි සම්මේලනයට ප්‍රථමයෙනි.

එන්. ලෙනින්

''ඉස්ක්‍රා'' අංක 19,
1902 අප්‍රියෙල් 1

මෙම පරිවර්තනය කරන ලද්දේ වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘතීන්, පස්වැනි මුද්‍රණය, 6 වැනි වෙළුම අනුවය, පිටුව 192

## සංස්කාරකගේ සටහන්

1 ලෙනින්, ''කාල් මාක්ස් (මාක්ස්වාදය ගැන විවරණයක් සමග ජීවන චරිතය ලුහුඬින් නැමැති ලිපිය ලීවේ'' එම කාලයේ රුසියාවේ වඩාත් ජනප්‍රියව පැවනි ග්‍රනාත් ප්‍රකාශකයින් විසින් පළකරන ලද විශ්ව-කෝෂ අකාරාදිය සඳහාය. පොතෙහි 1918 මුද්‍රණය සඳහා ඔහු ලියූ පෙරවදනෙහි ලිපිය ලියන ලද දිනය 1913 ලෙසට ඔහු මතකයෙන් සඳහන් කළේය. ඇත්ත වශයෙන්ම ඔහු 1914 වසන්තයේදී පොරෝනින්හිදී එය ලිවීම ආරම්භ කළේය. එහෙත් පක්ෂ වැඩ කට යුතුවලට හා ''ප්‍රාව්ද'' පුවත් පතේ වැඩකටයුතුවලට වැඩි කාලයක් යෙදවීමට සිදුවූ නිසා ලිපිය ලිවීම අතරමග නතර කිරීමට සිදුවිය. ලෙනින්, බර්න් (ස්විට්සර්ලන්තය) නගරයට පැමිණීමෙන් පසු සැප්තැම්බර් මස නැවත ලිපිය ලිවීම ආරම්භ කර නොවැම්බර් මස මුල්භාගයේදී එය අවසාන කළේය.

1915 මුද්‍රණය කරන ලද විශ්ව කෝෂ අකාරාදියේ 28 වැනි වෙළුමේ (7 වැනි මුද්‍රණය) ''කාල් මාක්ස්'' නැමැති ලිපිය අසම්පූර්ණ ලෙස පළ කරන ලද අතර එහි අවසානයට වී. ඉලීන් යනුවෙන් අත්සන යොද තිබිණි. පුවත් පාලක හේතු නිසා ''සමාජවාදය'' සහ ''නිර්ධන පංතියේ පංති අරගලයෙහි උපක්‍රම'' යන පරිච්ඡේද දෙක අත්හැර පොතෙහි වෙනස්කිරීම් ගණනාවක්ද සිදුකරන ලදී. ''මාක්ස් ධර්මය පිළිබඳ ග්‍රන්ථාවලිය'' එහි අවසානයට අතිරේකයක් ලෙස එකතුකර තිබුණි.

1918 දී ''ප්‍රිබොයි'' ප්‍රකාශකයෝ ග්‍රනාත් අකාරාදියේ පළවූ පරිදිම මෙම ලිපිය කුඩා පොතක් ලෙසට නිකුත් කළහ. ග්‍රන්ථාවලිය එහි ඇතුලත්කොට නොතිබිණි. අත් පිටපතෙන් කෙලින්ම ගත් සම්පූර්ණ ලිපිය රුසියානු කොමියුනිස්ට් පක්ෂ මධ්‍යම කාරක

සභාවේ ලෙනින් ආයතනය විසින් 1925 නිකුත් කරන ලද වි. අයි. ලෙනින්, ''මාක්ස්, එංගල්ස් සහ මාක්ස්වාදය'' යන සංග්‍රහයෙහි පළකරන ලදී.

''මාක්ස් ධර්මය පිළිබඳ ග්‍රන්ථාවලිය'' මෙම පොතෙහි පළ නොවේ.

2 මෙන්ෂෙවික්වාදියෝ — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී ප්‍රවණතාවයකි.

1903 දී පවත්වන ලද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී පක්ෂයේ මධ්‍ය සංවිධානවලට සභිකයින් තේරීම සඳහා ඡන්දය විමසීමේදී ලෙනින්ගේ නායකත්වයෙන් යුත් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට බහුතර ඡන්ද සංඛ්‍යාවක්ද (එතැන්සිට බහුතරය යන අර්ථය ඇති බොල්ෂෙවික් යන නමින් ඔවුන් හැඳින්විණි), අවස්ථාවාදීන්ට අල්පතර ඡන්ද සංඛ්‍යාවක්ද (අල්පතරය යන අර්ථය ඇති ''මෙන්ෂෙවික්'' නමින් එතැන් සිට ඔවුන් හැඳින්විණි) ලැබුණේය.

1905-1907 විප්ලවය සමයේදී මෙන්ෂෙවිකයෝ විප්ලවයේදී කම්කරු පංතිය මුල් තැනක් ගැනීමට විරුද්ධවද කම්කරු පංතියේ සහ ගොවීන්ගේ සංධානයට විරුද්ධවද නැගී සිටියහ. විප්ලවයේ නායකයා බවට ලිබරල් මත දරන ධනපතියා පත්විය යුතුයයි කියා සිටි ඔවුහු ඔවුන් සමග සම්මුතියකට පැමිණෙන ලෙසද ඉල්ලා සිටියහ. 1905-1907 විප්ලවයේ පරාජයෙන් පසු ප්‍රතිගාමීත්වය පැන නැගි විට, මෙන්ෂෙවික් වරුන්ගෙන් වැඩි දෙනෙක් ලික්විඩේටර් වරුන් බවට පත්වූහ. කම්කරු පංතියේ විප්ලවවාදී නීතිවිරෝධී පක්ෂය විසුරුවා හරින ලෙස ඔවුහු ඉල්ලා සිටියහ. 1917 පෙබරවාරි මාසයේදී ඇතිවූ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසු තාවකාලික ආණ්ඩුවට ඇතුලුවූ මෙන්ෂෙවික්වාදීහු එම ආණ්ඩුවේ අධිරාජ්‍යවාදී පිළිවෙතට ආධාර දෙමින්, සමාජවාදී විප්ලවයට සූදනම් වීමට විරුද්ධව සටන් කළහ.

ඔක්තෝබර සමාජවාදී විප්ලවයෙන් පසු මෙන්ෂෙවික්වරු එළිපිටම ප්‍රතිවිප්ලවවාදී පක්ෂයක් ලෙස පෙනී සිටිමින්, සෝවියට් බලය පෙරලා දැමීම සඳහා කුමන්ත්‍රණ හා කැරළි සංවිධානය කොට ඒවාට සහභාගි වූහ.

3 වාම හෙගල්වාදීන් නැතහොත් තරුණ හෙගල්වාදීන් — ජර්මන් දර්ශනවාදයේ විඥානවාදී උපනතියකි. එය දහනවවැනි ශත වර්ෂයේ



තිස් හා හතළිස් ගණන්වල පැතිර පැවැත්තේ ය. ජර්මනියේ ධනපති ප්‍රතිසංස්කරණ අවශ්‍ය බව ඔප්පු කිරීම පිණිස හෙගල් ගේ දර්ශනය අනුව උන්නතිකාමී තර්ක සකස් කර ගැනීමට තරුණ හෙගල්වාදීහු උත්සාහ කළහ.

මෙම ගුරුකුලයෙහි නායකයන් වූයේ ෂ්ත්‍රවුස්, බෞවර් සහෝදරවරු, ෂ්තිර්නර් හා තවත් සමහර දෙනෙකි. එක්තරා කලකට ෆෙයාර්බාහ් ද, තරුණ වියේ සිටි මාක්ස් හා එංගල්ස් ද ඔවුන් සමග සම්බන්ධ වූහ. පසුව තරුණ හෙගල්වාදීන්ගෙන් ඈත් වූ ඔවුහු, එම උපනතියෙහි අන්තර්ගත විඥානවාදී, සුළු-ධනපති හරය ''ශුද්ධ පවුල'' (1844) කෘතියෙන් ද, ''ජර්මන් දෘෂ්ටිය'' (1845—1846) කෘතියෙන් ද විවේචනය කළහ.

4 ෆ්‍රෙඩරික් එංගල්ස්. ''ලුද්විග් ෆෙයාර්බාහ් සහ ජර්මන් මූලික දර්ශනයේ අවසානය'' පළමුවැනි පරිච්ඡේදය.

5 “Rheinische Zeitung für Politik, Handelund Gewerbe” (''දේශපාලනමය, වාණිජමය සහ නිෂ්පාදනමය ප්‍රශ්න පිළිබඳ පුවත්පත'') — 1842 ජනවාරි 1 වැනි දින සිට 1843 මාර්තු 31 වැනි දින දක්වා කොලෝන් නගරයේ පළවූ දිනපතා පුවත්පතකි. ප්රුසියානු ඒකාධිපතිවාදයට විරුද්ධව නැගී සිටි රයින් ධනපති පංතිය විසින් මෙම පත්‍රය ආරම්භ කරන ලදී. සමහර වාම හේගල්වාදීන්ද මෙම පත්‍රයේ සේවය සඳහා යොදවනු ලැබිණි. 1842 අප්‍රියෙල් සිට කාල් මාක්ස් “Rheinische Zeitung” පත්‍රයේ සේවය කළ අතර ඔක්තෝබර් මාසයේ සිට එහි එක් කර්තෘවරයෙක් බවට පත්විය. මාක්ස් කර්තෘ තනතුර භාරගත් පසු පත්‍රයේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී නැඹුරුව වඩ වඩාත් බලවත් විය. 1843 ජනවාරි 1 වැනි දින ''Rheinische Zeitung'' පත්‍රය වසාදමන ලෙස ප්රුසියන් රජය නියම කළේය. එය වසාදැමීමට පෙර දැඩි පුවත්පත් පාලනයක් පැනවිය. ''Rheinische Zeitung'' හි හවුල්කරුවන් එයට වෙනත් මුහුණවරක් දීමට කැමැත්ත දක්වා සිටීම නිසා මාක්ස් 1843 මාර්තු මාසයේ 17 වැනි දින පත්‍රයේ කතු මඩුල්ලෙන් ඉල්ලා අස්විය.

6 මෙහි සඳහන් වන්නේ වි. අයි. ලෙනින් විසින් ''කාල් මාක්ස්'' නැමැති ලිපිය සඳහා පිළියෙළ කළ ග්‍රන්ථාවලිය යි(මෙම පොතෙහි ග්‍රන්ථාවලය පළ නොවේ.—සංස්කාරක).

7 මෙහි සඳහන් කෙරෙන්නේ ''මෝසල් වාර්තාකරු නිදහස් කිරීම'' යනුවෙන් කාල් මාක්ස් ලියූ ලිපිය ගැනය.

8 ලෙනින් මෙහිදී සඳහන් කරන්නේ කාල් මාක්ස්ගේ හා අර්නෝල්ද් රූගේ ගේ සංස්කරනය යටතේ ජර්මන් බසින් පැරිසියේදී පළ කරන ලද "Deutsch-Französische Jahrbücher" ("ජර්මන්-ප්‍රංශ වාර්ශිකය") නැමැති සඟරාව ගැනය. 1844 පෙබරවාරි මාසයේදී පළමුවැනි ද්විත්ව කලාපය පමණක් පළවිය. මෙහි පළ වූ කාල් මාක්ස්ගේ හා ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ ලිපිවලින් ද්‍රව්‍යවාදය හා කොමියුනිස්ට්වාදය කරා ඔවුන්ගේ නැඹුරුවීම පැහැදිලිව පෙණිනි. ධනවාදී රූගේ සමග මාස්ගේ ඇතිවූ ප්‍රතිපත්තිමය අසමථයන් මෙය පළ කිරීම අත්හැර දැමීමට ප්‍රධාන හේතුව විය.

9 කාල් මාක්ස්. "හෙගල්වාදී දර්ශනවාදී නීතියේ විවේචනය ගැන. හැඳින්වීම".

10 ප්‍රැදෝන්වාදය — ධනපති සමාජවාදයේ මාක්ස්වාදයට විරුද්ධ අවිද්‍යාත්මක ප්‍රවනතාවයකි. එය ප්‍රංශ ජාතික විඥනවාදියෙකු හා අරාජිකවාදියෙකු වන ප්‍රැදෝන්ගේ නමින් හඳුන්වනු ලැබිණි. සුළු ධනපති ස්ථාවරයෙන් ලොකු ධනපති දේපල හිමිකම විවේචනය කළ ප්‍රැදෝන් සුළු-ධනපති දේපල හිමිකම චිරස්ථායි කිරීම පිළිබඳ සිහින මැව්වේය. නිෂ්පාදන මාර්ග අත්කර ගැනීමටත්, හස්ත කාර්මික ශිල්පීන් බවට පත්වීමටත් කම්කරුවන්ට ආධාරකාරී වන හා ඔවුන්ගේ වෙළඳ භාණ්ඩ "සාධාරන" ලෙස අළෙවි කර ගැනීමට පහසුකම් සහතික කරන "මහජන" හා "විනිමය" බැංකු පිහිටුවන ලෙස ඔහු යෝජනා කළේය. ප්‍රැදෝන් නිර්ධන පංතියේ ඓතිහාසික කාර්යභාරය තේරුම් නොගත්තේය. ඔහු පංති අරගලය කෙරෙහිද, නිර්ධන පංතික විප්ලවය හා නිර්ධන පංතික ආඥදයකත්වය කෙරෙහිද දක්වූයේ ප්‍රතිවිරුද්ධ ආකල්පයකි; ආරාජකවාදී ලෙස රජයක ආවශ්‍යකත්වය බැහර කළේය. මාක්ස් "දර්ශනයේ දිළිඳුකම" යන තම කෘතියෙන් ප්‍රැදෝන්වාදය නිර්ධය ලෙස විවේචනයට භාජනය කළේය.

11 කොමියුනිස්ට් ලීග් — විප්ලවවාදී නිර්ධන පංතියේ ප්‍රථම ජාත්‍යන්තර සංවිධානය වූ මෙය 1847 ග්‍රීස්ම ඍතුවේදී ලන්ඩනයේ දී පිහිටුවන ලදී.

ලීගය සංවිධානය කළ හා මෙහෙය වූ මාක්ස් හා එංගල්ස් එහි වැඩ පිළිවෙළ හා සංවිධානාත්මක මූලධම් සක් කළ අතර එහි වැඩ පිළිවෙළ වූ "කොමියුනිස්ට් ප්‍රකාශනය" ද ලිවූහ. එය (පළමුවැනි ජාත්‍යන්තරය වූ) ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ පූර්වගාමියා විය. එය 1852 දක්වා පැවැත්තේය. එහි ප්‍රමුඛතම සාමාජිකයෝ, පසුව පළමුවැනි ජාත්‍යන්තරයේ නායක කාර්ය කොටසක් ඉටු කළහ.

12 මෙහි සඳහන් වන්නේ 1848 පෙබරවාරියේදී ප්‍රංශයේ ඇති වූ ධනපති විප්ලවය පිළිබඳව ය.

13 1848 මාර්තු මස ජර්මනියේ හා ඕස්ත්‍රියාවේ ඇති වූ ධනපති විප්ලවය පිළිබඳවය මෙහි සඳහන් වන්නේ.

14 "නව රයින් පත්‍රය" ("Neue Rheinische Zeitung") මෙය 1848 ජූනි 1 පටන් 1849 මැයි 19 දක්වා කොලෝන්හි පළ කෙරිණ. මාක්ස් හා එංගල්ස් ප්‍රවෘත්ති පත්‍රය පවත්වා ගෙන ගිය අතර මාක්ස් එහි ප්‍රධාන කර්තෘ විය. පත්‍රය "විප්ලවවාදී නිර්ධන පංතියේ ශ්‍රෙෂ්ඨ පුවත්පතක් ව" පැවති බව ලෙනින් සඳහන් කරයි. සියළුම දේශපාලන තර්ජන, ලුහුබැඳීම් අභිබවා "නව රයින් පත්‍රය" විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ හා නිර්ධන පංතියේ ආවශ්‍යකතාවයන් නිර්භය ලෙස ආරක්ෂා කළේය. මාක්ස් රටින් නෙරපීමත්, අනිකුත් කර්තෘවරුන්ට තාඩන පීඩන කිරීමත් නිසා, "නව රයින් පත්‍රය" පළ කිරීම නතර කිරීමට සිදු විය. අවසාන කලාපය (අංක 301) 1849 මැයි 19 දින රතු මුද්‍රණයෙන් නිකුත් විය. කම්කරුවන් අමතා සමු ගැනීමේ කථාවක් පළ කළ කර්තෘවරු "සෑම විටම හා සියළු තන්හිම ඔවුන්ගේ අවසාන වදන වන්නේ, කම්කරු පංතියේ විමුක්තිය!" යි කීහ. (එංගල්ස් ලියූ "මාක්ස් සහ නව රයින් පත්‍රය" යන ලිපිය බලන්න — මාක්ස් සහ එංගල්ස්, "එකතු කළ කෘති" වෙළුම II, මොස්කව්, 1958, පිටු 336).

15 මෙහි සඳහන් වන්නේ 1848 විප්ලවය විසින් පිළිගන්නා ලද ව්‍යවස්ථාව, ජනාධිපති තුමා හා ව්‍යවස්ථාදායක සභාවේ බහුතරය විසින් උල්ලංඝනය කිරීමට විරුද්ධව සුළු ධනපති පක්ෂය ("කන්ද") විසින් සංවිධානය කරන ලද පැරිසියේ පැවැත් වූ පෙළපාලිය පිළිබඳවය. රජය විසින් පෙළපාලිය විසුරුවා හරින ලදී.

16 ලෙනින් මෙහි අදහස් කරන්නේ 1913 සැප්තැම්බර් මස ජර්මනියෙහිදී වෙළුම් 4 කින් යුක්තව පළ වූ එංගල්ස් හා මාක්ස් ඔවුනොවුන් වෙත ලියූ ලිපි එකතුව පිළිබඳවය.

17 බොනපාට් ඒජන්තවරයෙකු වූ කාල් ෆෝග්ත්ගේ " "Allgemeine Zeitung" ට විරුද්ධව මගේ ක්‍රියාදමය'' නැමැති අපවාද සහගත කුඩා පොතට පිළිතුර වශයෙන් කාල් මාක්ස් විසින් ලියන ලද ''ෆෝග්ත් මහතා''නැමැති පොත් පිංච මෙහිදී ලෙනින් අදහස් කරයි.

18 ''ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ ව්‍යවස්ථාදයක ප්‍රකාශනය'' මෙහිදී අදහස් කෙරේ.

19 පැරිස් කොමියූනය — 1871 මාර්තු 18 වැනි දින පැරිසියේ විප්ලවය විසින් ගොඩනගන ලද ඉතිහාසයේ පළමුවැනි නිර්ධන පංතික ආඥාදායකත්වයේ හා කම්කරු පංතික රජයේ අත්හද බැලීමයි. 1871 මැයි 28 වැනිද දක්වා අක්වා දින 72 ක් එය පැවතිණි.

20 බකූනින්වාදීන් — මිහයිල් බකූනින්ගේ අනුගාමිකයින් ය. බකූනින් අරාජිකවාදී න්‍යායාචාර්යවරයෙක් විය. ඔහු මාක්ස්වාදයේ හා විද්‍යාත්මක සමාජවාදයේ පරම සතුරෙක් විය.

බකූනින්වාදීහු, මාක්ස්වාදී න්‍යායටත්, කම්කරු පංතියේ මාක්ස්වාදී උපක්‍රමවලටත් විරුද්ධව උග්‍ර අරගලයක් කළහ.බකූනින්වාදයේ මූලික ශික්ෂා පදය වූයේ, නිර්ධන පංති ආඥාදායකත්වය ඇතුලත්ව සියළුම රාජ්‍ය ආකෘති ප්‍රතික්ෂේප කිරීම ය. නිර්ධන පංතියට පැවරුනු ඓතිහාසික කාර්ය කොටස ගැන බකූනින්වාදීන්ට නොවැටහිණ. ''විශිෂ්ඨ ජනයා'' ගෙන් සැදුම් ලත් රහසිගත විප්ලවවාදී සමාජයක් බකූනින්වාදීන්ගේ අදහස් අනුව පොදු ජන කැරළිවලට නායකත්වය දිය යුතුය. කුමන්ත්‍රණය, ක්ෂණික කැරළි හා ත්‍රස්ත ක්‍රියා පිළිබඳ ඔවුන්ගේ උපක්‍රම හුදු සූදුවක් බඳු විය. ඒවා පොදු ජන නැගිටීම පිළිබඳ මාක්ස්වාදී න්‍යායට පටහැණි විය.

21 කාල් මාක්ස් හා ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ශුද්ධ පවුල'', හයවැනි පරිච්ඡේදය.

22 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ඩූරිං විරෝධය'', හැඳින්වීම. 1. පොදු සටහන්.

23 අඥෙයවාදය — (අ-නෙ, ග්නොසිස් — යන ග්‍රීක් වචනවලින් බිඳී ආවකි) ලෝකය ප්‍රජානන කර නොහැකි යයි ද, මනුෂ්‍ය මනස සීමාවී ඇති බව හා මනසේ සීමාවට පිට කිසිම දෙයක් ප්‍රජානන කර නොහැකි යයි ද ස්ථිර කරන විඥානවාදී ඉගැන්වීමකි.අඥෙයවාදය විවිධාකාරයෙන් ඉස්මතුවේ: සමහරු වස්තූන් පවතින බව පිළිගන්නා මුත් ඒවා අවබෝධ කර ගත නොහැකි යයිද,තව සමහර අඥෙයවාදීහු, මිනිසාගේ මනසට පිට යමක් පවතීදැයි ඔහුට අවබෝධ කර ගැනීමට බැරි බව කියමින් ඒ මත පදනම්ව වස්තූන් නොපවතින බවද පිළිගනිති.

විවේචනවාදය — කාන්ත් ඔහුගේ විඥානවාදී දර්ශනයට ''විවේචනවාදය'' යන නම තැබුවේ ය. ඔහු කල්පනා කළ ලෙසට දර්ශනවාදයේ අරමුණ වූයේ මිනිසාගේ ප්‍රජානන හැකියාව විවේචනය කිරීම ය. කාන්ත්ගේ ''විවේචනය'' අනුව, වස්තූන්ගේ ස්වභාවය ගැන මිනිස් තර්කය අනුව ප්‍රජානනය කළ හැකිය යන මතය බැහැර කිරීමට ඔහු යොමු විය.

ඉන්ද්‍රියානුභූතවාදය — ප්‍රංශ දර්ශනවාදියෙකු වූ කොන්ත් විසින් (1798-1857) ආරම්භ කරන ලද පුළුල් ලෙස පැතිරීගිය ධනපති දර්ශනවාදී හා සමාජ ශාස්ත්‍රීය උපනතියකි. ඉන්ද්‍රියානුභූතිවාදීහු ස්වාභාවික අභ්‍යන්තර බැඳීම් හා සම්බන්ධතාවයන් පිළිබඳ ප්‍රජානන හැකියාවත්, වෙනස් වන වාස්තවික ලෝකය ගැන දැන ගැනීමේ හා වෙනස්වීමේ මාර්ගයක් වශයෙන් දර්ශනවාදයෙහි ඇති වැදගත් කමත් බැහැර කරති. ඔවුහු දර්ශනය සරල කර, එය, විද්‍යාවේ විවිධ ශාඛාවන් විසින් එකතු කරන දත්තයන් ද, නිරීක්ෂණයේ ඍජු ප්‍රතිඵල, එනම් ''ඉන්ද්‍රිය ගෝචර'' කරුණු වලින් පැන නගින ප්‍රතිඵල ගැන මතු පිටින් කරන විස්තරයකට ද සීමා කරති. තමන්, විඥානවාදයටත්, ද්‍රව්‍යවාදයටත් වඩා ''ඉහළින්'' සිටින බව ඉන්ද්‍රියානුභූතවාදීහු කල්පනා කරති. එහෙත් ඔවුන්ගේ දහම වාස්තවික විඥානවාදයේ එක් ප්‍රභේදයක් පමණකි.

24 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ලුඩ්විග් ෆ්‍රොයර්බාහ් සහ ජර්මන් මුල් දර්ශනයේ අවසානය'' දෙවන පරිච්ඡේදය.

25 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ඩූරිං විරෝධය'' (මුද්‍රණ තුන සඳහා ලියන ලද සංඥාපනය, 1. පොදු සටහන්).

26 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ලුඩ්විග් ෆ්‍රොයර්බාහ් සහ ජර්මන් මුල් දර්ශනයේ අවසානය'' (හතරවැනි පරිච්ඡේදය පළමුවැනි ඡේදය).

27 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ඩූරිං විරෝධය'' (පළමුවැනි පරිච්ඡේදය. පොදු සටහන්).

28 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ලුඩ්විග් ෆේයර්බාහ් සහ ජර්මන් මුල් දර්ශනයේ අවසානය'' (දෙවැනි පරිච්ඡේදය).

29 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය,'' වෙළුම 1 (අටවැනි පරිච්ඡේදය. යන්ත්‍ර සහ මහා පරිමාන කර්මාන්තය. 1. යන්ත්‍ර දියුණු වීම).

30 ප්‍රතිසංස්කරණය — ප්‍රංශ ඉතිහාසයේ මෙය 1814 හා 1830 අතර කාලය විය. මෙම කාලය තුළ බලය පැවතියේ 1872 ප්‍රංශ විප්ලවයේදී බලයෙන් පහකරන ලද, පසුව නැවත බලයට පත්කරන ලද බුර්බන් රජ පවුලේ සාමාජිකයින් අතේ ය.

31 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය,'' වෙළුම 1, (පළමුවැනි පරිච්ඡේදය. වෙළඳ භාණ්ඩ. 4. වෙළඳ භාණ්ඩ වන්දනාව සහ එහි රහස).

32 කාල් මාක්ස්. ''දේශපාලන අර්ථ ශාස්ත්‍රය විවේචනය ගැන'' (පළමුවැනි පරිච්ඡේදය, වෙළඳ භාණ්ඩ).

33 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය,'' වෙළුම 1 (හතරවැනි පරිච්ඡේදය — මුදල් ප්‍රාග්ධනය බවට පරිවර්තනය වීම. 3. ශ්‍රම ශක්තිය මිළයට ගැනීම හා විකිණීම).

34 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය,'' වෙළුම 1 (හතරවැනි පරිච්ඡේදය — මුදල් ප්‍රාග්ධනය බවට පරිවර්තනය වීම. 3. ශ්‍රම ශක්තිය මිළයට ගැනීම සහ විකිණීම).

35 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය'', වෙළුම 1 (විසි හතරවැනි පරිච්ඡේදය — ඊනියා ආදි කාලීන සංචනය. 7. ධනවාදී සංචනයේ ඓතිහාසික ප්‍රවනතාවය.

36 ''ආන්තික උපයෝගීතා න්‍යායය''—ශ්‍රම වටිනාකම පිළිබඳ මාක්ස්ගේ න්‍යායට හරස්ව දහනවවැනි ශත වර්ෂයේ හැත්තෑ ගනන්වලදී ඉදිරිපත් වූ කෙලෙසුණු ධනපති-ආරක්ෂක ආර්ථික න්‍යායකි. එම න්‍යායට අනුව වෙළඳ භාණ්ඩවල වටිනාකම තක්සේරු කරන්නේ භාණ්ඩ නිෂ්පාදනය සඳහා වැයකරන ලද සමාජ ශ්‍රම ප්‍රමාණය මත නොව මිනිසුන් සඳහා ඒවායේ ඇති උපයෝගීතාවය අනුවය.



37 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය,'' වෙළුම 3 (17 වැනි පරිච්ඡේදය — ධනපති බිම්බදු කුලියේ උපත. IX මුදල් බදු කුලිය).

38 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය'', වෙළුම 1 (24 වැනි පරිච්ඡේදය — ඊනියා ආදිකාලීන සංචනය. 5. කෘෂිකාර්මිකය කර්මාන්තය කරා පරිවර්තනය වීමේදී සිදුවන ප්‍රතිවිරුද්ධ බලපෑම.

39 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය'', වෙළුම 1 (20 වැනි පරිච්ඡේදය — ධනවාදී සංචනයේ පොදු නියාමය. 4. සාපේක්ෂ ලෙස ජනගහනය වැඩි වීමෙහි විවිධ ආකෘති).

40 කාල් මාක්ස්. ''1848 සිට 1850 දක්වා වූ ප්‍රංශයේ පංති අරගලය.'' (III 1849 ජූනි 13 වැනි දිනයෙහි ප්‍රතිඵල).

41 කාල් මාක්ස්. ''ලුයි බොනපාට්ගේ 18 වැනි බ්‍රියුමර් (හත්වැනි පරිච්ඡේදය).

42 කාල් මාක්ස්. ''1848 සිට 1850 දක්වා වූ ප්‍රංශයේ පංති අරගලය''. (III. 1849 ජූනි 13 වැනි දිනයෙහි ප්‍රතිඵල.)

43 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය,'' වෙළුම 3 (17 වැනි පරිච්ඡේදය — ධනපති බිම් බදු කුලියේ උපත. V. අතිරික්ත ලාභය බිම් බදු කුලියට පරිවර්තනය වීම).

44 43 වැනි සටහන බලන්න.

45 කාල් මාක්ස්. ''ප්‍රාග්ධනය'', වෙළුම 3 (17 වැනි පරිච්ඡේදය — ධනපති බිම් බදු කුලියේ උපත. VI. අඳ ගොවිතැන හා ගොවීන්ගේ කැබලි ඉඩම් හිමිකම).

46 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ඩූරිං විරෝධය,'' තුන්වැනි කොටස. සමාජවාදය. දෙවැනි පරිච්ඡේදය, න්‍යාය විචාරය.

47 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ප්‍රංශයේ සහ ජර්මනියේ ගොවි ප්‍රශ්නය'' (දෙවැනි පරිච්ඡේදය).

48 "Die Neue Zeit" (''නව සමය'') — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ න්‍යායික සඟරාව විය. එය 1883 පටන් 1923 දක්වා ස්ටුට්ගා-

ඊට්හි පළ කරන ලදී. "Die Neue Zeit" හි මාක්ස්වාදයේ ආරම්භකයින්ගේ ලිපි පළමුවෙන්ම පළ විය. එංගල්ස් නිතර සඟරාවේ කතු වරුන්ට යෝජනා ඉදිරිපත් කළ අතර, මාක්ස්වාදයෙන් පිට පැනීම ගැන ඔවුන් තදින් විවේචනය කළේය. 1890 ගණන් අගදී එංගල්ස් අභාවප්‍රාප්ත වීමෙන් පසුව, එම සඟරාව සංශෝධනවාදීන්ගේ ලිපි පළ කිරීමේ පුරුද්දක් ඇති කරගත්තේ ය. ප්‍රථම ලෝක යුද්ධය (1914-1918) සමයේදී එය සමාජ-ජාත්‍යෝන්මාදවදීන්ට පක්ෂව මධ්‍යස්ථවාදී තත්වයක් ගත්තේ ය.

49 මාක්ස් එංගල්ස් වෙත යැවූ 1863 අප්‍රියෙල් 9 දින ලිපිය.

50 කාල් මාක්ස්. ''දර්ශනයේ දරිද්‍රතාවය'' (දෙවැනි පරිච්ඡේදය. අධ්‍යාත්මවාදී දේශපාලන ආර්ථ ශාස්ත්‍රය.)

51 කාල් මාක්ස් එංගල්ස් වෙත යැවූ 1851 පෙබරවාරි 5 වැනි දින දරන ලිපිය.

52 එංගල්ස් මාක්ස් වෙත යැවූ 1851 දෙසැම්බර් 17 දින ලිපිය.

53 ෆ්‍රෙඩ්රික් එංගල්ස් කාල් මාක්ස් වෙත යැවූ 1858 ඔක්තෝබර් 7 දින ලිපිය.

54 ෆ්‍රෙඩ්රික් එංගල්ස් කාල් මාක්ස් වෙත යැවූ 1863 අප්‍රියෙල් 8 දින ලිපිය.

55 කාල් මාක්ස් එංගල්ස් වෙත යැවූ 1863 අප්‍රියෙල් 9 දින දරන ලිපිය.

56 චාටිස්ට්වරු — 1830-1840 ගණන්වලදී එංගලන්ත ඉතිහාසයේ පළමුවැනි කම්කරු පොදු ජන විප්ලවවාදී ව්‍යාපාරයට සහභාගිවූවන් මේ නමින් හැඳින්විණි. මෙම ව්‍යාපාරයට සහභාගි වූවහු ජාතික ප්‍රකාශ පත්‍රයක් (ඉංග්‍රීසියෙන් "charter" මේ නිසා ඔවුන්ට චාටිස්ට්වරු යන නම පටපැදිණි) පළ කළහ. එම ප්‍රකාශ පත්‍රයෙන් කළ ඉල්ලීම්ද, පොදු මහජන ඡන්ද විමසීමක්ද, පාර්ලිමේන්තු මැතිවරණයක අපේක්ෂකයකු වීමට ඉඩම් හිමි සුදුසුකම ඉවත් කිරීමද ආදිය දිනාගැනීම සඳහා ඔවුහු සටන් කළහ.රට මුළුල්ලේම රැස්වීම්,පෙළපාලි පවත්වන ලදී. දශ ලක්ෂ ගණන් කම්කරුවෝද හස්ත කර්මාන්ත කරුවෝද ඒවාට සහභාගි වූහ.



එංගලන්ත පාර්ලිමේන්තුව ජාතික ප්‍රකාශ පත්‍රය නොපිළිගත් අතර සියළුම ඉල්ලීම් දීමද ප්‍රතික්ෂේප කළේය.

චාටිස්ට්වරුන් දැඩි ලෙස පාගා දැමූ පාර්ලිමේන්තුව ඔවුන්ගේ නායකයින්ද සිරභාරයට ගත්තේය. ව්‍යාපාරය අකර්මන්‍ය විය. එහෙත් චාටිස්ට්වාදය ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ ඉදිරි වර්ධනය කෙරෙහි තදින් බල පෑවේය.

57 මාක්ස් එංගල්ස් වෙත යැවූ 1866 අප්‍රියෙල් 2 දින ලිපිය.

58 මාක්ස් වෙත එංගල්ස් යැවූ 1869 නොවැම්බර් 19 දින හා 1881 අගෝස්තු 11 ලිපි.

59 1815 සිට ඔස්ත්‍රියාවේ, ප්‍රුසියාවේ හා රුසියාවේ පොදු පාලන බලයට යටත්ව තුබූ ක්‍රාකව් සමූහාණ්ඩුවෙහි සිදුවූ ජාතික-විමුක්තිකාමී ප්‍රජාතන්ත්‍රවාදී කැරැල්ල ගැනය මෙහි සඳහන් වන්නේ. කැරැල්ල අවස්ථාවේ කැරැලි කරුවන් විසින් ගොඩනගන ලද ජාතික රජය විසින් වැඩවසම් ක්‍රමයේ ඇති කම් ඉවත් කිරීම ගැන හා වන්දියක් නොමැතිව ගොවියන්ට ඉඩම් හිමිකර දීම ගැන සඳහන්වන ප්‍රකාශනයක් පළ කළේය. එය වෙනත් ප්‍රකාශන වලින් ජාතික කම්හල් පිහිටුවීමද, ඒවාහි උසස් වැටුප් ගෙවීමද, පුරවැසි සමානාත්මතාවය ඇති කිරීමද පිළිබඳ අදහස් පළ කළේය. එහෙත් ඉක්මනින් ම කැරැල්ල මැඩ පවත්වන ලදී.

60 කාල් මාක්ස් හා එංගල්ස්. ''ධනපතියෝ සහ ප්‍රති විප්ලවය'', (දෙවැනි පරිච්ඡේදය).

61 එංගල්ස් වෙත මාක්ස් යැවූ 1856 අප්‍රියෙල් 16 ලිපිය.

62 කාල් මාක්ස් වෙත ෆ්‍රෙඩ්රික් එංගල්ස් යැවූ 1865 අප්‍රියෙල් 27 දින දරන ලිපිය.

63 මාක්ස් වෙත එංගල්ස් යැවූ 1865 පෙබරවාරි 5 ලිපිය.

64 ජුන්කර්වරු — ප්‍රුසියානු ඉඩම් හිමි රදළ වරුන්.

65 මාක්ස් වෙත එංගල්ස් යැවූ 1863 ජූනි 11; 1863 නොවැම්බර් 24; 1864 සැප්තැම්බර් 4; 1865 ජනවාරි 27 හා 1867 දෙසැම්බර් 6 ලිපිද;

එංගල්ස් වෙත මාක්ස් යැවූ 1863 ජූනි 12; 1864 දෙසැම්බර් 10; 1865 පෙබරවාරි 3 හා 1867 දෙසැම්බර් 17 දින ලිපි.

66 ලුඩ්විග් කුගෙල්මන් වෙත කාල් මාක්ස් යැවූ 1871 අප්‍රියෙල් 12 දින දරන ලිපිය.

67 සමාජවාදයට විරුද්ධ නීතිය 1878 සිට 1890 දක්වා ජර්මනියේ ක්‍රියාත්මක විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන හා පොදු ජන කම්කරු පංති ව්‍යාපාර සියල්ල ද, කම්කරු පංති පුවත් පත් ද මෙම නීතියෙන් තහනම් කෙරිණ. සමාජවාදී සාහිත්‍යය රාජ සන්තක කෙරිණ. එය රහසිගත තත්වයන් අනුව ජනතාව සමග සම්බන්ධකම් තහවුරු කිරීම සඳහා එහි වැඩ කටයුතු ගලපා ගත්තේ ය. වර්ධනය වන කම්කරු පංති ව්‍යාපාරය යටතේ 1890 දී සමාජවාදයට විරුද්ධ නීතිය අවලංගු කරන ලදී.

68 එංගල්ස් වෙත මාක්ස් යැවූ 1877 ජූලි 23 හා 1879 සැප්තැම්බර් 10 ලියුම් සහ මාක්ස් වෙත එංගල්ස් ලියූ 1879 අගෝස්තු 20 හා 1879 සැප්තැම්බර් 9 දින ලියුම්.

69 ප්‍රථමයෙන් ම මෙම ලිපිය පළ වූයේ මාක්ස්ගේ අභාවයේ තිස්වැනි සංවත්සරය නිමිති කර ගෙන, 1913 ''ප්‍රොස්විශේනිය'' අංක 3 සඟරාවෙහි ය.

''ප්‍රොස්විශේනිය'' (අවබෝධය) — 1911 දෙසැම්බරයේ සිට 1914 ජූනි දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි නීත්‍යානුකූල ලෙස පළ කරන ලද බොල්ෂෙවික් න්‍යායවාදී මාසික සඟරාවකි. සඟරාවේ ප්‍රචාරය පිටපත් 5000 ක් පමණ විය. ලෙනින් පැරිසියේ සිටද, පසුව ක්‍රාකව් හා පොරෝනින් සිටද සඟරාවේ ලිපි සංස්කරණය කිරීමේ කටයුතු ගෙන ගිය අතර එහි සංස්කාරක මණ්ඩලයත් සමග නිතරම ලිපි මගින් සම්බන්ධකම් පැවැත්විය.

1914 ජූනි මාසයේදී, පළමු ලෝක යුද්ධය ආරම්භ වීමට ආසන්නව තිබියදී සාර් ආණ්ඩුව මෙම සඟරාව මර්දනය කළේ ය. 1917 ශරත් කාලයේ එය පළ කිරීම නැවත ඇරඹුනු නමුත්, නිකුත් වූයේ එක කලාපයක් පමණකි.

70 මෙහි සඳහන් වන්නේ ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''ඩූරිං විරෝධය. එව්ගෙනි ඩූරිං මහතා විසින් නිර්මාණය කරන ලද විද්‍යාවේ පෙරළිය'' පිළිබඳවය.



71 2 වැනි සටහන බලන්න.

72 10 වැනි සටහන බලන්න.

73 20 වැනි සටහන බලන්න.

74 මෙහි අදහස් කරන්නේ බර්න්ෂ්ටයින්වාදය ය. දහ නම වැනි ශත වර්ෂයේ අවසාන සමයේදී, ජර්මනියේ මතු වූ ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මෙම මාක්ස්වාදය විරෝධී උපනතිය, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු වූ එහි කර්තෘ එඩ්වර්ඩ් බර්න්ෂ්ටයින්ගේ නම අනුව හැඳින්විණි. එය සංශෝධනවාදය විවෘතව පිළිබිඹු කළේය. එංගල්ස්ගේ අභාවයෙන් පසුව, ධනපති ලිබරල් ජීවගුණයකින් මාක්ස්ගේ විප්ලවවාදී ධර්මය සංශෝධනය කරන ලෙස යෝජනා කළ ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සමාජ-ප්‍රතිසංස්කරණ වලට පක්ෂවාදී සුළු ධනපති පක්ෂයක් බවට හැරවීමට උත්සාහ කළේ ය.

රුසියාවේ, ''නීත්‍යානුකූල මාක්ස්වාදීහු'', ආර්ථිකවාදීහු, බුන්ද් වරු හා මෙන්ෂෙවික් වරු බර්න්ෂ්ටයින්වාදයට ආධාර කළහ.

75 නව කාන්ත්වාදීන් — දහ නවවැනි ශත වර්ෂයේ මැද ගණන්වලදී ජර්මනියේ බිහි වූ ධනපති දර්ශනයේ ප්‍රතිගාමී උපනතිය අනුගමනය කළ වුන් මේ නමින් හඳුන්වනු ලැබිණ. කාන්ත්ගේ දර්ශනයේ වඩාත්ම ප්‍රතිගාමී හා විඥානවාදී කොන්දේසි නැවත ගෙනදක්වූ නව කාන්ත්වාදීහු එහි පවතින ද්‍රව්‍යවාදී කොටස් ප්‍රතික්ෂේප කළහ.

76 මෙම වචන උපුටා දක්වා ඇත්තේ මාක්ස් ''ප්‍රාග්ධනය'' I වැනි වෙළුමේ දෙවැනි සංස්කරණයට ලියූ පසුවදනෙනි.

77 1909 දී පළ කරන ලද ''ද්‍රව්‍යවාදය සහ අනුභාවික විවේචනය'' යන පොතෙන් ලෙනින් මෙම පොරොන්දුව ඉටු කළේය. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 18 බලන්න.

78 ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය (කැඩෙට්වරු) — රුසියාවේ ලිබරල්-රාජාණ්ඩුවාදීන්ගේ ප්‍රධාන දේශපාලන පක්ෂය විය. එම පක්ෂය 1905 ඔක්තෝබරයේදී පිහිටුවන ලදී. ධනපති පංතියේ නියෝජිතවරුන්ද, ඉඩම්හිමියන්ගේ සෙම්ස්ත්ව නියෝජිතයන්ද ධනපති බුද්ධිමතුන්ද මෙම පක්ෂයට අයත් විය.කැඩෙට්වරුන් තමන්''මහජන

නිදහස් පක්ෂය'' යන නමින් හඳුන්වා ගත් නමුත්, සාර්වාදය ව්‍යවස්ථානුකූල රාජාණ්ඩුවක ස්වභාවයෙන් පවත්වාගැනීම පිණිස ඒකාධිපත්‍යයක් සමග එකඟත්වයකට එළඹීමට ඔවුහු උත්සාහ කළහ.

අධිරාජ්‍යවාදී යුද්ධයේ (1914-1918) ආරම්භයේ පටන් ම සටන් පාඨය වූයේ ''ජයග්‍රහණය ලැබෙන තෙක් සටන් කරනු'' යන්න ය. 1917 පෙබරවාරි විප්ලවයෙන් පසුව, සමාජවාදී-විප්ලවවාදීන් හා පෙට්‍රොග්‍රාඩ් සෝවියට් සභාවේ මෙන්ෂෙවික් නායකයන්ද, කැඩෙට්වරුන්ද අතර කෙරුණු කුමන්ත්‍රණයෙන් අනතුරුව, මෙම පසු කී අයට ධනපති තාවකාලික ආණ්ඩුවේ ප්‍රධාන තැනක් ලැබිණි. ඔවුහු එය තුළ පොදු ජන විරෝධී ප්‍රතිවිප්ලවවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළහ.

ඔක්තෝබර් විප්ලවයෙන් පසුව, කැඩෙට්වරු සෝවියට් බලයේ පරම සතුරන් වී ආක්‍රමණිකයන්ගේ සියළුම ප්‍රතිවිප්ලවවාදී ආයුධ සන්නද්ධ කටයුතුවලට සහභාගි වූහ. ආක්‍රමණකාරී සුදු හමුදා පරාජය වීමෙන් අනතුරුව, කැඩෙට්වරුන් විදේශගත වීමෙන් පසුව වුවද ඔවුන්ගේ සෝවියට් විරෝධී කටයුතු නොනැවතිණි.

79 මිලියරාන්වාදය (''අමාත්‍යාංශවාදය'' යුනුවෙන්ද හැඳින් වේ) — ශත වර්ෂයාරම්භායේදී බටහිර යුරෝපීය සමාජවාදී පක්ෂ තුළ පැවති අවස්ථාවාදී උපනතියකි. මෙය හඳුන්වා ඇත්තේ ප්‍රංශ සමාජවාදී මිලියරාන් අලෙක්සාන්දර් එතියන්ගේ නම අනුවය. ඔහු 1899 දී ප්‍රංශ ධනපති ආණ්ඩුවට බැඳී ධනපති පංතියේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය ඉදිරියට ගෙන ගියේ ය.

80 ගෙද්වාදීන් — ජූල් ගෙද්ගේ හා පොල් ලෆ්පාර්ගේ නායකත්වය යටතේ දහනවවැනි ශත වර්ෂයේ අගදී හා විසිවැනි ශත වර්ෂයේ මුලදී ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරය තුළ බිහි වූ විප්ලවවාදී මාක්ස්වාදී උපනතියකි. 1882 සාන්ත එතියන් සම්මේලනයෙදී ප්‍රංශයේ කම්කරු පක්ෂය භේදවීමෙන් පසු ගෙද්වරු වෙනම පක්ෂයක් පිහිටුවා ගත්හ. එහෙත් එහි පැරණි නාමය ආරක්ෂා කර ගත්හ.

1901 දී ජූල් ගෙද්ගේ නායකත්වයෙන් යුත් විප්ලවවාදී පංති අරගලයට පක්ෂපාතිකයෝ ප්‍රංශයේ සමාජවාදී පක්ෂයට සම්බන්ධ වූහ (එහි සාමාජිකයින්ද නායකයාගේ නමින් එනම් ගෙද්වරු යන නමින් හඳුන්වනු ලැබිණි). 1905 දී ගෙද්වරු ප්‍රතිසංස්කරනවාදී ප්‍රංශ සමාජවාදී පක්ෂයට සම්බන්ධ වූහ. අධිරාජ්‍යවාදී පළමුවැනි ලෝක යුද්ධය (1914-1918) සමයේදී එම පක්ෂයේ නායකයෝ



(ගෙද්, සම්බ හා වෙනත් අය) කම්කරු පංතියට සේවය කිරීමෙන් ඉවත්වී සමාජ-ජාත්‍යොන්මාදවාදය කරා පිවිසියහ.

ජොරේස්වාදීන් — ප්‍රංශ සමාජවාදියෙකු වූ ජාන් ලියොන් ජොරේස්ගේ අනුගාමිකයින්. ඔවුහු 1890 ගණන් වලදී අලෙක්සන්දර් මිලෙයරන් සමග එකතුව ''ස්වාධීන සමාජවාදීන්ගේ කණ්ඩායම පිහිටුවා ගත්හ. ඔහු ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ දක්ෂිණාංශික ප්‍රතිසංස්කරණවාදී අංශයේ නායකයා විය. ''විවේචනය කිරීමේ නිදහස'' ආරක්ෂා කිරීමේ මුවාවෙන් ඔවුහු මාක්ස්වාදී ප්‍රතිපත්ති සංශෝධනය කිරීමට උත්සාහ කරමින්, නිර්ධන පංතියත්, ධනපති පංතියත් අතර පංති සහයෝගිතාවය දේශනා කළහ. 1902 දී ඔවුන් ප්‍රංශ සමාජවාදී පක්ෂය පිහිට වූ අතර එය ප්‍රතිසංස්කරණවාදී ප්‍රතිපත්ති අනුගමනය කළේය.

බ්රූස්වාදීන් (පොසිබිලිස්ට් වරු) (පී.බ්රූස්,බී.මැලන් සහ වෙනත් අය) — ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරය තුළ 1880 ගණන්වලදී බිහි වූ, නිර්ධන පංතිය විප්ලවවාදී සටන් මාර්ගයෙන් පිටපැන්න වූ සුළු ධනවාදී ප්‍රතිසංස්කරනවාදී උපනතියකි. පොසිබිලිස්ට්වරු කම්කරු සමාජ-විප්ලවවාදී පක්ෂය ආරම්භ කළහ. විප්ලවවාදී වැඩ පිළිවෙළ හා නිර්ධන පංතියේ විප්ලවවාදී උපක්‍රම ප්‍රතික්ෂේප කළ ඔවුහු කම්කරු ව්‍යාපාරයේ සමාජවාදී අරමුණු සඟවා තැබූ අතර කම්කරු පංතියේ අරගලය ''විය හැකි'' possible රාමුවක් තුළ සීමා කිරීමට යෝජනා කළහ. පොසිබිලිස්ට් වරු යන නාමය ඔවුන්ට ලැබුණේ මේ නිසාය. පොසිබිලිස්ට් වරුන්ගේ බලපෑම ප්‍රධාන ලෙස පැතිර ගියේ ප්‍රංශයේ ආර්ථික වශයෙන් වඩාත් නොදියුණු පළාත්වල හා නොදියුණු කම්කරු ස්ථර තුළය.

1902 දී ජාන් ජොරේස්ගේ ප්‍රධානත්වයෙන් පිහිටුවාගත් ප්‍රතිසංස්කරනවාදී ප්‍රංශ සමාජවාදී පක්ෂය සමග පොසිබිලිස්ට් වරුන්ගෙන් වැඩිදෙනෙක් පසුව සංයෝග වූහ.

81 එංගලන්තයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනය — 1884 දී පිහිටුවන ලදී. එහි නායකයන් අතර, ප්‍රතිසංස්කරණවාදීන් (හන්ඩ්මාන් සහ වෙනත් අය), අරාජිකවාදීන් හා විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ද, මාක්ස්වාදයේ ආධාර කරුවන්ද (හැරී කවෙල්ච්, ටොම් මෑන්, එඩුවාර්ඩ් එවෙලින්ග්, එලෙනෝර් මාක්ස් හා තවත් අය) විය. පසු නම් සඳහන් අයගෙන් බ්‍රිතාන්‍ය සමාජවාදී ව්‍යාපාරයේ වාම අංශය සකස් විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනයේ පොතේ ගුරුවාදය හා නිකායවාදයත්, එය එංගලන්තයේ පොදු ජන කම්කරු පංති

ව්‍යාපාරය සමග සම්බන්ධකම් නොපැවැත්වීමත්, එම ව්‍යාපාරයේ විශේෂ අංග ලක්ෂණ ගැන නොතකා හැරීමත් ගැන එංගල්ස් එය විවේචනය කළේය. 1907 දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනය එහි නම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය යනුවෙන් වෙනස් කළේය. 1911 දී එය, ස්වාධීන කම්කරු පක්ෂයේ වාම කොටස් ද සමග එක්ව බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂය පිහිටුවිය. 1920 දී එම පක්ෂයේ සාමාජිකයන් වැඩි කොටසක් මහා බ්‍රිතාන්‍යයේ කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීමට ආධාර වූහ.

82 එංගලන්තයේ ස්වාධීන කම්කරු පක්ෂය (Independent Labour Party) — 1893 දී "නව වෘත්තීය සමිතිවාදීන්ගේ" නායකයින් විසින් එංගලන්තයේ කම්කරු පංතිය ධනපති පක්ෂවලින් නිදහස් කර ගැනීමේ ව්‍යාපාරය ශක්තිමත් කරගැනීමේ හා අරගලය පණගැන්වීමේ කොන්දේසි යටතේ පිහිටුවාගත් ප්‍රතිසංස්කරනවාදී සංවිධානයකි. නව වෘත්තීය සමිතිවලත්, පැරණි වෘත්තීය සමිති ගණනාවකත් සාමාජිකයෝද, ෆේබියන් වරුන්ගේ බලපෑම යටතේ සිටි සුළු ධනපති හා බුද්ධිමත් කොටස්වල නියෝජිතයෝද ස්වාධීන කම්කරු පක්ෂයේ සාමාජිකයෝ වූහ. එහි නායකයා වූයේ කෙර් හාර්ඩි ය. සියළුම නිෂ්පාදන මාධ්‍යයන් සාමූහික වශයෙන් හිමිකර ගැනීමද, බෙදහැරීම හා හුවමාරුවද, පැය අටක වැඩ දිනයද, ළමා ශ්‍රමය තහනම් කිරීමද රැකියා නොමැත්තන් සඳහා සමාජ රක්ෂනය හා යැපීම් ආධාරද තම වැඩ පිළිවෙළ ලෙස පක්ෂය ඉදිරිපත් කළේය.

ස්වාධීන කම්කරු පක්ෂයේ ස්වභාවය නිරූපනය කළ ලෙනින් මෙසේ ලිවේය. "ක්‍රියාකාරීත්වයේදී සැමදම ධනපති පංතියට පරාධීන වූ අවස්ථාවාදී පක්ෂයකි" (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 39, පිටුව 90; වෙළුම 22, පිටුව 122).

83 බ්‍රැකර් — බෙල්ජියන් කම්කරු පක්ෂයේ බ්‍රැකර් සහ ඔහුගේ ආධාර කරුවෝ, ප්‍රතිගාමී ධනපති ආණ්ඩුවට සමාජවාදීන් සම්බන්ධවීමට විරුද්ධ වෙමින්, බෙල්ජියන් සංශෝධනවාදීන්ගේ නායකත්වය ගත් වන්ඩෙර්වෙල්ඩ්ට විරුද්ධව අරගලයක් ගෙන ගියහ. බ්‍රැකර් පසු කාලයේ අවස්ථාවාදී ප්‍රතිෂ්ඨාවක් ගත්තේය.

84 අංගපූර්ණවාදීන් — "අංගපූර්ණ" සමාජවාදයේ ආධාර කරුවන්ය. එය එක්තරා සුළු ධනපති සමාජවාදයකි. අංග පූර්ණවාදීන්ගේ නායකයා වූයේ එන්රිකො ෆේරි ය. ඉතලියානු සමාජවාදී පක්ෂයේ



මධ්‍යගතවාදී උපනතියක් වූ අංග පූර්ණවාදීන් 1900 ගණන්වලදී,අන්ත අවස්ථාවාදී ස්ථානයක සිටිමින් ප්‍රතිගාමී ධනපතීන් සමග සහයෝගීතාවයෙන් කටයුතු කළ ප්‍රතිසංස්කරනවාදීන්ට විරුද්ධව ප්‍රශ්න ගණනාවක් ගැනම අරගල ගෙන ගියහ.

85 විප්ලවවාදී සම්මේලවාදය — සුළු-ධනපති අර්ධ-අරාජිකවාදී උපනතියකි. එය පසුගිය ශත වර්ෂය අවසානයේදී බටහිර යුරෝපීය රටවල් කීපයක මතුවිය. විප්ලවයක් නොමැතිව වෘත්තීය සමිති (සින්ඩිකේට්) වලට කම්කරුවන්ගේ සමන්ත මහා වැඩ වර්ජනයක් මගින් ධනපති ක්‍රමය පෙරලා දැමිය හැකියයි විශ්වාස කළ සම්මේලවාදීහු කම්කරු පංතියේ දේශපාලන අරගලයත්, පක්ෂයේ නායක කාර්ය භාරයත්, නිර්ධන පංති ආඥාදායකත්වයත් අත් හැර දැමූහ.

86 "රුස්කොයේ බගාස්ත්වො" — 1876 සිට 1918 මැද භාගය දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කළ මාසික සඟරාවකි. මුල් 1890 ගණන්වල එය ලිබරල් නරෝද්නික්වාදීන්ගේ පත්‍රය බවට පත් වූ අතර, 1893 දී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විරුද්ධව දැඩි අරගලයක් කළේ ය. 1906 වර්ෂයේ දී එය අර්ධ-කැඩෙට් පොදු ජන සමාජවාදී පක්ෂයේ පත්‍රය බවට පත් විය.

87 "මොස්කෝව්ස්කිය වියදමස්ති" පැරණිතම රුසියානු ප්‍රවෘත්ති පත්‍රයකි. එය මුලින් කුඩා පත්‍රිකාවක් ලෙසට මොස්කව් විශ්වවිද්‍යාලය මගින් (1756 දී) නිකුත් කරන ලදී. 1863 දී එය අන්ත ප්‍රතිගාමී ජාතොයාන්මාදියකු හා සුළු වූ හෝ ප්‍රගතිගාමී අදහස්වලට විරුද්ධ එම්. එන්. කත්කොව්ට හිමි වූ අතර, රාජාණ්ඩුවාදී-ජාතිවාදී පත්‍රයක් බවට පත්වී, ඉඩම් හිමියන්ගේ හා පූජකයන්ගේ ඉතාමත් ප්‍රතිගාමී කොටස්වල අදහස් පිළිබිඹු කළේය. 1905 වර්ෂයේ කළු සියය පිරිස්වල ප්‍රධාන පත්‍රයක් බවට පත්විය. එය 1917 ඔක්තෝබර් විප්ලවය දක්වා පළ කරන ලදී.

88 නරෝද්නික්වාදය — 1860-1870 අවුරුදුවලදී රුසියානු විප්ලවවාදී ව්‍යාපාරය තුළ බිහි වූ සුළු ධනපති ප්‍රවනතාවයකි. සර්වබලධාරී ඒකාධිපතිත්වය විනාශ කිරීම සහ රදළ ඉඩම් හිමියන්ගේ ඉඩම් ගොවීන්ට බෙදා දීම සඳහා නරෝද්නික්වාදීහු සටන් කළහ.

රුසියාවෙහි ධනපති සබඳතාවයන්ගේ වර්ධනයේ ස්වාභාවි-

කත්වය ප්‍රතික්ෂේප කළ නරෝද්නික්වරු එයට අනුකූලව ප්‍රධානතම විප්ලවවාදී බලවේගය නිර්ධන පංතිය නොවන බව පිළිගත් අතර, ගොවි ජනතාව තුළ හා ගම්බද ගොවි ජනපද තුළ පමණක් සමාජවාදයේ කලල රූපය දුටහ. ඓතිහාසික ක්‍රියාදම තුළ පොදු ජනතාවගේ ඇති කාර්යභාරය නොපිළිගත් ඔවුහු, නරෝද්නික්වාදයේ ප්‍රතිෂ්ඨාව අනුව, අකර්මණ්‍යතාවයට විරුද්ධව නැගී සිටින ශ්‍රේෂ්ඨ පුද්ගලයින් (වීරයින්) විසින් ඉතිහාසය නිර්මාණය කරනු ලබන බව කියා සිටියහ. සර්වබලධාරී ඒකාධිපතිත්වයට විරුද්ධව සටන සඳහා ගොවි ජනතාව පෙළඹවීමට නරෝද්නික්වරු ගම්බද ගොවි ජනතාව (නරෝද්) වෙතට ගියහ (ඔවුන්ට නරෝද්නික්වරු යන හැඳින්වීම ලැබුණේ එහෙයිනි). එහෙත් ජනතාවගේ සහාය ඔවුන්ට නොලැබුණේය.

නරෝද්නික්වාදය විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ සිට ලිබරල්වාදය දක්වා වූ පරිවර්තන අවධි කීපයකටම මුහුණ පෑවේය.

1880, 1890 ගණන්වලදී සාර්වාදය සමග සමාදනයකට පැමිණි නරෝද්නික්වරු කුලාකයින්ගේ අයිතිවාසිකම් ආරක්ෂා කළහ, මාක්ස්වාදීන්ට විරුද්ධව සටන් මෙහෙය වූහ.

89 ''ගෝලයෝ'' — මාක්ස්ගේ හා එංගල්ස්ගේ අනුගාමිකයෝය. එය ''මාක්ස්වාදීන්'' හැඳින්වීමට පසුගිය ශත වර්ෂයේ අනූ ගණන්වල නීත්‍යානුකූල පත්‍ර භාවිතා කල සමානාර්ථ දෙන නාමයක් විය.

90 ''ඔතෙචෙස්ත්වෙන්නිය සපිස්කි'' (''පීතෘභූමි සටහන්'') — 1820 වර්ෂයේ සාන්ත පීටර්ස්බර්ග්හි පළ කිරීම ආරම්භ කරන ලද සාහිත්‍ය-දේශපාලන සඟරාවකි. 1839 පටන්, ඒකාලයේ පැවති හොඳම ප්‍රගතිශීලී සඟරාව විය. එය තමන් වටා රුසියාවේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී බුද්ධිමතුන් එක් රැස් කර ගත්තේය.

''ඔතෙචෙස්ත්වෙන්නිය සපිස්කි'' සඟරාව නිතරම පුවත් පාලකයන්ගේ අතවරයට ලක් විය. 1884 දී එය සාර්වාදී ආණ්ඩුව විසින් මර්දනය කරන ලදී.

91 1861 වර්ෂයේ ගොවිජන ප්‍රතිසංස්කරණය — සාර්වාදී ආණ්ඩුව විසින් 1861 දී ක්‍රියාත්මක කරන ලද රුසියාවේ ප්‍රවේණිදාස ගොවි ක්‍රමය ඉවත් කිරීමය. රුසියාවේ ආර්ථික සංවර්ධනයේ සමස්ත මාවතම අනුවද, රදළයන් විසින් ගොවි ජනතාව සූරා කනු ලැබීමට විරුද්ධව පොදු ජන ව්‍යාපාරය වර්ධනය වීම නිසාද ප්‍රතිසංස්කරණය අත්‍යාවශ්‍ය



දෙයක් විය. රුසියාව ධනපති රාජාණ්ඩුවක් බවට පරිවර්තනය වීමේ එක් පියවරක් ගොවි ජන ප්‍රතිසංස්කරණයෙන් සලකුණු විය. 1861 පෙබරවාරි 19 වැනි දින දෙවැනි අලෙක්සාන්දර් සාර් රජ ප්‍රවේණිදාස භාවයෙන් නිදහස් වන ගොවීන් ගැන ප්‍රකාශනයක් සහ ''කොන්දේසි'' අත්සන් කළේය. කලින් ඉඩම් හිමියන්ට අයත් වූ ප්‍රවේණිදාසයන් 2,25,00,000 ක මුළු සංඛ්‍යාවක් ''නිදහස් කරන ලදී. එසේ වුවද, ඉඩම් හිමියාගේ ඉඩම්වල ගොවිතැන දිගටම පැවතුණි. ගොවි ජනතාවගේ ඉඩම්, ඉඩම් හිමියන්ගේ දේපල වශයෙන් ප්‍රකාශ කරන ලදී. ගොවියාට ලබා ගත හැකි වූයේ නීතියෙන් සම්මත කරන ලද (එසේ ද වුවත්, ඉඩම් හිමියාගේද කැමැත්ත ලැබෙන පරිදි වූ) ප්‍රමාණයක ඉඩම් කට්ටියකි.ඔහුට එය නිදහස් කරගැනීමට සිදුවිය—ඒ සඳහා ගෙවීමට සිදු විය.ගොවීන් ගෙවීම කරන ලද්දේ සාර් රාජාණ්ඩුවටය. සාර් රාජාණ්ඩුව විසින් පසුව නියම කරන ලද මුදල ඉඩම් හිමියන්ට ගෙවන ලදී. ආසන්න සංඛ්‍යා අනුව ඉඩම් ප්‍රතිසංස්කරණයට පසුව රදළයින්ට ඉඩම් දෙස්යටීන් (අක්කර 2.7) කෝටි 7.15 ක් ද ගොවීන්ට ඉඩම් දෙස්යටීන් කෝටි 3.37 ක් ද අයිතිව තිබිණි. ඉඩම් ප්‍රතිසංස්කරණයේ ආධාරයෙන් ඉඩම් හිමියෝ ගොවීන්ගේ ඉඩම්වලින් $^1/_5$ ක් ද සමහරවිට $^2/_5$ ක් ද අයිතිකර ගත්හ.

ගොවිජන ප්‍රතිසංස්කරණයෙන් පැරණි ''කොර්වී'' ගොවිතැන් ක්‍රමය හුදෙක් දුර්වල වුනා පමණකි, එය අවලංගු නොවීය. ගොවිජන ඉඩම් කට්ටිවලින් ඉතාමත් හොඳ කොටස් (''අත්හළ ඉඩම්'' — වන පෙත්, පිට්ටනි, දියමං, තණ බිම් යනාදිය) ඉඩම් හිමියන් අයත් කර ගන්නා ලදී. ඒවා නොමැතිව ගොවි ජනයාට ස්වාධීනව ගොවිතැනක් කළ නොහැකි විය. නිදහස් කර ගැනීමේ කටයුතු සම්පූර්ණ කරන තාක් කල්, ගොවීන් ''තාවකාලික වශයෙන් බැඳී'' සිටින සේ සලකන ලදී. ඒ අනුව ඉඩම් හිමියාට කෝර්වී සේවය කර දීමට හෝ, බුත්ති බදු ගෙවීමට හෝ ගොවියාට සිදුවිය. ගොවීන්ගේම ඉඩම් ඔවුන් ලවා නිදහස් කරවීමට සැලැස්වීමෙන්, සාර්වාදී ආණ්ඩුව සහ ඉඩම් හිමියන් කළේ එක එල්ලේම ගොවීන් කොල්ලකෑමය.

''1861 ගොවිජන ප්‍රතිසංස්කරණ'' ගැන හැඳින්වීමක් දුන් ලෙනින්, එය, කෘෂිකර්මාන්තයේ නැඟී එන ධනපති ක්‍රමයේ යහපත සඳහා පොදු ජනතාවට විරුද්ධව ක්‍රියාත්මක කළ ප්‍රථම පොදු හිංසනයක් බව කීවේය.

92 මැන්චෙස්ටර් ගුරුකුලය — නිදහස් වෙළඳාම සහ පෞද්ගලික ව්‍යාපාරවලට රජයේ ඇඟිලිගැසීම නවත්වන ලෙස ඉල්ලා සිටි ධනපති ආර්ථික

ගුරුකුලයකි. මෙය 18 වැනි ශත වර්ෂයේ අගදී එංගලන්තයේ බිහිවී නිදහස් වෙළෙන්දෝ යන නමින් ප්‍රසිද්ධ විය. 1830, 1840 ගණන්වලදී නිදහස් වෙළෙන්දන්ගේ බල මධ්‍යස්ථානය වූයේ කර්මාන්තමය නගරයක් වූ මැන්චස්ටර් නගරයයි. එමනිසා නිදහස් වෙළෙන්දන්ව මැන්චස්ටර් වරු ලෙසද හැඳින්විණි. මැන්චස්ටර් ගුරුකුලයේ නායකයන් වූයේ කොබ්ඩන් හා බ්‍රයිට් ය. නිදහස් වෙළෙන්දන්ගේ ප්‍රචනතාවය ප්‍රංශයේද, ජර්මනියේද, රුසියාවේ හා වෙනත් රටවලද පැතිර ගියේය. ඔවුන්ගේ න්‍යායාත්මක පදනම උපුටාගන්නා ලද්දේ ඇඩැම් ස්මිත්ගේ හා ඩේවිඩ් රිකර්ඩෝගේ කෘතිවලිනි.

93 සාමූහික වගකීම — රජයට සහ ඉඩම් හිමියන්ට කර දියයුතු විවිධ සේවාවන් සහ ගෙවීම් (බදු සහ ඉඩම් නිදහස් කර ගැනීමේ ගාස්තු වාරික ගෙවීම, යුද්ධ හමුදාවට භටයින් බැඳවීම ආදිය) කලට වේලාවට සහ සම්පූර්ණ වශයෙන් ඉටු කෙරෙන බවට සෑම ග්‍රාම කොමියුනයක ම ගොවීන් මත සාමූහික වගකීම පටවන බලකාරී පියවරකි. ප්‍රවේණිදාස ක්‍රමය අවලංගු කිරීමෙන් පසුව පවා පවත්වා ගන්නා ලද මෙම බැඳුම් ක්‍රමය 1906 දක්වා බල පැවැත්තේ ය.

94 ග්‍රාමීය (ඉඩම්) කොමියුනය — මෙය, රුසියාවේ, අනිවාර්ය සස්‍ය මාරුව සහ නොබෙදූ වන පෙත් හා තණ බිම් අංග ලක්ෂණ කොටගත් ප්‍රජාවට පැවරුණු ඉඩම් පිළිබඳ ගොවිජන උපයෝගිත්ව ක්‍රමයකි. එහි ප්‍රධාන අංග ලක්ෂණ වූයේ සාමූහික වගකීම, ඉඩම් කට්ටි ප්‍රතික්ෂේප කිරීමේ අයිතියෙන් තොරව, කලින් කලට ඉඩම් නැවත බෙදා දීම, කොමියුන ඉඩම් මිළට ගැනීම හා විකිණීම තහනම් කිරීම ය.

රුසියාවේ ග්‍රාමීය කොමියුන ආදි ඉතිහාසයේ සිටම ප්‍රසිද්ධියක් ඉසිලීය. ඓතිහාසික සංවර්ධනය තුළ දී ග්‍රාමීය කොමියුන රුසියාවේ වැඩවසම් සමාජයේ එක් අඩිතාලමක් විය. සාර්වාදී ආණ්ඩුව සහ ඉඩම් හිමියෝ, වැඩ වසම් සූරා කෑම උත්සන්න කිරීම සහ ජනතාව මිරිකා ඉඩම් නිදහස් කර ගැනීමේ ගාස්තු හා බදු ගැනීම පිණිස ග්‍රාම කොමියුනය උපයෝගි කර ගත්හ.

සාර්වාදී ඇමති, ස්තලීපින් 1906 දී කුලාකයන්ට වාසිදායක නීතිය පැනවූයේය. ගොවිනට කොමියුනය හැර යාමේ හා තමන්ගේ ඉඩම් විකිණීමේ අයිතිය එම නීතියෙන් ලැබුණේ ය. ගම්බද ග්‍රාමීය කොමියුන ක්‍රමය අහෝසිකර දැමීම සහ ගොවීන් ස්තරවලට බෙදීම තවත් වැඩි දියුණු කිරීම ආරම්භ කළ මෙම නීතිය පැනවීමෙන් අවුරුදු නවයක කාලයක් තුළදී ග්‍රාමීය කොමියුනයේ සාමාජිකයෝ ලක්ෂ විස්සකට වඩා ගෘහාස්ථකයන් බවට පත්වූහ.



95 සෙම්ස්ත්වෝ — 1864 දී සාර් රුසියාවේ මධ්‍යම ගුබේර්නියා පළාත්වල පිහිටුවන ලද පළාත්පාලන මණ්ඩල. ඒවායේ නායකත්වය දූරුවේ වංශවතුන් ය. එම මණ්ඩලවල බලය හුදෙක්ම ප්‍රාදේශීය ආර්ථික ප්‍රශ්න (ආරෝග්‍යශාලා සහ මාර්ග තැනීම, සංඛ්‍යා ලේඛණ, රක්ෂණය, ආදිය) වලට සීමාවිය. ඒවා ප්‍රාදේශීය ආණ්ඩුකාර වරුන්ද, ස්වදේශ කටයුතු භාර ඇමති වරයාද විසින් පාලනය කෙරිණ. ආණ්ඩුව අනුමත නොකරන තීරණ අවලංගු කිරීමේ බලය ඔවුන්ට තිබිණ.

96 එංගල්ස් ලියූ "Soziales aus Russland" (''රුසියාවේ සමාජ සම්බන්ධකම්'') යන ලිපියෙන් ඔහු ස්කාල්දින් ගතානුගතික ලිබරල්වාදියෙක් ලෙසට විස්තර කළේය.

97 දහ නවවැනි ශත වර්ෂයේ හැට ගණන්වල දෘෂ්ටිමය ''උරුමය'' ගැන ලිවීමේදී, පුවත් පාලන හේතු කරණකොට ගෙන ලෙනින්ට ස්කාල්දින් ගැන නොලියා බැරිවිය. ඇත්ත වශයෙන් මෙහි සඳහන්ව ඇති ''උරුමයේ'' ප්‍රධාන නියෝජිතයා ලෙසට ලෙනින් විසින් සලකන ලද්දේ නිකොලායි චෙර්නිෂේව්ස්කි ය. ලෙනින්,සයිබීරියාවේ පිටුවහලෙහි සිටි තැන සිට 1899 ජනවාරි 26 දින ඒ. එන්. පොත්රේසව්ට එවූ ලිපියක මෙසේ ලීවේය. ''...මම කිසිතැනෙකදී ස්කාල්දින්ගෙන් උරුමය භාර ගැනීමට ඇත්ත වශයෙන්ම අදහස් නොකරමි. උරුමය වෙනත් අයගෙන් භාර ගත යුතු බවට කිසිම සැකයක් නැත. මා චෙර්නිෂේව්ස්කි ගැන සිත්හි තබාගෙන, ඔහු ගැලපෙන සේ නොගැනීම ගැන හේතු දක්වා 237 පිටුවෙහි (සම්පූර්ණ කෘති, පස්වැනි මුද්‍රණය,වෙළුම 2,පිටුව 250) ඇතුලත් කර ඇති සටහන(සතුරාගෙන් එල්ලවිය හැකි පහරෙන්) මා ආරක්ෂා කරනු ඇත. (සම්පූර්ණ කෘති, පස්වැනි මුද්‍රණය, වෙළුම 46, පිටු 18-19).

98 ගම්බදින් එවන ලියුම් — නරෝද්නික් ලේඛකයෙකු වූ ඒ. එන්. එංගල්ගාර්ද්ත් විසින් ලියන ලද එම ලිපිවලට මහත් ප්‍රසිද්ධියක් ලැබුණේ ය.1872 හා 1881 කාලය අතර මෙම ලිපිවලින් එකොළහක් ''ඔතේචෙස්ත්වෙන්නිය සපිස්කි'' විසින් පළ කරන ලදී. දෙළොස්වැනි ලිපිය 1887 දී පළ විය.

99 ''සෙම්ලෙදේල්චෙස්කයා ගසේතා'' (''කෘෂිකාර්මික පත්‍රය'') — මෙය රාජ්‍ය දේපල අමාත්‍යංශයේ (1894 පටන් — රාජ්‍ය දේපල හා කෘෂිකර්මාන්තය භාර අමාත්‍යංශය) පත්‍රය විය. එය 1834 සිට 1917 දක්වා පළ විය.

100 ''වෙස්ත්නික් යෙව්රෝපි'' — ධනපති-ලිබරල් උපනතියක් ගත් ඓතිහාස-දේශපාලන හා සාහිත්‍ය මාසික සඟරාවකි. එය 1866 පටන් 1918 දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ විය. මෙම සඟරාව විප්ලවවාදී මාක්ස්වාදීන්ට විරුද්ධව එල්ල කළ ලිපි පළ කළේ ය.

101 ලෙනින් මෙහි සඳහන් කරන්නේ ස්කාල්දින් ගැන ය. උපුටා දක්වන්නේ (ස්කාල්දින්ගේ, ''ඈත පිටිසර හා අගනුවර'') ඔහුගේ පොතෙනි.

102 ''නෝවය ස්ලෝව'' (නව වචනය) — ලිබරල් නරෝද්නික්වරුන් 1894 පටන් සාන්ත පීටර්ස්බර්ග්හි පළ කළ මාසික, විද්‍යාත්මක-සහිත්‍ය හා දේශපාලන සඟරාවකි. 1897 මුලදී එය ''නීත්‍යානුකූල මාක්ස්වාදීන්'' (පී. බී. ස්ත්‍රුවේ, එම්. අයි. තුගාන්-බරනොව්ස්කි සහ තවත් අය) විසින් හිමි කරගන්නා ලදී. එය 1897 දී සාර් ආණ්ඩුව විසින් වසා දමන ලදී.

103 කේ. මාක්ස් සහ එෆ්. එංගල්ස්, ''ශුද්ධ පවුල'', (හයවැනි පරිච්-ඡේදය I. සම්පූර්ණ විවේචනයේ පළමු පියවර).

104 ජී. වී. ප්ලෙහානව්, ඔහුගේ ''ඉතිහාසය කෙරෙහි අද්වෛතවාදී අදහසේ සංවර්ධනය පිළිබඳ ප්‍රශ්නය ගැන'' යන පොත ලියුවේ ''එන්. බෙල්තව්'' යන ව්‍යාජ නාමය යටතේ ය. එය 1895 දී නීති විරෝධී ලෙස සාන්ත පීටර්ස්බර්ග්හි පළ විය.

105 මෙහි සඳහන් කෙරෙන්නේ ජී. වී. ප්ලෙහානව්ගේ ''ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පය'' යන ලිපිය ගැන ය. එය ''නෝවය ස්ලෝව'' අංක 12 හි 1897 සැප්තැම්බර් මස පළ විය. එහි අත්සන යොද තිබුණේ එන්. කාමෙන්ස්කි යනුවෙනි.

106 "Schmollers Jahrbuch" — එහි සම්පූර්ණ නම "Jahrbuch für Gesetzgebung, Verwaltung und Volkswirtschaft im Deutschen Reich" (ජර්මන් අධිරාජ්‍ය සඳහා ව්‍යවස්ථාදායක,පරිපාලන හා ආර්ථික වාර්ෂිකය) — 1877 පටන් ජර්මන් ධනපති අර්ථශාස්ත්‍රඥයන් පළ කරන ලද දේශපාලන අර්ථශාස්ත්‍රය ගැන ලියන සඟරාවකි.

107 ''නෙදෙල්ය'' (''සතිය'') — ලිබරල්-නරෝද්නික් දේශපාලන සහ සාහිත්‍ය ප්‍රවෘත්ති පත්‍රයකි. එය 1866 පටන් 1901 දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ විය. එය ඒකාධිපත්‍යයට විරුද්ධව සටන් කිරීමට විරුද්ධ විය; ඊනියා ''සුළු කරුණු'' න්‍යායට පක්ෂවාදී විය, නැත-හොත්, විප්ලවවාදී අරගලයෙන් වැලකී ''සංස්කෘතික කටයුතුවල'' යෙදෙන ලෙස එය බුද්ධිමතුන්ට ආයාචනා කළේය.

108 ''කළ යුත්තේ කුමක්ද? අප ව්‍යාපාරයේ දැවෙන ප්‍රශ්න'' — ලෙනින් විසින් මෙම කෘතිය ලිවීමට 1901 වසන්තයේදීම අදහස් කරන ලද අතර එය ලියන ලද්දේ 1901 අවසාන භාගය හා 1902 මුල් භාගය අතර තුර කාලයේදී ය. 1901 දෙසැම්බර් මාසයේ ''ඉස්ක්‍රා'' අංක 12 කලාපයේ ''ආර්ථිකවාදයේ ආරක්ෂකයින් සමග සාකච්ඡාවක්'' යන මැයෙන් ලිපියක් පළ කළ ලෙනින්, පසුව, එය ''කළ යුත්තේ කුමක්ද?'' යන කෘතියේ සාරාංශයක් ලෙසට හැඳින් විය. ඔහු 1902 ජනවාරි මස පොත ලිවීම අවසාන කොට පෙබරවාරි මස පොතට පෙර වදන ලියුවේය. එම මාර්තු මස ආරම්භයේදී ස්ටුට්ගාර්ට්හි දීට්ස් ප්‍රකශකයෝ පොත පළ කළහ.

''කළ යුත්තේ කුමක්ද?'' යන කෘතිය, රුසියානු කම්කරු පංතියේ විප්ලවවාදී මාක්ස්වාදී පක්ෂයක් සඳහා වූ සටනේදී ද, රු. ස. ප්‍ර. ක. පක්ෂයේ කාරක සභා සහ සංවිධාන තුළ මෙන්ම, 1903 සම්මේලනයේදීත් ලෙනින්වාදී-ඉස්ක්‍රා උපනතිය ජයග්‍රහණය සඳහා ද ඉතා වැදගත් කාර්ය කොටසක් ඉටු කළේය.

1902 හා 1903 වර්ෂවලදී මෙම පොත රුසියාවේ සමාජ-ප්‍රජා-තන්ත්‍රවාදී සංවිධාන තුළ පුළුල් ලෙස බෙද හරින ලදී.

''දොලොස් අවුරුද්ද'' යන කෘති එකතුව සමග ''කළ යුත්තේ කුමක්ද? යන කෘතියද සමහර වෙනස්කම් සහිතව 1907 දී පළ කරන ලදී. මෙම මුද්‍රණය 1902 මුල් පිටපත අනුව සහ 1907 සංස්කරණයේ පිටපත සමග සසඳා පළ කරන ලදී.

109 ''ඉස්ක්‍රා'' (''ගිනි පුපුර'') — ප්‍රථම නීති විරෝධී සමස්ත-රුසියා මාක්ස්වාදී ප්‍රවෘත්ති පත්‍රය විය.ලෙනින් 1900 දී එය ආරම්භ කළේය. කම්කරු පංතියේ විප්ලවවාදී මාක්ස්වාදී පක්ෂය ඇති කිරීමේදී වැදගත් කාර්ය කොටසක් ඉටු කළේය. ලෙනින්ගේ ''ඉස්ක්‍රා'' පත්‍රයේ පළමුවැනි කලාපය 1900 දෙසැම්බර් මස ලයිප්සිග්හි පළ කරන ලදී.ඉන් පසුව එය මියුනික් නගරයේද,1902 ජූලි මස සිට ලන්ඩනයේද, 1903 වසන්තයේ පටන් ජිනීවාහිද මුද්‍රණය කරන ලදී. පත්‍රයේ කර්තෘ මණ්ඩලය සමන්විත වූයේ වී. අයි. ලෙනින්, ජී. වී. ප්ලෙහානව්, එල්. මාර්තව්, පී. බී. අක්සෙල්රොද්, ඒ. එන්. පොත්රෙසව් හා

වී. අයි. සසූලිච් ගෙනි. ලෙනින් ඇත්ත වශයෙන්ම "ඉස්ක්‍රා" පත්‍රයේ ප්‍රධාන පුරුෂයා හා ප්‍රධාන කර්තෘ වරයා විය. ඔහු, පක්ෂ සංවිධානය හා රුසියාවේ නිර්ධන පංතියේ පංති අරගලය පිළිබඳ සියලු වැදගත් ප්‍රශ්න ගැනද, ලෝකයේ වැදගත් ප්‍රශ්න ගැන ද, ඔහුගේ ලිපි පළ කළේ ය.

"ඉස්ක්‍රා" පත්‍රය පක්ෂ බලවේගයන් එක්තැන් කරන මධ්‍යස්ථානය විය; පක්ෂ සාමාජිකයන් පුහුණු කරන මධ්‍යස්ථානය විය. රුසියානු නගර ගණනාවකම (සාන්ත පීටර්ස්බර්ග්, මොස්කව්, සමාරා සහ වෙනත් නගරවල) ලෙනින්ගේ "ඉස්ක්‍රා" ප්‍රතිපත්තිය අනුව රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ (රු. ස. ප්‍ර. ක. ප.) කණ්ඩායම් සහ කාරක සභා සංවිධානය විය. 1902 දී සමාරාහි පැවති "ඉස්ක්‍රා" කණ්ඩායමේ සම්මේලනයේදී රුසියානු "ඉස්ක්‍රා" සංවිධානය ආරම්භ කරන ලදී.

ලෙනින්ගේ ක්‍රියාරම්භකත්වය සහ සහභාගිත්වය ඇතිව, "ඉස්ක්‍රා" කර්තෘ මණ්ඩලය පක්ෂයේ කෙටුම්පත් වැඩ පිළිවෙළ සකස් කර ("ඉස්ක්‍රා" අංක2හි පළ විය), රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනය සඳහා කටයුතු සූදානම් කළේ ය. එය 1903 ජූලි හා අගෝස්තු මාසවල පවත්වන ලදී. පක්ෂය ගොඩ නැගීම සඳහා කළ අරගලයේදී "ඉස්ක්‍රා" පත්‍රය ඉටු කළ ඉතා වැදගත් කාර්ය කොටස ගැන විශේෂ යෝජනාවක් මගින් සඳහන් කළ සම්මේලනය එම පත්‍රය පක්ෂයේ ප්‍රධාන පුවත්පත ලෙස පිළිගත්තේය. එය පත්‍රය සඳහා ලෙනින්, ප්ලෙහානව් හා මාර්තව් යන තිදෙනාගෙන් සමන්විත කර්තෘ මණ්ඩලයක්ද අනුමත කළේය. පසුගිය කර්තෘ මණ්ඩලයේ සිටි සියලුම දෙනා නැවත පත් කළ යුතු යයි කියා සිටි මාර්තව් එයට සහභාගි වීම ප්‍රතික්ෂේප කළෙන් අංක 46 සිට 51 දක්වා කලාප සංස්කරණය කරන ලද්දේ ලෙනින් හා ප්ලෙහානව් විසිනි. පසුව ප්ලෙහානව් මෙන්ෂෙවික් ප්‍රතිෂ්ඨාව පිළිගෙන, පැරණි මෙන්ෂෙවික් සංස්කාරක වරුන් සම්මේලනයෙන් ප්‍රතික්ෂේප කරනු ලැබීමද නොතකා, ඔවුන් සියලු දෙනාම කර්තෘ මණ්ඩලයට ඇතුලත් කර ගන්නා ලෙස ඉල්ලුවේය. මෙයට එකඟ වීම ලෙනින්ට කළ නොහැකි වූයෙන්, ඔහු 1903 ඔක්තෝබර් 19 (නව ක්‍රමයට, නොවැම්බර් 1) දින "ඉස්ක්‍රා" කර්තෘ මණ්ඩලයෙන් ඉවත් විය. ඔහු මධ්‍යම කාරක සභාවට සම්බන්ධ කරගන්නා ලදුව, එහි සිට මෙන්ෂෙවික් අවස්ථාවාදීන්ට විරුද්ධව අරගලය ගෙන ගියේය. "ඉස්ක්‍රා" අංක 52 කලාපය සංස්කරණය කරන ලද්දේ ප්ලෙහානව් විසින් තනිවමය. 1903 නොවැම්බර් 13 (26) ප්ලෙහානව්, ඔහුගේම අභිමතය අනුව හා සම්මේලනයේ කැමැත්ත උල්ලංඝනය කරමින්, පැරණි මෙන්ෂෙවික් සංස්කාරකවරු සියලු දෙනාම කර්තෘ මණ්ඩලයට බඳවා ගත්තේය. අංක 52 කලාපයේ පටන් මෙන්ෂෙවික්වරු "ඉස්ක්‍රා" පත්‍රය ඔවුන්ගේම අවස්ථාවාදී පත්‍රයක් බවට හරවා ගත්හ.

110 "පටන්ගත යුත්තේ කොතැනින්ද?" වී. අයි. ලෙනින්ගේ මෙම ලිපිය ප්‍රථමයෙන්ම මුද්‍රණය කෙරුණේ "ඉස්ක්‍රා" අංක 4 කලාපයේ කර්තෘ වාක්‍යය ලෙසට ය. එවකට රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ඉතාමත් වැදගත්, තැනක් ගත් දේශපාලන උද්ඝෝෂණයේ ස්වභාවය හා ප්‍රධාන සන්ධාරය, සටන්කාමී සහ සමස්ත රුසියා මාක්ස්වාදී පක්ෂයක් ගොඩනැගීමේ සංවිධාන කර්තව්‍ය හා සැලැස්ම යන ප්‍රශ්නවලට පිළිතුරු එහි අන්තර්ගත විය. එම ලිපිය, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට වැඩ පිළිවෙළක් වූ හෙයින්, රුසියාවේ හා විදේශයෙහි පුළුල් ලෙස බෙද හරින ලදී. ප්‍රාදේශීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන එය "ඉස්ක්‍රා" පත්‍රයෙන් කියවා, එය කුඩා පොතක් වශයෙන් නැවත පළ කළහ.

"පටන් ගත යුත්තේ කොතැනින්ද?" යන ලිපියෙන් වී. අයි. ලෙනින් ඉදිරිපත් කළ හා "කළ යුත්තේ කුමක්ද?" කෘතියෙන් වඩාත් විස්තරාත්මකව සංවර්ධනය කළ සංවිධානාත්මක හා උපක්‍රමීය අදහස් රුසියාවේ මාක්ස්වාදී පක්ෂයක් ගොඩ නැගීමේ එදිනෙද ප්‍රායෝගික කාර්යයේදී මහත්සේ උපකාරී විය.

111 1901 වසන්තයේදී විදේශගත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන අතර (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය, බුන්ද්වරුන්ගේ විදේශගත කමිටුව, "සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා විප්ලවවාදී සංවිධානය සහ "ඉස්ක්‍රා"-"සර්යා" සංවිධානයේ විදේශගත අංශය), "අරගලය" කණ්ඩායමේ මූලිකත්වය යටතේ හා එය මාර්ගයෙන් එකඟතාවය සහ එක්සත් බව සඳහා සාකච්ඡා පැවැත්විණි. එක්සත් වීම සිදුවිය යුතුව තිබූ සම්මේලනයට සූදානම් වීම සඳහා 1901 ජූනි මස ජිනීවාහිදී එම සංවිධානවල නියෝජිත වරුන් කැඳවන ලදී. "ජූනි" සාකච්ඡා සභාව නැතහොත් "ජිනීවා" සාකච්ඡා සභාව යන හැඳින්වීම මෙයට ලැබුණේ මේ අයුරිනි.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ විදේශගත සංවිධාන එක්සත් වීමේ සම්මේලනය සැප්තැම්බර් 21-22 (ඔක්තෝබර් 4-5) දිනවලදී සූරිච් නගරයේදී පවත්වන ලදී. "ඉස්ක්‍ර"-"සර්යා" සංවිධානයෙන් නියෝජිතයින් 6 දෙනෙක් ද (වී. අයි. ලෙනින්, එන්. කේ. කෘප්ස්කයා,

යූ. ඕ. මාර්තව් හා වෙනත් අය), ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී'' විප්ලවවාදී සංවිධානයෙන් නියෝජිතයින් 8 දෙනෙක්ද (ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ නියෝජිතයින් තිදෙනෙකු වන ජී. වී ප්ලෙහානව්, පී. බී. අක්සෙල්රොද්, වී. අයි. සසූලිච්), ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ නියෝජිතයින් 16 දෙනෙක්ද (බුන්ද් වරුන්ගේ විදේශගත කොමිටියේ නියෝජිතයින් 5 ක් ඇතුළුව)'' අරගලය'' කණ්ඩායමේ නියෝජිතයින් තිදෙනෙක්ද මෙයට සහභාගි වූහ. සම්මේලනයේදී ජූනි යෝජනාවලට රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ තුන්වැනි සම්මේලනයෙන් පිළිගත් අවස්ථාවාදී සංශෝධන හා එකතු කිරීම් කරන ලදී. එහි ප්‍රතිඵලයක් වශයෙන් සම්මේලනයට සහභාගි වුවන්ගෙන් විප්ලවවාදි කොටස — ''ඉස්ක්‍රා''-''සර්යා'' හා ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීයා'' සංවිධානවල නියෝජිතයෝ — එකාබද්ධ වීමේ ඇති අපහසු කම පිළිගත් අතර සම්මේලනයෙන් ඉවත්ව ගියහ. 1901 ඔක්තෝබර් මස ලෙනින්ගේ මූලිකත්වය යටතේ එම සංවිධාන ''රුසියානු විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විදේශගත ලීගය සමග සම්බන්ධයෙන් විය.

112 ''රබෝචිය දියල'' (කම්කරු ව්‍යාපාරය)—විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ නිල ප්‍රකාශනය විය. එය 1899 අප්‍රියෙල් සිට 1902 පෙබරවාරි දක්වා පළ විය. නිකුත් වූයේ කලාප 12 කි (පොත් ගණන නමයකි). ''රබෝචිය දියල''කර්තෘ මණ්ඩලය, විදේශ ''ආර්ථිකවාදීන්ගේ'' මධ්‍යස්ථානය විය. එය මාක්ස්වාදය ''විවේචනය කිරීමේ නිදහස'' පිළිබඳ වූ බර්න්ෂ්ටයින්ගේ සටන් පාඨයට ආධාර කළේය, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සංවිධාන ප්‍රශ්න හා උපක්‍රමීය ප්‍රශ්න ගැන අවස්ථාවාදී ස්ථාවරයත්,ගොවි ජනතාවගේ ඇති විප්ලවවාදී හැකියාවත් ආදිය ප්‍රතික්ෂේප කළේය. රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයේදී ''රබෝචිය දියල'' නියෝජනය කළේ පක්ෂයේ අන්ත දක්ෂිණාංශික අවස්ථාවාදී අංශය ය.

113 ''ආර්ථිකවාදය'' 1890 ගණන්වලදී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් කොටසක් අතර බිහිවූ අවස්ථාවාදී උපනතියකි. කම්කරු පංති ව්‍යාපාරයේ කර්තව්‍ය වන්නේ වැඩ කරන ජනතාවගේ තත්වය උසස් කර ගැනීම, වැඩ දිනය කොට කර ගැනීම, වැටුප් වැඩි කර ගැනීම ආදී ආර්ථික සටන පමණක් බව ආර්ථිකවාදීහු කියා සිටියහ. ආර්ථිකවාදීන්ගේ අදහස අනුව සාර්වාදයට විරුද්ධ දේශපාලන සටන ගෙනයා යුත්තේ කම්කරුවන් විසින් නොව ලිබරල්වාදී



ධනපති පංතිය විසින් ය. කම්කරු පංතියේම නිදහස් දේශපාලන පක්ෂයක් ගොඩ නැගීමට ඔවුහු විරුද්ධ වූහ. එසේම කම්කරු ව්‍යාපාරයෙහි වන විප්ලවවාදී හරය ප්‍රතික්ෂේප කරමින් සමාජවාදී දෘෂ්ටිය පතුරුවා හැරීමෙන් ඉවත් වූහ.

114 ''රබෝචයා ගසේතා'' (''කම්කරු පත්‍රය''). එය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කීව් කණ්ඩායමේ නීති විරෝධී පත්‍රය විය. පළ වූයේ කලාප දෙකක් පමණකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පළමුවැනි සම්මේලනය 1898 මාර්තු මස පැවැත්විනි එය ''රබෝචයා ගසේතා'' පක්ෂයේ නිල පුවත්පත වශයෙන් පිළිගත්තේය. සම්මේලනයෙන් පසුව මධ්‍යම කාරක සභාවත්, ''රබෝචයා ගසේත'' කර්තෘවරුනුත් සිර භාරයට ගෙන ඔවුන්ගේ මුද්‍රණාලය විනාශ කර දමන ලද හෙයින් තුන්වැනි කලාපය කිසි කලෙකක් එළි නොදුටුවේය. 1899 දී එම පත්‍රය යළිත් පටන් ගැනීමට ප්‍රයත්නයක් දරන ලදී. ලෙනින් ''කළ යුත්තේ කුමක්ද'' (වර්තමාන වෙළුමේ පිටු 281-288) පොතෙහි පස්වැනි පරිච්ඡේදයේ අ කොට්සෙහි ඒ ගැන සඳහන් කර ඇත.

115 ලසාල්වාදීන් සහ එසෙනාහ්වරු — පසුගිය ශත වර්ෂයේ හැට ගණන්වල හා මුල් හැත්තෑ ගණන්වල ජර්මන් කම්කරු පංති ව්‍යාපාරය තුළ පැවති පක්ෂ දෙකකි. මෙම පක්ෂ දෙක අතර තියුණු අරගලයක් පැවැත්තේය. එම අරගලය ඇති වූයේ උපක්‍රම පිළිබඳ ප්‍රශ්න පදනම් කරගෙන ය — විශේෂයෙන්ම එවකට ජර්මනියේ ඉතාමත් හදිසි දේශපාලන ප්‍රශ්නය වූ ජර්මනිය එක්සත් කිරීමේ මාර්ග පිළිබඳ ප්‍රශ්නය ගැන ය.

ලසාල්වාදීන් — ජර්මන් සුළු ධනපති සමාජවාදියෙක් වූ ෆේර්දිනන්ද් ලසාල්ගේ අනුගාමිකයෝ ය. ඔවුහු, 1863 ලියිප්සිග්හි පැවැත්වුනු කම්කරු සංගම්වල සම්මේලනයකදී පිහිටුවන ලද පොදු ජර්මන් කම්කරු සංගමයේ සාමාජිකයින් වූහ. එම සංගමයේ ප්‍රථම සභාපති වූයේ, එහි වැඩ පිළිවෙළ කෙටුම්පත් කළ හා එහි උපක්‍රම සකස් කළ ලසාල් ය. පොදු ජන මැතිවරන අයිතිය සඳහා සටන පො. ජ. ක. සංගමයේ වැඩ දේශපාලන පිළිවෙළ මගින් සම්මත කරගත් අතර රජයෙන් ආධාර ලබන නිෂ්පාදනීය කම්කරු සංගම් පිහිටුවීම එහි ආර්ථික වැඩ පිළිවෙළින් සම්මත කර ගත්හ. ලසාල්වාදීහු ඔවුන්ගේ ප්‍රායෝගික කටයුතුවලදී බිස්මාර්ක්ගේ මහ බලවත් දේශපාලනයට සහයෝගය දුන්හ. මාක්ස් හා එංගල්ස්, අවස්ථාවන් ගණනාවකදීම ලසාල්වාදීන්ගේ න්‍යාය, උපක්‍රම හා

සංවිධාන ප්‍රතිපත්ති විවේචනය කරමින් ඒවා ජර්මන් කම්කරු පංති ව්‍යාපාරයේ අවස්ථාවාදය ලෙසට හැඳින් වූහ.

එයිසෙනාහ්වරු — 1869 දී එයිසෙනාහ්හිදී පැවැත්වුනු ආරම්භක සම්මේලනයේදී පිහිටුවන ලද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සාමාජිකයෝ ය. එයිසෙනාහ්වරුන්ගේ නායකයන් වූයේ, මාක්ස්ගේ හා එංගල්ස්ගේ දෘෂ්ටිමය බලපෑම යටතේ සිටි අවුගුස්ත් බෙබෙල් හා විල්හෙල්ම් ලීබ්ක්නෙහ්ත් ය. ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය තමන් ''ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ කොටසක් වන බවත් එහි අපේක්ෂාවන් සමග එකඟ වන බවත්'', එයිසෙනාහ් වැඩ පිළිවෙළෙහි සඳහන් විය. ජර්මනිය එක්සත් කිරීම පිළිබඳ ප්‍රශ්නයේදී, එයිසෙනාහ්වරු ''ප්‍රජාතන්ත්‍රවාදී සහ නිර්ධන පංති මාර්ගයට පක්ෂව, ප්රුසියන්වාදයට, බිස්මාර්ක්වාදයට හා ජාතිකවාදයට සුළු වශයෙන් හෝ ඉඩ දීමට විරුද්ධව අරගල කිරීමට පක්ෂව'' සිටියහ (වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 23, පිටුව 366).

1871 දී ජර්මන් අධිරාජ්‍යය පිහිටුවන ලද පසු ලසාල්වාදීන් සහ එයිසෙනාහ්වරුන් අතර ප්‍රධාන උපක්‍රමීය වෙනස අහෝසි වී ගියේය. 1875 දී කම්කරු පංති ව්‍යාපාරයේ වැඩි ක්‍රියාකාරිත්වයක් ඇති වූ විට, ආණ්ඩුවේ හිංසා පීඩා වැඩි වූ විට පක්ෂ දෙක ගෝත් සම්මේලනයේදී එකම පක්ෂයක්, එනම්, ජර්මනියේ සමාජවාදී කම්කරු පක්ෂය වන සේ එක්සත් වූහ. (පසුව එහි නම ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය යනුවෙන් වෙනස් කරන ලදී). ගෝත් සම්මේලනයේදී පිළිගත් වැඩ පිළිවෙළ ගැන 145 වැනි සටහනේ බලන්න.

116 ෆේබියන්වරු — බ්‍රිතාන්‍ය ප්‍රතිසංස්කරණවාදී සංවිධානයක් වූ ෆේබියන් සමාජයේ සාමාජිකයෝ මෙසේ හඳුන්වන ලදහ. මෙම සංවිධානය නම් කරන ලද්දේ, හැනිබාල්ට විරුද්ධව තීරණාත්මක සටන් මඟ හැරීම හා ඔහුගේ ප්‍රමාදකාරී උපක්‍රම ගැන ප්‍රසිද්ධියක් ලත් රෝමන් සෙනාපති ෆේබියස් මැක්සිමුස් කුන්ක්තාතොර් (''සුනංගුවා'') ගේ නම අනුව ය. ෆේබියන් සමාජයේ සාමාජිකයන් වැඩි කොටස ධනපති බුද්ධිමතුන්, විද්‍යාඥයන්, ලේඛකයන් හා දේශපාලනඥයන් වූහ. (ඒ අතර, නිදර්ශනයක් වශයෙන් සිඩ්නි සහ බියට්රිස් වෙබ්, ජොජ් බර්නාඩ් ෂෝ හා රැම්සේ මැක්ඩොනල්ඩ් ද විය). ලෙනින් ෆේබියන් ව්‍යාපාරය විස්තර කළේ ''අන්ත අවස්ථාවාදී උපනතියක්'' ලෙසට ය. (වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 16, පිටුව 338). 1900 දී ෆේබියන් සමාජය කම්කරු (ලේයිබර්) පක්ෂයට සම්බන්ධ විය.

117 මෙහි සඳහන් වන්නේ බ්‍රිතාන්‍ය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනය ගැන ය. අංක 81 දරන සටහන බලන්න.

118 නරෝද්නය වෝලිය (ජනතා අධිෂ්ඨානය). — සෙම්ල්යා ඊ වෝලිය සංවිධානය භේදවීමෙන් පසු, 1879 අගෝස්තු මාසයේ පිහිටුවන ලද නරෝද්නික් ත්‍රස්තවාදීන්ගේ රහසිගත දේශපාලන සංවිධානයක්. නරෝද්නික් මනෝරාජිකවාදී-සමාජවාදී අදහස් කෙරෙහි එල්බ සිටින අතරම, නරෝද්නය වෝලිය දේශපාලනය අරගලය ගැන විශ්වාස කළේය; ඒකාධිපත්‍යය පෙරළා දැමීම සහ දේශපාලන නිදහස දිනා ගැනීම ප්‍රධාන අරමුණක් ලෙස සැලකුවේය. නරෝද්නය වෝලිය සාර්වාදී ඒකාධිපත්‍යයට විරුද්ධව වීරෝදාර ලෙස සටන් කළේය. එහෙත්, ''ක්‍රියාශීලී'' වීරයන් සහ අකර්මණ්‍ය ''පොදු ජනතාව'' පිළිබඳ වැරදි න්‍යාය පිළිගත් එය, ජනතාවගේ සහභාගිත්වයෙන් තොරව, තමන්ගේම ප්‍රයත්නය තුළින්, ආණ්ඩුව බිය වද්දන සහ අසංවිධානාත්මක කරන තනි වූ ත්‍රස්තය මගින් නව සමාජයක් සැදිය හැකි යයි එය අපේක්ෂා කළේය. 1881 මාර්තු 1 දින දෙවැනි ඇලෙක්සාන්දර් සාර් රජු ඝාතනය කිරීමෙන් පසුව, මලේච්ඡ පළිගැනීම්, මරණ දණ්ඩුවම් දීම හා ප්‍රකෝපකාරී ක්‍රියා මගින් එම සංවිධානයෙහි පැවැත්ම කෙළවර වන සේ එය විනාශ කර දැමීමට ආණ්ඩුවට හැකි විය. මෙම සංවිධානයට නව ජීවනයක් දීමට අසූ ගණන්වලදී නැවත නැවතත් දරන ලද ප්‍රයත්නයන් අසාර්ථක විය.

119 අංක 79 දරන සටහන බලන්න.

120 ''රුසියානු විවේචකයින්'' — මෙසේ සඳහන් කර ඇත්තේ, නීත්‍යානුකූල ප්‍රකාශන මඟින්, විප්ලවවාදී මාක්ස්වාදයට විරුද්ධත්වය දැක් වූ ඊනියා ''නීත්‍යානුකූල මාක්ස්වාදීන්'' (ස්ත්රුවේ, බුල්ගාකව්, බර්දයෙව් සහ අන් අය) ගැන ය. ''නීත්‍යානුකූල මාක්ස්වාදය'' — 1890 ගණන්වලදී රුසියාවේ ධනපති-ලිබරල්වාදී බුද්ධිමතුන් අතර පැන නැගි සමාජ-දේශපාලන උපනතියකි. තමන් මාක්ස්වාදීන් යැයි කියාගත් ස්ත්රුවේ, බුල්ගාකව්, තුගාන්-බරනෝව්ස්කි ආදීහු මාක්ස්වාදී න්‍යායයේ ''විප්ලවවාදී ජීවගුණය'' වන ධනපති ක්‍රමයේ

අනිවාරණීය විනාශය, සමාජවාදී විප්ලවය, සමාජවාදයට පරිවර්තනය වීම පිළිබඳ ධර්මය සම්පූර්ණයෙන්ම ඉවත ලමින් වැඩවසම් සමාජ-ආර්ථික ආකෘතිය ධනවාදය කරා පරිවර්තනය වීම පිළිබඳ න්‍යාය පමණක් මාක්ස්වාදී ධර්මයෙන් වෙන් කර ගතහ. නීත්‍යානුකූල මාක්ස්වාදීහු නීතියෙන් අවසරදී ඇති පත්‍ර මාර්ගයෙන් රුසියාවේ ධනපති ක්‍රමයේ සංවර්ධනයේ අනිවාරණීයත්වය නොපිළිගත් නරෝද්නික්වරුන් විවේචනය කළහ. අනතුරුව නීත්‍යානුකූල මාක්ස්වාදීහු මාක්ස්වාදයේ සතුරන් බවට පත්ව කැඩෙට් වරුන්ගේ ධනපති පක්ෂයේ නායකයින් බවට පත් වූහ.

121 ජුපිටර් හා මිනර්වා — පුරාණ රොමන්වරු දේවත්වයෙන් ඇදහූ දෙවිවරුන් ය. ජුපිටර් අහසට අධිපති ගෙරවීම් ඇති කරන දෙවියා වශයෙන්ද, රෝමානු අධිරාජ්‍යයේ අතිමහෝත්තම දේවත්වය වශයෙන්ද සලකන ලදී. මිනර්වා යුද්ධ දේවදූතිකාව ලෙස සලකන ලද අතර කර්මාන්තයට, විද්‍යාවට හා කලාවට අධිපති දෙව් දූව ලෙසද සලකන ලදී.

122 විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය — "ශ්‍රම විමුක්තිය" කණ්ඩායමේ ක්‍රියාරම්භකත්වය මත හා සියලුම සාමාජිකයන් කණ්ඩායමේ වැඩ පිළිවෙළ පිළිගන්නේය යන කොන්දේසිය මත 1894 දී මෙය පිහිටුවන ලදී. "සංගමයේ" ප්‍රකාශන සංස්කරණය කණ්ඩායමට පැවරුනු අතර, 1895 දී එය එහි මුද්‍රණාලය කණ්ඩායමේ පරිහරණය සඳහා පැවරුවේය. ප්‍රථම රු. ස. ප්‍ර. ක. පක්ෂයේ සම්මේලනය (1898 මාර්තු) පක්ෂයේ විදේශ නියෝජිතයා ලෙස "සංගමය" පිළිගත්තේ ය. පසුව "සංගමය" තුළ අවස්ථාවාදීන් — "ආර්ථිකවාදීන්" හා "තරුණයෝ" වශයෙන් හඳුන්වන ලද අයද ප්‍රධානත්වයට පත් විය. 1898 දී සූරිච්හි පවත්වන ලද විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ ප්‍රථම සම්මේලනයේ අවස්ථාවාදී බහුතරය රු. ස. ප්‍ර. ක. පක්ෂයේ ප්‍රථම සම්මේලනයේ ප්‍රකාශනයට ආධාර කිරීම ප්‍රතික්ෂේප කළහ. සංගමය තුළ අභ්‍යන්තර අරගලය, (1900 අප්‍රියෙල් මස ජිනීවාහි) එහි දෙවැනි සම්මේලනය දක්වා සහ එය තුළද පැවතුනි. එහි ප්‍රතිඵලය වූයේ, "ශ්‍රම විමුක්තිය" කණ්ඩායම හා එහි අනුගාමිකයින් සම්මේලනයෙන් ඉවත යාම සහ ඔවුන් ස්වාධීන "සොට්සල්-ඩිමොක්‍රැට්" සංවිධානය පිහිටුවා ගැනීමය.

රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි 1903 සම්මේලනයේදී සංගමයේ නියෝජිතයෝ ("රබෝචිය දියල" කණ්ඩායම) අන්ත අවස්ථාවාදී තත්වයක් ගත්හ. විදේශ ගත එකම පක්ෂ සංවිධානය ලෙසට සම්මේලනය විසින් විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ලීගය පිළිගන්නා ලද පසු ඔවුහු සම්මේලනයෙන් පිටව ගියහ. සංගමය විසුරුවා හරින ලද බව සම්මේලනය ප්‍රකාශ කළේය.

123 කන්ද සහ ජිරොන්ඩ — දහ අට වැනි ශත වර්ෂය අගදී, ප්‍රංශ ධනපති විප්ලවය ඇති වූ සමයේදී ධනපති දේශපාලන කණ්ඩායම් දෙකක නම් ය. කන්ද වශයෙන් හැඳින් වුනේ ජැකොබින්වරු ය. එකල විප්ලවවාදී පංතිය වූ, එමෙන්ම, ඒකාධිපතිත්වය හා වැඩවසම් ක්‍රමය අහෝසි කිරීමට පක්ෂවාදීව කටයුතු කළ ධනපති පංතියේ වඩාත් අධිෂ්ඨාන සහගත නියෝජිතයන් වූයේ ඔවුන් ය. ජැකොබින්වරු මෙන් නොව, ජිරොන්ඩවරු විප්ලවයත්, ප්‍රතිවිප්ලවයත් අතර වැනෙමින්, රාජාණ්ඩුව සමග බේරුම් කර ගැනීම්වලට එළඹුනහ.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදීන් "සමාජවාදී ජිරොන්ඩ" ලෙසද, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නිර්ධන පංති ජැකොබින්වරු, නැතහොත්, "කන්ද" ලෙසද ලෙනින් විසින් හඳුන්වන ලදී. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ බොල්ෂෙවික් හා මෙන්ෂෙවික් යනුවෙන් භේද වූ පසු මෙන්ෂෙවික්වරු රුසියානු කම්කරු පංති ව්‍යාපාරයේ ජිරොන්ඩ උපනතිය ලෙසට, ලෙනින් බොහෝ විට අවධාරණයෙන් හැඳින් වූයේය.

124 "සර්යා" ("උදව") — "ඉස්ක්‍රා" කර්තෘ මණ්ඩලය 1901 හා 1902 වර්ෂවලදී, ස්ටුට්ගාර්ට්හි පළ කළ මාක්ස්වාදී විද්‍යාත්මක හා දේශපාලන සඟරාවකි. තුන් වරකට කලාප හතරක් නිකුත් කරන ලදී.

ජාත්‍යන්තර සහ රුසියානු සංශෝධනවාදය විවේචනය කළ "සර්යා" මාක්ස්වාදයේ න්‍යායික සත්‍යයන් ආරක්ෂා කළේය.

125 "බිස්සග්ලාවිවරු"—මෙය බිඳ ගෙන ඇත්තේ බිස්සග්ලවියා (සිරස්තලයක් නැති) යන සඟරාවේ නමින් ය. මෙයින් හැඳින් වුනේ, 1905-1907 විප්ලවය පහත බැස ගෙන යන කල පිහිටුවන ලද අර්ධ කැඩෙට්, අර්ධ මෙන්ෂෙවික් රුසියානු ධනපති බුද්ධිමතුන් කණ්ඩායමකි. මොවුන් නම ලබා ගත් ඒ දේශපාලන සතිපතා ප්‍රකාශනය වූ "බිස්සග්ලාවියා" 1906 ජනවාරි සිට මැයි දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ විය. එහි කර්තෘ වූයේ ප්‍රොකපොවිච් ය. ඔවුන්ගේ නාමික

අපක්ෂපාතිත්වය කඩතුරාවක් කරගත් ඔවුහු, ධනපති ලිබරල්වාදයේ හා අවස්ථාවාදයේ වාහන ලෙසට කටයුතු කරමින් ජාත්‍යන්තර හා රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදයට ආධාර කළහ.

126 "Vorwärts" ("ඉදිරියට") — දිනපතා පුවත්පතකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රධාන නිල පත්‍රය විය; එය 1891 සිට පළ කිරීම ආරම්භ විය. එංගල්ස් "Vorwärts" පත්‍රය මගින් අවස්ථාවාදය මතුවන සෑම අවස්ථාවකටම විරුද්ධව සටන් කළේය. නමුත් අනූගණන්වල අග භාගයේදී, එංගල්ස්ගේ අභාවයෙන් පසුව, පත්‍රය පක්ෂයේ දක්ෂිණාංශය අතට පත් වූයෙන් එතැන් පටන් නිතිපතාම අවස්ථාවාදීන්ගේ ලියවිලි පළ කළේ ය.

පළමු ලෝක යුද්ධය සමයේදී "Vorwärts" පත්‍රය සමාජ-ජාත්‍යෝන්මාදවාදී උපනතියක් අනුගමනය කළේ ය. රුසියාවේ ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව, එය සෝවියට් විරෝධී ප්‍රචාරයේ එක ප්‍රධාන උල්පතක් විය. එය පළ කිරීම 1933 දී නැවතිනි.

127 ජර්මනියේ සමාජවාදී කම්කරු පක්ෂයේ සම්මේලනයක් 1877 මැයි 22 සිට 29 දක්වා ගෝත්හිදී රැස්විය. සම්මේලනය පක්ෂ පුවත්පත් ගැන සාකච්ඡා කරමින් සිටියදී, සමර නියෝජිතවරු (මෝස්ත්, වාල්තායිහ්) උත්සාහ කළේ, පක්ෂයේ මධ්‍යම පත්‍රය වූ "Vorwärts" පත්‍රයේ ඩූරිංට විරුද්ධව එංගල්ස් ලියූ ලිපි පළ කිරීම සම්බන්ධයෙන් එය දෝෂ දර්ශනයට ලක් කිරීමටය. නමුත් ඔවුන් පරාජය විය. (එම ලිපි "ඩූරිං විරෝධය. එව්ගෙනි ඩූරිං මහතාගේ විද්‍යා විප්ලවය" යන මාතෘකාව යටතේ 1878 දී පොතක් වශයෙන් පළ කරන ලදී. එංගල්ස්ගේ තියුණු විද්‍යාත්මක ස්වභාවය ගැන ඔහු දෝෂ දර්ශනයට ලක් කිරීමට ගත් උත්සාහයන්ද පරාජය විය. එසේ වුවද, ප්‍රායෝගික හේතු අනුව න්‍යායික ප්‍රශ්න ගැන පත්‍රයෙහිම නොව, අතිරේකයක් මගින් සාකච්ඡා කරගෙන යාමට සම්මේලනය එකඟ විය.

128 කතීඩර් සමාජවාදීන් — විශ්වවිද්‍යාල මහාචාර්ය අසුන්වලින් (ජර්මන් බසින් — Katheder) ධනපති ලිබරල් ප්‍රතිසංස්කරණවාදය දේශනා කරමින්, එය සමාජවාදය ලෙසට හැඳින් වූ හැත්තෑ ගණන්වල හා අසූ ගණන්වල පැවති ධනපති දේශපාලන අර්ථ ශාස්ත්‍රයේ උපනති අතුරෙන් එකක නියෝජිතයන් මෙනමින් හැඳින්විනි.

ධනපති රජය, ධනපතීන්ගේ අයිතිවාසිකම් වලට අත නොගසමින්ද නිර්ධන පංතියේ ඉල්ලීම් හැකි ආකාරයෙන් සලකා බලමින්ද පංති අතර සමගියක් ඇති කර වීමට හා ක්‍රමක් ක්‍රමයෙන් සමාජවාදය ගොඩ නැගීමට හැකි "අධි පංතිමය" බලයක් බව ඔවුහු කියා සිටියහ. කතීඩර් සමාජවාදීන්ගේ දෘෂ්ටිය රුසියාව තුළ පතුරුවා හැරියේ නීත්‍යානුකූල මාක්ස්වාදීන් ය.

129 නස්ද්‍රියෝව් — ගෝගොල්ගේ "මළ ගිය ආත්ම" නැමති පොතේ එන චරිතයකි. ඔහු ගිය ගිය තැන තින්ද සහගත ලෙස හැසිරීම ගැන ප්‍රසිද්ධය.එමනිසා ඔහු ඓතිහාසික මිනිසෙකැයි ගෝගොල් හැඳින්විය.

130 ලෙනින් මෙහි අදහස් කරන්නේ 1899 ඔක්තෝබර් 9 සිට 14 දක්වා හැනෝවර්හි පැවැත්වූනු ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සම්මේලනයේදී අනුමත වූ "පක්ෂයේ මූලික අදහස් හා උපක්‍රමවලට පහර දීම" යන යෝජනාවය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ අවස්ථාවාදී පිළේ දෘෂ්ටිමය නායකත්වය ගෙන ගිය බර්න්ෂ්ටයින් විසින් මාක්ස්වාදී ධර්මයේ මූලික පිළිවෙත් සංශෝධනය කර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ උපක්‍රම වෙනස් කරමින් එය ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණවාදී පක්ෂයක් බවට පෙරලීමට ගත් උත්සාහය යෝජනාවෙන් හෙළා දක තිබිණි. එහෙත්, සම්මේලන යෝජනාවෙහි සංශෝධනවාදය හා එය ගෙන යන පුද්ගලයින් දැඩි විවේචනයට ලක් කර නොතිබීම, වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ, පී. ලුක්සම්බුර්ග් ආදීන්ගේ අසතුටට හේතු විය. බර්න්ෂ්ටයින්ගේ අනුගාමිකයෝ එයට පක්ෂව ඡන්දය දුන්හ.

131 ලෙනින් මෙහි සඳන් කරන්නේ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ (1901 සැප්තැම්බර් 22-28) ලුබෙක් සම්මේලනයේදී අනුමත කෙරුණු යෝජනාව ය. එය ප්‍රධාන වශයෙන් ඉලක්ක කර තිබුණේ එද්වර්ද් බර්න්ෂ්ටයින්ට විරුද්ධව ය. ඔහු 1899 හැනෝවර් සම්මේලනයෙන් පසුව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වැඩ පිළිවෙළට හා උපක්‍රමවලට විරුද්ධව එල්ල කළ ඔහුගේ ප්‍රහාරයන් නො නැවැත්වූවා පමණක් නොව ඒවා වැඩි කරමින් ඒවා පක්ෂයෙන් බාහිර කොටස් අතරටද ගෙන ගියේ ය. සාකච්ඡාව අතර තුරදී සහ බෙබෙල් ඉදිරිපත් කළ හා නියෝජිතයන් අති බහුතරයක් අනුමත කළ යෝජනාවෙන් බර්න්ෂ්ටයින්ට එක එල්ලේම අවවාද කරන ලදී. එසේද වුවත්, මාක්ස්වාදය ප්‍රතිසංස්කරණවාදී ප්‍රචාරය පක්ෂ සාමාජිකත්වයට නොගැලපෙන දෙයක් වූ හෙයින් එය ප්‍රතිපත්තිමය ප්‍රශ්නයක් ලෙස මතු නො කරන ලදී.

132 ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ස්ටුට්ගාර්ට් සම්මේලනය, 1898 (ඔක්තෝබර් 3-8) ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය තුළ සංශෝධනවාදය ගැන සාකච්ඡා කෙරුණු ප්‍රථම සම්මේලනය එය විය. (එම සම්මේලනයට සහභාගි නොවූ) බර්න්ෂ්ටයින්ගේ ප්‍රකාශනයක් එහිදී කියවන ලදී. ඊට පෙර බර්න්ෂ්ටයින්ගේ ලිපි ගණනාවකින් ඔහු ඉදිරිපත් කර තිබූ අවස්ථාවාදී අදහස් එම ප්‍රකාශයෙන් තවත් සවිස්තරව දක්වා ආරක්ෂා කර තිබිණ. එසේ වුවද, සම්මේලනයේ සිටි ඔහුගේ ප්‍රතිපක්ෂිකයන් අතර සමගියක් නොවීය. සමහර දෙනෙක් (බේබෙල්, කෞට්ස්කි හා වෙනත් අය) සුපරීක්ෂාකාරී ලෙස පක්ෂ අභ්‍යන්තර උපක්‍රම යොදමින්, පක්ෂය භේද වීමට නොදී දෘෂ්ටිමය අරගලය බර්න්ෂ්ටයින්වාදයට විරුද්ධව පැස්සීමට උත්සාහ ගත්හ. රෝසා ලුක්සම්බුර්ග්ගේ නායකත්වයෙන් යුත්, අනික් අය — සුළු පිරිස — විය හැකි පක්ෂ භේදය ගැන නොතකා, එයට විරුද්ධව වඩාත් පුළුල් හා ගැඹුරු ලෙස සාකච්ඡා කරන ලෙස බල කර සිටියහ. එම ප්‍රශ්නය පිළිබඳ කිසිම තීරණයක් පක්ෂය නොගත් නමුදු සාකච්ඡාවේදී ගත් වෙනත් තීරණ අනුව පෙනී ගියේ විප්ලවවාදී මාක්ස්වාදය පිළිබඳ දෘෂ්ටිය කෙරෙහි සම්මේලනය විශ්වාසය තබන බවය.

133 මෙහි සඳහන් කර ඇති පාඨය, 1901 අප්‍රියෙල්, ''සර්යා'' 1 වැනි කලාපයෙහි පළ වූ ඒ. එන්. පොත්රෙසව් (ස්තරවේර්) ගේ ''සිදුවූයේ කුමක්ද?'' යන ලිපියෙහි විය.

134 ''හිස උදුම්මාගත් ලේඛකයා'' — මෙය මක්සිම් ගෝර්කිගේ ප්‍රථම කෙටි කථාවලින් එකක නම විය.

135 ලෙනින් සඳහන් කරන්නේ, ඔහු ලියූ ''නරෝද්නික්වාදයේ ආර්ථික සන්ධාරය සහ ඒ ගැන ස්ත්‍රුවේ මහතාගේ පොතෙන් (ධනේශ්වර සාහිත්‍යය තුළ පෙනෙන මාක්ස්වාදයේ පිළිබිඹුව) කරන විවේචනය'' නමින් 1895 දී ''අපගේ ආර්ථික සංවර්ධනයේ ස්වභාව ලක්ෂණ දක්වීම සඳහා වූ කරුණු'' නැමැති ලිපි එකතුවේ පළ වූ සහ ''අවුරුදු 12 ඇතුලත'' නම් ලෙනින්ගේ ලිපි එකතුවේ නැවත මුද්‍රණය වූ තම ලිපිය ගැන හා එම ලිපියේ ඉතිහාසය හා එය ලිවීමට හේතුව දක්වමින් ලියූ පෙරවදනද ගැන ය.

136 එද්වර්ද් බර්න්ෂ්ටයින්ගේ "Die Voraussetzungen des Sozialismus und die Aufgaben der Sozialdemocratie" (''සමාජවාදයේ පූර්ව අවශ්‍යතාවයන් හා සමාජවාදයේ කර්තව්‍යයන්'')යනුවෙන් පළ කරන ලද පොත 1901 දී රුසියාවෙහි නම් කීපයකින් පළ විය: (1) ''ඓතිහාසික භෞතිකවාදය'', (2) ''සමාජ ප්‍රශ්න'', (3) ''සමාජවාදයේ ගැටළු සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍යයන්''.

137 ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් විරෝධය පෑමක්''. ලෙනින් මෙය ලියුවේ පිටුවහලේ සිටියදී 1899 දී ය. එය ලියන ලද්දේ ආර්ථිකවාදී කණ්ඩායමේ (එස්. එන්. ප්‍රකපෝවිච්, වයි. ඩී. කුස්කෝවා හා අන් අයගේ) ප්‍රකාශනයට විරෝධය දක්වීමට ය. ලෙනින්, මිනුසින්ස්කි පලාතේ යෙර්මකෝව්ස්කයා ගමෙහි කැඳ වූ පිටුවහල් මාක්ස්වාදීන් දහහත් දෙනෙකුගේ සම්මේලනය මෙම ''විරෝධය'' සාකච්ඡා කර ඒකමතිකව අනුමත කළේය. තුරුහාන්ස්ක් හා ඔර්ලොව් (ව්‍යත්ස්කා ගුබර්නියා පළාත) පිටුවාහල් ජනපද ''විරෝධය'' ට කැමැත්ත දුන්හ.

ලෙනින් ''විරෝධය'' ප්‍රකාශය විදේශයට, ශ්‍රම විමුක්තිය කණ්ඩායමට, යැවීය. 1900 මුල්භාගයේදී ජී. වී. ප්ලෙහානව්, එය ''රබෝචිය දියල'' කර්තෘවරුන් සඳහා "Vademecum" ලිපි සංග්‍රයෙහි පළ කළේය.

138 ''බිලෝය'' (අතීතය) — ප්‍රධාන වශයෙන් නරෝද්නික්වාදයේ සහ ඊට ඉහත සමාජ-ව්‍යාපාරවල ඉතිහාසය ගැන ලියන සඟරාවකි.වරින්වර පළ විය.

139 ''රබෝචය මිස්ල්'' — ආර්ථිකවාදීන්ගේ නිල පුවත්පත ය. එය 1897 ඔක්තෝබර් මාසයේ සිට 1902 දෙසැම්බර් දක්වා පළ විය. පත්‍ර කලාප 16 ක් පිට විය. පත්‍රයේ සංස්කරණය කේ. එම්. තහ්තරියෙව් හා වෙනත් අය විසින් කරන ලදී.

''ඉස්ක්‍රා'' පත්‍රයේ පළ කළ ලිපිවලින් හා ''කළ යුත්තේ කුමක්ද?'' පොතෙන් ලෙනින්, ''රබෝචය මිස්ල්'' පුවත්පතේ දෘෂ්ටිය ජාත්‍යන්තර අවස්ථාවාදයේ රුසියානු ස්වභාවයක් ලෙස විවේචනය කළේය.

140 ''රබෝචිය දියල'' කර්තෘවරුන් සඳහා "Vademecum" (මාර්ගෝපදේශකයා) ලිපි සංග්‍රහය. ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම විසින් ජී. වී. ප්ලෙහානව්ගේ සංඥපනයක් සහිතව පළ කරන ලද ලිපි එකතුවක් (ජිනීවා පෙබරවාරි 1900). එය රු. ස. ප්‍ර. ක. පක්ෂයේ අවස්ථාවාදයට විරුද්ධව ප්‍රධාන වශයෙන්ම, ''ආර්ථිකවාදයට'' වදේශගත

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංගමයේ සහ එහි නිල ප්‍රකාශනය වූ ''රබෝචිය දියල'' සඟරාවට විරුද්ධව එල්ල කරන ලද්දකි.

141 "Profession de foi" (විශ්වාසයේ සංකේතය, වැඩ පිළිවෙළ, දර්ශනය ඉදිරිපත් කිරීම) රු. ස. ප්‍ර. ක. පක්ෂයේ කීව් කාරක සභාවේ අවස්ථාවාදය ඉදිරිපත් කරමින් 1899 අග භාගයේදී සකස් කරන ලද පත්‍රිකාවකි. එම පත්‍රිකාවෙහි අන්තර්ගත කරුණු අතර ''ආර්ථිකවාදීන්ගේ'' "Credo" වැඩ පිළිවෙළෙහි වූ බොහෝ දේ විය.

142 ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම — 1883 දී ජී. වී. ප්ලෙහානව් විසින් ස්විට්සර්ලන්තයේදී පිහිටුවන ලද පළමුවැනි මාක්ස්වාදී කණ්ඩායමය. ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම රුසියාවේ මාක්ස්වාදය ප්‍රචාරය කිරීමේදී මහත් කාර්ය කොටසක් ඉටු කළේය. එසේම රුසියාව තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය වර්ධනය වීමට හා මාක්ස්වාදය පැතිරයාමට බාධ කළ දෘෂ්ටිමය බාධකය වූ නරෝද්නික්වාදයට දැඩි පහරක් ගැසීය. ප්ලෙහානව් විසින් ලියන ලදුව ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම විසින් පළ කරන ලද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වැඩ පිළිවෙළවල් කෙටුම්පත් දෙක (1883 හා 1885) රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ආරම්භ කිරීමේ වැදගත්තම පියවරක් විය. ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම ජාත්‍යන්තර වැඩ කරන ජනතා ව්‍යාපාර සමග සම්බන්ධකම් ඇති කරගත් අතර, 1889 පැරිසියේ පැවැත්වූ දෙවැනි ජාත්‍යන්තරයේ සාකච්ඡා සභාවාරයේ සිට එහි සියලුම සම්මේලනවලදී කණ්ඩායම පැවති තාක් කල්ම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය නියෝජනය කළේය. එහෙත් ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ විශාල වැරදිද තිබිණි. එනම් ලිබරල් ධනපතීන්ගේ කාර්යය අධිතක්සේරු කිරීමද, ගොවි ජනතාව නිර්ධන පංතික විප්ලවයේ අතිරේක බලය ලෙස ගැනීම අවතක්සෙරු කිරීමද වේ. එම වැරදි ප්ලෙහානව්ගේ හා කණ්ඩායමේ අනෙකුත් අයගේ අනාගත මෙන්ෂෙවික්වාදී ස්ථාවරයන්ට හේතු විය. ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට න්‍යායාත්මක වශයෙන් පමණක් පදනම් දමු බව හා වැඩ කරන ජනතා ව්‍යාපාරය සඳහා පළමුවැනි පියවර තැබූ බවත් වී. අයි. ලෙනින් සඳහන් කළේය (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 25, පිටුව 132).

1899 දී දෙසැම්බරයේදී අක්සෙල්රොද් විසින් ලියන ලද ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ ප්‍රකාශන පුනරුත්ථානය පිළිබඳ නිවේදනය 1900 දී වෙනම පත්‍රිකාවක් වශයෙන් හා ''රබෝචිය දියල'' සඳහා "Vademecum" හිද මුද්‍රණය කරන ලදී. එහෙත් ''නිවේදනයේ ඇතුලත් කර තුබූ ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ සාහිත්‍යමය සේවය පිළිබඳ වැඩ පිළිවෙළ ක්‍රියාත්මක වීම ආරම්භ වූයේ ''ඉස්ක්‍රා'' හා ''සර්යා'' පළ කිරීම ආරම්භයත් සමග පමණි.

143 විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ තුන් වැනි සම්මේලනය 1901 සැප්තැම්බර් මාසයේ දෙවන භාගයේ සූරිච්හි පවත්වන ලදී. මෙම සම්මේලනය, විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන එක්සත් කිරීම සඳහා 1901 ජූනි මස ජිනීවාහි පැවැත්වුනු සාකච්ඡා සම්මේලනය සකස් කළ කෙටුම්පත් ගිවිසුමට සංශෝධන හා එකතු කිරීම් අනුමත කළේය. ඒවා එළිපිටම අවස්ථාවාදී ස්වභාවයක් ඉසිලීය. එය ''සංගමයේ'' තුන්වැනි සම්මේලනයට දින කීපයකට පසුව පැවති විදේශගත රු. ස. ප්‍ර. ක. පක්ෂයේ ''එක්සත් වීමේ'' සම්මේලනයේ ප්‍රතිඵල රහිත භාවය පෙන්නුම් කළේය. ප්‍රායෝගික ලෙස සංශෝධනවාදීන් කුළුගන්වන, ''රබෝචිය දියල'' සඳහා උපදෙස් මාලාවක්ද සම්මේලනයේදී සම්මත විය.

144 කාල් මාක්ස් බී. බ්‍රක්කේ වෙත 1875 මැයි 25 දතම සහිතව ලියූ ලිපිය.

145 ගෝත් ප්‍රෝග්‍රෑම් — මෙසේ හැඳින් වෙන්නේ ජර්මනියේ සමාජවාදී කම්කරු පක්ෂය 1875 වර්ෂයේදී ගෝත්හි පැවැත්වූ සම්මේලනයේදී අනුමත කළ වැඩ පිළිවෙළ ය. කලින් වෙනම පැවති ජර්මන් පක්ෂ දෙක මෙම සම්මේලනයේදී සමගි විය. එම පක්ෂ දෙක නම්, (මාක්ස්ගේ හා එංගල්ස්ගේ බලපෑම යටතේ සිටි බෙබෙල්ගේ හා ලිබ්ක්නෙහ්ත්ගේ නායකත්වයෙන් යුත් වූ) එයිසෙනාහ්වරු සහ ලසාල්වාදීන් ය. එයිසෙනාහ්වරු ලසාල්වාදීන්ට සහනයන් දුන් නිසා සහ ඉතා වැදගත් කරුණුවලදී ඔවුන් ඉදිරිපත් කළ කරුණු පිළිගත් නිසා, එම වැඩ පිළිවෙළ කෙරෙහි සාර සංග්‍රහවාදී හා අවස්ථාවාදී දුර්වලකම් දක්නට ලැබිණ. මාක්ස් හා එංගල්ස් අදහස් කළ පරිදි එය, 1889 එයිසෙනාහ් වැඩ පිළවෙළ සමග සසඳන කල පවා ආපසු තබන ලද පියවරක් වූ බැවින් ඔවුහු එම වැඩ පිළිවෙළ බලවත් විවේචනයට ලක් කළහ.

146 ලෙනින් මෙහි සඳහන් කරන්නේ, පී. බී. අක්සෙල්රෝද්ගේ ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වර්තමාන කර්තව්‍ය හා උපක්‍රම පිළිබඳ ප්‍රශ්නය'' ගැන යන පොත ගැන ය. ජිනීවා, 1898.

147 ලෙනින් සඳහන් කරන්නේ සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන්ගේ 1896 මැයි-ජූනි වැඩ වර්ජන ගැන ය. එම කම්කරුවන් වැඩ වර්ජනයට බවුයේ සාන්ත පීටර්ස්බර්ග් කම්කරු පංති විමුක්ති අරගල සංගමයේ නායකත්වය යටතේ ය. පත්‍රිකා හා ප්‍රකාශන නිකුත් කළ එම සංගමය කම්කරුවන්ගේ අයිතිවාසිකම් රැක ගැනීම සඳහා බලවත් ලෙස හා දෘඪතර ලෙස නැගී සිටින සේ ඔවුනට ආයාචනා කළේ ය. එය වැඩ වර්ජකයන්ගේ ප්‍රධාන ඉල්ලීම් මුද්‍රණය කර බෙදා හැරියේ ය. පැය $10^{1}/_{2}$ ක වැඩ දිනයක්, වැඩි වැටුප් හා කලට වේලාවට වැටුප් ගෙවීම සඳහා වූ ඉල්ලීම් ඒවා විය. සාන්ත පීටර්ස්බර්ග් වැඩ වර්ජනය, මොස්කව් සහ වෙනත් නගරවල කම්කරු පංති ව්‍යාපාරයට රුකුලක් දුන්නේය. එය නිසා, පැක්ටරි නීති සමාලෝචනය ඉක්මන් කිරීමත්, පැක්ටරිවල හා මෝල්වල වැඩ දිනය පැය $11^{1}/_{2}$ කට අඩු කළ 1897 ජූනි 2 (14) නීතිය පැනවීමත් නොකර බැරි තත්වයක් සාර් ආණ්ඩුවට ඇති විය.

148 ''උද්ඝෝෂණය ගැන'' නැමති කුඩා පොත ඒ. ක්‍රෙමෙර් විසින් 1894 දී විල්නෝවලදී ලියන ලදී (ක්‍රෙමෙර් පසුව බුන්ද් සංවිධායකයෙක් බවට පත්විය). විල්නෝහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩවල අත්දැකීම් ගොනුකොට ලියා තුබූ එම පොත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි මහත් ලෙස බලපෑවේය. එහි කව තුළ පමණක් කෙරෙන ප්‍රචාර නවත්වා, වැඩකරන ජනතාව අතර ඔවුන්ගේ එදිනෙදා අවශ්‍යතාවයන් ප්‍රධාන කොට ගෙන මහජන උද්ඝෝෂණය කරන ලෙස ඉල්ලා තිබිණ. එහෙත් ශුද්ධ ආර්ථික අරගලය අලංකාර කර දක්වීමද, පොදු ප්‍රජාතන්ත්‍රික ඉල්ලීම් මත කරන හානිදායක දේශපාලන උද්ඝෝෂණද අනාගත ආර්ථිකවාදයේ බීජාංකුර විය.

149 ''කම්කරු පංති විමුක්ති අරගල සංගමය''1895 ශරත් සෘතුවේදී ලෙනින් විසින් සංවිධානය කරන ලදී. එයට සාන්ත පීටර්ස්බර්ග්හි මාක්ස්වාදී කම්කරු අධ්‍යයන කව විස්සක් පමණ ඇතුලත් විය. ''අරගල සංගමයේ'' කටයුතු සම්පූර්ණයෙන්ම මධ්‍යගතභාවයේ ප්‍රතිපත්ති හා දැඩි විනය පදනම් කරගෙන සංවිධාන කෙරිනි. සංගමයේ නායකත්වය දැරුවේ, වී. අයි. ලෙනින් හා වෙනත් අයගෙන් සමන්විත කණ්ඩායමකි.

1895 දෙසැම්බරයේ දී සාර්වාදී ආණ්ඩුව සංගමයට බරපතල පහරක් ගැසුවේය. දෙසැම්බර් 8-9 (දෙසැම්බර් 20-22) රාත්‍රියෙහි සංගමයේ සාමාජිකයන් බොහෝ දෙනෙක් අත් අඩංගුවට ගන්නා ලදී. ඒ අය අතර ලෙනින්ද විය. මුද්‍රණය සඳහා සූදනම් කර තිබූ ''රබෝචිය දියල'' පළමුවැනි කලාපයද අත් අඩංගුවට ගන්නා ලදී.



ලෙනින් සිරගතව සිටියදී, ඔහු දිගටම සංගමයේ වැඩ කටයුතුවලට මඟ පෙන්වීය, උපදෙස් දීමෙන් ආධාර කළේය. ඔහු සිරගෙදර සිට රහස් අකුරෙන් ලිපි හා පත්‍රිකා ලියා ඉන් පිටතට යැව්වේය. එහි දී ඔහු ''වැඩ වර්ජන'' (මෙම අත් පිටපත තවම සොයා ගත නොහැකි විය) යන කුඩා පොතද, ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සඳහා වැඩ පිළිවෙළක කෙටුම්පත හා එය පැහැදිලි කිරීම'' ද ලිවීය.

සාන්ත පීටර්ස්බර්ග් කම්කරු පංති විමුක්ති අරගල සංගමය, ලෙනින්ගේ වචනයෙන් කියතොත්, වැදගත් විය. එයට හේතුව, කම්කරු පංතියෙන් තම ශක්තිය ලබා ගන්නා හා නිර්ධන පංතියේ අරගලයට නායකත්වය දෙන විප්ලවවාදී පක්ෂයක බීජය එය වූ බැවිනි.

අත් අඩංගුවට ගැනීමේ දී හසු නොවී බේරුනු සංගමයේ පැරණි සාමාජිකයෝ, රු. ස. ප්‍ර. ක. ප. ප්‍රථම සම්මේලනයට මග සකස් කිරීමේ කටයුතුවලටත්, එම සම්මේලනය සඳහා ප්‍රකාශනය සකස් කිරීමටත් සහභාගි වීමෙන් ලෙනින්ගේ අරගල සංගමයේ සම්ප්‍රදායයන් දිගටම ගෙනයාමෙහි සමත් වූහ. එහෙත් ''අරගල සංගමයේ'' මූලාරම්භකයින් දීර්ඝ කාලයක් සයිබීරියාවේ පිටුවහලේ සිටීම නිසා, විශේෂයෙන් වී. අයි. ලෙනින් නොසිටි නිසා 1897 දී ''රබෝචය මිස්ල්'' පත්‍රය මගින් වෘත්තීය සමිතිවාදයේ හා බර්න්ෂ්ටයින්වාදයේ අදහස් රුසියානු භූමියෙහි රෝපනය කල ''තරුණයින්ට'', ''ආර්ථිකවාදීන්ට'' අවස්ථාවාදී ප්‍රතිපත්තියක් ගෙනයාම අපහසු නොවීය. 1898 අවසාන භාගයේදී වඩාත් විවෘත ''ආර්ථිකවාදීන්ට'' — ''රබෝචය මිස්ල් වරුන්ට'' ''සංගමය'' හසුවිය.

150 ''රබෝචිය දියල'' සඟරාව සඳහා ලෙනින් ලියූ ''රුසියානු කම්කරුවන්ට'' යන ලිපිය සොයා ගෙන නැත.

රුස්කයා ස්තරිනා ඉතිහාසය පිළිබඳ ලිපි පළ කළ සඟරාවකි. එය 1870 පටන් 1918 දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ විය.

151 මෙහි සඳහන් වන්නේ 1895 අප්‍රියෙල් 27 (මැයි 9) දින යරස්ලාව්ල් පේෂකර්ම කම්හලේ වැඩ වර්ජනය ම්ලේච්ඡ ලෙස මර්දනය කිරීම ගැන ය. එම වැඩ වර්ජනය ඇති වූයේ කම්හලේ කම්කරුවන්ගේ වේතන අඩුවන ආකාරයට එහි පාලකයන් අළුත් වේතන ප්‍රමාණ ආරම්භ කිරීම නිසාය. එයට කම්කරුවන් 4000 කට වැඩිය සම්බන්ධ විය.

1895 යරස්ලාව්ල් පේෂකර්ම කම්හලේ වැඩ වර්ජනය ගැන ලෙනින් ලිපියක් ලියූ නමුත් එය මෙතෙක් සොයා ගෙන නැත.

152 ''සන්ක්ත් පීටර්ස්බූර්ග්ස්කි රබෝචි ලිස්තොක්'' — ''සාන්ත පීටර්ස්බූර්ග් කම්කරු පංති විමුක්ති අරගල සංගමයේ'' නිල ප්‍රකාශනය විය. ඉන් කලාප දෙකක් නිකුත් විය. කම්කරුවන්ගේ ආර්ථික අරගලය පුළුල් දේශපාලන අවශ්‍යතාවයන් සමග සම්බන්ධ කරන ලෙස කියා සිටි එය කම්කරු පක්ෂයක ඇති අවශ්‍යතාවයද පෙන්වා දුන්නේය.

153 මෙහි සඳහන් පෞද්ගලික රැස්වීම පැවැත්වුනේ 1897 පෙබරවාරි 14 හා 17 (පෙබරවාරි 26 හා මාර්තු 1) දිනවල සාන්ත පීටර්ස්බර්ග්හි ය. වී. අයි. ලෙනින්, ඒ. ඒ. වනෙයව්, ජී. එම්. ක්‍රිෂිෂනොව්ස්කි, යු. ඕ. මාර්තව් හා සාන්ත පීටර්ස්බර්ග් කම්කරු පංති අරගල සංගමයේ අනිකුත් සාමාජිකයෝ ඊට සහභාගි වූහ. එනිසා, සයිබීරියාවට පිටුවාහල් කිරීමට තුන් දිනකට පෙර සිරෙන් නිදහස් කරන ලද ''පැරැන්නෝ'' ද ලෙනින් සිරභාරයට ගැනීමෙන් පසුව සංගමයේ නායකත්වය භාර ගෙන සිටි ''තරුණ'' සාමාජිකයෝද එයට සහභාගි වූහ. මෙම රැස්වීමේදී සංවිධානය හා උපක්‍රම පිළිබඳ ප්‍රශ්නවලදී මහත් අර්බුද මතු විය.

154 ''ලිස්තොක් රබොත්නික'' — විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය 1896 සිට 1898 දක්වා වරින් වර මෙය ජිනීවාහි පළ කළේය. නිකුත් වූ මුළු කලාප ගණන 10 කි. කලාප අංක 1-8 සංස්කරණය කළේ ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමය. නමුත් විදේශගත සංගමයේ වැඩි පිරිස ''ආර්ථිකවාදය'' පිළිගත් පසු ශ්‍රම විමුක්තිය කණ්ඩායම එම පත්‍රය තව දුරටත් සංස්කරණය කිරීම ප්‍රතික්ෂේප කළේය. අංක 9 හා 10 (1898 නොවැම්බර්) නව ආර්ථිකවාදී කතෘ මණ්ඩලය විසින් නිකුත් කරන ලදී.

155 සාර්වාදී පොලිස් භේවායෝ නිල් පාට නිල ඇඳුම් ඇන්දෝය.

156 වී. වී. — වී. පී. වරන්ත්සෝව්ගේ ආරූඪ නාමයයි. ඔහු 1880-1890 ගණන්වල සිටි ලිබරල් නරෝද්නික්වාදයේ එක් දෘෂ්ටිවාදියෙකි. ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වී. වී.'' වරු යන්නෙන් ලෙනින් අදහස් කරන්නේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී උපනතිය වන ''ආර්ථිකවාදය'' යයි.

157 ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වියනා සම්මේලනය (1901



නොවැම්බර් 2-6) විසින් පැරණි 1888 හයින්ෆෙල්ඩ් වැඩ පිළිවෙළ වෙනුවට ආදේශ කිරීමට අළුත් පක්ෂ වැඩ පිළිවෙළක් අනුමත කරන ලදී. 1899 දී පවත්වන ලද බ්‍රැන් සම්මේලනයේ උපදෙස් අනුව, විශේෂ කොමිසමක් (වී. ඇද්ලර් සහ තවත් අය) විසින් කෙටුම්පත් කරන ලද නව වැඩ පිළිවෙළෙන් බර්න්ෂ්ටයින්වාදයට බොහෝ සහන දී තිබුණි. මේ නිසා උග්‍ර වෙනස්කම් සිදුවිය.

158 මෙහි අදහස් වන්නේ සර්වබලධාරී ඒකාධිපතිත්වයට විරුද්ධව කම්කරුවන් ගෙනයන දේශපාලන අරගලය අන් මගකට යොමු කරවීම සඳහා පොලිසියේ භෙන්වයින්ගේ නායකත්වයෙන් ''කම්කරු සමාජ'' එනම් සුබාතව් සමාජ පිහිටුවීමට ගත් උත්සාහය ය. මෙවැනි සංවිධාන පිහිටුවීමට ප්‍රාරම්භකව කටයුතු කළේ පොලිස් කර්නල් වරයෙකු වූ සී. වී. සුබාතව් ය. 1901 දී පළමුවැනි සුබාතව් සංවිධානය මොස්කව්වල පිහිටුවන ලදී. පසුව වෙනත් නගරවලටද එම සංවිධාන බිහි විය.

සුබාතව් සමාජවල ප්‍රතිගාමී ස්වරූපය හෙළිදරව් කළ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු කම්කරු පංතියේ පුළුල් ස්ථිර සර්වබලධාරී ඒකාධිපතිත්වයට විරුද්ධව සටන සඳහා මෙහෙයවීමට නීත්‍යානුකූල කම්කරු සංවිධාන උපයෝගී කර ගත්හ. විප්ලවවාදී ව්‍යාපාරයේ බලපෑම නිසා 1903 දී සුබාතව් සංවිධාන විසුරුවා හැරීමට සාර් රාජාණ්ඩුවට සිදුවිය.

159 හිර්ෂ්-දුන්කෙර් සංගම් — මැක්ස් හිර්ෂ් සහ ප්‍රාන්ස් දුන්කෙර් යන ධනපති ප්‍රගතිවාදී පක්ෂයේ ප්‍රමුඛ සාමාජිකයින් දෙදෙනා විසින් ජර්මනියේ පිහිටුවන ලද ප්‍රතිසංස්කරණවාදී වෘත්තීය සමිති මෙනමින් හඳුන්වන ලදී. ශ්‍රමයේ හා ප්‍රාග්ධනයේ අවශ්‍යතාවයන්ගේ ''සංගතභාවය'' ගැන දේශනා කළ ඔවුහු, කම්කරුවන්ට අමතරව ධනපතියන්ද සංගමයට භාර ගත හැකි යයි කල්පනා කළහ. ඔවුහු වැඩ වර්ජනවල අවශ්‍යතාවය බැහැර කළහ. වෘත්තීය සමිති සංවිධානවල ආධාරය ඇතිව, ධනපති රාජ්‍ය විසින් කරනු ලබන නීති සම්පාදනය මගින් කම්කරුවන් ප්‍රාග්ධනයේ වියගසින් මුදා ගැනීම ධනපති සමාජයේ රාමුව තුළම ඉටු කළ හැකි දෙයකැයි හිර්ෂ්-දුන්කෙර් සංගම් සංවිධායකයෝ කීහ. කම්කරුවන් හා ස්වාමිවරුන් අතර අතරමැදි කටයුත්ත හා අරමුදල් එකතු කිරීම වෘත්තීය සමිතිවල ප්‍රධාන කාර්යය බව ඔවුහු සැලකූහ. ඒවායේ කටයුතු, හුදෙක්ම අන්‍යොන්‍යාධාර සමිතිවල හා සංස්කෘතික අධ්‍යාපන සංවිධානවල කාර්යයන්ම විය.

160 "කම්කරු පංතියේ ස්වයං විමුක්ති කණ්ඩායම" ආර්ථිකවාදීන්ගේ කුඩා කවයක් විය. 1898 වර්ෂයේ වසන්තයෙහි සාන්ත පීටර්ස්බර්ග් නගරයේ ආරම්භ වූ එය පැවතියේ මාස කීපයක් පමණකි. කණ්ඩායමේ අරමුණු ප්‍රකාශයට පත් කරමින් එය ව්‍යවස්ථා සහ කම්කරුවන් අමතා කරන ප්‍රකාශයන් කීපයක්ද ඇතුලත් ප්‍රකාශනයක් නිකුත් කළේය.

161 "නකනූනෙ" ("පූර්වාසන්නය") — නරෝද්නික් අදහස් ප්‍රකාශ කරන මාසික සඟරාවක් විය. එය 1899 පටන් 1902 දක්වා රුසියන් බසින් ලන්ඩනයේ පළ කෙරින. මුළු කලාප සංඛ්‍යාව 37 කි. මෙම සඟරාව, විවිධ සුළු ධනේශ්වර පක්ෂ හා උපනති ඒකරාශී කරන කේන්ද්‍රස්ථානයක් විය.

162 ලෙනින්ගේ "රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කර්තව්‍යයන්" (ජිනීවා, 1898) යන කුඩා පොත ගැන සමාලෝචනයක් "රබෝචිය දියල" අංක 1 හි පළ කිරීමෙන් පසුව එහි කර්තෘ මණ්ඩලය හා "ශ්‍රම විමුක්තිය" කණ්ඩායම අතර විවාදයක් ඇති විය. විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ අවස්ථාවාදී ස්වභාවයත්, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන තුළ ආර්ථිකවාදීන්ගේ බලය වැඩි වීමත් ප්‍රතික්ෂේප කළ "රබෝචිය දියල", "එම පොතෙහි සාරාර්ථය "රබෝචිය දියල" කර්තෘ මණ්ඩලයේ වැඩ පිළිවෙළ සමග සම්පූර්ණයෙන්ම සම්පාත වන්නේය" යිද, පොතෙහි සංඥපනයේ "අක්සෙල්රොද් සඳහන් කරන්නේ කුමණ 'තරුණ' සහෝදරවරු ගැන ද" යනු එය නොදන්නේ යයි ද ප්‍රකාශ කළේ ය.

ලෙනින්ගේ "රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කර්තව්‍යයන්" පොතෙහි සඳහන් කෙරෙන විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ තත්වය, රුසියාවේ සහ විදේශයෙහි සිටින "ආර්ථිකවාදීන්ගේ" තත්වයට සමාන කර දක්වීමට දරන ප්‍රයත්නය ඇත්ත වශයෙන්ම පදනම් විරහිත බව අක්සෙල්රොද් ඔහු "රබෝචිය දියල" කර්තෘවරුන් වෙත 1899 අගෝස්තු මස ලියූ ලිපියෙන් පෙන්නුම් කළේ ය. 1900 පෙබරවාරියේදී "ශ්‍රම විමුක්තිය" කණ්ඩායම විසින් "රබෝචිය දියල" සඳහා ජී. වී. ප්ලෙහානව්ගේ අත්සන සහිතව "Vademecum" සංග්‍රහය පළ කළේ ය. "රබෝචිය දියල" කර්තෘවරුන්ගේ ප්‍රකාශය බිඳ දැමූ ප්ලෙහානව් "රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංගමයේ" හා "රබෝචිය දියල" වටා එක්රැස් වූ විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර අවස්ථාවාදී



ස්වභාවය හා "ආර්ථිකවාදී" දෘෂ්ටිය රජකරන ආකාරය ඔප්පු කළේ ය.

"රබෝචිය දියල" සමග විවාදය පසුව "ඉස්ක්‍රා" හා "සර්යා" මගින් ගෙන යන ලදී.

163 මෙහි සඳහන් වන්නේ ජර්මනියේ සමාජවාදයට විරුද්ධ නීතිය ක්‍රියාත්මක පැවති කාලයේ එහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රධාන නිල පත්‍රය වූ "Der Sozialdemokrat" ("සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා") ගැනය. එය 1879 සැප්තැම්බර් 28 සිට 1888 සැප්තැම්බර් 22 දක්වා සූරිච්හිද, 1888 ඔක්තෝබර් 1 සිට 1890 සැප්තැම්බර් 27 දක්වා ලන්ඩන්හි ද පළ කරන ලදී. 1879 හා 1880 දී ෆේපාල්මර් එම පත්‍රය සංස්කරණය කළ අතර, එවකට එංගල්ස්ගේ ශක්තිමත් බලපෑම ඇතිව සිටි එද්වර්ද් බර්න්ෂ්ටයින් 1881 ජනවාරි පටන් එය සංස්කරණය කළේය. එංගල්ස්ගේ දෘෂ්ටිමය මගපෙන්වීම නිසා "සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා" පත්‍රයට මාක්ස්වාදී මෙහෙයවීම ලැබුණේ ය. සමාජවාදයට විරුද්ධ නීතිය අවලංගු කළ පසු "සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා" පත්‍රය පළ කිරීම නවත්වන ලදී. "Vorwärts" ("ඉදිරියට") පත්‍රය නැවතත් පක්ෂයේ නිල පත්‍රය බවට පත්විය.

164 ආර්ථිකවාදීන් සාංසිද්ධික ව්‍යාපාරයෙන් මෝහනය වී සිටීම ගැන ඔවුන් සමච්චලයට ලක් කරමින් "සර්යා" අංක 1 හි (1901 අප්‍රියෙල්) පළ කෙරුණු උපහාසාත්මක "නවීන රුසියානු සමාජවාදියාගේ භක්ති ගීතය" ට ඇතුලත් ගී පදයකි. එය අත්සන් කර තිබුණේ "නාර්සිස් තුපොරිලව්" (නාර්සිස්, මොට්ට හොටා) යනුවෙනි. "ගීතය" ලියුවේ යූ. ඕ. මාර්තව්ය.

165 මෙහි අදහස් වන්නේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විදේශගත සංගමයයි.

166 ගම් පරිපාලක — ගොවි ජනතාව මත ඉඩම් හිමියන්ගේ අධිකාරය ශක්තිමත් කිරීම පිණිස 1898 දී සාර්වාදී ආණ්ඩුව ඇති කළ පරිපාලක තනතුරකි. ගම් පරිපාලකවරුන් ලෙසට පත් කිරීම සඳහා තෝරා ගන්නා ලද්දේ වංශවත් ඉඩම් හිමියන් ය. ඔවුන්ට පරිපාලන බලතල පමණක් නොව, ගොවීන් අත් අඩංගුවට ගැනීම හා ඔවුනට ශාරීරික දඬුවම් පැමිණවීම ද ඇතුළුව ඉතා පුළුල් බලතල පවරා තිබුණි.

167 ලිතුවේනියාවේ, පෝලන්තයේ සහ රුසියාවේ පොදු යුදෙව් කම්කරු

සංගමය (බුන්ද්) — යුදෙව් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම්වල 1897, විල්නෝ, ආරම්භක සම්මේලනයේදී එය බිහි විය. ප්‍රධාන වශයෙන් එය සමන්විත වූයේ, බටහිර රුසියාවේ අර්ධ නිර්ධන යුදෙව් කර්මාන්ත ශිල්පීන්ගෙනි. රු.ස. ප්‍ර. ක. ස. ප. 1898 සම්මේලනයේදී එය ''ස්වතන්ත්‍ර සංවිධානයක් ලෙස'' එම පක්ෂයට බැඳුනේය. ''විශේෂිත වශයෙන් යුදෙව් නිර්ධන පංතියට බලපාන ප්‍රශ්න සම්බන්ධයෙන් පමණක් එය ස්වාධීන විය''.

යුදෙව් නිර්ධන පංතියේ එකම නියෝජිතයා වශයෙන් තමන් පිළිගත යුතුය යනුවෙන් වූ බුන්ද් සංවිධානයේ ඉල්ලීම රු. ස.ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනය විසින් ප්‍රතික්ෂේප කරන ලද පසු, එම සංවිධානය පක්ෂයෙන් ඉවත්ව ගියේය. එහෙත් හතරවැනි (එක්සත්) සම්මේලනයේ තීරණයක් පදනම් කර ගෙන එය නැවතත් 1906 දී පක්ෂයට සම්බන්ධ විය.

රු. ස. ප්‍ර. ක. ප. ඇතුළත බුන්ද් සංවිධානය නිතරම පක්ෂයේ අවස්ථාවාදී කොටසට (ආර්ථිකවාදීන්ට, මෙන්ෂෙවික් වරුන්ට හා ලික්විඩේටර්වරුන්ට) ආධාර කරමින්, බොල්ෂෙවික්වාදයට හා බොල්ෂෙවික් වරුන්ට විරුද්ධව අරගලයක් කළේය. ප්‍රථම ලෝක යුද්ධ සමයේදී බුන්ද්වාදීහු සමාජ-ජාත්‍යාත්මාදවාදී ස්ථාවරයක් ගත්හ; 1917 දී ඔවුහු ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුවට ආධාර කළහ; ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් විප්ලවයේ සතුරන්ගේ පැත්ත ගත්හ. විදේශ යුද්ධ ආක්‍රමණ හා සිවිල් යුද්ධය සමයේදී බුන්ද් නායකයෝ ප්‍රතිවිප්ලවයේ බලවේගයන් සමග එක්ව කටයුතු කළහ. ඒ අතරම බුන්ද් සංවිධානයේ සාමාන්‍ය සාමාජික පිරිස් අතර, සෝවියට් සභා සමග සහයෝගීව වැඩ කිරීමේ නැඹුරුවක් ඇති විය. 1921 මාර්තු මාසයේදී ස්වයං තීරණයෙන් බුන්ද් සංවිධානය විසුරුවා හරින ලදී. එහි සාමාජිකත්වයෙන් කොටසක්, රුසියානු කොමියුනිස්ට් පක්ෂයේ (බොල්ෂෙවික්) සමාජිකයන් බඳවා ගැනීමේ සාමාන්‍ය ව්‍යවස්ථා අනුව එයට බැදුනහ.

168 ඉඩම් නිදහස් කර ගැනීමේ ගාස්තු — ප්‍රවේණිදාස ක්‍රමය අහෝසි කිරීම පිළිබඳ 1861 පෙබරවාරි 19 වැනි දින නිකුත් කළ කොන්දේසි වලට එකඟව ගොවීන් විසින් තමන් ලබා ගන්නා බිම් කොටස් සඳහා ඉඩම් හිමියන්ට ගෙවිය යුතු මුදල මෙයින් අදහස් වේ. ඉඩම් සඳහා ගෙවිය යුතු මුදල ඉඩමේ වටිනාකමට වඩා කීප ගුණයකින් වැඩි වූ අතර එය රූබල් කෝටි 200 ක් පමණ විය. ඉඩම් නිදහස් කර ගැනීමේ ගාස්තු ගෙවීමේදී ගොවියෝ ඇත්ත වශයෙන්ම නුදුරු අතීතයේදී තමන් ප්‍රයෝජන ගත් ඉඩම් සඳහා පමණක් නොව තම පෞද්ගලික නිදහස සඳහාද ගෙවූහ. ගොවීන්ට ඉසිලිය නොහැකි වූ එම ගාස්තු නිසා ඔවුහු දිළිඳු භාවයට පත්ව විනාශ වී ගියහ.

1905-1907 අවුරුදුවලදී ඇති වූ පළමුවැනි රුසියානු විප්ලවය සමයේදී ගොවි ව්‍යාපාර කළ බලපෑම නිසා 1907 ජනවාරි සිට එම ගාස්තු ක්‍රමය අහෝසි කිරීමට සාර් රජයට සිදුවිය.

169 මෙහි සඳහන් වන්නේ දුර්භික්ෂය පැවැති ගුබේර්නියාවල ගොවීන් දුම්රිය මාර්ග තැනීම හා වෙනත් වැඩ සඳහා යැවීමට ග්‍රාම පරිපාලකවරුන්ට නිකුත් කළ සාර්වාදී ''තාවකාලික නීතිය'' යි. එම නියෝගය අනුව අයිතිවාසිකම් වලින් තොරව සිටි ගොවීන් කිසිම අයිතිවාසිකමක් නොමැති තත්වයට පත්විය. සිරකරුවන් සිර ගෙවලට දක්කන ආකාරයට විශේෂ නිලධාරීන් යටතේ කම්කරු හමුද වැඩ කඳවුරු කරා පිටත් කර හරින ලදී.

170 මෙහි සඳහන් කර තිබෙන්නේ, 1901 පෙබරවාරි සහ මාර්තු මාසවල, සාන්ත පීටර්ස්බර්ග්, මොස්කව්, කීව්, කාර්කොව්, කසාන් හා රුසියාවේ වෙනත් නගරවල ශිෂ්‍යයන්ගේ හා කම්කරුවන්ගේ පොදුජන විප්ලවවාදී ක්‍රියාවන්, එනම් දේශපාල පෙළපාලි, රැස්වීම් හා වැඩ වර්ජන ගැන ය.

අධ්‍යාපනික ඉල්ලීම් වලින් පටන්ගත් 1900-1901 ශිෂ්‍ය ව්‍යාපාරය, ඒකාධිපත්‍යයේ ප්‍රතිගාමී ප්‍රතිපත්තියට විරුද්ධව ගෙනයන විප්ලවවාදී දේශපාලන සටන් ස්වරූපයක් ගත්තේය. එයට දියුණු කම්කරුවන්ගේ ආධාරය ලැබිණ. එමෙන්ම රුසියානු සමාජයේ සියළුම ස්ථරයන් අතර ඊට ප්‍රතිචාරයක් ඇති විය. 1901 පෙබරවාරි හා මාර්තු පෙළපාලි හා වැඩ වර්ජන වලට සෘජු හේතුව වූයේ, ශිෂ්‍ය රැස්වීමකට සහභාගි වීමට දඬුවම් පියවරක් වශයෙන් කීව් විශ්වවිද්‍යාලයේ ශිෂ්‍යයන් 183 දෙනෙක් බලෙන් යුද්ධ හමුදවට බඳවා ගැනීම ය.

171 ස්වබෝද (නිදහස) —''විප්ලවවාදී-සමාජවාදී'' ''ස්වබෝද'' කණ්ඩායම 1901-1902 ස්විට්සර්ලන්තයේ පළ කළ සඟරාවකි. පළ වූයේ සඟරාවේ කලාප දෙකකි: අංක 1, 1901 හා අංක 2, 1902 දී ය. ස්වකීය ප්‍රකාශන මගින්, ත්‍රස්තවාදයේ හා ''ආර්ථිකවාදයේ'' අදහස් ඉදිරිපත් කළ අතර, රුසියාවේ ''ඉස්ක්‍රා'' විරෝධී කණ්ඩායම්වලට ආධාර කළේය. 1903 දී එම කණ්ඩායම අභාවයට ගියේ ය.

172 මාක්ස් සහ එංගල්ස්, කොමියුනිස්ට් පක්ෂයේ ප්‍රකාශණය.

173 ''ඉස්ක්‍රා'' අංක 7 (අගෝස්තු 1901) පත්‍රයෙහි, සාන්ත පීටර්ස්බර්ග් පේෂකර්ම කම්කරුවෙකුගේ ලිපියක් ''කම්කරු ව්‍යාපාරය හා පැක්ටරිවලින් ලියුම්'' කොටසෙහි පළ විය. දියුණු කම්කරුවන් අතර ලෙනින්ගේ ''ඉස්ක්‍රා'' පත්‍රය මහත් බලයක් පාන බවට මෙම ලියුම සාක්ෂියක් විය.

''ඔබගේ ''ඉස්ක්‍රා'' පත්‍රයට ලිපියක් ලිවීමට අපි කැමැත්තෙමු. පටන්ගත්තේ කෙසේද යන්න පමණක් නොව, ජීවත්වන්නේ කෙසේද හා මැරෙන්නේ කෙසේද යන්නත් අපට උගන්වන ලෙස ඔබෙන් ඉල්ලමු''.

174 රුසියාවේ ප්‍රවේණිදස ක්‍රමය අහෝසි කිරීම පිළිබඳ දෙවැනි අලෙක්සාන්දර් සාර රජ විසින් කළ නියෝගය පිට වූයේ 1861 පෙබරවාරි 19 වැනි දිනය.එම සිද්ධිය පිළිබඳ 40 වැනි අවුරුද්ද නිමිති කොට ගෙන වී. අයි. ලෙනින් විසින් ''කම්කරු පක්ෂය හා ගොවි ජනතාව'' යන මැයින් ''ඉස්ක්‍රා'' පත්‍රයෙහි ලිපියක් පළ කරන ලදී.

175 මෙහි සඳහන් වන්නේ මුදල් ඇමති ධුරය ඉසිලූ එස්. යූ. විත්තෙ විසින් සාර් රජු වෙත යැවූ රහස්‍ය වාර්තාවයි. එය ''ඒකාධිපත්‍ය සහ සියම්ස්ත්ව සභා'' නමින් පී. එන්. සී (ස්ත්රූවේගේ ආරූඪ නාමය) ගේ හැඳින්වීමක්ද සමග ''සර්යා'' සඟරාවේ 1901 දී ස්ටුට්ගර්ට්හි පළ විය. ඒකාධිපතිත්වය සමග සියම්ස්ත්ව සභාවල නොගැලපෙන ස්වභාවය සියම්ස්ත්ව සභා කෙරෙහි ඇති අති මහත් කෝපයකින් යුතුව වාර්තාවේ සඳහන් කර තිබිණි. ස්ත්රූවේ විසින් ලියන ලද හැඳින්වීමෙන් ධනවාදී ලිබරාල්වාදී ආකල්පයකින් යුතුව වාර්තාව විවේචනය කරිණි. විත්තෙගේ ''වාර්තාව'' හා ස්ත්රූවේගේ හැඳින්වීම වී. අයි. ලෙනින්ගේ ''සියම්ස්ත්ව සභා ලුහුබඳින්නෝ සහ ලිබරල්වාදයේ අනිබාල්වරු'' නැමැති ලිපියෙන් කියවන්න.

176 මෙහි අදහස් කරන්නේ සයිබීරියාවේ ඉඩම් මිළට හා බද්දට ගන්නා රදළ වංශාධිපතීන්ට වාසි ගෙන දෙන සේ සාර් රජය විසින් 1901 ජූනි 8 වැනි දින නිකුත් කරනලද පනත පිළිබඳවය. එම පනත පිළිබඳව ලෙනින් විසින් ''ප්‍රවේණිදසයෝ වැඩ අරඹති'' නමින් ''ඉස්ක්‍රා'' අංක 8 හි ලිපියක් පළ කරන ලදී.

177 ''රසියා'' (''රුසියාව'') — 1899 පටන් 1902 දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කළ තරමක් ලිබරල්වාදී දිනපතා පත්‍රයකි.



178 ''ඔබ වහන්සේගේ යටහත් සේවක'' යන යෙදුම රුසියානු සාහිත්‍යයෙහි භාවිතා කරනු ලබන්නේ ප්‍රතිපත්තියක් නොමැතිකම වාසිය තැකීම, හීනමාන ලෙස උසස් පැළන්තියට දසකම් කිරීමට සූදනම්ව සිටීම පෙන්නුම් කිරීමටය.

179 බ්‍රෙන්තානෝ පංති අරගල සංකල්පය — ''බ්‍රෙන්තානෝවාදය'' ''නිර්ධන පංතියේ විප්ලවවාදී නොවන ''පංති'' අරගලය පිළිගන්නා ලිබරල්-ධනපති ධර්මයකි.'' (සම්පූර්ණ කෘතීන්, 5 වැනි මුද්‍රණය වෙළුම 37, පුටු 237-238). පැක්ටරි නීති පැනවීමෙන් හා කම්කරුවන් වෘත්තීය සමිති වලට සංවිධානය කිරීම මගින් ධනපති ක්‍රමයේ රාමුව තුළම කම්කරු පංති ප්‍රශ්නය විසඳිය හැකි බව එයින් දේශනා කෙරේ. එම ධර්මයට නම ලැබී තිබෙන්නේ, ධනපති දේශපාලන අර්ථ ශාස්ත්‍රයේ කැතීඩර් සමාජවාදයේ ප්‍රධාන නායකයන් අතුරෙන් කෙනෙකු වූ එල්. බ්‍රෙන්තානෝගේ නම අනුවය.

180 ''ප්‍රාග්ධනයට විරුද්ධව කම්කරුවන් ගේ කණ්ඩායම'' 1899 වසන්තයේදී සාන්ත පීටර්ස්බර්ග්හි සංවිධානය කරන ලද්දකි. මෙම කණ්ඩායම සමන්විත වූයේ සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන් සමග ශක්තිමත් සම්බන්ධකමක් නොමැව සිටි කම්කරුවන් හා බුද්ධිමතුන් ගණනාවකිනි. එහි සාමාජිකයන් සියළු දෙනාම පාහේ 1899 ගිම්හාන සෘතුවේදී අත් අඩංගුවට ගන්නා ලදින් එය කඩා කප්පල් විය. තම දෘෂ්ටිය අනුව මෙම කණ්ඩායම ''ආර්ථිකවාදයට'' සමීප විය.

181 නර්ත්සිස් — ජලය මත දිස් වූ තම ප්‍රතිබිම්බය දැක තමාටම ආලය කිරීමට ගත් ග්‍රීක දේව පුරාණයේ කඩවසම් කරුණයෙකි.

182 අක්සෙල්රොද් විසින් පළ කරන ලද ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ නවතම කර්තව්‍යයන් සහ උපක්‍රම පිළිබඳ ප්‍රශ්නය ගැන'' නැමැති පොතට ''ආර්ථිකවාදී'' පදනමක් මත සිට අකසෙල්රොද් විවේචනය කරමින් එන්. එන්. (සී. එන්. ප්‍රකපෝවිච්ගේ රහස් නාමය) විසින් දුන් පිළිතුර මෙයින් අදහස් කෙරේ. මෙය ජී. වී. ප්ලෙහානව් විසින් "Vademecum" ''රබොචිය දියල'' සඳහා 1900 දී මුද්‍රණය කරන ලදී.

183 මෙහි සඳහන් වන්නේ ලෙනින්ට 1901 දී ප්‍රථම වතාවට ඒ. එස්. මර්තිනව් හමුවූ අවස්ථාව ගැන බව පෙනේ. මර්තිනව් තම මතක සටහන් වල එම හමුවීම ගැන සඳහන් කරයි.

184 ස්ත්‍රූවේවාදය — 120 වැනි සටහන බලන්න.

185 අපනාසි ඉවානවිච් සහ පුල්හේරිය ඉවානව්න — ගෝගොල්ගේ ''ඉස්සර ඉඩම් හිමියෝ'' කෘතියෙහි එන ප්‍රාදේශීය සුළු ඉඩම් හිමියන්ගේ පීතෘමූලික ස්වභාවයේ පවුලකි.

186 ලෙනින් සඳහන් කරන්නේ (''පැරණි සාමාජිකයින්'' යනුවෙන් හඳුන්වන ලද) සාන්ත පීටර්ස්බර්ග්හි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කවය ගැන ය. එහි නායකයා ලෙනින් විය. මෙම කවය ''කම්කරු පංති විමුක්ති අරගල සංගමය'' සඳහා පදනම වූ අතර, පිහිටුවන ලද්දේ 1895 දී ය.

187 සිම්ලියෝලියවරු — 1876 සාන්ත පීටර්ස්බර්ග්හි දී විප්ලවවාදී නරෝද්නික්වාදීන් පිහිටුවා ගත් සිම්ලිය ඊ වෝලිය (ඉඩම් සහ නිදහස) රහස් සංවිධානයේ සාමාජිකයින්ය.

ගොවිජනතාව, රුසියාවේ ප්‍රධාන විප්ලවවාදී බලවේගය ලෙසට සැලකූ සිම්ලිය ඊ වෝලිය, සාර්වාදයට විරුද්ධව කැරළි ගසන සේ ගොවි ජනයා නැගිටුවීමට උත්සාහ කළේ ය. ඔවුහු රුසියානු ගුබේර්නියා පළාත් කීපයක, තම්බෝව්, වරෝනියෂ් සහ වෙනත් පළාත්වල විප්ලවවාදී කටයුතු කරගෙන ගියහ.

ගොවි ජනතාව අතර කළ විප්ලවවාදී කටයුතු අසාර්ථක වීමත්, ආණ්ඩුවේ තාඩන පීඩනත් නිසා 1879 දී සංවිධානය තුළ ත්‍රස්තවාදී කණ්ඩායමක් පිහිටුවන ලදී. ගොවිජනතාව අතර විප්ලවවාදී කටයුතු කිරීම ප්‍රතික්ෂේප කළ එම කණ්ඩායම, සාර්වාදයට විරුද්ධව අරගල කිරීමේ ප්‍රධාන මාර්ගය සාර්වාදී ආණ්ඩුවේ සාමාජිකයන්ට විරුද්ධව කරන ත්‍රස්තවාදී ක්‍රියාවන් යයි සිතූහ. එම වර්ෂයේ වරෝනියෙෂ්හිදී පැවැත්වුණු සම්මේලනයේදී සිම්ලිය ඊ වෝලිය සංවිධාන දෙකට බිඳී ගියේය: ඉන් නරෝද්නය වෝලිය ත්‍රස්තවාදය එහි පොදු ක්‍රියා මාර්ගය කොට ගත් අතර, චෝර්නි පිරිදියල් සිම්ලිය ඊ වෝලිය ප්‍රතිපත්තියම ගෙන ගියේය. ඉන් පසුව, පසු කී කණ්ඩායමෙන් කොටසක් (ප්ලෙහානව්, අක්සෙල්රොද්, සසූලිච්, දෙයිච් (සහ ඉග්නාතව්) මාක්ස්වාදී ස්ථාවරය පිළිගෙන 1883 දී (ස්විට්සර්ලන්තයේදී) ප්‍රථම රුසියානු මාක්ස්වාදී සංවිධානය, එනම් ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම පිහිටෙව්වේය.

188 රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය, ගැන 1900 පැරිස් ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනයට ඉදිරිපත් කළ වාර්තාව — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය මෙය පොතක් වශයෙන් පළ කළේය. ජිනීවා 1901 ''සංගමයේ'' උපදෙස් අනුව ''රබෝචිය දියල'' කර්තෘවරු වාර්තාව ලියූහ.

189 ලෙනින් මෙහි අදහස් කරන්නේ තුන්වැනි පරිච්ඡේදයේ ඇ ඡේදයෙහි උපුටා දක්වන ''රබෝචය මිස්ල්'' පත්‍රයේ අතිරේකයක (1899 සැප්තැම්බර්) මුද්‍රණය කරන ලද ආර්.එම්.ගේ ''අපගේ සත්‍ය තැමැති ලිපිය පිළිබඳ විද්‍යාත්මක විමර්ශණය ගැන ය. (මෙම කෘතියේ 186 පිටුව බලන්න)

190 යුෂ්නි රබෝචි (දකුණේ කම්කරුවා) — එම නමින්ම යුත් කණ්ඩායමක් 1900 ජනවාරි සිට 1903 අප්‍රියෙල් දක්වා නීති විරෝධී ලෙස පළ කළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවෘත්ති පත්‍රයකි. මෙහි කලාප දොළහක් පළ විය.

''යුෂ්නි රබෝචි'' කණ්ඩායම ''ආර්ථිකවාදයට'' හා ත්‍රස්තවාදයට විරුද්ධ වූ අතර, පොදු ජන විප්ලවවාදී ව්‍යාපාරයක් ඇති කිරීමේ අවශ්‍යතාවය පිළිගත්තේය. එහෙත් ''ඉස්ක්‍රා සැලැස්ම වූ සමස්ත රුසියානු දේශපාලන පත්‍රයක් වටා මධ්‍යගත මාක්ස්වාදී පක්ෂයක් ආරම්භ කිරීමට විරුද්ධව පළාත්බද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්ගම් ආරම්භ කිරීම මගින් රු. ස. ප්‍ර. ක. පක්ෂය පුනරුත්ථාපනය කිරීම ''යුෂ්නි රබෝචි'' කණ්ඩායම ඉදිරිපත් කළේය.

''යුෂ්නි රබෝචි'' කණ්ඩායම රුසියාවේ පුළුල් ලෙස විප්ලවවාදී කටයුතු කරගෙන ගිය මුත්, ඒ අතරම ලිබරල් ධනපති පංතිය හා ගොවි ජනතාව සම්බන්ධ ප්‍රශ්නවලදී අවස්ථාවාදී ප්‍රවනතාවයක් ගත් අතර ''ඉස්ක්‍රා'' පත්‍රයට සමව සමස්ත රුසියානු පත්‍රයක් ආරම්භ කිරීමේ වෙන් වූ සැලැස්මක් ඉදිරිපත් කළේය.

රු. ස. ප්‍ර.ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී ''යුෂ්නි රබෝචි'' කණ්ඩායම ''මධ්‍යගතවාදය'' අනුගමනය කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂය දෙවැනි සම්මේලනය, ''යුෂ්නි රබෝචි'' පත්‍රය පළ කිරීම නැවැත්වීමටත්, වෙනත් තනි, ස්වයීන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම් හා සංවිධානද සමග එම පත්‍රය පළ කළ කණ්ඩායම ද විසුරුවා හැරීමටත් තීරණයක් අනුමත කළේය.

191 මෙහි සඳහන් කෙරෙන ප්‍රකාශන නම්, ''රුසියාවේ කම්කරු පංතියේ තත්වය ගැන ප්‍රශ්න'' යන (1898) පත්‍රිකාව සහ ''රුසියාවේ කම්කරු

පංතියේ තත්වය ගැන තොරතුරු රැස්කිරීම සඳහා ප්‍රශ්න'' යන කුඩා පොත ය. මේවා පළ කරන ලද්දේ ''රබෝචය මිස්ල්'' විසිනි. ප්‍රශ්න කම්කරුවන්ගේ සේවා හා ජීවන තත්වයන් පිළිබඳව පත්‍රිකාවෙහි ප්‍රශ්න 17 ක් ද, පොතෙහි ප්‍රශ්න 158 ක් ද විය.

192 1885 වැඩ වර්ජන ව්‍යාපාරය, කාර්මික මධ්‍යම ප්‍රදේශයේ ව්ලදිමීර්, මොස්කව්, ත්වියර් සහ වෙනත් පළාත් කෙරෙහි බලපෑවේය. එයින් වඩාත්ම ප්‍රසිද්ධ වූයේ 1885 (ජනවාරි සාව්වා මරෝසොව්ගේ නිකොලායිහි මෝලෙහි (මරෝසොව් වැඩ වර්ජනය) වැඩ වර්ජනය ය. කම්කරුවන්ගේ ප්‍රධාන ඉල්ලීම් වූයේ දඩ අඩු කිරීම හා කම්කරුවන් බඳවා ගැනීම කිසියම් ආකාරයකට ක්‍රමවත් කිරීම ය. වැඩ වර්ජනයට නායකත්වය දුන්නේ දියුණු කම්කරුවන් ය. කම්කරුවන් 8000 ක් පමණ සහභාගි වූ මරෝසොව් වැඩ වර්ජනය යුද්ධ හමුද යොද මඩින ලදී. ඊට සම්බන්ධ වූ කම්කරුවන් 33 න් දෙනෙකුට නඩු පවරන ලද අතර 600 ක් පිටුවාහල් කරන ලදී. 1885-1886 වැඩ වර්ජනවල බලපෑම යටතේ සාර්වාදී ආණ්ඩු නොකැමැත්තෙන් වුවද, 1886 ජූනි 3 (15) දින (දඩ පිළිබඳ නීතිය යනුවෙන් හැඳින්වෙන නීතිය පැනවීමට යොමු විය.

193 147 වැනි සටහන බලන්න.

194 අව්ගී ඉස්තාලය — ග්‍රීක ජාතික වීරයෙකු වන හර්කියුලස් විසින් එක දිනකදී සුද්ධ පවිත්‍ර කරන ලද ග්‍රීක දේව පුරාණයේ අව්ගි රජතුමාගේ අපවිත්‍ර අශ්ව ඉස්තාලය.

195 මෙම සටහන ලෙනින් විසින් දෙන ලද්දේ රහස්‍ය අරමුණක් ඇතිවය. මෙහි සඳහන් කරුණු ඒවා සිදුවූ පිළිවෙළටම දක්වා ඇත.

196 රුසියානු විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ විදේශ ගත ලීගය ලෙනින්ගේ ක්‍රියාරම්භකත්වය උඩ 1901 ඔක්තෝබර් මාසයේදී ආරම්භ කරන ලදී. එය විදේශගත ''ඉස්ක්‍රා'' සංවිධානයෙන් හා ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමද ඇතුලත් කොටගත් ''සොට්සල්-ඩිමොක්‍රට්'' (''සමාජ-ප්‍රජාතන්ත්‍රිකයා'') විප්ලවවාදී සංවිධානයෙන් සැදුනක් විය. ලීගයේ අරමුණ වූයේ, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවා-දයේ අදහස් පැතිරවීම හා සටන්කාමී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධා-නයක් පිහිටුවීම ය. ''ඉස්ක්‍රා'' සංවිධානයේ විදේශ නියෝජිතයා වූයේ ලීගය යි.



රු. ස. ප්‍ර. ක. පක්ෂය දෙවැනි සම්මේලනයෙන් අනතුරුව මෙන්ෂෙවික්වරු ලීගය තුළ තදින් පය ගසා ගෙන, ලෙනින්ට හා බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව අරගලයක් ගෙන ගියහ. ලීගයේ දෙවැනි සම්මේලනයේදී (1903) ඔවුහු බොල්ෂෙවික්වරුන්ට අපවාද කළහ. මෙන්ෂෙවික්වරු ලීගය සඳහා නව ව්‍යවස්ථා සම්මත කළහ. ඒවා රු. ස. ප්‍ර. ක. පක්ෂය දෙවන සම්මේලනයේදී අනුමත කරන ලද පක්ෂ ව්‍යවස්ථාවලට පටහැනි විය. එතැන් පටන් ලීගය මෙන්-ෂෙවික්වාදයේ බල කොටුවක් විය.

197 ලෙනින් උපුටා දක්වන්නේ ඩී. අයි. පිසරියව්ගේ ''නොමේරු චින්තනයේ මෝඩකම්'' යන ලිපියෙනි.

198 ''ලිස්තොක් රබෝචිව දියල'' — ''රබොචිය දියල'' සඟරාව සමග කලින් කල පළ වූ අතිරේකයකි — 1900 ජූනි සහ 1901 ජූලි අතර කාලයේ වරින් වර මෙයින් කලාප අටක් නිකුත් කෙරින.

199 ලෙනින් සඳහන් කරන්නේ මාක්ස්ගේ ''ලුයි බොනපාට්ගේ බ්‍රියුමර් මස දහ අටවැනිද''. නැමති කෘතියේ එන පහත සඳහන් කොටස ගැන ය.

''ලෝක ඉතිහාසයේ ඉතා වැදගත් සිදුවීම් හා පුරුෂයන් දෙවරක් ඇති වන සේ පෙනේ යයි හේගල් යම් තැනක කියා ඇත. ඔහුට මෙය එකතු කිරීමට අමතක විය. ''පළමුවර ශෝකාලාපයක් හා දෙවන වර විහිළුවක් ලෙසට ය.''

200 ශිෂ්‍ය පෙළපාලි රැල්ලක් 1901 නොවැම්බර් හා දෙසැම්බර් දෙමාසය තිස්සේ පැතිර ගියේය. එයට කම්කරුවන්ගේ සහයෝගය ලැබු-ණේය.

201 යනිචාර්වරු — දහ හතරවැනි ශත වර්ෂයේ පිහිටුවන ලද, තුර්කි සුල්තාන් රජුගේ යුද්ධ හමුදවට අයත් ස්ථිර පාබල හමුදවය. සුල්තාන් රජු යටතේ ප්‍රධාන පොලිස් බල හමුදව වූ මොවුන් ඔවුන්ගේ අන්ත කෲරත්වය ගැන ප්‍රසිද්ධියක් දැරුවේය. යනිචාර් හමුද 1826 දී විසුරුවා හරින ලදී. ලෙනින් මෙම නාමය යොද ඇත්තේ සාර්වාදී පොලිසිය ගැන විස්තර කිරීමට ය.

202 ජාත්‍යන්තර සමාජවාදී මියුරෝ සභාව — දෙවැනි ජාත්‍යන්තරයේ

ස්ථිර විධායක මණ්ඩලය සහ ප්‍රවෘත්ති මධ්‍යස්ථානය ය. එහි සාමාජිකයින් වූයේ දෙවැනි ජාත්‍යන්තරයට අයත් සියලු පක්ෂවල නියෝජිතයින් ය. ලෝකයේ සියළුම රටවල සමාජවාදී පක්ෂ නියෝජනය කරන බියුරෝ සභාව පිහිටුවීමේ තීරණය ගන්න ලද්දේ දෙවැනි ජාත්‍යන්තරයේ පැරිස් සම්මේලනය විසිනි (1900 සැප්තැම්බර්). රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නියෝජනය කිරීමට තෝරා පත් කරන ලද්දේ ජී. වී. ප්ලෙහානව් සහ බී. එන්. ක්‍රිචේව්ස්කි ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ නියෝජිතයෙක් ලෙසට ලෙනින් 1905 පටන් බියුරෝ සභාවේ සාමාජිකයෙක් විය. ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරය එක්සත් කරන මණ්ඩලයක් වශයෙන් එහි පැවැත්ම 1914 දී කෙළෙවර විය.

203 විප්ලවවාදී ''සොට්සල් ඩිමොක්‍රට්'' සංවිධානය — විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය (1900 මැයි මස) එහි දෙවැනි සම්මේලනයේදී භේද වීමෙන් පසුව ශ්‍රම විමුක්තිය කණ්ඩායම මෙය පිහිටෙව්වේය. 1901 ඔක්තෝබර් මාසයේදී, ලෙනින්ගේ ක්‍රියාරම්භකත්වය අනුව, ''සොට්සල් ඩිමොක්‍රට්'' සංවිධානය, විදේශගත ''ඉස්ක්‍රා'' සංවිධානය සමග එක් වී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ විදේශගත ලීගය පිහිටෙව්වේය.

204 ඩී. බී. රියසනොව්, වයි. එම්. ස්තෙක්ලොව් (නෙව්සරොව්), ඊ. එල්. ගුරෙවිච් (වී. දනියෙවිච්, වයි. ස්මිර්නෙව්) යන අයගෙන් සමන්විතව 1901 පැරිසියෙහිදී පිහිටුවන ලද මෙම කණ්ඩායම 1901 මැයි මාසයේදී ''බර්බා'' (''අරගලය'') යන නම ආරූඪ කරගත්තේය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ විප්ලවවාදී සහ අවස්ථාවාදී උපනති අතර ගැලපීමක් ඇති කිරීමට උත්සාහ දරමින් ''බර්බා'' කණ්ඩායම විදේශගත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවල සමගියක් ඇති කිරීමට යෝජනා කොට එම අරමුණ ඇතිව, ''ඉස්ක්‍රා-සර්යා'' සහ ''සොට්සල්-ඩිමොක්‍රට්'' සංවිධාන ද, විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය ද සමග සාකච්ඡා ආරම්භ කළේය. මෙම කණ්ඩායම ජිනීවා (1901 ජූනි) සාකච්ඡා සම්මේලනයට ද, ''එක්සත්'' (1901 ඔක්තෝබර්) සාකච්ඡා සම්මේලනයට ද සහභාගි විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අදහස් හා උපක්‍රමවලින් මෙසේ පිට පැනීම නිසාද, එහි අවුල් කාරී කටයුතු නිසාද, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන සමග එය සම්බන්ධකම් නොපැවැත් වූ නිසාද ''බර්බා'' කණ්ඩායමට, රු. ස. ප්‍ර. ක. පක්ෂය දෙවැනි සම්මේලනයට සහභාගි වීමට ඉඩ නොදෙන ලදී. දෙවැනි සම්මේලනයේ තීරණය අනුව ''බර්බා'' කණ්ඩායම විසුරුවා හරින ලදී.

205 ''ඉස්ක්‍රා'' අංක 18 (1902 මාර්තු 10) ''පක්ෂ ජීවිතය'' සඳහා වෙන් කළ කොටසේ "Vorwärts" කර්තෘවරු සමග '' ''සර්යා'' සහරාවේ විවාදය'' යන මැයෙන් යුතු ලිපියක් පළ කරමින් විවාදයට අදල කරුණු ගැන විස්තර දක්විය.

# නාමාවලිය

<u>අබ්රාමව්, යාකව් වසීලෙවිච්</u> (1858-1906) — ප්‍රකාශකයෙකි, නරෝද්නික්වාදියෙකි. ජන ජීවිතය පිළිබඳ කතා සහ සමාජ-ආර්ථික ප්‍රශ්න පිළිබඳ ලිපි ගණනාවක්ම ලියූ ලේකඛයෙකි. — පිටු 89, 102, 103

<u>අදමෝවිච් (වරෝව්ස්කි වත්ස්ලාව් වත්ස්ලාවවිච්)</u> (1871-1923) — බොල්ෂෙවික් පක්ෂයේ සම්භාවනීය නායකයෙකි, සහිත්‍ය විචරකයෙකි. විප්ලවවාදී පදනමක් මත සිටිමින් ස්ත්රූවේ හා බර්න්ෂ්ටයින් විවේචනය කරන ලිපියක් 1901 දී ප්‍රසිද්ධ කළේය. — පිටු 305

<u>අක්සෙල්රොද්, පාවෙල් බරිසවිච්</u> (1850-1928) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි.රුසියාවේ පළමුවැනි මාක්ස්වාදී කණ්ඩායම වූ ''ශ්‍රම විමුක්තිය'' ආරම්භ කිරීමට සහභාගී විය (1883). රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසු (1903) මෙන්ෂෙවික්වාදයේ නායකයෙක් බවට පත්විය. ප්‍රතිගාමීත්වය රජකළ කාලයේ (1907-1910) ලික්විඩේටර්වාදයේ නායකයෙකු ලෙස කටයුතු කළේය. පළමුවැනි ලෝක යුද්ධය අවදියේදී (1914(1918) මධ්‍යස්ථවාදියෙකු බවට පත් විය. — පිටු 137, 158, 159, 182, 183

<u>අලෙක්සේයව්, පියෝතර් අලෙක්සේයවිච්</u> (1849-1891) — දහ නවවැනි ශත වර්ෂයේ හැත්තෑ ගණන්වල විසූ ප්‍රසිද්ධ විප්ලවවාදියෙකි, වෘත්තියෙන් පේශකාර්මික කම්කරුවෙකි, කම්කරුවන් අතර විප්ලවවාදී ප්‍රචාරක කටයුතු ගෙන ගියේය. සාර්වාදී අත්තනෝමතික රජය බිඳවැටෙන බවට අනාවැකි පළ කරමින් ඔහු කළ සුප්‍රසිද්ධ කතාව සිරගත කර උසාවියට ඉදිරිපත් කළ අවස්ථාවේ කළේය. — පිටුව 227

ඖවර් (Auer), ඉග්නත්ස් (1846-1907) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. වෘත්තියෙන් අශ්ව සෑදල තනන්නෙකි. 1874 සිට එසෙනාහ් වාදීන්ගේ පක්ෂයේ ලේකම් ලෙසද 1875 දී එය ලසාල්වාදීන් සමග එකතුවීමෙන් පසු ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ලේකම් ලෙසද කටයුතු කළේය. පසුව ඔහු ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ අවස්ථාවාදී පිළේ එක් නායකයෙකු බවට පත්විය. — පිටුව 257

ඉලවායිස්කි, ද්මීත්රි ඉවානවිච් (1832-1920) — ඉතිහාසඥයෙක් හා ප්‍රකාශකයෙකි. විප්ලවයට පෙර රුසියාවේ ප්‍රාථමික හා ද්විතීය පාඨශාලාවල භාවිතා කළ ඉතිහාස පාඩම් පොත් වල කර්තෘවරයාය එම පාඩම් පොත් වල වැඩි වශයෙන්ම ලියා තිබුණේ සාර් රජවරු සහ සේනාධිපතීන් පිළිබඳවය. — පිටුව 122

ඉවනෝව් වී. — සසූලිච්. වී. ඊ. බලන්න.

එංගල්ස් (Engels), ෆ්‍රෙඩ්රික් (1820-1895) — පිටු 10-19, 22, 34, 40-45, 123, 138, 140, 143, 162, 170, 200

එන්ගෙල්ගාර්ද්ත්, අලෙක්සාන්ද්ර් නිකලායෙවිච් (1832-1893) — ප්‍රකාශකයෙකි, නරෝද්නික්වාදියෙකි. තම සමාජමය-කෘෂිකාර්මික වැඩ කටයුතු හා තම නමින් සුදුසු ගොවිපළවල් සංවිධානය කිරීමට ගත් තැත නිසා ප්‍රසිද්ධියට පත්විය. එන්ගල්ගාර්ද්ත් "ගම්බද සිට" එවූ ලිපි හා කෘෂිකාර්මික ප්‍රශ්න පිළිබඳ වෙනත් ලිපි ගණනාවක්ම ලීවේය. — පිටු 79-87, 95, 96

එපිකුරොස් (ක්‍රි. පූ. 341-270) — පුරාණ ග්‍රීක ද්‍රව්‍යවාදී දර්ශනිකයෙකි. ආදේවවාදියෙකි. — පිටුව 10

එවෙලින්ග් (Aveling), එලෙනෝරා, (1855-1898) — ඉංග්‍රීසි හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ නායිකාවකි. ඉංග්‍රීසි ජාතික සමාජවාදියෙකු වූ එඩ්වඩ් එවෙලින්ග් ගේ භාර්යාව වූ ඇය කාල් මාක්ස් ගේ බාල දියණිය යි. — පිටුව 6

ඕසෙරව්, ඉවාන් හ්රිස්තෆෝරවිච් (1869-1942) — ආර්ථික විද්‍යාඥයෙකි. මොස්කව් හා පීටර්ස්බර්ග් විශ්ව විද්‍යාලවල මහාචාර්ය වරයෙකු ලෙස කටයුතු කළේය. 1901-1902 අවුරුදු වලදී කම්කරු ව්‍යාපාරය තුළ සුබාතව් ගෙන ගිය ප්‍රකෝපකාරී උපක්‍රම වලට දැඩි සහයොගයක් දුන්නේය. — පිටු 236-238

ඕවන් (Owen), රොබට් (1771-1858) — ශ්‍රේෂ්ඨ ඉංග්‍රීසි මනෝරාජ්‍යවාදී-සමාජවාදියෙකි. — පිටුව 139

කරේයව්, නිකලායි ඉවානවිච් (1850-1931) — ලිබරල්-ධනපති ඉතිහාසඥයෙක් හා ප්‍රකාශකයෙකි. සමාජ විද්‍යාවේ විෂයීගත අංශයේ එක් නියෝජිතයෙකි. සාරසංග්‍රහ වාදී-විඥානවාදියෙකි. 1905 සිට කැඩෙට් පක්ෂයේ සාමාජිකයකු බවට පත්විය. මාක්ස්වාදයේ හතුරෙකි. — පිටුව 166

කත්කෝව්, මිහයිල් නිකිෆරවිච් (1818-1887) — ප්‍රකාශකයෙකි. 1863-1887 අවුරුදුවලදී "මොස්කෝව්ස්කිය වියදමස්ති" පත්‍රයේ සංස්කාරකවරයා හා ප්‍රකාශකයා ලෙස කටයුතු කළේය. එම පත්‍රය රාජාණ්ඩුවාදයේ හොරණෑව බවට පත්විය. තමා "සාර්වාදී ඒකාධිපතිත්වය ආරක්ෂා කරන කීකරු සුනඛයෙක්" බව කත්කෝව්ම කියා සිටියේය. කත්කෝව් නාමය රාජාණ්ඩුවාදයේ නිර්ලජ්ජිත ප්‍රතිගාමීත්වය පෙන්වන සංකේතයක් බවට පත්විය. — පිටුව 208

කාන්ත් (Kant), ඉම්මනුයිල් (1724-1804) — ජර්මන් දර්ශනිකයෙකි. ජර්මන් මූල් විඥානවාදයේ නියෝජිතයෙකි. "තමන් සඳහා වන දෙය" පිළිගනිමින්, එනම් මිනිස් ආත්මයෙන් පිට ඇති වස්තු පිළිගනිමින් කාන්ත් ඒ අතරම "තමන් සඳහා වන දෙය" ප්‍රජානනය ප්‍රතික්ෂේප කළේය. කාන්ත්ගේ දර්ශනයේ විශේෂ අංගය නම් ද්වන්දවාදයයි, එනම් ප්‍රතිවිරුද්ධ දර්ශනික ප්‍රවනතාවයන් දෙකක් වන ද්‍රව්‍යවාදය හා විඥානවාදය තම දර්ශනවාදී ක්‍රම තුළ සංයෝග කිරීමට උත්සාහ දැරීමයි. — පිටු 17, 56, 57

කාමෙනෙස්කි — ප්ලෙහානව් බලන්න

කාරශෙව්, නිකලායි අලෙක්සාන්ද්‍රවිච් (1855-1905) — ආර්ථික විද්‍යාඥයෙක් හා සංඛ්‍යා ලේඛකයෙකි. රුසියාවේ ගොවි ආර්ථිකය ගැන පළවූ පොත් ගණනාවකම හා සඟරා වලට සැපයූ ලිපි ගණනාවකම කර්තෘවරයාය. එම පොත්වලින් හා ලිපි වලින් ඔහු ලිබරල් නරෝද්නික්වාදීන්ගේ අදහස් ආරක්ෂා කළේය. — පිටුව 84

කුගෙල්මන් (Kugelmann), ලුද්විග් (1830-1902) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු වූ මොහු වෘත්තියෙන් වෛද්‍යවරයෙකි. 1848-1849 අවුරුදු වලදී ජර්මන් විප්ලවයට සහභාගි විය. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකි. ජර්මනියේ අභ්‍යන්තර තත්වය ගැන දන්වමින් 1862 සිට 1874 දක්වා ලන්ඩන්හි සිටි කාල් මාක්ස් සමග ලිපි හුවමාරු කර ගත්තේය. — පිටුව 45

කුස්කෝවා, යෙකතෙරිනා ද්මීත්‍රියෙව්නා (1869-1958) — රුසියානු සමාජ සේවිකාවක් හා ප්‍රකාශක වරියකි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ වූ''ආර්ථිකවාදයේ ප්‍රධාන නියෝජිත වරියකි. "Credo" ලේඛනයේ කර්තෘවරියයි. එය ''ආර්ථිකවාදයේ'' අවස්ථාවාදී ස්වරූපය විවෘතවම පෙන්නුම් කළේය. — පිටුව 130

කේ. කේ. — කෞට්ස්කි, කේ. බලන්න

කෞට්ස්කි (Kautsky), කාල් (1854-1938) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ එක් නායකයෙකි. ආරම්භයේදී මාක්ස්වාදියෙකි. පසුව මාක්ස්වාදයේ ද්‍රෝහියෙකු බවට පත්විය. අවස්ථාවාදයේ වඩාත්ම අහිතකාරී හා එසේම භයානක ප්‍රවනතාවය වන මධ්‍යස්ථවාදයේ (කෞට්ස්කිවාදය) න්‍යායාචාර්ය වරයාය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී න්‍යායාත්මක සඟරාවක් වූ "Die Neue Zeit" (''නව යුගය'') හි ප්‍රධාන කතුවරයා ලෙස කටයුතු කළේය. — පිටු 152, 184, 185

ක්‍රිචේව්ස්කි, බරිස් න්වූමවිච් (1866-1919) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, ප්‍රකාශකයෙකි, ''ආර්ථිකවාදයේ'' එක් නායකයෙකි. 1890 ගණන්වල අගදී ''විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ'' නායකයෙකු බවට පත් විය. 1899 දී බර්න්ෂ්ටයින් දෘෂ්ටිය ප්‍රචාරය කළ ''රබෝචිය දියල'' සඟරාවේ සංස්කාරක ධුරයට පත්විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ වෙැනි සම්මේලනයෙන් පසු (1903) ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙන් ඉවත් විය. — පිටු 121, 122, 124, 161, 162, 165, 181, 226, 234, 260, 280, 300, 312, 317-318, 320, 322

ගිසෝ (Guizot), ෆ්‍රාන්සුවා පියෙර් ගියොම් (1787-1874) — ප්‍රංශ ඉතිහාසඥයෙක් හා රාජ්‍ය නායකයෙකි. ධනපති පංතියට රාජ්‍ය බලය ලබාගැනීමේ තැනැට පදනම් දැමූ ධනපති න්‍යායයක් වූ පංති සටන න්‍යාය නිර්මාණය කළ අයගෙන් කෙනෙකි. — පිටුව 23

ගෙද් (Guesde), ජූල් (1845-1922) — ප්‍රංශයේ සමාජවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ ප්‍රාරම්භක නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය (1914-1918) තෙක් පක්ෂයේ වාමාංශික පිළට නායකත්වය දුන්නේය.යුද්ධය ආරම්භ වීමෙන් පසු සමාජ-ජාතොයාන්මාද වාදියෙකු බවට පත් වූ ඔහු ප්‍රංශයේ ධනපති රජයේ වගකිවයුතු තැනකටද පත්විය. — පිටු 61, 116, 184

ගෙර්ත්සන්, අලෙක්සාන්දර් ඉවානවිච් (1812-1870) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි. දර්ශනවාදියෙකි, ද්‍රව්‍යවාදියෙකි. ලේඛකයෙක් හා ප්‍රකාශකයෙකි. විදේශගත වූ මොහු ලන්ඩන්හි ''නිදහස් රුසියන් මුද්‍රණාලය'' විවෘත කර 1857 සිට ''කලකෝල්'' (''සණ්ටාරය'') නමින් සඟරාවක් පළ කරළ්ය. මෙම සඟරාව නීති විරෝධී ලෙස රුසියාවට ගෙන්වා බෙදා හරින ලදී. රුසියාවේ විප්ලවවාදී ව්‍යාපාරයේ වර්ධනයට එය ඉමහත් රුකුලක් විය. — පිටුව 137

චෙර්නිෂේව්ස්කි, නිකලායි ගව්රීලවිච් (1828-1889) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි. සමාජවාදී-මනෝරාජ්‍යවාදියෙකි, ලේඛකයෙක් හා සාහිත්‍ය විචරකයෙකි. දර්ශනවාදී-ද්‍රව්‍යවාදියෙකි. 1860 ගණන්වල රුසියාවේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ නායකයාය.

1862 දී ඔහු සිර අඩස්සියට ගන්නා ලදි. අවුරුදු 7 බර පතල වැඩ ඇතිව සිරගෙයටද ජීවිතාන්තය දක්වා සයිබීරියාවේ පිටුවහල්ව සිටීමටද ඔහුට නියම විය. 1883 දී ඔහුට පිටුවලේ සිට ආපසු පැමිණියේය. — පිටුව 137

ඩූරිං (Dühring), එව්ගේනි (1833-1921) — ජර්මන් දර්ශනිකයෙක් හා ආර්ථික විද්‍යාඥයෙකි. සුළු ධනපති දෘෂ්ටිවාදියෙකි. ඩූරිංගේ දර්ශනවාදී දෘෂ්ටිය ඉන්ද්‍රියානුභූතවාදයේ සාරසංග්‍රහවාදී සංයෝජනයක්ද, ද්‍රව්‍යවාදය හා විඥානවාදයද නියෝජනය කළේය. පිටු 55,57,123

ත්කචෝව්, පියෝතර් නිකීතිච් (1884-1885) — විප්ලවවාදී නරෝද්නික්වාදයේ එක් න්‍යායාචාර්ය වරයෙකි, ප්‍රකාශකයෙක් හා සාහිත්‍ය විචාරකයෙකි. — පිටුව 302

තියෙර් (Thiers), අදෙල්ෆ්ප් (1797-1877) — ප්‍රංශ දේශපාලඥයෙක් හා ඉතිහාසඥයෙකි. පැරිස් කොමියූනයට සහභාගි වුවන්ගෙන් මෘග ලෙස පලිගැනීම හා ඔවුන් විනාශ කිරීම සංවිධානය කළ තැනැත්තාය. — පිටුව 23

තියරි (Thierry), ඔගියුස්තේන් (1795-1856) — ප්‍රංශ රාජ්‍ය නායකයෙක් සහ ලිබරල් අදහස් දරූ ඉතිහාසඥයෙකි. සමාජය පංතිවලට බෙදීම පිළිගත් ඔහු, එක් ජන කොටසක් තවත් ජනකොටසක් යටත් කර ගැනීමේ ප්‍රතිඵලයක් වශයෙන් පංති ඇතිවූ බව අදහස් කළේය. ධනපතීන් හා නිර්ධන පංතිය අතර ප්‍රතිවිරෝධීතාවය නොපවතින බව පිළිගත්තේය. — පිටුව 23

කුගාන්-බරනෝව්ස්කි, මිහයිල් ඉවානවිච් (1865-1919) — රුසියානු ආර්ථික විද්‍යාඥයෙකි. ඊනියා නීත්‍යානුකූල මාක්ස්වාදයේ ප්‍රධාන නියෝජිතයෙකි. — පිටුව 89

තුලින්, කේ. — ලෙනින් වී. අයි. බලන්න

දවීද් (David), එදුවාර්ද් (1863-1930) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. සංශෝධන වාදියෙකි. ''සමාජවාදය සහ කෘෂිකර්මය'' පොතේ සහ වෙනත් පොත්වල කතුවරයාය. ඔහු එම පොත්වලින් මාක්ස්වාදයේ එන කෘෂිකර්මය පිළිබඳ න්‍යායයන් විවේචනයට ලක් කළ අතර ධනවාදය තුළ පවතින සුළු කෘෂිකාර්මික ආර්ථිකයේ ''ස්ථිරභාවය'' ඔප්පුකර සිටියේය. ජර්මනියේ 1918 නොවැම්බර් විප්ලවයට පසු වෙයිමාර් සමූහාණ්ඩුවේ ධනපති රජයට ඇතුලුවිය. — පිටුව 125

දුන්කෙර් (Duncker), ප්‍රාන්ත්ස් (1822-1888) — ජර්මන් දේශපාලඥයෙක් සහ ප්‍රකාශකයෙකි. 1860 ගණන්වලදී ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සමිති වල නිර්මාතෘවරයෙකි. — පිටුව 155

නදෙෂ්දින්, එල් (සෙලෙන්ස්කි යෙව්ගේනි ඕසිපවිච්) (1877-1905) — නරෝද්නික් වාදියෙකු ලෙස තම දේශපාලන ජීවිතය අරඹා පසුව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට එකතු විය. තම ලිපි වලින් ''ආර්ථිකවාදය'' ආරක්ෂා කළ ඔහු ඒ සමගම ''ජනතාව පුබුදුවන'' ත්‍රස්තවාදී ක්‍රියාවන් මාධ්‍ය වශයෙන් ත්‍රස්තය දේශනා කළේය. ලෙනින්වාදී ''ඉස්ක්‍රා'' පත්‍රයට විරුද්ධව කටයුතු කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට (1903) පසු මෙන්ෂෙවික්වාදී ප්‍රකාශනවල සේවය කළේය. — පිටු 281, 284, 288-296, 302-307

නයිට් (Knight), රොබට් — ඉංග්‍රීසි වෘත්තීය සමිති ව්‍යාපාරයේ ප්‍රමුඛ නායකයෙකි. 1871-1899 අවුරුදුවලදී බොයිලේරු කම්කරුවන්ගේ වෘත්තීය සමිතියේ ලේකම් වශයෙන්ද,බොයිලේරු කම්කරුවන්ගේ සහ නැව් සාදන්නන්ගේ ඒකාබද්ධ වෘත්තීය සමිතියේ ලේකම් වශයෙන්ද කටයුතු කළේය. පාර්ලිමේන්තු නියෝජිතයෙකි. ඔහු කම්කරුවන්ගේ ආර්ථික තත්වය උසස් කරන මෙන් හාම්පුතුන්ගෙන් ඉල්ලා සිටීමට පමණක් සීමා වූ මුල් වෘත්තීය සමිතිවාදයේ නියම නියෝජිතයෙකි. — පුටු 200-201

නර්ත්සිස් තුපරිලව් — මාර්තව් බලන්න

න—සන් (දනියෙල්සන් නිකලායි ෆ්‍රාන්ත්සවිච් (1844-1918) — රුසියානු ආර්ථික විද්‍යාඥයෙකි ලේඛකයෙකි. 1880-1890 ගණන් වල ලිබරල් නරෝද්නික්වාදයේ එක් න්‍යායාචාර්ය වරයෙකි. — පිටුව 88

(N.N.) — ප්‍රකපෝවිච් බලන්න.

ප්රුදෙන් (Proudhon), පියෙර් ජෝසෆ් (1809-1865) — ප්‍රංශ ප්‍රකාශකයෙකි, ආර්ථික විද්‍යාඥයෙකි, ආරාජිකවාදයේ මූලාරම්භකයෙකි, සුළු ධනපති දෘෂ්ටිවාදියෙකි. කුඩා පරිමාන දේපල අයිතිය ආරක්ෂා කරීමට උත්සාහ ගත් ප්රුදෙන් සුළු ධනපති දෘෂ්ටියකින් යුතුව, මහා පරිමාන දේපල අයිතිය විවේචනය කළේය. — පිටු 12, 13, 55, 107, 138, 153, 154

ප්ලෙහානව්, ගියොර්ගි වලෙන්තීනවිච් (බෙල්තව්, එන්, කාමෙන්ස්කි (1856-1918) — රුසියානු හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි, පළමුවැනි මාක්ස්වාදී ප්‍රචාරකයාය. පළමුවැනි රුසියානු මාක්ස්වාදී කණ්ඩායම වූ ''ශ්‍රම විමුක්තිය'' (1883) සංවිධානයේ නිර්මාතෘ වරයාය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයෙන් (1903) පසු මෙන්ෂෙවිකයින්ට එකතු විය. 1907-1912 අවුරුදු වලදී ලික්විඩේටර් වරුන්ට විරුද්ධව කටයුතු කළ අතර මෙන්ෂෙවික් කණ්ඩායමට නායකත්වය දුන්නේය.

පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914-1918) සමාජ-ජාත්‍යොන්මාදවාදී අදහස් දැරීය. — පිටු 57, 99, 105, 106, 121-122, 159, 165, 182, 183, 185, 201, 227, 265, 300, 317

පර්වුස් (ගෙල්ෆන්ද්, අලෙක්සාන්දර් ලාසරෙවිච්) (1869-1924) — මෙන්ෂෙවික් වාදියෙකි. 1890 ගණන්වල අග භාගයේදී සහ 1900 ගණන්වල මුල් භාගයේදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශික පිළේ කොනකට වී එහි සාමාජිකයෙකු ලෙස කටයුතු කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට (1903) පසු මෙන්ෂෙවික්වාදීනට එකතු විය. පළමුවැනි රුසියානු විප්ලවය අවධියෙදී (1905-1907) රුසියාවට පැමිණියේය. රුසියාව තුළ ප්‍රතිගාමීත්වය රජ කළ අවධියේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙන් ඉවත් විය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914-1918) සමාජ-ජාත්‍යොන්මාදය වැළඳගත් ඔහු ජර්මනියේ ඒජන්තවරයෙකු ලෙස කටයුතු කළේය. — පිටුව 319

පිසරෙව් ද්මීත්‍රි ඉවානොවිච් (1840-1868) රුසියානු විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ප්‍රකාශකයෙක් සහ සාහිත්‍ය විචාරකයෙකි. ද්‍රව්‍යවාදී දර්ශන වාදියෙකි. — පිටුව 301

පෙරෝව්ස්කයා, සෝෆියා ල්වෝව්නා (1853-1881) — රුසියානු විප්ලවවාදිනියකි, සුප්‍රසිද්ධ නරෝද්නික්වාදිනියකි.දෙවැනි අලෙක්සාන්දර් සාර් රජු මැරීමට සහභාගි වීම නිසා සාර් රජය විසින් එල්ලා මරා දමන ලදී. — පිටුව 266

ප්‍රකෝපෝවිච්, සෙර්ගෙයි නිකලායෙවිච් (N.N.) (1871-1955) ආර්ථික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි. ''ආර්ථිකවාදයේ'' ප්‍රමුඛ නායකයෙකි. රුසියාව තුළ බර්ෂ්ටයින්වාදය දේශනා කළවුන්ගෙන් කෙනෙකි. — පිටු 129, 130, 154, 155, 180, 311

ෆිග්නර්, වියරා නිකලායෙව්නා (1852-1942) — රුසියානු විප්ලවවාදී-නරෝද්නික්වරියකි. ''නරෝද්නයා වෝලියා'' පක්ෂයේ විධායක කමිටුවේ සාමාජිකාවකි. 1884 දී එල්ලා මැරීමට නියම වූ නමුත් එය වෙනස්කර ජීවිතාන්තය දක්වා සිරගෙට යවන ලදී. 1905-1907 විප්ලවයෙන් පසු විදේශගත විය. 1915 දී රුසියාවට පෙරලා පැමිණියාය. සාහිත්‍යමය කටයුතුවල නිරත විය. — පිටුව 266



ෆූරියේ (Fourier), ෂාර්ල් (1772-1837) — ශ්‍රේෂ්ඨ ප්‍රංශ සමාජවාදියෙකි. මනෝරාජ්‍යවාදියෙකි. — පිටුව 139

ෆොග්ත් (Vogt), කාල් (1817-1895) — ජර්මන් ස්වභාව විද්‍යා නිරීක්ෂකයෙකි. පිරිහුණු ද්‍රව්‍යවාදියෙකි. සත්ත්ව විද්‍යාව භූගර්භ විද්‍යාව හා ශාරීරික විද්‍යාව පිළිබඳ පොත් ගණනාවක්ම ලීවේය. විද්‍යාත්මක සමාජවාදයේ හතුරකු වූ මොහු නිර්ධන පංතික විප්ලවවාදීන් පසු පස ලුහුබැන්දේය. කාල් මාක්ස්ගේ සහ ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ වැඩ පිළිබඳ අපවාද සහගත ලෙස කතා කළේය. — පිටුව 17

ෆොල්මර් (Vollmar), ගියෝර්ග් හෙන්රිහ් (1850-1922) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ අවස්ථාවාදී පිළේ නායකයෙකි, පත්‍ර කලාවේදියෙකි. බර්න්ෂ්ටයින් සමග, ඔහුද ප්‍රතිසංස්කරනවාදයේ සහ සංශෝධනවාදයේ දෘෂ්ටිවාදියෙකි. — පිටුව 118

ෆොයර්බාහ් (Feuerbach), ලුද්විග් අන්ද්‍රියස් (1804-1872) — සම්භාව්‍යනීය ජර්මන් ද්‍රව්‍යවාදී දර්ශනිකයෙකි, ආදේවවාදියෙකි. මාක්ස්වාදයේ එක් පූර්ව ගාමියෙකි.ෆොයර්බාහ් හේගල්ගේ විඥානවාදී දර්ශනය විවේචනයට භාජනය කළේය. දහමත් සමග විඥානවාදයේ ඇති සම්බන්ධතාවය පෙන්නුම් කළේය. එහෙත් සමාජ ප්‍රවනතාවයන් ගැන ගත් කල ඔහු විඥානවාදියෙක් විය. ඔහුගේ ද්‍රව්‍යවාදය පාරභෞතිකවාදී හා භාවයෝගී ස්වභාවයක් ගත්තේය. පිටු 10, 11, 15, 16,48

බ්රුකෙර් (Brouckére), ලුයී දෙ (උපත 1870) — බෙල්ජියම් කම්කරු පක්ෂයේ එක් නායකයෙක් හා න්‍යායාචාර්ය වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධයට (1914-1918) පෙර එහි වාමාංශික පිළට නායකත්වය දුන්නේය. යුද්ධය අවධියේදී සමාජ-ජාත්‍යොන්මාද වාදියෙක් බවට පත් විය. — පිටුව 61

බ්රූස් (Brousse), පොල් ලුයී මරී (1844-1912) — ප්‍රංශ සුළු ධනපති සමාජවාදියෙකි. පොසිබිලිස්ට්වරුන්ගේ සමාජවාදී පක්ෂයේ අවස්ථාවාදී පිළේ නායකයාය. — පිටුව 61

බකුනින්, මිහයිල් අලෙක්සාන්ද්‍රවිච් (1814-1876) — රුසියානු විප්ලවවාදියෙකි. අරාජිකවාදයේ න්‍යායාචාර්ය වරයෙකි. 1840 සිට විදේශගතව වාසය කළේය. 1840-1849 අවුරුදුවලදී ජර්මන් විප්ලවයට සහභාගි විය. පළමුවැනි ජාත්‍යන්තරයට සහභාගි වී මාක්ස්වාදයේ

හතුරක් ලෙස කටයුතු කළේය. ඔහු නිර්ධන පංතියේ ආඥාදායකත්වය ඇතුළු සියලුම ආකාරයේ රාජ්‍යයන් ප්‍රතික්ෂේප කළේය. නිර්ධන පංතියේ ඓතිහාසික කාර්යභාරය ඔහු තේරුම් නොගත්තේය. කම්කරුවන්ගේ නිදහස් පක්ෂයක් ගොඩනැගීමට විවෘතවම විරුද්ධ විය. බකුනින්ගේ ප්‍රතිගාමී අදහස් වලට විරුද්ධව කාල් මාක්ස් සහ ෆ්‍රෙඩ්රික් එංගල්ස් තීරණාත්මක ලෙස සටන් කළහ. භේදකාරී වැඩ නිසා 1872 දී බකුනින් ජාත්‍යන්තරයෙන් නෙරපා දමන ලදී. —පිටු 13, 14, 55, 138

බබ්රිකින්, පියෝතර් දිමිත්‍රියවිච් (1836-1921) — දහ නවවැනි ශත වර්ෂයේ අවසානයේ හා විසිවැනි ශත වර්ෂයේ ආරම්භයේ විසූ රුසියානු ගත් කතුවරයෙකි. ඔහුගේ, නරෝද්නික්වාදීන් හා මාක්ස්වාදීන් අතර අරගලය වක්‍ර ලෙස පෙන්නා ලියූ, ''වෙන විදිහක්'' නැමති නව කතාව (1897) දියුණු සමාජ කොටස්වල සාදරන විරුද්ධත්වයට භාජනය විය. — පිටුව 97

බග්දනව්, ඒ. (මලිනෝව්ස්කි, ඒ. ඒ.) (1873-1928) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, දර්ශනිකයෙකි, සමාජවිද්‍යාඥයෙකි, ආර්ථික විද්‍යාඥයෙකි, වෘත්තියෙන් වෛද්‍යවර යෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයෙන් (1903) පසු බොල්ෂෙවික් වරුන්ට එක් විය. ප්‍රතිගාමීත්වය රජ කළ කාලයේ සහ නව විප්ලවවාදී උත්සහභාවය තිබූ කාලයේදී ඔත්සොවිස්ත් (කැඳවන්නා) වරුන්ගේ නායකත්වය ඉසිලීය. දර්ශනවාදී ප්‍රශ්නවලදී තමාගේම ''ඉන්ද්‍රියානුභූතවාදී'' ද (මනෝමූල-විඥනවාදී ප්‍රයෝගවාදී දර්ශ නයේ එක් ආකාරයකි) ක්‍රමයක් නිර්මාණය කිරීමට උත්සාහ කළේය. — පිටුව 57

බර්ක්ලි (Berkeley) ජෝර්ජ් (1685-1753) — ඉංග්‍රීසි දර්ශනිකයෙකි, විෂයමූලවාදී විඥනවාදියෙකි. එංගලන්ත පල්ලියේ බිෂෝප් වරයෙකි. “වස්තුමූල භාවාර්ථයේ”, හෙවත් ද්‍රව්‍යයේ පැවැත්ම ප්‍රතික්ෂේප කළ ඔහු වස්තූන්, හැඟීමේ සමස්තයක් ලෙස සලකා බැලීය. බර්ක්ලිගේ දර්ශනය අනුභාවිත විවේචනය හා ධනවාදී දර්ශනයේ වෙනත් ප්‍රවනතාවයන්ගේ න්‍යායාත්මක උල්පත විය. — පිටුව 57

බර්න්ෂ්ටයින් (Bernstein), එදුවාර්ද් (1850-1932) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ අන්ත අවස්ථාවාදී පිළේ නායකයාය.සංශෝධනවාදයේ හා ප්‍රතිසංස්කරණවාදයේ න්‍යායාචාර්ය වරයා ය.

බර්න්ෂ්ටයින්ගේ හා ඔහුගේ අනුගාමිකයින්ගේ න්‍යායාත්මක චින්තනද, එසේම ඔවුන්ගේ ප්‍රායෝගික අවස්ථාවාදී ක්‍රියාකාරීත්වයද දෙවැනි ජාත්‍යන්තරයේ ඇද වැටීමෙන් අවසන් වූ කම්කරු පංතියේ අත්‍යාවශ්‍යතාවයන් පාවාදීම තෙක් මං සලසන ලදී. — පිටු 55, 61, 62, 117, 118, 119, 121-126, 129, 132, 135, 161 163, 179, 180, 188

බල්හෝර්න් (Balhorn), යොහන් — දහසයවැනි ශත වර්ෂයේ ජර්මනියේ සිටි ග්‍රන්ථ ප්‍රකාශකයෙකි. — පිටුව 185

බසාරව් (රුද්නෙව්), ව්ලදීමිර් අලෙක්සාන්ද්‍රවිච් (1874-1939) — ගත් කතුවරයෙකි, ආර්ථික විද්‍යාඥයෙකි, දර්ශනවාදියෙකි මාක්ස්ගේ හා එංගල්ස්ගේ කෘති පරිවර්තනය කළේය. 1905-1907 අවුරුදුවලදී බසාරව් බොල්ෂෙවික් ප්‍රකාශනවල වැඩ කළේය. ප්‍රතිගාමීත්වය අවධියේ (1907-1910) බොල්ෂෙවික් වරුන්ගෙන් ඉවත් විය. මාඛ්වාදී දර්ශනයේ ප්‍රධාන අනුගාමිකයකුව සිටියේය. 1917 දී මෙන්ෂෙවික්-ජාත්‍යන්තරවාදියෙක් බවට පත්විය. — පිටු 57

බියුඛ්නර් (Büchner), ෆ්‍රෙඩ්රික් කාල් ක්‍රිස්තියාන් ලුද්විග් (1824-1899)—ජර්මන් දර්ශනිකයෙකි. කෙලෙසුණු ද්‍රව්‍යවාදයේ එක් නියෝජිතයෙකි. වෘත්තියෙන් වෛද්‍යවරයෙකි. — පිටුව 17

බුල්ගාකව්, සෙර්ගේයි නිකලායෙවිච් (1871-1944) — ආර්ථික විද්‍යාඥයෙකි. විඥනවාදී දර්ශනිකයෙකි. 1890 ගණන් වලදී නීත්‍යානුකූල මාක්ස්වාදියෙකු විය. 1900 ගණන් වලදී මාක්ස්ගේ කෘෂිකාර්මික ප්‍රශ්න පිළිබඳ ධර්මය සංශෝධන කිරීමට තැත් කළේය. 1905-1907 විප්ලවයෙන් පසු කැඩෙට්වරුන්ට එකතු විය. — පිටු 132, 311

බිස්මර්ක් (Bismarck), ඔත්තෝ එදුවාර්ද් ලියොපොල්ද් (1815 1898) — ප්‍රුසියාවේ සහ ජර්මනියේ රාජ්‍ය නායකයෙක් හා රාජ්‍යතන්ත්‍රිකයෙකි. බිස්මර්ක්ගේ ප්‍රධාන අරමුණ වූයේ ‘මිනීමත හා අයුධ මගින්'' ජර්මනියෙන් කැඩී බිඳී ගිය රාජ්‍යයන් ඒකාබද්ධ කොට ප්‍රුසියාවේ ඉඩම් හිමියන්ගේ අධිපත්‍යය යටතේ ජර්මන් අධිරාජ්‍යය පිහිටුවීමය. — පිටු 11, 45

බී-වී — (සාවින්කොව්, බරිස් වික්තරවිච්) (1879-1925) — සුළු ධනපති පක්ෂයක් වූ සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ (එස්ආර්) එක් නායකයෙකි. සෝවියට් රජයට විරුද්ධව සටන මෙහෙයවීය. ප්‍රතිවිප්ලවවාදී කුමන්ත්‍රන හා කැරලි ගණනාවක්ම සංවිධානය කළේය. — පිටු 223, 226, 251-256, 263

බෙලින්ස්කි, විසරියොන් ග්‍රිගෝරෙවිච් (1811-1847) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි. සාහිත්‍ය විචාරකයෙක් හා ප්‍රකාශකයෙකි, ද්‍රව්‍යවාදී-දර්ශනිකයෙකි. — පිටුව 137

බෙර්දියයෙව්, නිකලායි අලෙක්සාන්දරවිච් (1874-1948) — දර්ශනිකයෙක්, විඥනවාදියෙක් හා භාවයෝගියෙකි. ''නීත්‍යා නුකූල මාක්ස්වාදයට'' හේත්තුවූ ඔහු පසුව විවෘතවම මාක්ස්වාදයේ හතුරෙක් බවට පත් විය. 1905 සිට කැඩෙට් වරයෙකි. — පිටුව 311

බෙම්-බාවෙර්ක් (Böhm-Bawerk), එව්ගේනි (1851-1914) — ආර්ථික විද්‍යාඥයෙකි. දේශපාලන ආර්ථික විද්‍යාව පිළිබඳ ඊනියා ''ඔස්ත්‍රියානු උපනතියේ'' එක් නියෝජිතයෙකි. මේ නියෝජිතයෝ ආර්ථික න්‍යාය ධර්ම විෂයමූල විඥනවාදී ලෙස අර්ථ දැක්වීමේ මාර්ගයෙන් මාක්ස්වාදී දෘෂ්ටිය පැතිරයෑමට විරුද්ධව කටයුතු කළහ. — පිටු 57, 59

බෙල්තව්, එන්. — ප්ලෙහානව්, ජී. වී. බලන්න.

බේබෙල් (Bebel), අව්ගුස්ත් (1840-1913) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ සම්භාවනීය නායකයෙකි. වෘත්තියෙන් ලියවන පට්ටල් කම්කරුවෙකි. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකුව සිටියේය. 1869 දී ලිබ්නෙහ්ත් සමග ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය (''එයිසෙනාහ්වරු'') ආරම්භ කළේය. සංශෝධනවාදයට සහ ප්‍රතිසංස්කරන වාදයට විරුද්ධව ක්‍රියා කළේය. — පිටු 124, 125, 184, 185, 244, 300

බ්‍රෙන්තානො (Brentano), ලූයෝ (1844-1931) — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි, කතීඩර්-සමාජවාදය ඇදහුවෙකි. පංති අරගලය ප්‍රතික්ෂේප කරමින් ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සංගම් සංවිධානය කිරීමේ හා කම්හල් ආඥ ඉදිරිපත් කිරීමේ මාර්ගයෙන් ධනපති සමාජයේ සමාජ අසමානතාවයන් නැති කළ හැකි බව සහ කම්කරුවන්ගෙ හා ධනපතීන්ගේ අත්‍යාවශ්‍යතාවයන් සපුරා ලිය හැකි බව දේශනා කළේය. — පිටු 217

බෞවර් (Bauer), බ්රූනෝ (1809-1882) — ජර්මන් දර්ශනික විඥනවාදියෙකි. සුප්‍රසිද්ධ යෞවන හේගල්වාදියෙකි. මුලදී තම ලිපිවලින් උන්නතිකාමය ඉදිරිපත් කළේය. 1860 ගණන් වලදී බිස්මර්ක් අනුගාමියෙක් බවට පත් විය. ''ශුද්ධ පවුල, නොහොත් බ්රූනෝ බෞවර්ට හා සමාගමට විරුද්ධ'' (1844) හා ''ජර්මන් විඥනවාදය'' (1845-1846) අවසාන විවේචනයේ විවේචනය නැමති කේ. මාක්ස්ගේ හා එෆ්. එංගල්ස්ගේ කෘතියෙන් බෞවර්ගේ විඥනවාදී අදහස් වලට පහර ගසන ලදී. — පිටු 10, 11, 12

මාක්ස් (Marx), කාල් (1818-1883) — පිටු 10-45, 46-63, 107, 118. 135, 136, 143, 161, 162

මද්සිනි (*Mazzini*), ජුසෙප්පේ (1805-1872) — ඉතලියානු විප්ලව වාදියෙකි, ප්‍රජාතන්ත්‍රවාදියෙකි, ඉතලියානු ජාතික විමුක්ති ව්‍යපාරය මෙහෙයවූ එක් දෘෂ්ටිවාදියෙකි. — පිටුව 13

මර්තිනව් (පිකෙර්, අලෙක්සාන්දර් සමොයිලවිච්) (1868-1935) — ''ආර්ථිකවාදයේ'' නායකයෙක් වූ මොහු ලෙනින්වාදී ''ඉස්ක්‍රා'' පත්‍රයට විරුද්ධව කටයුතු කළේය. පසුව මෙන්ෂෙවික්වාදයේ දෘෂ්ටිවාදියෙක් බවට පත් විය. ප්‍රතිගාමිත්වය රජකළ කාලයේදී (1907-1910) ලික්විඩේටර් වරයෙකු වූ ඔහු පළමුවැනි ලෝක මහා යුද්ධය සමයේදී (1914-1918) මධ්‍යගතවාදය ආරක්ෂා කළේය. — පිටු 161, 169-172, 176, 177-181, 183-187, 189, 191

මාර්තව්, එල්. (ත්සෙදෙර්බවුම්, යූලි ඔසිපවිච්, නර්ත්සිය් කුපරිලව්) (1873-1923) — මෙන්ෂෙවික් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී (1903) අවස්ථාවාදී අල්පතරය මෙහෙයවූ අතර එතැන් පටන් මෙන්ෂෙවික් මධ්‍යම සංවිධාන වල නායකයෙක් හා මෙන්ෂෙවික් ප්‍රකාශන වල කර්තෘවරයෙක් වශයෙන්ද කටයුතු කළේය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී මධ්‍යගත වාදියෙක් බවට පත් විය. — පිටු 166, 180

වරයායි. එම පිළියෙහි ඔහු "ආර්ථිකවාදීන්ගේ" අවස්ථාවාදී ස්වභාවය විවෘතවම ගෙනහැර දක්වීය. — පිටු 163, 180, 186, 311

රිකාර්ඩො (Ricardo) ඩේවිඩ් (1772-1823) — ඉංග්‍රීසි ආර්ථික විද්‍යාඥයෙකි. ඔහුගේ පර්යේෂණ ලිපිවල මුල් ධනපති දේශපාලන අර්ථශස්ත්‍රය අවසානය දක්වා වර්ධනය කර තිබිණ. රිකර්ඩෝ ශ්‍රම වටිනාකම පිළිබඳ න්‍යායය ඉදිරිපත් කළේය. එම න්‍යායය අනුව වටිනාකම නිර්ණය කරනු ලබන්නේ වෙළඳ භාණ්ඩය නිපදවීම සඳහා වැය කරන ලද ශ්‍රමය මගිණි, එසේම එම ශ්‍රමය කම්කරුවාගේ වැටුපේද, එසේම ධනපතියාගේ ලාභයේද උල්පත වේ. — පිටු 34, 50

රිතින්ග්හවුසෙන් (Rittinghausen) මොරිත්ස් (1814-1890) — ජර්මන් සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1848-1849 අවුරුදුවලදී කාල් මාක්ස් හා ෆ්‍රෙඩ්රික් එංගල්ස් විසින් පළ කරන ලද "නව රයින් පත්‍රය" හි සේවය කළේය. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකි. තම පර්යේෂණ ලිපිවල ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ආදි කල්පිත අදහස් ගැබ්ව ඇති බව ඔහු අවබෝධ කර ගත්තේය. — පිටුව 268



රූගෙ (Ruge) අර්නෝල්ද් (1802-1880)—ජර්මන් ප්‍රකාශකයෙකි, යෞවන හෙගල්වාදියෙකි. උන්නතිකාමියෙකි. 1844 දී කාල් මාක්ස් සමග පැරිස්හිදී "Deutsch-Franzosische Jahrbücher" ('ජර්මන්-ප්‍රංශ වාර්ෂිකය') සඟරාව පළ කළේය. 1848 දී රූගේ ප්‍රංශයේ ජාතික මන්ත්‍රණ සභාවේ වාමාංශික නියෝජිතයෙකු විය. 1866 දී ජාතික-ලිබරල්වාදියෙකු බවට පත්වී බිස්මර්ක්ගේ අනුගාමිකයෙකු විය. — පිටුව 11

රොගචොව්, ද්මිත්‍රි මිහායිලවිච් (1851-1884) — රුසියානු විප්ලවවාදී-නරෝද්නික්වරයෙකි "නරෝද්නය චෝලිය" පක්ෂයේ ප්‍රධාන පෙළේ සාමාජිකයෙකි. එහි ත්‍රස්තවාදී ක්‍රියාවලට සහභාගි විය. 1876 දී පොලිසියට හසුවූ ඔහුට බරපතල වැඩ ඇතිව දස අවුරුදු සිර දඬුවමක් නියම විය. සිර අඩස්සියේ සිටියදීම මියගියේය. — පිටුව 266

රොද්බෙර්තුස්-යගෙත්සොව් (Rodbertus-Jagetzow) යොහන්-කාල් (1805-1875) — ජර්මන් පිරිහුණු ආර්ථික විද්‍යාඥයෙකි. ප්රුසියානු මහා ඉඩම් හිමියෙකි. "රාජ්‍ය සමාජවාදයේ" එක් න්‍යායාචාර්යවරයෙකි. ශ්‍රමය හා ප්‍රාග්ධනය අතර ප්‍රතිවිරුද්ධතාවය ප්රුසියානු



ඉඩම්හිමියන්ගේ රජය විසින් කරන ලද ප්‍රතිසංස්කරණ ගණනාවක් මාර්ගයෙන් රාජ්‍ය ක්‍රමයේ රාමුව තුළම විසඳිය හැකි බව රොද්බෙර්තුස් අදහස් කළේය. — පිටුව 34

රොසානව්, වී. වී. (1856-1919) — ප්‍රතිගාමී දර්ශනිකයෙකි, ප්‍රකාශකයෙක් හා විචාරකයෙකි. — පිටු 64, 102

ලගර්දෙල් (Lagardelle), යුබෙර් (1874-1958) — ප්‍රංශ සුළු ධනපති දේශපාලඥයෙකි, ආරාජික-සම්මේලවාදියෙකි. ආරාජික-සම්මේලවාදී ඉතිහාසය පිළිබඳ පර්යේෂණ ලිපි ගණනාවක්ම ලීවේය. — පිටුව 62

ලෆ්පාර්ග් (Lafargue) පොල් (1842-1911) — ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. මාක්ස්වාදය ප්‍රචාරය කිරීමට මූල්ව කටයුතු කළේය. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකුව සිටියේය. දෙවැනි ජාත්‍යන්තරය තුළ වූ අවස්ථාවාදයට විරුද්ධව මහා සටනක් කළේය. ප්‍රංශයේ කම්කරු පක්ෂයේ මූලාරම්භකයින්ගෙන් කෙනෙකි. මාක්ස්ගේ හා එංගල්ස්ගේ ගෝලයෙක් හා අනුගාමිකයෙකි. — පිටුව 184

ලෆ්පාර්ග් (Lafargue) ලවුරා (1845-1911) — ප්‍රංශ කම්කරු ව්‍යාපාරයේ නායිකාවකි. මාක්ස්ගේ දියණියකි. ප්‍රංශ සමාජවාදියෙකු වූ පොල් ලෆ්පාර්ග්ගේ බිරිඳ ය. — පිටුව 14

ලමනෝසව්, මිහයිල් වසිලෙවිච් (1711-1765) — ශ්‍රේෂ්ඨ රුසියානු විද්‍යාඥයෙකි, ද්‍රව්‍යවාදියෙකි, කවියෙකි. — පිටු 182, 183, 185

ලව්රෝව්, පියෝතර් ලව්රොවිච් (1823-1900) — රුසියානු සමාජ විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි,නරෝද්නික්වාදයේ ප්‍රධාන පෙළේ දෘෂ්ටිවාදියෙකි. "සෙම්ලිය ඊ චෝලිය" සංගමයේ සමාජිකයෙකු වූ මොහු පසුව "නරෝද්නය චෝලිය" පක්ෂයේ සාමාජිකයෙකු බවට පත් විය. දර්ශනයෙහි විෂයීගත පැත්තට බර විය. "විවේචනාත්මකව සිතන පුද්ගලයින්ගේ"ක්‍රියාකාරීත්වයේ ප්‍රතිඵලය, මිනිස් ප්‍රගතිය යයි සමාජ විද්‍යාව තුළින් ඉදිරිපත් කළේය. — පිටුව 260

ලසාල් (Lassalle) ෆෙර්දිනාන්ද් (1825-1864) — ජර්මන් සමාජ

විද්‍යාඥයෙකි. ජර්මන් කම්කරු ව්‍යාපාරය තුළ අවස්ථාවාදයේ එක් ආකාරයක — ලසාල්වාදයේ — මූලාරම්භකයා ය. ලසාල් සමස්ත ජර්මන් කම්කරු සංගමයේ (1863) මූලාරම්භකයින්ගෙන් කෙනෙකි. සංගමය ආරම්භ කිරීමෙන් කම්කරු ව්‍යාපාරයට සෙතක් සිදුවූ නමුත් සංගමයේ සභාපති ධුරයට පත්වූ ලසාල් එය අවස්ථාවාදී මාර්ගයක් ඔස්සේ මෙහෙයවීය. — පිටු 13, 44, 45, 84, 112, 116, 154

ලීබ්ක්නෙහ්ත් (Liebknecht) විල්හෙල්ම් (1826-1900) — ජර්මන් හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මූලාරම්භකයෙක් හා නායකයෙකි. 1875 සිට ලිබ්ක්නෙහ්ත්ගේ මරණය දක්වාම ඔහු ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකුව සිටි අතර එහි මධ්‍යම පත්‍රය වූ “Vorwärts” බාර කතුවරයා ලෙස කටයුතු කළේය. පළමුවැනි ජාත්‍යන්තරය තුළ හා දෙවැනි ජාත්‍යන්තරය සංවිධානය කිරීමේදී උද්යෝගිමත්ව කටයුතු කළේය.— පිටු 45, 163, 200, 244

ලෙනින්, වී. අයි (කුලින්, කේ.) — පිටුව 127

ලබ්‍රියෝලා (Labriola), අර්තුරො (1873-1959) — ඉතලියානු දේශපාලඥයකි, නීතිඥයෙක් හා ආර්ථික විද්‍යාඥයෙකි. ඉතාලියේ සම්මේලවාදී ව්‍යාපාරයේ නායකයෙකි. සම්මේලවාදය පිළිබඳ න්‍යායාත්මක පොත් ගණනාවක් ලීවේය. ඊනියා ‘‘විප්ලවවාදී සම්මේල වාදය’’ නම් තම වැඩ පිළිවෙළ මාක්ස්වාදය ‘‘නිවැරැදි කරමින්’’ මාක්ස්වාදයට සරිලන ලෙස සැකසීමට ඔහු උත්සාහ ගත්තේය. — පිටුව 62

ලොංගේ (Longuet), ජාන් (1876-1936) — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි, ප්‍රකාශකයෙකි. ෂාර්ල් ලොංගේ ගේ හා ජෙනී මාක්ස්ගේ පුත්‍රයා ය. ප්‍රංශ හා ජාත්‍යන්තර සමාජවාදී පත්‍රවල කටයුතුවලට උද්යෝගයකින් සහභාගි විය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914-1918) ප්‍රංශ සමාජවාදී පක්ෂයේ මධ්‍යගතවාදී-සමාදානකාමී අල්පතරයට නායකත්වය දුන්නේය. — පිටුව 14

ලොංගේ (Longuet), ජෙනී (1844-1883) — ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ නායිකාවකි. කාල් මාක්ස්ගේ වැඩිමල් දියණිය ය. ෂාර්ල් ලොංගේ ගෙ භාර්යාවය. නිර්ධන පංතික ජාත්‍යාන්තරවාදී අදහස් වලින් යුත් ලිපි පත්‍ර හා සඟරාවල පළ කළාය. — පිටුව 14

වන්දෙර්වෙල්ද් (Vandervelde), එමිල් (1866-1938) — බෙල්ජියන් කම්කරු පක්ෂයේ නායකයා ය. දෙවැනි ජාත්‍යන්තරයේ අන්තර් ජාතික සමාජවාදී බියුරෝවේ සභාපති වරයා ය. අන්ත අවස්ථාවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914-1918) සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකු බවට පත්වී ධනපති රජයට ඇතුල් විය. — පිටුව 61

වනේයව්, අනතෝලි, අලෙක්සේයවිච් (1872-1899) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1895 දී පීටර්ස්බර්ග් ‘‘කම්කරු පංතියේ විමුක්තිය සඳහා අරගල සංගමය’’ ආරම්භ කිරීමට සහභාගි විය. ‘‘රබෝචිය දියල’’මුද්‍රණය කිරීම සඳහා අවශ්‍ය මුද්‍රණ උපකරන කඩදසි ආදිය පිළියෙළ කිරීමේදී මූලිකව කටයුතු කළේය. ‘‘අරගල සංගමයේ’’ වැඩ කටයුතු නිසා සිරභාරයට ගෙන 1897 දී නැගෙනහිර සයිබීරියාවට පිටුවාහල් කරන ලදී. — පිටු 144, 147

වල්තයිහ් (Vahlteich), කාල් යුලිවුස් (1839-1915) — ජර්මන් දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, වෘත්තියෙන් සපත්තු මහන්නෙකි. ලසාල්වාදී සමස්ත ජර්මන් කම්කරු සංගමයේ ප්‍රධාන ලේකම් හා මූලාරම්භකයෙක්ද විය. පසුව එයිසෙනාහ්වරුන්ගේ පක්ෂයට බැඳුනේය. සමාජවාදීන්ට විරුද්ධව විශේෂ පනත ඉදිරිපත් කිරීමෙන් පසු ඇමෙරිකා එක්සත් ජනපදයට ගියේය. එහිදී ද ඔහු කම්කරු ව්‍යාපාරයට සහභාගි විය. — පිටුව 123

වසීලියව්, නිකිතා වසීලෙවිච් (උපත 1855) — පොලිස් කර්නල්වරයෙකි. සුබෝතව්ගේ ‘‘පොලිස් සමාජවාදයේ’’ අනුගාමියෙකි. — පිටුව 236

වලීන්ස්කි, ඒ. (ෆ්ලෙක්සර්, අකීම් ල්වෝවිච්) (1863-1926) — කලා විශාරදයෙක් හා විචාරකයෙකි. කලාව කලාවම සඳහාය යන ප්‍රතිගාමී න්‍යාය දේශනා කළේය. තම ලිපි මගින් විප්ලවවාදී-ප්‍රජාතන්‍ත්‍රවාදී ප්‍රකාශනවලට පහර ගැසීමට උත්සාහ කළේය.— පිටු 102, 103

විත්තෙ, සෙර්ගෙයි යූලියවිච් (1849-1915) — 1905(1906) රුසියානු රාජ්‍ය නායකයෙකි. අමාත්‍ය මණ්ඩලයේ සභාපති වරයාය. ලිබර්ල් ධනපති පංතියට සුළු ඉල්ලීම් ලබාදී පොදු ජනතාව පීඩනයේ තබා රාජාණ්ඩුව ආරක්ෂා කිරීමට උත්සාහ ගත්තේය. — පිටුව 214

විල්ලිහ් (Willich), අව්ගුස්ත් (1810-1878) — ප්‍රුසියානු හමුද නිලධාරියෙකි, කොමියුනිස්ට් වරුන්ගේ සංගමයේ සාමාජිකයෙකි. 1849 දී බදෙන්ස්-ප්ෆල්ත්ස් කැරැල්ලට සහභාගි විය. 1850 දී කොමියුනිස්ට්වරුන්ගේ සංගමයෙන් කැඩීගිය නිකායවාදී-භේදකාරී කොටසේ නායකයෙකි. — පිටුව 44

දෙවැනි විල්හෙල්ම් (ගොගෙන්ත්සොලෙර්න්) (1859-1941) — ජර්මන් අධිරාජයා සහ ප්‍රුසියානු රජතුමාය (1888-1918) — පිටුව 218

වී. වී. (වරන්ත්සොව්, වසීලි පාව්ලවිච්) (1847-1918) ආර්ථික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි, 1880-1890 ගණන්වල වූ ලිබරල් නරෝද්නික්වාදයේ එක් දෘෂ්ටිවාදියෙකි. "රුසියාවේ ධනවාදයේ ඉරණම" නැමැති පොතේ හා වෙනත් පොත්වල කතුවරයාය. ඔහු එම පොත්වලින් රුසියාවේ ධනවාදයේ වර්ධනය ප්‍රතික්ෂේප කළ අතර සුළුවෙළඳ භාණ්ඩ නිෂ්පාදනය වර්ණනා කළේය. සාර්වාදී රජය සමග සමාදනය දේශනා කළ අතර මාක්ස්වාදයට විරුද්ධව තීරණාත්මකව කටයුතු කළේය. — පිටු 81,84,88,94,96,105,106,110, 149, 151, 158, 161, 165

වී. අයි. (ඉවන්චින්, ව්ලදීමීර් පාව්ලවිච්) (1869-1904) — ප්‍රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. "ආර්ථිකවාදයේ" නායකයෙකි. තම ලිපි මගින් කම්කරු වන්ගේ එදිනෙද ආර්ථික අවශ්‍යතාවයන්. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දේශපාලන කර්තව්‍යයන්ට ප්‍රතිවිරුද්ධ ලෙස ඉදිරිපත් කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයෙන් (1903) පසු මෙන්ෂෙවිකයෙකු බවට පත් විය. — පිටු 148, 157, 159, 160

වෙබ් (Webb), (යුවල) බියට්‍රිස් (1858-1943) සහ සිඩ්නි (1859-1947) — සුප්‍රසිද්ධ ඉංග්‍රීසි සමාජ සේවක යුවලකි. සිඩ්නි වෙබ් ප්‍රතිසංස්කරනවාදී ෆේබියන් සමාජයේ එක් මුලාරම්භකයෙකි. ඔවුහු ඉංග්‍රීසි කම්කරු ව්‍යාපාරය පිළිබඳ පොත් ගණනාවක්ම ලීවෝය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914-1918) සමාජ-ජාත්‍යාන්මාදවාදීන් බවට පත් වූහ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු වෙබ් යුවල සෝවියට් සංගමය කෙරෙහි මිත්‍ර ආකල්පයක් දැක්විය. — පිටු 178, 267

වෙයිත්ලින්ග් (Weitling,) විල්හෙල්ම් (1808-1871) — ජර්මනියේ කම්කරු ව්‍යාපාරයේ එය ආරම්භ වූ කාලයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. මනෝරාජික සමානුපාතික කොමියුනිස්ට්වාදයේ එක් න්‍යායාචාර්ය වරයෙකි. වෘත්තියෙන් ඇඳුම් මහන්නෙකි. — පිටුව 153



වෙස්ත්ෆාලන් (Westphalen), ජෙනී ෆොන් (1814-1881) — කාල් මාක්ස්ගේ බිරිඳ ය, ඔහුගේ විශ්වාසවන්ත මිතුරිය හා ආධාරකරුවාය. — පිටු 11, 14

වොල්ත්මන් (Woltman), ලුද්විග් (1871-1907) — ජර්මන් සමාජ විද්‍යාඥයෙක් හා මානව විද්‍යාඥයෙකි. ආර්ථික අරගලය කම්කරු පංතියේ ප්‍රධාන කර්තව්‍ය වන්නේ යැය ඔහු අදහස් කළේය. නාසිවාදී න්‍යායයන්ට ආවැඩුවේය. ජර්මන් ජාතිකයන් උසස්ම ජාතිය යැයි යන දෘෂ්ටිය දේශනා කළේය. — පිටුව 161

වොර්මස්, අල්ෆොන්ස් එර්නෙස්තවිච් (1868-1937) — නීතිඥයෙකි, මොස්කව් විශ්වවිද්‍යාලයේ මහාචාර්ය වරයෙකි, ලිබරල්වාදියෙකි. 1901-1902 අවුරුදුවලදී සුබාතව් සංවිධානවල දේශන පවත්වන ලදී. — පිටුව 236

ෂෙද්‍රීන් (සල්තිකෝව්-ශෙද්‍රින්, මිහයිල් යෙව්ග්‍රෆොව්විච් (1826-1889) — රුසියානු උපහාසාත්මක කථා රචකයෙකි. විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි. — පිටුව 256

ෂප්පර් (Schapper), කාල් (1812-1870) — ජර්මන් හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. කොමියුනිස්ට් වරුන්ගේ සංගමයේ වැඩකටයුතුවලට උද්යෝගයෙන් සහභාගි විය. 1850 දී එංගලන්තයට සංක්‍රමණය විය. එහිදී කොමිනියුස්ට් වරුන්ගේ සංගමයේ මධ්‍යම කාරක සභාවට ඇතුලත්ව ඒ. විල්ලිහ් සමග කාල් මාක්ස් හා ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ නායකත්වයෙන් යුත් බහුතරයට විරුද්ධව කටයුතු කළේය. සංගමයේ නිකායවාදී-භේදකාරී කොටසේ නායකයෙකු බවට පත්විය. — පිටුව 44

ෂ්වයිත්සර් (Schweitzer), යොහන් බප්තිස්ත් (1838-1875) — ජර්මන් සමාජ සේවකයෙක් හා ගත් කතුවරයෙකි, ලසාල් අනුගාමිකයෙකි. 1867 සිට 1871 දක්වා සමස්ත ජර්මන් කම්කරු සංගමයේ සභාපති වරයාය. සම්ගමය අභ්‍යන්තරයෙහි පෞද්ගලික ආඥදායකත්වයක් ගෙනාගියේය. — පිටුව 163

ෂ්‍රාම් (Schramm), කාල් අව්ගුස්ත් — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි. ලිබරල්වාදියෙකු ලෙස දේශපාලන ජීවිතය ඇරැඹූ මොහු 1870 ගණන්වල මුල් කාලයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට හේත්තු විය.

පක්ෂයේ විප්ලවවාදී උපක්‍රම හෙළාදුටු ඔහු ධනපතීන් සමග සමගිය හා නිර්ධන පංතියේ අවශ්‍යතාවයන් ඔවුනට යටත් කිරීම ඉල්ලා සිටියේය. — පිටුව 163

ෂ්තයින් (Stein), ලෝරන්ත්ස් (1815-1890) ජර්මන් ඉතිහාසඥයෙකි. පිරිහුණු ආර්ථික විද්‍යාඥයෙකි. "අධිපංතිමය" රාජාණ්ඩු පිළිබඳ හේගල්ගේ ගතානුගතික-විඥානවාදී ධර්මය ආධාර කරගෙන, තම දෘෂ්ටිය මගින්, විඥානවාදය හා ද්‍රව්‍යවාදය සාර සංග්‍රහවාදී ලෙස සංයෝජනය කිරීමට තැත් කළේය. — පිටුව 20

ෂුල්ත්සේ-ගෙවෙර්නිත්ස් (Schulze-Gävernitz), ගෙර්හර්ද් (1864-1943) — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි, ෆ්‍රෙයිබූර්ග් විශ්වවිද්‍යාලයේ දේශපාලන අර්ථශාස්ත්‍රය පිළිබඳ මහාචාර්යවරයාය, කතිඩර්-සමාජවාදියෙකි. 1892-1893 අවුරුදු වලදී ෂුල්ත්සේ-ගෙවෙර්නිත්ස් රුසියාවේ පේෂකර්මාන්තය හා ඉඩම් සම්බන්ධතාවය පිළිබඳ හැදෑරූ අතර මොස්කව් විශ්වවිද්‍යාලයේ ඉගැන්වීය. සමාජමය සමගිය එනම්, සියළුම පංතිවල: ධනපතීන්ගේ, කම්කරුවන්ගේ හා ගොවීන්ගේ තත්වය උසස් කිරීමේ අරමුණු ඇතිව ධනපති සමාජයේ "සමාජ ඒකාග්‍රතාවය" ඇතිකිරීමට ඇති හැකියාවන්ට තම පර්යේෂණ ලිපි මගින් පදනම් දැමීමට ඔහු උත්සාහ කළේය. — පිටුව 110

ෂුල්ත්සේ-දෙලිච් (Schulze-Delitzsch), හෙර්මන් (1800-1883) — ජර්මන් පිරිහුණු ආර්ථික විද්‍යාඥයෙකි, සමාජ සේවකයෙකි. ධනපතීන්ගේ හා කම්කරුන්ගේ පංති අවශ්‍යතාවයන්ගේ ඒකාග්‍රතාවය දේශනා කළේය. 1864 සිට සමුපකාර සංගම් හා ණය දෙන-ඉතිරිකිරීමේ බැංකු පිහිටුවීම සඳහා කම්කරුවන් හා සුළු කර්මාන්තකරුවන් අතර ප්‍රචාරයක් ගෙන ගියේය. මේවා තුළින් ධනපති සමාජයේ රාමුව තුළ සමාජ සමගිය ඇතිකළ හැකි යයි ඔහු දුටුවේය. — පිටුව 155

මෙලියාබව්, අන්ද්‍රෙයි ඉවානවිච් (1850-1881) — සම්භාවනීය රුසියානු විප්ලවවාදියෙකි. විප්ලවවාදී නරෝද්නික්වාදයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. "නරෝද්නය වෝලියා" පක්ෂයේ නායකයා හා සංවිධායකයාය. — පිටු 227, 300

ජොරේස් (Jaurè), ජාන් (1859-1914)—ප්‍රංශ හා ජාත්‍යන්තර සමාජවාදී ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි.1902 දී ජොරේස් සහ ඔහුගේ අනුගාමිකයෝ ප්‍රංශ සමාජවාදී පක්ෂය ආරම්භ කළහ. "L' Humanité" පත්‍රයේ ආරම්භකයා සහ කර්තෘවරයා ය. ප්‍රංශ සමාජවාදී පක්ෂයේ දක්ෂිණාංශික අවස්ථාවාදී පිළේ නායකයාය. ඒ කෙසේවෙතත් ජොරේස් මිලිටරිවාදයට විරුද්ධව දැඩි ලෙස සටන් කළේය.පළමුවැනි ලෝක යුද්ධය ආසන්නයේදී ජාත්‍යාන්මාදවාදීන් විසින් මරා දමන ලදී. — පිටු 61

සසුලිච්, වියරා ඉවානව්නා (ඉවනෝව්, වී) (1849-1919) — නරෝද්නික්වාදයේ ද පසුව රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේද මුල් තැනක් ගෙන කටයුතු කළ තැනැත්තියකි. 1878 දී සාන්ත පීටර්ස්බර්ග් නගරාධිපති ත්‍රෙපෝව් මරා දැමීමට සහභාගි වූවාය. 1883 දී රුසියාවේ පළමුවැනි මාක්ස්වාදී කණ්ඩායම වූ "ශ්‍රම විමුක්තිය" කණ්ඩායම ආරම්භ කිරීමට සහභාගි වූවාය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී (1903) මෙන්ෂෙවික්වාදීන් සමග එකතු විය. — පිටු 97



සසොනව්, ගියොර්ගි පෙත්‍රොවිච් (උපත 1857) — ප්‍රතිගාමී නරෝද්නික්වාදයේ එක් නියෝජිතයෙකි. පසුව කළු සියය "රුසියානු ජනතා සංගමයේ" සාමාජිකයකු බවට පත් විය. — පිටුව 88

ස්මිත් (Smith), ඇඩම් (1723-1790) — ඉංග්‍රීසි ආර්ථික විද්‍යාඥයෙකි. ධනපති දේශපාලන අර්ථ ශාස්ත්‍රය පිළිබඳ මුල් උගැන්වීම් වල මහා නිර්මාර්තෘ වරයෙකි. — පිටු 30, 50, 78

ස්තරවේර් (පොත්රෙසව්, අලෙක්සාන්දර් නිකලායෙවිච්) (1869-1934) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. ප්‍රතිගාමිත්වය රජ කළ අවධියේ සහ (1907-1910) නව විප්ලවවාදී උන්නතිය කාලයේදී ලික්විඩේටර්වාදී දෘෂ්ටිවාදියෙක් බවට පත් විය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914-1918) සමාජ-ජාත්‍යාන්මාදවාදියෙක් බවට පත් විය. — පිටුව 125

ස්තස්යුලේවිච්, මිහයිල් මත්වෙයවිච් (1826-1911) — ප්‍රකාශකවරයෙක්, ඉතිහාසය පිළිබඳ මහාචාර්ය වරයෙක් හා සමාජ සේවකයෙකි. එංගලන්තයේ මෙන් ව්‍යවස්ථාදයක රාජාණ්ඩු ක්‍රමයක් ගැන සිහින මැවූ ඔහු මධ්‍ය ධනවාදී ලිබරල්වාදයේ ප්‍රධාන පෙළේ නියෝජිතයෙකි. — පිටුව 75

ස්කාල්දින්, (ඒලෙනව්, ෆියෝදර් පාව්ලවිච්) (1828-1902) — රුසියානු ලේඛකයෙක් හා ප්‍රකාශකයෙකි. 1860 ගණන් වලදී ධනපති ලිබරල්වාදයේ ප්‍රධාන පෙළේ නියෝජිතයෙකුව සිටියේය. "ඔත්වෙස්ත්වෙන්නය සපිස්කි" සඟරාව සඳහා ලිපි සැපවූයේය. පසුව ස්කාල්දින් අන්ත ප්‍රතිගාමීන් සමග එකතු විය. — පිටු 65-80, 84, 85

සුබාතව්, සෙර්ගෙයි වසිලෙවිච් (1864-1917) — පොලිස් කර්නල් වරයෙකි. "පොලිස් සමාජවාදය" ("සුබාතව්වාදය") සංවිධායකයා හා දේශකයා ය. කම්කරුවන් විප්ලවවාදී අරගලයෙන් ඉවත් කරවීමේ අරමුණ ඇතිව 1901-1903 අවුරුදුවලදී පොලිස්-කම්කරු සංගම් සංවිධානය කළේය. සුබාතව්ගේ උත්සාහයන් අසාර්ථක විය. විප්ලවවාදී ව්‍යාපාරය පැතිරීයාමත් සමගම ඔහු විසින් ආරම්භ කරන ලද සංවිධාන සේදී ගියේ ය. — පිටු 129, 154, 157, 236-238

සෙන්-සිමොන් (Saint-Simon), අන්රි ක්ලොද් (1760-1825) — ශ්‍රේෂ්ඨ ප්‍රංශ මනෝරාජ්‍ය සමාජවාදියෙකි. — පිටුව 139

සෙරෙබ්‍රියකොව්, එස්පෙර් අලෙක්සාන්ද්‍රවිච් (1854-1921) — රුසියානු විප්ලවවාදී නරෝද්නික් වරයෙකි.නරෝද්නය වෝලිය" පක්ෂයේ සාමාජිකයෙකි. 1883 දී විදේශ ගත විය. 1899 සිට 1902 දක්වා ලන්ඩන් හිදී "නකනූනිය" සඟරාව පළ කළේය. — පිටුව 266

ස්ත්‍රුවේ, පියෝතර් බෙර්න්ගාර්දවිච් (1870-1944) — ආර්තික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි.1890 ගණන් වලදී"නීත්‍යානුකූල මාක්ස්වාදයේ" ප්‍රමුඛ නායකයෙකි. පසුව කැඩෙට්වරුන්ගේ පක්ෂයේ නායකයෙකු බවට පත් විය. — පිටු 105, 110, 127, 154, 155, 180, 305, 311

සෝර්ගේ (Sorge), ෆ්‍රෙඩ්රික් ආදෙල්ෆ් (1828-1906) — ජර්මන් සමාජවාදියෙකි. ජාත්‍යාන්තර කම්කරු හා සමාජවාදී ව්‍යාපාරයේ ප්‍රමුඛ නායකයෙකි. කාල් මාක්ස්ගේ හා ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ මිතුරෙක් හා අනුගාමිකයෙකි. 1848-1849 අවුරුදු වලදී ජර්මනියේ විප්ලවයට සහභාගි විය. විප්ලවයේ පරාජයෙන් පසු ඇමෙරිකාවට විදේශගත වූ ඔහු එහි කම්කරු ව්‍යාපාරයට සහභාගි විය. — පිටුව 46

හස්සෙල්මන් (Hasselmann), විල්හෙල්ම් (උපත 1844) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, ලසාල්වාදී සමස්ත ජර්මානු කම්කරු සංගමයේ එක් ප්‍රමුඛ නායකයෙකි. 1875 දී ලසාල්වරු හා අයිසෙනාහ්වරු සමගි කිරීමේදී මූලිකව කටයුතු කළේය. පසුව ආරාජිකවාදියෙකු බවට පත් විය. 1880 දී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයෙන් නෙරපා දමන ලදී. — පිටු 163, 245

හල්තුරින්, ස්තෙපාන් නිකලායවිච් (1856-1882) — රුසියාවේ පළමුවැනි විප්ලවවාදී කම්කරුවන්ගෙන් අයෙකි. 1878 දී රුසියාවේ පළමුවැනි විප්ලවවාදී-දේශපාලනමය කම්කරු සංවිධාන වලින් එකක් වූ "රුසියානු කම්කරුවන්ගේ උතුරුබද සංගමය" ආරම්භ කළේය. සංගමය තහනම් කිරීමෙන් පසු 1879 දී හල්තුරින් නරෝද්නික්වාදී "නරෝද්නය වෝලිය" පක්ෂයට සමීප වූ අතර ත්‍රස්තවාදී ක්‍රියාවලටද සහභාගි විය. 1882 දී සිරභාරයට හසු වූ මොහුට පසුව මරණ දණ්ඩණය නියම කරන ලදී. — පිටුව 227

හියෝහ්බර්ග් (Höchberg), කාල් (1853-1885) — ජර්මන් දක්ෂිනාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, පත්‍ර කලාවේදියෙකි. සමාජවාදීන්ට විරුද්ධව අතිවිශේෂ නීතිය ක්‍රියාත්මක වූ අවධියේදී (1878-1890) පක්ෂයේ විප්ලවවාදී උපක්‍රම විවේචනාත්මක ලෙස සලකා බැලූ ඔහු ධනපතීන් සමග සංවිධානයකට එළඹෙන ලෙස කම්කරුවන්ට හඬගෑවේය. — පිටුව 163

හිර්ෂ් (Hirsch), මක්ස් (1832-1905)—ජර්මන් ආර්ථික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි, ප්‍රගතිශීලී පක්ෂයේ සාමාජිකයෙකි, රෙයිහ්ස්තාග් (මන්ත්‍රණ) සභාවේ නියෝජිතයෙකි. 1868 දී ෆ්‍රාන්ත්ස් දුන්කෙර් සමග එකතුව මඳක් ප්‍රතිසංස්කරණවාදී වූ වෘත්තීය සංගම් "හිර්ෂ්-දුන්කෙර් වෘත්තීය සංගම්") ආරම්භ කළේය. — පිටු 150, 155

හේගල් (Hegel), ගියෝර්ග් විල්හෙල්ම් ෆ්‍රෙඩ්රික් (1770-1831) — ජර්මන්ජාතික මහා දර්ශනවාදියෙකි. විෂයමූල විඥානවාදියෙකි. හේගල්ගේ ඓතිහාසික වැඩ කොටස වන්නේ දයලෙක්තික ද්‍රව්‍යවාදයේ න්‍යායයට එක් මූලාශ්‍රයක් වූ විඥානවාදී දයලෙක්තික ක්‍රමය සවිස්තරාත්මක ලෙස විශ්ලේශනයට භාජනය කිරීමය. — පිටු 11, 15, 48, 55, 56, 138

හෙක්ස්ලි (Huxley), තෝමස් හෙන්රි (1825-1895) — ඉංග්‍රීසි ජාතික විද්‍යාඥයෙකි. ස්වභාව ධර්මය පිළිබඳ පර්යේෂන පැවැත්විය. චාල්ස් ඩාවින්ගේ කිට්ටුම ගෝලයෙකි. ඔහුගේ න්‍යායයන් පතුරුවා හැරීමේ කටයුතුවල යෙදුනේය. දර්ශනයේදී අස්ථිර ද්‍රව්‍යවාදියෙකි. — පිටුව 17

හෙරොස්ත්‍රතොස් — ක්‍රි. පූ. 356 දී තම නම ප්‍රසිද්ධ කිරීමේ එකම අරමුණ ඇතිව ශ්‍රේෂ්ඨ පෞරාණික කලා නිර්මාණයක් වූ එපෙස් වල අර්තෙමීද් දේවස්ථානය ගිනිබත් කළ ග්‍රීක ජාතිකයෙකි. — පිටුව 129

හෙර්ත්ස් (Hertz), ෆ්‍රෙඩරික් ඕත්තෝ (උපත 1878) — ඕස්ත්‍රියානු ආර්ථික විද්‍යාඥයෙකි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, සංශෝධනවාදියෙකි. "කෘෂිකර්මය පිළිබඳ ප්‍රශ්න සමාජවාදී ප්‍රතිෂ්ඨාව අනුව" නම් පොතෙන් කෘෂිකර්මික ප්‍රශ්න පිළිබඳ මාක්ස් ධර්මයට විරුද්ධව අදහස් දැක්වීය. — පිටුව 133

හෝලියොක් (Holyoake), ජෝර්ජ් ජේකබ් (1817-1906) — එංගලන්ත සමුපකාර ව්‍යාපාරයේ පුරෝගාමිකයෙකි, ප්‍රතිසංස්කරණ වාදියෙකි. 1830-1840 ගණන් වලදී චාටිස්ට්වරුන්ට සහ ඕවනිස්ට් වරුන්ට සම්බන්ධ විය. ස්වයං කලමනාකාරී කම්කරු සමුපකාර ක්‍රමයේ අනුගාමිකයෙකි. 1850 ගණන් වල සිට ධනපති රැඩිකල් කොටස් සමග කටයුතු කළේය. — පිටුව 43

පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු අනුවාදය හා මුද්‍රණය පිළිබඳව ඔබගේ අදහස් දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාව ඔබට හිමිවේ. ඔබගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් පිළිගනිමු.

අපේ ලිපිනය:

Progress Publishers,
17, Zubovsky Boulevard,
Moscow, U.S.S.R.

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 1
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2017-03-10
ඩිජිටල් සංස්කරණයන්: V1:2017-03-10, V2:2019-05-29
පිටු ගණන: 408
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com